Bible - N. T. - Sinhalese.

THE

# NEW TESTAMENT

OF

# OUR LORD AND SAVIOUR

# JESUS CHRIST.

TRANSLATED INTO SINGHALESE,

AND

PRINTED UNDER THE DIRECTION OF THE COLOMBO

AUXILIARY BIBLE SOCIETY.

COLOMBO:

AT THE WESLEYAN MISSION PRESS.

1868.

අපගේ ගැලවුම්කාර ස්වාමිවූ

# යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ

# අළුත් ගිවිසුමය.

---

කොළඹ බයිබල් සමාගම වෙනුවෙන්

සිංහල භාෂාවට පිටපත්කොට

අච්චුගසනලදී.

---

අච්චුගසන්ට යෙදුනේ

වැසිලියන් මිසියොනාරිස් උන්නාන්සේලාගේ

මුද්‍රාඞ්කන සාලාවේදීය.

1868.

# මතෙවු විසින් ලියනලද

## සු භා ර චි ය.

~~~~~~~~~~~~~~~~~~~~~~~~

1\. පරිච්ඡෙදය. ආබ්‍රහම්ගේ පුත්‍රවූද දාවිත්ගේ පුත්‍රවූද ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ පරම්පරාවේ පොතය.

2\. ආබ්‍රහම්ට දාව ඊසාක් උපන්නේය. ඊසාක්ට දාව යාකොබ් උපන්නේය. යාකොබ්ට දාව යූදස්ද ඔහුගේ සහෝදරයෝද උපනෙනෝය. යූදස්ට 3. දාව තාමර්ගෙන් ඵාරස්ද සාරද උපනෙනෝය. ඵාරස්ට දාව එස්‍රොම් උපන්නේය. එස්‍රොම්ට දාව ආරම් 4. උපන්නේය. ආරම්ට දාව අමිනාදබ් උපනෙන්ය. අමිනාදබ්ට දාව නාස්සොන් උපනෙන්ය. නාස්සොන්ට 5. දාව සල්මොන් උපනෙන්ය. සල්මොන්ට දාව රාකබ්ගෙන් බෝවස් උපන්නේය. බෝවස්ට දාව රූත්ගෙන් ඕබෙත් උපන්නේය. ඕබෙත්ට දාව යෙස්සේ උපනෙන්ය යෙස්සේට දාව දාවිත් රජ උපනෙන්ය.

6\. දාවිත්රජුට දාව පලමුවෙන් ඌරියස්ට භාර්‍යාව සිටියාවූ ස්ත්‍රීගෙන් 7. සාලමොන් උපන්නේය. සාලමොන්ට දාව රෙහොබෝවම් උපනෙන්ය. රෙහොබෝවම්ට දාව අබියා උපනෙන්ය. අබියාට දාව ආසා උපන්නේය. 8. ආසාට දාව යෝසාෆත් උපනෙන්ය. 9. යෝසාෆත්ට දාව යෝරම් උපන්නේය. යෝරම්ට දාව ඔසියස් උපන්නේය. ඔසියස්ට දාව යොවාතම් උපනෙන්ය. යොවාතම්ට දාව ආඛස් උප 10. නෙන්ය. ආඛස්ට දාව එසේකියස් උපන්නේය. එසේකියස්ට දාව මනස්සෙස් උපන්නේය. මනස්සෙස්ට දාව ආමොන් උපන්නේය. ආමොන්ට 11. දාව යෝසියස් උපන්නේය. බබිලෝනියට ගෙන යන අතර යෝසියස්ට දාව යෙකොනියස්ද ඔහුගේ සහෝදරයෝද උපනෙනෝය.

12\. බබිලෝනියට ගෙන ගිය පසු යෙකොනියස්ට දාව සලාතියෙල් උපනෙන්ය. සලාතියෙල්ට දාව සොරො 13. බාබෙල් උපනෙන්ය. සොරොබාබෙල්ට දාව අබියුත් උපනෙන්ය. අබියුත්ට දාව එලියාකිම් උපනෙන්ය. එලියාකිම්ට දාව ආසෝර් උපනෙන්ය. 14. ආසෝර්ට දාව සදොක් උපන්නේය. සදොක්ට දාව ආකිම් උපන්නේය. ආකිම්ට දාව එලියුත් උපන් 15. නේය. එලියුත්ට දාව එලෙයාසර් උපන්නේය. එලෙයාසර්ට දාව මත්තන් උපන්නේය. මත්තන්ට දාව 16. යාකොබ් උපනෙන්ය. යාකොබ්ට දාව යෝසෙප් උපනෙන්ය. යෝසෙප්ද මරියාගේ ස්වාමි පුරුෂවූයේය. මරියාගෙන් ක්‍රිස්තුස්නම්වූ ජේසුස්වහන්සේ 17. උපන් සේක. මෙසේ ආබ්‍රහම් පටන් දාවිත් දක්වා සියළු පරම්පරා දසසතරෙක. දාවිත් පටන් බබිලෝනියට ගෙනයාම දක්වා පරම්පරා දසසතරෙක. බබිලෝනියට ගෙනයාමෙහි පටන් ක්‍රිස්තුස්වහන්සේ දක්වා පරම්පරා දස සතරෙක.

18\. ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ උත්පත්තිය මෙසේ විය. උන්වහන්සේගේ මව්වූ මරියා යෝසෙප්ට විවාහ බස් දී සිටින අතර, ඔවුන්ගේ සංවා
~~~~~~~~~~~~~~~~~~~~~~~~

සයව පලමුවෙන් සුබාත්මය කරණ
19. කොටගෙන ගර්භිනිවූවාය. එක
ල ඇගේ ස්වාමි පුරුෂවූ යෝසැප්
ධර්මිෂ්ඨයෙක් බැවින්, ඇ නින්දාවට
පමුනුවන්ට නොකැමතිව රහසින්
20. හරින්ට සිතුයේය. ඔහු මෙසේ
සිතූ කල්හි, ස්වාමින්වහන්සේගේ දූත
යෙක් ස්වප්නයෙන් ඔහුට පෙනී,
"දාවිත්ගේ පුත්‍රවූ යෝසැප්, තාගේ
භාර්‍ය්‍යාවූ මරියා පාවාගන්ට භයනො
වව. මක්නිසාද ඇගේ ගර්භයෙහි
පිලිසිඳගත් යමක් ඇද්ද ඒක සුබාත්
21. මය කරණකොටගෙනය. ඇද
පුත්‍රයකු වදන්නීය; උන්වහන්සේ
තමන්ගේ සෙනග ඔවුන්ගේ පාපව
ලින් ගලවන හෙයින්, උන්වහන්
සේට යේසුස් යන නාමය තබවයි"
22. කීයේය. ස්වාමින්වහන්සේ අනා
ගතවක්තෘහු ලවා කියවනලද කීම
සම්පූර්ණවෙන පිනිස මේ සිය
23. ල සිදුවූයේය. ඔහුද "කන්‍යාග
නාවක් ගර්භිනිව පුත්‍රයෙක් වදන්
නීය; උන්වහන්සේට එම්මානුවෙල්
යන නාමය තබතීයි" කීයේය. එහි
අර්ථයනම් දෙවියන්වහන්සේ අපහා
24. සමගය. එවිට යෝසැප් නින්දෙන්
පිබිද, ස්වාමින්වහන්සේගේ දූතයා
තමාට කී ලෙසම තමාගේ භාර්‍ය්‍යාව
25. පාවාගත්තේය. එහෙත් ඇගේ
කුළුඳුල්වූ පුත්‍රයා වදනතුරු ඔහු ඇ
නොහැඳින්නේය. තවද උන්වහන්
සේට යේසුස් යන නාමය තැබීය.

2 පරිච්ඡෙ. හෙරෙද්නම් රජහුගේ
කාලයෙහි යූදයේ බැත්ලෙහෙම්හි
යේසුස්වහන්සේ උපන්කල පූර්විදිසා
වෙන් ශාස්ත්‍රවන්තයෝ යෙරුසලමට
2. ඇවිත්, "යුදෙව්වරුන්ට රජව
උපන් උන්වහන්සේ කොතැන්හිද,
උන්වහන්සේගේ තාරුකාව පූර්විදිසා
වෙහිදී දැක උන්වහන්සේට නමස්කා
රකරණ පිනිස ආවෙමුයයි" කීවෝය.
3. හෙරෙද් රජ ඒ ඇසූකල්හි, ඔහුද
යෙරුසලමේ සියල්ලෝද කැලඹු
4. ණෝය. එවිට ඔහු සියළු නායක
පූජකයන්ද සෙනගගේ ලියනනන්ද
රැස්කරවා, "ක්‍රිස්තුස්වහන්සේ කො
තැන්හි උපදනේදැයි" ඔවුන්ගෙන්
5. ඇසුයේය. ඔවුහු උත්තරදෙමින්,
"යුදයේ බැත්ලෙහෙම්හිය; කුමක්
හෙයින්ද යුදයේ දේසයෙහිවූ බැත්
6. ලෙහෙම, මාගේ ඊශ්‍රායෙල් සෙන
ගට අධිපතිකම්කරණ උත්තමයෙක්
තී කෙරෙන් නික්මෙනබැවින්, තී
යූදයේ උත්තමයන් අතරෙහි ඉතා
කුඩානොවන්නේයයි" අනාගතවක්
තෘහු විසින් ලියා තිබෙන්නේයයි කී
7. වෝය. එකල හෙරෙද් ශාස්ත්‍රවන්
තයන් රහසින් කැඳවා, "තාරුකාව
කොයිවේලෙහි පෙනුනේදැයි" හරි
8. යාකාර ඔවුන්ගෙන් අසාගෙන,
"තුබලා ගොස් ඒ බිලිඳු උත්සාහයෙන්
සොයාපලලාය; තුබලාට සම්භවූනා
ම, මමත් ගොස් උන්වහන්සේට නමස්
කාරකරණ පිනිස මට දන්වාපලලාය"
කියා, බැත්ලෙහෙමට ඔවුන් යැවීය.
9. ඔවුහු රජහුගේ බස් අසා පිටත්ව
ගියෝය. පූර්විදිසාවෙහිදී ඔවුන් දුටු
තාරුකාව ඒ බිලිඳු විසූ තැන මුදුනට
ඇවිත් නවතිනාතුරු ඔවුන්ට පෙරටු
10. පෙරටුව ගියේය. ඔවුන් ඒ තාරු
කාව දැක බොහෝසේ ප්‍රීතිසන්තෝ
11. ස වූවෝය. ඔවුන්ද ගෙට වැද බිලි
ඳුත් උන්වහන්සේගේ මව්වූ මරියාත්
දැක, බිම වැටී උන්වහන්සේට නමස්
කාරකොට, තමන්ගේ කරඬු හැර
රන්ද කට්ටකුමංචල්ද සුවඳලාටුද යන
මේ පඬුරු උන්වහන්සේට පූජාකලෝ
12. ය. තවද හෙරෙද් වෙතට නැවත
නොයන පිනිස දෙවියන්වහන්සේ
විසින් ස්වප්නයකින් දන්වනුලැබ,
ඔවුන් අන් මගකින් තමන් රටට ගි
යෝය.

13. ඔවුන් ගියකල්හි, ස්වාමින්වහන්
සේගේ දූතයා ස්වප්නයෙන් යෝසෙප්
ට පෙනී, "නැගිට බිලිඳු සහ උන්වහන්

න්සේගේ මෑනියන්ද කැඳවාගෙන මිසර
රනම් දේසයට පලාගොස්, මම තට
දන්වනතෙක් එහිම සිටුව; මක්නි
සාද බිළිඳු නසන පිනිස හෙරෝද්
14. සොයනෙන්යයි" කීය. එවිට ඔහු
නැඟිට රාත්‍රියෙහි බිළිඳු සහ උන්වහන්
සේගේ මෑනියන්ද කැඳවාගෙන මිසර
රයට ගොස් හෙරෝද් මැරෙනතුරු
15. එහිම විසුයේය. "මිසරයෙන් මා
ගේ පුත්‍රයා කැඳවාගතෙමි" කියා,
ස්වාමින්වහන්සේ අනාගතවක්තෘ ල
වා කියවනලද කීම සම්පූර්ණවෙන
පිනිස මේ දේ සිඞවුනේය.

16. එකල හෙරෝද් ශාස්ත්‍රවන්ත
යන්ගෙන් තමා රැවටුනුබව දුන ඉතා
කෝපව, ඔවුන්ගෙන් හරියාකාර අ
සාගත් කල්ගනනේ ප්‍රකාරයට, බෑත්
ලෙහෙම්හිද එහි සියළු සීමාවලද සිටි
දෑවුරුදු වයස්වූද ඊට බාලවූද සියළු
දරුවන්, මිනිසුන් යවා, මැරෙවුයේය.
17. එකල යෙරෙමියා අනාගතවක්
තෘහු විසින් කියනලද කීම සම්පූර්ණ
විය. ඔහුද, "රාමායෙහි වැලපීම් හැ
ඬීම් ඉතා සෝකවීම් සහිතවූ හඬක්
18. අසනුලැබීය. රාබෙල් ඇගේ දරු
වන් නිසා හඬමින් ඔවුන් නැතිබැ
වින් සැනසෙන්ට නොකැමතිව සිටි
19. යායයි" කීයේය. හෙරෝද් මැරුණ
පසු, ස්වාමින්වහන්සේගේ දූතයෙක්
මිසරයෙහිදී යෝසෑප්ට ස්වප්නයෙන්
20 පෙනී, "නැඟිට බිළිඳු සහ උන්ව
හන්සේගේ මෑනියන්ද කැඳවාගෙන
ඊශ්‍රායෙල් දේසයට යව; මක්නිසාද
බිළිඳුගේ ප්‍රානය නසන්ට සෙව්වෝ
21. මලෝයයි" කීයේය. එකල ඔහු
නැඟිට බිළිඳුද උන්වහන්සේගේ මෑ
නියන්ද කැඳවාගෙන ඊශ්‍රායෙල් දේස
22. යට ගියේය. එහෙත් අකේලාවුස්
තමාගේ පියවූ හෙරෝද්ගේ ඇවෑ
මෙන් යූදයෙහි රජකමට පැමිනි බව
ඔහු අසා ඒ දිසාවට යන්ට භයව, දෙ
වියන්වහන්සේ විසින් ස්වප්නයෙන්
දන්වනු ලැබ, ගලීල දේසයට ගොස්,
23. "උන්වහන්සේ නාසරෙත් කෙ
නෙක යන නාමය ලබන්නේයයි"
අනාගතවක්තෘන් විසින් කියනලද
කීම සම්පූර්ණවෙන පිනිස, නාස
රෙත්නම් නුවරට පැමින එහි වාසය
කෙලේය.

3. පරිච්ඡේ. ඒ කාලයෙහිදී යො
හන් බව්තීස්ත ඇවිත් යූදයේ වනාන්
2. තරයෙහි දේසනාකරමින්, "ස්වර්ග
රාජ්‍යය ලඟය; ඉන්නිසා පසුතැවිලි
3. වෙයල්ලායයි" කීයේය. "ස්වාමින්ව
හන්සේගේ මාවත සාදව්; උන්වහන්
සේගේ මාර්ගය ඇදහරිව්ය කියා
වනාන්තරයෙහි හඬගසන්නෙකුගේ
ශබ්දයයි" යෙසයියා අනාගතවක්තෘ
හු විසින් කියා තිබුනේ මොහු ගැනය.
4. ඒ යොහන් ඔටුරෝම වස්ත්‍ර හැඳ
කටියෙහි සම් පටියක් බැඳ සිටියේය.
5. ඔහු පලගැටියන්ද වනමීද කෑ
යේය. එවිට යෙරුසලමෙන්ද යූදයේ
සියළු නැන්වලින්ද යොර්දන් ලඟ
සියළු රටවලින්ද මනුෂ්‍යයෝ, ඔහු
6. වෙතට ගොස් තමන්ගේ පව් කි
යාදෙමින්, යොර්දන්හිදී ඔහුගෙන්
7. බව්තීස්ම ලැබුවෝය. එහෙත් ඔහු
තමාගෙන් බව්තීස්ම ලබන පිනිස
ඵරිසිවරුන් සහ සද්දුසිවරුන්ගෙන්ද
බොහෝදෙනෙක් එනවා දැක ඔවුන්
ට කියන්නේ, "පොලොං වංශය, පැ
මිනෙන්නාවූ උදහසින් පලා යන්ට
තුඹලාට දන්නුවේ කවරෙක්ද?
පසුතැවිල්ලට සුදුසුවූ ඵල උපදවාප
8. ල්ලාය. ආබ්‍රහම් අපගේ පියාතෝ
9. යයි කියන්ට නොසිතල්ලාය. මක්
නිසාද මේ ගල්වලින් පවා ආබ්‍රහම්ට
දරුවන් උපදවන්ට දෙවියන්වහන්
10. සේට පුළුවනැයි කියමි. දැන් ගස්
මුල පොරොව තබා තිබෙති; එබැ
වින් යහපත් ඵල නොදෙන සියළු
ගස් කපනු ලැබ ගින්නෙහි දමනු
11. ලැබෙත්. මම පසුතැවිල්ල පිනි
ස වතුරෙන් තුඹලා බව්තීස්ම කෙ

රෙමි: එහෙත් මට පසුව එන තැනැ
ත්තෝ මට වඩා බලවත් කෙනෙක;
මම උන්වහන්සේගේ වහංසගල උසු
ලන්ටත් නොවටිමි: උන්වහන්සේ
සුධාත්මයෙන්ද ගිනෙනන්ද නුඹලා
12. බව්තීස්මකරනසේක. උන්වහන්
සේ කුල්ල අතෙයි ඇතිව තමන්ගේ
කලවිට හොඳ ලෙස සුබකරනසේ
ක; ධාන්‍ය අටුවට රැස්කොට, බොල්
නොනිවෙන ගින්නෙන් දවනසේ
කැයි" කීයේය.

13. එකල යේසුස්වහන්සේ ගලීල
යෙහි සිට යොහන්ගෙන් බව්තීස්ම
ලබන පිනිස යොර්දනට ගියසේක.
14. එහෙත් යොහන් උන්වහන්සේ
වලක්වමින්, "ඔබවහන්සේගෙන් බව්
තීස්ම ලබන්ට මට යුතුව තිබෙද්දී,
ඔබවහන්සේ මා වෙතට එනසේක්
15. දැයි" කීයේය. එවිට යේසුස්වහන්
සේ ඔහුට උත්තරදෙමින්, "දැනට
එසේම වෙන්ට අවකාස හැරපතන;
මෙසේ සියළු ධර්මිෂ්ඨකම් සම්පූර්ණ
කරන්ට අපට සුදුසුයයි" කීසේක.
16. එවිට ඔහු උන්වහන්සේට අව
කාස හැරියේය. යේසුස්වහන්සේ
බව්තීස්ම ලැබ එකෙනෙහිම දියෙන්
ගොඩනැගුනුසේක. එකල්හි අහස
ඇරී දේවාත්මයානන්වහන්සේ පර
වියකු මෙන් බැස උන්වහන්සේ පිටට
17. එන බව දුටුයේය. එවිට "මොහු
මාගේ ප්‍රිය පුත්‍රයාය; මොහු කෙරෙහි
ඉතා සතුටුවෙමියි" අහසෙන් හඬක්
විය.

4. පරිච්ඡේ. එකල යේසුස්වහන්
සේ සාතන් විසින් පරීක්ෂාකරනු ලබ
න පිනිස ආත්මයානන්වහන්සේ වි
සින් වනාන්තරයට පමුනුවනු ලැබ.
දවල් සතළිසක්ද රෑ සතළිසක්ද
2. නිරාහාරව උන් පසු උන්වහන්සේ
3. ට බඩගිනි විය. එවිට පරීක්ෂාකාරයා
උන්වහන්සේ ලඟට ඇවිත්, "නුඹව
හන්සේ දෙවියන්ගේ පුත්‍රවනසේක්
නම්, මේ ගල් රොටි වෙන්නට අන
4. කලමැනවැයි" කීය. උන්වහන්සේ
උත්තර දෙමින්, "මනුෂ්‍යයා දෙවි
යන්වහන්සේගේ මුඛයෙන් නික්මෙ
න සියළු වචනවලින් ජීවත්වෙනවා
මිස, රොටි පමනකින් ජීවත් නො
වෙන බව ලියා තිබෙන්නේයයි" කී
5. සේක. එකල සාතන් උන්වහන්
සේ සුබ නුවරට පමුනුවා දේව මාලි
6. ගාව මුදුනේ හිඳුවා, "නුඹවහන්
සේ දෙවියන්ගේ පුත්‍රවනසේක්නම්,
පහතට පැනනමැනව. මක්නිසාද,
උන්වහන්සේ තමන්ගේ දූතයන්ට නු
ඹවහන්සේ බාරදෙනසේක කියාත්,
නුඹවහන්සේගේ පය කිසි කලෙක
ගලක නොවදින පිනිස ඔවුන් ත
මන්ගේ අතවලින් නුඹවහන්සේ උසු
ලා ගනිතියි කියාත්, ලියා තිබෙන්
7. නේයයි" උන්වහන්සේට කීය. යේ
සුස්වහන්සේ, "තාගේ ස්වාමිවූ දෙවි
යන්වහන්සේ පරීක්ෂා නොකරව කි
යාත් ලියා තිබෙන්නේයයි" ඔහුට
8. කීසේක. නැවතත් සාතන් උන්
වහන්සේ ඉතා උස් පර්වතයකට ගෙන
ගොස් ලෝකයෙහි සියළු රාජ්‍යවල්ද
9. එහි තිබෙනනාවූ ඓශ්වර්යයද උන්
වහන්සේට පෙන්වා, "නුඹ බිම වැටී
මට නමස්කාර කරනවානම්, මේ සි
යල්ල නුඹට දෙන්නෙමියි" උන්වහන්
10. සේට කීය. එවිට යේසුස්වහන්
සේ, "සාතන්, අහක්ව යව; මක්නි
සාද, තාගේ ස්වාමිවූ දෙවියන්වහන්
සේට නමස්කාර කරව; උන්වහන්
සේට පමනක් සේවය කරවයි ලියා
තිබෙන්නේයයි" ඔහුට කීසේක.
11. එකල සාතන් උන්වහන්සේ හැර
ගියේය. දේවදූතයෝ ඇවිත් උන්ව
හන්සේට උපස්ථානකලෝය

12. යොහන් හිරගෙයි ලූ බව යේ
13. සුස්වහන්සේ අසා ගලීලයට පැමි
න නාසරෙත් නුවර හැර සාබුලොන්
සහ නප්තලීමේද සීමාවලට ලංවූ මු
හුදකරේ කපර්ණවූමට ගොස්, එහි

14. වාසයකලසේක. එසේ සිඬවූ
නේ, “යොර්දන් එගොඩ මූදබඩට
ලංවූ සාබුලොන් රටෙහිද නප්තලීම්
රටෙහිද අන්‍යජාතීන්ගේ ගලිලයෙ
හිද අඳුරෙහි උන් මනුෂ්‍යයෝ මහත්
15. එළියක් දුටුවෝය, මරණයේ
දේශයෙහිද සෙවනැල්ලෙහිද සිටිය
වුන්ට එළියක් පහළවූනේය” කියා,
16. යෙසායියා අනාගතවක්තෘහු වි
සින් කී කීම සම්පූර්ණවීම පිණිසය.

17. එතැන්පටන් යේසුස්වහන්
සේ දේශනාකරන්ට පටන්ගෙන,
“ස්වර්ගරාජ්‍යය ළඟය; ඉන්නිසා පසු
තැවිලි වෙයල්ලායයි” කීසේක.
18. උන්වහන්සේ ගලීලයේ මූදබඩ
ඇවිද්දදී, මසුන් අල්ලනනන් වන
පේතෘස්නම් සීමොන්ද ඔහුගේ සහෝ
දරවූ අන්දෘද යන සහෝදරයන්
දෙදෙන මුහුදේ දැලක් හෙළනවා
19. දැක, “මා පස්සේ වරෙල්ලාය; මම
නුඹලා මිනිසුන් අල්ලනනන් කෙරෙ
20. මියි” ඔවුන්ට කීසේක. එකෙණෙ
හිම ඔවුන් තමන්ගේ දැල් හැර උන්
21. වහන්සේ පස්සේ ගියෝය. උන්
වහන්සේ එතින් පිටත්ව ගොස් තවත්
සහෝදර දෙදෙනෙක්වූ සෙබදීගේ
පුත් යාකොබ්ද ඔහුගේ සහෝදරවූ
යොහන්ද තමන් පියවූ සෙබදී සමඟ
නැවක දැල් අළුත්කරනවා දැක
22. ඔවුන්ට අඬගැහූසේක. ඔවුන් එ
කෙණෙහිම නැවද තමන් පියාද හැ
ර උන්වහන්සේ පස්සේ ගියෝය.

23. ඉන්පසු යේසුස්වහන්සේ සින
ගෝගවලදී උගන්වමින් රාජ්‍යයාගේ
සුභාරංචිය ප්‍රකාශකරමින්, සෙනඟ අ
තරෙහි සියළු රෝග පීඩා සුවකරමින්,
ගලීලය මුළුල්ලෙහි ඇවිද්දසේක.
24. උන්වහන්සේගේ කීර්තිය සිරියා
රට මුළුල්ලෙහි පතලවිය. එබැවින්
නොයෙක් රෝග පීඩාවලින් පීඩිතවූ
සියළු රෝගාතුරයන්ද යක්ෂාවේසවූ
වන්ද මීමස්මර රෝගීන්ද අංශභාග රෝ
ගීන්ද උන්වහන්සේ වෙතට ගෙනා
25. වෝය. උන්වහන්සේද ඔවුන්ට
සුවකලසේක. ගලීලයෙන්ද දෙක
පොලිසෙන්ද යෙරුසලමෙන්ද යූද
යෙන්ද යොර්දනෙන් එගොඩින්ද බොහෝ
ජනසමූහයෝ උන්වහන්සේ පස්සේ
ගියෝය.

5. පරිච්ඡ. උන්වහන්සේ සමූහ
යන් දැක පර්වතයකට නැගී එහි හිඳ
ගත් කල්හි, උන්වහන්සේගේ ගෝ
ලයෝ උන්වහන්සේ වෙතට පැමිණි
2. යෝය. එවිට උන්වහන්සේ ශබ්ද
නගා ඔවුන්ට උගන්වමින් මෙසේ
3. කීසේක. “සිතින් දිළින්දෝ වාස
නාවන්තයෝය; මක්නිසාද ස්වර්ග
4. රාජ්‍යය ඔවුන්ගේය. ශෝක වෙන්
නෝ වාසනාවන්තයෝය; මක්නි
සාද ඔවුන් සනසනු ලබනවා ඇත.
5. මොලොක් ගුණ ඇත්තෝ වාසනා
වන්තයෝය; මක්නිසාද ඔවුන්ට රට
6. උරුමවෙනවා ඇත. ධර්මිෂ්ඨකමට
සාපිපාස ඇත්තෝ වාසනාවන්ත
යෝය; මක්නිසාද ඔවුන් තෘප්තියට
7. පැමිණෙනවා ඇත. දයාබරකම
ඇත්තෝ වාසනාවන්තයෝය; මක්
නිසාද ඔවුන් දයාව ලබනවා ඇත.
8. පවිත්‍ර සිත් ඇත්තෝ වාසනාවන්
තයෝය; මක්නිසාද ඔවුන් දෙවියන්
9. වහන්සේ දකිනවා ඇත. සමගීක
රන්නෝ වාසනාවන්තයෝය; මක්
නිසාද ඔවුන් දෙවියන්වහන්සේගේ
පුත්‍රයෝයයි කියනු ලබනවා ඇත.
10. ධර්මිෂ්ඨකම නිසා පීඩා ලබන්නෝ
වාසනාවන්තයෝය; මක්නිසාද ස්ව
11. ර්ග රාජ්‍යය ඔවුන්ගේය. මනුෂ්‍ය
යෝ මා නිසා නුඹලාට නින්දා පීඩා
කොට නුඹලාට විරුද්ධව බොරුවෙන්
සියළු ආකාර අගුණ කියනකල, නුඹ
12. ලා වාසනාවන්තයෝය. ස්වර්ග
යෙහිදී නුඹලාට මහත් විපාක ලැබෙ
න හෙයින්, සතුටුව ඉතා ප්‍රීතිමත්
වෙයල්ලාය. නුඹලාට පළමුවෙන්

සිටියාවූ අනාගතවක්තෘන්ටත් ඔවුන්
එසේම පීඩාකලෝය.

13. නුබලා පොලොවෙහි ලුණුය;
එහෙත් ඒ ලුණෙහි රස නැතිවීනම්,
ඒ කුමකින් රසකරනු ලැබේද? එයින්
පසු ඒ ලුණු පිටත දමනු ලබන්ටද
මනුෂ්‍යයන්ගේ පයින් පාගනු ලබන්
ටද මිස, අන් කිසිවකට නොවටු
14. නේය. නුබලා ලෝකයෙහි ආ
ලෝකය වෙති. පර්වතයක් මුදුනෙහි
තිබෙන නුවරක් සඟවන්ට නොහැ
15. කිවෙයි. මනුෂ්‍යයෝ පහනක්
දල්වා, කුරුණියක් යට නොව පහන්
කන්දක් උඩ තබති; එවිට එයින්
ගෙහි සිටින සියල්ලන්ටම ආලෝකය
16. ලැබෙයි. එසේම මනුෂ්‍යයෝ නු
බලාගේ යහපත් ක්‍රියාවල් දැක ස්ව
ර්ගයෙහි වැඩසිටින නුබලාගේ පියා
ණන්වහන්සේට ප්‍රසංසාකරන පිණිස,
නුබලාගේ ආලෝකය ඔවුන් ඉදිරි
යෙහි බබලාවා.

17. ව්‍යවස්ථාවවත් අනාගතවාක්‍ය
වත් නැතිකරන්නට ආයෙමියි නො
සිතල්ලාය. සම්පූර්ණකරන්ට මිස,
නැතිකරන්ට මම නාවෙමි. සැබ
18. වක් නුබලාට කියමි; අහස පො
ලොව නැතිවෙනතුරු, ව්‍යවස්ථාවෙ
හි සියල්ල සිදුවෙනතෙක්, එක් අකු
රක්වත් බින්දුවක්වත් නැති නො
19. වනේමය. එබැවින්, මේ ආඥා
වන් අතරෙන් ඉතා කුඩා එකක්වත්
කඩකරන්නාවූ කඩකරන ලෙස මනු
ෂ්‍යයන්ට උගන්වන්නාවූ යමෙක්
ඇද්ද, ඔහු ස්වර්ග රාජ්‍යයෙහිදී ඉතා
කුඩායයි කියනු ලබන්නේය. එහෙත්
ඒ ආඥාවන් පවත්වන්නාවූ උගන්ව
න්නාවූ යමෙක් ඇද්ද, ඔහු ස්වර්ග
රාජ්‍යයෙහිදී උත්තමයයි කියනු ලබ
20. නේය. තවද, නුබලාට මම කි
යමි; නුබලාගේ ධර්මිෂ්ඨකම ලියන්
නන්ගේද ඵරිසිවරුන්ගේද ධර්මිෂ්ඨ
කමට වැඩිනොවීනම්, නුබලා ස්වර්ග
රාජ්‍යයට ඇතුල්නොවනේමය.

21. 'මිනී නොමරව; මිනී මැරූ ක
වරෙක් නුමුත්, නඩු විනිශ්චයෙහි දඬු
වමට සුදුස්සෙකැයි' පුරාතනයන්ට
22. කී බව නුබලා ඇසුවෝය. එහෙත්
නුබලාට මම කියමි; තමාගේ සහෝ
දරයාට නිෂ්කාරණයේ කෝපවෙන්
නාවූ කවරෙක් නුමුත්, නඩු විනිශ්ච
යෙහි දඬුවමට සුදුස්සෙක. තමාගේ
සහෝදරයාට මෝඩයායයි කීවාවූ
කවරෙක් නුමුත්, උතුම් නඩුසභාවෙ
හි දඬුවමට සුදුස්සෙක. තෝ ජඩයා
යයි කීවාවූ කවරෙක් නුමුත්, නිර
23. ගිනෙනහි දඬුවමට සුදුස්සෙක. එ
බැවින්, නුබේ පඬුර පූජාසනයට ගෙ
නා කල්හි, නුබේ සහෝදරයා නුබ
කෙරෙහි යම් විරුද්ධයක් ඇති බව
24. නුබට සිහිවීනම්, නුබේ පඬුර පූ
ජාසනය ඉදිරියෙහි තබා පලමුකොට
ගොස්, සහෝදරයා හා සමගිව, පසු
25. ව ඇවිත් පඬුර පූජාකරපනන. නු
බේ විරුද්ධකාරයා සමග පාරේ යමින්
ම ඉක්මනින් ඔහු හා සමගිවෙයන්
න. නැත්නම්, ඔහු නුබ අල්ලා නඩු
විනිශ්චයකාරයාට පාවා දෙනේය;
ඔහුද නුබ සේවකයාට පාවා දෙන්
නේය; නුබද හිරගෙහි දමනු ලබන්
26. නේය. සැබවක් නුබට මම කියමි;
අන්තිම සල්ලිය ගෙවනතුරු, නුබ
එයින් නොනික්මෙන්නේය.

27. 'පරදාර කර්මය නොකරවයි'
පුරාතනයන්ට කී බව නුබලා ඇසු
28. වෝය. එහෙත් නුබලාට මම කි
යමි; යම් කිසිවෙක් රාගයෙන් ස්ත්‍රී
යක් දෙස බලාද ඔහු එවලේම සිතින්
ඈ හා සමග පරදාර කර්මය කෙලේය.
29. නුබේ දකුනැස නුබට බාධාකෙ
රේනම්, ඒක උගුලාදමාපන්න; මක්
නිසාද නුබේ මුළු ශරීරය නිරයෙහි
හෙළනු ලබනවාට වඩා, නුබේ අව
යවවලින් එකක් නැතිවීම නුබට යහ
30. පත. නුබේ දකුනත නුබට බාධා
කෙරේනම්, ඒක කපාදමාපන්න;
මක්නිසාද නුබේ මුළු ශරීරය නිර

යෙහි හෙළනුලබනවාට වඩා, නුබේ අවයවවලින් එකක් නැතිවීම නුබට යහපත.

31. 'යමෙක් තමාගේ භාය්‍යාව හරින්නේනම්, ඈට අත්හැරීම් පත්‍රයක් දේවයි' කියා තිබෙන්නේය. 32. එහෙත් නුබලාට මම කියමි; වෙශ්‍යාකමකට මිස, වෙන කාරනාවකට තමාගේ භාය්‍යාව හරිනනාවූ යමෙක් ඇද්ද, ඔහු ඈ පරදාර කම්මයට පමුනුවන්නේය. යමෙක් ඒ ස්ත්‍රිය විවාහ කරගන්නේනම්, ඔහුද පරදාර කම්මය කරන්නේය.

33. නැවතද 'බොරු නොදිවුරව; ස්වාමීන්වහන්සේ ඉදිරියෙහි දිවුල දිවිරීම ඉෂ්ටකරවයි' පූරාතනයන්ට කී 34. බව නුබලා ඇසුවෝය. එහෙත්, කිසි දිවිරුමක් නොදිවුරන්ට නුබලාට කියමි. දෙවියන්වහන්සේගේ සිංහාසනය බැවින් අහස ගැනවත්, 35. උන්වහන්සේගේ පාපුටුව බැවින් පොලොව ගැනවත්, මහ රජහුගේ නුවර බැවින් යෙරුසලම ගැන 36. වත්, නොදිවුරල්ලාය. එක් ඉසකෙසක් සුදුකරන්ටවත් කළුකරන්ටවත් නොහැකි බැවින්, ඉස ගැනද 37. නොදිවුරල්ලාය. එහෙත් නුබේ වචනය එසේය එසේය කියාද නැත නැතැයි කියාද වේවා. මෙයට වැඩිවූ සියල්ල නපුරෙන් හටගනෙන්ය.

38. 'ඇසට ඇසය, දතට දතයයි' 39. කී බව නුබලා ඇසුවෝය. එහෙත් නුබලාට මම කියමි; නපුරුකම් කරනනා සමග පොරට නොසිටිල්ලාය. යමෙක් නුබේ දකුනු කම්මුලට ගැසීනම්, අනික් කම්මුලද හරවාපන්න. 40. යමෙක් නුබේ අඳනා රෙද්ද ගන්නා පිනිස නඩු සභාවෙහි පැමිනිලි කරන්ට කැමතිවීනම්, ඔහුට උතුරු 41. සළුවත් ගන්ට අවසර දීපන්න. යමෙක් එක් හැතැක්මක් යන්ට නුබට බලාත්කාර කෙලේනම්, ඔහු සමග හැතැක්ම දෙකක් පලයන්න. 42. නුබෙන් ඉල්ලන්නාට දීපනන; නුබෙන් නයගන්ට කැමැත්තාට පිට නොපාන්න.

43. 'තමාගේ අසල්වාසියාට ප්‍රේම කරව; සතුරාට වෛර වෙවයි' කී බව 44. නුබලා ඇසුවෝය. එහෙත් නුබලාට මම කියමි; නුබලාගේ සතුරන්ට ප්‍රේම කරපල්ලාය; නුබලාට සාප කරන්නවුන්ට ආශිර්වාදකරපල්ලාය; නුබලා කෙරෙහි වෛර බඳින්නන්ට යහපත්කම් කරපල්ලාය; නුබලාට නින්දාපීඩා කරන්නන් උදෙසා යාඥා 45. කරපල්ලාය. එසේ කලොත්, යහපතුන්ටත් අයහපතුන්ටත් තමන් ඉර උදාකරනනාවූ, සත්පුරුෂයන්ටත් අසත්පුරුෂයන්ටත් වැසි වස්වනනාවූ, ස්වර්ගයෙහි වැඩසිටින නුබලාගේ පියානන්වහන්සේගේ දරුවෝ වෙ 46. නවා ඇත. නුබලාට ප්‍රේම කරන්නන්ටම නුබලාත් ප්‍රේම කරනවානම්, නුබලාට මොන විපාකයක් වේද? සුංගම් අයකරන්නෝ පවා 47. එසේ නොකෙරෙද්ද? නුබලාගේ සහෝදරයන්ට පමනක් ආචාර කරනවානම්, මොන උතුම් ක්‍රියාවක් කරනවාද? සුංගම් අයකරන්නෝ 48. පවා එසේ නොකෙරෙද්ද? එබැවින්, ස්වර්ගයෙහි වැඩසිටින නුබලාගේ පියානන්වහන්සේ ගුණයෙන් සම්පූර්ණව සිටින්නාක්මෙන්, නුබලාත් ගුණයෙන් සම්පූර්ණව සිටපල්ලාය.

6. පරිච්ඡේ. මනුෂ්‍යයන්ට පෙනෙන පිනිස ඔවුන්ගේ ඉදිරියෙහි නුබලාගේ දානය නොදෙන්ට ප්‍රවේසම් වෙයල්ලාය; නැත්නම්, ස්වර්ගයෙහි වැඩසිට්න නුබලාගේ පියානන්වහන්සේගෙන් නුබලාට විපාකයක් නැත්තේය.

2. එබැවින් නුබ දන් දෙනකල, මනුෂ්‍යයන්ගෙන් ප්‍රසංසා ලබන පිනිස සිනගෝග සහ වීථිවලදීත් වමාකා

රයෝ කරන්නාක්මෙන්, තුබ ඉදිරි
යෙහි හොරනෑ නොපිඹවනනා. සැබ
වක් තුබලාට කියමි ; ඔවුන්ගේ විපා
3. කය ඔවුන්ට ලැබුනේය. තුබ දන්
දෙනකල, තුබේ දනය රහසම තිබෙ
න පිනිස දකුනත කරන දේ වමත
4. නොදනීවා. එවිට රහසිගතව දකි
න තුබේ පියානන්වහන්සේ ප්‍රසිද්ධ
යෙන් තුබට විපාක දෙනසේක.

5. තුබ යාඥාකරනකල්හි, මනුෂ්‍ය
යන්ට පෙනෙන පිනිස සිනගෝග
සහ මාර්ග සන්ධිවලද සිට යාඥාක
රන්ට කැමතිවූ වංචාකාරයන්ට සමා
න නොවෙන්න. සැබවක් තුබලාට
කියමි; ඔවුන්ගේ විපාකය ඔවුන්ට
ලැබුනේය.

6. තුබ යාඥාකරනකල, තුබේ ඇ
තුල් ගෙට වැද දොර වසා, රහසිගත
ව වසන තුබේ පියානන්වහන්සේට
යාඥාකරපන්න; එකල රහසිගතව
දකින තුබේ පියානන්වහන්සේ ප්‍රසි
ද්ධයෙන් තුබට විපාක දෙනසේක.
7. තුබලා යාඥාකරණ කල, අන්‍යජා
තීන් මෙන් කී බස් නිෂ්කාරණයේ
නැවත නැවත නොකියල්ලාය. ඔ
වුන් තමන්ගේ බොහෝ කීම් නිසා
8. අසනු ලබනවා ඇතැයි සිතති. ඔ
වුන්ට සමාන නොවෙල්ලාය; මක්නි
සාද තුබලාගේ පියානන්වහන්සේ
ගෙන් යමක් ඉල්ලන්ට පලමුවෙන්,
මොන දේ තුබලාට නිසිදැයි උන්ව
9. හන්සේ දන්නාසේක. එහෙයින්
මෙසේ යාඥාකරපල්ලාය. ස්වර්ගයෙ
හි වැඩසිටින අපගේ පියානන්වහන්
සෑ; ඔබවහන්සේගේ නාමය ශුද්ධව
10. පවත්වනු ලැබේවා. ඔබවහන්
සේගේ රාජ්‍යය ඒවා. ඔබවහන්සේ
ගේ කැමැත්ත ස්වර්ගයෙහි මෙන්,
11. භූමියෙහිද කරනුලැබේවා. අපේ
දවස්පතා භෝජනය අපට අද දුන
12. මැනව. අපේ නයකාරයන්ට අපි
ක්ෂමාවෙන්නාක්මෙන්, අපේ නයන්
13. අපට ක්ෂමාවූවමැනව. අප පරී
ක්ෂාවට නොපමුනුවා, නපුරෙන් අප
ගලවාගනමැනව. මක්නිසාද රාජ්‍ය
යත් බලයත් මහිමයත් සදාකල්හිම ඔ
14. බවහන්සේගේමය. ආමෙන්. තු
බලා මනුෂ්‍යයන්ට ඔවුන්ගේ වරද
වල් ක්ෂමාවෙනවානම්, තුබලාගේ
ස්වර්ගීයවූ පියානන්වහන්සේ තුබලා
15. ටත් ක්ෂමාවෙනසේක. එහෙත්,
තුබලා මනුෂ්‍යයන්ට ඔවුන්ගේ වරද
ක්ෂමා නොවනවානම්, තුබලාගේ
පියානන්වහන්සේත් තුබලාගේ වරද
තුබලාට ක්ෂමා නොවෙනසේක.

16. තුබලා නිරාහාරයෙන් ඉන්නා
කල, වංචාකාරයන් මෙන් දුක්ඛිතවූ
මුහුනු ඇතිව නොසිටිල්ලාය. ඔවුන්
නිරාහාරයෙන් ඉන්න බව මනුෂ්‍ය
යන්ට පෙනෙන පිනිස තමන්ගේ මූ
හුනු මලානික කරගනිති. සැබවක්
තුබලාට කියමි; ඔවුන්ගේ විපාකය
17. ඔවුන්ට ලැබුනේය. තුබලා නිරා
හාරයෙන් ඉන්නකල, රහසිගතව ව
සන තුබේ පියානන්වහන්සේට මිස
මනුෂ්‍යයන්ට තුබ නිරාහාරව ඉන්න
බව නොපෙනෙන පිනිස, තුබේ හිස
18. තෙල්ගා මුහුන සෝදගන්න. එ
විට රහසිගතව දකින තුබේ පියාන
න්වහන්සේ ප්‍රසිද්ධයෙන් තුබට විපාක
දෙනසේක.

19. භූමියෙහි තමන්ට වස්තු රැස්
කර නොගනිල්ලාය; එහිදී කාවෝද
මලකඩද ඒවා විනාස කරති; එහිදී
20. සොරු උමන්කැන ගනිති. එ
හෙත් ස්වර්ගයෙහි තමන්ට වස්තු
රැස්කරගනිල්ලාය; එහිදී කාවෝද
මලකඩද ඒවා විනාස නොකරති, එ
හිදී සොරු උමන්කැන නොගනිති.
21. මක්නිසාද තුබලාගේ වස්තු යම්
තැනෙක්හිද, තුබලාගේ සිතත් එහි
22. ම වන්නේය. ඇස ශරීරයේ පහ
න වේ; එහෙයින්, තුබේ ඇස යහප
ත්ව තිබේනම්, තුබේ මුළු ශරීරය එළි
23. යවේ; තුබේ ඇස අයහපත්ව ති
බේනම්, තුබේ මුළු ශරීරය අඳුරුවේ.

එබැවින්, නුඹ ඇතුලත තිබෙන එ
ළිය අඳුරුවිනම්, ඒ අඳුර කොපමන
24. මහත්වේද? ස්වාමිවරුන් දෙදෙ
නෙකුට මෙහෙකිරීම කාටවත් නුපු
ළුවන. මක්නිසද, එක්කෙනෙකුට
අප්‍රියව, අනික් අයට ප්‍රිය වන්
නේය; නොහොත් එක්කෙනෙකුට
ඇළුම්ව, අනික් අය නොසලකන්
නේය නුඹලා විසින් දෙවියන්වහන්
සේටද වස්තුවටද මෙහෙකිරීම නො
25. හැක්කේය. එහෙයින් නුඹලාට
කියමි; ජීවත්වීම ගැන කුමක් කමුද
කුමක් බොමුද කියාත්, ශරීරය ගැන
කුමක් අඳිමුද කියාත්, කල්පනාකර
කනගාටුනොවෙල්ලාය. කෑමට වඩා
ජීවිතයද, ඇඳුමට වඩා ශරීරයද,
26. උතුම් නොවේද? ආකාසයෙහි
පක්ෂීන් බලාපල්ලාය. උන් වපු
රන්නේවත් කපන්නේවත් නැත.
අටුවෙහි රැස්කරන්නේවත් නැත.
එසේ නුමුත්, නුඹලාගේ ස්වර්ගීයවූ
පියානන්වහන්සේ උන් පෝෂ්‍යය
කරනසේක. නුඹලා උන්ට වඩා
27. උතුම් නොවෙහුද? කනගාටු
සිතීමෙන් තමාගේ උසට වඩා එක
රියනක්වත් වැඩිකරගන්ට නුඹලා
අතරෙන් කවරෙකුට පුළුවන්ද?
28. නුඹලා වස්ත්‍ර ගැන කුමක්පිනිස
කනගාටු වෙහුද? කෙතෙහි මානෙල්
කෙසේ වැඩෙත්දැයි කල්පනාකර ප
ල්ලාය. ඒවා වෙහෙසෙන්නේවත්,
29. නූල් කටින්නේවත් නැත. එ
හෙත් නුඹලාට කියමි; තමාගේ සිය
ළු ඉසුරෙන් යුක්තවූ සලමොන් පවා,
ඒ මලක් ලෙස අලංකාර නොවූයේය.
30. විශ්වාස මදි තැනැත්තෙනි; අද
තිබී සෙට උදුනෙහි දමනු ලබන්නා
වූ කෙතෙහි මල් දෙවියන්වහන්සේ
මෙසේ සරසන සේක්නම්, උන්වහන්
සේ නුඹලා වැඩියෙන් නොසරසනු
31. සේක්ද? එසේහෙයින්, කුමක්
කමුද කුමක් බොමුද කුමක් අඳිමුදැයි
කියමින්, කනගාටු නොවෙල්ලාය.
මේ සියල්ල අන්‍යජාතියෝ සොයති.
32. මේ සියල්ල නුඹලාට ඕනෑ බව,
නුඹලාගේ ස්වර්ගීයවූ පියානන්වහන්
33. සේ දන්නාසේක. ඉන්නිසා, පල
මුවෙන් දෙවියන්වහන්සේගේ රාජ්‍ය
යද උන්වහන්සේගේ ධර්මිෂ්ඨකමද
සොයාපල්ලාය; එවිට මේ සියල්ලත්
34. නුඹලාට දෙනුලබනෙන්ය. එබැ
වින්, සෙට දවස නිසා කනගාටු නො
සිතල්ලාය; සෙට දවස තමාගේ දේ
ගැන සිතන්නේය. දවසෙහි දුක්කර
ය ඒ දවසට සෑහෙයි.

7. පරිච්ඡෙ. නුඹලා විනිශ්චයකර
නු නොලබන පිනිස විනිශ්චය නො
2. කරල්ලාය. යම් විනිශ්චයකින් නු
ඹලා විනිශ්චය කරනවානම්, එයින්
ම නුඹලාත් විනිශ්චය කරනු ලබන
වා ඇත. යම් මිම්මකින් නුඹලා මැන
දෙනවානම්, එයින්ම නැවත නුඹලා
3. ටත් මැනදෙනු ලැබෙන්නේය. නු
ඹේ ඇසේ තිබෙන දූවිය නොසලකා,
සහෝදරයාගේ ඇසේ තිබෙන පතුර
4. බලනෙන් මක්නිසාද? නොහොත්
නුඹේ ඇසේ දූවිය තිබෙද්දී, 'නුඹේ
ඇසේ තිබෙන පතුර පහකරන්ට
අවසර දියන්නැයි' සහෝදරයාට කි
5. යන්නේ කොහොමද? වංචාකාර
ය, පලමුකොට නුඹේ ඇසේ තිබෙ
න දූවිය පහකරගනන; එවිට සහෝද
රයාගේ ඇසේ තිබෙන පතුර පහක
රන්ට හොඳට පෙනෙනවා ඇත.

6. පරිසිදු දේ බල්ලන්ට නොදෙ
ල්ලාය. නුඹලාගේ මුතු ඌරන් ඉදිරි
යෙහි නොදමල්ලාය; සමහරවිට උන්
ඒවා පසින් පාගා, පසුව හැරී නුඹලා
හපාකනවා ඇත.

7. ඉල්ලාපල්ලාය, එවිට නුඹලාට
දෙනු ලැබේ; සොයාපල්ලාය, එවිට
නුඹලාට සම්භවේ; තට්ටුකරපල්ලා
ය, එවිට නුඹලාට දොර අරිනු ලැබේ.
8. මක්නිසාද ඉල්ලනනාවූ සියල්ලෝ
ලබති; සොයන තැනැත්තාට සම්

හවේ; තට්ටුකරන තැනැත්තාට දොර
9. හරිනු ලැබේ. නුබලා අතරෙන්
යම් මනුෂ්‍යයෙක්, තමාගේ පුත්‍රයා
රොටියක් ඉල්ලූකල, ඔහුට ගලක්
10. දේද? නොහොත් මත්ස්‍යයකු
ඉල්ලූකල, ඔහුට සර්පයකු දේද?
11. නපුරුවූ නුබලා පවා තමන් දරු
වන්ට යහපත් දේ දෙන්ට දන්නවා
නම්, ස්වර්ගයෙහි සිටින නුබලාගේ
පියානන්වහන්සේ තමන්ගෙන් ඉල්
ලන්නන්ට යහපත් දේ කොපමන
12. වැඩිතරම්ව නොදෙනසේක්ද? එ
බැවින්, මනුෂ්‍යයෝ නුබලාට යමක්
යමක් කරනවාට නුබලා කැමතිනම්,
ඒ ඒ දේ ඔවුන්ටත් කරපල්ලාය. ව්‍ය
වස්ථාව සහ අනාගත වාක්‍යය මේය.

13. පටු දොරකඩින් ඇතුල්වෙයල්
ලාය; මක්නිසාද විනාශයට යන දො
රකඩ මහත්ය, පාර පලලය; එයින්
14. ඇතුල්වෙන්නෝ බොහෝය. එ
හෙත්, ජීවනයට යන දොරකඩ පටුය,
පාර නුපුළුල්ය; ඒක සම්භවෙන්නේ
ස්වල්ප දෙනෙකුටය.

15. බොරු අනාගතවක්තෘන්ගෙන්
ප්‍රවේසම් වෙයල්ලාය. මක්නිසාද ඔ
වුන් බැටළුවන්ගේ ස්වරූපයෙන් නු
බලා ලඟට පැමිනෙති; නුමුත් ඔවුන්
කෲර සිත් ඇති වෘකයෝය. ඔවුන්ගේ
ඵලයෙන් නුබලා ඔවුන් අඳුනනවා
16. ඇත. මනුෂ්‍යයෝ කටුවලින් මුදි
කාද ගොකටුවලින් දිඹුල්ද නෙලාග
17. නිද්ද? එසේම, හොඳ ගස් සියල්ල
18. හොඳ ඵල දෙන්නේය; නරක
ගහ නරක ඵල දෙන්නේය. හොඳ
ගහේ නරක ඵලවත්, නරක ගහේ
හොඳ ඵලවත්, හටගන්ට නුපුළුවන.
19. හොඳ ඵල නොදෙන සියළු ගස්
කපනු ලැබ ගින්නෙහි දමනු ලැ
20. බෙත්. එබැවින්, ඔවුන්ගේ ඵල
යෙන් නුබලා ඔවුන් අඳුනනවා ඇත.
21. ස්වර්ගයෙහි වැඩසිටින මාගේ පි
යානන්වහන්සේගේ කැමැත්ත කර
නෙනක්මිස, ස්වාමිනි ස්වාමිනි යි මට
කියන්නාවූ සියල්ලෝම ස්වර්ග රාජ්‍ය
22. යට ඇතුල් නොවනෙනෝය. ඒ දව
සේදී 'ස්වාමිනි, ස්වාමිනි, ඔබවහන්
සේගේ නාමයෙන් දේසනා නොකෙ
ලෙමුද? ඔබවහන්සේගේ නාමයෙන්
යක්ෂයන් දුරුනොකෙලෙමුද? ඔබව
හන්සේගේ නාමයෙන් නොයෙක්
ආශ්චර්‍ය්‍ය නොකලෙමුදැයි' නොයෙක්
23. දෙන මට කියනවා ඇත. එවිට,
'මම කිසි කලෙකත් තොප නොහැ
දින්නෙමි; නපුරු ක්‍රියාකාරයෙනි, මා
කෙරෙන් පහව යව්යයි' ඔවුන්ට කිය
නෙනමි.

24. එහෙයින්, යම් කිසිවෙක් මා
ගේ මේ වචන අසා එලෙස පිලිපදී
ද, ඒ පුරුෂයා පර්වතයක් පිට ගේ සා
දාගත් නුවන ඇති මනුෂ්‍යයෙකුට
25. උපමා කෙරෙමි. වැසි වැස, වතු
ර ගලා, හුළඟ හමා, ඒ ගෙට ගැසු
යේය. ඒ ගේ පර්වතය පිට පිහිටුවූ බැ
26. වින්, නොවැටුනේය. යමෙක්
මාගේ මේ වචන අසා ඒවා පිලිනො
පදීද; ඔහු වැලි මත්තෙහි ගෙයක්
සාදාගත් නුවන නැති මනුෂ්‍යයෙකුට
27. උපමාකරනු ලැබේ. වැසි වැස,
වතුර ගලා, හුළඟ හමා, ඒ ගෙට ගැ
සුයේය; ඒක වැටුනේය; ඒ වැටීමද
බලවත් විය."

28. යේසුස්වහන්සේ මේ වචන කි
යා නිමවූ කල්හි, උන්වහන්සේගේ
ඉගැන්වීමට සමූහයෝ පුදුම වූවෝය.
29. මක්නිසාද උන්වහන්සේ ලියන්
නන් මෙන් නොව, බලසම්පන්න
කෙනෙක් මෙන් ඔවුන්ට ඉගැන්වූ
සේක.

8. පරිච්ඡේ. උන්වහන්සේ පර්වත
යෙන් බැස්ස කල, බොහෝ සමූහ
යෝ උන්වහන්සේ පස්සේ ගියෝය.
2. එවිට කුෂ්ට රෝගාතුරයෙක් ඇ
වින් උන්වහන්සේට වැඳ, "ස්වාමිනි
ඔබවහන්සේ කැමතිනම්; මා පිරිසි
දුකරන්ට ඔබවහන්සේට පුළුවනැයි"

3. කීය. යේසුස්වහන්සේද අත දිගු
කොට, ඔහුගේ ශරීරයෙහි තබා,
"කැමැත්තෙමි, පිරිසිදුවෙයන්නැයි"
කීසේක. එකෙණෙහිම ඔහු කුෂ්ඨ
4. යෙන් පිරිසිදුවිය. එවිට යේසුස්ව
හන්සේ "මේ බව කාටවත් නොකි
යන්ට බලාගනින්න, එහෙත් ඔවුන්
ට සාක්ෂි පිණිස, ගොස් පූජකයාට
පෙනී මෝසෙස් විසින් අණකල පඬුර
පූජාකරපන්නැයි" ඔහුට කීසේක.

5. යේසුස්වහන්සේ කපර්ණවූම
ට ඇතුල්වූ කල්හි, සියේකට මුලාදෑ
නියෙක් උන්වහන්සේ වෙතට පැමි
ණ, උන්වහන්සේගෙන් පිහිට ඉල්ල
6. මින්, "ස්වාමිනි, මාගේ මෙහෙකරු
වා අංශභාග රෝගීව බලවත් වේද
නා විඳිමින් ගෙහි ඔත්පලව ඉන්නවා
7. යයි" කීය. යේසුස්වහන්සේ "මම
ඇවිත් ඔහු සුවකෙරෙමියි" කීසේක.
8. සියේකට මුලාදෑනියා උත්තර දෙ
මින්, "ස්වාමිනි, මාගේ පියස්ස යටට
ඔබවහන්සේගේ ඊමට, මම නොවටි
මි; වචනය පමණක් කිවමැනව, එවි
ට මාගේ මෙහෙකරුවාට සුවවන්නේ
9. ය. මමත් ආඥාවට යටත් මිනිහෙක;
මා යටතෙහිද සේවායෝ සිටිති. එ
කෙකුට යවයි කී කල, ඔහු යන්නේය;
අනිකෙකුට එවයි කී කල, ඔහු එන්
නේය; මාගේ මෙහෙකරුවාට මේක
කරවයි කී කල, ඔහු ඒක කරන්නේ
10. යයි" කීය. යේසුස්වහන්සේ ඒ අ
සා පුදුමව, පස්සේ යන්නන්ට කථා
කොට, "සැබවක් නුබලාට කියමි,
ඊශ්‍රායෙල්හි පවා මෙබඳු මහත් ඇද
11. හිල්ලක් නුදුටිමි. තවද නුබලාට
කියමි, නැගෙන ඉරිඤු බස්නා ඉරිඤු
බොහෝ දෙනා ඇවිත්, ආබ්‍රහම් ඊ
සාක් යාකොබ් සමඟ ස්වර්ග රාජ්‍ය
12. යෙහි හිඳිනෝය. එහෙත් රාජ්‍ය
යෙහි දරුවෝ, පිටත අඳුරෙහි දමනු
ලබනවා ඇත. එහිදී හැඬීමද දත්මි
13. ටිකෑමද වන්නේයයි" කීසේක. ප
සුව යේසුස්වහන්සේ කථාකොට, පල
යන්න, නුබ අදහගත්සේම නුබට
වේවයි" සියේට මුලාදෑනියාට කීසේ
ක. එකෙණෙහිම ඔහුගේ මෙහෙක
රුවාට සුවවිය.

14. යේසුස්වහන්සේ පේතෘස්ගේ
ගෙදරට ඇතුල්වූ කල, ඔහුගේ භා
ර්‍යාවගේ මව් උණ ලෙඩින් ඔත්පලව
ඉන්නවා දැක, ඇගේ අත ඇල්ලූසේ
15. ක. එවිට උණ ලෙඩ සුවවිය. ඇද
නැගිට ඔවුන්ට උපස්ථාන කලාය.
16. සවස්වූ විට, යක්ෂාවේශවූ බො
හෝ දෙනෙක් උන්වහන්සේ ලඟට
ගෙනාවෝය. උන්වහන්සේද තමන්
ගේ වචනයෙන්ම යකුන් දුරුකොට,
රෝගාතුරවූ සියල්ලන්ට සුවකල
17. සේක. "උන්වහන්සේ අපේ දුබ්
ලකම් රැගෙන, අපේ රෝග උසුලා
ගත්සේකැයි," යෙසායියා අනාගත
වක්තෘහු විසින් කී වචනය මෙසේ
සම්පූර්ණවිය.

18. යේසුස්වහන්සේද බොහෝ ස
මූහයන් විසින් තමන් පිරිවරා සිටින
බව දැක, "එගොඩ යමුයයි" කීසේක.
19. එවිට එක් ලියන්නෙක් ඇවිත්,
"ආචාරීනි, ඔබවහන්සේ යන තැන
කට මමත් ඔබවහන්සේ පස්සේ
20. එමියි" උන්වහන්සේට කීය. එවිට
යේසුස්වහන්සේ, "සිවලුන්ට බිලන්
ආකාශයෙහි පක්ෂීන්ට කූඩුත් ඇත;
එහෙත් මනුෂ්‍ය පුත්‍රයාට හිස තබන්
ටවත් තැනක් නැතැයි" ඔහුට
21. කීසේක. උන්වහන්සේගේ ගෝල
යන්ගෙන් අනිකෙක්, "ස්වාමින්ව
හන්ස, මාගේ පියා තැන්පත්කරන
පිණිස පලමුවෙන් යන්ට මට අවසර
22. දුනමැනවයි" කීය. යේසුස්ව
හන්සේ, "මා පස්සේ වරෙන්න;
මලාහු තමන්ගේ මලවුන් තැන්පත්
කෙරෙත්වයි" ඔහුට කීසේක.

23. උන්වහන්සේ නැවට නැගුනු
කල, ගෝලයෝ උන්වහන්සේ සමඟ
24. ගියෝය. මුහුදේ මහත් හුළඟක්
විය; නැව රැලවලින් වැහුණේය. උන්

25. වහන්සේ නිදාහුන්සේක. එවිට
ගෝලයෝ ලඟට ඇවිත් උන්වහන්
සේ පුබුදුවා, "ස්වාමිනි, අප ආරක්ෂා
කලමැනව; අපි විනාසවෙමුයයි" කී
26. වෝය. එවිට උන්වහන්සේ, "විස්
වාස මදි තැනැත්තෙනි, භයව සිටින්
නේ මක්නිසාදැයි" කියා හුළඟටත්
මුහුදටත් තරවටුකලසේක. එවිට
27. මහත් නිශ්චලයක් විය. මනු
ෂ්‍යයෝ පුදුමව, "මූන්වහන්සේ කෙ
බඳු කෙනෙක්ද? හුළඟත් මුහු
දත් මූන්වහන්සේට කීකරුවෙතියි"
කීවෝය.

28. උන්වහන්සේ එගොඩ ගර්ගී
සේනයන්ගේ රටට පැමිනිකල, ය
ක්ෂාවේසවූ මිනිස්සු දෙන්නෙක් සො
හොන් ගෙවලින් පිටත්ව උන්වහන්
සේගේ පෙරමගට ආවෝය. ඔවුන්
ඉතා රෞද්‍ර නිසා ඒ මාර්ගයෙහි යන්
29. ට කිසිවෙකුට නුපුළුවන්විය. ඔ
වුන්, "දෙවියන්වහන්සේගේ පුත්‍රවූ
යේසුස්වහන්ස, ඔබවහන්සේට අ
පෙන් කම මොකද? නියම කාලයට
ඉස්සර අපට පීඩාකරන්ට මෙහි ආ
30. සේක්දැයි" මුරගා කීවෝය. ඔවුන්
ට දුරින් මහත් ඌරු රැලක් ගොදුරු
31. කමින් සිටියෝය. යක්ෂයෝද "අ
ප දුරුකරනසේක්නම්, ඒ ඌරු රැල
ට වැඳෙන්ට අපට අවසර දුනමැනා
වයි" උන්වහන්සේගෙන් ඉල්ළුවෝය.
32. උන්වහන්සේ ඔවුන්ට "පල
යව්යයි" කීසේක. එවිට ඔවුන් දුරුව
ගොස්, ඌරු රැලට වැහුනෝය. ඒ
මුළු ඌරුරැල වේගයෙන් දිවගොස්,
උස්වූ තැනකින් මූදට වැටී දියෙහි
33. මලෝය. එවිට ඌරු රකවල්ළු
පලාගොස් නුවරට පැමින, ඒ සියල්
ලත් යක්ෂාවේසවූවන්ට සිදුවූ දේත්
34. කීවෝය. සියළු නුවර වැසියෝ
යේසුස්වහන්සේගේ පෙරමගට ඇ
විත්, උන්වහන්සේ දැක තමන් රටින්
යනලෙස ඉල්ළුවෝය.

9. පරිච්ඡේ. එවිට උන්වහන්සේ
නැවට නැගී, එගොඩව තමන් නුව
2. රට පැමිනිසේක. එවිට ඔත්පලවූ
අංශභාග රෝගාතුරයෙක් උන්වහන්
සේ ලඟට ඇඳකින් ගෙනාවෝය.
යේසුස්වහන්සේ ඔවුන්ගේ ඇදහිල්
ල දැක, "පුත්‍රය, භයනොවෙන්න;
නුඹේ පව් ක්ෂමාවුනේයයි" රෝගාතු
3. රයාට කීසේක. ලියන්නන්ගෙන් ස
මහරෙක්, "මොහු දෙවියන්වහන්සේ
ට අපහාස කරන්නේයයි" සිතුවෝය.
4. යේසුස්වහන්සේ ඔවුන්ගේ සිතිවි
ලි දැන, "නුඹලා නපුරු සිතිවිලි සිත
5. නෙන් මක්නිසාද? නුඹේ පව් නු
බට ක්ෂමාවූනේයයි කීමෙනුත් නැගී
ට ඇවිදපන්නැයි කීමෙනුත් වඩා ප
6. හසු කෝකද? එහෙත් මනුෂ්‍ය පු
ත්‍රයාට පව් ක්ෂමාකරන්ට මෙලොවදී
බලය ඇති බව නුඹලාට දැනෙන පි
නිසයයි" කියා "නැගිට ඇඳ රැගෙන
නුඹේ ගෙදරට පලයනනැයි" අංශ
7. භාග රෝගාතුරයාට කීසේක. එවි
ට ඔහු නැගිට තමාගේ ගෙදරට ගි
8. යේය. සමූහයෝ ඒ දැක පුදුමව,
මෙබඳු බලය මනුෂ්‍යයන්ට දුන් දෙවි
යන්වහන්සේට ප්‍රසංසා කලෝය.

9. යේසුස්වහන්සේ එසින් යන අ
තර, සුංගම් අයකරන තැනක උන්
නාවූ මතෙව්නම් මනුෂ්‍යයෙක් දැක,
"මා පස්සේ වරෙනනැයි" ඔහුට කී
සේක. එවිට ඔහු නැගිට උන්වහන්සේ
10. පස්සේ ගියේය. ඉන්පසු යේසුස්
වහන්සේ ගෙයි කෑමට හිඳගත්විට,
බොහෝ සුංගම් අයකරන්නෝද පව්
කාරයෝද ඇවිත් උන්වහන්සේ සහ
උන්වහන්සේගේ ගෝලයන් සමගද
11. හිඳගත්තෝය. ඵරිසිවරු ඒ දැක,
"නුඹලාගේ ආචාරීන්වහන්සේ සුංගම්
අයකරන්නන්ද පව්කාරයන්ද සමග
කන්නේ මක්නිසාදැයි" ගෝලයන්
12. ගෙන් ඇසුවෝය. යේසුස්වහන්
සේ ඒ අසා ඔවුන්ට කථාකොට, "රෝ
ගීන්ට මිස නිරෝගීන්ට වෙදුගෙන්

13. කම්නැත. තුබලා ගොස්, මම ක
රුනාව මිස යාගය නොකැමැත්තෙ
මියි යන බසෙහි අර්ථය කිමෙක්දැයි
ඉගනගනිල්ලාය. මම පව්කාරයන්
මිස ධර්මිෂ්ඨයන් පසුතැවිලිවීමට කැ
ඳවන්ට නාවෙමියි" කීසේක.

14. එකල යොහන්ගේ ගෝලයෝ
උන්වහන්සේ වෙතට ඇවිත්, "අපිත්
ඵරිසිවරුන් නොයෙක්වර නිරාහාර
යෙන් සිටිමුව ඔබවහන්සේගේ ගෝ
ලයෝ නිරාහාරයෙන් නොසිටින්නේ
15. මක්නිසාදැයි" ඇසුවෝය. යේසුස්
වහන්සේ ඔවුන්ට කථාකොට, "මං
ගුල්ගෙයි සිටින්නන් සමග මනමාල
යා සිටින කාලයෙහි ඔවුන්ට සෝක
වෙන්ට පුළුවන්ද? තුමුත් මනමාලයා
ඔවුන්ගෙන් බැහැර ගන්නා දවස්
පැමිනෙන්නේය. එකල්හි ඔවුන් නි
16. රාහාරයෙන් ඉන්නවා ඇත. කවු
රුවත් අළුත් පිළිකඩක් පරන වස්ත්‍ර
යක් සමග නොමහන්නේය. මැහු
වොත්, ඒ පිළිකඩින් ඒ වස්ත්‍රය ඉරෙ
17. න්නේය; ඉරුමද වැඩිවෙයි. අළුත්
මුද්‍රිකපානය පරන සම්භාජනවල
නොවත්කෙරෙති; වත්කලොත්, භා
ජන පැලී මුද්‍රිකපානය වැගිර ගොස්
භාජනත් විනාසවන්නේය. එහෙත්,
අළුත් මුද්‍රිකපානය අළුත් භාජනවල
වත්කෙරෙති, එවිට දෙවගේම රක්‍ෂා
වන්නේයයි" කීසේක.

18. උන්වහන්සේ මේ කාරණ කිය
මින් සිටිද්දී, එක් මූලාදෑනියෙක් ඇ
වින් උන්වහන්සේට වැඳ, "මාගේ
දුව මේ දැන් මලාය. එහෙත් ඔබව
හන්සේ ඇවිත් ඈ පිට අත් තැබුව
මැනව, එවිට ඈ ජීවත්වන්නීයයි"
19. කීය. යේසුස්වහන්සේද නැගිට,
ඔහු එක්ව ගියසේක. ගෝලයෝද
20. උන්වහන්සේ කැටුව ගියෝය. එ
කල දොලොස් අවුරුද්දක් මහලේ
රෝගයෙන් පීඩිතවූ ස්ත්‍රියක්, "මම උ
න්වහන්සේගේ ඇඳුමට පමනවත් අත
ගැසුවොත් මට සුවවෙයි" සිතාගෙන,
21. උන්වහන්සේ පස්සේ ඇවිත්,
උන්වහන්සේගේ වස්ත්‍ර කෙලවරට
22. අතගැසුවාය. යේසුස්වහන්සේ
ආපසු හැරී, ඈ දැක "දුවනියෙනි, භ
යනොවෙනුන; තුබේ ඇදහිල්ල තුබ
සුවකෙලේයයි" කීසේක. එවලේම
23. ඈට සුවවිය. යේසුස්වහන්සේ
මූලාදෑනියාගේ ගෙට පැමින නලා
කාරයන්ද ඝෝෂාකරන්නන්ද දැක,
24. "පලයල්ලාය; යෞවනී නැසුනේ
නැත; ඈ නිදන්නීයයි" ඔවුන්ට
කීසේක. එහෙත් ඔවුන් උන්වහන්
25. සේට සිනාසුනෝය. සමූහයා
පිටත්කලාම උන්වහන්සේ ගෙට
ඇතුල්ව යෞවනීගේ අත ඇල්ලූ
26. සේක. එවිට ඈ නැගී සිටියාය. ඒ
කීර්තිය ඒ රට මුළුල්ලෙහි පතලවිය.

27 යේසුස්වහන්සේ එයින් යනකල,
අන්ධයෝ දෙදෙනෙක් උන්වහන්සේ ප
සුපස්සෙහි යමින්, "දාවිත්ගේපුත්‍රය,
අපට අනුකම්පාකලමැනවයි" හඬ
28. ගෑවෝය. උන්වහන්සේ ගෙට
පැමිනිකල, ඒ අන්ධයෝ උන්වහන්සේ
වෙතට ආවෝය. යේසුස්වහන්සේද
"මට ඒක කරන්ට පුළුවන් බව තුබ
ලා අදහනවාදැයි" ඔවුන්ගෙන් ඇසූ
සේක. "එසේය, ස්වාමිනියි" කීවෝ
29. ය. එවිට උන්වහන්සේ ඔවුන්ගේ
ඇස් අතගා, "තුබලාගේ ඇදහිල්ලේ
30. ප්‍රකාරයට වේවයි" කීසේක. එක
ල ඔවුන්ගේ ඇස්වලට පෙනීම ලැබු
නේය. යේසුස්වහන්සේ "ඒ බව කා
ටවත් නොදන්වන හැටියට බලාග
නිල්ලායයි" තදින් අනදුන්සේක.
31. එහෙත් ඔවුන් ගොස් උන්වහන්
සේගේ කීර්තිය ඒ රට මුළුල්ලේම
පතලකලෝය.

32. ඔවුන් පිටත්ව ගියවිට, යක්‍ෂා
වේසවූ ගොළුවෙක් උන්වහන්සේ
33. වෙතට ගෙනාවෝය. යක්‍ෂයා
දුරුකලායින් පසු ගොළුවා කථාක
ලේය. එකල සමූහයෝ පුදුමව "මේ
බඳු දෙයක් ඊශ්‍රායෙල්හි කිසි කලක

දකින්ට නොලැබුනේයයි" කීවෝය.
34. එරිසිවරු "මොහු යක්ෂ මූලාදෑනි
යා කරනකොටගෙන යකුන් දුරුක
රන්නේයයි" කීවෝය.

35. යේසුස්වහන්සේ සිනාගෝගව
ලදී උගන්වමින්, ස්වර්ගරාජ්‍යය ගැ
න සුභාරංචිය ප්‍රකාශකරමින්, මනුෂ්‍ය
යන් අතරෙහි සියළු ආකාර රෝග
පීඩා සුවකරමින්, සියළු නුවරවලද
36. ගම්වලද ඇවිද්දසේක. එවිට උ
න්වහන්සේ සමූහයන් දැක, ඔවුන්
එඬේරා නැති බැටළුවන් ලෙස විසිර
ගොස් ක්ලාන්තව සිටින බැවින්, ඔ
වුන් කෙරෙහි අනුකම්පාකලසේක.
37. එවිට උන්වහන්සේ තමන්ගේ
ගෝලයන්ට කථාකොට "ඒකාන්ත
යෙන් ගොයම බොහෝය; ගොවියෝ
38. ස්වල්ප දෙනෙක: ඉන්නිසා ගො
යමට ගොවීන් යවනලෙස ගොයමේ
ස්වාමියාගෙන් ඉල්ලාපල්ලායයි" කී
සේක.

10. පරිච්ඡෙ. එවිට උන්වහන්සේ
තමන්ගේ ගෝලයන් දොළොස් දෙ
න කැඳවා, අසුබාත්මයන් දුරුකරන්
ටද සියළු ආකාර රෝග පීඩා සුවක
රන්ටද ඔවුන්ට බලය දුන්සේක.

2. ප්‍රේරිතයන් දොළොස් දෙනා
ගේ නාමවල්නම්; පලමුකොට පේ
තෘස්යයි කියනලද සීමොන් සහ ඔහු
ගේ සහෝදරවූ අන්දෘද, සෙබදීගේ
පුත් යාකොබ් සහ ඔහුගේ සහෝද
රවූ යොහන්ද, පිලිප් සහ බතෝ
3. ලොමෙව්ද, තෝමස් සහ සුංගම්
අයකරනනාවූ මතෙව්ද, අල්ෆෙව්ස්
ගේ පුත් යාකොබ් සහ තද්දියස්
4. නම්ලත් ලැබ්බියස්ද, කානාන්හි
සීමොන් සහ උන්වහන්සේ පාවා දුන්
යූදස් ඉස්කාරියොත්ද, යනමොවුය.

5. යේසුස්වහන්සේ මේ දොළොස්
දෙන යවමින් ඔවුන්ට අණකොට,
"අන්‍යජාතීන්ගේ ස්ථානවලට නො
ගොස්, සමාරිය වාසීන්ගේ නුවරකට
6. ඇතුල්නොවී, ඊශ්‍රායෙල්ගේ වංශ
යෙහි නැතිවූ බැටළුවන් වෙතටම
7. පලයල්ලාය. නුබලා යමින් ස්වර්ග
රාජ්‍යය ලඟයයි ප්‍රකාශකරපල්ලාය.
8. ලෙඩුන් සුවකරපල්ලාය; කුෂ්ට
රෝගීන් පවිත්‍රකරපල්ලාය; මලවුන්
නැගුටුවාපල්ලාය; යකුන් දුරුකරප
ල්ලාය; නොමිලයේ ලැබුවාවූ නුබලා
9. නොමිලයේ දීපල්ලාය. නුබලාගේ
ඔඩොක්කුවලට රන්වත් රිදීවත් පිත්
10. තලවත් ගමනට පසුම්බියවත් ඇ
දුම් දෙක දෙකවත් වහන් සඟල්වත්
සැරමිටිවත් සපයා නොගනිල්ලාය.
මක්නිසාද, මෙහෙකරුවාට තමාගේ
11. කෑම ලැබෙන්ට සුතුය. යම් නුව
රකටවත් ගමකටවත් ඇතුල්වූනාම
එහි සුදුස්සා කවුදැයි විභාගකොට,
එයින් යනතුරු ඔහු ලඟ වාසය කර
12. පල්ලාය. ඔහුගේ ගෙදරට ඇතුල්
13. වෙමින් ආචාර කරපල්ලාය. එහි
වැසියෝ සුදුසුනම්, නුබලාගේ සමා
දානය ඔවුන්ට පැමිණේවා; නුසුදුසු
නම්, නුබලාගේ සමාදානය හැරී නුබ
14. ලා වෙතටම පැමිණේවා. යමෙක්
නුබලා පිලිගන්නේවත් නුබලාගේ
වචන අසන්නේවත් නැත්නම්, ඒ
ගෙදරින්ද නුවරින්ද පිටත්ව යනක
ල, නුබලාගේ පාදවල දූවිලි ගසාද
15. මාපල්ලාය. සැබවක් නුබලාට
කියමි; විනිශ්චය දවසේදී ඒ නුවර
දඬුවමට වඩා, සොදොම් සහ ගො
මෝරා යන රටවල දඬුවම ඉවසිය
හැකිවන්නේය.

16. වෘකයන් මැදට බැටළුවන් යව
නනාක් මෙන් නුබලා යවමි. එහෙ
යින් සර්පයන් මෙන් නුවණ ඇතිව,
පරෙවියන් මෙන් අහිංසකව සිටපල්
17. ලාය. මනුෂ්‍යයන්ගෙන් ප්‍රවේසම්
වෙයල්ලාය; මක්නිසාද, ඔවුන් නුබ
ලා නඩුසභාවලට පාවාදී, තමන්ගේ
සිනාගෝගවලදී නුබලාට තලවනවා
18. ඇත. නුබලා මා නිසා ඔවුන්ටද
අන්‍යජාතීන්ටද සාක්ෂි පිණිස අධිප

තීත්ගේද රජුන්ගේද ඉදිරියට ගෙන
19. යනු ලබනවා ඇත. ඔවුන් තුබ
ලා පාවාදෙනකල, කෙසේ කියමුද
කුමක් කියමුදැයි සිතා කනගාටු නො
වෙල්ලාය. මක්නිසාද කියයුතු දේ
ඒ වේලාවටම තුබලාට දෙනු ලැබේ.
20. කථාකරන්නේ, තුබලා නොව
තුබලා ලවා කථාකරවන තුබලා
ගේ පියානන්වහන්සේගේ ආත්මයය.
21. තවද සහෝදරයා විසින් සහෝ
දරයාද, පියා විසින් පුත්‍රයාද මරනට
පාවාදෙනු ලබනවා ඇත. දරුවෝ
මව්පියන්ට විරුඩව නැඟිට ඔවුන්
22. මරනට පත්කරවනවා ඇත. මා
ගේ නාමය නිසා සියල්ලන්ගෙන් තු
බලා වෛර ලබනවා ඇත. එහෙත්
කෙලවර දක්වා ඉවසන තැනැත්
23. තේම ගැලවෙන්නේය. එක් නු
වරකදී තුබලාට පීඩාකරන කල වෙ
න නුවරකට පලයල්ලාය. සැබවක්
තුබලාට කියමි, මනුෂ්‍ය පුත්‍රයා එන
තෙක් තුබලා ඊශ්‍රායෙල්ගේ සියළු
නුවරවල ඇවිද නිවාඩු නොවෙත්.
24. ගෝලයා ගුරුවරයාටවත් වැඩ
කාරයා ස්වාමියාටවත් උතුම් නැත.
25. ගෝලයා ගුරුවරයා මෙන්ද වැඩ
කාරයා ස්වාමියා මෙන්ද වුනොත්,
ඔවුන්ට ඇත. ගෙයි ස්වාමියාට බෙල්
සෙබුල්යයි කීවොත්, ඔහුගේ ගෙයි
වැසියන්ට කොපමන වඩා නොකි
26. යද? එබැවින්, ඔවුන්ට භය නො
වෙල්ලාය. මක්නිසාද මතු ප්‍රකාශ
නොවෙනනාවූ වැසී තිබෙන දෙයක්
වත්, මතු දැන නොගන්නාවූ සැඟවී
27. තිබෙන දෙයක්වත්, නැත. මම
තුබලාට අඳුරෙහි කියන දේ එලියේ
දී කියාපල්ලාය; තුබලා රහසින් අස
න දේ ගෙවල් උඩදී ප්‍රකාශකරපල්
28. ලාය. ශරීරය නසනත් ආත්මය
නසන්ට නුපුළුවන්වූවන්ට භය නො
වෙල්ලාය; එහෙත්, ආත්මයද ශරීර
යද නිරයේ හෙලා විනාසකරනනට
පුළුවන්වූ උන්වහන්සේට භය වෙය
29. ල්ලාය. ගේ කුරුල්ලන් දෙන්
නෙක් තුට්ටුවකට නොවිකුනද්ද?
එහෙත් එයින් එකෙක්වත් තුබලා
ගේ පියානන්වහන්සේ නොදැනුවත්ව
30. බිම නොවැටෙයි. තුබලාගේ සි
යළු ඉසකෙස්ම ගනන්කර තිබෙන්
නේය; එබැවින් භය නොවෙල්ලාය.
31. තුබලා බොහෝ ගේ කුරුල්ලන්
32. ට වඩා අගේ ඇත. එහෙයින්,
මනුෂ්‍යයන් ඉදිරියෙහි මා පිලිගනනා
වූ යමෙක් ඇද්ද, ස්වර්ගයෙහි සිටින
මාගේ පියානන්වහන්සේ ඉදිරියෙහිදී
33. මමත් ඔහු පිලිගන්නෙමි. එ
හෙත් මනුෂ්‍යයන් ඉදිරියෙහි මා පිලි
නොගනනාවූ යමෙක් ඇද්ද, ස්වර්ග
යෙහි සිටින මාගේ පියානන්වහන්
සේගේ ඉදිරියෙහිදී මමත් ඔහු පිලි
නොගන්නෙමි.

34. පොලොවට සමාදානය දෙන්
ට ආයෙමියි නොසිතල්ලාය; කඩුව
මිස සමාදානය දෙන්ට මම නාවෙමි.
35. මක්නිසාද මනුෂ්‍යයා ඔහුගේ
පියා සමගද දුව ඇගේ මව් සමගද
යෙහෙළි ඇගේ නැන්දා සමගද ගේද
36. කරවන්ට ආයෙමි. මනුෂ්‍යයාට
සතුරෝනම් තමාගේම ගෙයි වැසි
37. යෝය. මට වඩා පියාටවත් මවට
වත් සෙන්හ ඇත්තා මට සුදුසු නො
වෙයි; මට වඩා පුතාටවත් දුවටවත්
සෙන්හ ඇත්තා මට සුදුසු නොවෙයි.
38. තමාගේ කුරුසිය රැගෙන මා
පස්සේ නේන තැනැත්තාද මට සුදු
39. සු නොවෙයි. තමාගේ ප්‍රාණය
රක්ෂාකරගන්නා ඒක නැතිකරගන්
නේය, මා නිසා තමාගේ ප්‍රාණය නැ
තිකරගන්නා ඒක රක්ෂාකරගන්
නේය.

40. තුබලා පිලිගන්නා තැනැත්
තා මා පිලිගන්නේය; මා පිලිගනනා
තැනැත්තා මා එව් තැනන්වහන්සේ
41. පිලිගන්නේය. අනාගතවක්තෘ
කෙනෙකුගේ නමින් අනාගතවක්තෘ
කෙනෙක් පිලිගන්නා තැනැත්තා

අනාගතවක්තෘ කෙනෙකුගේ විපා
ක ලබන්නේය. ධර්මිෂ්ඨයෙකුගේ න
මින් ධර්මිෂ්ඨයෙක් පිළිගන්නා තැ
නැත්තා ධර්මිෂ්ඨයෙකුගේ විපාක
42. ලබන්නේය. යමෙක් ගෝලයෙ
කුගේ නමින් මේ බාලයන්ගෙන්
එකෙකුට ඇල්වතුර පිකක්වත් බො
නනට දුන්නේනම්, සැබවක් තුඹ
ලාට කියමි, ඔහුගේ විපාක නොන
සින්නේයයි" කීසේක.

11\. පරිච්ඡ. තවද ජේසුස්වහන්
සේ තමන් ගෝලයන් දෙළසට අන
කොට නිමවා, එහි නුවරවල උගන්
වන්ටද දේසනාකරන්ටද එයින් ගිය
සේක.

2\. සිරගෙයි සිටි යොහන් ක්‍රිස්තුස්ව
3\. හන්සේගේ ක්‍රියාවන් අසා, "එන්
නාවූ තැනැත්තේ ඔබවහන්සේද,
නොහොත් වෙන කෙනෙක් බලා
සිටිමුදැයි" උන්වහන්සේගෙන් අහන
පිණිස තමාගේ ගෝලයන්ගෙන් දෙ
4\. නෙනක් යැවූයේය. ජේසුස්වහන්
5\. සේ උත්තරදෙමින්, "තුඹලා
ගොස්, අන්ධයෝ පෙනීම ලබති,
කොරු ඇවිදිති, කුෂ්ඨරෝගීහු පවි
ත්‍රවෙති, බිහිරෝ අසති, මලාහු නැ
ගී සිටිති, දිලිඳුන්ට සුභාරංචිය ප්‍රකාශ
කරනු ලැබෙයි, යන මේ තුඹලා අස
න දකින දේ යොහන්ට දන්වාපල්
6\. ලාය. මා කෙරෙහි බාධා නොවෙ
නනා වාසනාවන්තයෙකැයි" කීසේ
ක.

7\. ඔවුන් ගියවිට, ජේසුස්වහන්
සේ යොහන් ගැන සමූහයාට කථාක
රන්ට පටන්ගෙන, "තුඹලා කුමක්
බලන්ට වනාන්තරයට ගියෝද? සුළ
8\. ඟින් සෙලවෙන බටගසක්ද? නො
හොත් කුමක් බලන්ට ගියෝද? සි
හින් වස්ත්‍ර ඇන්දවූ මනුෂ්‍යයෙක්ද?
සිහින් වස්ත්‍ර අඳින්නෝ රජ ගෙවල්
වල ඇත. නොහොත් කුමක් බලන්
9\. ට ගියෝද? අනාගතවක්තෘ කෙ
නෙක්ද? එසේය, තුඹලාට කියමි,
අනාගතවක්තෘ කෙනෙකුටත් වඩා
10\. උතුම් කෙනෙක. මක්නිසාද
මම මාගේ දූතයා තුඹට පෙරටුව යව
මි; ඔහු තුඹ ඉදිරියෙහි තුඹේ මාර්ගය
සාදන්නේයයි ලියා තිබෙන්නේ,
11\. මොහු ගැනය. සැබවක් තුඹලා
ට කියමි, ස්ත්‍රීන්ගෙන් උපන්නවුන්
අතුරෙන් යොහන්බව්තීස්තට වඩා
උතුම් කෙනෙක් නූපන්නේය. එසේ
විනමුත්, ස්වර්ග රාජ්‍යයෙහිදී කුඩා
තැනැත්තා ඔහුට වඩා උතුම්ය.
12\. යොහන්බව්තීස්තගේ කාලයෙ
හි පටන් දැන් දක්වා ස්වර්ග රාජ්‍යය
බලාත්කාරයෙන් ගන්නා ලැබේ; බ
ලාත්කාර කරන්නෝ ඒක අල්ලා ග
13\. නිති. මක්නිසාද සියළු අනාග
තවක්තෘවරුද ව්‍යවස්ථාවද යොහන්
දක්වා අනාගත වාක්‍ය කීවෝය.
14\. තුඹලා පිළිගන්ට කැමතිනම්,
15\. එන්ට සිටිය එලියස් මොහුය. ඇ
16\. සීමට කන් ඇත්තාක් අසාවා. එ
හෙත් දැන් සිටින මනුෂ්‍යයන් කුමක
ට උපමාකෙරෙම්ද? තුඹලාට නලා
පිඹබෙමුව, තුඹලා නැටුවේ නැත;
17\. තුඹලාට විලාප කීමුව, තුඹලා
ඇඬුවේ නැතැයි; කඩපිල්වල හිඳ
තමන්ගේ යහළුවන්ට හඬගසා කිය
නනාවූ ළදරුවන් හා සමානය.
18\. මක්නිසාද යොහන් ඇවිත් කා
මින් බොමින් නොසිටියේය. ඔහු ය
ක්ෂාවේශ කෙනෙකැයි, ඔවුන් කිය
19\. ති. මනුෂ්‍ය පුත්‍රයා ඇවිත් කමින්
බොමින් සිටියේය. ඔහු කෑමෙහිද මු
ද්‍රිකපානය බීමෙහිද ලොල්වූ තැනැ
ත්තෙක, සුංගම් අයකරන්නන්ගේත්
පව්කාරයන්ගේත් මිත්‍රයෙකැයි, ඔ
වුන් කියති. එහෙත් ප්‍රඥාව තමාගේ
දරුවන් කරනකොටගෙන නිදොස්ව
පෙනෙන්නේයයි" කීසේක.

20\. එකල උන්වහන්සේ විසින්
කරනලද බොහෝ ආශ්චර්ය ඇති නු
වරවල් පසුතැවිලිලට නොපැමිනුන

බැවින්, ඒවාට සැරකරන්ට පටන්
21. ගෙන, "එම්බා කොරාසින්, තිට
දුක්වන්නේය. එම්බා බෙත්සෙදා,
තිට දුක්වන්නේය. තොප ඇතුලේ
කරනලද ආශ්චර්‍ය්‍යවල් තීර් සහ
සිදොන්හි කරනලද්දේනම්, ඒ නුවර
වල් මීට පලමු ගෝනි රෙද්දෙන්ද
අළුයෙහුද පසුතැවිල්ලට පැමිනුනෝ
22. වෙත්. එහෙන් විනිශ්චය දවසේදී
තොපගේ දඬුවමට වඩා තීර් සහ සි
දොන්ගේ දඬුවම ඉවසන්ට පුළුවනැයි
23. කියමි. එම්බා කපර්ණාවුම,
ස්වර්ගය දක්වා උසව සිටින තී නිරය
දක්වා පහතට හෙලනු ලබන්නීය.
තී ඇතුලේ කරනලද ආශ්චර්‍ය්‍යවල්
සොදොම් ඇතුලේ කරනලද්දේනම්,
24. අද දක්වා ඒක පවත්නේය. එ
හෙත් විනිශ්චය දවසෙහිදී තීගේ
දඬුවමට වඩා සොදොම්ගේ දඬුවම ඉව
සන්ට පුළුවනැයි කියමියි" කීසේක.

25. එකල්හි යේසුස්වහන්සේ උත්
තරදෙමින් කියනසේක්, "අහසටත්
පොලවටත් ස්වාමිවූ පියානෙනි, ඔබ
වහන්සේ ප්‍රඥාවන්තයන්ටද සමත්
යන්ටද මේ කාරනයන් සඟවා බාල
යන්ට ප්‍රකාශකල බැවින්, ඔබවහන්
26. සේට සතුතිකෙරෙමි. පියානෙනි,
ඔබවහන්සේ එසේ වීමට සතුටු
27. බැවින්, එසේම වේවා. මාගේ පියා
නන්වහන්සේ සියල්ල මට භාරදුන්
සේක. පියානන්වහන්සේ මිස කිසි
වෙක් පුත්‍රයා නොහඳුනන්නේය;
පුත්‍රයාත් පුත්‍රයාවිසින් යමෙකුට පියා
නන්වහන්සේ ප්‍රකාශකරන්ට කැම
තිද ඔහුත් හැර, කිසිවෙක් පියානන්
28. වහන්සේ නොහඳුනන්නේය. වෙ
හෙස වෙන්නාවූ ඉතා බර උසුලන්
නාවූ සියල්ලෙනි, මා වෙතට වරෙල්
ලාය; මම තුබලාට නිවාඩු දෙමි.
29. මම මොලොක්වූ යටහත්වූ සිත්
ඇත්තෙක් බැවින්, මාගේ වියගහ
උසුලා මාගෙන් ඉගනගනිල්ලාය.
එවිට තුබලාගේ ආත්මවලට නිවාඩු
30. ලැබෙන්නේය. මාගේ වියගහ
උසුලන්ට ලේසිය; මාගේ බරද
සැහැල්ලුයයි" කීසේක.

12. පරිච්ඡේ. යේසුස්වහන්සේ
සබත්දවසක ගොයම් කෙතක්මැදින්
යනකල, උන්වහන්සේගේ ගෝල
යෝ බඩගිනිව කරල් කඩාගෙන
2. කන්ට පටන්ගත්තෝය. ඵරිසිවරු
ඒ දැක, "ඔබවහන්සේගේ ගෝල
යෝ සබත් දවසේදී කරන්ට නුසුදුසු
3. සත් කරතියි" කීවෝය. එවිට
උන්වහන්සේ ඔවුන්ට කථාකොට,
"දාවිත් තමාටද තමා සමග සිටියවුන්
4. ටද බඩගිනිවූකල, දෙවියන්වහන්
සේගේ ගෙටඇතුල්ව පූජකයන්ටමිස
තමාටවත් තමා සමග සිටියන්ටවත්
කන්ට නුසුදුසුවූ පිදූ රොටි කෑ හැටි
5. නොකියවූද? නොහොත් පූජක
යෝ සබත් දවස්වල දේවමාලිගා
වේදී සබත් කඩකොට නිවැරදිවෙන
6. බව ව්‍යවස්ථාවෙහි නොකියවූද?
එහෙත් තුබලාට කියමි, දේවමාළිගා
වට වඩා උතුම් කෙනෙක් මෙහි සිටි
7. නේය. තවද, මම කරුණාව මිස
යාගය නොකැමැත්තෙමි, යන කී
මේ අර්ථය තුබලා දැනගන සිටියෝ
නම්, නිවැරදි කාරයන් වරදට පත්
8. නොකරනෙනෝ වෙත්. මක්නිසාද
මනුෂ්‍ය පුත්‍රයා සබත් දවසටත්
ස්වාමියයි" කීසේක.

9. උන්වහන්සේ එයින් ගොස්,
ඔවුන්ගේ සිනගෝගයට ඇතුල්වූ
10. සේක. එහි අවලංගු අතක් ඇති
මනුෂ්‍යයෙක් සිටියේය. එවිට ඔවුන්
උන්වහන්සේ වරදට පත්කරනපිනිස,
"සබත් දවසේදී සුවකරන්ට සුදුසු
දැයි" උන්වහන්සේගෙන් ඇසුවෝය.
11. උන්වහන්සේද ඔවුන්ට කථා
කොට, "තුබලා අතරෙහි යම්
මනුෂ්‍යයෙකුට අයිතිවූ එකම බැට
ළුවා සබත් දවසේ වලක වැටු
නොත්, ඔහු ඒකා අල්වා ගොඩනො

12. ගන්නේද? එසේනම්, බැටළුවෙ
කුට වඩා මනුෂ්‍යයෙක් කොපමණ
උතුම් නැද්ද? එබැවින්, සබත් දව
සේදී යහපත්කම් කරන්ට සුදුසුයයි"
13. කියා, "නුඹේ අත දිගුකරපන්
නැයි" ඒ මනුෂ්‍යයාට කීසේක. ඔහු
අත දිගුකෙළේය; එවිට ඒක අනින්
අතමෙන් සුවවිය.

14. එකල එරිසිවරු පිටත්වගොස්,
උන්වහන්සේ නසන පිණිස මන්ත්‍ර
15. නය කලෝය. යේසුස්වහන්සේ
ඒ දැන එයින් ගියසේක. බොහෝ
සමූහයෝ උන්වහන්සේ පස්සේ
16. ගියෝය. උන්වහන්සේද සියල්
ලන්ට සුවකොට, "මා ප්‍රකාශ නොක
රල්ලායයි" ඔවුන්ට ආඥාකලසේක.
17. යෙසායියා අනාගතවක්තෘහු
විසින් කියනලද කීම සම්පූර්ණ
වෙන පිණිස මෙසේ සිද්ධවූනේය.
18. ඒ මෙසේය, "මා විසින් තෝරා
ගත් මෙහෙකරුවූ මාගේ සිත සතුටු
කරන මාගේ ප්‍රේමවන්තවූ තැනැත්
තා බලව්; මාගේ ආත්මය ඔහු
කෙරෙහි තබමි; ඔහු අන්‍යජාතීන්ට
19. විනිශ්චය දන්වන්නේය. ඔහු
දබරවත් කෝලාහලවත් නොක
රන්නේය. ඔහුගේ හඬ වීදිවල කිසි
20. වෙකුට නොඇසෙන්නේය. ඔහු
විනිශ්චය ජයට පමුනුවනතුරු, තලා
පූ බටලීයක් බිඳින්නේවත් දුම් නගි
න පහන් තිරයක් නිවන්නේවත්
21. නැත. ඔහුගේ නාමය කෙරෙහි
අන්‍යජාතීහු විශ්වාසකරනවා ඇත."

22. එවිට යක්ෂාවේසවූ අන්ධ ගොළු
වෙක් උන්වහන්සේ ලඟට ගෙනා
වෝය. උන්වහන්සේද ඔහුට සුවකල
සේක. එහෙයින් ඒ අන්ධ ගොළුවාට
දකින්ටද කථාකරන්ටද හැකිවූයේය.
23. සියළු ජනයෝ පුදුමව, "මුන්ව
හන්සේ දාවිත්ගේ පුත්‍රයා නොවේ
24. දැයි" කීවෝය. එහෙත් එරිසිවරු
ඒ අසා, "මොහු යක්ෂාධිපතිවූ බෙල්
සෙබුල්ගේ බලයෙන් මිස වෙන බල
යකින් යකුන් දුරුනොකරන්නේ
25. යයි" කීවෝය. යේසුස්වහන්සේ
ඔවුන්ගේ සිතිවිලි දැන ඔවුන්ට
කථාකොට, "තමතමාටම විරුඬව
භේදවූනාවූ යම් රාජ්‍යයක් ඇද්ද,
ඒක වනාන්ත්‍ර බවට පැමිණෙයි. තම
තමාටම විරුඬව භේදවූනාවූ යම්
නුවරක්වත් ගෙයක්වත් ඇද්ද, ඒක
26. නොපවතී. සාතන් විසින්ම
සාතන් දුරුකරනු ලැබේනම්, ඔහු
තමාට විරුඬව භේදවෙනේය. එසේ
වීනම් ඔහුගේ රාජ්‍යය පවතින්නේ
27. කෙසේද? මම බෙල්සෙබුල්ගේ
බලයෙන් යකුන් දුරුකෙරෙම්නම්,
නුඹලාගේ පුත්‍රයෝ කාගේ බලයෙන්
ඔවුන් දුරුකෙරෙද්ද? එබැවින්
ඔවුන් නුඹලාගේ විනිශ්චයකාරයෝ
28. වෙනවා ඇත. එහෙත් මම දෙවි
යන්වහන්සේගේ ආත්මයේ බලයෙන්
යකුන් දුරුකෙරෙම්නම්, දෙවියන්
වහන්සේගේ රාජ්‍යය නුඹලා වෙතට
29. පැමිණියේය. තවද, පලමු
කොට බලවත්තයා නොබැඳ,
ඔහුගේ ගෙට වැද ඔහුගේ වස්තු
කොල්ලගන්ට කාට හැකිවේද?
ඔහු බැඳලාම, ඔහුගේ ගෙය කොල්ල
30. ගන්නේය. යමෙක් මාගේ පක්ෂ
යට නැත්තේද; ඔහු මට විරුඬ
වන්නේය. යමෙක් මා සමග රැස්
නොකෙරේද; ඔහු විසුරුවනේය.
31. එබැවින් නුඹලාට කියමි, සියළු
ආකාර පව්ද අපහාසද මනුෂ්‍ය
යන්ට ක්ෂමාකරනු ලැබෙත්; එහෙත්
සුඬාත්මයානන්වහන්සේට විරුඬව
කරන අපහාසය මනුෂ්‍යයන්ට ක්ෂමා
32. කරනු නොලැබේ. යමෙක් මනු
ෂ්‍ය පුත්‍රයාට විරුඬව වචනයක්
කියාද; ඔහුට ක්ෂමාකරනු ලැබේ.
එහෙත් යමෙක් සුඬාත්මයානන්ව
හන්සේට විරුඬව කථාකෙරේද;
ඔහුට මෙලොවදීවත් පරලොවදීවත්
33. ක්ෂමාකරනු නොලැබේ. ගසේ
ගුණ ගෙඩිවලින් අඳුනනු ලැබේ.

එහෙයින් ගහත් ඒ ගහේ ගෙඩිත් යහ
පත්කරපල්ලාය. නොහොත්, ගහත්
ඒ ගහේ ගෙඩිත් අයහපත් කර
34. පල්ලාය. පොලොං වංශයෙනි,
නපුරුවූ තුඹලාට යහපත් දේ කියන්
නට පුළුවන්වෙන්නේ කෙසේද?
සිතේ පිරීමෙ පමනට කට කථාකරන්
35. නේය. සත්පුරුෂයා හෘදයෙහිවූ
යහපත් නිධානයෙන් යහපත් වස්
තූන්, අසත්පුරුෂයා අයහපත් නිධා
නයෙන් අයහපත් වස්තූන්, පිටතට
36. ගනෙන්ය. තවද තුඹලාට කියමි,
මනුෂ්‍යයෝ කියන්නාවූ නිරර්ථක
යම් වචනයක් ඇද්ද; ඒ ගැන විනිශ්
චය දවසේදී කාරනා කියයුතුය.
37. මක්නිසාද, තුඹේ වචනවලින්
නිවැරදි බවටවත් තුඹේ වචනවලින්
වැරදි බවටවත් පත්කරනු ලබනෙන්
යයි" කීසේක.

38. එවිට ලියන්නන්ගෙන්ද ඵරි
සීන්ගෙන්ද සමහරෙක් කථාකොට,
"ආචාරිනි, ඔබවහන්සේගෙන් ලකු
නක් දකින්ට කැමැත්තෙමුයයි"
39. කීවෝය. උන්වහන්සේද උත්තර
දෙමින්, "දුෂ්ටවූ පරදාරිකවූ ජාතිය
ලකුනක් සොයන්නේය. එහෙත්
යෝනා අනාගතවක්තෘහුගේ ලකුන
හැර, වෙන ලකුනක් ඔවුන්ට දෙනු
40. නොලැබේ. මක්නිසාද, යෝනා
මහා මත්ස්‍යයාගේ ගැබේ දවහල්
තුනක්ද රෑ තුනක්ද සිටියාක්මෙන්,
මනුෂ්‍ය පුත්‍රයා පොලෝ ගැබේ දව
හල් තුනක්ද රෑ තුනක්ද සිටිනවා
41. ඇත. නිනිවේ මනුෂ්‍යයෝ මේ
ජාතිය සමග විනිශ්චයෙහි නැගිට,
ඔවුන් වරදට පත්කරනවා ඇත. මක්
නිසාද, යෝනාගේ දේශනාවෙන්
ඔවුන් පසුතැවිල්ලට පැමිනියෝය.
එහෙත් යෝනාට වඩා උත්තමයෙක්
42. මෙහි ඇත්තේය. දකුනු දික්හි
බිසව මේ ජාතිය සමග විනිශ්චයෙ
හිදී නැගිට, ඔවුන් වරදට පත්කරන්
නීය. මක්නිසාද, ඈ සාලමොන්ගේ
ප්‍රඥා අසන්ට පොලොවේ දුර ඉඩම්
වලින් ආවාය. එහෙත් සාලමොන්ට
වඩා උත්තමයෙක් මෙහි ඇතෙත්ය.
43. මනුෂ්‍යයෙකුගෙන් දුරුව ගියාවූ
අසුඩාත්මයා නිරූදක තැන්වල ඇවි
44. දිමින්, නිවාඩු සොයා නොලැබ,
මම පිටත්ව ආ මාගේ ගෙට නැවත
යෙමියි කියා, එහි පැමිනිකල, ඒ
ගෙය හිස්ව අතුගා සරහා තිබෙන
45. බව දක්නේය. එකල්හි ඔහු
ගොස්, තමාට වඩා දුෂ්ටවූ වෙන ආත්
මයන් සත්දෙනෙක් තමා කැටුව
ගෙනඑන්නේය; ඔවුන්ද ඇතුල්ව
එහි වාසයකරති. ඒ මනුෂ්‍යයාගේ
පලමු ස්වභාවට වඩා අන්තිම ස්වභාව
නපුරු වනෙන්ය. මේ නපුරුවූ මනුෂ්‍ය
ජාතියද එසේම වන්නේයයි' කී
සේක.

46. උන්වහන්සේ සමූහයාට කථා
කරමින් සිටිද්දීම, උන්වහන්සේගේ
මැනියෝද සහෝදරයෝද උන්ව
හන්සේ සමග කථාකරන්ට කැමතිව,
47. පිටත සිටියෝය. එවිට එක්කෙ
නෙක්, "ඔබවහන්සේගේ මැනියෝ
ද සහෝදරයෝද ඔබවහන්සේ සමග
කථාකරන්ට කැමතිව පිටත සිටි
48. තියි" උන්වහන්සේට කීය. උන්ව
හන්සේද එපවත් කී මනුෂ්‍යයාට
උත්තර දෙමින්, "මාගේ මැනියෝ
කවුද? මාගේ සහෝදරයෝ කවුරු
දැයි" කියා, තමන් ගෝලයන්දෙසට
49. අත දිගුකොට "මාගේ මැනියෙද
සහෝදරයන්ද බලාපන්න. යමෙක්
ස්වර්ගයෙහි වැඩසිටින මාගේ පියා
නන්වහන්සේගේ කැමැත්ත කෙරේද;
50. ඔහුම මාගේ සහෝදරයත් ස
හෝදරීත් මැනියොත්යයි" කීසේක.

13. පරිච්ඡේ. එදවස්හි යේසුස්ව
හන්සේ ගෙදරින් පිටත්ව මුහුද අද්දර
2. වැඩඋන්සේක. බොහෝ සමූහ
යෝද උන්වහන්සේ ලඟට රැස්වූ

බැවින්, උන්වහන්සේ නැවට නැඟී
වැඩඋන්සේක. සියළු ජනයෝද වෙර
3. ලෙහි සිටියෝය. එවිට උන්ව
හන්සේ ඔවුන්ට නොයෙක් කාරන
4. යන් උපමාවලින් කියනසේක්,
“වපුරන්නෙක් වපුරන්නට ගියේය.
ඔහු වපුරන කල්හි, සමහරක් මාවත
වැටුණේය; පක්ෂීහු ඇවිත් ඒවා
5. අහුලා කැවෝය. සමහරක් බො
හෝ පස් නැති ගල් බිමක වැටී, පස්
ගනව නැති බැවින් වහාම පැලවී,
6. ඉර උදාවූ කල අවුවෙන් දා, මුල්
7. නැති බැවින් වියලී ගියේය. සම
හරක් කටු අතරෙහි වැටුණේය; කටු
වැවී යටකිරීමෙන් ඒවා නැසුණේය.
8. තවත් සමහරක් සරු බිමෙහි වැටී,
සමහරක් එකෙන් සියයක්ද, සමහ
රක් එකෙන් සැටක්ද, සමහරක්
එකෙන් තිහක්ද, ඵල දුන්නෝය.
9. ඇසීමට කන් ඇත්තෙක් අසාවයි”
කීසේක.

10. එවිට ගෝලයෝ ඇවිත්, “ඔබ
වහන්සේ ඔවුන්ට උපමාවලින් කථා
කරන්නේ මක්නිසාදැයි” ඇසුවෝය.
11. උන්වහන්සේ උත්තර දෙමින්,
“ස්වර්ගරාජ්‍යයෙහි රහස් දැනගැනීම
නුඹලාට මිස ඔවුන්ට දෙනු නො
12. ලැබේ. මක්නිසාද යමෙකුට
ඇත්තේද; ඔහුට දෙනු ලැබේ, ඔහුට
වැඩිද වන්නේය. යමෙකුට නැත්තේ
ද; ඔහුට ඇති දේත් ඔහුගෙන් පැහැ
13. රගන්නා ලැබේ. එසේහෙයින්,
දකිමින්ම නොදක්නාවූ අසමින්ම
නොඅසන්නාවූ තේරුම් නොගන්
නාවූ ඔවුන්ට උපමාවලින් කථාක
14. රමි. තවද, යෙසායියාගේ අනා
ගත වචනය ඔවුන් කෙරෙහි සම්
පූර්ණවෙයි; ඔහු කියනුයේ, නොපි
කනින් අසති, නුමුත් තේරුම් නොග
නිති. ඇසින් දකිති, නුමුත් දැන
15. නොගනිති. ඇසින් නොදකින
පිනිසත් කනින් නොඅසන පිනිසත්
හිතෙන් තේරුම් නොගන්නා පිනි
සත් නොහැරෙන පිනිසත් මා විසින්
සුවකරනු නොලබන පිනිසත් මේ
ජනයන්ගේ හෘදය දැඩිව, කන් ටහා
දට නැසී, තමන්ගේ ඇස් පියාගත්
16. තෝයයි කීයේය. එහෙත් නුඹ
ලාගේ ඇස් පෙනෙති; කන්
ඇසෙති; එබැවින් ඒවා වාසනාවන්
17. තය. සැබවක් නුඹලාට කියමි,
බොහෝ අනාගතවක්තෘවරුද ධර්මි
ෂ්ඨයෝද නුඹලා දක්නාදේ දකින්ටද
නුඹලා අසන දේ අසන්ටද ආසාවෙන්
සිටියෝය. නුමුත් ඒ දේ දුටුවේවත්
ඇසුවේවත් නැත.

18. “එහෙයින්, වපුරන්නාගේ උප
19. මාව අසාපල්ලාය. යමෙක් රාජ්‍ය
යාගේ වචනය අසා තේරුම් නො
ගන්නේද; එකල් දුෂ්ටයා ඇවිත්
ඔහුගේ හිතේ වපුල දේ උදුරා
ගන්නේය; බිත්තර වැටුන මාවත
20. නම් මොහුය. බිත්තර වපුල ගල්
බිමනම්; වචනය අසා, එකෙනෙහිම
21. සන්තෝසයෙන් පිළිගෙන, තමා
කෙරෙහි මුල් නැති බැවින් මද
කලක් පැවත, වචනය නිසා පීඩා
වක්වත් හිංසාවක්වත් පැමිනුනාම
වහාම බාධාවට පැමිනෙන්නාවූ තැ
22. නැත්තෙක. බිත්තර වපුල කටු
බිමනම්; වචනය අසන්නාවූ මේ
ලෝකයෙහි වෙහෙසවලිද වස්තුවේ
වංචාවෙන්ද වචනය යටකරගන්නා
හෙයින්, ඵල නොදරන්නාවූ තැ
23. නැත්තෙක. බිත්තර වපුල සරු
බිමනම්; වචනය අසා, තේරුම්ගෙන,
ඵල දරමින්, සමහරකින් සියයක්ද,
සමහරකින් සැටක්ද, සමහරකින්
තිහක්ද, අස්වැන්න උපදවන්නාවූ
තැනැත්තෙකැයි” කීසේක.

24. උන්වහන්සේ තවත් උපමා
වක් දක්වමින්, “තමාගේ කෙතේ
හොඳ බිත්තර වපුල මනුෂ්‍යයෙකුට
ස්වර්ග රාජ්‍යය උපමාකරනු ලැබේ.
25. මනුෂ්‍යයන් නිදාගත් අතර, ඔ
හුගේ සතුරා ඇවිත් ගොයම් අතරේ

26. කිරිඳි වපුර ගියේය. කොළ වැවී,
කරල් හටගත්කල කිරිඳිත් පෙනු
27. ණේය. එවිට ගෙදර මූලාදෑනි
යාගේ වැඩකාරයෝ ඇවිත්, ස්වාමි
නි නුඹවහන්සේගේ කෙතේ හොඳ
බිත්තර වපුලේ නැද්ද? එසේවිනම්
කිරිඳි කොයින්දැයි, ඔහුට කීවෝය.
ඔහුද සතුරෙක් ඒක කෙලේයයි,
28. ඔවුන්ට කීයේය. එවිට වැඩකාර
යෝ කථාකොට, එසේවිනම් අප
විසින් ඒ කිරිඳි උදුරාදමනවාට කැම
29. තිදැයි, ඔහුගෙන් ඇසුවෝය. ඔහු
උත්තර දෙමින්, නුඹලා කිරිඳි උදුර
නකොට, ගොයමත් ඒ සමග ඉදි
රෙන්ට පුළුවන් නිසා, එසේ නොක
30. රල්ලාය. කපන කාලය දක්වා
දෙවගේම එකට වැවෙන්නට ඇර
පල්ලාය. කපන කල්හි, පළමුකොට
කිරිඳි එකතුකර, දවෙන්ට මිටි බැඳ
පල්ලාය, ධාන්‍ය මාගේ අටුවෙහි රැස්
කරපල්ලායයි, කපනනන්ට කියමියි,
කීයේයයි" කීසේක.

31. තවත් උපමාවක් ඔවුන්ට දක්
වමින් "මනුෂ්‍යයෙක් විසින් තමාගේ
කෙතෙහි වපුල අබ ඇටයකට ස්වර්ග
32. රාජ්‍යය සමානය. ඒක සියළුම
බීජ ජාතීන්ට වඩා කුඩාය. නුමුත්
වැඩුනුකල, සියළු කුඩා ගස්වලට
මහත්ව, පක්ෂීන් ඇවිත් එහි අතුවල
ලගින තරම් ගසක් වන්නේයයි"
කීසේක.

33. තවත් උපමාවක් ඔවුන්ට
කියමින්, "පිටි නැළි තුනක් මැද ඒ
සියල්ල පිපෙනතුරු ස්ත්‍රියක් විසින්
දමූ මුහුන්වලට ස්වර්ග රාජ්‍යය සමා
34. නයයි" කීසේක. යේසුස්වහන්
සේ මේ සියළු කාරනා සමූහයාට උප
35. මාවලින් කථාකලසේක. "උප
මාවලින් කථාකරන්නෙමි; ලෝකේ
පටන්ගැන්මේ සිට සැඟවී තිබෙන
කාරනා එළිදරව්කරන්නෙමියි" අනා
ගතවක්තෘන් ලවා කියවනලද කාර
නාව සම්පූර්ණවෙන පිනිස, උපමා
වක් නැතුව උන්වහන්සේ ඔවුන්ට
කථානොකලසේක.

36. එවිට යේසුස්වහන්සේ සමූහයා
යවා, ගෙට ගියසේක. ගෝලයෝ
උන්වහන්සේ ලඟට ඇවිත්, "කෙතේ
කිරිඳිවල උපමාව අපට තෝර
37. දුන මැනවයි" කීවෝය. උන්ව
හන්සේ උත්තර දෙමින්, "හොඳ
බිත්තර වපුරන තැනැත්තේනම්,
38. මනුෂ්‍යපුත්‍රයාය. කෙතනම්, ලෝ
කයය. හොඳ බිත්තරනම්, රාජ්‍ය
යාගේ දරුවෝය. කිරිඳිනම්, දුෂ්ට
39. යාගේ දරුවෝය. ඒවා වපුල සතු
40. රානම්, සාතන්ය. කපන කාලය
නම්, ලෝකාන්තිමයය. කපන්නෝ
නම්, දේවදූතයෝය. එබැවින් කිරිඳි
එක්කොට ගින්නෙන් දවන්නාක්
මෙන්, මේ ලෝකයේ අන්තිමේදීත්
41. වේය. මනුෂ්‍ය පුත්‍රයා තමන්ගේ
දූතයන් එවනසේක. ඔවුන් උන්ව
හන්සේගේ රාජ්‍යයෙන් බාධාකරන
සියල්ලන්ද නපුරුකම්කරන්නන්ද එක්
කොට, ගිනි උදුනෙහි දමනවා ඇත.
42. එහිදී හැඬීමද දත්මිටිකෑමද
වන්නේය. එවිට ධර්මිෂ්ඨයෝ තමන්
43. පියානන්ගේ රාජ්‍යයෙහි, සූර්‍ය්‍යයා
මෙන් බබලනවා ඇත. ඇසීමට කන්
ඇත්තෙක් අසාවා.

44. තවද කෙතක සඟවා තිබුන
වස්තුවකට ස්වර්ග රාජ්‍යය සමානය.
මනුෂ්‍යයෙක් ඒ දැක සඟවා තබා,
සන්තෝෂව ගොස් තමා සන්තක
සියල්ල විකුන, ඒ කෙත මිල දී ගත්
තේය.

45. තවද හොඳ මුතු සොයන්
නාවූ වෙළෙන්දෙකුට ස්වර්ග රාජ්‍යය
46. සමානය. ඔහු අනර්ඝ මුතු ඇට
යක් දැක, ගොස් තමා සන්තක
සියල්ල විකුන, ඒක මිලදී ගත්
තේය.

47. තවද, මුදේ හෙළූ සියළු
වර්ගවල මසුන් එකතුකල දැලකට
48. ස්වර්ග රාජ්‍යය සමානය. ඒ දැල

පිරුනුකල, වෙරලට ඇද හිඳගෙන, හොඳවුන් භාජනවලට එකතුකර, 49. නරකවුන් අහක දැමුවෝය. ලෝකාන්තිමෙහිදී එසේම වන්නේය. දේවදූතයෝ පිටත්ව ඇවිත්, ධර්මිෂ්ඨයන් අතරෙන් අධර්මිෂ්ඨයන් වෙන් 50. කොට, ගිනි උදුනෙහි දමනවා ඇත. එහිදී හැඬීමද දත්මිටිකෑමද 51. වන්නේයයි" කීසේක. යේසුස් වහන්සේ "මේ සියල්ල තේරුම් ගෙනනුද්දැයි" ඔවුන්ගෙන් ඇසූසේක. ඔවුන්ද "එසේය ස්වාමිනියි" 52. උන්වහන්සේට කීවෝය. එවිට උන්වහන්සේකථාකොට, "එහෙයින්, ස්වර්ග රාජ්‍යය ගැන උගත් යම් ලියන්නෙක් ඇද්ද; ඔහු ගබඩාවෙන් අළුත් බඩුත් පරන බඩුත් පිටතට ගනනාවූ ගෙදර මූලාදෑනියෙකුට සමානයයි" කීසේක.

53. යේසුස්වහන්සේ මේ උපමා කියා නිමවා, එයින් ගොස් තමන්ගේ රටට පැමිණ සිනගෝගයෙහිදී මිනි 54. සුන්ට ඉගැන්වූසේක. ඔවුන්ද විස්මපත්ව "මොහුට මෙබඳු ප්‍රඥාවත් 55. ආනුභාවත් කොයින්ද? මොහු වඩුවාගේ පුතා නොවේද? මොහුගේ මව්ගේ නම මරියා නොවේද? මොහුගේ සහෝදරයෝ යාකොබ් යෝසෙස් සීමොන් යූදස් නොවෙත්ද? මොහුගේ සියළු සහෝදරියෝ අප 56. අතරෙහි නොවෙත්ද? එසේවී නම් මේ සියල්ල මොහුට කොයින් දැයි" කියා, උන්වහන්සේ කෙරෙහි 57. බාධාවූවෝය. එවිට යේසුස්වහන්සේ, "අනාගතවක්තෘ කෙනෙකුට තමාගේ රටේදීත් තමාගේ ගෙදරදීත් මිස, අන් තැනකදී අගෞරව නැතැයි" ඔවුන්ට කීසේක. උන්වහන්සේ ඔවුන්ගේ ඇදහිලි නැතිකම නිසා, එහිදී බොහෝ ආශ්චර්ය්‍යවල් නොකලසේක.

14. පරිච්. ඒ කාලයෙහි, රාජ්‍යයේ සතරෙන් කොටසකට අධිපතිවූ හෙරොද් යේසුස්වහන්සේගේ කීර්ති 2. ය අසා, "මොහු යොහන් බව්තීස්තය; ඔහු මලවුන්ගෙන් නැගී සිටින්නේය. ඉන්නිසා ඔහු ආශ්චර්ය්‍ය කරන්නේයයි" තමාගේ වැඩකාරයන්ට 3. කීය. මක්නිසාද, ඒ හෙරොද් තමාගේ සහෝදර වන පිලිප්ගේ භාර්‍ය්‍යාවූ හෙරොදියස් නිසා, යොහන් අල්වා බැඳ සිරගෙහි දැමුවේය. 4. මක්නිසාද "ඈ පාවාගැන්ම නුඹට නුසුදුසුයයි" යොහන් කීයේය. 5. එවිට හෙරොද් යොහන් මරන්ට කැමතිවූයේය. නුමුත් "යොහන් අනාගතවක්තෘ කෙනෙකැයි" සිතූවාවූ සමූහයාට භයව සිටියේය. 6. එහෙත් හෙරොද්ගේ උපන් දවස මංගල්‍යය පැමිනිකල, හෙරොදියස්ගේ දුවනියෝ පිරිස මැද නාටා, 7. හෙරොද් සන්තෝසකලාය. එහෙයින්, ඈ ඉල්ලන යමක් ඇද්ද; ඒ දේ ඈට දෙන්ට, දිව්රමින් පොරොන්දුවූ 8. යේය. ඈද තමාගේ මව් විසින් පලමුවෙන් උගන්වනලද්දී, "යොහන්බව්තීස්තගේ හිස තැටියක ලා 9. මෙහි දුනමැනවයි" කීවාය. එවිට රජ සෝකයට පැමිනුනේය. නුමුත් දිව්රුම නිසාත් ඔහු සමග කමින් උන්නවුන් නිසාත් ඒක දෙන්ට අණ 10. කොට, මිනිසුන් යවා, හිර ගෙහිදී යොහන්ගේ හිස කැප්පවූයේය. ඒ හිස තැටියක ලා ගෙනවුත් ඒ 11. කුමාරිකාවට දෙනලද්දේය. ඈද ඒක තමාගේ මෑනියන් ලඟට ගෙන 12. ගියාය. යොහන්ගේ ගෝලයෝ ඇවිත්, මලකඳ ගෙන තැන්පත් කොට, ගොස් යේසුස්වහන්සේට එපවත් දැන්වූවෝය.

13. යේසුස්වහන්සේ ඒ අසා එයින් පිටත්ව, නැවකට නැගී තනියම සිටිනු පිනිස වනාන්තරස්ථානයකට ගියසේක. සමූහයෝ ඒ අසා, නුවර

වලින් පිටත්ව, පසින් උන්වහන්සේ
14. පස්සේ ගියෝය. යේසුස්වහන්
සේ එළියට බැස බොහෝ සමූහයක්
දැක, ඔවුන් කෙරෙහි අනුකම්පා
කොට, ඔවුන්ගේ රෝගීන්ට සුවකළ
15. සේක. සවස්වූ කල ගෝලයෝ
උන්වහන්සේ ලඟට ඇවිත් “මේ
වනාන්තරස්ථානයක; වේලාවද ඉක්ම
ගියේය. සමූහයා ගම්වලට ගොස්
තමන්ට කෑම මිල දී ගන්නා පිනිස
ඔවුන් හැරිය මැනවයි” කීවෝය.
16. යේසුස්වහන්සේද “ඔවුන් යන්ට
කමක්නැත; ඔවුන්ට කෑම දීපල්ලා
17. යයි” කීසේක. ගෝලයෝද
“රොටි පසකුත් මසුන් දෙදෙනකුත්
හැර, වෙන මොකවත් මෙහි අපට
18. නැතැයි” කීවෝය. උන්වහන්
19. සේද “ඒවා මා වෙතට ගෙනෙල්
ලායයි” කියා, සමූහයාට තණකොළ
පිට හිඳගන්ට අණකොට, රොටි පසද
මසුන් දෙන්නද රැගෙන, ස්වර්ගය
දෙස බලා ස්තුතිකොට, රොටි කඩා
ගෝලයන්ට දුන්සේක. ගෝලයෝද
සමූහයාට දුන්නෝය. ඒ සියල්ලෝ කා
20. තෘප්තියට පැමිණුනෝය. ගෝල
යෝද ඉතිරිවූ කැබලිවලින් පැස් දො
21. ළසක් පුරවාගත්තෝය. ස්ත්‍රීන්ද
ළදරුවන්ද හැර, කෑවාවූ පුරුෂ
යෝම පන්දහසක් පමණය.

22. එකෙණෙහිම යේසුස්වහන්සේ
ගෝලයන් නැවට නංවා, “මම සමූ
හයා යවන අතර මට ඉස්සරව එගො
ඩට පලයල්ලායයි” අණකළසේක.
23. උන්වහන්සේ සමූහයා යවා, යාඥා
කරන පිණිස තනියම කන්දකට නැගී,
සවස් වේලෙහි එහි විවේකව සිටි
24. සේක. එවිට හුළඟ ඉදිරියට ගැසූ
බැවින්, නැව රැලවලින් සෙලවී
25. සෙලවී, මූද මැද තිබුණේය. රෑ
සතරවෙනි යාමයෙහි, යේසුස්වහන්
සේ මූද පිට ඇවිදිමින් ඔවුන් වෙතට
26. ගියසේක. ගෝලයෝ මූද පිට
ඇවිදින්නාවූ උන්වහන්සේ දැක,
තැතිගෙන, “මේ අවතාරයකැයි”
27. කියා භයින් මූරගෑවෝය. එකෙ
ණෙහිම යේසුස්වහන්සේ ඔවුන්ට
කථාකරමින්, “ස්ථිර සිතින් සිටපල්
ලාය; මමය; භයනොවෙල්ලායයි”
28. කීසේක. පේතෘස් උත්තර දෙමින්
“ස්වාමිනි, ඔබවහන්සේනම්, වතුර පි
ටින් ඔබවහන්සේ කරා එන්ට මට කිව
29. මැනවයි” කීය. උන්වහන්සේද
“වරෙන්නැයි” කීසේක. එවිට පේ
තෘස් නැවෙන් බැස, යේසුස්වහන්සේ
වෙතට යන පිණිස වතුර පිට පයින්
30. ගියේය. එහෙත් හුළඟ තද බව
දැක භයපත්ව, ගිලෙන්ට පටන්
ගෙන, “ස්වාමිනි මා රැකගතමැන
31. වයි” මූරගෑයේය. එකෙණෙහිම
යේසුස්වහන්සේ අත දිගුකොට, ඔහු
අල්වාගෙන, “විශ්වාස මදි තැනැ
ත්ත, මක්නිසා සැකවූයේදැයි” කී
32. සේක. ඔවුන් නැවට නැගුනු කල
33. හුළඟ නැවැත්තේය. එවිට
නැවෙහි සිටියෝ උන්වහන්සේ වෙ
තට ඇවිත්, “ඔබවහන්සේ ඒකාන්
තයෙන් දෙවියන්වහන්සේගේ පුත්‍ර
යායයි” කියා, උන්වහන්සේට නමස්
කාර කළෝය.

34. පසුව, ඔවුන් එගොඩට ගොස්
ගෙනසරෙත් රටට පැමිණියෝය.
35. ඒ රටේ මනුෂ්‍යයෝ උන්වහන්සේ
ඇඳින, වටකර සියළු ගම්වලට කියා
යවා, සියළු රෝගීන් ගෙන්වා, උන්
36. වහන්සේගේ වස්ත්‍ර කෙලවරක
වත් තැවරෙන්ට උන්වහන්සේගෙන්
ඉල්ළුවෝය. තැවරුනාවූ සියල්ලෝද
සුවවූවෝය.

15. පරිච්ඡේ. එකල, යෙරුසල
මෙන් ලියන්නෝද ඵරිසිවරුද යේසුස්
2. වහන්සේ වෙතට ඇවිත්, “ඔබ
වහන්සේගේ ගෝලයෝ කෑම කන
කොට, අත් නොසේදීමෙන් වැඩිම
හල්ලන්ගේ නියෝගවල් කඩකරන්
3. නේ මක්නිසාදැයි” කීවෝය. උන්

වහන්සේ උත්තර දෙමින්, "තුබ
ලාද තුබලාගේ නියෝගවලින් දෙවි
යන්වහන්සේගේ ආඥාව කඩකරන්
4. නේ මක්නිසාද? තාගේ පියා
නන්ටද මෑනියන්ටද ගෞරව කරව;
පියානන්ටවත් මෑනියන්ටවත් සාප
කරනනාවූ ඇමෙක් ඇද්ද, ඔහු මැරිය
යුතුයයි දෙවියන්වහන්සේ අනකල
5. සේක. එහෙත්, කවරෙක් තුමූත්
පියානන්ටවත් මෑනියන්ටවත් මා
ගෙන් තුබට ප්‍රයෝජන වියයුතුවූ
යමක් ඇද්ද, ඒක පඬුරක කියා,
6. තමාගේ පියානන්ටවත් මෑනියන්
ටවත් ගෞරව නොකරන තුමූත් ඔහු
නිවැරදිකාරයෙකැයි, තුබලා කියති.
මෙසේ තුබලාගේ නියෝගවලින්
දෙවියන්වහන්සේගේ අන අවලංගු
7. කලෝය. වංචාකාරයෙනි, මේ
සෙනඟ තමන්ගේ කටින් මට ලංව
තොල්වලින් මට ගෞරවකෙරෙති;
8. තුමුන් ඔවුන්ගේ සිත මාකෙරෙන්
9. දුරුව තිබෙයි. එහෙත්, මනුෂ්‍ය
යන්ගේ ආඥාවල් සිඤාවන්කොට
උගන්වමින්, නිෂ්ප්‍රයෝජනව මට
නමස්කාර කරතියි, යෙසායියා තුබ
ලා ගැන අනාගතවාක්‍යය මනා
කොට කීයේයයි" කීසේක.

10. එවිට උන්වහන්සේ සමූහයා
කැඳවා, "අසා තේරුම්ගනිල්ලාය.
11. කටින් පිටත්වෙන දෙය මනුෂ්‍ය
යා කිළුටුකරණවා මිස, කටට ඇතුල්
වෙන දේ මනුෂ්‍යයා කිළුටුකරනෙන
12. නැතැයි" කීසේක. එවිට උන්
වහන්සේගේ ගෝලයෝ ඇවිත්,
"එරිසිවරු ඒ වචනය අසා බාධාවූනු
බව දන්නාසේක්දැයි" කීවෝය.
13. උන්වහන්සේ උත්තර දෙමින්,
"ස්වර්ගයෙහි සිටින මාගේ පියානන්ව
හන්සේ විසින් නොසින්දු සියළු ගස්
14. උදුරනු ලැබෙන්. ඔවුන් සිටිනවා;
ඔවුන් අන්ධයන්ට මඟ පෙන්වන
අන්ධයෝය. අන්ධයෙක් අන්ධයෙ
කුට මඟ පෙන්වමින් යනොත්, දෙන්
නම අගලක වැටෙනවා ඇතැයි"
15. කීසේක. එවිට පේත්‍රුස් උත්තර
දෙමින්, "මේ උපමාව අපට තේරු
16. දුනමැනවයි" කීයේය. යේසුස්
වහන්සේ කියනසේක්, "තුබලාත්
තවම තේරුම් නොගෙන සිටින්
17. නෝද? කටට ඇතුල්වෙන සිය
ලූ බඩට පැමිණ වැසිකිළියට යනබව
18. දන්නේ නැද්ද? එහෙත් කටින්
පිටත්වෙන දේ සිතින් පිටත්ව මනු
19. ෂ්‍යයා කිළුටුකරන්නේය. මක්
නිසාද නපුරු සිතීම, මිනී මැරීම,
පරදාරකම්, වෛශ්‍යකම්, සොරකම්,
බොරු සාක්ෂි කීම්, අපහාසකිරීම්,
20. යන මේවා සිතින් පිටත්ව මනුෂ්‍ය
යා කිළුටුකරන්නේය. එහෙත් නො
සේදූ අතින් කෑවාට මනුෂ්‍යයා කිළු
ටුවෙන්නේ නැතැයි" කීසේක.

21. යේසුස්වහන්සේ එයින් පිටත්ව,
තීර් සහ සිදොන්හි සීමාවලට ගිය
22. සේක. එවිට කානාන්හි ස්ත්‍රියක්
ඒ සීමාවල සිට පිටත්ව, ඇවිත්
"දාවිත්ගේ පුත්‍රවූ ස්වාමීනි, මට අනු
කම්පාකලමැනව; මාගේ දුව යක්ෂා
වේසව, බලවත් පීඩා විඳින්නීයයි"
23. මොරගා කීවාය. තුමූත් උන්ව
හන්සේ ඇට වචනයක්වත් කීවේ
නැත. උන්වහන්සේගේ ගෝලයෝ
ඇවිත්, "මෑ අප පස්සෙහි මොරගාන
බැවින් ඈ හැරියමැනවයි" උන්වහන්
24. සේගෙන් ඉල්ළුවෝය. එහෙත්
උන්වහන්සේ උත්තර දෙමින්, "ඊශ්‍රා
යෙල් වංශයෙහි නැතිවූ බැටළුවන්
ලඟට පමනක් එවනලද්දෙමියි"
25. කීසේක. ඈද ලඟට පැමිණ උන්
වහන්සේට වැඳ, "ස්වාමීනි මට පිහි
26. ටවූවමැනවයි" කීවාය. උන්ව
හන්සේ උත්තර දෙමින්, "දරු
වන්ගේ රොටි ගෙන බල්ලන්ට දීම
27. සුදුසු නැතැයි" කීසේක. ඈද
"සැබැය ස්වාමීනි තුමූත් බල්ලෝ
තමන්ගේ ස්වාමිවරුන්ගේ මේසෙන්
වැටෙන කෑබලි කතියි" කීවාය.

28. එවිට යේසුස්වහන්සේ උත්තර
දෙමින්, "ස්ත්‍රිය නුඹේ ඇදහිල්ල
මහත්ය නුඹේ කැමැත්ත ලෙසම
නුඹට වේවයි" කීසේක. එවලේම
ඇගේ දුවට සුවවූහාය.

29. යේසුස්වහන්සේ එතින් පිටත්ව
ගලිලයේ මූද ලඟට ගොස් කන්ද
කට නැගී එහි වැඩඋන්සේක.
30. බොහෝ සමූහයෝද කොරුන්
අන්ධයන් ගොළුවන් පිළුන් සහ
වෙනත් බොහෝ දෙනද රැගෙන,
යේසුස්වහන්සේ ලඟට ඇවිත් උන්
වහන්සේගේ පාමුල තැබුවෝය.
උන්වහන්සේද ඔවුන්ට සුවකල
31. සේක. එවිට ගොළුවෝ කථා
කරන බවත් පිළුන්ට සුවවුනු බවත්
කොරු ඇවිදින බවත් අන්ධයන්ට
පෙනෙන බවත් සමූහයෝ දැක පුදු
මව, ඊශ්‍රායෙල්ගේ දෙවියන්වහන්
සේට ප්‍රශංසාකලෝය.

32. එවිට යේසුස්වහන්සේ ගෝල
යන් කැඳවා, "සමූහයා කෙරෙහි
අනුකම්පා ඇත්තෙමි. ඔවුන් දැනට
තුන් දවසක් මා ලඟ සිටියෝය.
ඔවුන්ට කන්නට මොකවත් නැත.
ඔවුන් නිරාහාරයෙන් යවන්ට නො
කැමැත්තෙමි. හැරියෙම්නම් සමහර
විට මාර්ගයේදී ඔවුන් ක්ලාන්ත
33. වෙතියි" කීසේක. එවිට උන්ව
හන්සේගේ ගෝලයෝ, "මෙපමන
සමූහයකට සෑහෙන පමන රොටි
වනාන්තරයේ අපට කොහින්දැයි"
34. කීවෝය. යේසුස්වහන්සේ,
"නුඹලා ලඟ කොපමන රොටි ඇද්
දැයි" ඔවුන්ගෙන් ඇහූසේක. ඔවුන්,
"රොටි සතකුත් කුඩා මසුන් ස්වල්ප
35. යකුත් ඇතැයි" කීවෝය. එවිට
උන්වහන්සේ සමූහයාට බිම ඉතනට
36. අනදී රොටි සතද මසුන්ද අර
ගෙන ස්තුතිකොට කඩා තමන්
ගෝලයන්ට දුන්සේක. ගෝලයෝද
37. සමූහයාට දුන්නෝය. සියල්
ලෝම කා තෘප්තියට පැමිනුනෝය.
ඉතිරිවූ කැබලිවලින් පැස් සතක්
38. පුරවාගත්තෝය. ස්ත්‍රීන්ද දරු
වන්ද හැර කෑවාවූ පුරුෂයෝම සාර
39. දහසක. උන්වහන්සේද සමූහයා
යවා නැවට නැගී මග්දලායෙහි රට
වලට පැමිනිසේක.

16. පරිච්ඡ. එවිට ඵරිසිවරුද
සද්දුසිවරුද ඇවිත් උන්වහන්සේ
පරීක්ෂාකරමින්, ඔවුන්ට අහසෙන්
ලකුනක් දක්වන්ට උන්වහන්සේ
2. ගෙන් ඉල්ලුවෝය. උන්වහන්සේ
උත්තරදෙමින්, "සවස් වේලෙහි
අහස රතුපාට නිසා හොඳ කාලය
3. වේයයි කියාද, පෙරවරු වේලෙහි
අහස රතුපාටින්ද වලාපටලයෙන්ද
වැසී තිබෙන බැවින් අද දුර්දිනවේ
යයි කියාද, නුඹලා කියති. වංචාකාර
යෙනි, නුඹලාට අහසේ නිමිත්ත දැන
ගන්නට පුළුවන්නම්, කාලයන්ගේ
4. ලකුනු දැනගන්නට බැරිද? නපු
රුවූ පරදාරිකවූ ජාතිය ලකුනක්
සොයන්නේය. නුමුත් යෝනා අනා
ගතවක්තෘහුගේ ලකුන හැර ඔවුන්ට
වෙන ලකුනක් දෙනු නොලැබෙයි"
කියා ඔවුන් හැර ගියසේක.

5. උන්වහන්සේගේ ගෝලයෝද
රොටි ගෙනයන්ට මතකනැතිව
6. එගොඩට ගියෝය. එකල යේසුස්
වහන්සේ, "ඵරිසිවරුන්ගේද සද්දුසි
වරුන්ගේද මුහුන්වලින් ප්‍රවේසම්
7. වෙයල්ලායයි" කීසේක. එවිට,
"අපි රොටි නොගෙනා නිසා මෙසේ
කීසේකැයි" ඔවුනොවුන් කථාකර
8. ගත්තෝය. යේසුස්වහන්සේ ඒ
බව දැන, "විශ්වාස මදි තැනැත්
තෙනි, නුඹලා රොටි නොගෙනා
නිසා ඔවුනොවුන් කථාකරගනෙන්
9. මක්නිසාද? නුඹලා තවම තේරුම්
නොගෙන සිටිනවාද? රොටි පස
පන්දහසකට දී ඉතිරිවූ කැබලිවලින්
පැස් කීයක් පුරවාගෙනෝද කියාත්,
10. රොටි සත සාරදහසකට දී ඉතිරිවූ

කැබලිවලින් පැස් කීයක් පුරවාගත්
11. තෝද කියාත්, සිහිනැද්ද? එරිසි
වරුන්ගේද සද්දුසිවරුන්ගේද මුහු
නවලින් ප්‍රවේසම්වෙයල්ලාය කියා
රොටි ගැන නොකී බව තුඹලා
තේරුම් නොගත්තේ කෙසේද්දැයි”
12. කීසේක. එවිට උන්වහන්සේ
එරිසිවරුන්ගේද සද්දුසිවරුන්ගේද
ගුරුකමෙන් මිස, රොටිවල මුහුන්
වලින් ප්‍රවේසම්වෙන්ට නොකී බව
ඔවුන් තේරුම්ගත්තෝය.

13. යේසුස්වහන්සේ පිලිප්පි
කෙසාරියෙහි සීමාවලට පැමිනිකල,
“මනුෂ්‍ය පුත්‍රවූ මා කවුරුය කියා
මනුෂ්‍යයෝ කියද්දැයි” තමන්ගේ
ගෝලයන්ගෙන් ඇහුසේක. ඔවුහු,
14. “සමහරෙක් යොහන්බව්තීස්ත
යයි කියාද, සමහරෙක් එලියස්යයි
කියාද, සමහරෙක් යෙරෙමියා නො
හොත් අනාගතවක්තෘන්ගෙන් එක්
කෙනෙකැයි කියාද, කියතියි”
15. කීවෝය. “තුඹලා මා කවුරුය
කියනවාද්දැයි” ඔවුන්ගෙන් ඇහු
16. සේක. එවිට සීමොන් පේත්‍රුස්
උත්තර දෙමින්, “ඔබවහන්සේ ජීව
මාන දෙවියන්වහන්සේගේ පුත්‍රවූ
ක්‍රිස්තුස්වහන්සේයයි” කීයේය. යේසු
17. ස්වහන්සේ කියනසේක් “යෝ
නාගේ පුත්‍රවූ සීමොන්, තුඹ වාසනා
වන්තයෙක. ස්වර්ගයෙහි සිටින
මාගේ පියානන්වහන්සේ මිස මාංශ
රුධිරය මේ බව තුඹට ප්‍රකාශකලේ
18. නැත. තවද තුඹට කියමි, තුඹ
පේත්‍රුස්ය* මේ පර්වතය පිට මාගේ
සභාව පිහිටුවන්නෙමි, මරනචාරය
ඒක මැඩපවත්වන්නේ නැත. තවද
19. ස්වර්ග රාජ්‍යයෙහි යතුරු තුඹට
දෙමි. තුඹ භූමියෙහිදී යමක් බඳින්
නේද, ඒක ස්වර්ගයෙහිදීත් බඳිනා
ලැබේ. තුඹ භූමියෙහිදී යමක් මුදන්
නේද, ඒක ස්වර්ගයෙහිදීත් මුදනු
20. ලැබේයයි” කීසේක. එකල
තමන්වහන්සේ ක්‍රිස්තුස් බව කාටවත්
නොකියන ලෙස ගෝලයන්ට අණ
කලසේක.

21. එතැන් පටන් යේසුස්වහන්සේ,
යෙරුසලමට යාමත්, ප්‍රධානීන්ගෙනද
නායක පූජකයන්ගෙනද ලියනනන්
ගෙන්ද බොහෝ පීඩා විඳීමත්, මරනු
ලැබීමත්, තුන්වෙනිදා නැවත නැගි
ටීමත්, තමන්වහන්සේට නියම බව
ගෝලයන්ට දක්වන්ට පටන්ගත්
22. සේක. එකල පේත්‍රුස් උන්ව
හන්සේ කැඳවාගෙන උන්වහන්
සේට අවවාදකරන්ට පටන්ගෙන,
“ස්වාමිනි, එසේ නොවේවා; ඒ දේ
ඔබවහන්සේට සිඩනොවන්නේයයි”
23. කීයේය. උන්වහන්සේද හැරී
පේත්‍රුස්ට කථාකොට, “සාතන්, මා
පස්සට යව; තෝ මට බාධාවක.
තෝ මනුෂ්‍යයන්ගේ කාරනා මිස,
දෙවියන්වහන්සේගේ කාරනා නොසි
24. තන්නේයයි” කීසේක. එවිට
යේසුස්වහන්සේ ගෝලයන්ට කථා
කොට, “යමෙක් මා පස්සේ එන්ට
කැමතිනම්, ඔහු තමාගේ කැමැත්ත
අත්හැර තමාගේ කුරුසිය අරගෙන
25. මා පස්සේ ඒවා. මක්නිසාද,
යමෙක් තමාගේ ප්‍රානය රක්ෂාකර
ගන්ට කැමතිවේද, ඔහු ඒක නැති
කරගන්නේය. යමෙක් මා නිසා
තමාගේ ප්‍රානය නැතිකරගනේද,
ඔහු ඒක සම්භකරගන්නවා ඇත.
26. යම් මනුෂ්‍යයෙක් මුළු ලෝකය
ලබාගත්තත් තමාගේ ප්‍රානය නැති
කරගන්නේනම්, ඔහුට කවර ලාභ
යක්ද? නොහොත් මනුෂ්‍යයෙක්
තමාගේ ප්‍රානය සිලව්වට කුමක්
27. දේද? මක්නිසාද, මනුෂ්‍ය පුත්‍රයා
තමන්ගේ පියානන්වහන්සේගේ
තේජසින් තමන්ගේ දූතයන්
සමග ඇවිත්, සියළු මනුෂ්‍යයානට

* හෙවත් ගලය.

තමතමන්ගේ ක්‍රියාවලට සුදුසු 28. විපාක දෙනවා ඇත. සැබවක් තුබලාට කියමි, මනුෂ්‍ය පුත්‍රයා තමන්ගේ රාජ්‍යානුභාවයෙන් එනවා දකිනතෙක්, මෙහි සිටින්නාවූ සමහරෙක් මරන රසය නොවිඳිතියි" කීසේක.

17. පරිච්ඡ. සදවසකට පසු, ජේසුස්වහන්සේ පේතෘස්ද යාකොබ්ද ඔහුගේ සහෝදරවූ යොහන්ද කැඳවාගෙන, විවේක පිනිස උස්වූ කන්දකට නැඟී, ඔවුන් ඉදිරියෙහි අන් 2. වෙසක්වූසේක. උන්වහන්සේගේ මුහුන සූර්‍ය්‍යයා මෙන් බැබළුනේය. උන්වහන්සේගේ වස්ත්‍රද ආලෝකය 3. මෙන් සුදුවිය. උන්වහන්සේ සමග කථාකරනනාවූ මෝසෙස්ද එලියස්ද 4. ඔවුන්ට පෙනුනෝය. එවිට පේතෘස් ජේසුස්වහන්සේට කථාකොට, "ස්වාමිනි අපට මෙහි සිටීම යහපත. ඔබවහන්සේ කැමතිනම් ඔබවහන්සේටද මෝසෙස්ටද එලියස්ටද එක එක බැගින් මෙහි පැල් 5. තුනක් සාදමුයයි" කීයේය. ඔහු කථාකරද්දීම දීප්තිමත්වූ වලාපටලයකින් ඔවුන් වැසුනෝය. එවිට, "මොහු මාගේ ප්‍රිය පුත්‍රයාය; මොහු කෙරේ ඉතා සතුටුවෙමි; මොහුගේ බස් අසව්යයි" වලාපටලයෙන් හඬක් 6. විය. ගෝලයෝ ඒ අසා බොහෝ සෙයින් භයපත්ව මුහුනින් වැටී සිටි 7. යෝය. ජේසුස්වහන්සේද ඇවිත් ඔවුන්ට අතගසා, "භයනොවී නැඟී 8. සිටල්ලායයි" කීසේක. ඔවුන් තමන්ගේ ඇස් ඔසවා බලා, ජේසුස්වහන්සේ හැර වෙන කිසිවෙක් නුදු 9. ටුවෝය. ඔවුන් කන්දෙන් බසින කල, "මනුෂ්‍යපුත්‍රයා මලවුන්ගෙන් නැගිටිනතුරු, මේ දර්ශනය කාටවත් නොකියල්ලායයි" ජේසුස්වහන්සේ 10. ඔවුන්ට ආඥාකලසේක. උන්වහන්සේගේ ගෝලයෝ, "එහෙනම්, එලියස් පලමුවෙන් එන්ට ඕනෑයයි ලියනෝ කියනෙත් මක්නිසාදැයි" උන්වහන්සේගෙන් ඇසුවෝය. ජේසු 11. ස්වහන්සේ උත්තර දෙමින්, "එලියස් පලමුවෙන් ඇවිත් සියල්ල 12. නැවත පිහිටුවන්නේමය. නුමුත් තුබලාට කියමි, එලියස් ඇවිත් සිටි යේය. ඔහු නැඳින, යමක් යමක් කැමතිද, ඒ ඒ දේ ඔහුට කලෝය. එසේම මනුෂ්‍ය පුත්‍රයාද ඔවුන්ගෙන් පීඩා ලබනෙන්යයි" ඔවුන්ට කීසේක. 13. එකල, උන්වහන්සේ යොහන්බව්තීස්ත ගැන කථාකල බව ගෝලයෝ තේරුම්ගත්තෝය.

14. ඔවුන් සමූහයා ලඟට ආකල, එක් මනුෂ්‍යයෙක් ඇවිත් උන්වහන්සේ ඉදිරියේ දනින් හිඳ, 15. "ස්වාමිනි මාගේ පුත්‍රයාට අනුකම්පාකලමැනව; ඔහුට වස්මර රෝගයක් වැලඳී, නොයෙක් වර ගින්නෙහිද වතුරෙහිද වැටෙමින්, බොහෝ වේදනා විඳින්නේය. 16. ඔබවහන්සේගේ ගෝලයන් ලඟට ඔහු ගෙනාවෙමි; ඔහුට සුව කිරීම ඔවුන්ට නුපුළුවන්වියයි" 17. කීයේය. ජේසුස්වහන්සේ උත්තර දෙමින්, "ඇදහිලි නැති වංකවූ මනුෂ්‍යයෙනි, මම තුබලා සමග කොපමන කල් සිටිම්ද? කොපමන කල් තුබලා කෙරෙහි ඉවසම්ද? මෙහි මා ලඟට ඔහු ගෙනෙල්ලායයි" 18. කීසේක. ජේසුස්වහන්සේ යක්ෂයාට සැරකලකල්හි, ඔහු ලමයාගෙන් දුරුව ගියේය. එවලේම ඒ 19. ලමයාට සුවවිය. එවිට ගෝලයෝ තනියම හුන් ජේසුස්වහන්සේ ලඟට පැමින, "ඒ යක්ෂයා දුරුකරන්ට අපට බැරිවූනේ මක්නිසාදැයි" ඇසු 20. වෝය. ජේසුස්වහන්සේ කියනසේක්, "තුබලාගේ ඇදහිලි නැති කම නිසාය. සැබවක් තුබලාට කියමි; අබ ඇටයක් පමන ඇදහිල්ල තුබලාට ඇත්නම්, මේ කන්දට

මෙතනින් අතනට යවයි කී කල,
ඒක යන්නේය. ඇරත්, නුඹලාට
බැරිවූ දෙයක් නොවන්නේය.
21. එසේ නුමුත්, යාඥාවීමෙන්ද නිරා
හාරව ඉඳීමෙන්ද මිස මේ ජාතිය දුරු
වෙන්නේ නැතැයි" කීසේක.

22. ඔවුන් ගලිලයෙහි හැසිරෙන
කල, ජේසුස්වහන්සේ ඔවුන්ට කථා
කොට, "මනුෂ්‍ය පුත්‍රයා මිනිසුන්ගේ
අත්වලට පාවාදෙනු ලැබේ. ඔවුන්ද
23. ඔහු මරනවා ඇත. තුන්වෙනිදා
ඔහු නැවත නැගිටින්නේයයි"
කීසේක. එවිට ඔවුන් බොහෝ
සෙයින් ශෝකවූවෝය.

24. ඔවුන් කපර්ණවුමට ආකල,
පඩුරු අයකරන්නෝ පේතෘස් ලඟට
ඇවිත් "නුඹලාගේ ආචාරීන්වහන්සේ
පඩුරු දෙනෙන් නැද්දැයි" කීවෝය.
25. "දෙනසේක්කැයි" කීයේය. ඔහු
ගෙට ඇතුල්ව කථාකරන්ට පලමු
වෙන් ජේසුස්වහන්සේ ඔහුට කථා
කොට, "සීමොන් නුඹ කුමක් සිත
නවාද? පොලොවේ රජ දරුවෝ
ආදායම් නොහොත් සුංගම් කාගෙන්
ගනිද්ද? තමන් පුත්‍රයන්ගෙන්ද
නොහොත් අනුන්ගෙන්දැයි" ඇසූ
26. සේක. පේතෘස්ද "අනුන්ගෙ
නැයි" කීයේය. ජේසුස්වහන්සේ
"එසේවීනම් දරුවෝ නිදහස්ය.
27. නුමුත් ඔවුන්ට බාධාවක් නූපද
වන පිනිස, මුහුදට ගොස් බිලියක්
බහා පලමුකොට නැගූ මත්ස්‍යයා
අරගෙන උගේ කට ඇරියකල එක්
විලයක් සම්භවේ; ඒක ගෙන, මා
සහ නුඹ උදෙසා ඔවුන්ට දීපනනැයි"
කීසේක.

18. පරිච්ඡේ. එකල ගෝලයෝ
ජේසුස්වහන්සේ ලඟට ඇවිත්
"ස්වර්ග රාජ්‍යයෙහිද් කවුරු උතුම්
2. දැයි" ඇසූවෝය. ජේසුස්වහන්
සේද, ලදරුවෙක් ලඟට කැඳවා
3. ඔවුන් මැද සිටුවා, "සැබවක් නුඹ
ලාට කියමි, නුඹලා හැරී ලදරුවන්
ලෙස නූනොත් ස්වර්ග රාජ්‍යයට
4. ඇතුල් නොවෙත්. එබැවින්, මේ
ලදරුවා ලෙස යමෙක් යටත්වෙ
නොත් ඔහු ස්වර්ග රාජ්‍යයේදී උතුම්
5. වන්නේය. යමෙක් මාගේ නාමින්
මෙබඳු ලදරුවෙක් පිලිගනිද්ද, ඔහු
6. මා පිලිගන්නේය. එහෙත්, මා
අදහන මේ බාලයන්ගෙන් එකෙ
කුටවත් බාධා කරන යමෙක් ඇද්ද,
ඔහුගේ බෙල්ලේ ඇඹරුම් ගලක්
එල්වා මුදේ ගැඹුරක ගල්වා මැරීම
7. ඔහුට යහපත. බාධා නිසා ලොවට
දුක්වේ. බාධා පැමිනෙනවාම ඇත.
නුමුත් යමෙක් කරණකොටගෙන
බාධාව පැමිනේද, ඔහුට දුක්වේ.
8. එහෙයින්, නුඹේ අතවත් පයවත්
නුඹට බාධාකරතොත් ඒවා කපාදමා
පන්න. දෑත දෙපය ඇතුව සදාකාල
ගින්නේ හෙලනු ලැබීමට වඩා අත
වත් පයවත් නැතුව ජීවනයට පැමි
9. ණීම නුඹට යහපත. නුඹේ ඇස
නුඹට බාධාකරතොත් ඒක උගුලා
දමාපන්න. ඇස්දෙකක් ඇතුව නිරය
ගින්නෙහි හෙලනු ලැබීමට වඩා
එක් ඇසක් ඇතුව ජීවනයට පැමි
10. ණීම යහපත. මේ බාලයන්ගෙන්
එකෙකුටවත් හෙලා නොදක්නට
ප්‍රවේසම්වෙයල්ලාය. මක්නිසාද නුඹ
ලාට කියමි, ස්වර්ගයේදී ඔවුන්ගේ
දේවදූතයෝ ස්වර්ගයේ සිටින මාගේ
පියානන්වහන්සේගේ මුහුණ නිත
11. රම දකිති. මක්නිසාද නැතිවූ
නාවූ දේ ගලවාගන්ට මනුෂ්‍ය පුත්‍රයා
12. ආයේය. නුඹලා කුමක් සිතන
වාද? මනුෂ්‍යයෙකුට බැටළුවන් සිය
යක් ඇත්තේවීනම්, උන්ගෙන්
එකෙක් නැතිවූනොත් ඔහු ඉතිරි
අනූනවදෙන හැර කඳුවල ඇවිද
නැතිවූනු එකා සොයනොත් නැද්ද?
13. සැබවක් නුඹලාට කියමි, ඌ
සම්භවූනොත් නැති නූනාවූ අනූ
නවදෙනාටම වඩා ඌ ගැන සත්

14. නොවස වන්නේය. එසේම මේ
බාලයන්ගෙන් එකෙක්වත් විනාශ
වෙනවාට ස්වර්ගයේ සිටින නුඹ
ලාගේ පියානන්වහන්සේ නොකැ
මතිසේක.

15. නුඹේ සහෝදරයා නුඹට විරු
ඬව වරද කළොත්, ගොස් ඔහු සමග
තනිව සිට ඔහුගේ වරද ඔහුට කියා
පාන්න. නුඹ කී දේ ඔහු පිලිගත්
තොත්, නුඹේ සහෝදරයා නුඹට
16. ලැබුනේය. පිලිනොගත්තොත්,
සාක්ෂිකාරයන් දෙන්නෙකුගේ නො
හොත් තුන්දෙනෙකුගේ කටින්
සියළු වචන ස්ථිරවෙන පිනිස, නුඹ
සමග එකෙක් නොහොත් දෙන්
17. නෙක් කැඳවාගනින්න. ඔවුන්
ගේ වචනත් පිලිනොගත්තොත්,
සභාවට කියාපාන්න. සභාවෙත් කී
වචනත් පිලිනොගත්තොත්, ඔහු
නුඹට අන්‍යජාතියෙක් මෙන්ද සුංගම්
අයකාරන්නෙක් මෙන්ද වූනාවේ.
18. සැබවක් නුඹලාට කියමි; නුඹලා
පොලොවේදී යමක් බඳිනවානම්,
ඒක ස්වර්ගයේදීත් බඳිනුලබන්නේය.
පොලොවේදී යමක් මුදනවානම්,
ඒක ස්වර්ගයේදීත් මුදනුලබන්නේය.
19. නැවතත් නුඹලාට කියමි; පො
ලොවේදී නුඹලාගෙන් දෙදෙනෙක්
තමන් ඉල්ලන යමක් ගැන එක්සිත්
වූනොත්, ස්වර්ගයේ සිටින මාගේ
පියානන්වහන්සේගෙන් ඒ දේ ඔවුන්
20. ට ලැබේය. මක්නිසාද, දෙන්
නෙක්වත් තුන්දෙනෙක්වත් මාගේ
නමින් යම් තැනක රැස්වී සිටිත්නම්,
මමත් එතන ඔවුන් මැද ඇත්තෙ
මියි" කීසේක.

21. එවිට පේත්‍රුස් උන්වහන්සේ
ළඟට ඇවිත්, "ස්වාමිනි මාගේ
සහෝදරයා මට විරුඬව වරද
කළොත් කී වරක් ඔහුට ක්ෂමා
වෙම්ද? සත් වරක්දැයි" ඇහුවේය.
22. යේසුස්වහන්සේ උත්තර දෙමින්,
"සත් වරකැයි නුඹට නොකියමි;
එහෙත් සැත්තෑ වරක් සතක.
23. එබැවින්, තමන්ගේ වැඩකාර
යන් සමග ගනන් බලන්නට සැදූ
එක් රජෙකුට ස්වර්ග රාජ්‍යය උපමා
24. කරනු ලැබේ. ගනන් බලන්ට
පටන්ගත්කල, තලෙන්ත දසදහස
කට නයවූ එකෙක් ඔහු ලඟට
25. ගෙනෙනලද්දේය. නය ගෙවන්
නට ඔහුට කිසිවක් නැති බැවින්,
ඔහුගේ ස්වාමියා ඔහුද ඔහුගේ අඹු
දරුවන්ද ඔහු සන්තක සියල්ලද වි
කුන නය අයකරන්ට ආඥාකෙලේය.
26. එවිට ඒ වැඩකාරයා බිම වැටී
වැඳ, ස්වාමිනි ඉවසුවමැනව, නුඹව
හන්සේට ඒ සියල්ල ගෙවමියි
27. කීයේය. ඒ වැඩකාරයාගේ
ස්වාමියා අනුකම්පාකොට, ඔහු මුදා
හැර ඒ නයෙන් නිදහස්කලේය.
28. එහෙත් ඒ වැඩකාරයා පිටත්ව
ගොස්, තමා සමග වැඩකරන වැඩ
කාරයන්ගෙන් තමාට මසු සියය
කට නයවූ එකෙක් දැක, ඔහුගේ
බෙල්ල අල්ලාගෙන, ගෙවිය යුතු නය
29. ගෙවාපානැයි කීයේය. එවිට
ඔහු සමග වැඩකරන ඒ වැඩකාරයා
ඔහුගේ පාමුල වැටී, ඉවසුවමැනව
ඒ සියල්ල නුඹට ගෙවමියි කියා
30. ඉල්ලාසිටියේය. එහෙත් ඔහු අක
මැතිව ගොස්, ඒ නය ගෙවනතුරු
31. ඔහු හිරගෙයි දැම්මේය. ඔහු
සමග වැඩකරන වැඩකාරයෝ ඒ
දැක ඉතා සෝකයට පැමින, ඇවිත්
ඒ සිඬවූනාවූ සියල්ල තමන් ස්වාමී
32. යාට කීවෝය. එවිට ස්වාමියා
ඔහු කැඳවා, දුෂ්ට වැඩකාරය, තෝ
මගෙන් ඉල්ලූ නිසා ඒ නය සියල්
33. ලෙන් තා නිදහස්කලෙමි. මා
විසින් තට අනුකම්පාකලසේම තා
විසිනුත් තා සමග වැඩකරන වැඩ
කාරයාට අනුකම්පාකරන්ට යුතු
34. නොවේදැයි කියා, කෝපව, ඒ
නය සියල්ල ගෙවනතුරු ඔහු වධක
35. යන්ට පාවාදුන්නේය. නුඹලාත්

තුබලාගේ සහෝදරයන්ට ඔවුන්ගේ වරද සිතින් ක්ෂමා නොකරනවා නම්, ස්වර්ගයෙහි සිටින මාගේ පියානන්වහන්සේද තුබලාට එසේම කරණසේකැයි" කීසේක.

19. පරිච්. ජේසුස්වහන්සේ මේ කාරණා කියා නිමවා, ගලීලයෙන් පිටත්ව, යොර්දනින් එගොඩව යුදයේ 2. රටවලට පැමිණිසේක. බොහෝ සමූහයෝ උන්වහන්සේ පස්සේ ගියෝය. උන්වහන්සේද එහිදී ඔවුන්ට සුවකලසේක.

3. ඵරිසිවරු උන්වහන්සේ ලඟට පැමිණ, උන්වහන්සේ පරීක්ෂාකරමින්, "පුරුෂයෙක් විසින් තමාගේ භාර්‍ය්‍යාව යම් කිසි කාරණයක් නිසා අත්හැරීම සුතුදැයි" උන්වහන්සේ 4. ගෙන් ඇසුවෝය. උන්වහන්සේ උත්තර දෙමින්, "පටන්ගැන්මේදී මනුෂ්‍යයන් මැවූ තැනැන්වහන්සේ පුරුෂයෙක්ද ස්ත්‍රියෙක්ද වසයෙන් 5. ඔවුන් මැවූ බවත්, ඒ කාරණයෙන් පුරුෂයා මව් පියන් හැර තමාගේ භාර්‍ය්‍යාවට ඇළුම්වන්නේය කියාද ඔවුන් දෙදෙන එක ශරීරයක් වන්නේය කියාද කී බවත්, තුබලා කියෙ 6. වූවේ නැද්ද? එහෙයින්, එතැන් පටන් ඔවුන් දෙන්නෙක් නොව එකම ශරීරයක් වෙති. එබැවින්, දෙවියන්වහන්සේ එකතුකල යමක් මනුෂ්‍යයා වෙන් නොකෙරේවයි" 7. කීසේක. ඔවුන් කථාකොට, "එහෙනම් අත්ඇරීම් පත්‍රයක් දී භාර්‍ය්‍යාවන් අත්හැරීම මෝසෙස් විසින් මක්නිසා ආඥාකලේදැයි" 8. උන්වහන්සේට කීවෝය. උන්වහන්සේ කථාකොට, "තුබලාගේ සිත් දැඩි බැවින් මෝසෙස් තුබලාගේ භාර්‍ය්‍යාවන් හරින්ට අවසර දුනෙන්ය. එහෙත් පටන්ගැන්මේ සිට එසේ 9. වූනේ නැත. තුබලාට මම කියමි; යමෙක් වෙශ්‍යකමකට මිස තමාගේ භාර්‍ය්‍යාව අත්හැර වෙන ස්ත්‍රියක් සරණපාවාගත්තොත් ඔහු පරදර කරන්නේය. අරිනලද ඒ ස්ත්‍රිය සරණපාවාගන්නා තැනැත්තේද පරදර 10. කරන්නේයයි" කීසේක. උන්වහන්සේගේ ගෝලයෝ, "භාර්‍ය්‍යාව ඇති පුරුෂයාට මෙසේ වේනම් සරණපාවා නොගැන්ම යහපතැයි" 11. උන්වහන්සේට කීවෝය. උන්වහන්සේද "මේ කීම පිළිගන්ට පුළුවන්කම ලැබූවන් විසින් මිස සියල්ලන් විසින්ම පිළිගන්ට නුපුළුවන. 12. මක්නිසාද, මව් කුසින් උපන් නපුංසකයෝත් ඇත. මිනිසුන් විසින් කරනලද නපුංසකයෝත් ඇත. ස්වර්ගරාජ්‍යය නිසා තමන්ම නපුංසක වූවෝත් ඇත. එක ලබන්ට පුළුවන් තැනැත්තේ ලබාවයි" කීසේක.

13. ලදරුවන් පිට අත් තබවා යාඥාකරවන පිනිස ඔවුන් උන්වහන්සේ ලඟට ගෙනාවෝය. ගෝල 14. යෝ ඔවුන්ට සැරකලෝය. ජේසුස්වහන්සේද, "ලදරුවන් නොවලකා මා ලඟට එන්ට අවකාස හැර 15. පල්ලාය. මක්නිසාද ස්වර්ගරාජ්‍යය මෙබඳුවූවන්ගේමයයි" කියා, ඔවුන් පිට අත් තබා, එතනින් පිටත්ව ගියසේක.

16. තවද, එක් මනුෂ්‍යයෙක් ඇවිත්, "යහපත් ආචාරීන්වහන්ස, සදාකාල ජීවනය ලබන පිනිස මොන යහපතක් කරම්දැයි" උන්වහන්සේ 17. ගෙන් ඇසුයේය. උන්වහන්සේ, "මට යහපතැයි කියන්නේ මක්නිසාද? දෙවියන්වහන්සේ හැර වෙන කවුරුවත් යහපත් නොවේ. තුබ ජීවනයට පැමිණෙන්ට කැමතිනම් ආඥාවන් රක්ෂාකරපන්නැයි" කීසේක. 18. ඔහු, "මොන ආඥාවන්දැයි" උන්වහන්සේගෙන් ඇසුයේය. ජේසුස්වහන්සේ කියනසේක්, "මිනී නොමරව, පරදර නොකරව, සොරකම්

නොකරව, බොරු සාක්ෂි නොකියව, 19. දෙමවුපියන්ට ගෞරව කරව, තමාට මෙන් තමාගේ අසල්වාසියාට ආදරේ වෙව, යන මේයයි" කීසේක. 20. ඒ යෞවනයා "මම ළදරු කාලේ පටන් මේ සියල්ල රක්ෂාකරමි; තව මට අඩු කිමෙක්දැයි" උන්වහන්සේට 21. කීයේය. යේසුස්වහන්සේද, "නුඹ සම්පූර්ණවෙන්ට කැමති නම්, ගොස් නුඹ සන්තක දේ විකුන දුප්පතුන්ට දීපන්න. ස්වර්ගයේදී නුඹ වස්තු ලබනවා ඇත. තවද මා පස්සේ වරෙනනැයි" ඔහුට කීසේක. 22. යෞවනයා ඒ අසා, තමාට බොහෝ වස්තු ඇති බැවින්, සෝක ඇතිව පහව ගියේය.

23. එවිට යේසුස්වහන්සේ ගෝලයන්ට කථාකොට, "සැබවක් නුඹලාට කියමි; වස්තුකාරයෙකුට ස්වර්ගරාජ්‍යයට ඇතුල්වීම අමාරුය. නැව 24. තත් නුඹලාට කියමි; දෙවියන්වහන්සේගේ රාජ්‍යයට වස්තුකාරයාගේ ඇතුල්වීමට වඩා ඉදිකටු සිදුරෙන් ඔටුවාගේ ගමන ලේසියයි" 25. කීසේක. උන්වහන්සේගේ ගෝලයෝ ඒ අසා, ඉතා පුදුමව, "එසේ නම් ගැලවෙන්ට කාට පුළුවන්දැයි" 26. කීවෝය. යේසුස්වහන්සේ ඔවුන් දෙස බලා, "ඒක මනුෂ්‍යයන්ට නුපුළුවන, නුමුත් දෙවියන්වහන්සේට සියල්ලම පුළුවනැයි" කීසේක.

27. එවිට පේතෘස්, උත්තරදෙමින් "අපි සියල්ලම අත්හැර ඔබවහන්සේ පස්සේ ආවෙමුව; එබැවින් අපට ලැබෙන්නේ කුමක්දැයි" ඇසුයේය. 28. යේසුස්වහන්සේද ඔවුන්ට කථාකොට, "සැබවක් නුඹලාට කියමි; සියල්ල නැවත උත්පාදකිරීමේදී මනුෂ්‍යපුත්‍රයා තමන්ගේ තේජවන්ත සිංහාසනයේ වැඩහිඳිනකල, මා පස්සේ ආවාවූ නුඹලාත් ඊශ්‍රායෙල්ගේ ගෝත්‍රයන් දෙළස විනිශ්චයකරමින් සිංහාසන දෙළසක් පිට හිඳිනවා 29. ඇත. තවද, මාගේ නාමය නිසා ගෙවල්වත් සහෝදරයන්වත් සහෝදරීන්වත් පියානන්වත් මෑණියන්වත් භාර්යාවවත් දරුවන්වත් ගම්බිම්වත් අත්ඇරියාවූ යමෙක් ඇද්ද, ඔහු සියක් ගුණයක් ලබන්නේය. සදාකාල ජීවනයටත් උරුමක්කාරයා 30. වන්නේය. නුමුත් ප්‍රථමයෝ බොහෝ දෙන අන්තිමයෝද, අන්තිමයෝ බොහෝ දෙන ප්‍රථමයෝද වෙනවා ඇතැයි" කීසේක.

20. පරිච්ඡ. "තවද, තමන්ගේ මිදිවත්තේ වැඩට වැඩකාරයන් ගන්නා පිනිස, අළුයම පිටත්ව ගිය ගෙදර මූලාදෑනියෙකුට ස්වර්ග 2. රාජ්‍යය සමානය. ඔහු දවසකට මස්සක් බැගින් දෙන ලෙස වැඩකාරයන් සමග පොරොන්දුව, මිදිවත්තට 3. ඔවුන් යැවීය. තුන්වෙනි හෝරාව පමණෙත් පිටත්වගොස්, කඩපිල්වල නිකම් සිටිය වෙන මිනිසුන් දැක, නුඹලාත් මිදිවත්තට පලයල්ලාය. 4. ලැබෙන්නට යුතු කුලී නුඹලාට දෙන්නෙමියි කීයේය. ඔවුන්ද 5. ගියෝය. නැවතත් ඔහු දවල් හයවෙනි නවවෙනි හෝරා පමණේත් පිටත්ව ගොස් එසේම කෙළේය. 6. එකොළොස්වෙනි හෝරාව පමණේත් ඔහු පිටත්ව ගොස්, වෙනත් නිකම් සිටින්නන් දැක, නුඹලා මෙතන දවස මුළුල්ලේ නිකම් සිටින්නේ මක්නිසාදැයි ඔවුන්ගෙන් 7. ඇසුයේය. කවුරුවත් අප වැඩට නොගත් නිසායයි, ඔවුන් කීවෝය. එවිට ඔහු නුඹලාත් මිදිවත්තට පලයල්ලාය; ලැබෙන්නට යුතු කුලී නුඹලාටත් ලැබෙනවා ඇතැයි 8. කීයේය. සවස්වූකල මිදිවත්තේ ස්වාමියා තමාගේ වැඩ බලන්නාට කථාකොට, කුලීකාරයන් කැඳවා අන්තිමයා පටන් පළමුවෙනියා දක්වා ඔවුන්ට කුලී දීපන්නැයි

9. කීයේය. එවිට, එකොළොස්වෙනි
හෝරාව පමණේදී වැඩට ගන්නාලද්ද
වූන් ඇවිත්, එක එකා මස්ස බැගින්
10. ලැබූවෝය. පළමුවෙනියෝ
ඇවිත්, අපි වැඩියෙන් ලබමුයැයි
සිතුවෝය. ඔවුනුත් එක එකා මස්ස
11. බැගින්ම ලැබූවෝය. එසේ ලැබූ
කල, ඔවුන් ගෙදර මුලාදෑනියා සමග
12. විවාදකරමින්, පසුව ආ මොවුන්
එක හෝරාවක් පමන වැඩකලෝය;
නුමුත් දවසමුළුල්ලෙහි වැඩකරමින්,
අව්වේ සිට වෙහෙස වින්දවූ අපට
ඔවුන් සමාන කෙළේයයි කීවෝය.
13. ඔහු ඔවුන්ගෙන් එකෙකුට උත්
තර දෙමින්, යහළුව මම නුබට අයුක්
තක් නොකෙළෙමි. නුබ මා සමග
මස්සකට පොරොන්දුවූනේ නැද්ද?
14. නුබ සන්තක දෙය අරගෙන
පලයන්න, නුබට දුන් හැටියටම මේ
15. අන්තිමයාටත් දෙන්නෙමි. මා
සන්තක දෙයින් මට කැමැත්තක්
කරන්ට යුතු නොවේද? මම යහපත්
නිසා නුබේ ඇස නපුරුදැයි කීයේය.
16. එසේම අන්තිමයෝ ප්‍රථමයෝද,
ප්‍රථමයෝ අන්තිමයෝද වෙනවා
ඇත. මක්නිසාද කැඳවනු ලැබූවෝ
බොහෝය, තෝරාගනු ලැබූවෝ
ස්වල්පයයි” කීසේක.

17. යේසුස්වහන්සේ යෙරුසලමට
යමින්, ශෝලයන් දොළොස්දෙන
මගදී ඉවතට කැඳවා, “අපි යෙරු
18. සලමට යමුව, මනුෂ්‍ය පුත්‍රයා
නායකපූජකයන්ටත් ලියන්නන්ටත්
පාවාදෙනු ලබන්නේය. ඔවුනු ඔහු
19. මරනට නියමකොට, නින්දාකිරී
මත් තැළීමත් කුරුසියෙහි ඇනගැසී
මත් ලබන පිනිස පරදේසීන්ට පාවා
දෙනවා ඇත. තුන්වෙනිදා ඔහු
නැවත නැගිටිනවා ඇතැයි”
කීසේක.

20. එකල, සෙබදිගේ පුත්‍රයන්ගේ
මව් ඇගේ පුත්‍රයන් සමග උන්ව
21. හන්සේ ලඟට ඇවිත් වැඳ, වර
යක් ඉල්ලුවාය. උන්වහන්සේ, “කුමක්
කැමතිදැයි” ඇගෙන් ඇසූසේක.
ඇද “ඔබවහන්සේගේ රාජ්‍යයේදී
මේ මාගේ පුත්‍රයන් දෙන්නාගෙන්
එකෙක් ඔබවහන්සේගේ දකුනු
පැත්තේද, එකෙක් වම් පැත්තේද,
ඉන්ට නියමකලමැනවයි” කීවාය.
22. නුමුත් යේසුස්වහන්සේ උත්තර
දෙමින්, “නුබලා ඉල්ලනෙන් මොන
වාදැයි නුබලාම නොදනිති. මා විසින්
බොන්නට නියම කුසලානෙන්
බොන්ටත් මම ලබන බව්තීස්මය
ලබන්ටත් නුබලාට පුළුවන්දැයි”
ඇසූසේක. ඔවුන් “අපට පුළුවනැයි”
23. කීවෝය. එවිට උන්වහන්සේ,
“ඒකාන්තයෙන් නුබලා මාගේ කුස
ලානෙන් බොනවා ඇත. මම ලබන
බව්තීස්මය ලබනවා ඇත. නුමුත්,
මාගේ දකුනු පැත්තේද වම් පැත්
තේද හිඳීම, මාගේ පියානන්වහන්සේ
විසින් යමෙක් උදෙසා පිළියෙල
කරන ලද්ද, ඔහුට මිස වෙන කෙනෙ
කුට දෙන්ට මට නුපුළුවනැයි”
24. කීසේක. අනික් දස දෙන ඒ
අසා, ඒ සහෝදර දෙන්නා කෙරේ
25. කිපුනෝය. යේසුස්වහන්සේද
ඔවුන් කැඳවා, “අන්‍යජාතීන්ගේ රජ
දරුවන් අන්‍යජාතීන් කෙරේ අධිපතී
කම් කරන බවත් මහත්වරුන් ඔවුන්
කෙරේ බලය පවත්වන බවත් නුබලා
26. දනිති. නුබලා අතරේ එසේ
නොවේවා. නුබලා අතරේ යමෙක්
උතුම්වෙන්නට කැමතිනම්, ඔහු
27. නුබලාගේ උපස්ථායකවේවා. නු
බලා අතරේ යමෙක් ප්‍රධානවෙන්ට
කැමතිනම්, ඔහු නුබලාගේ වැඩකා
28. රයාවේවා. එසේම මනුෂ්‍යපුත්‍රයා
උපස්ථාන ලබන්ට නොව උපස්ථාන
කරන්ටද බොහෝදෙනා වෙනුවට
මිදීමේ වස්තුවක්කොට, තමන්ගේ
ජීවිතය දෙන්ටද ආයේයයි”
කීසේක.

29. ඔවුන් යෙරිකෝවෙන් පිටත්ව

යනකල, බොහෝ සමූහයක් උන්ව
30. හන්සේ පස්සේ ගියේය. මග
අසල උන් අන්ධයෝ දෙන්නෙක්
ජේසුස්වහන්සේ ඒ මගින් යන බව
අසා, "ස්වාමිනි, දවිත්ගේ පුත්‍රය,
අපට අනුකම්පාකලමැනවයි" හඬ
31. ගැසුවෝය. එකල, සමූහය
ඔවුන්ට සැරකොට, "මුරනොගසල්
ලායයි" කීවෝය. නුමුත් ඔවුන්
"ස්වාමිනි, දවිත්ගේ පුත්‍රය, අපට
අනුකම්පා කලමැනවයි" වඩ වඩා
32. මුරගැසුවෝය. එවිට ජේසුස්ව
හන්සේ නැවතී සිට, ඔවුන් කැඳවා,
"මා ලවා කුමක් කරවාගන්ට කැම
33. තිදැයි" කීසේක. "ස්වාමිනි,
අපේ ඇස් එළියකරවාගැන්මටයයි"
34. කීවෝය. ජේසුස්වහන්සේ ඔවුන්
ට අනුකම්පාකොට, ඔවුන්ගේ ඇස්
අත ගෑසේක. එකෙණෙහිම ඔවුන්
පෙනීම ලැබ, උන්වහන්සේ පස්සේ
ගියෝය.

21. පරිච්ඡෙ. ඔවුන් යෙරුසලම
ලඟට පැමින, ඔලීව කන්දට කිට්ටුවූ
2. බෑත්පාගයට ආවෝය. එවිට
ජේසුස්වහන්සේ ශෝලයන් දෙන්
නෙක් යවමින්, "තුබලා ඉදිරියේ
තිබෙන ගමට පලයල්ලාය. එහි
බැඳලා සිටින කොටළු දෙනෙක්ද
ඈ සමග වස්සෙක්ද තුබලාට සම්භ
වෙනවා ඇත. උන් මුදා මා වෙතට
3. ගෙනෙල්ලාය. යමෙක් තුබලාට
කිසිවක් කියන්නේනම් උන්ගෙන්
ස්වාමීන්වහන්සේට වැඩ ඇත්තේයයි
කියාපල්ලාය. එවිට ඔහු උන් වහාම
4. එවනවා ඇතැයි" කීසේක. මේ
5. සියල්ල සිද්ධවූනේ, "කොටළුවා
සහ කොටළු වස්සා පිට හිඳ මො
ලොක් සිත් ඇති තීගේ රජ්ජුරුවෝ
තී ලඟට එනසේකැයි, සියොන්ගේ
දූවට කියාපල්ලායයි" අනාගතවක්
තෘෂු ලවා කියවනලද කීම සම්
6. පූර්ණ වෙන පිණිසය. එවිට
ශෝලයෝ ගොස්, ජේසුස්වහන්සේ
අනකල ලෙස කොටළුදෙනත් වස්
සත් ගෙනත්, තමන්ගේ වස්ත්‍ර උන්
7. පිට ලා, උන්වහන්සේ එහි හිඳෙව්
8. වෝය. බොහෝ දෙනා තමන්ගේ
ඇඳුම් මග අතුලෝය. තවත් සමහරු
ගස්වල අතු කඩා මග අතුලෝය.
9. පෙර පසුව යන සමූහයෝද
"දවිත්ගේ පුත්‍රයාට හෝසන්නාය"
කියෑත්, "ස්වාමින්වහන්සේගේ නාම
යෙන් එනනාවූ තැනැත්තාට ආශී
ර්වාද වේවා" කියාත්, "උස් තැන්වල
හෝසන්නාය" කියාත්, හඬගැසු
වෝය.

10. උන්වහන්සේ යෙරුසලමට
ඇතුල්වූකල, "මොහු කවුද" කියා
11. නුවරමුළුල්ලම කැලඹුනේය. සමූ
හයෝද "මොහු ගලිලයේ නාස
රෑත්හි අනාගතවක්තෘවූ ජේසුස්ව
12. හන්සේයයි" කීවෝය. ජේසුස්ව
හන්සේ දේවමාලිගාවට ඇතුල්ව,
එහි ගනුදෙනු කරන සියළු දෙන
බැහැරකොට, මිල මාරුකරන්නන්
ගේ මේසද පරවියන් විකුනන්
නවුන්ගේ ඇසනද පෙරලාදමා,
13. "මාගේ ගෙය යාඥකරණ ගේයයි
කියනුලැබේයයි ලියාතිබෙන්නේය,
නුමුත් තුබලා ඒක සොරුන්ගේ
ගුහාවක් කලෝයයි" ඔවුන්ට
14. කීසේක. තවද, අන්ධයෝද
කොරුද දේවමාලිගාවේ සිටියාවූ
උන්වහන්සේ වෙතට ආවෝය.
උන්වහන්සේද ඔවුන්ට සුවකල
15. සේක. නායකපූජකයොත් ලියන්
නොත් උන්වහන්සේ කරණ පුදුම
වල්ද "දවිත්ගේ පුත්‍රයාට හෝසාන්
නාය" කිය කියා දේවමාලිගාවේ
මුරගසන බාලයන්ද දැක, ඉතා
16. කෝපව, "මොවුන් කියන දේ
ඇසෙන්නේ නැද්දැයි" උන්වහන්
සේට කීවෝය. ජේසුස්වහන්සේ,
"ඔව්ය, බාලයන්ගේද කිරි බොන
දරුවන්ගේද කටින් සතුති පිලිගෙල

කලසේකැයි, කිසි කලක තුබලා
කිගෙවිවේ නැද්දැයි" ඔවුන්ට
17. කීසේක. උන්වහන්සේ ඔවුන්
හැර නුවරින් පිටත්ව බෙතානියට
ගොස් එහි විසුසේක.

18. අළුයම උන්වහන්සේ නුවරට
19. යන අතර බඩගිනිවූසේක. එවිට
මාවත අද්දර තිබෙන දිඹුල් ගහක්
දැක ලඟට ගොස්, එහි කොල මිස
වෙන කිසිවක් නොදැක, "මින් මතු
කිසි කලෙකත් එල නොදරවයි" ඒ
ගසට කීසේක. එවලේම ඒ ගස වියළි
20. නේය. ගෝලයෝ ඒ දැක, "දිඹුල්
ගස කොපමන ඉක්මනින් වියළි
21. නාද" කියා පුදුමවූවෝය. යේසුස්
වහන්සේ උත්තර දෙමින්, "සැබ
වක් තුබලාට කියමි; තුබලා සැක
නොකොට ඇදහිලි ඇතුව සිටිනවා
නම්, දිඹුල් ගසට කල දේ කරනවා
පමනක්නොව, ඉදිරී මුහුදේ වැටේ
වයි මේ පර්වතයට කීවත්, සිඩවෙනවා
22. ඇත. තවද, තුබලා ඇදහිලි
ඇතුව යාඥාවීමෙන් යමක් ඉල්ලූ
වොත් ඒ සියලලම ලබනවා ඇතැයි"
23. කීසේක. පසුව උන්වහන්සේ
දේවමාලිගාවට ඇතුල්වූ කල්හි,
නායක පූජකයෝද සෙනගගේ වැඩි
මහල්ලෝද උගන්වමින් සිටි උන්ව
හන්සේ ලඟට ඇවිත්, "තුබ කවර
බලයකින් මේ දේ කරනවාද? මේ
බලය තුබට දුන්නේ කවුදැයි"
24. කීවෝය. යේසුස්වහන්සේ උත්
තර දෙමින්, "මමත් තුබලාගෙන්
එකක් අසමි; ඒක මට කීවොත්,
මමද, මේ කාරනා අසවල් බල
යෙන් කරමියි, තුබලාට කියන්නෙමි.
25. යොහන් කල බව්තීස්මය වූනේ
කොතනින්ද? ස්වර්ගයෙන්ද නො
හොත් මනුෂ්‍යයන්ගෙන්දැයි" ඇසූ
සේක ඔවුන්, "ස්වර්ගයෙනැයි කීමු
නම්, ඔහු අදහා නොගත්තේ මක්
නිසාදැයි, අපට කියනවා ඇත.
26. මිනිසුන්ගෙනැයි කීමුනම්, යො
හන් අනාගතවක්තෘ කෙනෙක්
කොට සියල්ලන් විසින් සිතන
හෙයින් සමූහයාට භයවෙමුයයි"
තම තමන් අතරෙහි කථාකරගෙන,
27. "අපි නොදනිමුයයි" යේසුස්ව
හන්සේට උත්තර දුන්නෝය. උන්
වහන්සේද, "මේ කාරනා අසවල්
බලයකින් කරමැයි, මමත් තුබලාට
නොකියමියි" කීසේක.

28. "එහෙත් තුබලා සිතන්නේ
කෙලෙසද? එක් පුරුෂයෙකුට
පුත්‍රයෝ දෙන්නෙක් සිටියෝය. ඔහු
පලමුවෙනියා ලඟට ගොස්, පුත්‍රය,
අද මාගේ මිදිවත්තේ වැඩ කරනනට
29. පලයන්නැයි, කීයේය. ඔහු උත්
තර දෙමින්, මම නොයමියි කීයේය.
30. තුමුන් පසුතැවිලිව ගියේය. දෙ
වෙනියා ලඟට ගොස් එසේම කීයේය.
ඔහු, ස්වාමිනි මම යමියි, කීයේය;
31. තුමුන් නොගියේය. ඒ දෙන්නා
ගෙන් පියාගේ කැමැත්ත කෙලේ
කවුදැයි" ඇසුසේක. ඔවුන් "පලමු
වෙනියායයි" කීවෝය. යේසුස්ව
හන්සේ ඔවුන්ට කියනසේක්, "සැබ
වක් තුබලාට කියමි, සුංගම් අයක
රන්නොත් වෛශ්‍යාවියොත් තුබලාට
පලමු දෙවියන්වහන්සේගේ රාජ්‍ය
32. යට පැමිනෙති. මක්නිසාද
යොහන් ධර්මිෂ්ට මාර්ගයෙන් තුබලා
ලඟට ආයේය; තුබලා ඔහු අදහ
ගත්තේ නැත. සුංගම් අයකරන්
නොත් වෛශ්‍යාවියොත් ඔහු අදහ
ගත්තෝය. තුබලා ඒ දැකත්, ඔහු
අදහාගනනා පිනිස පසුතැවිලිවූනේ
නැත.

33. "තවත් උපමාවක් අහපල්
ලාය. එක් ගෙදරමුලාදෑනියෙක්
මිදිවත්තක් වවා, වටේට වැට බැඳ,
එහි මුද්‍රික මිරිකන යන්ත්‍රයක් පිහි
ටුවා, කොටුවක් ඉදිකොට, ගොයින්ට
34. බදු දී, දුරු රටකට ගියේය. එල
නෙලන කාලය ලංවූකල, එල ලබා
ගන්නට තමාගේ වැඩකාරයන්

35. ගොයින් ළඟට යැවුයේය. එවිට
ගොවියෝ ඔවුන් අල්ලා, එකෙකුට
තැළුවෝය; එකෙක් මැරුවෝය;
36. අනිකාට ගල් ගැසුවෝය. නැව
තත් පළමුවෙනි වරට වඩා තවත්
වැඩකාරයන් යැවුයේය. ඔවුන්ටත්
37. එසේම කළෝය. අන්තිමේදී
ඔහු මාගේ පුත්‍රයාට ඔවුන් ගෞරව
කරතියි සිතා, තමාගේ පුත්‍රයා
38. ඔවුන් ළඟට යැවීය. එහෙත් ගො
වියෝ පුත්‍රයා දැක, මොහු උරුමක්
කාරයාය; වරෙල්ලාය; මොහු මරා උරු
39. මය ගනිමුයයි, කථාකොට, ඔහු
අල්වා මිදිවත්තෙන් පිටත දමා
40. මැරුවෝය. එබැවින් මිදිවත්තේ
ස්වාමියා ආකල, ඒ ගොයින්ට කුමක්
41. කරන්නේදැයි" ඇසූසේක. "ඒ
නපුරු මිනිසුන් රෞද්‍රලෙස විනාශ
කොට, නියම කාලයෙහි තමාට එල
දෙන වෙන ගොයින්ට තමාගේ මිදි
වත්ත බදුදෙනවා ඇතැයි" ඔවුන්
42. කීවෝය. යේසුස්වහන්සේ ඔවුන්
ට කියනසේක්, "ගෙවල් සාදන්
නන් විසින් එපාකොට ඇරදමනලද
ගලම කොනෙහි ප්‍රධාන ගල වූනේය.
ඒ ස්වාමින්වහන්සේගේ ක්‍රියාවය, ඒ
අපේ ඇස්වලට පුදුමයයි, ලියවිලිවල
කවදාවත් නුබලා කියෙව්වේ නැද්ද?
43. එබැවින් නුබලාට කියමි, දෙවි
යන්වහන්සේගේ රාජ්‍යය නුබලා
ගෙන් පැහැර ගෙන, එහි එල උපද
44. වන ජාතියකට දෙනුලැබේ. ඒ
ගල පිට යමෙක් වැටුනොත් ඔහු
කැබලිවෙයි; යමෙක් පිට ඒ ගල
වැටුනොත් ඔහු සුනුකරනු ලැබේ
45. යයි" කීසේක. නායක පූජක
යොත් එරිසියොත් උන්වහන්සේගේ
46. උපමා අසා, තමන් ගැන කී බව
දැනගෙන, උන්වහන්සේ අල්ලන්ට
කැමතිවූවෝය. නුමුත් උන්වහන්සේ
අනාගතවක්තෘ කෙනෙකැයි සිතු
සමූහයාට ඔවුන් භයවූවෝය.

22. පරිච්ඡේ. යේසුස්වහන්සේ
නැවතත් උපමාවලින් ඔවුන්ට කිය
2. නසේක්, "තමාගේ පුත්‍රයාට
සරණ මංගල්‍යයක් පිළියෙළකළ
රජෙකුට ස්වර්ගරාජ්‍යය උපමාකරනු
3. ලැබේ. ඔහු සරණ මංගල්‍යයට
නිමන්ත්‍රන ලැබූවන් කැඳවන පිණිස
තමාගේ වැඩකාරයන් යැවුයේය.
එහෙත් ඔවුන් එන්නට අකමැතිවූ
4. වෝය. නැවතත් ඔහු, මාගේ
මංගල්‍යකෑම පිළියෙළකරණ ලද්
දේය; මාගේ ගොනු තර සතුනු මරා
සියල්ල සාදනලද්දේය; සරණමංග
ල්‍යයට වරෙල්ලායයි, නිමන්ත්‍රන ලැ
බූවන්ට කියාපල්ලාය කියා, වෙන
5. වැඩකාරයන් යැවුයේය. ඔවුන්
ඒ නොසලකා, සමහරු තමන්ගේ
කෙත්වලටත් සමහරු තමන්ගේ
6. වෙළඳම්වලටත් ගියෝය. සෙස්
සෝද ඔහුගේ වැඩකාරයන් අල්වා
7. නින්දාකොට මැරුවෝය. රජ්ජුරු
වෝ ඒ අසා කිපී, තමාගේ සේනාව
යවා, ඒ මිනීමරුවන් විනාසකොට
ඔවුන්ගේ නුවර ගිනිලැවුයේය.
8. එවිට ඔහු වැඩකාරයන්ට කථා
කොට, මංගල්‍යය පිළියෙළකර
තිබෙනවාය; නිමන්ත්‍රන ලැබූවෝ
9. වටින්නෝ නොවෙත්; ඒ නිසා
මහ මාවත්වලට ගොස්, සම්භවෙන
සියල්ලන් මංගල්‍යයට කැඳවාගෙන
10. වරෙල්ලායයි, කීයේය. එවිට
වැඩකාරයෝ මහමාවත්වලට ගොස්,
තමන්ට සම්භවූන යහපත් අයහපත්
සියල්ලන් රැස්කළෝය. කෑමට
ආවූන්ගෙන් මඟුල් ගෙය පිරුනේය.
11. රජ්ජුරුවෝද කෑමට ආවූන්
දකින්නට පැමිනිකල, සරණ මංග
ල්‍යයට යුතු වස්ත්‍රයක් නැඳ සිටි
12. මනුෂ්‍යයෙක් දැක, යහළුව මංග
ල්‍යයට යුතු වස්ත්‍රයක් නැඳ මෙත
නට ආවේ කොහොමදැයි, ඔහුගෙන්
ඇසුයේය. ඔහු කථානොකර සිටි
13. යේය. එවිට රජ්ජුරුවෝ,

ඔහුගේ අත් පා බැඳ ඔහු ගෙන
ගොස් පිටත අන්ධකාරයේ දමාපල්
ලාය; එහිදී හැඬීමත් දත්මිටිකෑමත්
වෙනවා ඇතැයි, උපස්ථායකයන්ට
14. කීයේය. එසේම කැඳවනු
ලැබූවෝ බොහෝය; තෝරාගනු
ලැබූවෝ ස්වල්පයයි” කීසේක.
15. එවිට ඵරිසිවරු ගොස්, “වචන
යෙන් උන්වහන්සේ කොහොම අසු
කර ගනිමුදැයි” මන්ත්‍රනයකොට,
16. හෙරොදිවරුන් සමග තමන්ගේ
ගෝලයන් උන්වහන්සේ ලඟට
යැව්වෝය. ඔවුන්ද, “ආචාරීනි, ඔබ
වහන්සේ සැබෑ කෙනෙක් බවත්,
දෙවියන්වහන්සේගේ මාර්ගය සැබෑ
ලෙස උගන්වන කෙනෙක් බවත්,
මනුෂ්‍යයන්ගේ තරම් නොබලන
බැවින් කාටවත් භය නොවෙන
කෙනෙක් බවත්, අපි දනිමුව.
17. එබැවින් කායිසර්ට ආදායම් දීම
යුතුද අයුතුද? ඔබවහන්සේ සිතන්
නේ කෙලෙසදැයි, අපට කිවමැන
18. වයි” කීවෝය. යේසුස්වහන්සේ
ඔවුන්ගේ දුෂ්ටකම් දැන, “වංචාකාර
යෙනි, තුඹලා මා පරීක්ෂාකරන්නේ
19. මක්නිසාද? ආදායම් මිලයක් මට
පෙන්වාපල්ලායයි” කීසේක. ඔවුන්
උන්වහන්සේට මිලයක් ගෙන
20. විත් දුන්නෝය. උන්වහන්සේද
“මෙහි පෙනෙන රූපයත් නමත්
කාගේදැයි” ඔවුන්ගෙන් ඇසූසේක.
21. ඔවුන්ද “කායිසර්ගේයයි” කී
වෝය. “එසේවීනම්, කායිසර්ගේ දේ
කායිසර්ටත්, දෙවියන්වහන්සේගේ
දේ දෙවියන්වහන්සේටත්, දීපල්ලා
22. යයි” ඔවුන්ට කීසේක. ඔවුන්
ඒ අසා පුදුමව, උන්වහන්සේ හැර
ගියෝය.
23. මලවුන්ගෙන් නැගිටීමක්
නැතැයි කියන සද්දුසිවරු එදා උන්
24. වහන්සේ ලඟට ඇවිත්, “ආචා
රීනි, යමෙක් දරුවෙක් නොලැබ
මලොත්, ඔහුගේ සහෝදරයා විසින්
මලහුගේ භාර්‍යාව සරන පාවාගෙන,
මලාවූ සහෝදරයා නමට දරුවෙක්
උපදවන්ට යුතුයැයි, මෝසෙස්
25. කීයේය. අප අතරේ සහෝද
රයෝ සත්දෙනෙක් සිටියෝය. වැඩි
මහල්ලා භාර්‍යාවක් සරන පාවා
ගෙන, දරුවෙක් නොලැබ මැරු
නේය. ඔහුගේ භාර්‍යාව මලයාට
26. වූවාය. දෙවෙනි, තුන්වෙනි, සත්
වෙනි තැනැත්තා දක්වා, එසේමය.
27. සියල්ලන්ට පසු ස්ත්‍රීද නැසුනාය.
28. ඒ නිසා, ඒ සියල්ලෝම ඇ සරන
පාවාගත්හෙයින් මලවුන්ගෙන් නැ
ගිටීමේදී ඒසත්දෙනාගෙන් ඇ කාට
29. භාර්‍යාවන්නීදැයි” කීවෝය. යේ
සුස්වහන්සේ උත්තර දෙමින්, “තුඹ
ලා සුබලියවිලිද දෙවියන්වහන්සේ
ගේ බලයද නොදැන මුලාවෙති.
30. මක්නිසාද, මලවුන්ගෙන් නැගි
ටීමේදී ඔවුන් සරනපාවා නොගනිති;
සරනපාවා නොදෙති; එහෙත් ස්වර්ග
31. යේ දේවදූතයන් සමාන වෙති. තා
වද, මලවුන්ගේ නැගිටීම ගැන, ආබ්‍ර
හම්ගේ දෙවියන්වහන්සේත් ඊසාක්
ගේ දෙවියන්වහන්සේත් යාකොබ්
ගේ දෙවියන්වහන්සේත් මමයයි, දෙ
වියන්වහන්සේ තුඹලාට කී බව තුඹ
32. ලා කියෙව්වේ නැද්ද? දෙවියන්
වහන්සේ මලවුන්ගේ නොව, ජීවත්
වෙන්නන්ගේ දෙවියන්වහන්සේ
33. යයි” කීසේක. සමූහයෝ ඒ අසා,
උන්වහන්සේගේ ඉගැන්වීමට පුදුම
වූවෝය.
34. උන්වහන්සේවිසින් සද්දුසිවරුන්
නිශ්ශබ්දකල බව ඵරිසිවරු අසා,
35. එතනට රැස්වූවෝය. ඔවුන් අත
රෙන් ව්‍යවස්ථාවේ සමත්යෙක්උන්
36. වහන්සේ පරීක්ෂාකරමින්, “ආචා
රීනි, ව්‍යවස්ථාවේ කොයි ආඥාව
37. ප්‍රධානදැයි” ඇසුයේය. යේසුස්
වහන්සේ උත්තර දෙමින්, “තාගේ
මුළු හෘදයෙන්ද තාගේ මුළු ප්‍රාණයෙන්ද
තාගේ මුළු සිතින්ද තාගේ ස්වාමිවූ

දෙවියන්වහන්සේට සෙන්හකරවයි,
38. යන ආඥාව පලමුවෙනිවූ ප්‍රධා
නවූ ආඥාවය. තාගේ අසල්වාසියාට
39. තට මෙන් සෙන්හකරවයි, යන
40. දෙවෙනි ආඥාවද එසේමය. මේ
ආඥා දෙකට සියළු ව්‍යවස්ථාවත්
අනාගතවක්තෘතුන් ඇතුලත්යයි”
කීසේක.

41. එරිසිවරු රැස්ව සිටිද්දී යේසුස්
42. වහන්සේ කථාකොට, “ක්‍රිස්තුස්
ගැන නුඹලා සිතන්නේ කෙලෙසද?
උන්වහන්සේ කාගේ පුත්‍රයාදැයි”
ඔවුන්ගෙන් ඇහුසේක. “දාවිත්ගේ
43. පුත්‍රයායයි” ඔවුන් කීවෝය. උන්ව
හන්සේ ඔවුන්ට කියනසේක්, “එසේ
වීනම්, දාවිත් ආත්මයානන්වහන්සේ
කරනකොටගෙන කථාකරමින් උන්
වහන්සේ ගැණ ස්වාමින්වහන්සේ
44. යයි කියන්නේ කෙලෙසද? මම
නුඹේ සතුරන් නුඹේ පාපුටුව කරන
තුරු මාගේ දකුනු පැත්තේ ඉඳගනි
නැයි, ස්වාමින්වහන්සේ මාගේ ස්වා
මින්වහන්සේට කීසේකැයි, දාවිත්ම
45. කීයේය. දාවිත් උන්වහන්සේගැණ
ස්වාමින්වහන්සේයයි කියන්නේ නම්,
උන්වහන්සේ ඔහුගේ පුත්‍රයා වෙන්
46. නේ කොහොමදැයි” ඇහුසේක.
උන්වහන්සේට උත්තරයක් දෙන්ට
කාටවත් පුළුවන්වූයේ නැත. එදා
පටන් උන්වහන්සේගෙන් ප්‍රශ්ණ
අහන්ට කිසිවෙක් ධෛර්ය්‍ය ඇතිව
නොසිටියෝය.

23. පරිච්ඡෙ. එකල යේසුස්ව
හන්සේ සමූහයාටත් තමන් ගෝල
2. යන්ටත් කථාකොට, “ලියන්
නෝද එරිසිවරුද මෝසෙස්ගේ ආස
3. නයේ හිඳිති. එබැවින් ඔවුන්
නුඹලාට පවත්වන්නට ආඥාකරන
සියල්ලම පවත්වමින් කරපල්ලාය.
ඔවුන් කියන නුමුත් නොකරන
හෙයින්, ඔවුන්ගේ ක්‍රියාවල් ලෙස
4. නොකරල්ලාය. තවද, ඔවුන් උසු
ලන්ට අමාරුවූ බර බැඳ මනුෂ්‍ය
යන්ගේ කරේ තබති. නුමුත් තමන්
ඇඟිල්ලකින්වත් ඒ බර සොලවන්ට
5. කැමති නොවෙති. ඔවුන් තමන්
ගේ සියළු ක්‍රියාවල් මනුෂ්‍යයන්ට
පෙනෙන පිනිස කරති. ඔවුන්
තමන්ගේ පිලාක්තරීන් පළල්
කොට, තමන්ගේ වස්ත්‍රවල දාවළු
6. මහත්කරති. මංගල්‍යවලදී උතුම්
ස්ථානවලටද, සිනගෝගවලදී ප්‍රධාන
7. ආසනවලටද, කඩපිල්වලදී වැඳුම්
ලැබීමටද, මනුෂ්‍යයන්ගෙන් ආචා
රීනි ආචාරීනියි කියනු ලැබීමටද,
8. කැමතිවෙති. නුමුත්, නුඹලා ආචා
රීනියි කියවා නොගනිල්ලාය; නුඹ
ලාගේ ආචාරින්වහන්සේ එක්කෙ
නෙක; ඒ ක්‍රිස්තුස්වහන්සේය;
නුඹලා සියල්ලෝම සහෝදරයෝය.
9. පොලොවේ කාටවත් පියානෝ
යයි නොකියල්ලාය. නුඹලාගේ
පියානෝ එක්කෙනෙක; ඒ ස්වර්ග
යෙහි වැඩසිටින උන්වහන්සේමය.
10. නුඹලා උපාධ්‍යවරුයයි කියවා
නොගනිල්ලාය. නුඹලාගේ උපා
ධ්‍යයා එක්කෙනෙක; ඒ ක්‍රිස්තුන්
11. වහන්සේමය. නුඹලා අතරෙන්
වඩා උත්තමයා නුඹලාගේ උපස්ථා
12. යක වන්නේය. යමෙක් තමාම
උතුම්කර ගනිද ඔහු යටත්කරනු
ලැබේ. යමෙක් තමාම යටත්කර
ගනිද ඔහු උතුම්කරනු ලැබේ.

13. “වංචාකාරවූ ලියන්නෙනි, වංචා
කාරවූ එරිසියෙනි, නුඹලාට දුක්
වන්නේය. මක්නිසාද නුඹලා මනු
ෂ්‍යයන්ට ස්වර්ගරාජ්‍යය වසති; නුඹ
ලාත් ඇතුල් නොවෙති, ඇතුල්
වෙන්නවූන්ටත් අවසර නොදෙති.
14. වංචාකාරවූ ලියන්නෙනි, වංචා
කාරවූ එරිසියෙනි, නුඹලාට දුක්
වන්නේය. මක්නිසාද, නුඹලා වැන්
දඹුවන්ගේ ගෙවල් කොල්ලකති;
වංචා පිනිස ඉතා දීර්ඝවූ යාඥාවල්
කරති. එහෙයින්ම නුඹලා වැඩිවූ

15. දඬුවමට පැමිණෙනවාඇත. වංචා
කාරවූ ලියන්නෙනි, වංචාකාරවූ
ඵරිසියෙනි, නුඹලාට දුක්වන්නේය.
මක්නිසාද නුඹලාගේ ආගමට
එකෙක් හරවාගන්ට මුහුදත් ගො
ඩත් හාත්පස ඇවිදිති; හරවාගත්
තාම නුඹලාට වඩා දෙගුණයක් ඔහු
16. නිරයේ පුත්‍රයා කරති. මඟ
පෙන්වන අන්ධයෙනි, නුඹලාට
දුක්වන්නේය. මක්නිසාද, යමෙක්
දේව මාලිගාව ගැන දිව්ලොත්
එසේ කිසිත් නැත; නුමුත් යමෙක්
දේව මාලිගාවේ රත්‍රන් ගැන දිව්
ලොත් ඔහු බැඳී සිටින්නේයයි
17. නුඹලා කියති. මෝඩයෙනි,
අන්ධයෙනි, රත්රනිනුත් රත්රන්
පිරිසිදුකරන දේව මාලිගාවෙනුත්
18. උතුම් කුමක්ද? තවද, යමෙක්
පූජාසනය ගැන දිව්ලොත් එසේ
කිසිත් නැත; යමෙක් එහි පිට
තිබෙන පඬුරු ගැන දිව්ලොත්,
ඔහු බැඳී සිටින්නේයයි නුඹලා
19. කියති. මෝඩයෙනි, අන්ධයෙනි,
පඬුරෙනුත් පඬුර පිරිසිදුකරන පූජා
20. සනයෙනුත් උතුම් කුමක්ද? එබැ
වින් යමෙක් පූජාසනය ගැන දිව්
ලොත්, ඔහු ඒක ගැනද ඒක පිට
තිබෙන සියල්ලගැනද, දිව්රනේය.
21. යමෙක් දේවමාලිගාව ගැන
දිව්ලොත්, ඔහු ඒක ගැනද, එහි
වසන තැනන්වහන්සේ ගැනද, දිව්
22. රන්නේය. යමෙක් ස්වර්ගය
ගැන දිව්ලොත්, ඔහු දෙවියන්ව
හන්සේගේ සිංහාසනය ගැනද, එහි
වැඩවසන තැනන්වහන්සේ ගැනද,
23. දිව්රන්නේය. වංචාකාරවූ ලියන්
නෙනි, වංචාකාරවූ ඵරිසියෙනි, නුඹ
ලාට දුක්වන්නේය. මක්නිසාද,
නුඹලා සුවඳතලා සතඳුප්ප සූදුරු
යනමෙයින් දසයෙන් කොටසක් දෙ
ති, නුමුත් සාධාරනකමත්, දයාවත්,
ඇදහිල්ලත්, යන ව්‍යවස්ථාවේ ඉතා
වැදගත් කාරනාවල් අත්හරිති. ඒ
දේත් නැර, මේ දේත් කටයුතුය.
24. මඟ පෙන්වන අන්ධයෙනි, නුඹලා
මදුරුවා බේරා දමා, ඔටුවා ගිලිති.
25. වංචාකාරවූ ලියන්නෙනි, වංචා
කාරවූ ඵරිසියෙනි, නුඹලාට දුක්
වන්නේය. මක්නිසාද, නුඹලා කුස
ලානත් තැටියත් පිටින් සුබකරති,
නුමුත් ඇතුලේ කොල්ලයෙනුත්
අධර්මයෙනුත් පිරී තිබෙන්නේය.
26. අන්ධවූ ඵරිසිය, කුසලානත්
තැටියත් පිටින් සුබවෙන්ට ඒවා
ඇතුල පලමුකොට සුබකරපන්න.
27. වංචාකාරවූ ලියන්නෙනි, වංචා
කාරවූ ඵරිසියෙනි, නුඹලාට දුක්
වන්නේය. මක්නිසාද, නුඹලා සුදු
කරපු සොහොන් ගෙවලට සමානය.
ඒවා පිටින් ලක්ෂණව පෙනෙන
නුමුත්, ඇතුලේ මිනී ඇටවලින්ද
සියළු කුනුවලින්ද පිරී තිබෙයි.
28. නුඹලාත් එසේම පිටින් මනුෂ්‍ය
යන්ට ධර්මිෂ්ඨයන්ව පෙනෙති,
නුමුත් ඇතුලේ වංචාවෙන්ද අධර්
29. මකමෙන්ද පිරී සිටිති. වංචාකා
රවූ ලියන්නෙනි, වංචාකාරවූ ඵරිසි
යෙනි, නුඹලාට දුක් වන්නේය. මක්
නිසාද, නුඹලා අනාගතවක්තෘන්
ගේ සොහොන් ගෙවල් සාදා, ධර්මිෂ්ඨ
30. යන්ගේ සොහොන් ගෙවල්
සරහා, අපේ පියවරුන්ගේ කාලයේදී
අපි සිටියෙමුනම්, ඔවුන් සමඟ අනා
ගතවක්තෘන්ගේ මැරීමට එකතු
31. නොවෙමුයයි කියති. එහෙයින්
නුඹලා අනාගතවක්තෘන් මැරූ
වන්ගේ පුත්‍රයෝයයි නුඹලාටම
32. විරුද්ධව සාක්ෂි දෙති. නුඹලාගේ
පියවරුන්ගේ මිම්ම සම්පූර්ණ කර
33. පල්ලාය. සර්පයෙනි, පොලොං
වංශයෙනි, නුඹලා නිරයෙහි දඬුව
මින් ගැලවෙන්නේ කොහොමද?
34. එබැවින්, මම නුඹලා ළඟට
අනාගතවක්තෘන්ද පණ්ඩිතයන්ද ලියන්
නන්ද එවමි. නුඹලා ඔවුන්ගෙන්
සමහරෙක් මරා, සමහරෙක් කුරුසි

යෙහි ඇනාගසනවා ඇත. සමහරෙ
කුට නුඹලාගේ සිනගෝගවලදී
තලා, නුවරින් නුවරට එලවමින්
35. පීඩා කරනවා ඇත. මෙසේ,
ධර්මිෂ්ඨවූ ආබෙල්ගේ ලේ පටන්,
දේව මාලිගාවටත් පූජාසනයටත්
අතරේ නුඹලා විසින් මරනලද
බාරඛ්‍ය පුත්‍රවූ සඛාර්යස්ගේ ලේ
දක්වා බිම වගුරුවනලද සියළු
ධර්මිෂ්ඨයන්ගේ ලේ නුඹලා කෙරේ
36. පැමිනෙනවා ඇත. සැබවක්
නුඹලාට කියමි, මේ සියල්ල මේ පරම්
37. පරාවට පැමිනෙනේය. අනා
ගතවක්තෘන් මරන්නාවූ තී ලඟට
එවූවන්ට ගල් ගසන්නාවූ යෙරු
සලම, යෙරුසලම, කිකිළි ඇගේ
පැටියන් පියාපත් යටට එකතුකරන
ලෙස තීගේ දරුවන් එකතුකරන්ට
මම කී වරක් කැමතිවූනෙම්ද?
නුමුත් තොපි කැමතිවූනේ නැත.
38. තොපේ ගෙය පාළු බවට හරිනු
39. ලැබේ. තවද, තොපට මම
කියමි, ස්වාමින්වහන්සේගේ නාම
යෙන් එන තැනැත්තා ආශීර්වාදලත්
කෙනෙකැයි තොපි කියන තුරු,
මෙතැන්පටන් තොපි මා නොදක්
නොයයි" කීසේක.

24. පරිච්ඡේ. යේසුස්වහන්සේ
දේව මාලිගාවෙන් නික්ම යනකල,
මාලිගාවේ කර්මාන්ත උන්වහන්සේට
පෙන්වන පිනිස, ගෝලයෝ උන්ව
2. හන්සේ ලඟට ආවෝය. යේසුස්
වහන්සේ ඔවුන්ට කථාකොට, "මේ
සියල්ල නුඹලාට පෙනෙනවා නො
වේද? සැබවක් නුඹලාට කියමි,
කඩා නොදමා ගලක් පිට ගලක්
මෙහි තිබෙනෙන් නැතැයි" කීසේක.
3. උන්වහන්සේ ඔලිව කන්දෙහි
ඉඳගත්විට, ගෝලයෝ පමනක්
ලඟට ඇවිත්, "ඒ කාරනා කොයි
කලෙක සිඬවේද? ඔබවහන්සේගේ
ඊමේත් ලෝකේ කෙලවරේදත්
ලකුන කිමෙක්දැයි අපට කියමැන
4. වයි" කීවෝය. යේසුස්වහන්සේ
ඔවුන්ට උත්තර දෙමින්, "නුඹලා
කිසිවෙකුගෙන් නොරැවටෙන ලෙස,
5. බලාගනිල්ලාය. මක්නිසාද, මාගේ
නාමින් නොයෙක් දෙන ඇවිත්,
තමන් ක්‍රිස්තුස්ය කියා බොහෝ
6. දෙන රවටනවා ඇත. යුඬත් යුඬ
කථාත් නුඹලා අසනවා ඇත. මේ
සියල්ල වෙන්නට ඕනෑය; නුමුත්
ඒ කලට තින්දුව නැත. ඒ නිසා,
7. නොකැලඹෙල්ලාය. තවද, ජාතිය
ජාතියටත්, රාජ්‍යය රාජ්‍යයටත්, විරු
ඬව නැගිටිනවා ඇත. නොයෙක්
තැන්වල දුර්භික්ෂත්, වසංගතත්,
පොලෝකම්පාත්, වෙනවා ඇත.
8. මේ සියල්ල දුක් විඳීම්වල පටන්
9. ගැන්මය. එවිට, නුඹලා පීඩා විඳී
මටත් මරනයටත් පාවාදෙනු ලබ
නවා ඇත. මාගේ නාමය නිසා,
සියළු ජාතීන්ගෙන් වෛර ලබනවා
10. ඇත. බොහෝ දෙනාද බාධා
වට පැමින, ඔවුනොවුන් විරුඬකාර
යන්ට පාවාදෙමින්, ඔවුනොවුන්ට
11. වෛර වෙනවා ඇත. නොයෙක්
බොරු අනාගතවක්තෘවරු නැගිට,
බොහෝ දෙන රවටනවා ඇත.
12. අධර්මිෂ්ඨකම බෝවෙන බැවින්,
බොහෝ දෙනාගේ ආදරය අඩුවන්
13. නේය. නුමුත් කෙලවර දක්
වා ඉවසන්නාම ගැලවෙනවා ඇත.
14. සියළු මනුෂ්‍යජාතීන්ට සාක්ෂි
පිනිස, රාජ්‍යයෙහි සුභාරංචිය ලොව
මුළුල්ලේ ප්‍රකාසකරනු ලැබේ; එවිට
කෙලවර පැමිනෙන්නේය.

15. "එබැවින්, දනියෙල් අනාගත
වක්තෘහු විසින් කියනලද විනාසයේ
පිළිකුල සුඬ ස්ථානයෙහි තිබෙන
බව නුඹලා යම් කලෙක දක්දද,
(කියවන තැනැත්තා තේරුම්ග
16. නීවා) එකල, යුදයේ සිටින්නෝ
කඳුවලට පලායෙත්වා. ගේඋඩ සිටින්
17. නෙක් තමාගේ ගෙයින්

කිසිවක් ගෙනයන්ට නොබසීවා.
18. කෙතේ සිටින්නෙක්ද තමාගේ
වස්ත්‍රය ගන්ට ආපසු නොහැ
19. රේවා. ඒ දවස්වල ගර්භිණීන්ටත්
කිරි දෙන ස්ත්‍රීන්ටත් දුක් වන්නේය.
20. වරුෂා කාලයේවත් සබත් දවස
කවත් තුබලාගේ පලායාම නොවෙ
21. නපිනිස යාඥාකරපල්ලාය. මක්
නිසාද, ලෝකේ පටන්ගැන්මේ සිට
අද දක්වා වුනාවූ මතු කොයි කල
කවත් නොවෙන්නාවූ මහත් දුකක්
22. ඒ කාලයෙහි වන්නේය. ඒ දවස්
එහුඹු වුනොත් කිසි කෙනෙක්
ගැලවෙන්නේ නැත. තුමුත් තෝර
ගත්තු ලැබූවන් නිසා ඒ දවස් එහුඹු
23. වන්නේය. එවිට යමෙක්, ක්‍රිස්
තුස් මෙතනය, නොහොත් එතන
යයි තුබලාට කියන්නේනම්, අදහ
24. නොගනිල්ලාය. මක්නිසාද,
බොරු ක්‍රිස්තුස්වරුද බොරු අනා
ගතවක්තෘවරුද නැගිට, පුළුවන්
නම් තෝරගත්තු ලැබූවන් පවා මුලා
කරවන තරම්, මහත් ලකුණුද පුදු
25. මද පෙන්වනවා ඇත. කලින්
මම මේ කාරනායන් තුබලාට කීයෙමි.
26. එබැවින්, උන්වහන්සේ වනාන්
තරයෙහි සිටින සේකැයි කියත්නම්
පිටත්ව නොයල්ලාය. උන්වහන්සේ
ඇතුල් ගේවල සිටිනසේකැයි
කියත්නම් අදහ නොගනිල්ලාය.
27. මක්නිසාද, විදුලිය පෙරදිග
සිට පශ්චිම දිග දක්වා යම්සේ දිලි
සේද, මනුෂ්‍ය පුත්‍රයාගේ ඊමත්
28. එසේම වන්නේය. තවද, යම්
තැනක මලකුණ ඇත්තේද, එතනම
ගිජුලිහිණිත් එක්වෙති.

29. "ඒ දවස්වල දුක් පසුවූනු
වේලේම, සූර්යා අඳුරුවන්නේය; චන්
ද්‍රයාත් එළිය නොදෙන්නේය; තාර
කාවොත් අහසෙන් වැටෙනවා ඇත;
අහසේ බලපරාක්‍රමද සෙලවෙනවා
30. ඇත. එකල, මනුෂ්‍ය පුත්‍රයාගේ
ලකුණ අහසේ පෙනෙනවා ඇත.
එවිට පොළොවේ සියළු ජාතීහු හඬා,
බලයෙන්ද මහත් තේජසින්ද අහසේ
වලාකුලෙන් එනනාවූ මනුෂ්‍යපුත්‍රයා
31. දකිනවා ඇත. උන්වහන්සේ
මහත් හොරනෑ ශබ්දයකින් තමන්
දූතයන් එවනසේක. ඔවුන් අහසේ
එක් කෙලවරක සිට අනික් කෙල
වර දක්වා, සතර දිගින්ම උන්ව
හන්සේගේ තෝරගත්තවුන් රැස්
කරනවා ඇත.

32. "දිඹුල් ගහේ උපමාව ඉගනග
නිල්ලාය; ඒ ගහේ රිකිලි සහ දළු
ලනකල, ග්‍රීෂ්ම කාලය ලඟයයි
33. තුබලා දනිති. එසේම තුබලා
මේ සියල්ල දකිනකල, ඒ ඊම දොර
කඩට කිට්ටුයයි දැනගනිල්ලාය.
34. සැබවක් තුබලාට කියමි, මේ
සියල්ල සිද්ධවෙනතුරු, මේ මනුෂ්‍ය
35. ජාතිය නැතිවෙන්නේ නැත. අහ
සත් පොළොවත් නැතිවෙනවා
ඇත; තුමුත් මාගේ වචනය නැති
36. වෙන්නේ නැත. ඒ දවසත් ඒ
පැයත් මාගේ පියානන්වහන්සේ
හැර, ස්වර්ගයේ දේවදූතයෝවත්
වෙන කොයි කෙනෙක්වත් නොද
37. නිති. නෝවාගේ දවස් යම්සේ
වූයේද, එසේම මනුෂ්‍ය පුත්‍රයාගේ
38. ඊමත් වන්නේය. ජලගැල්මට
පළමු දවස්වල, නෝවා මහත්
නැවට නගින දවස දක්වා, මනු
ෂ්‍යයෝ කමින්, බොමින්, සරනපාවා
39. ගනිමින්, සරනපාවා දෙමින්,
ජලගැල්ම පැමින සියල්ලන්ම නාස්
තිවෙනතෙක්, නොදැන සිටියෝය.
එලෙසම මනුෂ්‍ය පුත්‍රයාගේ ඊමත්
40. වන්නේය. එකල, දෙදෙනෙක්
කෙතේ සිටිති; එකෙක් ගෙනයනු
ලැබේ, එකෙක් හරිනු ලැබේ.
41. ස්ත්‍රීන් දෙදෙනෙක් අඹරන
ගලේ අඹරමින් සිටිති; එකියක්
ගෙනයනු ලැබේ, එකියක් හරිනු
ලැබේ.

"42. එබැවින් අවදිව සිටපල්ලාය.

ඇත්නිසාද, තුබලාගේ ස්වාමියා
'කොයි පැයේ එනවාදැයි, තුබලා
43. දන්නේ නැත. සොරා කොයි
යාමයේ එනවාදැයි ගෙයි ස්වාමියා
දැනගෙන සිටියොත්, අවදිව සිද
තමාගේ ගෙය උමන්කනින්ට නො
44. දෙන බව දැනගනිල්ලාය. එබැ
වින්, මනුෂ්‍ය පුත්‍රයා තුබලා නොසි
තන පැයකදී එන නිසා තුබලාද
45. සැදී සිටපල්ලාය. ස්වාමියා
විසින් තමාගේ පිරිවරට සුදුසු කලට
කෑම දෙන්ට ඔවුන් කෙරේ පත්කල
විශ්වාසවූ නුවන ඇතිවූ වැඩකාරයා
46. කවුද? ස්වාමියා ඇවිත් ඒ වැඩකා
රයා එසේම කරනවා දක්නේද, ඒ
වැඩකාරයා වාසනාවන්තයෙක.
47. සැබවක් තුබලාට කියමි, ඒ
ස්වාමියා තමාගේ සියළු වස්තුවට
48. ඔහු ප්‍රධාන කරනේය. එහෙත්
යම් දුෂ්ට වැඩකාරයෙක්, මාගේ
ස්වාමියාගේ ඊම ප්‍රමාදයයි සිතා,
49. තමන් සමග සිටින වැඩකාර
යන්ට තලන්ටත්, බේබද්දන් සමග
කන්නට බොන්නටත් පටන්ගත්
50. තේනම්, ඒ වැඩකාරයා බලා
නොසිටින දවසක, නොදන්නා
පැයක, ඔහුගේ ස්වාමියා ඇවිත්
51. ඔහු දෙකට පලා, වමාකාරයන්
සමග කොටසක් ඔහුටත් නියම
කරන්නේය. එහිදී හැඬීමත් දත්මිටි
කෑමත් වන්නේය.

25. පරිච්ඡේ. "එකල, තමන්ගේ
පහන් රැගෙන මනමාලයාගේ පෙර
මගට ගිය කන්‍යාවන් දසදෙනෙකුට
ස්වර්ගරාජ්‍යය උපමාකරනු ලැබේ.
2. ඔවුන්ගෙන් පස්දෙනෙක් නුවන
ඇත්තියෝය, පස් දෙනෙක් නුවන
3. නැත්තියෝය. නුවන නැති
කන්‍යාවෝ, තමන්ගේ පහන් ගෙන
ගියා මිස, තෙල් ගෙනගියේ නැත.
4. නුමුත්, නුවන ඇති කන්‍යාවෝ
තමන්ගේ පහන් සමග භාජනවල
5. තෙල් ගෙනගියෝය. මනමාල
යාගේ ඊම ප්‍රමාදවූකල, ඒ සියල්
ලෝම නිදිබරව නිදාගත්තෝය.
6. මධ්‍යම රාත්‍රියේ, මනමාලයා
එන්නේය, ඔහුගේ පෙරමගට පල
7. යල්ලායයි, හඬක් වූයේය. එකල
ඒ සියළු කන්‍යාවෝම නැගිට,
තමන්ගේ පහන් හරිගැස්සුවෝය.
8. එවිට නුවන නැත්තියෝ, අපේ
පහන් නිවුනේය, තුබලාගේ තෙ
ලින් අපටත් දියල්ලායයි, නුවන
9. ඇත්තියන්ට කීවෝය. නුවන
ඇත්තියෝ උත්තර දෙමින්, අපටත්
තුබලාටත් මදි නොවෙන පිනිස,
විකුනනවුන් ලඟට ගොස් මිල දී
10. ගනිල්ලායයි කීවෝය. මිලේට
ගන්ට ඔවුන් ගිය අතර මනමාලයා
ආයේය. එකල සැදී සිටියෝ ඔහු
සමග සරන මංගල්‍යයට ඇතුල්
වූවෝය. දොරද වසනලද්දේය.
11. පසුව අනික් කන්‍යාවෝද ඇවිත්,
ස්වාමිනි, ස්වාමිනි, අපට දොර ඇරිය
12. මැනවයි කීවෝය. නුමුත් ඔහු
උත්තර දෙමින්, සැබවක් තුබලාට
කියමි, තුබලා නාඳුනමියි කීයේය.
13. එසේම, මනුෂ්‍ය පුත්‍රයා එන
දවසවත් පැයවත් තුබලා නොදන්නා
නිසා, අවදිව සිටිල්ලාය.

14. "තවද, තමාගේ වැඩකාරයන්
කැඳවා තමාගේ වස්තුව ඔවුන්ට
භාරදී දුර රටකට ගිය පුරුෂයෙ
15. කුට ස්වර්ගරාජ්‍ය සමානය. ඔහු,
එකෙකුට තලෙන්ත පහක්ද එකෙ
කුට දෙකක්ද තවත් එකෙකුට
එකක්ද, ඔවුනොවුන්ගේ සමර්ථක
මට සෑහෙන ලෙස, දී ගියේය.
16. එවිට තලෙන්ත පහ ලැබූ
තැනැත්තා ගොස්, එයින් වෙලඳාම්
කොට, තවත් තලෙන්ත පහක්
17. උපදවීය. එසේම දෙක ලැබූ
තැනැත්තාද තවත් දෙකක් උපද
18. වීය. එහෙත් එක ලැබූ තැනැත්තා
ගොස්, බිම හාරා, තමාගේ ස්වාමි

19. යාගේ මිල සඟවා තැබීය. බොහෝ කලකට පසු, ඒ වැඩකාරයන්ගේ ස්වාමියා ඇවිත්, ඔවුන්
20. සමග ගනන් බැලීය. එවිට, තලෙන්ත පහ ලැබූ තැනැත්තා තවත් තලෙන්ත පහක් ගෙනත්, 'ස්වාමිනි, නුඹවහන්සේ මට තලෙන්ත පහක් භාරදුන්නේය; මම එයින් තවත් තලෙන්ත පහක් ඉපදවීමියි'
21. කීයේය. ඔහුගේ ස්වාමියා, 'උතුම්වූ විශ්වාසවූ වැඩකාරය, නුඹ කල දේ යහපත; නුඹ ස්වල්ප දේ ගැන විශ්වාසයෙක, බොහෝ දේවලට නුඹ අධිපති කරන්නෙමි; නුඹේ ස්වාමිහුගේ ප්‍රීතියට ඇතුල්වෙයන්
22. නැයි' ඔහුට කීයේය. තලෙන්ත දෙක ලැබූ තැනැත්තාද ඇවිත්, 'ස්වාමිනි, නුඹවහන්සේ මට තලෙන්ත දෙකක් භාරදුනෙන්ය; එයින් තවත් තලෙන්ත දෙකක් ඉපදවීමියි'
23. කීයේය. ඔහුගේ ස්වාමියා, 'උතුම්වූ විශ්වාසවූ වැඩකාරය, නුඹ කල දේ යහපත; නුඹ ස්වල්ප දේ ගැන විශ්වාසයෙක, බොහෝ දේවලට නුඹ අධිපති කරන්නෙමි; නුඹේ ස්වාමිහුගේ ප්‍රීතියට ඇතුල්වෙ
24. යන්නැයි' ඔහුටත් කීයේය. එවිට, එක් තලෙන්තය ලැබූ තැනැත්තා ඇවිත්, 'ස්වාමිනි, නුඹවහන්සේ නොවපුල තැනින් කපන්නාවූ නොඉස්ස තැනින් රැස්කරන්නාවූ කකීස පුරුෂයෙකැයි දනිමි එබැවින් භයව
25. ගොස්, නුඹවහන්සේගේ තලෙන්තය පොලවේසඟවා තැබීමි. නුඹවහන්සේගේ දේ නුඹවහන්සේට
26. තිබෙන්නේයයි, කීයේය. ඔහුගේ ස්වාමියා උත්තර දෙමින්, දුෂ්ටවූ අලසවූ වැඩකාරය, මම නොවපුල තැනින් කපන බවත් නොඉස්ස තැනින් රැස්කරන බවත් නුඹ දන්
27. නේද? එහෙනම් මාගේ මුදල මිල බාරගන්නන්ට නුඹ විසින් දිය යුතුය; එසේ කොලෙහිනම්, මම ඇවිත් ලාබත් සමග මාගේ දේ
28. ලබමි; එහෙයින් ඔහු අතින් තලෙන්තය ගෙන තලෙන්ත දසය
29. ඇත්තාට දීපල්ලාය. මක්නිසාද ඇත්තාවූ සියල්ලන්ටම දෙනු ලැබේ; ඔවුහු සම්පූර්ණකමට පැමිනෙති. නැති තැනැත්තාගෙන් ඔහුට ඇති
30. දේත් උදුරාගනු ලැබේ. ඒ නිෂ්ප්‍රයෝජන වැඩකාරයා පිටත අන්ධකාරයෙහි දමාපල්ලාය. එහිදී හැඬීමත් දත්මිටිකෑමත් වන්නේයයි' කීයේය.

31. "තවද, මනුෂ්‍ය පුත්‍රයා පවිත්‍රවූ සියළු දේවදූතයන් සමග තමන්ගේ තේජසින් ඒන කල තමන්ගේ තේජවන්තවූ සිංහාසනය පිට හිඳිනසේක.
32. එවිට, සියළු මනුෂ්‍යයෝ උන්වහන්සේ ඉදිරියට රැස්කරනු ලබන්නෝය. උන්වහන්සේද එඬේරෙක්
33. එළුවන්ගෙන් බැටළුවන් වෙන් කරන්නාක්මෙන්, ඔවුන් වෙන් කොට, බැටළුවන් තමන්ගේ දකුනු පැත්තේද එළුවන් වම් පැත්තේද
34. සිටුවනසේක. එවිට රජ්ජුරුවෝ දකුනේ සිටින්නන්ට කියනසේක්, 'මාගේ පියානන්ගෙන් ආශිර්වාද ලත් තැනැත්තනි, වරෙල්ලාය; ලෝකය මැවූ තැන් පටන් නුඹලාට සාදා තිබෙන රාජ්‍යය උරුමවෙයල්ලාය.
35. මක්නිසාද, මම බඩගින් ඇතිවීමි, නුඹලා මට කෑම දුන්නෝය. පිපාස ඇතිවීමි, නුඹලා මට බොන්නට දුන්නෝය. ආගන්තුක වීමි, නුඹලා මට වාසස්ථාන දුන්නෝය.
36. අඳින්ට නැතිවීමි, නුඹලා මට ඇඳුම දුන්නෝය. රෝගාතුරවීමි, නුඹලා මා බලන්නට ආවෝය. හිරගෙය සිටියෙමි, නුඹලා මා වෙතට
37. ආවෝයයි' කියනසේක. එකල ධර්මිෂ්ටයෝ උත්තරදෙමින්, 'ස්වාමිනි, කොයි කලෙක බඩගින් ඇතිවූ ඔබවහන්සේ දැක, කෑම දුන්නෙමුද? කොයි කලෙක පිපාස ඇතිවූ ඔබවහන්සේ

38. දැක, බොන්නට දුනිමුද? කොයි කලෙක ආගන්තුකවූ ඔබවහන්සේ දැක, වාසස්ථාන දුනිමුද? කොයි කලෙක ඇඳුම් නැත්තාවූ ඔබවහන්
39. සේ දැක, ඇඳුම් දුනිමුද? කොයි කලෙක රෝගාතුරවවත් හිරගෙයි වත් සිටියාවූ ඔබවහන්සේ දැක, ඔබ වහන්සේ ළඟට ආවෙමුදැයි' කියනවා
40. ඇත. එවිට රජ්ජුරුවෝ උත්තර දෙමින්, 'සැබවක් තුබලාට කියමි, මාගේ සහෝදරවූ මොවුන්ගෙන් ඉතා කුඩා එකෙකුටවත් තුබලා යමක් කලොත් ඒක මට කලෝයයි'
41. කියනසේක. පසුව, වම් පැතෙහි සිටිනනන්ටත් කියනසේක්, 'සාප ලත් තැනැත්තෙනි, මා කෙරෙන් ප හව සාතන්ටත් ඔහුගේ දූතයන්ටත් සාදා තිබෙන සදාකාල ගින්නට
42. පලායල්ලාය. මක්නිසාද බඩගිනි ඇතිවිම්, තුබලා මට කෑම දුන්නේ නැත. පිපාස ඇතිවිමි, තුබලා මට
43. බොනනට දුනෙන් නැත. ආගන් තුකවිම්, තුබලා මට වාසස්ථාන දුන්නේ නැත. අඳින්ට නැතිවිම්, තුබලා මට ඇඳුම් දුන්නේ නැත. රෝගාතුරවද හිරගෙයිද සිටියෙමි, තුබලා මා බලන්නට ආවේනැතැයි'
44. කියනසේක. එවිට ඔවුනුත් උත්තර දෙමින්, 'ස්වාමිනි, කොයි කලෙක බඩගිනි ඇතිවූවත් පිපාස ඇතිවූවත් ආගන්තුකවූවත් ඇඳුම් නැතිවූවත් රෝගාතුරවූවත් හිර ගෙයි සිටියාවූවත් ඔබවහන්සේ දැක, උපස්ථාන නොකලෙමුදැයි' කියනවා
45. ඇත. එවිට උන්වහන්සේ උත් තර දෙමින්, 'සැබවක් තුබලාට කියමි, මොවුන්ගෙන් ඉතා කුඩා එකෙකුටවත් යමක් නොකර ඇරි යොත්, ඒක මට නොකලෝයයි'
46. කියනසේක. ඔවුන් සදාකාල දඬු වමටත් ධර්මිෂ්ඨයෝ සදාකාල ජීව නයටත් යනවා ඇතැයි" කීසේක.

26. පරිච්ඡේ. යේසුස්වහන්සේ මේ සියළු වචන කියා නිමවා තමන්ගේ ගෝලයන්ට කථාකොට,
2. "දෙදවසකින් පසු පාස්කුව වෙන බව තුබලා දනිති. එවිට මනුෂ්‍ය පුත්‍රයා කුරුසියෙහි ඇනගැසීමට පාවාදෙනු ලැබේයයි" කීසේක.
3. එකල නායක පූජකයෝද ලියන් නෝද සෙනගගේ වැඩිමහල්ලෝද
4. කායාඵානම් නායක පූජකයාගේ සාලාවට එකතුව, යේසුස්වහන්සේ ප්‍රයෝගයෙන් අල්වා මරන්ට මන්ත්‍ර
5. නය කලෝය. තුමුත් "සමුදුව අතරේ පෙරලියක් නොවෙන පිනිස මංගල්‍යයේදී නුසුදුසුයයි" කීවෝය.
6. යේසුස්වහන්සේ බෙතානියේ කුෂ්ඨරෝගීවූ සීමොන්ගේ ගෙයි සිටි
7. කල, ස්ත්‍රියක් අනර්ඝවූ තෙලින් පිරෙව් සුදු ගල් කරඬුවක් ගෙන, කෑමට ඉඳගත්තාවූ උන්වහන්සේ ළඟට ඇවිත් උන්වහන්සේගේ හිසේ
8. වත්කලාය. උන්වහන්සේගේ ගෝලයෝ ඒ දැක කිපී, "මේ අලා
9. භය කෙලේ කුමටද? මේ තෙල බොහෝ මිලට විකුන දිළිඳුනට දෙන්ට පුළුවන්ව තිබුනේයයි"
10. කීවෝය. යේසුස්වහන්සේ ඒ දැන, මේ ස්ත්‍රීට කනගාටුකරන්නේ මක්නිසාද? ඈ මට හොඳ ක්‍රියාවක්
11. කලාය. දිළින්දෝ තුබලා සමග නිතරම ඇත; මම තුබලා සමග
12. නිතරම නැත. මා තැන්පත්කිරී මට ඈ මේ තෙල මාගේ ශරීරයේ
13. වත්කලාය. සැබවක් තුබලාට කියමි, මේ සුභාරංචිය ලොව මුළුල්ලේ යම් තැනක ප්‍රකාශකරද්ද, එතනදී මේ ස්ත්‍රිය විසින් කල මේ ක්‍රියාවත් ඈ සිහිවීම පිනිස කියනු ලැබේයයි" කීසේක.

14. එවිට දෙළොස්දෙනාගෙන් එකෙක්වූ යූදස් ඉස්කාරියොත් නාය
15. කපූජකයන් ළඟට ගොස්, "මම තුබලාට ඔහු පාවා දෙමනම් තුබලා

මට කුමක් දෙනවාදැයි" කීය. ඔවුහු
එදී මිල තිහක් දෙන්නට ඔහු සමග
16. ගිවිසගත්තෝය. එතැන් පටන්
ඔහු යේසුස්වහන්සේ පාවා දෙන්ට
ප්‍රස්ථාවක් සෙවීය.

17. තවද මුහුන් නොදැමූ රොටි
කන පලමුවෙනි දවසේ, ගෝලයෝ
යේසුස්වහන්සේ ළඟට ඇවිත්,
"පාස්කු මංගල්‍යය ඔබවහන්සේට
අප විසින් කොතන සාදන්ට කැමති
18. දැයි" ඇසුවෝය. එවිට උන්ව
හන්සේ, "නුවර අසවලා ළඟට
ගොස්, මාගේ කාලය ආසන්නය;
නුඹේ ගෙයි මාගේ ගෝලයන් සමග
පාස්කුව පවත්වමි කියා, ආචාරීන්
වහන්සේ කියනසේකැයි ඔහුට
19. කියාපල්ලායයි" කීසේක. ගෝල
යෝද යේසුස්වහන්සේ තමන්ට
නියමකල ලෙස කොට, පාස්කු
මංගල්‍යය පිළියෙල කලෝය.
20. සවස්වූ කල්හි, උන්වහන්සේ
දොලොස්දෙනා සමග කෑමට හිඳ
21. ගත්සේක. ඔවුන් කමින් සිටිය
දීම, "සැබවක් නුඹලාට කියමි, නුඹ
ලාගෙන් එකෙක් මා පාවාදෙන්නේ
22. යයි" කීසේක. එවිට ඔවුන්
බොහෝසෙයින් සෝකව, එකෙක්
එකෙක් බැගින් "ස්වාමිනි, මමද,
මමදැයි" අහන්ට පටන්ගත්තෝය.
23. උන්වහන්සේ උත්තර දෙමින්,
"මා සමග තලියේ අත ලන තැනැත්
24. තාම මා පාවා දේය. මනුෂ්‍ය
පුත්‍රයා තමා ගැන ලියා තිබෙන
හැටියට යන්නේය. නුමුත් මනුෂ්‍ය
පුත්‍රයා පාවාදෙනනාට දුක් වන්
නේය. ඒ මනුෂ්‍යයා නූපන්නානම්
25. ඔහුට යහපතැයි" කීසේක. එවිට
උන්වහන්සේ පාවාදෙන යූදස්ද
"ආචාරීනි, මමදැයි" ඇසුයේය. උන්
වහන්සේ "නුඹ කීයේයයි" කීසේක.

26. ඔවුන් කෑම කමින් ඉන්නා
කල, යේසුස්වහන්සේ රොටි ගෙන
ස්තුතිකොට කඩා ගෝලයන්ට දී,
"අරගන කාපල්ලාය; මේ මාගේ
27. ශරීරයයි" කීසේක. පසුව, උන්
වහන්සේ කුසලාන ගෙන ස්තුති
කොට ඔවුන්ට දී, "නුඹලා සියල්
28. ලෝම මෙයින් බීපල්ලාය; මේක
පව්වලින් මිදීම පිනිස බොහෝ
දෙනා වෙනුවට වගුරුවන අළුත්
29. ගිවිසුමේ මාගේ ලේය. තවද
නුඹලාට කියමි, මාගේ පියානන්ව
හන්සේගේ රාජ්‍යයේදී නුඹලා සමග
අළුත් මුද්‍රික රසය බොන දවස දක්වා,
මෙතැන්පටන් මේ මුද්‍රික ඵල රසය
නොබොමියි" කීසේක.

30. ඔවුන් ගීතිකාවක් කියා,
පිටත්ව ඔලීව කන්දට ගියෝය.
31. එවිට යේසුස්වහන්සේ කියන
සේක්, "නුඹලා සියලෙලෝම අද
රාත්‍රියේ මා කෙරෙහි බාධාවෙති.
මක්නිසාද, මම එඬේරාට පහර
දෙන්නෙමි; එවිට රැලේ බැටළුවෝ
කඩින් කඩ යනවා ඇතැයි ලියාති
32. බෙන්නේය. නුමුත්, මම මලවුන්
ගෙන් නැගුටුනුපසු නුඹලාට ඉස්සරව
33. ගලීලයට යමියි" කීසේක. පේ
"තෘස්ද, සියලෙලෝම ඔබවහන්සේ
කෙරෙහි බාධා වෙතත්, මම කවදා
වත් බාධානොවෙමියි" උන්වහන්සේ
34. ට කීයේය. යේසුස්වහන්සේද,
"සැබවක් නුඹට කියමි, අද රාත්‍රියේ,
කුකුලා හඬලන්ට පලමුවෙන්, ඔහු
නාඳුනමියි, මා ගැන නුඹ තුන් වරක්
35. කියනෙහියයි" කීසේක. පේතෘස්,
"මම ඔබවහන්සේ සමග නසිතත්,
ඔබවහන්සේ ගැන ඔහු නාඳුනමියි
නොකියමියි" කීයේය. සියළු ගෝල
යොත් එසේම කීවෝය.

36. එවිට යේසුස්වහන්සේ ඔවුන්
සමග ගෙත්සෙමනේ යන ස්ථානයට
පැමිණ, "මම ඈතට ගොස් යාඥා
කරනඅතර නුඹලා මෙහිඉඳිල්ලායයි"
37. ගෝලයන්ට කියා, පේතෘස් සහ
සෙබදියේ පුත්‍රයන් දෙදෙනාත්
කැඳවාගෙන ගොස්, සෝකවෙන්

එත් අතිසෙසින් දුක්වෙන්වත් පටන්
38. ගත්තේක. එකල උන්වහන්සේ
“මාගේ ප්‍රාණය යන තරම් මාගේ
සිත ඉතා සෝකවන්තේය; තුබලා
මෙහි මා සමග අවදිව සිද්ලලායයි”
39. කියා, මදක් ඈතට ගොස්, මුහු
නින් වැටී, “මාගේ පියාණෙනි, මේ
කුසලාන මාගෙන් පහවෙන්ට පුළු
වන්නම් එසේ වේවා; නුමුත් මාගේ
කැමැත්ත නොව, ඔබවහන්සේගේ
කැමැත්තම වේවයි” යාඥාකලසේක.
40. පසුව, උන්වහන්සේ ගෝලයන්
ලඟටඇවිත් ඔවුන් නිදාඉන්නවාදැක,
පේත්‍රුස්ට කථාකොට, “කිමෙක්ද?
මා සමග එක් පැයක්වත් නිදනො
ගෙන ඉන්ට තුබලාට බැරිද?
41. තුබලා පරීක්ෂාවට නොපැමි
ණෙන පිනිස නිදා නොගෙන යාඥා
කරපල්ලාය. ඒකාන්තයෙන් ආත්
මය කැමතිය, නුමුත් ශරීරය බෙල
42. හීනයයි” කීසේක. උන්වහන්සේ
දෙවෙනි වරත් ඈතට ගොස්,
“මාගේ පියාණෙනි, මේ කුසලාන
මා විසින් නොබොන ලදුව පහව
යන්නට බැරිනම් ඔබවහන්සේගේ
කැමැත්තම වේවයි” යාඥාකලසේක.
43. උන්වහන්සේ ඇවිත්, ඔවුන්ගේ
ඇස් නිදිබරවූ බැවින් ඔවුන් නැවත
44. නිදා ඉන්නවා දැක, ඔවුන්ගෙන්
නැවතත් අහක්ව ගොස්, තුන්වෙනි
වරත් එම වචනම කියා යාඥාකල
45. සේක. එවිට උන්වහන්සේ තමන්
ගෝලයන් ලඟට ඇවිත්, “දැන්
තුබලා නිදාගෙන නිස්කලංක
ගනිල්ලාය. මනුෂ්‍ය පුත්‍රයා පව්කාර
යන්ට පාවාදෙනු ලබන පැය ආසන්
46. නය. නැගිට්ටල්ලාය; අපි යමුව;
මා පාවා දෙනනා ලඟයයි” කීසේක.

47. උන්වහන්සේ කථාකරද්දීම,
දොලොස් දෙනාගෙන් එකෙක්වූ
යුදස් ආයේය. ඔහු සමග නායකපූජ
කයන්ගෙන් හා සෙනගයේ වැඩි
මහල්ලන්ගෙන් මහත්වූ ජන සමූහ
යක්ද කඩු මුගුරු රැගෙන ආවෝය.
48. උන්වහන්සේ පාවාදෙන්නා,
“මම යමෙක් සිඹගනිම්ද, ඒ ඔහු
මය; ඔහු අල්ලාගනිල්ලාය” කියා,
ඔවුන්ට ලකුනක් දුන්නේය.
49. එවලේම ඔහු යේසුස්වහන්සේ
ලඟට ගොස්, “ආචාරීනි, සුවසේ
සිටිනසේක්වයි” කියා, උන්වහන්සේ
50. සිඹගත්තේය. යේසුස්වහන්සේ
“යහළුව, තුබ කුමක් පිනිස ආයේ
දැයි” ඇහුසේක. එවිට ඔවුන් ඇවිත්
යේසුස්වහන්සේ අල්ලාගත්තෝය.
51. තවද, යේසුස්වහන්සේ සමග
සිටියවුන්ගෙන් එකෙක් අත දිගු
කොට කඩුව ඇද, නායක පූජක
යාගේ වැඩකාරයාට ගසා, ඔහුගේ
52. කන කපාදැමීය. එවිට යේසුස්
වහන්සේ, “තුබේ කඩුව කොපුවේ
දමාපන්න; කඩු ගන්නා සියල්ලෝ
කඩුවෙන්ම නැසෙනවා ඇත.
53 මාගේ පියානන්ට දැන් යාඥා
කෙලෙම්නම්, උන්වහන්සේ දූතයන්
ගෙන් රන්චු දෙලසකට වඩා මා
ලඟට නොඑවන යේක්දැයි සිතන්
54. නේද? නුමුත් මෙයාකාර සිඩ
වෙන්ටම යුතුයයි ලියනලද ලියවිලි
සම්පූර්ණවෙන්නේ කෙලෙසදැයි”
55. කීසේක. එවලේම යේසුස්ව
හන්සේ සමූහයාට කථාකොට,
“තුබලා සොරෙක් අල්ලන්ට එන්
නාක්මෙන් කඩු මුගුරු ගෙන මා
අල්ලන්ට ආවෝද? දවස්පතා දේව
මාලිගාවේ උගන්වමින් තුබලා සමග
ඉන්දද්දී, තුබලා මා ඇල්ලුවේ නැත.
56. නුමුත් අනාගතවක්තෘන්ගේ
ලියවිලි සම්පූර්ණවෙන පිනිස මේ
සියල්ල සිදුවූයේයයි” කීසේක. එවිට
සියළු ගෝලයෝ උන්වහන්සේ හැර
57. පලා ගියෝය. පසුව යේසුස්ව
හන්සේ ඇල්ලුවාවූ අයවල් කායාඵා
නම් නායක පූජකයා ලඟට උන්ව
හන්සේ ගෙනගියෝය. එතැන්හි
ලියනෙනාත් වැඩිමහල්ලොත් රැස්වී

58. සිටියෝය. පේතෘස්ද නායක පූජ
කයාගේ සාලාව දක්වා දුරින් උන්
වහන්සේ පස්සේ ගොස්, ඇතුල්ව,
නින්දුව දක්නා පිණිස සේවකයන්
59. සමග උන්නේය. එවිට නායක
පූජකයෝද වැඩිමහල්ලෝද සභාවේ
සියල්ලෝද යේසුස්වහන්සේ මර
නට පමුනුවන පිණිස, උන්වහන්සේට
විරුඩව බොරු සාක්ෂි සෙව්වෝය.
60. නුමුත් සම්භවුනේ නැත. නො
යෙක් බොරු සාක්ෂිකාරයෝ ආ
නුමුත්, ඒක ඉෂ්ටවුනේ නැත.
61. අන්තිමේදී බොරු සාක්ෂිකාරයෝ
දෙන්නෙක් ඇවිත්, "දේව මාලි
ගාව විනාසකොට තුන් දවසකින්
නැවත සාදන්ට හැකිවෙමියි, මොහු
62. කියේයයි" කීවෝය. එවිට
නායක පූජකයා නැගිට, "නුබ කිසි
උත්තරයක් දෙන්නේ නැද්ද?
මොවුන් නුබට විරුඩව කියන මේ
සාක්ෂි කිමෙක්දැයි" උන්වහන්සේට
63. කියේය. නුමුත් යේසුස්වහන්සේ
කථානොකර සිටිසේක. එවිට නාය
කපූජකයා, "නුබ ජීවමාන දෙවියන්
වහන්සේගේ නාමයෙන් දිව්රවමි;
නුබ දෙවියන්වහන්සේගේ පුත්‍රවූ
ක්‍රිස්තුස්ද, නැද්දැයි, අපට කියාපන්
නැයි" උන්වහන්සේට කියේය.
64. එවිට යේසුස්වහන්සේ, "නුබම
කියේය; තවද නුබලාට කියමි,
මෙයින් පසු මනුෂ්‍ය පුත්‍රයා පරාක්‍රම
යානන්ගේ දකුනු පැත්තේ වැඩ
සිදින බවත්, අහසේ වලාකුලෙන්
එන බවත්, නුබලා දකිනවා ඇතැයි"
65. ඔහුට කීසේක. එවිට නායක
පූජකයා තමාගේ වස්ත්‍ර ඉරාගෙන,
"මොහු දෙවියන්වහන්සේට අප
හාස වචන කියේය; වෙන සාක්ෂි
වලින් අපට කම් කිම්ද? මොහුගේ
අපහාස බස් දැන්ම නුබලා ඇසු
66. වෝය. නුබලා සිතන්නේ
කිමෙක්දැයි" කීයේය. ඔවුන් උත්තර
දෙමින්, "මොහු මැරිය යුතුයයි"
67. කීවෝය. එවිට ඔවුන් උන්වහන්
සේගේ මුහුනට කෙල ගසා ගුෂ්
68. ඇන්නෝය. සමහරෙක් අතුල්
පහර ගසා, "ක්‍රිස්තුස්නි, තට ගැසුවේ
කව්දැයි, දිවසින් අපට කියවයි"
කීවෝය.

69. සාලාවෙහි උන් පේතෘස්
ලඟට යව්වනියක් ඇවිත්, "නුබ
ගලිලයේ යේසුස් සමග සිටියේයයි"
70. කීවාය. ඔහුද, "නැත; නුබ
කියන දේ නොදනිමියි" සියල්
71. ලන්ගේ ඉදිරියේ කීයේය. ඔහු
පිටත්ව දොරටුවට ගියකල, තව යව්
වනියක් ඔහු දැක, "මොහුද නාස
රැත්යි යේසුස් සමග සිටියේයයි"
72. එතන සිටියවුන්ට කීවාය. ඔහු
නැවතත්, "මම ඒ මනුෂ්‍යයා නාදුන
73. මියි," දිව්රමින් කීයේය. ස්වල්ප
වේලාවකට පසු, එතන සිටි මිනිස්සු
ඇවිත්, "සැබෑවටම නුබත් ඔවුන්
ගෙන් එකෙක; ඒ බව නුබේ කථා
වෙන්ම දැනෙනවායයි" පේතෘස්ට
74. කීවෝය. එවිට ඔහු, "ඒ මිනිහා
නාදුනමියි" කියා, දෙස් තිබාගන්
මද දිව්රන්මද පටන්ගත්තේය. එව
75. ලේම කුකුලා හඬලීය. එවිට
"කුකුලා හඬලන්නට පලමුවෙන්
තුන්වරක් ඔහු නාදුනමියි, මා ගැන
නුබ කියනවා ඇතැයි" යේසුස්ව
හන්සේ කී වචන පේතෘස් සිහිකොට,
පිටත්ව ගොස්, බලවත් දුකින්
හැඬුයේය.

27. පරිච්ඡේ. උදයවූකල, සියළු
නායක පූජකයොත් සෙනගගේ
වැඩිමහල්ලොත් යේසුස්වහන්සේ
මරනට පත්කරවන පිණිස උන්වහන්
සේට විරුඩව මන්ත්‍රනයකොට,
2. උන්වහන්සේ බැඳ ගෙනගොස්,
පොන්තියුස් පිලාත්නම් අධිපතියාට
3. පාවාදුන්නේය. එවිට, උන්ව
හන්සේ පාවාදුන් යූදස් උන්වහන්සේ
මරනට නියමකල බව දැක, පසුතැ

විලිව, ඒ රිදී මිල තිහ නායක
පූජකයන්ද වැඩිමහල්ලන්ද ලඟ
4. ට නැවත ගෙනැවිත්, "නිවැර
දිකාරයෙක් මරනට පාවාදීමෙන්
පව් කෙලෙමියි" කීයේය. එවිට,
ඔවුන් "අපට කිමෙක්ද? නුඹම
5. බලාගනින්නැයි" කීවෝය. එවිට
ඔහු ඒ රිදී මිල තිහ දේවමාලිගා
වෙහි දමා, පිටත්ව ගොස්, බෙල්ලේ
6. වැල් ලාගෙන මැරුනේය. නායක
පූජකයෝ ඒ මිල අරගන, "මේවා
ලේවල මිල බැවින් ද්‍රව්‍ය ගබඩාවේ
තිබන්නට සුදුසු නැතැයි" කීවෝය.
7. ඔවුන් මන්ත්‍රනයකොට, එයින්
විදේශීන් වලලන පිනිස කුම්භකාර
8. යාගේ බිම ගත්තෝය. එහෙයින්,
ඒ බිමට අද දක්වා ලේවල බිමයයි
9. කියනු ලැබේ. එකල, "ඊශ්‍රා
යෙල්ගේ පුත්‍රයන් විසින් මිලකරන
ලද තැනැත්තාගේ අගයවූ රිදීමිල
10. තිහ ගෙන, ස්වාමින්වහන්සේ මට
නියෝගකල ලෙස ඒවා කුම්භකාර
යාගේ බිමට දුන්නේයයි," අනාගත
වක්තෘහු විසින් කියනලද කීම සම්
පූර්ණවිය.

11. ජේසුස්වහන්සේද අධිපති
යාගේ ඉදිරියේ සිටිසේක. එවිට අධි
පතියා, "නුඹ යුදෙව්වරුන්ගේ රජ
දැයි" උන්වහන්සේගෙන් ඇසුයේය.
ජේසුස්වහන්සේ "නුඹම කීයේයයි"
12. කීසේක. නායක පූජකයෝද
වැඩිමහලෙලෝද උන්වහන්සේට වැර
දි තැබුවිට, උන්වහන්සේ කිසි
උත්තරයක් නොදී සිටිසේක.
13. පිලාත්ද, "මොවුන් නුඹට විරු
ඩව සාක්ෂි දෙන කාරනා කොපම
නද ඇසෙන්නේ නැද්දැයි" කීයේය.
14. නුමුත් උන්වහන්සේ කිසි වචන
යකටත් උත්තර නුදුන්සේක. එහෙ
යින් අධිපතියා බොහෝසෙයින්
15. පුදුමවූයේය. ඒ මංගල්‍ය සම
යෙහි සමූහයාට කැමතිවූ සිරකාර
යෙක් මුදා හරින්ට අධිපතියාගේ
16. සිරිතක් තිබුනේය. එවිට දුෂ්ට
යයි ප්‍රසිඩවූ බරබ්බානම් සිරකාර
17. යෙක් සිටියේය. එහෙයින්, ඔවුන්
රැස්වූ කල, පිලාත් ඔවුන්ට කථා
කොට, "මා විසින් නුඹලාට කව
රෙකු මුදා අරිනවාට නුඹලා කැම
තිද? බරබ්බාද, ක්‍රිස්තුස්යයි කියන
ලද ජේසුස්දැයි," ඔවුන්ගෙන් ඇසු
18. යේය. මක්නිසාද, ඔවුන් විසින්
උන්වහන්සේ ඊර්ෂ්‍යාවෙන් පාවා
දෙනලදැයි, ඔහු දැනගත්තේය.
19. තවද, ඔහු නඩු අසනයෙහි
උන්කල, ඔහුගේ භාර්‍ය්‍යාව "ඒ
ධර්මිෂ්ඨයාට කිසිවක් නොකල මැ
නව; ඔහු නිසා අද ස්වප්නයෙන්
බොහෝ දුක් වින්දෙමියි" පනිවිඩ
කාරයෙක් අත කියා යැව්වාය.
20. එහෙත්, නායක පූජකයෝද
වැඩිමහල්ලෝද බරබ්බා ඉල්ලන්
මත් ජේසුස්වහන්සේ මරන්ටත්
සමූහයා කැමතිකරවා ගත්තෝය.
21. අධිපතියා ඔවුන්ට කථාකොට,
"මේ දෙන්නාගෙන් කවරෙකු නුඹ
ලාට මුදා හරිනවාට කැමතිදැයි"
ඔවුන්ගෙන් ඇසූවිට, ඔවුන් "බරබ්
22. බායයි" කීවෝය. පිලාත්ද
"එසේවීනම් ක්‍රිස්තුස්යයි කියනලද
ජේසුස්ට කුමක් කෙරෙම්දැයි"
ඔවුන්ගෙන් ඇසුයේය. "කුරුසියෙහි
ඇනගසාවයි" ඔවුන් සියල්ලෝම
23. ඔහුට කීවෝය. එවිට අධිපතියා
"කිමෙක්ද? මොහු කවර වර
දක් කෙලේදැයි" කීයේය. නුමුත්,
"ඔහු කුරුසියෙහි ඇනගසාවයි"
කියා; වැඩි වැඩිව හඬගැසුවෝය.
24. පිලාත් කෝලාහල හටගන්නවා
මිස, එයින් කිසි ප්‍රයෝජනයක්
නැති බව දැන, වතුර ගෙන සමූහ
යාගේ ඉදිරියේ අත් සෝදා, "මේ
ධර්මිෂ්ඨයාගේ ලෙයින් මම නිදොස්
වෙමි; නුඹලාම බලාගනිල්ලායයි"
25. කීයේය. එවිට සියළු සමූහයෝ
උත්තරදෙමින්, "ඔහුගේ ලේ අප

තොරේද අපගේ දරුවන් කෙරේද
26. වේවයි" කීවෝය. එකල, ඔහු
බරබ්බා ඔවුන්ට මුදා හැර, ජේසුස්
වහන්සේට තලවා, කුරුසියෙහි
ඇණගසන්ට පාවාදුන්නේය.

27. පසුව අධිපතියාගේ සේවා
යෝ ජේසුස්වහන්සේ ප්‍රෙතෝරියම්
නම් සාලාවට ගෙනගොස්, සියළු
සේවක සමූහයෝ උන්වහන්සේවෙ
28. තට රැස්කොට, උන්වහන්සේගේ
වස්ත්‍ර මුදා, රතු වස්ත්‍රයක් හඳවා,
29. කටු ඔටුන්නක් ගොතා හිසෙහි
තබා, බටදඬක් දකුනතට දී, උන්
වහන්සේ ඉදිරියෙහි දන නමා,
"ජුදෙව්වරුන්ගේ රජ්ජුරුවන්වහන්
ස, සුවසේ සිටිනසේක්වයි" කියා
30. නින්දාකොට, උන්වහන්සේට
කෙලගසා, බටදඬ ගෙන හිසට
31. ගැසුවෝය. ඔවුන් නින්දාකල
පසු, උන්වහන්සේට ඇන්දෙව්
වස්ත්‍රය මුදා, උන්වහන්සේගේම වස්ත්‍ර
හඳවා, කුරුසියෙහි ඇණගසන්ට
32 ගෙනගියෝය. ඔවුන් නික්ම
යමින් සිටියදී, කිරේනියෙහි සීමොන්
නම් මිනිහෙක් දැක, ඔහු ලවා උන්
වහන්සේගේ කුරුසිය උසුලවාගෙන
33. ගියෝය. ඔවුන් ඉස්කබලස්ථානය
යන අර්ථ ඇති ගොල්ගොතානම්
ස්ථානයකට පැමිණ, පිත මිශ්‍රකල
කාඩි උන්වහන්සේට බොන්නට දුන්
34. නෝය. උන්වහන්සේ එයින්
ටිකක් කටට ගෙන, බොන්නට
35. නොකමැතිවූසේක. උන්වහන්
සේ කුරුසියෙහි ඇණගැසූ පසු උන්
වහන්සේගේ වස්ත්‍ර දාදු දමා බෙදා
ගත්තෝය. මේ සිද්ධවූනේ, "මාගේ
වස්ත්‍ර බෙදාගෙන, මාගේ සළුව පිනිස
දාදු දැමූවෝයයි" අනාගතවක්තෘහු
විසින් කියනලද කීම සම්පූර්ණ
36. වෙන පිනිසය. ඔවුන් එතැන්හි
උන්වහන්සේ රැකවල්කොට උන්
37. නෝය. තවද, "මොහු ජුදෙව්
වරුන්ගේ රජවූ ජේසුස්යයි" උන්ව
හන්සේගේ වරද ලියා උන්වහන්
සේගේ හිසට උඩින් තැබූවෝය.
38. එවිට සොරු දෙන්නෙක්,
එකෙක් දකුනු පැත්තෙහිද එකෙක්
වම් පැත්තෙහිද, උන්වහන්සේ සමග
කුරුසියෙහි ඇණගසනු ලැබූවෝය.

39. මග යන්නෝ තමන් හිස්
වන වනා, උන්වහන්සේට නින්දා
40. කොට, "දේවමාලිගාව නසා
තුන් දවසින් සාදන්නාවූ තෝ
තමාම ගැලවෙව; දෙවියන්වහන්
සේගේ පුත්‍රයානම් කුරුසියෙන් බැස
41. පියවයි" කීවෝය. එසේම
නායක පූජකයොත් ලියන්නොත්
දැඩිමහල්ලොත් උන්වහන්සේට
42. අපහාසකොට, "අනුන් ගැල
විය; තමාම ගැලවීගන්නට නුපුළු
වන; ඔහු ඊශ්‍රායෙල්ගේ රජනම්
දැන් කුරුසියෙන් බසීවා; එවිට ඔහු
43. අදහගනිමුව. ඔහු දෙවියන්ව
හන්සේ කෙරේ විශ්වාස කෙලේය;
ඔහු දෙවියන්වහන්සේගේ පුත්‍රයෙ
මියි කීයේය; දෙවියන්වහන්සේ
ඔහුට ප්‍රියනම් දැන්ම ඔහු මුදා හරින
44. සේක්වයි" කීවෝය. උන්ව
හන්සේ සමග කුරුසියෙහි ඇණගස
නලද්දාවූ සොරුද එසේම උන්ව
45. හන්සේට නින්දාකලෝය. තවද
සවෙනි පැය පටන් නවවෙනි පැය
දක්වා රට මුළුල්ල අන්ධකාරවිය.
46. නවවෙනි පැය පමණේදී ජේසුස්
වහන්සේ, "ඒලි, ඒලි, ලාමා සබක්
තානි" කියා මහත් ශබ්දයෙන් හඬ
ගෑසේක. එහි අර්ථනම්, මාගේ දෙවි
47. යනි, මාගේ දෙවියනි, ඔබව
හන්සේ මා අත්ඇරියේ මක්නිසාද
කියාය. එහි සිටියවුන්ගෙන් සමහ
රෙක් ඒ අසා, "මොහු එලියස්ට
අඬගසන්නේයයි" කීවෝය. එකෙ
48. නෙහිම ඔවුන්ගෙන් එකෙක්
දිවගොස්, මුදු හත්තක් ගෙන කාඩි
යෙන් පොවා, බටදඬක බැඳ උන්
වහන්සේට බොන්නට දුන්නේය.

49. සෙස්සෝ, "සිටපන්න; මොහු
ගලවා හරින්ට එලියස් එනවාද
50. කියා බලමුයයි" කීවෝය. යේසුස්
වහන්සේ නැවතත් මහත් ශබ්ද
යෙන් හඬගා ප්‍රාණය හැරියසේක.
51. එවිට දේව මාළිගාවේ තිරය
ඉහළ සිට පහලට දෙකඩව ඉරුනේය.
පොලොවද කම්පාවිය; පර්වතද
52. පැළුනෝය. සොහොන් ගෙවල්
ඇරුනෝය. උන්වහන්සේ නැගුටුනු
පසු, එහි නිදන්නාවූ නොයෙක්
සුබවන්තයන්ගේ ශරීර නැගිට
53. සොහොන් ගෙවලින් පිටත්ව
සුබ නුවරට ගොස්, බොහෝ
54. දෙනාට පෙනුනෝය. සියේ
සට නායකයාද ඔහු සමග යේසුස්
වහන්සේට රැකවල්කොට සිටි
යෝද පොලොව කම්පාවත් සි
දුවූ දේත් දැක, ඉතා භයපත්ව,
"ඒකාන්තයෙන් මූනවහන්සේ දෙවි
යන්වහන්සේගේ පුත්‍රවූසේකැයි"
55. කීවෝය. යේසුස්වහන්සේට
උපස්ථාන කරමින් ගලීලයෙහි සිට
උන්වහන්සේ කැටුව ආවාවූ බොහෝ
ස්ත්‍රීයෝ දුරින් බලා සිටියෝය.
56. ඔවුන් අතරෙහි මග්දලායෙහි
මරියාද යාකොබ් සහ යෝසෙස්ගේ
මව්වූ මරියාද සෙබදීගේ පුත්‍රයන්ගේ
මෑණියෝද සිටියෝය.

57. සවස්වූ කල්හි, යේසුස්වහන්සේ
ගේ ගෝලවූ අරිමාතායෙහි යෝශප්
නම් වස්තුකාරයෙක් ඇවිත් පිලාත්
ලඟට ගොස්, යේසුස්වහන්සේගේ
58. ශරීරය ඉල්විය. එවිට පිලාත්
ශරීරය දෙන්ට ආඥකෙලේය.
59. යෝශප්ද ශරීරය ගෙන, පවිත්‍රවූ
සියින් වස්ත්‍රයකින් වෙලා, තමන්
60. විසින් පර්වතයක කප්පවනලද
තමන්ගේ අළුත්වූ සොහොන් ගෙයි
තබා, එහි දොරකඩට මහත් ගලක්
61. පෙරලා ගියේය. මග්දලායෙහි
මරියාද අනිත් මරියාද සොහොන්
ගෙ ඉදිරිපිට ඉඳගෙණ උන්නෝය.

62. මංගල්‍ය සූදානම් කිරීමෙහි
දවසට පසුව දා, නායක පූජකයෝද
ඵරිසිවරුද පිලාත් ලඟට රැස්ව
63. ඇවිත්, "ස්වාමිනි, ඒ වංචාකා
රයා ජීවත්ව සිටිද්දී, තුන් දවසකට
පසු නැගිට්මියි කී බව සිහි ඇත.
64. එහෙයින් තුන්වෙනි දවස
දක්වා සොහොන් ගෙය රක්ෂාකරන්
නට ආඥ කලමැනව. එසේ නොක
ලොත් සමහරවිට ඔහුගේ ගෝලයෝ
රාත්‍රියේ ඇවිත්, මලකඳ සොරා
ගෙනගොස්, ඔහු මලවුන්ගෙන්
නැගුටුනේයයි සෙනගට කියන්වා
ඇත. එසින් පලමු වංචාවට වඩා
අන්තිම වංචාව නපුරුවේයයි"
65. කීවෝය. පිලාත්, "නුබලාට
රැකවල්ළු ඇත; නුබලාට දැනෙන
ලෙස ඒක රක්ෂාකරපල්ලායයි"
66. ඔවුන්ට කීයේය. ඔවුන් ගොස්
ගල මුද්‍රකොට රැකවල්ළු සිටුවා
සොහොන් ගෙය රක්ෂාකලෝය.

28. පරිච්. සබත් දවසේ රාත්‍රිය
පසුව, සතියේ පලමුවෙනි දවසට එළි
වෙන වේලෙහි, මග්දලායෙහි මරි
යාද අනිත් මරියාද සොහොන් ගෙය
2. බලන්නට ආවෝය. එවිට මහත්වූ
භූමි කම්පාවක් විය. මක්නිසාද ස්වා
මින්වහන්සේගේ දූතයෙක් අහසෙන්
බැස ඇවිත්, දොරකඩින් ගල අහ
කට පෙරලා ඒ පිට උන්නේය.
3. ඔහුගේ මූන විදුලියක් මෙන් විය;
ඔහුගේ වස්ත්‍ර හිම මෙන් සුදුවිය.
4. රැකවල්ළු ඔහුට භයින් වෙව්ලා
5. මලවුන්සේ වූවෝය. එවිට දේව
දූතයා ඒ ස්ත්‍රීන්ට කථාකොට,
"නුබලා භයනොවෙල්ලාය; නුබලා
කුරුසියෙහි ඇනගසනලද යේසුස්
වහන්සේ සොයන බව දනිමි.
6. උන්වහන්සේ මෙහි නැත. උන්
වහන්සේ කී ලෙසම නැගුටුනුසේක.
වරෙල්ලා, ස්වාමින්වහන්සේ තබන
7. ලද ස්ථානය බලා, හනික ගොස්

උත්වහන්සේ මලවුන්ගෙන් නැඟුටුනු බවත් උත්වහන්සේ තුබලාට පලමු ගලිලයට යන බවත් තුබලා උත්වහන්සේ එහිදී දක්නා බවත් උත්වහන්සේගේ ගෝලයන්ට කියාපල්ලාය. ඒ බව තුබලාට කීමියි" 8. කීයේය. එවිට ඔවුන් භයින්ද මහත්වූ සන්තෝසයෙන්ද සොහොන් ගෙයින් වහා නික්ම, උත්වහන්සේගේ ගෝලයන්ට දන්වන පිනිස දිව්වෝය.

9. තවද, උත්වහන්සේගේ ගෝලයන්ට දන්වන පිනිස ඔවුන් යන කල, යේසුස්වහන්සේ ඔවුන්ගේ ඉදිරියට ඇවිත්, "සුවසේ ඉඳිල්ලායයි" කීසේක. ඔවුන්ද ලඟට ඇවිත්, උත්වහන්සේගේ දෙපය අල්ලා 10. නමස්කාර කලෝය. එකල්හි යේසුස්වහන්සේ, "භයනොවෙල්ලාය; මාගේ සහෝදරයන් ලඟට ගොස්, ගලිලයට යන්ට කියාපල්ලාය; එහිදී ඔවුන් මා දකිනවා ඇතැයි" කීසේක.

11. ඔවුන් යන කල, රැකවළුන්ගෙන් සමහරෙක් නුවරට ඇවිත්, සිදුවූ සියල්ල නායක පූජකයන්ට 12. දන්වූවෝය. එවිට, නායක පූජකයෝ වැඩිමහල්ලන් සමග රැස්ව, මන්ත්‍රණයකොට, සේවායන්ට බො 13. හෝ මිල දී, "අපි නිදාගත් කල්හි ඔහුගේ ගෝලයෝ රෑ ඇවිත් මිනිය සොරා ගෙනගියෝයයි, කියා 14. පල්ලාය. අධිපතියාට මේ බව ආරංචිවූනොත් අපි ඔහු සමග කථාකොට තුබලා රැකගනිමුයයි" 15. කීවෝය. ඔවුන් මිල අරගන, තමන්ට ඉගැන්නු ලෙස කලෝය. මේ කථා ප්‍රවෘත්තිය යුදෙව්වරුන් අතරේ, අද දක්වා, ප්‍රසිද්ධව පවත්නේය.

16. ගෝලයෝ එකොලොස්දෙන යේසුස්වහන්සේ නියමකල ගලි 17. ලයේ කන්දකට ගොස් එහිදී උත්වහන්සේ දැක නමස්කාරකලෝය. නුමුත් සමහරෙක් සැක 18. කලෝය. එවිට යේසුස්වහන්සේ ඔවුන් ලඟට ඇවිත්, "ස්වර්ගයටද භූමියටද සියළු බලය මට දෙනලද් 19. දේය. එබැවින් තුබලා ගොස් සියළු රටවාසීන් මාගේ ගෝලයන් කර, පිතා පුත්‍ර සුද්ධාත්ම යන නාම 20. යෙන් ඔවුන් බව්තීස්මකර, මා විසින් තුබලාට ආඥාකරනලද සියල්ලම පවත්වන්ට ඔවුන්ට උගන්වාපල්ලාය. ලෝකාන්තිමය දක්වා නිරන්තුරුම මමත් තුබලා සමග ඇත්තෙමියි" කීසේක. ආමෙන්.

# මාක් විසින් ලියන ලද

## සුභාරංචිය.

1. පරිච්ඡේදය. දෙවියන්වහන්සේගේ පුත්‍රවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ සුභාරංචියෙහි පටන්ගැන් 2. මය. "මාගේ දූතයා තුබට පෙරටූව යවමි; ඔහු තුබට ඉස්සරව තුබේ මාර්ගය සාදන්නේය" කියාත්, 3. "ස්වාමින්වහන්සේගේ මාවත සාද, උත්වහන්සේගේ මාර්ගය ඇද හැරපල්ලායයි, වනාන්තුයේ හඬ ගසන්නෙකුගේ ශබ්දය" කියාත්, අනාගතවක්තෘහු විසින් ලියා තිබේ 4. න හැටියට යොහන් වනාන්තු

ජේදී බව්තීස්ම කරමින්, පව්වලින්
මිදීම පිනිස පසුතැවිල්ලේ බව්තීස්
5. මය ප්‍රකාශකරමින් සිටියේය. එවිට
යුදෙ රටවාසි සියල්ලෝද යෙරුසලමේ
වැසියෝද පිටත්ව ඔහු ළඟට
ගොස්, තමන්ගේ පව් කියාදෙමින්
යොර්දන් ගඟේදී ඔහුගෙන් බව්තීස්ම
6. ලබාගත්තෝය. ඒ යොහන් ඔටු
ලොමින් සෑදු ඇඳුම් හැඳ, ඉඟටියෙහි
සම් පටියක් බැඳ සිටියේය. ඔහුගේ
7. කෑම පළගැටියන් හා වනමීය. ඔහු
දේසනාකරමින්, "මට වඩා බල
වත්තයෙක් මට පසුව එනසේක
මම නැමී උන්වහන්සේගේ වහන්
සගලේ පටිය මුදන්ටවත් නොවටිමි.
8. මම තුබලා වතුරෙන් බව්තීස්ම
කෙලෙමි; තුමූන් උන්වහන්සේ
තුබලා ශුද්ධාත්මයෙන් බව්තීස්ම
9. කරනසේකැයි" කීයේය. ඒ දවස්
වලදී, ජේසුස්වහන්සේ ගලීලයෙහිවූ
නාසරැත්හි සිට ඇවිත්, යොර්දනේදී
යොහන්ගෙන් බව්තීස්ම ලැබූසේක.
10. උන්වහන්සේ වතුරෙන් ගොඩ
නැගුනු කෙණෙහිම, අහස විවරව
ආත්මයානන්වහන්සේ පරවියෙකු
මෙන් උන්වහන්සේ පිටට බසින
11. බව දුටුසේක. එවිට, "තුබ
මාගේ ප්‍රිය පුත්‍රයාය; තුබ කෙරේ
මම ඉතා සතුටුවූයෙමි" කියා අහ
සෙන් ශබ්දයක් නික්මුනේය.
12. එකෙණෙහිම ආත්මයානන්වහන්
සේ විසින් උන්වහන්සේ වනාන්තර
13. යට පමුනුවනු ලැබූසේක. උන්
වහන්සේ සාතන් විසින් පරීක්ෂා
කරනු ලබමින්, වනාන්තරයේ සත
ලිස් දවසක් වනමෘගයන් අතරේ
සිටිසේක. දේවදූතයෝද උන්වහන්
සේට උපස්ථාන කලෝය.

14. යොහන් සිරගෙයි දමනුලැබූ
පසු, ජේසුස්වහන්සේ ගලීලයට
ගොස්, දෙවියන්වහන්සේගේ රාජ්‍ය
යෙහි සුභාරංචිය ප්‍රකාශකරමින් කිය
15. නසේක්, "කාලය සම්පූර්ණ
විය; දෙවියන්වහන්සේගේ රාජ්‍යය
ලංවිය; පසුතැවිලිව, සුභාරංචිය අද
හගනිල්ලායයි" කීසේක.

16. උන්වහන්සේ ගලීලයේ මුහුද
අද්දර හැසිරෙනසේක්, මසුන් අල්
ලන්නන් වන සීමොන්ද ඔහුගේ
සහෝදරවූ අන්‍රූද මුහුදේ දැලක්
17. හෙළනවා දැක, "මා පස්සේ
වරෙල්ලාය; මම තුබලා මිනිසුන්
අල්ලන්නන් කෙරෙමියි" කීසේක.
18. එවලේම ඔවුන් තමන්ගේ දැල්
හැර, උන්වහන්සේ පස්සේ ගියෝය.
19. උන්වහන්සේ එතනින් මදක්
ඈතට ගොස්, සෙබදිගේ පුත්වූ
යාකොබ්ද ඔහුගේ සහෝදරවූ යො
හන්ද නැවේ ඉඳගෙන තමන්ගේ
20. දැල් අළුත්කරනවා දැක, එවලේ
ම ඔවුන්ටත් අඬගැසූසේක. එවිට,
ඔවුන් වැඩකාරියන් සමග නැවේ
සිටිය තමන් පියවූ සෙබදි හැර, උන්
21. වහන්සේ පස්සේ ගියෝය. ඔවුන්
කපර්ණවුමට පැමිනුනෝය. උන්
වහන්සේ සබත් දවස පැමිනිකල්
හිම, සිනගෝගයට ඇතුල්ව ඉගැන්
22. වූසේක. උන්වහන්සේ ලියන්
නන් මෙන් නොව බලසම්පන්න
කෙනෙක් මෙන් ඉගැන්වූ බැවින්,
උන්වහන්සේගේ ඉගැන්වීම්වලට
23. ඔවුන් පුදුමවූවෝය. ඔවුන්ගේ
සිනගෝගයේ අශුද්ධාත්මාවේස මනු
24. ෂ්‍යයෙක් සිටියේය. ඔහු, "අහෝ
නාසරැත් ජේසුස්වහන්ස, ඔබවහන්
සේට අපෙන් කම මොකද? අප
නසන්ට ආසේක්ද? ඔබවහන්සේ
කවුද කියා දනිමි; ඔබවහන්සේ
දෙවියන්වහන්සේගේ පිරිසිදු තැනැ
නොත්ය" කියා හඬගැසුයේය.
25. ජේසුස්වහන්සේද ඔහුට තරවටු
කරමින්, "කථා නොකරව, මොහු
ගෙන් පිටත්ව යවයි" කීසේක.
26. එවිට අශුද්ධාත්මය ඔහු වෙවුල්වා,
මහත් ශබ්දයෙන් හඬගා, ඔහුගෙන්
27. පිටත්ව ගියේය. එවිට ඔවුන්

සියල්ලෝම පුදුමව, "මේ මොන
දෙයක්ද? මේ මොන අලුත් ඉගැන්
වීමක්ද? මූන්වහන්සේ අශුද්ධාත්ම
යන්ට පවා බලයෙන් අඥාකරන
සේක. ඔවුහු උන්වහන්සේට කීකරු
වෙතියි," ඔවුනොවුන් අතරේ කථා
28. කරගත්තෝය. එකනෙහිම උන්
වහන්සේගේ කීර්තිය ගලීලය
මුළුල්ලේ පතලවිය.

29. ඔවුන් සිනගෝගයෙන් පිටත්ව
ආකල්හිම, යාකොබ්ද යොහන්ද
සමග සීමොන් හා අන්ද්‍රෑගේ ගෙද
30. රට ගියෝය. සීමොන්ගේ භාර්‍යා
වගේ මව් උන රෝගයෙන් ඔත්
පලව සිටියාය. ඔවුන්ද ඒ බව වහාම
31. උන්වහන්සේට දැන්වූවෝය. උන්
වහන්සේ ඈ ලඟට ගොස් ඈගේ
අත අල්වා නැගිටෙව්වසේක. එවි
ලේම උන රෝගය ඈ හැර ගියේය.
එවිට ඈ ඔවුන්ට උපස්ථාන කලාය.
32. සවස්වේලේ ඉර බැස්ස කල,
සියළු රෝගාතුරයන්ද යක්ෂාවේසවූ
වන්ද උන්වහන්සේ ලඟට ගෙනා
33. වෝය. නුවරවාසී සියල්ලෝ
34. දොර ලඟ රැස්ව සිටියෝය. එවිට
උන්වහන්සේ නොයෙක් රෝගවලින්
පීඩිතවූ බොහෝ දෙනාට සුවකොට,
නොයෙක් යක්ෂයන් දුරුකලසේක.
ඒ යක්ෂයෝ උන්වහන්සේ හඳුනතී;
එබැවින් කථාකරන්ට ඔවුන්ට අව
35. සර නුදුන්සේක. අළුයම එළි
වෙන්නට බොහෝ කල්මින්තෙන්,
උන්වහන්සේ නැගිට විවේක ස්ථාන
යකට ගොස්, එහිදී යාඥාකලසේක.
36. සීමොන් සහ ඔහු සමග සිටි
යෝද උන්වහන්සේ සොයමින් ගොස්,
37. උන්වහන්සේ දැක, "සියල්ලෝම
ඔබවහන්සේ සොයතියි" උන්වහන්
38. සේට කීවෝය. උන්වහන්සේ
කියනසේක් "මේ අසල තිබෙන
ගම්වලත් දේශනාකරන්ට එසියමුව;
ඒ පිණිස මම පිටත්ව ආයෙමි" කියා,
39. ගලීලය මුළුල්ලෙහි ඔවුන්ගේ
සිනගෝගවලදී දේශනාකොට, ය
ක්ෂයන් දුරුකලසේක.

40. කුෂ්ඨ රෝගාතුරයෙක්ද උන්
වහන්සේ ලඟට ඇවිත්, දණින් හිඳ
යාඥාකොට, "ඔබවහන්සේ කැමති
නම් මා පවිත්‍රකරන්ට පුළුවනැයි"
41. කීයේය. යේසුස්වහන්සේද අනු
කම්පා ඇතුව අත දිගුකොට,
ඔහුගේ ඇඟේ තබා, "කැමැත්තෙමි;
පවිත්‍රවෙයන්නැයි" ඔහුට කීසේක.
42. උන්වහන්සේ එසේ කී කෙණෙ
හිම, කුෂ්ඨය ඔහුගෙන් පහව ගියේය;
43. ඔහුද පවිත්‍ර විය. එවිට උන්ව
හන්සේ, "කිසිවෙකුට කිසිවක්
නොකියන්ට බලාගනින්නැයි" අඥා
කොට, "නුඹ ගොස් පූජකයාට
44. පෙනී, ඔවුන්ට සාක්ෂි පිණිස
නුඹේ පවිත්‍රවීම ගැන මෝසෙස්
විසින් නියමකරනලද දේවල් පූජා
කරපන්න" කියා, ඔහු යවූසේක.
45. නුමුත් ඔහු පිටත්ව ගොස්, ඒ
කාරනාව බොහෝ සෙයින් එළිදරව්
කරන්ටත් ඒ ඒ තැන්හි පතලකරන්
ටත් පටන්ගත්තේය. එහෙයින්,
යේසුස්වහන්සේට ප්‍රසිද්ධයෙන් නුව
රට නැවත ඇතුල්වෙන්ට නොහැ
කිව, පිටත විනාන්ත්‍ර ස්ථානවල සිටි
සේක. මනුෂ්‍යයෝද සියළු දිසාවලින්
උන්වහන්සේ ලඟට ආවෝය.

2. පරිච්ඡ. උන්වහන්සේ ස්වල්ප
දවසකට පසු, කපර්ණවුමට නැවත
ගියසේක. උන්වහන්සේ ගෙහි සිටින
2. බව ප්‍රසිද්ධවිය. එවලේම දොර
කඩවත් අවකාස නැතිවෙන තරම්
බොහෝ දෙන රැස්වූවෝය. උන්ව
හන්සේද ඔවුන්ට වචනය දේශනා
3. කලසේක. එකල, සතරදෙනෙකු
විසින් උසුලනලද අංසභාග රෝගා
තුරයෙක් උන්වහන්සේ වෙතට
4. ගෙනාවෝය. සමූහය නිසා උන්
වහන්සේ වෙතට ලංවීම ඔවුන්ට
නොපිළිවන්ව, උන්වහන්සේ සිටි

තැන සෙවිල්ල හැර, පියස්ස සිදුරු
කොට, ඒ රෝගාතුරයා ඔත් යහන
5. බැස්සෙව්වෝය. යේසුසවහන්සේ
ඔවුන්ගේ ඇදහිල්ල දැක, "පුත්‍රය,
තුබේ පව් තුබට ක්ෂමාකරනලදැයි"
අංසභාග රෝගාතුරයාට කීසේක.
6. එහෙත් එතන උන් ලියන්නන්
7. ගෙන් සමහරෙක්, "මොහු මෙබඳු
අපහාස වචන කියන්නේ මක්
නිසාද? දෙවියන්වහන්සේටම මිස
පව් ක්ෂමාකරන්ට කාට පුළුවන්දැයි"
8. තමන් සිතින් සිතුවෝය. ඔවුන්
මෙසේ සිතූ බව යේසුස්වහන්සේ
තමන්ගේ ආත්මයෙන් එකෙනෙහිම
දැන, ඔවුන්ට කියනසේක්, "තුබලා
මෙසේ සිතන්නේ මක්නිසාද?
9. තුබේ පව් තුබට ක්ෂමාකරනලදැයි
කීමෙන්වත්, නැගිට තුබේ යහන
අරගන ඇවිදපන්නැයි කීමෙන්වත්,
10. පහසු කෝකද? තුමුත් මෙලො
වදී පව් ක්ෂමාකරන්ට මනුෂ්‍ය පුත්‍ර
යාට බලය ඇති බව තුබලාට
දැනෙන පිනිසය" කියා, අංසභාග
11. රෝගාතුරයාට, "නැගිට තුබේ
යහන අරගෙන, තුබේ ගෙට පල
යන්නැයි, තුබට කියමියි" කීසේක.
12. එවලේම ඔහු නැගිට, යහනත්
අරගෙන, සියල්ලන්ගේ ඉදිරියේදී
පිටත්ව ගියේය. එයින් ඔවුන් සියල්
ලෝම පුදුමව, "මෙබඳු දෙයක් කව
දවත් දුටුවේ නැත" කියා, දෙවි
යන්වහන්සේට ප්‍රසංසාකලෝය.

13. නැවත උන්වහන්සේ මුහුද
ලඟට පිටත්ව ගියසේක. සියළු සමූ
හය උන්වහන්සේ වෙතට ආවෝය.
උන්වහන්සේද ඔවුන්ට ඉගැන්වූ
14. සේක. උන්වහන්සේ යන අතර,
සුංගම් අයකරන තැනක උන් අල්
ෆේවුස්ගේ පුත්‍රවූ ලෙවී දැක, "මා
පස්සේ වරෙනනැයි" ඔහුට කීසේක.
ඔහු නැගිට, උන්වහන්සේ පස්සේ
15. ගියේය. බොහෝ සුංගම් අය
කරන්නෝද පව්කාරයෝද යේසුස්
වහන්සේ කැටුව ගීය හෙයින්, උන්
වහන්සේ ලෙවීගේ ගෙයි කෑමට
උන් කල, ඔවුන්ගෙන් බොහෝ
දෙන උන්වහන්සේ සහ උන්වහන්
සේගේ ගෝලයන් සමග උන්නෝය.
16. ලියන්නෝද එරිසිවරුද සුංගම්
අයකරනනන් හා පව්කාරයන් සමග
උන්වහන්සේ කනවා දැක, "මොහු
සුංගම් අයකරන්නන්ද පව්කාරයන්
සමග කන්නෙත් බොන්නෙත් මක්
නිසාදැයි" උන්වහන්සේගේ ගෝල
17. යන්ගෙන් ඇසුවෝය. යේසුස්
වහන්සේ ඒ අසා, "ලෙඩුන්ට මිස
ලෙඩ නැත්තන්ට වෙදාගෙන් කමක්
නැත. පව්කාරයන් මිස ධර්මිෂ්ඨයන්
පසුතැවිලිලට කැඳවන පිනිස නාවෙ
මියි" ඔවුන්ට කීසේක.

18. තවද යොහන්ගේ ගෝල
යෝද එරිසීන්ගේ ගෝලයෝද නිරා
හාරයෙන් සිටියෝය. ඔවුන් ඇවිත්,
"යොහන්ගේත් එරිසීන්ගේත් ගෝ
ලයෝ නිරාහාරයෙන් සිටිති; ඔබ
වහන්සේගේ ගෝලයෝ නිරාහාර
යෙන් නොසිටින්නේ මක්නිසාදැයි"
උන්වහන්සේගෙන් ඇසුවෝය.
19. යේසුසවහන්සේ උත්තර දෙමින්,
"මගුල් ගෙදර දරුවන් හා සමග
මනමාලයා සිටින තුරු නිරාහාරව
සිටින්ට ඔවුන්ට පුළුවන්ද? මනමා
ලයා ඔවුන් සමග සිටිනඅතර නිරාහා
20. රව සිටින්ට බැරිය. තුමුත් මන
මාලයා ඔවුන්ගෙන් බැහැර ගන්නා
දවස් පැමිනෙන්නේය. ඒ දවස්වලදී
ඔවුන් නිරාහාරව සිටිනවා ඇත.
21. කවුරුවත් පරන ඇඳුමකට අළුත්
රෙදි කෑල්ලක් මහන්නේ නැත.
මැහුවොත්, අළුත් රෙදි කෑල්ලෙන්
පරන ඇඳුමත් ඉරී ගොස්, ඉරුම වැඩි
22. වන්නේය. කවුරුවත් අළුත් මුද්‍රි
කපානය පරන සම් භාජනවල වත්
කරන්නේ නැත. වත්කලොත්,
අළුත් මුද්‍රිකපානයෙන් සම් භාජන
පැලී, මුද්‍රිකපානය ඉහිරී, භාජනත්

නාස්තිවෙනෝය. අළුත් මුද්‍රිකපානය
අළුත් සම් භාජනවල වත්කරන්ට
සුදුසුයයි” කීසේක.

23. උන්වහන්සේ සබත් දවසක,
ගොයම් කෙතක් මැදින් යන කල,
උන්වහන්සේගේ ගෝලයෝ යමින්
සිට, කරල් කඩන්ට පටන්ගත්තෝය.
24. එවිට ඵරිසිවරු, “සබත් දවසෙහි
නොකටයුතු දේ මොවුන් කරනෙන්
මක්නිසාදැයි” උන්වහන්සේගෙන්
25. ඇසුවෝය. උන්වහන්සේ උත්
තර දෙමින්, “දාවිත් තමන්ටත්
තමන් සමග සිටියවුන්ටත් බඩගිනිව
26. ආහර ඕනෑවූ කල, ඔහු අබියා
තාර් නම් නායක පූජකයාගේ කාලේ
දෙවියන්වහන්සේගේ ගෙට පැමින,
පූජකයන්ට මිස වෙන කාටවත්
කන්ට නුසුදුසුවූ ඉදිරිපිට ඌදූ රොටි
කා, තමන් සමග සිටියවුන්ටත් දුන්
බව කවදාවත් නුබලා කියෙව්වේ
27. නැද්දැයි” කීසේක. තවද උන්
වහන්සේ කියනසේක්, “මනුෂ්‍යයා
සබත් දවස නිසා නොව, සබත් දවස
මනුෂ්‍යයා නිසා නියමවූනේය.
28. එබැවින් මනුෂ්‍ය පුත්‍රයා සබත්
දවසටත් ස්වාමියයි” ඔවුන්ට
කීසේක.

3. පරිච්ඡෙ. උන්වහන්සේ නැවත
සිනගෝගයට ඇතුල්වූ කල, අව
ලංගු අතක් ඇති මනුෂ්‍යයෙක් එහි
2. සිටියේය. එවිට සබත් දවසෙහි
ඔහුට සුවකරනසේක්දෝ කියා උන්
වහන්සේට වැරදි තබන්ට බලමින්
3. සිටියෝය. එවිට උන්වහන්සේ
“මැද සිටපන්නැයි” අවලංගු අතඇ
4. ති මනුෂ්‍යයාට කියා, “සබත් දවස්
වලදී කුමක් සුදුසුද යහපතක්කිරීම
ද, නොහොත් නපුරක් කිරීමද, ප්‍රා
නය රක්‍ෂාකිරීමද නොහොත් නැසීම
දැයි” ඔවුන්ගෙන් ඇසූසේක. ඔවුන්
5. කථා නොකර සිටියෝය. උන්වහන්
සේ කෝපයෙන් ඔවුන් වටකර
බලා, ඔවුන්ගේ සිත් දැඩිකම නිසා
දුක්ව, “නුබේ අත දිගුකරපන්නැයි”
ඒ මනුෂ්‍යයාට කීසේක. ඔහුද දිගු
කෙළේය. එවිට ඒ අත අනිත් අත
මෙන් සුවවීය.

6. ඵරිසිවරුද එවලේම පිටත්ව
ගොස්, “උන්වහන්සේ කෙසේ නාස
මුදැයි” උන්වහන්සේට විරුඬව
හෙරොදිවරුන් සමග මන්ත්‍රනය
7. කලෝය. එහෙත් යේසුස්වහන්
සේ එසින් පිටත්ව, තමන් ගෝල
යන් සමග මුහුද ලඟට ගියසේක.
8. එවිට ගලිලයෙන්ද යුදයෙන්ද
යෙරුසලමෙනුද ඉදුමයෙනුද යොර්දන්
එගොඩින්ද බොහෝ සමූහයෝ
උන්වහන්සේ පස්සේ ගියෝය. තිර්
සහ සිදොන් වටකර සිටින බොහෝ
සමූහයෝද උන්වහන්සේ විසින්
කරනලද මහත්වූ ක්‍රියාවල් අසා,
9. උන්වහන්සේ ලඟට ආවෝය. සමූ
හයාගෙන් උන්වහන්සේ නොමිරි
කෙන පිනිස, “කුඩා නැවක් මා
උදෙසා පිළියෙලකොට නිතරම
තැබිය යුතුයයි” ගෝලයන්ට
10. කීසේක. මක්නිසාද, උන්ව
හන්සේ බොහෝ දෙනාට සුවකල
හෙයින්, රෝගවලින් පීඩිතවූ සියල්
ලෝම උන්වහන්සේගේ ඇගේ අත්
තබන්ට තෙරපීගන ආවෝය.
11. අසුබාත්මයෝද උන්වහන්සේ
දැක, උන්වහන්සේගේ ඉදිරියෙහි
වැටී, “ඔබවහන්සේ දෙවියන්වහන්
සේගේ පුත්‍රයයි” හඬගෑවෝය.
12. උන්වහන්සේද “මා ප්‍රසිඬ නොක
රව්යැයි” බොහෝ සෙයින් ඔවුන්ට
අනකලසේක.

13. ඉන්පසු උන්වහන්සේ කන්දකට
නැගී, තමන්වහන්සේට කැමතිවූ
වුන් කැඳෙව්සේක. ඔවුන්ද උන්ව
14. හන්සේ ලඟට ගියෝය. එකල,
උන්වහන්සේ තමන් සමග සිටින්ටත්
දේසනා කරන පිනිස පිටත්කරහරින්
15. ටත් රෝග සුවකිරීමේද යකුන්

දුරුකිරීමේද බලය පවත්වන්ටත් දෙ
ලොස් දෙනෙක් නියමකලසේක.
16. ඔවුන් කවුරුදයත්; උන්වහන්සේ
විසින් පේත්‍රුස්යයි නම් තබනලද
17. සීමොන්ද, උන්වහන්සේ විසින්
ගර්ජිනාවේ පුත්‍රයෝය යන අර්ථ
ඇති බෝවනර්ගීස්යයි නම් තබන
ලද සෙබදීගේ පුත්‍රවූ යාකොබ්ද
18. ඔහුගේ සහෝදරවූ යොහන්ද,
අන්ද්‍රූද, පිලිප්ද, බතොලොමෙවූද,
මතෙවූද, තෝමස්ද, අල්ෆේවූස්ගේ
පුත්‍රවූ යාකොබ්ද, තද්දෙවුස්ද,
19. කානාන්හි සීමොන්ද, උන්වහන්
සේ පාවා දුන් යූදස් ඉස්කාරියොත්ද
යන මොවුන්ය. ඔවුන් ගෙදරකට
ගියෝය. එවිට ඔවුන්ට කෑම කන්
20. නට පමනවත් අවකාශ නැති
වෙන තරමට සමූහයෝ නැවත
21. එකතුවූනෝය. උන්වහන්සේගේ
නෑයෝ ඒ අසා, "උන්වහන්සේට
සිහි නැතිවියයි" කියමින්, උන්ව
හන්සේ අල්වන්ට ගියෝය.

22. යෙරුසලමෙන් ආවාවූ ලියන්
නෝ "මොහුට බෙල්සෙබූල් ඇත්
තේය; ඒ යක්‍ෂ මූලාදෘනියාගේ බල
යෙන් යකුන් දුරුකරන්නේයයි"
23. කීවෝය. එවිට උන්වහන්සේ
ඔවුන් කැඳවා, උපමාවලින් කියමින්,
"සාතන් දුරුකරන්ට සාතන්ටම
24. පුළුවන් කෙසේමද? රාජ්‍යයක්
තමන්ටම විරුඬව භේද වේනම් ඒ
රාජ්‍යය පවතින්නට නොහැකිවේ.
25. පවුලක් තමන්ටම විරුඬව භේද
වේනම් ඒ පවුල පවතින්නට
26. නොහැකිවේ. සාතන් තමන්ටම
විරුඬව නැගිට භේදවේනම් ඔහු
පවතින්නට නොහැකිව, විනාශයට
27. පැමිනෙන්නේය. කිසිවෙකු
විසින් බලවත්තයෙකුගේ ගෙදරට
වැද, පලමුකොට ඔහු නොබැඳ, ඔහු
ගේ බඩු කොල්ලගන්ට පුළුවන.
බැඳලාම, ඔහුගේ ගෙය කොල්ලගන්
28. නේය. සැබෑවටම තුඹලාට කියමි,
මනුෂ්‍ය පුත්‍රයන්ට සියළු පවුද ඔවුන්
කරන සියළු අපහාසද ක්‍ෂමාවෙනවා
29. ඇත. නුමුත් යමෙක් ශුඬාත්මයා
නන්වහන්සේ කෙරෙහි අපහාස
කෙරේද, ඔහු කොහි කලකවත්
ක්‍ෂමාව නොලැබ, සදාකාල අච්චුවට
30. සුදුසුවනෙන්යයි' කීසේක. "උන්
වහන්සේට අශුඬාත්මයක් ඇත්තේ
යයි" ඔවුන් කී බැවින්, උන්වහන්සේ
එසේ කීසේක.

31. එවිට තමන්ගේ සහෝදර
යෝද මෑනියෝද ඇවිත්, පිටත සිට,
උන්වහන්සේ කැඳවන්ට යැව්වෝය.
32. උන්වහන්සේ පිරිවර උන්නාවූ
සමූහයෝ, "ඔබවහන්සේගේ මෑනි
යොත් සහෝදරයොන් පිටත සිට,
ඔබවහන්සේ සොයතිති" කීවෝය.
33. උන්වහන්සේ උත්තර දෙමින්,
"මාගේ මවුත් මාගේ සහෝදර
34. යොත් කව්ද" කියා, තමන් පිරි
වර උන්නවුන් දෙස බලා, "මේ
මාගේ මවුත් මාගේ සහෝදර
35. යොත්ය. මක්නිසාද, යමෙක්
දෙවියන්වහන්සේගේ කැමැත්ත
කෙරේද, ඔහුම මාගේ සහෝදරයාත්
සහෝදරීත් මවුත්යයි" කීසේක.

4. පරිච්ඡ. නැවතත් උන්වහන්
සේ මුහුද ලඟ උගන්වන්ට පටන්
ගත්සේක. බොහෝ සමූහයෝ උන්
වහන්සේ වෙතට රැස්වූ බැවින්,
උන්වහන්සේ මුහුදේ තිබුනු නැවට
නැගී වැඩඋන්සේක. සියළු සමූහ
යෝද මුහුදු වෙරල සිටියෝය.
2. එවිට උන්වහන්සේ ඔවුන්ට
බොහෝ කාරනා උපමාවලින්
3. ඉගැන්වූසේක. උන්වහන්සේගේ
ඉගැන්වීමෙහිදී ඔවුන්ට කියන
සේක්, "අසාපල්ලාය; වපුරනෙනක්
4. වපුරන්නට ගියේය. ඔහු වපුරන
කොට, සමහරක් මාවත වැටුනේය
එවිට ආකාශ පක්‍ෂියෝ ඇවිත්, ඒවා
5. අවුලා කෑවෝය. සමහරක්

බොහෝ පස් නැති ගල් බිමක වැටුණේය; පස් ගැඹුරුව නැති බැවින්, 6. වහා පැලවිය; නුමුත් ඉර උදාවූ කල අව්වෙන් දැලී, මුල් නැති 7. බැවින් වේලී ගියේය. සමහරක් කටු අතරේ වැටුණේය; කටු වැවී, යටකිරීමෙන් ඒවා නැසුයේය; එහෙයින් ඒවා කිසි ඵලක් දුන්නේ 8. නැත. සමහරක් සරු බිමේ වැටුණේය; ඒවා පැලවී, වැඩී, ඵල දෙමින්, එකින් තිසක්ද එකින් සැටක්ද එකින් සියයක්ද අස්වැනන 9. ඉපදවිය. ඇසීමට කන් ඇත්තෙක් අසාවයි" කීසේක.

10. උන්වහන්සේ තනියම සිටිද්දී, දොළොස් දෙනා හා සමග උන්වහන්සේ පිරිවර සිටියෝ ඒ උපමා වෙහි අර්ථ උන්වහන්සේගෙන් ඇසූ 11. වෝය. උන්වහන්සේ ඔවුන්ට කියනසේක්, "දෙවියන්වහන්සේගේ රාජ්‍යයෙහි රහස් දැනගැනීම නුඹලාට ලැබී තිබෙනේය. නුමුත් පිට සිටින්නන්ට සියල්ලම උපමාවලින් 12. කියනු ලැබේ. මක්නිසාද, කිසි කලෙකත් ඔවුන් හරවාගෙන ඔවුන්ගේ පව් ඔවුන්ට ක්ෂමාකරනු නොලබන පිණිස, දැක දැකත් නොදක්නෝය, අස අසාත් තේරුම් 13. නොගන්නෝයයි" කීසේක. තවද, උන්වහන්සේ ඔවුන්ට කියනසේක්, "මේ උපමාව නුඹලා නොදනිද්ද? එසේවනම් සියළු උපමාවල් 14. දැනගන්නේ කොහොමද? වපුරන්නා වචනය වපුරන්නේය. 15. යමෙක් ඒ වචනය ඇසුවෝද, එකෙණෙහිම සාතන් ඇවිත් ඔවුන්ගේ සිතේ වපුළ වචනය අර ගෙන යන්නේද, ඔවුන් වචනය වපුරන ලද මාවතනම් වෙත්. 16. යමෙක් වචනය අසා වහාම 17. සන්තෝසයෙන් පිළිගනිද්ද, මුල් නැති බැවින් ස්වල්ප කාලයක් පැවත, වචනය නිසා දුකක්වත් පීඩාවක්වත් පැමිණිකල්හි වහාම බාධා වෙද්ද, ඔවුන් බිත්තර වපුරනලද ගල් 18. බිමනම් වෙත්. යමෙක් වචනය 19. අසන නුමුත්, මෙලොව සිතිවිලිද වස්තු වංචාවද අනිකුත් කාරනාවල පැවති ආසාවද පහලව වචනය නාස ද්ද, එයින් ඒ වචනය ඵල නොදේද, ඔවුන් බිත්තර වපුරනලද කටු බිම 20. නම් වෙත්. යමෙක් වචනය අසා පිළිගෙන, සමහරක් එකින් තිහක්ද සමහරක් එකින් සැටක්ද සමහරක් එකින් සියයක්ද අස්වැන්න උපද වද්ද, ඔවුන් වපුරනලද සරු බිමනම් වෙත්යයි" කීසේක.

21. ඉන්පසු උන්වහන්සේ ඔවුන්ට කියනසේක්, "පහනක් පහන් කත් දක් උඩ තබන්ට මිස කුරුණියක් යටවත් ඇඳක් යටවත් තබන්ට 22. ගෙනේද? එලෙසම මතු ප්‍රසිද්ධ නොවන්නාවූ කිසි රහසක් නැත; මතු ප්‍රසිද්ධවීමට නොපැමිණෙන්නාවූ රහස්කොට තැබූ කිසි දෙයක් නැත. 23. ඇසීමට කන් යමෙකුට ඇද්ද, 24. ඔහු අසාවයි" කීසේක. නැවතද උන්වහන්සේ ඔවුන්ට කියනසේක්, "නුඹලා අසන කාරනා හිතට ගනිල්ලාය. යම් මිම්මකින් නුඹලා මනින වානම් එයින් නුඹලාටත් මනිනු ලැබේ; ඇහුම් කන් දෙන නුඹලාට 25. වැඩිකොට දෙනු ලැබේ. මක්නිසාද යමෙකුට ඇත්තේද, ඔහුට දෙනු ලැබේ; යමෙකුට නැත්තේද, ඔහුගෙන් ඇති දේත් උදුරාගනු ලැබේයයි" කීසේක.

26. තවද උන්වහන්සේ කියනසේක්, "දෙවියන්වහන්සේගේ රාජ්‍යය බිමෙහි බිජුවට වපුරන මනුෂ්‍ය 27. යෙකුට සමානය. ඔහු රාත්‍රියේ නිදන්නේය, දවහල් නැගිට සිටින්නේය. ඔහු නොදන්නා ප්‍රකාරයකින් ඒ බිජුවට පැලව වැඩෙන්නේය. 28. පොළොවෙන්ම ඵල හටගන්නේය. පලමුකොට කොලත්, නැවත

කරළත්, ඉන්පසු කරලෙහි පැසුනු
29. ධාන්‍යයත් හටගන්නාවාය. ගො
යම් පැසුනුකල කපන කාලය
පැමිනුන හෙයින්, දෑකැත්ත ඒවාට
යොදන්නේයයි" කීසේක.

30. නැවතත් උන්වහන්සේ කියන
සේක්, "දෙවියන්වහන්සේගේ රාජ්‍යය
කුමකට සමානකරමුද? නොහොත්
කවර උපමාවකින් උපමා කරමුද?
31. අබ ඇටයකට සමානය. ඒ බීජය
බිමෙහි වපුරනකල, පොලොවේ
32. සියළු බීජවලට කුඩාය. නුමුත්,
වපුලාට පසු, වැඩී, සියළු කුඩා ගස්
වලටම වඩා මහත් ගසක් වන්නේය.
ඒ ගස සෙවනෙහි ආකාස පක්ෂීන්ට
වසන්ට පුළුවන් තරම් මහත් අතු විහි
33. දෙනවායයි" කීසේක. උන්
වහන්සේ ඔවුන්ට තේරුම්ගන්ට
පුළුවන් තරමින්, මෙබඳුවූ නොයෙක්
උපමාවලින් වචනය කීසේක.
34. උපමාවක් නැතුව ඔවුන්ට කථා
කලේ නැත. තමන් ගෝලයෝ
තනිව සිටිද්දී, මේ සියල්ල ඔවුන්ට
තෝරාදුන්සේක.

35. එදා සවස්වූකල, "එගොඩට
යමුයයි" උන්වහන්සේ ඔවුන්ට
36. කීසේක. ඔවුන් සමූහයා යනනාට
හැර, උන්වහන්සේ සිටිය නැවෙන්
උන්වහන්සේ ගෙනගියෝය. ඒ සමග
වෙනත් කුඩා නැව්ද තිබුනෝය.
37. එවිට මහත් කුනාටුවක් පැමින,
නැව පිරෙන්ට පමන රැල ගැසුවේය.
38. උන්වහන්සේ නැවේ පසු පැත්
තේ මෙට්ටයක් පිට නිදාඋන්සේක.
එවිට ඔවුන් උන්වහන්සේ පුබුදුවා,
"ආචාරීනි, අප විනාසවෙන බව නො
39. සලකන්සේක්දැයි" ඇසුවෝය. එ
විට උන්වහන්සේ නැගිට, හුලඟට තර
වටුකොට, මුහුදට "නිශ්ශබ්දව නිශ්
චලවෙවයි" කීසේක. එවිට හුලඟ
සංසිඳී, මහත් නිශ්චලයක්වූනේය.
40. උන්වහන්සේද "තුබලා මෙසේ
භයවූනේ මක්නිසාද? කෙසේ තුබ
ලාට ඇදහිල්ල නැත්තේදැයි"
41. කීසේක. ඔවුන් ඉතා භයපත්ව,
"මුන්වහන්සේ කෙබඳු මනුෂ්‍ය
යෙක්ද? හුලඟත් මුහුදත් මුන්වහන්
සේට කීකරු වෙනවායයි" ඔවුනො
වුන් කථාකරගත්තෝය.

5. පරිච්ඡෙ. ඔවුන් මුහුදෙන්
එගොඩවූ ගදරේනුන්ගේ රටට
2. ගියෝය. උන්වහන්සේ නැවෙන්
බැස්ස කොනෙහිම, අසුධාත්මයෙන්
ආවේසවූ මනුෂ්‍යයෙක් සොහොන්
ගෙවලින් පිටත්ව, උන්වහන්සේ
3. ඉදිරියට ආයේය. ඔහු සොහොන්
ගෙවල්වල වාසයකලේය; යදම්ව
ලින්වත් ඔහු බඳින්ට කිසිවෙකුට බැරි
4. විය. මක්නිසාද, යදම්වලින්ද
විලංගුවලින්ද වරින් වර බැඳ සිටි
යාවූ ඔහු විලංගු බිඳ යදම් පොඩි
කලේය. කිසිවෙකුමවත් ඔහු දමනය
5. කරන්ට බැරිය. ඔහු රෑ දවල් නිත
රම මූරගසමින්ද, තමාගේ ශරීරය
ගල්වලින් කපාගනිමින්ද, සොහොන්
ගෙවලත් කඳුවලත් සිටියේය.
6. ඔහු යේසුස්වහන්සේ දුරදීම දැක,
දුවගන ඇවිත්, උන්වහන්සේට
7. නමස්කාර කලේය. යේසුස්වහන්
සේද, "අසුධාත්මය, මේ මනුෂ්‍යයා
ගෙන් අහක්වෙවයි" කීසේක.
8. එහෙයින් ඔහු, "මහෝත්තමවූ
දෙවියන්වහන්සේගේ පුත්‍රවූ යේසුස්
වහන්ස, මගෙන් ඔබවහන්සේට
කම මොකද? මට පීඩා නොකරන්ට
දෙවියන්වහන්සේගේ නාමයෙන්
ඉල්ලමියි" මහ හඬින් මූරගා කීයේය.
9. උන්වහන්සේ "තාගේ නම
කොහොමදැයි" ඔහුගෙන් ඇසූ
10. සේක. ඔහු "අපි බොහෝ
දෙනෙක් බැවින් මාගේ නම ලෙගි
යොන්ය *" කියා, රටින් තමන්

---

* රඬුව.

දුරු නොකරන හැටියට බොහෝ
11. කොට ඉල්ලුවේය. එකල, කන්ද
ලඟ මහත් ඌරු රැලක් ගොදුරු
12. කමින් සිටියේය. සියළු යක්‍ෂ
යෝද "ඌරන්ට වැහෙන්ට අප ඇරි
13. යමැනවයි" ඉල්ලුවෝය. එව
ලේම යේසුස්වහන්සේ ඔවුන්ට
අවසර දුන්සේක. එවිට ඒ අසුබාත්
මයෝ පිටත්ව ගොස්, ඌරන්ට
වැහුනෝය. එකල, දෙදහසක් පම
නවූ ඒ ඌරු රැල වේගයෙන් දුව
ගොස්, උස්වූ තැනකින් මුහුදේ වැටී
14. මලේය. ඌරු රැකවල්ලු පලා
ගොස්, නුවරත් ගම්වලත් එපවත්
15. දන්වූවෝය. එවිට සිදුවූ දේ
බලන පිනිස මනුෂ්‍යයෝ පිටත්ව,
යේසුස්වහන්සේ ලඟට ඇවිත්,
ලෙගියොන්නම් යකුන් වැහී සිටිය
මනුෂ්‍යයා වස්ත්‍ර ඇඳ සිහි ඇතුව
16. උන් බව දැක භයවූනෝය. එවිට
ඒ දුටු අයවල් යකුන් වැහී සිටි මිනි
හාටත් ඌරන්ටත් සිදුවූ කාරනා
17. ඔවුන්ට කීවෝය. එකල, ඔවුන්
තමන්ගේ රටින් පිටත්ව යන හැටියට
උන්වහන්සේගෙන් ඉල්ලනනට පටන්
18. ගත්තෝය. උන්වහන්සේ නැවට
නැඟුනුවිට, යකුන් වැහී සිටි ඒ මනුෂ්‍ය
යා උන්වහන්සේ සමඟ සිටින හැටියට
19. ඉල්ලුවේය. නුමුත් යේසුස්වහන්
සේ අවසර නොදී, "නුඹේ ගෙදරට
ගොස්, ස්වාමින්වහන්සේ නුඹ කෙරේ
අනුකම්පාකොට නුඹට කල මහත්
කාරනා නුඹේ මිනිසුන්ට දන්වාපන්
20. නැයි" ඔහුට කීසේක. ඔහු
ගොස්, තමාට යේසුස්වහන්සේ කල
මහත්වූ කාරනා දෙකපොලිසෙහි
ප්‍රකාසකරන්ට පටන්ගත්තේය. සිය
ලෝද පුදුමවූනෝය.

21. යේසුස්වහන්සේ දෙවනුත්
නැවෙන් එගොඩවූකල, බොහෝ
සමූහය මුහුදු වෙරලේ සිටි උන්ව
22. හන්සේ ලඟට රැස්වූවෝය. සින
ගෝගයෙහි මූලාදෑනීන්ගෙන් යායි
රස්නම් කෙනෙක් ඇවිත්, උන්වහන්
සේ දැක උන්වහන්සේගේ පාමුල වැටී,
23. "මාගේ කුඩා දුව මරනාසන්නව
ඉන්නවාය. ඈට සුවවෙන පිනිස
ඔබවහන්සේ ඇවිත්, ඈ පිට අත
තැබුවමැනවි; එවිට ඈ ජීවත්
වේය" කියා, උන්වහන්සේගෙන්
24. බොහෝකොට ඉල්ලුවේය. යේසු
ස්වහන්සේ ඔහු සමඟ ගියසේක.
බොහෝ සමූහයෝද උන්වහන්සේ
පස්සේ ගොස්, උන්වහන්සේට තෙර
25. පීගන සිටියෝය. දොලොස් අවු
රුද්දක පටන් මහලේ රෝගයෙන්
26. පීඩාවූනාවූ ස්ත්‍රියක් වූවාය. ඈ
බොහෝ වෙදුන්ගෙන් නොයෙක්
වෙහෙස විඳ, ඇගේ සියළු දේපල
වියදම්කොටත්, කිසි සුවයක් නො
27. ලැබ, වඩා අපාසු ලැබුවාය. ඈ
යේසුස්වහන්සේගේ කීර්ත්තිය අසා,
28. "උන්වහන්සේගේ වස්ත්‍රවල
පමනවත් අතගැසුවොත් සුවපත්
වෙමි" කියා සමූහය අතරෙන් පස්
සෙන් ඇවිත්, උන්වහන්සේගේ
29. වස්ත්‍රයට අත ගැසුවාය. එවලේම
ලේ ධාරාව වියලී ගොස්, ඒ පීඩා
වෙන් ඈට සුව ලැබුනු බව ඇගේ
30. ශරීරයටම දැනුනාය. එකෙ
නෙහිම යේසුස්වහන්සේ තමන්
කෙරෙන් ආනුභාව නික්ම ගිය බව
දැන, සමූහයා දෙසට හැරී, "මාගේ
වස්ත්‍රයේ අතගැසුවේ කව්දැයි" ඇසූ
31. සේක. උන්වහන්සේගේ ගෝල
යෝ, "ඔබවහන්සේට තෙරපීගන
සිටින්නාවූ සමූහයා දැක දැකත්, මට
අතගැසුවේ කව්දැයි අසනසේක්දැයි"
32 කීවෝය. එවිට ඒ දේ කල ස්ත්‍රිය
දකින පිනිස වටකර බැලූසේක.
33. එහෙත් ඒ ස්ත්‍රිය ඈට සිදුවූනාවූ
දේ දැන, භයව වෙව්ලමින් ඇවිත්,
උන්වහන්සේගේ ඉදිරියෙහිවැටී, ඇත්ත
සැටි සියල්ලම උන්වහන්සේට කීවාය.
34. උන්වහන්සේ, "දුවනියෙනි,
නුඹේ ඇදහිල්ල නුඹ සුවකලේය;

තුබේ පීඩාවෙන් සුවව, සමාදාන
යෙන් පලයන්නැයි" ඇට කීසේක
35. උන්වහන්සේ කථාකරද්දීම,
සිනගෝගයෙහි මූලාදෑනියාගේ ගෙ
දරින් සමහර කෙනෙක් ඇවිත්,
"තුබේ දුව නැසුනාය; ආචාරීන්වහන්
සේට තව කනගාටුකරන්නේ කුමට
36. දැයි" කීයේය. යේසුස්වහන්සේ ඒ
බස් ඇසූ වේලේම, සිනගෝගයෙහි
මූලාදෑනියාට කථාකොට, "භය
නොවී, ඇදහිල්ලම කරපන්න"
37. කියා, පේත්‍රුස්ද යාකොබ්ද
යාකොබ්ගේ සහෝදරවූ යොහන්ද
හැර වෙන කාටවත් තමන්වහන්සේ
38. කැටුව එන්ට නොදී, සිනගෝග
යෙහි මූලාදෑනියාගේ ගෙට ආසේක.
එවිට, කෝලාහලයද බොහෝකොට
අඬා වැලපෙන්නවුන්ද දැක, ගෙට
39. ඇතුල්ව, "තුබලා කෝලාහල
කොට අඬන්නේ කුමටද? යව්වනී
නිදනවා මිස නැසුනේ නැතැයි"
40. ඔවුන්ට කීසේක. එවිට ඔවුන්
උන්වහන්සේට සිනාසුනෝය. තුමූන්
උන්වහන්සේ සියල්ලන් බැහැර
කොට, යව්වනීගේ පියාද මව්ද
තමන්වහන්සේ සමග සිටියවුන්ද
කැඳවාගෙන, යව්වනී උන් තැනට
41. ගොස්, ඇගේ අත අල්වා, "තලි
තාකුමි" කියා, ඇට කීසේක. එහි අර්ථ
යනම්, යව්වනී නැගීට සිටපනනැයි
42. තුබට කියමි යනුය. දොළොස් අවු
රුදු වයස්වූ ඒ යව්වනී එවලේම නැ
ගිට ඇවිද්දාය. එවිට ඔවුන් බොහෝ
43. කොට පුදුමවූනෝය. උන්වහන්
සේද, "මේ කාරනාව කාටවත් දන්
වන්ට එපායයි" ඔවුන්ට තදින්
ආඥාකොට, ඇට කෑම දෙන්ට
කීසේක.

6. පරිච්ඡෙ. උන්වහන්සේ එහින්
පිටත්ව, තමන්වහන්සේගේ රටට
ගියසේක. ගෝලයෝද උන්වහන්
2. සේ කැටුව ගියෝය. සබත්
දවස පැමිනිකල, උන්වහන්සේ
සිනගෝගයේදී උගන්වන්ට පටන්
ගත්සේක. බොහෝ දෙන ඒ ඉගැන්
වීම් අසා පුදුමව, "මොහුට මේවා
කොයින්ද? මොහුගේ අතින් මෙබඳු
ආශ්චර්යයන් කරන්ට මොහුට දෙන
3. ලද නුවන කිමෙක්ද? මොහු මරි
යාගේ පුත්‍රවූද යාකොබ් යෝසෙස්
යූදස් සීමොන් යන මොවුන්ගේ
සහෝදරවූද වඩුවා නොවේද?
මොහුගේ සහෝදරියෝ මෙහි අප
සමග නොවෙද්ද" කියා, උන්ව
4. හන්සේ ගැන බාධාවූනෝය. එවිට
යේසුස්වහන්සේ, "අනාගතවක්තෘ
කෙනෙකුට තමන් රටේදීත් නෑයන්
අතරේදීත් තමන්ගේ ගෙයිදීත් හැර,
වෙන තැන්වලදී අගෞරව නැතැයි"
5. කීසේක. එතනදී උන්වහන්සේ
රෝගාතුරයන් ස්වල්ප දෙනෙකු
පිට අත් තබා සුවකලා මිස, වෙන
කිසි ආශ්චර්යයක් කරන්ට නොහැ
6. කිව, ඔවුන්ගේ ඇදහිලි නැතිකම
ට පුදුමවූසේක. උන්වහන්සේ ගම්වල
7. ඇවිද ඉගැන්වූසේක. එවිට උන්ව
හන්සේ දොළොස් දෙන කැඳවා,
ඔවුන් දෙනන දෙනන යවන්ට පටන්
ගෙන, අසූචාත්මයන් කෙරේ ඔවුන්
8. ට බලය දී, "සැරයටිය හැර, පසුම්
යවත් රොට්වත් ඔඩොක්කුවට මිල
වත් වෙන කිසි දෙයක්වත් ගමනට
9. නොගනිල්ලාය; වහන් පය ලා
ගනිල්ලාය; පොරවන රෙදි දෙකක්
නොහඳිල්ලායයි" ආඥාකලසේක.
10. තවද, උන්වහන්සේ ඔවුන්ට
කියනසේක්, "තුබලා යම් ස්ථානය
කට පැමින ගෙයකට ඇතුල්වූ
නොත්, ඒ ස්ථානයෙන් පිටත්ව යන
11. තෙක් එහිම සිටපල්ලාය. යම්
කෙනෙක් තුබලා පිලිගනෙන්වත් තු
බලාගේ වචන අසන්නේවත් නැත්
නම්, එතනින් පිටත්ව යනකොට
ඔවුන්ට විරුඬව සාක්ෂි පිනිස තුබ
ලාගේ පාද දූවිලි ගසාදමාපල්ලාය.

සැබවක් තුබලාට කියමි, විනිශ්චය
දවසේදී ඒ නුවර අච්චුවට වඩා
සොදොම් සහ ගොමෝරාහි අච්චුව
ඉවසිය හැකිවන්නේයයි" කීසේක.
12. ඔව්හුද ගොස්, මනුෂ්‍යයන්ගේ
පසුතැවිලිවීම පිනිස දේශනාකොට,
13. නොයෙක් යකුන් දුරුකොට,
නොයෙක් ලෙඩුන්ට තෙල් ගා සුව
කලෝය.

14. තවද උන්වහන්සේගේ නාමය
ප්‍රසිද්ධවුනු බැවින්, හෙරොද් රජ ඒ
අසා, "යොහන් බව්තීස්ත මලවුන්
ගෙන් නැගුට්ටුනේය; එබැවින් ඔහු
ආශ්චර්‍ය්‍යමත් ක්‍රියාවල් කරන්නේ
15. යයි" කීයේය. සමහරෙක් "මොහු
එලියස්යයි" කීවෝය. සමහරෙක්
"මොහු අනාගතවක්තෘ කෙනෙක;
නොහොත් අනාගතවක්තෘන්ගෙන්
එක්කෙනෙකුට සමාන කෙනෙ
16. කැයි" කීවෝය. හෙරොද් ඒ
අසා, "මොහු මා විසින් හිස කප්ප
වනලද යොහන්ය; ඔහු මලවුන්
ගෙන් නැගුට්ටුනේයයි" කීයේය.
17. ඒ හෙරොද් තමා විසින් සරන
පාවාගත් තමාගේ සහෝදරවූ
ඵිලිප්ගේ භාර්‍ය්‍යාවූ හෙරොදියස්
නිසා, මිනිසුන් යවා යොහන් අල්ලවා
18. හිරඅඩස්සි කලේය. මක්නිසාද,
"තුබේ සහෝදරයාගේ භාර්‍ය්‍යාව
සරන පාවාගන්ට අයුතුයයි"
19. යොහන් හෙරොද්ට කීයේය. ඒ
නිසා, හෙරොදියස් ඔහු කෙරෙහි
වෛර බැඳ, ඔහු මරන්ට කැමතිවූ
20. නාය. තුමුත්, ඈට පුළුවන්වූනේ
නැත. මක්නිසාද "යොහන් ධර්මිෂ්ඨ
වූ පිරිසිදුවූ මනුෂ්‍යයෙකැයි" හෙරොද්
දැන, ඔහුට භයව ඔහු ආරක්ෂාකර
මින් ඔහු කී හැටියට බොහෝ ක්‍රියා
වල්කොට, ඔහුගේ බස් සන්තෝ
21. සයෙන් ඇසුයේය. හෙරොද්
තමන් උපන් දවස පැමිනිකල,
තමන්ගේ ඇමතියන්ටද උත්තම
සේනාධිපතීන්ටද ගලීලයෙහි ප්‍රධා
නීන්ටද මංගල්‍ය කෑමක් සැදුයේය.
22. ඒ දවස්හි ප්‍රසිද්ධලැබ, හෙරොදි
යස්ගේ දුව එතනට පැමින නටා,
හෙරොද්ද ඔහු සමග උන්නවුන්ද
සන්තෝසකලාය. එවිට රජ "තුබ
කැමති දෙයක් මගෙන් ඉල්ලා
පන්න; මම ඒක තුබට දෙමියි"
23 කීයේය. ඔහුද, "මාගේ රාජ්‍ය
යෙන් දෙකෙන් පංගුවක් පවා
කොයි දෙයක් තුමුත් තුබ ඉල්ලන
වානම්, ඒ දේ දෙමියි" ඈට දිවුරුම්
24. දුන්නේය. ඈද පිටත්ව ගොස්,
"කුමක් ඉල්ලම්දැයි" ඈගේ මව්
ගෙන් ඇසුවාය. ඈ, "යොහන් බව්
25. තීස්තගේ හිසයයි" කීවාය. එකෙ
නෙහිම ඈ රජු වෙතට කඩිනමින්
ගොස්, "යොහන් බව්තීස්තගේ හිස
තලියක ලා, දැන්ම මට දුනමැනවයි"
26. ඉල්ලුවාය. එවිට රජ මහත්
සෝකයට පැමුනුනේය. එසේවී
තුමුත්, දිවුරුම නිසාත් තමන් සමග
උන්නවුන් නිසාත් නොපිලිව
නැයි ඈට කියන්ට නොකමැතිව,
27. එවලේම හේවායෙක් යවා,
යොහන්ගේ හිස ගෙනෙන්ට අණ
කලේය. හේවායාද ගොස්, හිරගෙ
28. හිදී යොහන්ගේ හිස කපා, තලි
යක ලා ගෙනවිත් කුමාරිකාවට
දුන්නේය. කුමාරිකාව ඒක මව්ට
29. දුන්නාය. ඔහුගේ ගෝලයෝ ඒ
අසා ඇවිත් ඔහුගේ මිනිය අරගෙන,
සොහොන් ගෙයක තැබුවෝය.

30. ප්‍රේරිතයෝ ජේසුස්වහන්සේ
වෙතට රැස්ව, තමන් විසින් කලාවූ
ඉගැන්නුවාවූ සියල්ල උන්වහන්සේට
31. දැන්වූවෝය. එවිට එන්නෝ
යන්නෝ බොහෝ බැවින්, කන්ට
වත් අවකාස නොවීය. එහෙයින්
උන්වහන්සේ, "තුබලා වනාන්තු
ස්ථානයකට ඇවිත්, ඒකත් පහසුග
32. නිල්ලායයි" ඔවුන්ට කීසේක. එ
විට ඔවුන් රහසින් වනාන්තුස්ථාන
33. යකාට නැවෙන් ගියෝය. මිනිස්සු

ඔවුන් යනවා දැක, බොහෝ දෙන
උන්වහන්සේ හැඳින, සියළු නුවර
වලින් පයින් දිව ගොස්, ඔවුන්ට
පළමුවෙන් ඇවිත්, උන්වහන්සේ
34. ළඟට රැස්වූවෝය. යේසුස්ව
හන්සේ නැවේන් බැස බොහෝ සමූ
හයා දැක, එඬේරෙක් නැති බැටළු
වන් වැනිවූ ඔවුන් කෙරෙහි අනු
කම්පාකොට, ඔවුනට බොහෝ
කාරනාවල් උගන්වන්ට පටන්ගත්
35. සේක. දවාල බොහෝ සෙයින්
පසුවූකල්හි, උන්වහන්සේගේ ගෝ
ලයෝ උන්වහන්සේ වෙතට ඇවිත්,
36. "මේ වනාන්තර ස්ථානයක; දවාල
බොහෝ සෙයින් පසුවිය; ඔවුනට
කන්ට මොකවත් නැතිනිසා ඔවුන්
වටකරතිබෙන නුවරවලටත් ගම්වල
ටත් ගොස් තමන්ට කන දේ මිල දී
ගන්නා පිනිස ඔවුන් ඇරියමැනවයි"
37. කීවෝය. උන්වහන්සේ උත්තර
දෙමින්, "නුබලා ඔවුන්ට කෑම
දීපල්ලායයි" කීසේක. එවිට ඔවුන්,
"අප ගොස් මසු දෙසීයයක රොටි
මිල දී ගෙනැවිත් කන්ට දෙමුදැයි"
38. උන්වහන්සේට කීවෝය. උන්
වහන්සේ, "නුබලා ළඟ රොටි කීයක්
ඇද්ද කියා ගොස් බලාපල්ලායයි"
ඔවුන්ට කීසේක. ඔවුන් බලා, "රො
ටි පසකුත් මසුන් දෙන්නෙකුත්යයි"
39. කීවෝය. එකල උන්වහන්සේ,
"තණකොළ පිට සියල්ලල පෙළින්පෙ
ළ හිඳුවාපල්ලායයි" අනඥත්සේක.
40. ඔවුන්ද ක්‍රමයෙන් පේළියට
සියේ සියේ බැගින්ද පනස පනස
41. බැගින්ද ඉඳගත්තෝය. එවිට
උන්වහන්සේ රොටි පහත් මසුන්
දෙන්නාත් අරගෙන, ස්වර්ගය දෙස
බලා ස්තුතිකොට, රොටි කඩා ඔවුන්
ඉදිරියේ තිබන්ට තමන් ගෝලයන්ට
දී, මසුන් දෙන්නාත් සියල්ලන්ටම
42. බෙදූසේක. සියල්ලෝද සෑහෙන
43. පමන කෑවෝය. කෑබලිවලින්ද
මසුන්ගෙන්ද පෙට්ටි දොළසක් පුර
44. වාගත්තෝය. රොටි කෑ අයවල්
පන්දහසක් පමන පුරුෂයෝය.

45. එකෙනෙහිම යේසුස්වහන්සේ
ගෝලයන් නැවට නන්වා "මම සමූ
හයා යවන අතර මට ඉස්සරව එගො
ඩව බෙත්සෙයිදාවට පලයල්ලායයි"
46. අනඥත්සේක. ඔවුන් ඇරියකල,
උන්වහන්සේ යාඥාවීම පිනිස කන්ද
47. කට ගියසේක. රෑවූ කල්හි, නැව
මුහුද මැද්දේ තිබුනේය. උන්වහන්
සේද තනිව ගොඩ සිටිසේක.
48. හුළඟ ඔවුන් ඉදිරිපිටට ගැසූ
බැවින නැව පැදීමෙන් ඉතා වෙහෙ
සුනාවූ ඔවුන් දැක, රෑ සතරවෙනි
යාමය පමනේදී ඔවුන් වෙතට මුහුද
පිට පයින් ඇවිත්, ඔවුන් පසුකර
49. යන්ට කැමතිවූසේක. ඔවුන්
මුහුදපිට ඇවිදින්නාවූ උන්වහන්සේ
දැක, අවතාරයකැයි සිතා මොරගෑ
50. වෝය. මක්නිසාද සියල්ලෝම
උන්වහන්සේ දැක කැලඹුනෝය.
එකෙනෙහිම උන්වහන්සේ කථා
කොට, "සව් සිත් සිටපල්
ලාය; මමය; භයනොවෙල්ලාය"
51. කියා ඔවුන් සිටි නැවට නැගු
නුසේක. එවිට හුළඟ නැවතුනේය.
ඔවුන් තමන් සිතින් අතිසයින්ම අපු
52. මානව පුදුමවූවෝය. ඔවුන්ගේ
සිත් මෝඩවූ බැවින් රොටිවල ආශ්
53. චර්ය සිහිනොකලෝය. ඉන්පසු
ඔවුන් එගොඩව ගෙනසරැත් රටට
54. පැමින ඉවුරෙහි සිටියෝය. ඔවුන්
නැවෙන් බැස්ස කෙනෙහිම සමූහ
යෝ උන්වහන්සේ හැඳින, එහි වට
55. කර රට මුළුල්ලෙහි දිව ගොස්,
උන්වහන්සේ සිටිනා බව ඇසූ ඇසූ
තැන්වලට රෝගාතුරයන් යහන්
56. පිටින් උසුලා ගෙනාවෝය. උන්
වහන්සේ යම් කිසි නුවරකටවත් ගම
කටවත් ජනපදයකටවත් ඇතුල්වූ
සේක්ද, එතැන්හි රෝගාතුරයන් මා
ර්ගවල තබා, ඔවුන් උන්වහන්සේගේ
වස්ත්‍රයෙහි කොනකට පමනවත් අත

ගසන්ට උන්වහන්සේගෙන් ඉල්ළු
වෝය. අතගෑ සියල්ලෝම සුවවූ
වෝය.

7. පරිච්ඡෙ. තවද යෙරුසලමෙන්
ආවාවූ ඵරිසිවරුද ලියන්නන්ගෙන්
සමහරෙක්ද උන්වහන්සේ වෙතට
2. රැස්වූවෝය. එවිට උන්වහන්සේ
ගේ ගෝලයන්ගෙන් සමහරෙක්
අපවිත්‍රවූ ඒනම් සෝදා නොගත් අත්
වලින් කන බව දැක, ඔවුන්ට දෝෂ
3. තැබූවෝය. මක්නිසාද, ඵරිසි
වරුත් සියළු යුදෙව්වරුත්, වැඩිමහල්
ලන්ගේ නියෝගවල් පවත්වමින්,
හොඳකාර අත් නොසෝදා නොකති.
4. තවද කඩේ ගොසින් ඇවිත්
නොසෝදා නොකති. ඔවුන් විසින්
පවත්වන්ට පිළිගන්නාලද අනිකුත්
බොහෝ කාරනා ඇත්තේය; ඒනම්
කුසලාන් කලගෙඩි පිත්තල භාජන
5. ඇඳන් සේදීම යන මේය. එවිට
ඵරිසිවරුද ලියන්නෝද "ඔබවහන්
සේගේ ගෝලයෝ වැඩිමහල්ලන්
ගේ සිරිත් නොසලකා, අත් නො
සෝදා කෑම කන්නේ මක්නිසාදැයි"
උන්වහන්සේගෙන් ඇසුවෝය.
6. උන්වහන්සේද උත්තර දෙමින්,
"මේ සෙනග කටින් මට ගෞරව
කරති, නුමුත් ඔවුන්ගේ හෘදය
7. මාගෙන් දුරුය. ඔවුන් මනුෂ්‍ය
යන්ගේ ආඥාවල් ශික්ෂාවන්කොට
උගන්වමින් නිෂ්ප්‍රයෝජනව මට
නමස්කාර කරතියි ලියා තිබෙන
ලෙස, වංචාකාරවූ නුබලා ගැන
යෙසායියා කී අනාගත වචනය
8. සැබෑය. මක්නිසාද, නුබලා දෙවි
යන්වහන්සේගේ ආඥා අහක දමා,
කලගෙඩි කුසලාන් සේදීම් ආදිවූ
මනුෂ්‍යයන්ගේ නියෝගවල් පවත්
වති. මෙබඳුවූ අනිත් බොහෝ කාර
නයන්ද නුබලා කරතියි" කීසේක.
9. තවද උන්වහන්සේ ඔවුන්ට කිය
නසේක්, "නුබලාගේ නියෝග පවත්
වන පිනිස නුබලා දෙවියන්වහන්සේ
ගේ අන සහමුලින්ම අවලංගුකරති.
10. මක්නිසාද, 'තාගේ පියාටද මව්
ටද ගෞරව කරව; පියාටවත් මව්ට
වත් දෙස් කියන්නා මරන්ට යුතුයයි'
11. මෝසෙස් කීයේය. නුමුත් යම්
මනුෂ්‍යයෙක් පියාටවත්, මව්ටවත්,
නුබට මාගෙන් ප්‍රයෝජන වියයුතුවූ
යමක් ඇද්ද ඒක කොර්බාන් ඒනම්
පඬුරකැයි කීවොත්, නුබලා ඒ යහ
12. පතැයි කියා, එතැන් පටන්
ඔහුගේ පියාටවත් මව්ටවත් කිසිවක්
කරන්නට ඔහුට අවසර නොදී, නුබ
13. ලා විසින් පිහිටුවනලද නියෝග
වලින් දෙවියන්වහන්සේගේ වචනය
අවලංගුකරති, එබඳුවූ බොහෝ
කාරනයන්ද කරතියි" කීසේක.

14. එවිට සියළු සමූහය තමන්
ලඟට කැඳවා, "නුබලා සෑම දෙන
මාගේ වචනය අසා තේරුම්ගනිල්
15. ලාය. පිටතින් මනුෂ්‍යයාට ඇතුල්
ව ඔහු කිළුටුකරන්ට පුළුවන්වූ කිසි
දෙයක් නැත. එහෙත් ඔහුගෙන්
පිටත්වෙන දේම ඔහු කිළුටුකරන්
16. නේය. ඇසීමට කන් යමෙකුට
17. ඇද්ද ඔහු අසාවයි" කීසේක. උන්
වහන්සේ සමූහයාගෙන් අහක්ව
ගෙට ගියකල, තමන් ගෝලයෝ ඒ
උපමාව ගැන උන්වහන්සේගෙන්
18. ඇසුවෝය. එවිට උන්වහන්සේ
ඔවුන්ට කියනසේක්, "නුබලාත්
එසේම නුවන නැත්තෝද? පිටතින්
මනුෂ්‍යයා තුලට පැමිනෙන කිසි
දේකින් ඔහු කිළුටුකල නොහැකි
19. බව දන්නේ නැද්ද? කෑම
ඔහුගේ හිතට නොව බඩට ඇතුල්
වන්නේය. එහි තිබෙන සියළු අප
විත්‍රකම වැසිකිළියට යන්නේය.
20. නුමුත් මනුෂ්‍යයන්ගෙන් පිටත්
වෙන දෙයින් ඔහු කිළුටුවන්නේය.
21. මක්නිසාද, ඇතුලතින් එනම්
මනුෂ්‍යයන්ගේ හෘදයෙන්, නපුරු
22. සිතිවිලි, පරදාරකම්, වේශ්‍යා

කම්, මිනීමැරීම්, සොරකම්, ලෝභ
23. කම්, දුෂ්ටකම්, වංචාකම්, කාම
තෘෂ්ණා, ඊර්ෂ්‍යාවෙන් බැලීම්, අපහාස
කිරීම්, අහංකාරකම්, මෝඩකම්, යන
මේ සියළු නපුරු දේ ඇතුලතින්
පිටත්වී, මනුෂ්‍යයා කිළුටුකරතියි"
කීසේක.

24. උන්වහන්සේ එතනින් පිටත්ව,
තීර් සහ සීදොන්හි සීමාවලට ගොස්
ගෙයකට ඇතුල්ව, කාටවත් නොදැ
නෙන ලෙස සිටින්ට කැමතිවූසේක.
නුමුත් එසේ සිටින්ට පුළුවන්වූයේ
25. නැත. මක්නිසාද, අසුබාත්මා
වේසවූ කුඩා දුවක් ඇති සිරොපිනි
සියේ උපන් හෙල්ලීන ස්ත්‍රියක් උන්
වහන්සේ එහි සිටින බව අසා, ඇවිත්
26. උන්වහන්සේගේ පාමුල වැටී,
ඇගේ දුවගෙන් යක්ෂයා දුරුකරන්ට
27. උන්වහන්සේගෙන් ඉල්ළුවාය. එවි
ට ජේසුස්වහන්සේ, "පලමුකොට
දරුවන්ට සෑහෙන පමන කෑම
දෙන්ට යුතුය; දරුවන්ගේ කෑම
ගෙන බල්ලන්ට දමන්ට යුතු
28. නැතැයි" ඇට කීසේක. ඈ උත්
තර දෙමින්, "එසේය, ස්වාමිනි,
නුමුත් මේසේ යට සිටින බල්ලෝ
දරුවන්ගේ කෑමෙන් වැටෙන කැබ
ලි කතියි" උන්වහන්සේට කීවාය.
29. එවිට උන්වහන්සේ උත්තර
දෙමින්, "මේ වචනය නිසා සුවසේ
පලයන්න; යක්ෂයා නුබේ දුවගෙන්
පිටත්ව ගියේයයි" ඇට කීසේක.
30. ඈ ගෙදරට ගියකල, යක්ෂයා
පිටත්ව ගිය බවද දුව ඇඳේ සැත
පෙන බවද දුටුවාය.

31. නැවතත් උන්වහන්සේ තීර්
සහ සීදොන්හි සීමාවලින් පිටත්ව,
දෙකපොලිසෙහි රට මැදින් ගලිල
යෙහි මුහුද ළඟට පැමුනුනුසේක.
32. එවිට බික්කල් බිහිරෙක් උන්
වහන්සේ වෙතට ගෙනාවූන්, ඔහු
පිට අත තබන්ට උන්වහන්සේගෙන්
33. ඉල්ළුවෝය. එවිට උන්වහන්සේ
සමූහයා කෙරෙන් අහකට ඔහු කැඳ
වාගෙන, ඔහුගේ කන්වල ඇඟිලි
එලා, කෙලගසා, ඔහුගේ දිව අත
34. ගා, ස්වර්ගය දෙස බලා, සුසුම්
ලමින් "එප්ඵාතා" එනම් ඇරෙන්
35. වයි, ඔහුට කීසේක. එවලේම
ඔහුගේ කන් ඇරී, ඔහුගේ දිවේ
බැඳුම් මිදී, ඔහු හොඳ ලෙස කථා
36. කලේය. ඒ බව කාටවත් නොකි
යන්ට ඔවුන්ට අනදුන්සේක.
එහෙත් ඔවුන්ට යම් පමන ආඥාකල
සේක්ද, එයට වඩා ඔවුන් ප්‍රසිඩ
37. කොට, "උන්වහන්සේ සියල්ල යහ
පත් ලෙස කලසේක; බිහිරන්ට අස්
වනසේක; ගොළුවන් කථාකරවන
සේක" කියා, ප්‍රමානයක් නැතුව
පුදුමවූනෝය.

8. පරිච්ඡෙ. ඒ දවස්වලදී සමූහ
යෝ බොහෝවූ බැවින්ද ඔවුන්ට
කන්නට කිසිවක් නැති බැවින්ද,
ජේසුස්වහන්සේ තමන් ගෝලයන්
2. කැඳවා, "සමූහයා කෙරෙහි අනු
කම්පා ඇත්තෙමි; මක්නිසාද,
දැනට ඔවුන් තුන් දවසක සිට මා
ළඟ ප්‍රමාදව සිටිති; ඔවුන්ට කන්ට
3. කිසිවක් නැත්තේය. ඔවුන්
තමන්ගේ ගෙවලට නිරාහාරයෙන්
හැරියෙම්නම්, ඔවුන්ගෙන් සමහ
රෙක් දුර සිට ආ නිසා, ඔවුන් මාර්ග
යේදී ක්ලාන්ත වෙනවා ඇතැයි"
4. කීසේක. උන්වහන්සේගේ ගෝල
යෝ උත්තර දෙමින්, "මේ වනාන්
තරයේදී සෑහෙන පමන කෑම මො
වුන්ට දෙන්ට පුළුවන් කොතනින්
දැයි" උන්වහන්සේට කීවෝය.
5. එකල උන්වහන්සේ, "නුබලාට
කොපමන රොටි ඇද්දැයි" ඔවුන්
ගෙන් ඇසූසේක. ඔවුන්ද "සත
6. කැයි" කීවෝය. එවිට උන්වහන්
සේ සමූහයාට බිම ඉන්නට අන දී,
රොටි සත ගෙන ස්තුතිකොට කඩා
ඔවුන් ඉදිරියේ තබන්ට තමන්

ගෝලයන්ට දුන්සේක. ඔව්හු සමූ
7. හයා ඉදිරියේ තැබුවෝය. ඔවුන්ට
කුඩා මසුන් ස්වල්පයක්ද තිබුණේය.
උන්වහන්සේ ස්තුතිකොට, ඒවාත්
ඔවුන් ඉදිරියේ තබන්ට අනදුන්
8. සේක. ඔවුන් කාලා තෘප්තියට
පැමුණුනෝය. ඉතිරිවූ කැබලිවලින්
පෙට්ටි සතක් පුරවාගත්තෝය.
9. කෑවාවූ අයවල් සාරදහසක් පමන
ඇත. උන්වහන්සේද ඔවුන් යවූ
10. සේක. එකෙණෙහිම උන්වහන්සේ
තමන් ගෝලයන් සමග නැවට
නැගී, දල්මනුතයේ රටවල්වලට
11. පැමුණුනසේක. එකල ඵරිසිවරු
ඇවිත්, ස්වර්ගයෙන් ලකුනක් උන්
වහන්සේගෙන් සොයා, උන්වහන්සේ
පරීක්ෂාකරමින්, ප්‍රශ්ණ අහන්ට පටන්
12. ගත්තේය. එවිට උන්වහන්සේ
තමන් සිතින් බලවත් ලෙස සුසුම්ලා,
"මේ මනුෂ්‍ය වර්ගයා ලකුනයක් සො
යන්නේ මක්නිසාද? සැබවක් තුබ
ලාට කියමි, ඔවුනට ලකුනක් දෙනු
13. නොලැබේය" කියා, ඔවුන්
ගෙන් අහක්ව, දෙවනු නැවට නැගී
එගොඩට ගියසේක.

14. ගෝලයෝ රොටි ගෙනියන්ට
මතකනැති කලෝය; නැවේදී
ඔවුන්ට එක රොටියකට වඩා තිබු
15. ණේ නැත. උන්වහන්සේ, "ඵරිසි
වරුන්ගේ මුහුනවලිනුත් හෙරොද්ගේ
මුහුනවලිනුත් ප්‍රවේසම්වෙන්ට බලා
ගනිල්ලායයි" ඔවුන්ට අනදුන්
16. සේක. එවිට ඔවුන්, "අපට රොටි
නැති නිසායයි," ඔවුනොවුන් කථා
17. කරගත්තෝය. යේසුස්වහන්සේ
ඒ දැන, "තුබලා අතරේ රොටි
නැතැයි කථාකරගන්නේ මක්නි
සාද? තවම තුබලා දැනගත්තේ
නැද්ද? තේරුම්ගත්තේ නැද්ද? මේ
වෙනතුරු තුබලාගේ හිත් ජඩව
18. තිබේද? ඇස් ඇතිකොට තුබ
ලාට පෙනෙන්නේ නැද්ද? කන්
ඇතිකොට තුබලාට ඇසෙන්නේ
නැද්ද? තුබලාට මතක නැද්ද?
19. මම රොටි පහ පන්දහසකට
බෙදූවිට, ඉතිරිවූ කැබලිවලින්
පෙට්ටි කීයක් පුරවාගත්තෝදැයි"
ඇසූසේක. "දොළසකැයි" උන්වහන්
20. සේට කීවෝය. "රොටි සත සාර
දහසකට බෙදූවිට, ඉතිරිවූ කැබලි
වලින් පෙට්ටි කීයක් පුරවාගත්තෝ
දැයි" ඇසූසේක. "සතකැයි" කී
21. වෝය. "එවිට තුබලා කොසේ
තේරුම් නොගත්තේදැයි" ඔවුන්
ගෙන් ඇසූසේක.

22. ඉන්පසු උන්වහන්සේ බෙත්
සෙදවට පැමිනිසේක. උන්වහන්සේ
වෙතට අන්ධයෙකු ගෙනාවුත්, ඔහු
පිට අත තබන්ට උන්වහන්සේගෙන්
23. ඉල්ලුවෝය. උන්වහන්සේ අන්ධ
යාගේ අත අල්වා, ඔහු නුවරින් පිට
තට ගෙනගොස්, ඔහුගේ ඇස්වලට
කෙලගසා, ඔහු පිට අත් තබා, "කිසි
වක් පෙනේදැයි" ඔහුගෙන් ඇසූ
24. සේක. ඔහු ඇස් ඔසවා බලා,
"ඇවිදින මිනිසුන් ගස් වාගේ දක්
25. නෙමියි" කීය. උන්වහන්සේ
ඔහුගේ ඇස් පිට නැවත අත් තබා
බලන්ට සැලැස්සූසේක. එවිට ඔහුට
සුවව, සියල්ල හොඳට පෙනුනේය.
26. උන්වහන්සේ, "නුවරට නො
යන්න; නුවර කාටවත් මේ බව
නොකියන්න" කියා ඔහුගේ ගෙට
ඔහු යවූසේක.

27. යේසුස්වහන්සේ තමන් ගෝල
යන් සමග පිලිප්පිය කෙසාරියෙහි
නුවරවල යනවිට, "මනුෂ්‍යයෝ මා
කවරෙක කියද්දැයි" තමන් ගෝල
28. යන්ගෙන් මගදී ඇසූසේක. ඔ
වුන් උත්තර දෙමින් "යොහන් බව්
තීස්තය කියාද, සමහරෙක් එලියස්
ය කියාද, සමහරෙක් අනාගතවක්
තෘන්ගෙන් එක්කෙනෙක කියාද,
29. කියතියි" කීවෝය. උන්වහන්සේ,
"තුබලා මා කවරෙක කියනවාදැයි"
ඔවුන්ගෙන් ඇසූසේක. පේත්‍රුස්

උත්තර දෙමින්, "ඔබවහන්සේ
30. ක්‍රිස්තුස්වයසි" කීයේය. එවිට
උන්වහන්සේ මේ බව කාටවත්
නොකියන්ට ඔවුන්ට අනදුන්සේක.
31. එවිට උන්වහන්සේ ඔවුන්ට
උගන්වන්ට පටන්ගෙන, මනුෂ්‍ය
පුත්‍රයාට බොහෝ දුක්විඳීමත් වැඩි
මහල්ලන්ගෙන්ද නායක පූජකයන්
ගෙන්ද ලියන්නන්ගෙන්ද එපාකරනු
ලැබීමත් මරනට පැමිණීමත් තුන්
දවසකට පසු නැවත නැඟිටීමත්
32. නියම බව කීසේක. උන්වහන්සේ
ඒ වචන එලිදරව්වෙන් කීසේක.
එවිට පේතෘස් උන්වහන්සේ කැඳ
වාගෙන, උන්වහන්සේට අවවාද
33. කරන්ට පටන්ගත්තේය. එහෙත්
උන්වහන්සේ හැරී තමන් ගෝලයන්
දෙස බලා, පේතෘස්ට අවවාදකර,
"සාතන් මා පස්සට යව; තෝ මිනි
සුන්ගේ කාරණ මිස දෙවියන්වහන්
සේගේ කාරණ නොසිතන්නේයයි"
කීසේක.

34. එවිට උන්වහන්සේ සමූහයාද
තමන් ගෝලයන්ද ලඟට කැඳවා,
"යමෙක් මා පස්සේ එන්ට කැමති
නම්, ඔහු තමාගේ කැමැත්ත අත්
හැර තමාගේ කුරුසිය උසුලාගෙන මා
35. පස්සේ ඒවා. මක්නිසාද, යමෙක්
තමාගේ ප්‍රානය රක්ෂාකරන්ට කැමති
වේද, ඔහු ඒක නැතිකරගන්නේය;
යමෙක් මා නිසාද සුභාරංචිය නිසාද
තමාගේ ප්‍රානය නැතිකරගන්නේද,
36. ඔහු ඒක රක්ෂාකරගන්නේය. මනු
ෂ්‍යයෙක් මුළු ලෝකය ලබාගත්තත්,
තමාගේ ප්‍රානය නැතිකරගන්නේ
නම් ඔහුට කවර ලාභයක්ද?
37. නොහොත් මනුෂ්‍යයෙක් තමා
ගේ ප්‍රානය හිලව්වට කුමක් දේද?
38. එසේහෙයින්, මේ පරදාරිකවූ
පව්කාර මනුෂ්‍ය වර්ගයා අතරෙන්
යමෙක් මා ගැනත් මාගේ වචන
ගැනත් ලැජ්ජාවේද, මනුෂ්‍ය පුත්‍රයා
තමන් පියානන්ගේ තේජසින් සුබ
දේවදූතයන් සමග එනකල උන්ව
හන්සේද ඒ මනුෂ්‍යයා ගැන ලැජ්ජා
වෙනවාඇතැයි" කීසේක.

9. පරිච්ඡේ. තවද උන්වහන්සේ,
"සැබවක් නුබලාට කියමි, මෙහි
සිටින්නන්ගෙන් සමහරෙක් දෙවි
යන්වහන්සේගේ රාජ්‍යය බලය ඇතුව
එනවා දකිනතුරු, මරන රසය නො
2. විඳිතියි" කීසේක. සදවසකට පසු
යේසුස්වහන්සේ පේතෘස්ද යාකොබ්
ද යොහන්ද පමනක් කැඳවාගෙන,
ඔවුන් සමග විවේක පිනිස උස් කන්ද
කට ගොස්, ඔවුන් ඉදිරියේ අන්
3. වෙසක් වූසේක. උන්වහන්සේගේ
වස්ත්‍ර පොලවෙහි කවර අපුල්ලන්
නෙකුටවත් සුදුකරන්ට බැරිතරම්
හිම මෙන් ඉතා සුදුව දීප්තිමත්විය.
4. එවිට මෝසෙස්ද එලියස්ද යේසුස්
වහන්සේ සමග කථාකරමින් සිටි බව
5. ඔවුන්ට පෙනුනේය. පේතෘස්
කථාකොට, "ආචාරීනි, මෙහි සිටීම
අපට යහපත; ඔබවහන්සේට එකක්
ද මෝසෙස්ට එකක්ද එලියස්ට
එකක්ද බැගින් පැල් තුනක් සාදමු
6. යයි" යේසුස්වහන්සේට කීය. ඔ
වුන් ඉතා භයපත්වූ බැවින් ඔහු
කිය යුතු දේ කුමක්දැයි නොදැන
7. සිටියේය. එවිට වලාපටලයක්
ඇවිත් ඔවුන් වසාගත්තේය. "මේ
මාගේ ප්‍රිය පුත්‍රයාය; මොහුගේ බස්
අසව්යයි" වලාපටලයෙන් හඬක්
8. නික්මුනේය. ඔවුන් වටපිට බැලු
වේලේම, තමන් සමග යේසුස්වහන්
සේ හැර අන් කිසිවෙක් නුදුටුවෝය.
9. ඔවුන් කන්දෙන් බසින කල,
"මනුෂ්‍ය පුත්‍රයා මලවුන්ගෙන් නැඟි
ටින තුරු නුබලා දුටු දේ කාටවත්
නොකියල්ලායයි" ඔවුන්ට අනදුන්
10. සේක. ඔවුන්ද ඒ කීම තමන්
සිතෙහි තබාගෙන, "මලවුන්ගෙන්
නැඟිටීමනම් කිමෙක්දැයි" ඔවුනො
11. වුන් කථාකලෝය. තවද ඔවුන්

“එලියස්ගේ ඊම පලමුවෙන් වෙන්ට නියමයයි ලියන්නෝ කියන්නේ මක්නිසාදැයි” උන්වහන්සේගෙන් 12. ඇසුවෝය. උන්වහන්සේ උත්තර දෙමින්, “එලියස් පලමුකොට ඇවිත් සියල්ල නැවත පිහිටුවන්නේය. තවද මනුෂ්‍ය පුත්‍රයා ගැන ලියවී තිබෙන ලෙස ඔහු බොහෝ දුක්ද නින්දාද ලබන්නේයයි” ඔවුන් 13. ට කියාදුන්සේක. තවද උන්වහන්සේ කියනසේක්, “සැබෑවට එලියස් ආයේය; ඔහු ගැන ලියවී තිබෙන ලෙස මිනිස්සු කැමති කැමති දේ ඔහුට කලෝයයි තුඹලාට කියමියි” කීසේක.

14. ඉන්පසු උන්වහන්සේ ගෝලයන් ලඟට පැමින, ඔවුන් පිරිවරා බොහෝ සමූහයක්ද ඔවුන් සමග විවාද කරන්නාවූ ලියන්නන්ද දුටු 15. සේක. එකෙනෙහිම සියළු සමූහයෝ උන්වහන්සේ දැක ඉතා පුදුමව දුවගෙන ඇවිත්, උන්වහන්සේට ආචාර 16. කලෝය. උන්වහන්සේ, “තුඹලා ඔවුන් සමග කවර විවාදයක්කරනවාදැයි” ලියන්නන්ගෙන් ඇසූසේක. 17. එවිට සමූහයා අතරෙන් එකෙක් උත්තරදෙමින්, “ආචාරිනි, ගොළුකරන ආත්මාවේසවූ මාගේ පුත්‍රයා ඔබ 18. වහන්සේ ලඟට ගෙනාවෙමි. ඒ ආත්මයා යම් තැනකදී ඔහුට වැහේද, එහිදී ඔහු බිම හෙළන්නේය. එවිට ඔහු පෙනදමා දත්මිටිකා දුර්වල වන්නේය. ඒ ආත්මය දුරුකරන්ට ඔබ වහන්සේගේ ගෝලයන්ට කීමි; ඔවුන්ට පුළුවන් නොවීයයි” කීය. 19. උන්වහන්සේ ඔහුට උත්තර දෙමින්, “අහෝ ඇදහිලි නැති මනුෂ්‍ය වර්ගය, තුඹලා සමග කොච්චර කල් සිටිම්ද? කොච්චරකල් තුඹලා ගැන ඉවසම්ද? ඔහු මා වෙතට ගෙනෙල්ලායයි” කීසේක. 20. එවිට ඔහු උන්වහන්සේ වෙතට ගෙනාවෝය. උන්වහන්සේ දුටුවිටම, ආත්මයා විසින් ඔහුට පීඩාකලේය; ඔහුද බිම වැටී පෙන දමමින් පෙරළි 21. නේය. උන්වහන්සේ, “මේ පීඩාව මොහුට පැමින කොපමන කල්වීදැයි” ඔහුගේ පියාගෙන් ඇසූසේක. ඔහු උත්තර දෙමින්, “ලදරු 22. කාලේ පටන්ය. ඒ ආත්මය නොයෙක් වරඔහු නසන පිනිස ගිනෙන්ද වතුරේද හෙලීය. ඔබවහන්සේට කිසිවක් කරන්ට පුළුවන්නම්, අපට අනුකම්පාකොට පිහිටවූවමැනවයි” 23. කීයේය. ජේසුස්වහන්සේ, “තුඹට අදහන්නට පුළුවන්නම් අදහගන්නාට සියල්ල පුළුවනැයි” කීසේක. 24. එවලේම බාලයාගේ පියා මුරගා කඳුළු හෙලමින්, “ස්වාමිනි, මම අදහම්; මාගේ ඇදහිලි මදිකමට පිහිට 25. වූවමැනවයි” කීයේය. ජේසුස්වහන්සේ රැස්ව එන්නාවූ සමූහයා දැක, අශුබාත්මයට තරවටුකරමින්, “ගොළු බිහිරි ආත්මය, මොහුගෙන් දුරුවෙව; මතු කවදාවත් මොහුට නොවැහෙන්ට ආඥාකරමියි” කීසේ 26. ක. එවිට ආත්මයා මුරගා, ඔහුට අතිසයින් පීඩාකරමින් පිටත්ව ගියේය. එවිට බාලයා නැසුනාක් මෙන් වූන නිසා, “ඔහු මලේයයි” 27. බොහෝ දෙන කීවෝය. එහෙත් ජේසුස්වහන්සේ ඔහුගේ අත අල්වා ඔහු නැගිටවූසේක. එවිට ඔහු 28. කෙලින් සිටියේය. ඉන්පසු උන්වහන්සේ ගෙට පැමිනිකල, තමන් ගෝලයෝ “ඒ ආත්මය දුරුකරන්ට අපට බැරිවූනේ මක්නිසාදැයි” රහසින් උන්වහන්සේගෙන් ඇසුවෝය. 29. එවිට උන්වහන්සේ, “යාඥාකිරීමෙන් හා නිරාහාරව ඉඳීමෙන් මිස වෙන ආකාරයකින් මේ ජාතිය දුරුකරන්ට නුපුළුවනැයි” ඔවුන්ට කීසේක.

30. ඔවුන් එයින් පිටත්ව ගලිලය මැදින් ගියෝය. උන්වහන්සේ ඒ බව කිසිවෙක් දැනගන්නාවාට නොක

31. මැතිවූසේක. උන්වහන්සේ තමන් ගෝලයන්ට උගන්වනසේක්, "මනුෂ්‍ය පුත්‍රයා මිනිසුන්ගේ අත්වලට පාවාදෙනු ලබනෙන්ය. ඔවුහු ඔහු මරති; මරනු ලැබූවායින් පසු තුන්වෙනිදා ඔහු නැගිටින්නේයයි" 32. කීසේක. නුමුත් ඔවුන්ට ඒ වචනය වැටහුනේ නැත. උන්වහන්සේගෙන් අහන්ටද භයවූවෝය.

33. උන්වහන්සේ කපර්ණවූමට පැමින ගෙයි ඉඳ, "නුබලා අතරේ මාර්ගයේදී මොන වාදයක් වීදැයි" 34. ඇහූසේක. නුමුත් ඔවුන් අතරෙන් කවුරු වඩා උතුම්දැයි මගදී ඔවුන්වාදකල බැවින්, කථානොකර 35. සිටියෝය. එවිට උන්වහන්සේ හිඳ, දොලොස්දෙන කැඳවා, "යම් කිසිවෙක් පලමුවෙනියා වෙන්ට කැමතිනම්, ඔහු සියල්ලන්ට අන්තිමයත් සියල්ලන්ගේ සේවකයත් 36. වේවා" කියා, ලදරුවෙක් ගෙන ඔවුන් මැද සිටුවා, ඔහු වඩාගෙන, 37. "යමෙක් මෙබඳු ලදරුවන්ගෙන් එකෙක් මාගේ නාමයෙන් පිලිගනීද, ඔහු මා පිලිගන්නේය; යමෙක් මා පිලිගන්නේද ඔහු මා පමනක් නොව මා එවූ තැනැන්වහන්සේ පිලිගන්නේයයි" ඔවුන්ට කීසේක.

38. එවිට යොහන් උන්වහන්සේට උත්තර දෙමින්, "ආචාරිනි, අප කැටුව නොඑන්නාවූ ඔබවහන්සේගේ නාමයෙන් යකුන් දුරුකරනනාවූ එකෙක් දුටිමුව; ඔහු අප කැටුව නෝන නිසා ඔහු වැලැක්වීමුයයි" 39. කීය. එවිට යේසුස්වහන්සේ කියනසේක්, "ඔහු වලක්වන්ට එපාය; මක්නිසාද යමෙක් මාගේ නාමයෙන් ආශ්චර්‍ය්‍යයක් කරනවා නම්, නිකම්ම මා ගැන අගුණ කියන්ට 40. ඔහුට නුපුළුවන. අපට විරුඞ නොවූ තැනැත්තේ අපේ පක්ෂයට 41. සිටින්නේය. තවද යමෙක්, 'නුබලා ක්‍රිස්තුස්ගේ ගෝලයෝය' කියා මාගේ නාමයෙන් වතුර ටිකක් බොන්නට දෙන්නේනම්, සැබවක් නුබලාට කියම්, ඔහුගේ විපාකය 42. නැතිවෙන්නේ නැත. නුමුත් යමෙක් මා අදහන්නාවූ කුඩාවරුන්ගෙන් එකෙකුට බාධාකලොත්, ඔහුගේ බෙල්ලේ ඇඹරුම් ගලක් එල්ලා මුහුදේ හෙලනු ලැබ්නම් වඩා 43. යහපත. නුබේ අත නුබට බාධාකරතොත් ඒක කපාදමාපනන; අත් දෙක ඇතුව නිරයේ නොනිවෙන ගින්නට පැමිනෙනවාට වඩා අතක් නැතුව ජීවනයට පැමිනීම නුබට 44. යහපත. ඒ නිරයේදී ඔවුන්ගේ පනුවා නසින්නේවත් ගිනි නිවෙන් 45. නේවත් නැත. නුබේ පය නුබට බාධාකරතොත් ඒක කපාදමාපන්න; දෙපය ඇතුව නිරයේ නොනිවෙන ගින්නට පැමිනෙනවාට වඩා පයක් නැතුව ජීවනයට පැමිනීම නුබට 46. යහපත. ඒ නිරයේදී ඔවුන්ගේ පනුවා නසින්නේවත් ගිනි නිවෙන් 47. නේවත් නැත. නුබේ ඇස නුබට බාධාකරතොත් ඒක උගුලා දමාපන්න; ඇස් දෙක ඇතුව නිර ගින්නෙහි හෙලනු ලැබීමට වඩා එක් ඇසක් ඇතුව දෙවියන්වහන්සේගේ රාජ්‍යයට ඇතුල්වීම නුබට 48. යහපත. ඒ නිරයේදී ඔවුන්ගේ පනුවා නසින්නේවත් ගිනි නිවෙන් 49. නේවත් නැත. මක්නිසාද, සියල්ලෝ ගින්නෙන් ලුනුලනු ලැබෙත්; යාග සියල්ලද ලුනෙන් ලුනුලනු 50. ලැබෙත්. ලුනු යහපත; එහෙත් ලුනු රස නැතිවීනම් ඒවා කුමකින් නුබලා රසකෙරේද? නුබලා ඇතුලේ ලුනු ඔරාගනිල්ලාය; ඔවුනොවුන් සමගිව සිටපල්ලායයි" කීසේක.

10. පරිච්ඡේ. උන්වහන්සේ එයින් නැගිට, යොර්දාන් එගොඩවූ රටෙයි ඇවිද, යුදයෙහි සීමාවලට පැමිනිසේක. සමූහයෝද උන්වහන්සේ

වෙතට නැවත රැස්වූවෝය. උන්වහන්සේද ව්‍යවහාරවූ ලෙස නැවත
2. ඔවුන්ට ඉගැන්වූසේක. එවිට ඵරිසිවරු උන්වහන්සේ වෙතට ඇවිත් උන්වහන්සේ පරීක්‍ෂාකරමින්, "පුරුෂයෙකු විසින් තමාගේ භාර්‍ය්‍යාව
3. හැරිය යුතුදැයි" ඇසුවෝය. උන්වහන්සේ උත්තරදෙමින්, "මෝසෙස් විසින් තුබලාට දුන් අණුව කිමෙක්
4. දැයි" ඇසූසේක. ඔවුන්ද "අත්ඇරීම් පත්‍රයක් දී ඈ හරින්ට මෝසෙස් අවසර දුන්නේයයි" කීවෝය.
5. යේසුස්වහන්සේ උත්තර දෙමින්, 'තුබලාගේ සිත් දූෂි බැවින් ඔහු මේ අන තුබලාට ලියා දුන්නේය.
6. තුමුත් මැවීමේ මුල්දී දෙවියන්වහන්සේ එක් පුරුෂයෙකුත් එක්
7. ස්ත්‍රියෙකුත් මැවූසේක. එබැවින් පුරුෂයෙක් තමාගේ මව්පියන් හැර තමාගේ භාර්‍ය්‍යාවට ඇළුම්වනේය.
8. ඔවුන් දෙදෙනාද එකම ශරීරයක් වෙනවා ඇත. ඒ නිසා ඔවුන් දෙදෙනෙක් නොව එක ශරීරයක්ම වෙන
9. වා ඇත. එහෙයින් දෙවියන්වහන්සේ එකතුකල යමක් මනුෂ්‍යයා වෙන් නොකරේවයි" කීසේක.
10. ගෙයිදී උන්වහන්සේගේ ගෝලයෝ මෙම කාරනාව ගැන නැවතත්
11. උන්වහන්සේගෙන් ඇසුවෝය. උන්වහන්සේ ඔවුන්ට කියනසේක්, "යමෙක් තමාගේ භාර්‍ය්‍යාව අත්හැර වෙන ස්ත්‍රියක් සරනපාවා ගන්නේ නම්, ඔහු ඈට විරුද්ධව පරදර කරන්
12. නේය. ස්ත්‍රියක් තමාගේ පුරුෂයා අත්හැර වෙන පුරුෂයෙකු සරනපාවා ගනීනම්, ඈද පරදර කම්මය කරන්නියයි" කීසේක.

13. උන්වහන්සේගේ අත ළදරුවන් පිට තබවාගන්නා පිනිස, ඔවුන් උන්වහන්සේ ලඟට ගෙනාවෝය. ගෝලයෝ ඔවුන් ගෙනා
14. වුන්ට සැරකලෝය. යේසුස්වහන්සේ ඒ දැක අප්‍රසන්නව, ඔවුන්ට කියනසේක්, "ළදරුවන් නොවලක්වා මා ලඟට එන්ට ඉඩහැරපල්ලාය. මක්නිසාද දෙවියන්වහන්සේගේ රාජ්‍යය මෙබඳුවූවන්ගේමය.
15. සැබවක් තුබලාට කියමි, යමෙක් දෙවියන්වහන්සේගේ රාජ්‍යය ළදරුවෙකු මෙන් පිළි නොගනීද, ඔහු එහි ඇතුල්නොවන්නේයයි" කියා,
16. ඔවුන් වඩාගෙන, ඔවුන් පිට අත් තබා, ඔවුන්ට ආශීර්වාද කලසේක.

17. උන්වහන්සේ පිටත්ව මාර්ගයට පැමිනිකල එක් පුරුෂයෙක් දිව ඇවිත්, උන්වහන්සේ ඉදිරියේ දනින් හිඳ, "යහපත් ආචාරීන්වහන්ස, සදාකාල ජීවනය උරුමවෙන පිනිස මක් කරම්දැයි" උන්වහන්සේගෙන් ඇසු
18. යේය. යේසුස්වහන්සේ උත්තර දෙමින්, "මට මක්නිසා 'යහපතැයි' කියන්නේද? දෙවියන්වහන්සේ මිස වෙන කවුරුවත් යහපත් නොවේ.
19. පරදර නොකරව, මිනී නොමරව, සොරකම් නොකරව, බොරු සාක්ෂි නොකියව, වංචා නොකරව, තාගේ පියාටද මව්ටද ගෞරව කරවයි යන මේ අණුවල් තුබ දන්නේ
20. යයි" කීසේක. එවිට ඔහු, "ආචාරීනි, මේ සියල්ල මාගේ යෞවන කාලයේ පටන් රක්‍ෂාකරමියි" උන්ව
21. හන්සේට කීයේය. එවිට යේසුස්වහන්සේ ඔහු දෙස බලා, ඔහු කෙරෙහි ප්‍රේමකොට, "තුබට එක් කාරනායක් අඩුය; ගොස් තුබ සන්තක සියල්ල විකුනා දිළිඳුන්ට දීපනන. එකල ස්වර්ගයේදී සම්පත් ලබන්නේය. තුබ ඇවිත්, කුරුසිය අරගෙන මා පස්සේ වරෙන්නැයි"
22. ඔහුට කීසේක. ඔහුද බොහෝ වස්තුකාරයෙක් බැවින්, ඒ වචනය නිසා කැලඹී සෝකව ගියේය.

23. එවිට යේසුස්වහන්සේ වටකර බලා, "දෙවියන්වහන්සේගේ රාජ්‍යයට වස්තුකාරයන්ගේ ඇතුල්වීම කොපමන අමාරුදැයි" ගෝලයන්ට

24. කීහ. ගෝලයෝද උන්වහන්
සේගේ වචනයට පුදුමවූහෝය.
නුමුත් යේසුස්වහන්සේ නැවතත්
ඔවුන්ට කියනසේක්, "දරුවෙනි,
වස්තුව විශ්වාසකරන්නන්ට දෙවි
යන්වහන්සේගේ රාජ්‍යයට ඇතුල්
25. වීම කොපමන අමාරුද? දෙවි
යන්වහන්සේගේ රාජ්‍යයට වස්තුකාර
යෙකුගේ ඇතුල්වීමට වඩා ඉදිකටු
සිදුරෙන් ඔටුවෙකුගේ ගමන පහසු
26. යයි" කීසේක. ඔවුන්ද ඉතා පුදු
මව, "එසේවීනම් ගැලවෙන්ට කාට
පුළුවන්දැයි" ඔවුනොවුන් කථාක
27. ලෝය. යේසුස්වහන්සේ ඔවුන්
දෙස බලා, "ඒක දෙවියන්වහන්සේට
මිස මනුෂ්‍යයන්ට නුපුළුවන; මක්නි
සාද දෙවියන්වහන්සේට සියල්ලම
පුළුවනැයි" කීසේක.

28. එවිට පේතෘස්, "අපි සියල්ල
අත්හැර, ඔබවහන්සේ පස්සේ ආවෙ
මුයයි" උන්වහන්සේට කියන්ට
29. පටන්ගත්තේය. යේසුස්වහන්
සේ උත්තර දෙමින්, "සැබවක් නුබ
ලාට කියමි, යමෙක් මා නිසාද සුභා
රංචිය නිසාද, ගේවත් සහෝදරයන්
වත් සහෝදරීන්වත් පියාවත් මව්
වත් භාර්‍යාවවත් දරුවන්වත් කුඹු
30. වත් අත්හැරියොත්, ඔහු දැන්
මේ කාලයේ පීඩා සහිතව ගෙවල්ද
සහෝදරයන්ද සහෝදරීන්ද මවුනද
දරුවනද කුඹුද සියක් ගුණයක් ලැබ,
පරලොවදී සදාකාල ජීවනයද ලබ
31. නේය. නුමුත් ප්‍රථමයෝ බො
හෝ දෙන අන්තිමයෝද, අන්ති
මයෝ බොහෝ දෙන ප්‍රථමයෝද
වෙනවා ඇතැයි" කීසේක.

32. ඔවුන් යෙරුසලමට යනකල,
යේසුස්වහන්සේ මාර්ගයේදී ඔවුන්ට
පෙරටුව ගියසේක. ඔවුන් විස්මපත්ව
භයව, උන්වහන්සේ පස්සේ ගියෝය.
යේසුස්වහන්සේද දොලොස් දෙන
නැවත කැඳවා, තමන්වහන්සේට
සිදුවෙන්ට තිබෙන දේ කියන්නට
33. පටන්ගෙන, "දැන් අපි යෙරුස
ලමට යමුව; මනුෂ්‍ය පුත්‍රයා නායක
පූජකයන්ටද ලියන්නන්ටද පාවා
දෙනු ලැබෙයි. ඔවුන්ද ඔහු මරනට
නියමකොට, අන්‍යජාතීන්ට පාවා
34. දෙනවා ඇත. එවිට ඔවුන් ඔහුට
නින්දාකොට තලා කෙලගසා ඔහු
මරනවා ඇත. තුන්වෙනිදා ඔහු
නැගිටින්නේයයි" කීසේක.

35. එවිට සෙබදීගේ පුත්‍රවූ
යාකොබ්ද යොහන්ද උන්වහන්සේ
ලඟට ඇවිත්, "ආචාරීනි, අපි ඉල්ලන
දේ අපට කරදුනමැනවැයි" කීවෝය.
36. උන්වහන්සේද "මා විසින් නුබ
ලාට මක්කරනවාට නුබලා කැමති
37. දැයි" ඔවුන්ගෙන් ඇසූසේක. ඔ
වුන්ද "ඔබවහන්සේගේ තේජසේදී
ඔබවහන්සේගේ දකුනු පැත්තේ
එකෙක්ද ඔබවහන්සේගේ වම
පැත්තේ එකෙක්ද හිඳිනට අපට
38. දුනමැනවැයි" කීවෝය. යේසුස්
වහන්සේ, "නුබලා ඉල්ලන්නේ
කිමෙක්දැයි නොදනිති. මම බොන
කුසලානෙන් බොන්ටත් මම ලබන
බව්තීස්මය ලබන්ටත් නුබලාට පුළු
වන්දැයි" ඔවුන්ගෙන් ඇසූසේක.
39. ඔවුන්ද "අපට පුළුවනැයි" කී
වෝය. යේසුස්වහන්සේ, "සැබැව
ටම, මම බොන කුසලානෙන් නුබලා
බොනවා ඇත; මම ලබන බව්තීස්
40. මය ලබනවා ඇත. නුමුත් මාගේ
දකුනු පැත්තේද මාගේ වම් පැත්
තේද හිඳීම නියමකලවුන්ට මිස
වෙන අයවලට දීම මට නුපුළුව
41. නැයි" කීසේක. අනිත් දස දෙන
ඒ අසා, යාකොබ් සහ යොහන් කෙ
42. රේ කිපුනෝය. යේසුස්වහන්සේ
ඔවුන් කැඳවා, "අන්‍යජාතීන්ගේ ප්‍ර
ධානියෝ ඔවුන් මැඩපවත්වන බවත්
ඔවුන්ගේ මහතුන් ඔවුන් කෙරේ
බලය පවත්වන බවත් නුබලා දනිති.
43. නුමුත් නුබලා අතරෙහි එසේ
නොවේවා. නුබලා අතරේ යමෙක්

උතුම්වෙන්ට කැමතිවේද, ඔහු තුඹ
44. ලාගේ උපස්ථායකයා වේවා. තු
ඹලා අතරෙහි යමෙක් ප්‍රධාන
වෙන්ට කැමතිවේද, ඔහු සියල්ලන්
45. ගේම වැඩකාරයා වේවා. මක්
නිසාද, මනුෂ්‍ය පුත්‍රයා උපස්ථාන
ලබන්ට නොව උපස්ථාන කරන්ටද
බොහෝ දෙනා වෙනුවට මිදීමේ
වස්තුවක්කොට තමන්ගේ ප්‍රාණය
දෙන්ටද ආයේයයි" කීසේක.

46. ඔවුන් යෙරිකෝවට පැමිනි
යෝය. උන්වහන්සේ තමන් ගෝල
යන් සහ බොහෝ සමූහයා සමග
යෙරිකෝවෙන් පිටත්ව යනකල,
තිමේයුස්ගේ පුත්‍රවූ බර්තිමේයුස්
නම් අන්ධයා සිඟමින් මග අසල උන්
47. නේය. ඔහුද නාසරෙත් යේසුස්
වහන්සේ යන බව අසා, "දාවිත්ගේ
පුත්‍රවූ යේසුස්වහන්ස, මට අනුකම්
පාකලමැනව" කියා හඬගසන්ට
48. පටන්ගත්තේය. එවිට බොහෝ
දෙන, "මුරනොගසව" කියා ඔහුට
සැරකලෝය. එසේ නුමුත් ඔහු,
"දාවිත්ගේ පුත්‍රය, මට අනුකම්පා
කලමැනව" කියා වඩ වඩා හඬ
49. ගැසුයේය. යේසුස්වහන්සේ
නැවතී සිට, ඔහු කැඳවන්ට අනදුන්
සේක. ඔවුන්ද අන්ධයාට හඬගසා,
"භයනොවී, නැගිට සිටපන්න; උන්
වහන්සේ තුඹ කැඳවනසේකැයි"
50. කීවෝය. ඔහු තමාගේ පොර
වනා රෙද්ද ඉවත දමා, නැගිට
යේසුස්වහන්සේ ළඟට ගියේය.
51. යේසුස්වහන්සේ, "මා විසින්
තුඹට මක්කරනවාට කැමතිදැයි"
ඔහුගෙන් ඇසූසේක. අන්ධයාද,
"ආචාරීනි, මම පෙනීම ලබන්ට
කැමැත්තෙමියි" උන්වහන්සේට
52. කීය. එවිට යේසුස්වහන්සේ,
"පලයන්න; තුඹේ ඇදහීම තුඹ සුව
කලායයි" ඔහුට කීසේක. එවලේම
ඔහු පෙනීම ලැබ, මාර්ගයෙහි යේසු
ස්වහන්සේ පස්සේ ගියේය.

11. පරිච්ඡෙ. ඔවුන් යෙරුසලම්
ළඟ ඔලීව කන්දට තුදුරුවූ බෙත්ඵා
ගයටද බෙතානියටද පැමිනි කල,
උන්වහන්සේ තමන් ගෝලයන්
2. ගෙන් දෙන්නෙක් යවමින්, "තුඹ
ලා ඉදිරිපිට තිබෙන ගමට පලයල්
ලාය. එහි ඇතුල්වූකල, කවදාවත්
මනුෂ්‍යයෙක් නොනැගුනු කොටළු
පැටියෙක් බැඳලා සිටිනවා සම්භ
වෙනවා ඇත. ඌ ලිහා ගෙනෙල්
3. ලාය. 'මේක කරන්නේ මක්නිසා
දැයි' යමෙක් තුඹලාගෙන් ඇසූ
වොත්, 'ස්වාමින්වහන්සේට උගෙන්
වැඩ ඇතැයි' කියාපල්ලාය. එවිට
ඔහු එවලේම ඌ මෙහි එවන්නේ
4. යයි" කීසේක. ඔවුන්ද ගොස්
දොර ළඟ පිටත දෙමන් සන්ධියක
බැඳලා සිටින කොටළු පැටියෙක්
5. දුටුවෝය. ඔවුන් ඌ ලිහන අතර
එහි සිටියන්ගෙන් සමහරෙක්, "කො
ටළු පැටියා ලිහන්නේ කුමටදැයි"
6. ඔවුන්ගෙන් ඇසුවෝය. ඔවුන්ද
යේසුස්වහන්සේ ආඥාකල ලෙස
කීවෝය. එවිට ඔවුන් යන්ට හැරි
7. යෝය. ඔවුන්ද කොටළු පැටියා
යේසුස්වහන්සේ ළඟට ගෙනැවිත්,
තමන්ගේ වස්ත්‍ර ඌ පිට අතුලෝය.
උන්වහන්සේද ඌ පිට නැගුණු
8. සේක. එවිට බොහෝ දෙන
තමන්ගේ වස්ත්‍ර මග අතුලෝය
සමහරෙක් ගස්වලින් අතු කඩා මග
9. අතුලෝය. පෙර පසු යන්නෝ
"හෝසන්නා" කියාත් "ස්වාමින්
වහන්සේගේ නාමයෙන් එන්නාවූ
තැනැත්තාට ආශිර්වාදවේවා" කියාත්
10. "ස්වාමින්වහන්සේගේ නාමයෙන්
පැමිනෙන්නාවූ අපගේ පියවූ දාවිත්
ගේ රාජ්‍යයට ආශිර්වාද වේවා"
කියාත් "උස් තැන්වල හෝසනානා"
11. කියාත් හඬගැසුවෝය. යේ
සුස්වහන්සේ යෙරුසලමට පැමින,
දේවමාලිගාවට ඇතුල්ව, වටකර
සියල්ල බැළුසේක; සවස්වූ බැවින්,

දොලොස් දෙනා සමග බෙතානියට
පිටත්ව ගියසේක.

12. පසුවදා ඔවුන් බෙතානියෙන්
යනකල උන්වහන්සේට බඩගිනිවිය.
13. කොල ඇති දිඹුල් ගහක් දුරින්ම
දැක, එහින් ඵල ලබනා පිනිස
ලඟට ගොස් ඵල හටගන්නා
කාලය නොපැමිනි බැවින්, කොල
මිස වෙන දෙයක් නුදුටුසේක.
14. එවිට ජේසුස්වහන්සේ කියන
සේක්, "මෙතැන් පටන් කිසි කලෙ
කත් තාගෙන් කිසිවෙක් ඵල නො
කාවයි" කීසේක. ඒ බව උන්වහන්
සේගේ ගෝලයෝ අසාගෙන සිටි
යෝය.

15. ඔවුන් යෙරුසලමට ආවෝය.
උන්වහන්සේද දේවමාලිගාවට ඇ
තුල්ව, එහි ගනුදෙනු කරන්නවුන්
බැහැරකරන්ට පටන්ගෙන, මිල
මාරුකරන්නන්ගේ මේසද පරෙවි
යන් විකුනන්නවුන්ගේ ආසනද
16. පෙරලාදමා, දේව මාලිගාව
මැදින් කිසි භාජනයක් ගෙනියන්ට
17. කාටවත් නොදී, "මාගේ ගෙය
සියළු ජාතීන් යාඥකරන ගෙයකැයි
කියනු ලැබේයයි ලියනලද්දේ නො
වේද? නුමුත් නුබලා ඒක සොරුන්
ගේ ගුහාවක් කලෝයයි" ඔවුන්ට
18. කියමින් ඉගැන්වූසේක. ලියන්
නෝද නායක පූජකයෝද ඒ අසා,
උන්වහන්සේ මරන්නට උපායක්
සෙව්වෝය. නුමුත් උන්වහන්සේගේ
ඉගැන්වීමට සියළු දෙන පුදුමව සිටි
බැවින්, ඔවුන් උන්වහන්සේ කෙරෙහි
19. භයවූවෝය. සවස්වූ කල උන්ව
හන්සේ නුවරින් පිටත්ව ගියසේක.

20. ඔවුන් උදය මග යනකල,
දිඹුල් ගහ මුල පටන් වේලී තිබුන
21. බව දුටුවෝය. එවිට පේතෘස් සිහි
කොට, "ආචාර්යනි, ඔබවහන්සේ
විසින් සාපකල දිඹුල් ගහ වේලී ති
22. බෙන්නේයයි" කීවෝය. ජේසුස්
වහන්සේ උත්තර දෙමින්, "දෙවියන්
වහන්සේ කෙරෙහි ඇදහිලි ඇතුව
23. සිටපල්ලාය. සැබවක් නුබලාට
කියමි, යමෙක් මේ කන්දට 'ඉගිලී
මුහුදේ වැටේවා' කියා තමන් සිතින්
සැක නොකොට තමන් කියන දේ
සිදුවෙන බව ඇදහිලි කෙරේනම්,
ඔහු විසින් කියන යමක් ඇද්ද, ඒක
24 ඔහුට සිදුවන්නේය. එබැවින්
නුබලාට කියමි, නුබලා යාඥකොට
යමක් යමක් ඉල්වනවානම් ඒ ඒ දේ
ලබමුයයි අදහපල්ලාය; එවිට නුබ
25. ලාට ලැබෙයි. නුබලා යාඥකර
මින් සිටින කල, ස්වර්ගයෙහි වසන
නුබලාගේ පියානන්වහන්සේ නුබ
ලාගේ වරදවල් නුබලාට ක්ෂමාකරන
පිනිස, යමෙක් නුබලාට කරපු වර
දක් ඇත්නම් නුබලාත් ඔහුට ක්ෂමා
26. වෙයල්ලාය. නුබලා ක්ෂමා
නුනොත් ස්වර්ගයෙහි වසන නුබලා
ගේ පියානන්වහන්සේත් නුබලාගේ
වරදවල් නුබලාට ක්ෂමාවෙනොන්
නැතැයි" කීසේක.

27. ඔවුන් යෙරුසලමට නැවත
ගියෝය. උන්වහන්සේ දේවමාලිගා
වෙහි ඇවිදින කල, නායක පූජක
යෝද ලියන්නෝද වැඩිමහල්ලෝද
28. උන්වහන්සේ වෙතට ඇවිත්, "ක
වර බලයකින් මේ දේ කරනෙන්ද?
මේ දේ කරන්ට මේ බලය නුබට
දුනෙන් කව්දැයි" උන්වහන්සේගෙන්
29. ඇසුවෝය. ජේසුස්වහන්සේ උත්
තර දෙමින්, "මමද එක් වචනයක්
නුබලාගෙන් අසමි; මට උත්තර දෙ
නනාහුනම් මමත් අසවල් බලයෙන්
මේ දේ කරමියි නුබලාට කියමි.
30. යොහන්ගේ බව්තීස්මය වූයේ
ස්වර්ගයෙන්ද නොහොත් මනුෂ්‍ය
යන්ගෙන්දැයි මට කියාපල්ලායයි"
31. ඔවුන්ට කීසේක. එවිට ඔවුන්
තමන් අතරේ කථාකොට, "දෙවි
යන්වහන්සේගෙනැයි කීවුනොත්, ඔහු
අදහනොගත්තේ මන්දැයි කියනවා
32. ඇත. මනුෂ්‍යයන්ගෙනැයි කීවු

නම්, යොහන් සැබෑවිටම අනාගත
වක්තෘ කෙනෙකැයි සියල්ලෝම
සිතන නිසා, සමූහයාට භයවෙමුයයි”
33. කීවෝය. “එහෙයින් අපි දන්
නේ නැත” කියා යේසුස්වහන්සේට
උත්තර දුන්නෝය. එවිට යේසුස්
වහන්සේ උත්තර දෙමින්, “මමත්
අසවල් බලයෙන් මේ දේ කරම්
කියා නොකියමියි” ඔවුන්ට කීසේක.

12\. පරිච්ඡෙ. උන්වහන්සේ උපමා
වලින් ඔවුන්ට කියන්ට පටන්ගෙන,
“එක් පුරුෂයෙක් මිදි වත්තක් වවා,
වටේට වැට බැඳ, මිදි රස උදෙසා
වලක් හාරා, කොටුවක් බැඳ, මිදි
වත්ත ගොයින්ට බදු දී, දුර රටකට
2\. ගියේය. ඵල අවස්ථාව පැමිණිකල,
මිදි වත්තෙහි ඵලවලින් පංගුව
ලබන පිණිස ගොවියන් වෙතට වැඩ
3\. කාරයෙක් යැවීය. ඔවුන් ඔහු අල්ලා
4\. තලා හිස් අතින් ඇරියෝය. නැවත
තත් ඔහු වෙන වැඩකාරයෙක්
ඔවුන් වෙතට යැවීය. ඔවුන් ඔහුටද
ගල් ගසා ඔළුව පලා නින්දාකොට
5\. ඇරියෝය. නැවතත් ඔහු අනි
කෙක් යැවීය. ඔවුන් ඔහුද මැරුවෝය.
තවද බොහෝ දෙනාගෙන් සමහ
රෙකුට තැළුවෝය; සමහරෙක් මැරූ
6\. වෝය. ඔහුට ප්‍රියවූ එකම පුත්‍ර
යෙක් සිටියේය. ‘ඔවුන් මාගේ පුත්‍ර
යාට ගෞරව කරති’ කියා, අන්තී
මේදී ඔහුද ඔවුන් වෙතට යැවීය.
7\. නුමුත් ඒ ගොවියෝ ‘මොහු උරු
මක්කාරයාය; වරෙල්ලාය; මොහු
මරමුව, එවිට උරුමය අපට වේයයි’
8\. කථාකරගෙන, ඔහු අල්ලා මරා
මිදි වත්තෙන් පිටත දැමුවෝය.
9\. එසේවීනම් මිදි වත්තේ ස්වාමියා
කුමක් කරන්නේද? ඔහු ඇවිත්,
ඒ ගොවීන් නසා, මිදි වත්ත අන්‍යන්ට
10\. දෙන්නේය. ‘ගේ සාදන්නන්
විසින් එපාකල ගල කොණේ ප්‍රධාන
11\. ගලම වූනේය; ඒක ස්වාමින්ව
හන්සේගේ ක්‍රියාවය; ඒක අපගේ
ඇස්වලට පුදුමයකැයි’ ලියා තිබෙන
බව නුඹලා නොකියවූදැයි” කීසේක.
12\. උන්වහන්සේ මේ උපමාව තමන්
ට විරුද්ධව කී බව ඔවුන් දැනගෙන,
උන්වහන්සේ අල්ලන්ට සෙව්වෝය.
නුමුත් සමූහයාට භයව උන්වහන්සේ
අත්ඇර ගියෝය.

13\. උන්වහන්සේගේ වචනයෙන්
උන්වහන්සේ අසුකරගන්නා පිණිස,
ඵරිසිවරුන්ගෙන්ද හෙරොද්වරුන්
ගෙන්ද සමහරෙක් උන්වහන්සේ
14\. වෙතට යැව්වෝය. ඔවුන් ගොස්,
“ආචාරිනි, ඔබවහන්සේ සැබෑවූ
කෙනෙක් බවත්, කාටවත් භයනො
වෙන බවත්, මිනිසුන්ගේ තරම්
නොබලා දෙවියන්වහන්සේගේ මා
ර්ගය සැබෑ ලෙස උගන්වන බවත්,
දනිමුව. එහෙයින්, කායිසර්ට ආදායම්
15\. දෙන්ම සුදුද අසුදුද; දෙමුද
නොදෙමුදැයි” උන්වහන්සේගෙන්
ඇසුවෝය. එවිට උන්වහන්සේ
ඔවුන්ගේ වංචාව දැන, “නුඹලා මා
පරීක්ෂාකරන්නේ මක්නිසාද? බලන
පිණිස. මිලයක් ගෙනෙල්ලායයි”
16\. කීසේක. ඔවුන්ද ගෙනාවෝය.
එවිට උන්වහන්සේ “මෙහි පෙනෙ
න රූපයත් නමත් කාගේදැයි”
ඇසූසේක. ඔවුහු “කායිසර්ගේයයි”
17\. කීවෝය. එවිට යේසුස්වහන්සේ
“කායිසර්ගේ දේ කායිසර්ටත්, දෙවි
යන්වහන්සේගේ දේ දෙවියන්ව
හන්සේටත් දීපල්ලායයි” උත්තර
දුන්සේක. ඔවුන්ද උන්වහන්සේ
කෙරෙහි විස්මපත්වූවෝය.

18\. මලවුන්ගේ නැගිටීමක් නැ
තැයි කියන්නාවූ සද්දුසිවරු උන්ව
19\. හන්සේ වෙතට ඇවිත්, “ආචා
රිනි, ‘යමෙකුගේ සහෝදරයෙක්
දරුවන් නොලැබ තමාගේ භාර්‍යාව
සිටිද්දී මලේනම්, ඔහුගේ සහෝද
රයා විසින් ඒ භාර්‍යාව සරන පාවා
ගෙන තමාගේ මලාවූ සහෝදරයා

වෙනුවට දරුවෙක් උපදවිය යුතුය'
කියා මෝසෙස් විසින් අපට ලියා ති
20. බෙන්නේය. සහෝදරයෝ සත්
දෙනෙක් සිටියෝය. වැඩිමහල්ලා
භාර්යාවක් සරන පාවාගෙන දරු
21. වන් නොලැබ මැරුණේය. දෙවෙ
නියාත් ඈ සරන පාවාගෙන දරුවන්
නොලැබමැරුණේය. තුන්වෙනියාත්
22. එසේමය. සත්දෙනාම ඈ සරන
පාවාගෙන දරුවන් නොලැබ මැරු
ණෝය. සියල්ලන්ටම පසු ඒ ස්ත්‍රීත්
23. මළාය. එහෙයින්, මලවුන්ගේ
නැගිටීමෙහිදී ඔවුන් නැගිටිනකල,
සත් දෙනාම ඈ සරන පාවා ගත්
බැවින් ඈ කාගේ භාර්යාව වන්නී
24. දැයි" ඇසුවෝය. යේසුස්වහන්සේ
උත්තර දෙමින්, "තුබලා ශුද්ධලියවි
ලිවත් දෙවියන්වහන්සේගේ ආනුභා
වවත් නොදැන මුලාවෙනවා නො
25. වේද්ද? මක්නිසාද, මලවුන්
ගෙන් නැගිටින කල ඔවුන් සරන
පාවා නොගණිති, සරන පාවා නො
දෙති; ඔවුන් ස්වර්ගයෙහි දේවදූතයන්
26. මෙන් වෙති. තවද, මලවුන්
නැගිටීම ගැන 'ආබ්‍රහම්ගේ දෙවියන්
වහන්සේත් ඊසාක්ගේ දෙවියන්ව
හන්සේත් යාකොබ්ගේ දෙවියන්ව
හන්සේත් මමයයි' දෙවියන්වහන්
සේ මෝසෙස්ට පඳුරේදී කී බව
මෝසෙස්ගේ පොතේ කියෙව්වේ
27. නැද්ද? උන්වහන්සේ ජීවත්
වන්නවුන්ගේ මිස මලවුන්ගේ දෙවි
යන්වහන්සේ නොවේය. එහෙයින්
තුබලා බොහෝකොට මුලාවෙතියි"
කීසේක.

28. එවිට ලියන්නන්ගෙන් එකෙක්
ඇවිත් ඔවුන්ගේ කථාව අසා, උන්
වහන්සේ ඔවුන්ට හොඳට උත්තර
දුන් බව දැන, "සියළු ආඥාවලින්
කවර ආඥාව ප්‍රධානදැයි" උන්වහන්
29. සේගෙන් ඇසුයේය. යේසුස්ව
හන්සේ ඔහුට උත්තර දෙමින්,
"සියළු ආඥාවලින් ප්‍රධාන ආඥාව
නම්, 'ඊශ්‍රායෙල්, අසව; අපේ දෙවිවූ
ස්වාමින්වහන්සේ එකමවූ ස්වාමින්
30. වහන්සේය. තාගේ මුළු හෘද
යෙන්ද තාගේ මුළු ආත්මයෙන්ද
තාගේ මුළු සිතින්ද තාගේ මුළු ශක්
තියෙන්ද තාගේ ස්වාමිවූ දෙවියන්
වහන්සේට ප්‍රේමකරව. පළමුවෙනි
31. ආඥාවනම් මේය. දෙවෙනි ආඥා
වත් එසේමය. ඒනම් තට මෙන්
තාගේ අසල්වාසියාට ප්‍රේම කරව.
මේ ආඥාවලට වඩා මහත්වූ අන්
කිසි අණක් නැතැයි" කීසේක.
32. එවිට ලියන්නා "යහපත, ඇචා
රිනි, ඔබවහන්සේ සැබෑව කීසේක.
මක්නිසාද, එකමවූ දෙවි කෙනෙක්
සිටිනසේක; උන්වහන්සේ හැර
33. වෙන දෙවි කෙනෙක් නැත. මුළු
හෘදයෙන්ද මුළු නුවණින්ද මුළු ආත්ම
යෙන්ද මුළු ශක්තියෙන්ද උන්වහන්
සේට ප්‍රේම කිරීමත්, තමාට මෙන්
තමාගේ අසල්වාසියාට ප්‍රේම කිරී
මත්, සියළු දවන පූජාවලට සහ
සියළු යාගවලටත් වඩා උතුමැයි"
34. කීයේය. ඔහු නුවණින් උත්
තර දුන් බව යේසුස්වහන්සේ
දැක, "තුබ දෙවියන්වහන්සේගේ
රාජ්‍යයට නුදුරුව සිටින්නේයයි"
ඔහුට කීසේක. ඉන් පසු උන්වහන්
සේගෙන් ප්‍රශ්න අහන්ට සියල්ලෝම
භයව සිටියෝය.

35. යේසුස්වහන්සේ දේවමාලිගා
වෙහි උගන්වමින් කියනසේක්, "ක්‍රිස්
තුස් දාවිත්ගේ පුත්‍රයයි ලියන්නෝ
36. කෙසේ කියද්ද? දාවිත්ම ශුද්ධාත්
මයෙන් කථාකරමින්, 'මම තුබේ සතු
රන් තුබේ පාපුටුව කරනතුරු මාගේ
දකුණු පැත්තේ ඉඳගන්නැයි ස්වා
මීන්වහන්සේ මාගේ ස්වාමින්වහන්
37. සේට කීසේකැයි' කීය. එබැවින්
දාවිත්ම උන්වහන්සේට ස්වාමින්වහන්
සේයයි කීකල, උන්වහන්සේ ඔහුගේ
පුත්‍රවෙනෙන් කොහොමදැයි" ඇසූ

සේක. සමූහයෝ උන්වහන්සේගේ
වචන සන්තෝෂයෙන් ඇසුවෝය.
38. උන්වහන්සේ තමන්ගේ ඉගැන්
වීමේදී ඔවුන්ට කියනසේක්, "දිග
ඇඳුම් ඇඳ ඇවිදීමටද කඩ පිල්වලදී
39. ආචාර ලැබීමටද සිනාගෝගවලදී
ප්‍රධාන ආසනවලටද මංගල්‍යවලදී
උත්තම ස්ථානවලටද කැමතිවන්
නාවූ, වංචා පිණිස දිග යාච්ඤාවල්කරන්
40. නාවූ, වැන්දඹුවන්ගේ ගෙවල්
කොල්ලකන්නාවූ ලියන්නන්ගෙන්
ප්‍රවේසම් වෙයල්ලාය. ඔවුන් ඉතා
මහත්වූ දඬුවමට පැමිණෙනවා
ඇතැයි" කීසේක.

41. යේසුස්වහන්සේ මුදල් ගබ
ඩාව ඉදිරියේ වැඩහුන්දී, මනුෂ්‍යයෝ
ගබඩාවට මුදල් දමන බව දුටුසේක.
වස්තුකාරයෝ බොහෝ දෙනෙක්
42. බොහෝ මුදල් දැමුවෝය. දිළිඳු
වැන්දඹුවක් ඇවිත්, මස්සෙන් සත
රෙන් කොටසක් වටින කුඩා මිල
43. දෙකක් දැම්මාය. එවිට උන්ව
හන්සේ ගෝලයන් කැඳවා, "සැබ
වක් තුඹලාට කියමි, ගබඩාවෙහි
මුදල් දැමූ සියල්ලන්ට වඩා මේ දිළිඳු
44. වැන්දඹුව මුදල් දැමුවාය. මක්
නිසාද, ඒ සියල්ලෝ තමන්ගේ ඉතු
රුවෙන වස්තුවෙන් දැමුවෝය; මැද
ඇගේ හිඟකමින් ඇ සන්තක සියළු
රක්ෂාව දැමුවායයි" කීසේක.

13. පරිච්ඡෙ. උන්වහන්සේ දේව
මාලිගාවෙන් යනකල, ගෝලයන්
ගෙන් එකෙක්, "ආචාර්යනි, කෙබඳු
ගල්ද කෙබඳු ගොඩනැගීම්දැයි බැළුව
2. මැනවයි" කීයේය. යේසුස්වහන්
සේ උත්තර දෙමින්, "තුඹ මේ මහත්
ගොඩනැගීම් දකිනෙහිද? මෙයින්
කඩාදමනු නොලබන්නාවූ ගලක්
පිට ගලක්වත් නොතිබේයයි" ඔහුට
3. කීසේක. ඉන් පසු උන්වහන්සේ
දේවමාලිගාව ඉදිරියේ ඔලීව කන්දේ
වැඩහුන් කල, පේතෘස්ද යාකොබ්ද
යොහන්ද අන්දෘද පමනක් ලඟට
4. ඇවිත්, "මේ දේ වෙනෙන් කොයි
කලකද? මේ සියල්ල සිඩවීමට
ලකුන කිමෙක්දැයි, අපට කිවමැන
5. වයි" කීවෝය. යේසුස්වහන්සේද
ඔවුන්ට උත්තර දෙමින්, "තුඹලා
කිසිවෙකුගෙන් නොරැවටෙන ලෙස
6. බලාගනිල්ලාය. මක්නිසාද, මාගේ
නාමින් බොහෝ දෙන ඇවිත්, තමන්
ක්‍රිස්තුස්යයි කියා බොහෝ දෙන
7. මුලාකරති. තුඹත් තුඹ කථාත්
තුඹලා අසනකල කැලඹී නොසිටිල්
ලාය. එබඳු කාරනා වෙන්ට ඕනැය.
නුමුත් එකල්හි කෙලවර නැතෙන්ය.
8. මක්නිසාද, ජාතිය ජාතියටත්
රාජ්‍යය රාජ්‍යයටත් විරුඬව නැගිටි
නවා ඇත. නොයෙක් තැන්වල
පොලෝ කම්පාත් දුර්භික්ෂත් කැල
ඹීමවළුත් වෙනවා ඇත. මේවා දුක්
9. වල පටන්ගැන්මය. තුඹලා ප්‍රවේ
සම්වෙයල්ලාය. මක්නිසාද, ඔවුන්
සභාවලට තුඹලා පාවා දෙති. සිනා
ගෝගවලදී තුඹලා තැළීම් ලබති.
මා නිසා තුඹලා අධිපතීන්ටද රජුන්
ටද සාක්ෂි පිණිස ඔවුන් ඉදිරියෙහි
10. සිටුවනු ලබති. පලමුකොට සියළු
මනුෂ්‍යජාතීන්ට සුභාරංචිය එළිදරව්
11. කල යුතුය. තුඹලා පාවා දෙන්ට
ගෙනියන කල, 'කුමක් කියමුදැයි'
පලමුකොට සිතා කනගාටු නොවෙ
ල්ලාය. ඒ පැයෙහි තුඹලාට යමක්
දෙනු ලැබේද, ඒක කියාපල්ලාය.
මක්නිසාද, සුඬාත්මයානන්වහන්සේ
මිස තුඹලා කථාකරන්නෝ නො
12. වෙති. එකල සහෝදරයා තමා
ගේ සහෝදරයාත් පියා තමාගේ
පුත්‍රයාත් මරනට පාවාදෙන්නේය.
දරුවෝ තමන් මව්පියන්ට විරුඬව
නැගිට, ඔවුන් මරනට පත්කරවති.
13. මාගේ නාමය නිසා සියල්ලෝ
තුඹලාට වෛර බඳිති. නුමුත් කෙල

වර දක්වා ඉවසන තැනැත්තේම
ගැලවෙන්නේය.

14. "දානියෙල් අනාගතවක්තෘහු
විසින් කියනලද විනාශයේ පිළිකුල
නුසුදුසු තැන තිබෙන බව යම්
කලක තුඹලා දකිද්ද, (කියවන්නා
තේරුම්ගනීවා,) එකල යුදයේ සිටි
නෙනා් කඳුවලට පලායෙත්වා;
15. ගේ උඩ සිටින්නෙක් ගෙට නො
බසීවා; තමන්ගේ ගෙයින් කිසිවක්
ගන්නා පිනිස එහි ඇතුල් නොවේවා;
16. කෙතේ සිටින්නෙක් තමාගේ
වස්ත්‍රය ගෙනයන්ට ආපසු නොහැ
17. රේවා. ඒ දවස්වලදී ගැබිනින්
ටද කිරි දෙන සත්‍රීන්ටද දුක් වන්
18. නේය. වස්සා කාලයේදී තුඹලාගේ
පලායාම නොවෙන පිනිස යාඥාකර
19. පල්ලාය. මක්නිසාද, දෙවියන්
වහන්සේ ලෝකය මැවූ තැන් පටන්
දැන් දක්වා හුනාවූ මතු නොවෙන්
නාවූ දුක් එදවස්වලදී පැමිනෙන්
20. නේය. ස්වාමින්වහන්සේ ඒ දවස්
එහුඹු නොකලසේක්නම්, කවුරුවත්
ගැලවෙන්නේ නැත. නුමුත් උන්ව
හන්සේ තෝරාගත්තවුන් නිසා ඒ
21. දවස් එහුඹුකලසේක. එකල
යමෙක් ක්‍රිස්තුස් මෙතනය, නො
හොත් අතනයයි තුඹලාට කියත්
22. නම්, අදහා නොගනිල්ලාය. මක්
නිසාද, බොරු ක්‍රිස්තුස්වරුද බොරු
අනාගතවක්තෘවරුද නැගිට, පුළු
වන්නම් තෝරාගත්තවුන් පවා මුලා
කරවන පිනිස ලකුනුද හාස්කම්ද
23. දක්වනවා ඇත. නුමුත් තුඹලා
ප්‍රවේසම් වෙයල්ලාය. සියල්ල තුඹ
ලාට කලින් කීමි.

24. "ඒ දවස්වල ඒ දුකෙන් පසු
සූර අඳුරුවන්නේය; හඳ එලිය දෙන්
25. නේ නැත; අහසේ තාරකාවෝද
වැටෙනවා ඇත; ආකාසයේ පරා
26. ක්‍රමද සෙලවෙනවා ඇත. එකල
මහත්වූ බලයෙන් හා තේජසින්
යුක්තව මනුෂ්‍ය පුත්‍රයා වලාකුල්වල
27. එනවා දකිනවා ඇත. එවිට
උන්වහන්සේ තමන් දූතයන් යවා,
පොලොවේ කෙලවර පටන් අහසේ
කෙලවර දක්වා සතර දිගින්ම තමන්
වහන්සේගේ තෝරාගත්තවුන් එක
තුකරනවා ඇත.

28. "දිඹුල්ගහෙන් උපමාවක් ඉග
නගනිල්ලාය. යම්කලක ඒ ගහේ අතු
මොලොක්ව කොල උපදීද, එකල
ග්‍රීෂ්ම කාලය ලංවියයි තුඹලා දනිති.
29. එසේම මේ දේ සිද්ධවෙනවා
තුඹලා දකින කල, ඒ කාරනා දොර
ටුවටම ලංවියයි දැනගනිල්ලාය.
30. සැබවක් තුඹලාට කියමි, මේ
සියල්ල සිද්ධවෙනතෙක් මේ මනුෂ්‍ය
31. වර්ගයා නැතිනොවනේය. අහ
සත් පොලොවත් නැතිවෙනවා
ඇත; නුමුත් මාගේ වචන නැති
32. වෙන්නේ නැත. එහෙත්, ඒ දව
සවත් ඒ පැයවත් පියානවහන්සේ
හැර ස්වර්ගයේ දේවදූතයෝවත්
පුත්‍රයාවත් අන් කිසිවෙක්වත් දන්
33. නේ නැත. ඒ කාලය කවදා
වේදැයි තුඹලා නොදන්නා බැවින්
ප්‍රවේසම් වෙයල්ලාය; අවදිව ඉඳ
34. යාඥාකරපල්ලාය. තමන්ගේ
ගෙදරින් පිටත්ව වැඩකාරයන්ට
බලය දී එක එකාට තමන්ගේ වැඩ
නියමකොට දොරටුපාලයාට අවදිව
හිඳින්නැයි අනකොට දුරු රටකට
යන්නාවූ කෙනෙකුට මනුෂ්‍ය පුත්‍රයා
35. සමානය. එබැවින්, ගෙදර මූලා
දැනියා හදිස්සියෙන් ඇවිත් තුඹලා
නිදනවා නොදකින පිනිස අවදිවසි
36. ටිල්ලාය. මක්නිසාද, ඔහු කවර
වේලක එන්නේද, සවසද, මධ්‍යම
රාත්‍රියේද, කුකුලා හඬලන වේලේද,
37. අළුයමදැයි, නොදනිති. මම තුඹ
ලාට යමක් කියම්ද, ඒක සියල්
ලන්ටම කියමි; අවදිව හිඳිල්ලා
යයි" කීසේක.

14. පරිච්ඡේ. පාස්කුවද මුහුන්
නොදැමූ රොටි කන මංගල්‍යයද පැමි
ණෙන්ට දෙදවසකට මත්තෙහි,
නායක පූජකයෝද ලියන්නෝද
"ඔහු කෙසේ ප්‍රයෝගයෙන් අල්වා
2. මරමුදැයි" සෙව්වෝය. "නුමුත්
සෙනග අතරේ කෝලාහලයක්
වේද්දෝ කියා මංගල්‍ය දවසේ නුසුදුසු
3. යයි" කීවෝය. උන්වහන්සේ
බෙතානියේ කුෂ්ඨ රෝගීවූ සිමොන්
ගේ ගෙයි කෑමට උන්කල, ස්ත්‍රියක්
අනර්ඝවූ ජටාමාංශ තෙලින් පිරු
සුදු ගල් කරඬුවක් ගෙන ඇවිත්,
ඒ කරඬුව බිඳ උන්වහන්සේගේ
4. හිසේ වත්කලාය. සමහරෙක්
කිපී, "මේ තෙල නාස්තිකලේ මක්
5. නිසාද? මසු තුන්සියේකට වැඩි
ගනනකට විකුන දිළිඳුන්ට දෙන්ට
පුළුවන්ව තිබුනේය" කියා, ඈට
6. විරුඬව කථාකලෝය. යේසුස්ව
හන්සේ කියනසේක්, "ඈ නිකම්
උන්නාවේ; ඈට වෙහෙස දෙනෙන්
මක්නිසාද? ඈ මට කල ක්‍රියාව යහ
7. පත. මක්නිසාද, දිළින්දෝ නුබලා
සමග නිතරම ඇත; යම් කලක
නුබලා කැමතිවූනම්, එකල ඔවුන්ට
සත්කාර කරන්ට පුළුවන. මම නුබලා
8. වෙත නිතරම නැත. මෑ තමාට
පුළුවන් දේ කලාය. මෑ මාගේ
ශරීරය තැන්පත්කිරීම පිනිස කලින්
ම ඇවිත් සුවඳ තෙල් ගෑවාය.
9. සැබවක් නුබලාට කියමි, මේ
සුභාරංචිය ලොව මුළුල්ලේ එළිදරව්
කරන සියළු තැන්වලද්ම, මෑ විසින්
කලාවූ මේ කාරනයද මෑ සිහිවීම
පිනිස කියනු ලැබේයයි" කීසේක.

10. දොලොස් දෙනාගෙන් එ
කෙක්වූ යූදස් ඉස්කාරියොත් නායක
පූජකයන්ට උන්වහන්සේ පාවාදෙනු
පිනිස, ඔවුන් වෙතට ගියේය.
11. ඔවුන් ඒ අසා සන්තෝසව, ඔහුට
මිල දෙන්ට පොරොන්දුවූනෝය.
එවිට ඔහු උන්වහන්සේ පාවාදීමට
සුදුසු ප්‍රස්ථාවක් සෙවීය.

12. මුහුන් නොදැමූ රොටි කන
පලමුවෙනි දවසවූ පාස්කු මංගල්‍ය
යේ බැටළු පැටවා මරනනාවූ දවසේ,
උන්වහන්සේගේ ගෝලයෝ, "පාස්
කු මංගල්‍ය කන පිනිස, අපි ගොස්
ඔබවහන්සේට පිළියෙලකරන්ට
ඔබවහන්සේ කැමති කොතනදැයි"
13. උන්වහන්සේගෙන් ඇසුවෝය. එ
විට උන්වහන්සේ ගෝලයන් දෙන්
නෙක් යවමින්, "නුබලා නුවරට
යනකල, එහිදී පැන් කලයක් උසු
ලාගත් පුරුෂයෙක් නුබලාගේ පෙර
මගට එන්නේය; ඔහු පස්සේ පල
14. යල්ලාය. ඔහු ඇතුල්වෙන ගෙස්
ස්වාමියාට, 'මා විසින් මාගේ ගෝල
යන් සමග පාස්කු මංගල්‍යය කන්
නට යුතුවූ ආගන්තුක සාලාව කො
තනදැයි ආචාරීන්වහන්සේ අහනසේ
15. කැයි' කියාපල්ලාය. එවිට ඔහු
සරහා පිළියෙලකල මහත්වූ උඩු
මහල් ගෙයක් නුබලාට පෙන්වන්
නේය. එහි අපට පිළියෙල කරපල්
16. ලායයි" කීසේක. එවිට උන්ව
හන්සේගේ ගෝලයෝ ගොස්, නුව
රට පැමින උන්වහන්සේ තමන්ට
කී ලෙසම සම්භව, පාස්කු මංගල්‍යය
පිළියෙල කලෝය.

17. සවස්වූ කල උන්වහන්සේ
දොලොස් දෙන සමග ගියසේක.
18. ඔවුන් හිඳ කෑම කනවිට යේසුස්
වහන්සේ, 'සැබවක් නුබලාට කියමි,
මා සමග කන නුබලාගෙන් එකෙක්
මා පාවා දෙන්නේයයි' කීසේක.
19. එවිට ඔවුන් දුකට පැමින,
එකෙක් එකෙක් පාසා, "මමද, මම
දැයි" උන්වහන්සේගෙන් අහන්ට
20. පටන්ගත්තෝය. උන්වහන්සේද
උත්තර දෙමින්, "දොලොස් දෙනා
ගෙන් එකෙක්වූ මා සමග තලියෙන්
21. අත ලන තැනැත්තාය. මනුෂ්‍ය
පුත්‍රයා තමන් ගැන ලියා තිබෙන

ලෙසම යන්නේය. නුමුත් මනුෂ්‍ය
පුත්‍රයා පාවා දෙන්නාට දුක්වන්
නේය. ඒ මනුෂ්‍යයා නූපන්නානම්
ඔහුට යහපතැයි" කීසේක.

22. ඔවුන් කෑම කන කල, උන්
වහන්සේ රොටි අරගෙන, ස්තුති
කොට කඩා ඔවුන්ට දී, "මේක
අරන් කාපල්ලාය; මේ මාගේ ශරීර
23. යයි" කීසේක. උන්වහන්සේ
කුසලාන අරගෙන, ස්තුතිකොට
ඔවුන්ට දුන්සේක. ඔවුන් සියල්
24. ලෝද එයින් බීවෝය. එවිට
උන්වහන්සේ කියනසේක්, "මේක
බොහෝ දෙනා වෙනුවට වගුරුවන
25. අළුත් ගිවිසුමේ මාගේ ලේය. සැබ
වක් නුබලාට කියමි, මම දෙවියන්ව
හන්සේගේ රාජ්‍යයේදී අළුත් මුද්‍රික
ඵල රසය බොන දවස දක්වා,
මෙතැන් පටන් මුද්‍රික රසය නො
බොමියි" ඔවුන්ට කීසේක.

26. ඔවුන්ද, ගීතිකාවක් කියා
ඔලිව කන්දට පිටත්ව ගියෝය.
27. එකල යේසුස්වහන්සේ ඔවුන්ට
කියනසේක්, "මම රැකවලාට පහර
දෙමි; එවිට බැටළුවෝ කඩින් කඩ
යතියි ලියා තිබෙන ලෙස, අද
රාත්‍රියේ නුබලා සියල්ලෝම මා
28. කෙරේ බාධාවෙති. නුමුත් මම
නැඟුටුනායින් පසු නුබලාට ඉස්සරව
ගලීලයට යන්නෙමියි" කීසේක.
29. එවිට පේත්‍රුස්, "සියල්ලෝම
බාධාවෙතත් මම බාධා නොවෙමියි"
30. උන්වහන්සේට කීය. යේසුස්ව
හන්සේ, "සැබවක් නුබට කියමි,
අද රාත්‍රියේම කුකුලා දෙවරක් හඬ
ලන්ට පළමුවෙන්, 'ඔහු නාඳුනමි'
කියා තුන් වරක් නුබ මා ගැන
කියන්නේයයි" ඔහුට කීසේක.
31. නුමුත් ඔහු, "මම ඔබවහන්සේ
සමග නසිතත් ඔබවහන්සේ ගැන
'ඔහු නාඳුනමියි' නොකියමි" කියා
අධිකතරව කීයේය. සියල්ලෝද
එසේම කීවෝය.

32. ඔවුන් ගෙත්සෙමනේ යන
ඉඩමට පැමුනුනෝය. උන්වහන්සේ
තමන් ගෝලයන්ට කියනසේක්,
"මම යාඥාකරන අතර නුබලා මෙහි
33. ඉඳිල්ලායයි" කීසේක. එවිට
උන්වහන්සේ පේත්‍රුස්ද යාකොබ්ද
යොහන්ද තමන් සමග කැඳවාගෙන
ගොස්, බොහෝ දුක්වෙන්ටත් සෝ
34. කවෙන්ටත් පටන්ගෙන, "මාගේ
ප්‍රාණය මරනට පත්වෙන තරම් ඉතා
දුක්වන්නේය. නුබලා මෙහි නැවතී,
අවදිව හිඳිල්ලාය" කියා, මඳක්
35. ඉදිරියට ගොස්, බිම වැටී, පුළු
වන්නම් ඒ පැය තමන්වහන්සේ
කෙරෙන් පහව යන්ට යාඥාකරමින්,
36. "පියානෙනි, පියානෙනි, ඔබව
හන්සේට සියල්ලම පුළුවන; මේ
කුසලාන මාගෙන් අහක්කලමැනව.
එසේවී නුමුත් මාගේ කැමැත්ත
නොව ඔබවහන්සේගේ කැමැත්තම
37. වේවයි" කීසේක. ඉන්පසු උන්
වහන්සේ ඇවිත් ඔවුන් නිදාගෙන
ඉන්නවා දැක, පේත්‍රුස්ට කථාකොට,
"සීමොන්, නුබ නිදාගන්නවාද? එක
පැයක්වත් අවදිව ඉන්ට බැරිද?
38. නුබලා පරීක්ෂාවීමට නොපැමි
ණෙන පිනිස අවදිව හිඳ යාඥාකර
පල්ලාය. ඒකාන්තයෙන් ආත්මය
කැමතිය, ශරීරය දුර්වලයයි" කීසේක.
39. උන්වහන්සේ නැවතත් ඉවතට
ගොස්, එම වචනම කියා යාඥාකල
40. සේක. උන්වහන්සේ හැරී ඇවිත්,
ඔවුන්ගේ ඇස් නිදිබරවූ බැවින්
ඔවුන් නැවතත් නිදන බව දුටු
සේක. ඔවුන්ද උන්වහන්සේට කිසි
උත්තරයක් දෙන්ට නොදැන සිටි
41. යෝය. උන්වහන්සේ තුන්වෙනි
වර ඇවිත්, ඔවුන්ට කියනසේක්,
"ඉතින් නිදාගෙන නිවාඩු ගනිල්
ලාය; ඉතින් ඇත; පැය පැමු
නුනේය; මනුෂ්‍ය පුත්‍රයා පව්කාර
යන්ගේ අතට පාවාදෙනලද්දේය.

42. නැගිටිල්ලාය; අපි යමුව; මා පාවාදෙන්නා ලඟයයි" කීසේක.

43. උන්වහන්සේ කථාකරමින් සිටිද්දීම, දෙලසගෙන් එකෙක්වූ යූදස්ද ඔහු සමග නායක පූජකයන් කෙරෙන්ද ලියන්නන් හා වැඩිමහලුන් කෙරෙන්ද බොහෝ සමූහයෝද 44. කඩු මුගුරු ගෙන ආවෝය. උන්වහන්සේ පාවාදෙන තැනැත්තේ, "මම යම් කෙනෙක් සිඹිම්ද, ඒ ඔහුමය; ඔහු අල්ලා, ප්‍රවේසමෙන් රැගෙන පලයල්ලායයි" පලමුවෙන් 45. ඔවුන්ට ලකුනක් දුන්නේය. ඔහුද ඇවිත්, වහාම උන්වහන්සේ ලඟට ගොස්, "ආචාරීනි, ආචාරීනි," කියා උන්වහන්සේ සිඹගත්තේය. 46. එවිට ඔවුන් උන්වහන්සේ පිට 47. අත් තබා අල්ලාගත්තෝය. එවිට ලඟ සිටියවුන්ගෙන් එකෙක් කඩුව ඇද, නායක පූජකයාගේ වැඩකාර 48. යාට ගසා, කන කපාදැමීය. යේසුස්වහන්සේ ඔවුන්ට කථාකොට, "තුබලා සොරෙක් අල්ලන්ට මෙන් කඩු මුගුරු ගෙන මා අල්ලන්ට 49. ආවෝද? දවස්පතා තුබලා වෙත දේව මාලිගාවේ උගන්වමින් සිටිද්දී, තුබලා මා ඇල්ලුවේ නැත. නුමුත් ලියවිලි සම්පූර්ණවිය යුතු 50. යයි" කීසේක. එකල සියල්ලෝම උන්වහන්සේ අත්හැර පලා ගියෝය. 51. ඇඟෙහි සිනිඳු සළුවක් පමනක් පෙරවාගත් යව්වනයෙක් උන්වහන්සේ පස්සේ ගියේය. යව්වනයෝ ඔහු 52. අල්ලාගත්තෝය. ඔහුද සළුව අත්හැර නිර්වස්ත්‍රව ඔවුන් කෙරෙන් පලාගියේය.

53. ඔවුන් යේසුස්වහන්සේ නායක පූජකයා වෙතට ගෙනගියෝය. සියළු නායක පූජකයෝද වැඩිමහල්ලෝද ලියන්නෝද ඔහු සමග එහි රැස්ව සිටි 54. යෝය. පේත්‍රුස් උන්වහන්සේගේ පසු පස්සෙහි දුරින් ගොස්, නායක පූජකයාගේ මාලිගාවේ සාලාවට ඇතුල්ව, ගිනි තපිමින් සේවකයන් 55. සමග උන්නේය. එවිට නායක පූජකයෝද සභාවේ සියල්ලෝද යේසුස්වහන්සේ මරනට පත්කරවන පිනිස, උන්වහන්සේට විරුඩව සාක්ෂි සෙව්වෝය. නුමුත් සම්භවූනේනැත. 56. මක්නිසාද, බොහෝදෙන උන්වහන්සේට විරුඩව බොරු සාක්ෂි කී නුමුත්, ඔවුන්ගේ සාක්ෂි එකඟවූනේ 57. නැත. එවිට සමහරෙක් නැගී සිට උන්වහන්සේට විරුඩව බොරු සාක්ෂි 58. කියමින්, "'අතින් කරනලද මේ දේව මාලිගාව නසා, අතින් නොකරනලද අනිකක් තුන් දවසකින් සාදමියි' මොහු කියනවා අපි ඇසීමු 59. යයි" කීවෝය. නුමුත් ඔවුන්ගේ 60. සාක්ෂිද එකඟවූනේනැත. එවිට නායකපූජකයා නැගිට මැද සිට, "තුබ කිසි උත්තරයක් දෙන්නේ නැද්ද? මොවුන් තුබට විරුඩව කියන මේ සාක්ෂි කිමෙක්දැයි" යේසුස්වහන් 61. සේගෙන් ඇසුයේය. උන්වහන්සේ කිසි උත්තරයක් නොදී, කථා නොකර සිටිසේක. නැවත නායක පූජකයා, "තුබ ප්‍රසංසනීය තැනැත්වහන්සේගේ පුත්‍රවූ ක්‍රිස්තුස්දැයි" 62. උන්වහන්සේගෙන් ඇසුයේය. එවිට යේසුස්වහන්සේ කියනසේක්, "මම වෙමි. තවද මනුෂ්‍ය පුත්‍රයා පරාක්‍රමයානන්ගේ දකුණු පැත්තේ වැඩසිඳින බවත් අහසෙහි වලාකුලෙන් එන බවත් තුබලා දකිනවා 63. ඇතැයි" කීසේක. එවිට නායක පූජකයා තමාගේ වස්ත්‍ර ඉරාගෙන, "වෙන සාක්ෂිවලින් අපට කම 64. මොකද? දෙවියන්වහන්සේ කෙරේ කල අපහාස තුබලාට ඇසුනේය. තුබලා කුමක් සිතනෙන්දැයි" ඇසුයේය. එවිට ඔවුන් සියල්ලෝ උන්වහන්සේ මැරිය යුතුයයි නියම 65. කොට කීවෝය. එවිට සමහරෙක් උන්වහන්සේට කෙලගසන්ටත් උන්වහන්සේගේ මුහුන වසන්

ටත් උන්වහන්සේට මිටින් පහර
දෙන්ටත් "දිවැස් කියවයි" උන්ව
හන්සේට කියන්ටත් පටන්ගත්
තෝය. සේවකයෝද උන්වහන්සේට
අතුල්පහර ගැසුවෝය.

66. පේත්‍රුස් යට සාලාවේ සිටින
කල, නායක පූජකයාගේ දාසීන්
67. ගෙන් එකියක් ඇවිත්, පේත්‍රුස්
ගිනිතපිනවා දැක ඔහු දෙස බලා,
"තුබත් නාසරිත් යේසුස් සමග
68. සිටියෙයයි" කීවාය. එවිට ඔහු
උත්තර දෙමින්, "නැත; මම ඔහු
නාඳුනමි; තුබ මක් කියනවාද මට
තේරෙන්නේ නැත" කියා පිටත
මිදුවට ගියේය. එවිට කුකුලා හඬ
69. ලීය. නැවතත් දාසිය ඔහු දැක,
'මොහු ඔවුන්ගෙන් එකෙකැයි"
ළඟ සිටියවුන්ට කියන්ට පටන්ගත්
70. තාය. නැවතත් ඔහු "නැතැයි"
කීය. ස්වල්ප වේලාවකට පසු,
ළඟ සිටියවුන් "සැබෑවටම තුබ
ඔවුන්ගෙන් එකෙක; තුබ ගලිල
යෙක; තුබේ කථාවත් එසේමයයි"
71. නැවතත් පේත්‍රුස්ට කීවෝය. ඔහු
දෙස් තිබාගන්ටද දිවුරන්ටද පටන්
ගෙන, "තුබලා කියන ඒ මනුෂ්‍යයා
72. නාඳුනමියි" කීයේය. එවිට කුකු
ලා දෙවෙනි වාරයෙහි හඬලීය. එවිට
පේත්‍රුස්, "කුකුලා දෙවරක් හඬ
ලන්ට පලමුවෙන් 'ඔහු නාඳුනමියි'
තුන්වරක් තුබ මා ගැන කියනවා
ඇතැයි" යේසුස්වහන්සේ තමන්ට
කී වචනය සිහිකොට, ඒ ගැන සිත
විත් හැඬුයේය.

15. පරිච්ඡේ. අළුයම් වේලෙහිම
නායක පූජකයෝ වැඩිමහල්ලන්ද
ලියන්නන්ද සභාවේ සියල්ලන්ද
සමග මන්ත්‍රනයකොට, යේසුස්ව
හන්සේ බැඳ ගෙන ගොස්, පිලාත්ට
2. පාවාදුන්නෝය. පිලාත්ද "තුබ
යුදෙව්වරුන්ගේ රජදැයි" උන්වහන්
සේගෙන් ඇසුයේය. උන්වහන්සේ
"තුබ කීයේයයි" ඔහුට උත්තර දුන්
3. සේක. නායක පූජකයෝ නො
යෙක් කාරනයෙන් උන්වහන්සේට
වැරදි තැබුවෝය. තුමුත් උන්වහන්
සේ කිසි උත්තරයක් දුනේ නැත.
4. නැවතත් පිලාත් කථාකොට,
"තුබ කිසි උත්තරයක් දෙන්නේ
නැද්ද? තුබට විරුඹව කොපමන
කාරනාවලින් සාක්ෂි කියනවාදැයි"
5. උන්වහන්සේගෙන් ඇසුයේය. තු
මුත් යේසුස්වහන්සේ වෙන කිසි
උත්තරයක් දුන්නේ නැත. ඊට පි
6. ලාත් පුදුමවුනේය. ඒ මංගල්‍ය සම
යෙහි ඔවුන් ඉල්ලන සිරකාරයෙක්
ඔවුන්ට මුදා අරින සිරිතක් විය.
7. තමා එක්ව කැරලි ගසා මිනී මැරූ
වාවූ කැරලිකාරයන් සමග බඳිනා
ලද්දාවූ බරබ්බස් නම් කෙනෙක් විය.
8. සමූහයෝ මුරගසා, සිරිත්ව තිබෙ
න ලෙස කලමැනවයි ඉල්ලන්ට
9. පටන්ගත්තෝය. නායක පූජක
යන් විසින් උන්වහන්සේ ඊර්ෂ්‍යාවෙන්
10. පාවාදෙනලදැයි පිලාත්දැන, "මම
තුබලාට යුදෙව්වරුන්ගේ රජ නිද
හස්කර අරිනවාට තුබලා කැමති
11. දැයි" ඇසුයේය. තුමුත් නායක
පූජකයෝ බරබ්බස් නිදහස්කරවා
ගන්ට සමූහයා කැමතිකෙරෙව්
12. වෝය. එවිට පිලාත් උත්තර
දෙමින්, "එසේවීනම්, යුදෙව්වරුන්
ගේ රජයයි තුබලා කියන්නාවූ
මොහුට මා විසින් මක්කරනවාට
තුබලා කැමතිදැයි" නැවතත් ඔවුන්
13. ගෙන් ඇසුයේය. "ඔහු කුරුසියෙ
හි ඇනගැසුව මැනවයි" නැවතත්
14. හඬගැසුවෝය. එවිට පිලාත්,
"කිමෙක්ද? ඔහු මොන වරදක්
කෙලේදැයි" ඔවුන්ගෙන් ඇසුයේය.
ඔවුන්ද "ඔහු කුරුසියෙහි ඇනගැ
සුවමැනවයි" වැඩි වැඩිව මුරගැසු
15. වෝය. එවිට පිලාත් සමූහයා
සන්තෝස කරන්ට කැමතිව, බරබ්
බස් ඔවුන්ට නිදහස්කොට, යේසුස්

වහන්සේට තලවා කුරුසියෙහි ඇන
ගැසීමට පාවා දුන්නේය.

16. සේවායෝද උන්වහන්සේ
ප්‍රෙතෝරියම්නම් සාලාවට ගෙන
ගොස්, සියළු සේවා සමූදව රැස්
17. කොට, රත් වස්ත්‍රයක් අඳවා,
කටු ඔටුන්නක් ගොතා උන්වහන්
18. සේගේ හිසේ තබා, "යුදෙව්
වරුන්ගේ රජ්ජුරුවෙනි, සුවසේ සිටි
19. යමැනවයි" කියා වැඳ, බටදඬ
කින් උන්වහන්සේගේ හිසට ගසා,
උන්වහන්සේට කෙලගසා, දන නමා
උන්වහන්සේට නමස්කාර කලෝය.
20. උන්වහන්සේට නින්දාකලායින්
පසු, රත් වස්ත්‍රය උන්වහන්සේගෙන්
මුදා තමන්වහන්සේගේම වස්ත්‍රය
අඳවා, කුරුසියේ ඇනගැසීම පිනිස
උන්වහන්සේ පිටතට ගෙන ගියෝය.
21. එවිට කෙතේ සිට ඒ පාරේ එන්
නාවූ අලෙක්සන්දරගේද රූපස්ගේද
පියවූ කිරෙනියෙහි සීමොන් නම්
පුරුෂයෙකුට උන්වහන්සේගේ කුරු
සිය උසුලා ගෙනයන්ට බලාත්කාර
22. කලෝය. ඉස්කබලස්ථානය යන
අර්ථ ඇති ගොල්ගොතානම් ඉඩමට
23. උන්වහන්සේ ගෙනගොස්, ගන්ධ
රස මුසුකල මුද්‍රිකපානය උන්වහන්
සේට බොන්නට දුන්නෝය. නුමුත්
උන්වහන්සේ ඒවා පිලිගත්තේ නැත.
24. තවද උන්වහන්සේ කුරුසියෙහි
ඇනගැසුවායින් පසු, උන්වහන්සේ
ගේ වස්ත්‍ර බෙදා, ඔවුනොවුන්ගේ
කොටස් ගනනා පිනිස දාදු දැම්මෝය.
25. කුරුසියෙහි ඇනගැසූකල තුන්
26. වෙනි පැය පැමුනුනේය. "යුදෙව්
වරුන්ගේ රජයයි" උන්වහන්සේගේ
වැරදි පත්‍රය ලියා, එහි තැබුවෝය.
27. සොරු දෙන්නෙක්, එකෙක්
දකුනු පැත්තෙහිද එකෙක් වම්
පැත්තෙහිද, උන්වහන්සේ සමග කුරු
28. සියෙහි ඇනගැසුවෝය. එසින්,
"උන්වහන්සේ වරදකාරයන් සමග
ගනන් ගන්නාලදැයි" යන ලියවිල්ල
29. සම්පූර්ණවීය. මග යන්නෝ
උන්වහන්සේට නින්දාකොට, තමන්
හිස් වන වනා, "අහෝ, දේව
මාලිගාව නසා තුන් දවසකින්
30. ගොඩ නගන්නාවූ තෝ, තමාම
ගැලවී කුරුසියෙන් බැසපියවයි"
31. කීවෝය. නායක පූජකයෝද
ලියන්නෝද එසේම කවටකම්
කොට, "ඔහු අනුන් ගැලවීය;
32. තමාම ගලවාගන්ට බැරීය. අප
විසින් දැක අදහන පිනිස, ඊශ්‍රා
යෙල්ගේ රජවූ ක්‍රිස්තුස් දැන් කුරුසි
යෙන් බසීවයි" කියා ඔවුනොවුන්
කථාකලෝය. උන්වහන්සේ සමග
කුරුසියෙහි ඇනගසනලද්දවුනුත්
උන්වහන්සේට නින්දාකලෝය.
33. සවෙනි පැය පටන් නවවෙනි
පැය දක්වා ඒ රට මුළුල්ල අන්ධකාර
34. වීය. නවවෙනි පැය පැමිනි
කල්හි, යේසුස්වහන්සේ "ඒලොයි
ඒලොයි ලාමා සබාක්තානියි" කියා
මහත් ශබ්දයෙන් හඬගැසේක. එහි
අර්ථයනම්, මාගේ දෙවියනි, මාගේ
දෙවියනි, ඔබවහන්සේ මා අත්
35. ඇරියේ මක්නිසාද යනුය. ලඟ
සිටියවුන්ගෙන් සමහරෙක් ඒ අසා,
"මොහු එලියස්ට අඬගසනෙන්යයි"
36. කීවෝය. එවිට එකෙක් දිව
ගොස්, මුදු හත්තක් කාඩියෙන්
පොවා, බට දඬක බැඳ උන්වහන්
සේට බොන්නට දී, "සිටපල්ලාය;
මොහු බස්සවාගන්ට එලියස් එන්
37. නේදෝ බලමුයයි" කීයේය. එවිට
යේසුස්වහන්සේ මහත් ශබ්ද පවත්වා
38. ප්‍රානය ඇරියසේක. එකල දේව
මාලිගාවේ තිරය උඩ පටන් යට
39. දක්වා දෙකඩව ඉරී ගියේය. උන්
වහන්සේගේ ඉදිරියෙහි සිටියාවූ
සිරේකට නායකයා උන්වහන්සේ
මෙසේ ශබ්ද පවත්වා ප්‍රානය ඇරිය
බව දැක, "මේ මනුෂ්‍යයා සැබැවටම
දෙවියන්වහන්සේගේ පුත්‍ර වියයි"
40. කීයේය. ස්ත්‍රියෝද දුරින් බලා

සිටියෝය. ඔවුන් අතරේ උන්වහන්
සේ ගලීලයේ සිටිකල්හි උන්වහන්
සේ කැටුව ගියාවූ උන්වහන්සේට
උපස්ථාන කලාවූ මග්දලායෙහි මරි
41. යාත් කුඩා යාකොබ්ගේද යෝ
සෙස්ගේද මව්වූ මරියාත් සලොමිත්
උන්වහන්සේ සමග යෙරුසලමට
ආවාවූ වෙන බොහෝ ස්ත්‍රියොත්
සිටියෝය.

42. ඒ දවස සබත් දවසට ප්‍රථමවූ
සූදානම්කරන දවස බැවින්, සවස්වූ
43. කල, දෙවියන්වහන්සේගේ රාජ්‍ය
ය ගැන බලාසිටින්නාවූ ගරුතර මන්
ත්‍රීවූ අරිමාතයෙහි යෝශප් ඇවිත්,
භය නැතුව පිලාත් ලඟට ගොස්,
යේසුස්වහන්සේගේ මිනිය ඉල්වීය.
44. එවිට පිලාත්, උන්වහන්සේ
මෙපමන ඉක්මනින් නැසුනේදැයි
පුදුමව, සියෙකට නායකයා කැඳවා,
"උන්වහන්සේ නැසී බොහෝ වේලා
45. ගියේදැයි" ඇසුයේය. ඒ බව
සියෙකට නායකයාගෙන් දැනගෙ
න, යෝශප්හට මිනිය දුන්නේය.
46. ඔහු සිහින් රෙද්දක් මිල දී
රැගෙන, උන්වහන්සේ බාගෙන ඒ
රෙද්දෙන් ඔතා, පර්වතයෙක්හි කැපූ
සොහොන් ගෙයක තබා, ඒ සො
හොන් ගෙහි දොරකඩට ගලක්
47. පෙරළුයේය. මග්දලායෙහි මරි
යාද යෝසෙස්ගේ මව්වූ මරියාද
උන්වහන්සේ තැබූ ස්ථානය දුටු
වෝය.

16. පරිචෙ. සබත් දවස පසුවූ
කල, මග්දලායෙහි මරියාද යාකොබ්
ගේ මව්වූ මරියාද සලොමීද උන්ව
හන්සේට ආලේප කරනපිනිස සුවඳ
2. ද්‍රව්‍ය මිල දී රැගෙන, සතියෙහි
පලමුවෙනිදා ඉතා උදය ඉර පායන
වේලාවට සොහොන් ගෙය ලඟට
3. ඒමින්, "අපට සොහොන් ගෙයි
දොරකඩින් ගල අහකට පෙරලා
දෙන්නේ කව්දැයි" ඔවුනොවුන්
4. කථාකලෝය. එත්නිසාද, ඒ ගල
ඉතා මහත්විය. ඔවුන් බැළු කල්හි,
ඒ ගල අහකට පෙරලා තිබුනා දැක,
5. සොහොන් ගෙට ඇතුල්ව, දික්වූ
සුදු වස්ත්‍රයක් හඳනාලද දකුනු
පැත්තේ උන්නාවූ තරුනයෙකු දැක
6. භයවූවෝය. ඔහු ඔවුන්ට කථා
කොට, "භයනොවෙල්ලාය; කුරුසි
යෙහි ඇනගසනලද නාසරත් යේසු
ස්වහන්සේ තුබලා සොයති; උන්
වහන්සේ නැගුටුනුසේක; උන්ව
හන්සේ මෙහි නැත; උන්වහන්සේ තැ
7. බූ මේ ස්ථානය බලාපල්ලාය. උන්
වහන්සේ තුබලාට ඉස්සරව ගලීල
යට යනසේක; උන්වහන්සේ තුබ
ලාට කී ලෙස එහිදී උන්වහන්සේ
දකිනවා ඇත. තුබලා ගොස්, මෙප
වත් උන්වහන්සේගේ ගෝලයන්
ටත් පේතෘස්ටත් කියාපල්ලායයි"
8. කීයේය. ඔවුන්ද පුදුමව වෙව්ල
මින් වහා සොහොන් ගෙයින් පලා
ගොස්, භයවූ බැවින් කිසි කෙනෙ
කුට කිසිවක් කීවේ නැත.

9. යේසුස්වහන්සේ සතියෙහි පල
මුවෙනිදා අළුයම් වේලේ නැගිට,
තමන් විසින් යකුන් සත් දෙනෙක්
දුරුකල මග්දලායෙහි මරියාට ප්‍රථම
10. කොට පෙනුනුසේක. ඈ ගොස්
උන්වහන්සේ සමග පලමු සිටියාවූ අය
විලාප කියා හඬමින් සිටිද්දී ඔවුන්
11. ට දැන්වූවාය. එහෙත් උන්වහන්
සේ ජීවත්ව සිටීන බවද ඈ විසින්
දුටු බවද අසා, අදහගත්තේ නැත.

12. එසින් පසු, ඔවුන් අතරෙන්
ගමකට යනනාවූ දෙදෙනෙකුට උන්
වහන්සේ අන් වෙසකින් පෙනුනු
13. සේක. ඔවුන් ගොස් අනිත්
අයින්ට දැන්වූවෝය. ඔවුන් ඒ කී
මත් අදහගත්තේ නැත.

14. ඉන්පසු උන්වහන්සේ කෑමට
උන්නාවූ එකොලොස් දෙනාට
පෙනී, තමන් නැගුටුනු පසු තමන්
දුටුවන්ගේ වචන ඔවුන් අදහනො

ගත් නිසා, ඔවුන්ගේ ඇදහිලි නැති
කමටත් සිත් දැඩි බවටත් ඔවුන්ට
අවවාද කලසේක.

15. තවද උන්වහන්සේ ඔවුන්ට
කියනසේක්, "තුබලා ලොව මුළුල්
ලේ ගොස්, සියළු මනුෂ්‍යයින්ට සුභා
16. රචිය ප්‍රකාසකරපල්ලාය. අද
හගන්නාවූ බව්තිස්ම ලබන්නාවූ
තැනැත්තේ ගලවනු ලැබේ; අදහ
නොගන්නාවූ තැනැත්තේ දඬුවමට
17. නියමකරනු ලැබේ. අදහගන්නා
වුන්ට ඇත්තාවූ ලකුනුනම්, ඔවුන්
මාගේ නාමයෙන් යකුන් දුරුකරති;
18. අන් භාෂාවලින් කථාකරති; සර්
පයන් ඔසවති; මරනයට පමුනුවන
කිසිවක් බිවත් එයින් හිංසා නොල
බති; ලෙඩුන්ට අත් තැබූකල ඔවුන්
19. සුවවෙතියි" කීසේක. ස්වාමින්ව
හන්සේ ඔවුන්ට කථාකලායින් පසු,
ස්වර්ගයට ගෙනයනලදුව, දෙවියන්
වහන්සේගේ දකුනු පැත්තෙහි වැඩ
20. උන්සේක. එවිට ඔවුන් පිටත්ව
ගොස්, සියළු තැන්වලම දේසනාක
ලෝය. ස්වාමින්වහන්සේ ඔවුන්ට පිහි
ටවෙමින්, ඒ වචනය පෙර කී ලකුනු
වලින් සවිකලසේක.

# ලූක් විසින් ලියනලද

## සුභාරචිය.

1. පරිච්ඡේදය. උතුම්වූ තෙයෝ
පිලස්නි, අප අතරේ සැබෑවටම පිලි
ගත් කාරනාවල් පටන්ගැම්මේ සිට
ඇසින් දුටුවාවූ වචනයේ ගැතියන්
2. විසින් අපට දන්වාදුන් ප්‍රකාරයට
පිලිවෙල කථාවක් ලියන්ට බොහෝ
3. දෙන පටන්ගත් බැවින්, තුබට
ඉගැන්වූ කාරනාවල සත්‍යකම තුබ වි
සින් දැනගන්නා පිනිස මුල පටන් සිය
4. ළු කාරනා හරියාකාර විමසා දැන
ගත් මා විසිනුත් ඒ දේ පිලිවෙලින්
ලිවිය යුතුයයි සිතුයෙමි.

5. යුදයේ රජවූ හෙරොද්ගේ කාල
යේ, අබියාගේ වර්ගයෙහිවූ සඛාරියා
නම් පූජකයෙක් සිටියේය. ඔහුගේ
භාර්‍යාව ආරොන්ගේ දුවක. ඇගේ
6. නම එලිසබැත්ය. ඔවුන් දෙදෙන
දෙවියන්වහන්සේගේ ඉදිරියෙහි
ධර්මිෂ්ඨව, ස්වාමින්වහන්සේගේ සියළු
අනෙහිද පනත්හිද නිදෝසව හැසු
7. රුනෝය. එලිසබැත් වඳ බැවින්
ඔවුන්ට දරුවෙක් ලැබුනේ නැත.
ඔවුන් දෙන්නද මහළු වූවෝය.
8. ඔහු වාර පිලිවෙලින් දෙවියන්ව
හන්සේගේ ඉදිරියෙහි තමන්ගේ
9. පූජක තනතුර කරනකල, පූජක
යන්ගේ ව්‍යවහාරය ලෙස ස්වාමින්
වහන්සේගේ මාලිගාවට ඇතුල්ව
දුම් පූජාව කරන වාරය ඔහුට පැමු
10. නුනේය. දුම් පූජාකරන කල
සියළු සමූහය යාඥාකරමින් පිටත
11. සිටියේය. එවිට දුම් ආසනයට
දකුනු පැත්තේ ස්වාමින්වහන්සේගේ
දූතයෙක් සිටිනවා ඔහුට පෙනුනේය.
12. සඛාරියා ඔහු දැක කැලඹී භය
13. පත්වූයේය. දූතයා ඔහුට කථා
කොට, "සඛාරිය, භයනොවෙන්න;
මක්නිසාද තුබේ යාඥාව අසනලද්
දේය. එලිසබැත්නම් තුබේ භාර්‍යාව
තුබ නිසා පුත්‍රයෙකු වදන්නීය. ඔහුට
යොහන් යන නම තබාපන්න.
14. තුබට ප්‍රීති සන්තෝස වනෙන්ය.
බොහෝ දෙනද ඔහුගේ උපදීමට
15. සන්තෝස වෙති. ඔහුද ස්වාමින්

උන්වහන්සේගේ ඉදිරියෙහි මහතෙක්
වන්නේය. මුද්‍රිකපානයවත් මද්‍යපා
නයවත් නොබොන්නේය. මව්කුස
පටන් ශුද්ධාත්මයෙන් සම්පූර්ණව,
16. ඊශ්‍රායෙල්ගේ දරුවන්ගෙන්
බොහෝ දෙන ඔවුන්ගේ ස්වාමිවූ
දෙවියන්වහන්සේ වෙතට හරවන්
17. නේය. ඔහු පියවරුන්ගේ සිත්
දරුවන් දෙසටත් අකීකරුවන් ධර්මි
ෂ්ඨයන්ගේ ඥානයටත් හරවන පිනි
සද, ස්වාමින්වහන්සේට සෑදූ සෙන
ගක් සරහන පිනිසද, එලියස් මෙන්
ආත්මයද බලයද ඇතුව, උන්වහන්
සේට ඉස්සරව යන්නේයයි" කීයේය.
18. එවිට සඛාරියා, "මම මහළුය;
මාගේ භාර්යාවත් වයෝවෘද්ධය. ඒ
නිසා මේ දේ දැනගන්නේ කොහො
මදැයි" දේවදූතයාට කීයේය.
19. දේවදූතයා උත්තර දෙමින්,
"මම දෙවියන්වහන්සේ ඉදිරියෙහි
සිටින්නාවූ ගාබ්‍රියෙල්ය. තුඹ සමග
කථාකරන්ටත් තුඹට මේ සුභාරංචි
20. දන්වන්ටත් එවනලද්දෙමි. නියම
කාලයට සම්පූර්ණ වන්නාවූ මාගේ
වචන තුඹ අදහනොගත් බැවින්,
මේ කාරනා සිද්ධවෙන දවස දක්වා
තුඹට කථාකරන්ට බැරි ලෙස
ගොළුවෙක් වන්නේයයි" කීයේය.
21. සඛාරියා එනකල් බලා සිටියාවූ
සමූහය මාලිගාවේ ඔහු ප්‍රමාදවූ
22. බැවින් පුදුමවිය. ඔහු පිටත
ආකල, ඔවුන් සමග කථාකරන්ට
ඔහුට බැරිවිය. එවිට ඔහු කථාක
රන්ට නොහැකිව ඔවුන්ට සඤ්ඥා
කල බැවින්, මාලිගාවේදී ඔහු දර්ශන
යක් දුටුයේයයි ඔවුන් දැනගත්
23. තෝය. ඔහු තමාගේ මෙහෙක
රන දවස් තීන්දුවූ කල ගෙදරට
24. ගියේය. ඒ දවස්වලට පසු ඔහු
ගේ භාර්යාවවූ එලිසබෙත් ගර්භිනිව,
25. "මාගේ නින්දාව මනුෂ්‍යයන්
අතරෙන් පහකරන පිනිස, ස්වාමීන්
වහන්සේ මා දෙස බැළූ දවස්වලද්
මට මෙසේ කලසේක" කියා පස්
මසක් සැඟවී උන්නාය.

26. සවෙනිමාසේදී, ගාබ්‍රියෙල්නම්
දේවදූතයා ගලීලයෙහිවූ නාසරෙත්
27. නම් නුවර සිටින්නාවූ දාවිත්ගේ
වංශයෙහිවූ යෝසෙප්නම් පුරුෂයෙ
කුට විවාහ බස් දුන්නාවූ මරියානම්
කන්‍යාව වෙතට දෙවියන්වහන්සේ
28. විසින් එවනලද්දේය. ඒ දූතයා
ඇ සිටි තැනට පැමින, "බොහෝ
කරුනාව ලැබූවාවූ තුඹ සැපෙන්
සිටපන්න; ස්වාමින්වහන්සේ තුඹ
සමගය; ස්ත්‍රීන් අතරෙහි තුඹ ආශී
29. ර්වාද ලත්තියයි" කීයේය. ඇ ඔහු
දැක ඔහුගේ බසින් කැලඹී, "මේ
කොයි ආකාර ආචාරයක්දැයි" සිත
30. මින් උන්නාය. දේවදූතයා ඇට
කථාකොට, "මරියා, භයනොවෙන්
න; තුඹ දෙවියන්වහන්සේගෙන්
31. කරුනාව ලැබූවාය. තුඹ ගර්භි
නිව පුත්‍රයෙක් වදන්නීය. උන්වහන්
සේට යේසුස් යන නම තබන්නීය.
32. උන්වහන්සේ උත්තමයෙක්
වන්නේය; මහෝත්තමයාගේ පුත්‍ර
යයි කියනු ලැබේ. උන්වහන්සේගේ
පියවූ දාවිත්ගේ සිංහාසනය ස්වාමීවූ
දෙවියන්වහන්සේ උන්වහන්සේට
33. දෙනසේක. උන්වහන්සේ යා
කොබ්ගේ වංශයෙහි නිතරම රජ
කම් කරනසේක; උන්වහන්සේගේ
රාජ්‍යය කෙලවරට පැමිනෙන්නේ
34. නැතැයි" කීයේය. එවිට මරියා
දූතයාට කථාකොට, "මම පුරුෂ
යෙක් නාදුනමි; එබැවින් මේක සිද්ධ
වෙන්නේ කොහොමදැයි" කීවාය.
35. දේවදූතයා උත්තර දෙමින්,
"ශුද්ධාත්මය තුඹ කෙරෙහි බසින්
නේය; මහෝත්තමයාගේ ආනුභාව
තුඹ වසාගන්නේය. එබැවින් තුඹ
ගෙන් උපදින්නාවූ ශුද්ධවූ තැනැත්
තේ දෙවියන්වහන්සේගේ පුත්‍රයයි
36. කියනු ලැබේ. තවද තුඹේ නෑවූ
එලිසබෙත් මහළු වියෙහිදී පුත්‍ර

ගර්භයක් ධරන්නීය. වඳීයයි කියන
ලද ඈට දැනට සවෙනි මාසය වන්
37. නේය. මක්නිසාද දෙවියන්වහන්
සේට නුපුළුවන්වූ කිසි දෙයක්
38. නැතැයි” කීයේය. මරියාද, “මම
ස්වාමින්වහන්සේගේ දාසි වෙමි;
නුඹේ වචන ලෙස මට වේවයි”
කීවාය. එවිට දේවදූතයා ඈ කෙ
රෙන් ගියේය.

39. ඒ දවස්වලදී මරියා පිටත්ව,
යුදයෙහිවූ කඳුවලින් ගැවසීගත්
40. රතේ නුවරකට කඩිනමින් ගොස්,
සඛාරියාගේ ගෙට ඇතුල්ව එලිස
41. බැත්ට ආචාර කලාය. එලිසබැත්
මරියාගේ ආචාර වචන ඇසූ කල,
ඈගේ කුසේ ලමයා පැනනැංගේය.
එවිට එලිසබැත් සුධාත්මයෙන් සම්
42. පූර්ණව, මහත් ශබ්ද පවත්වා
කියන්නී, “නුඹ ස්ත්‍රීන් අතරෙන්
ආශිර්වාද ලද්දීය; නුඹේ ගර්භයෙහි
43. ඵලයද ආශිර්වාද ලද්දේය. මාගේ
ස්වාමින්වහන්සේගේ මෑනියෝ මා
වෙතට ආවාය. මේ කොයේ සිද්ධිද?
44. නුඹේ ආචාර ශබ්දය මාගේ
කන්වලට වැටුනු කෙනෙහිම මාගේ
කුසේ ලමයා ප්‍රීතියෙන් පැනනැං
45. ගේය. ස්වාමින්වහන්සේ විසින්
කී වචනය සම්පූර්ණ වන්නේයයි
අදහගත් තැනැත්තී භාග්‍යවන්තී
යයි” කීවාය.

46. එවිට මරියා කියන්නී, “මාගේ
සිත ස්වාමින්වහන්සේට ප්‍රසංසා
47. කරන්නේය; මාගේ ආත්මය
මාගේ ගැලවුන්කාර දෙවියන්වහන්
සේ කෙරෙහි සතුටු වන්නේය.
48. උන්වහන්සේ තමන් දාසියගේ
හීනකම බැලූසේක; එබැවින් මෙ
තැන් පටන් සියලු වර්ගයෝ මට
භාග්‍යවන්තියයි කියනවා ඇත.
49. බලවත්වූ තැනැත්වහන්සේ
මහත්වූ කාරනා මට කලසේක.
උන්වහන්සේගේ නාමය පිරිසිදුය.
50. උන්වහන්සේගේ කරුනාව උන්
වහන්සේට භයවෙන්නන් කෙරෙහි
පරම්පරාවෙන් පරම්පරාවට පවතින්
51. නේය. උන්වහන්සේ තමන්ගේ
අතේ බලය දැක්වූසේක; අහංකාර
යන්ගේ සිත්හි අභිප්‍රාවල් විසිරවූසේ
52. ක. උන්වහන්සේ බලවන්තයන්
සිංහාසනවලින් හෙලා, යටහත්
53. උසස්කලසේක. බඩගිනිවූවන්
යහපත් දෙයින් පිනවා, වස්තුකාර
54. යන් සිස් අතින් ඇරියසේක. උන්
වහන්සේ අපගේ පියවරුන්ට කී
55. ලෙස, ආබ්‍රහම්ටද හැම කල්හිම
ඔහුගේ වංශයටද අනුකම්පා සිත්
ඇතුව, තමන් දාසවූ ඊශ්‍රායෙල්ට
56. පිහිටවූසේකැයි” කීවාය. මරියා
ඈ සමග තුන් මසක් පමන වාසය
කොට, නැවත ඈගේම ගෙදරට
ගියාය.

57. එලිසබැත්ගේ වදන කාලය
සම්පූර්ණවූ කල්හි ඈ පුත්‍රයෙක්
58. වැදුවාය. ඈගේ අසල්වාසියෝද
නෑයෝද ස්වාමින්වහන්සේ ඈ කෙ
රෙහි මහත් කරුනා කල බව අසා,
59. ඈ සමග සන්තෝස වූවෝය. අට
වෙනිදා ලමයා චර්මඡේදනය කරන
පිනිස ඇවිත්, ඔහුගේ පියාගේ නාම
යේ ප්‍රකාරයට ඔහුට සඛාරියායයි නම්
60. තබන්ට කැමතිවූවෝය. එවිට ඔ
හුගේ මව්, “එසේ නොවේය; ඔහුට
යොහන් යන නම තැබිය යුතුයයි”
61. කීවාය. ඔවුන්ද “නුඹේ නෑයන්
අතරෙන් කවුරුවත් මේ නම ලැබුවේ
62. නැතැයි” ඈට කියා, ඔහුගේ පි
යා ඔහුට මොන නමක් තබන්ට කැම
තිදැයි දැනගන්ට ඔහුට සංඥා කලෝ
63. ය. ඔහු ලියන ලෑල්ලක් ඉල්ලා
ගෙන, “ඔහුගේ නම යොහන්යයි”
ලිව්වේය. සියල්ලෝද එයට පුදුමවූ
64. වෝය. එවලේම ඔහුගේ කට
ඇරී දිවේ බැඳුම් ලිහී, ඔහු කථාකර
මින් දෙවියන්වහන්සේට ප්‍රසංසා
65. කලේය. එවිට ඔවුන් වටකර
විසූ සියල්ලෝ භයවූවෝය. මේ සියලු

පවත් යුදයෙහිවූ සියළු කඳු රටවල
66. පතලවූනේය. ඒ ඇසූ සියල්ලෝ
ඒදේ සිත්වල තබාගෙන, "මේ ළමයා
කොයිප්‍රකාර කෙනෙක් වෙනවාදැයි"
කීවෝය. ස්වාමින්වහන්සේගේ අත
ඔහු සමග තිබුණේය.
67. එවිට ඔහුගේ පියවූ සඛාරියා
ශුද්ධාත්මයෙන් සම්පූර්ණව, අනා
68. ගත වචන කියමින්, "ඉශ්‍රායෙල්
ගේ ස්වාමිවූ දෙවියන්වහන්සේට
සතුතිවේවා; මක්නිසාද, උන්වහන්
සේ තමන්වහන්සේගේ සෙනග බලා
69. ඔවුන්ට මිදීම සාදා දී, ලෝකේ
පටන්ගැම්මේ සිට සිටියාවූ තමන්
වහන්සේගේ ශුද්ධවූ අනාගතවක්
70. තෘන් ලවා කියවූ ලෙස අපේ
සතුරන්ගෙන්ද අප කෙරේ වෛර
බැඳගත් සියල්ලන්ගේ අතින්ද අප
71. ගලවන, තමන්ගේ දාසවූ දාවිත්
ගේ වංශයෙන් අප උදෙසා ගැලවීම
72. නැමති අඟක් නැගුසේක. මෙ
සේ උන්වහන්සේ අපේ සතුරන්ගේ
73. අතින් අප ගලවා, අපි ජීවත්ව
සිටින සියළු දවස්වලදී භයක් නැතුව
74. ශුද්ධකමිනුත් ධර්මිෂ්ඨකමිනුත්
උන්වහන්සේට වැඩකරන්ට සලස්
වන පිණිස, අපේ පියවූ ආබ්‍රහම්ට
දිවුල දිව්රීම වන තමන්වහන්සේගේ
75. ශුද්ධවූ ගිවිසුම සිහිකොට අපේ
පියවරුන්ට පොරොන්දුවූනාවූ කරු
76. ණාව ඉෂ්ටකරනසේක. එබා ළද
රුව, නුඹ මහෝත්තමයාගේ අනා
ගතවක්තෘයයි කියනු ලැබ, ස්වාමින්
වහන්සේගේ මාර්ගයන් සාදන්ටද
77. අපගේ දෙවියන්වහන්සේගේ
මොලොක්වූ දයාවෙන් උන්වහන්
සේගේ සෙනගගේ පාපවල මිදී
මෙන් ඔවුන්ට ගැලවීම දන්වන්ටද
78. උන්වහන්සේට ඉස්සරව යන්
79. නේය. ඒ දයාවෙන් අඳුරෙහිද
මරණයේ සෙවනෙහිද සිටින්නන්ට
එළිය දෙන පිණිසත්, අපේ පාද සමා
දාන මාර්ගයට පමුනුවන පිණිසත්,
උඩින් අරුණාලෝකයක් අපට පහ
ළවිගෙනි" කීය.
80. ළමයාද වැඩී ආත්මයෙන්
බලවත්ව, ඉශ්‍රායෙල්ට තමා පෙනෙ
න දවස දක්වා වනාන්තරයෙහි සිටි
යේය.

2. පරිච්ඡේ. ඒ කාලයෙහිදී රට
වාසී සියල්ලන් ලියාගන්නා පිණිස,
කායිසර් අගොස්තු රජ අණ දුන්
2. නේය. මේ පලමුවෙනි ලිවීම
කිරේනියස් සිරියාවෙහි අධිපතිකම්
3. කරන කාලයෙහි සිදුවූයේය. සිය
ල්ලෝද ලියවෙන්ට තමතමන්ගේ
4. නුවරවලට ගියෝය. එවිට යෝ
සැප් දාවිත්ගේ පවුලෙහිද වංශයෙ
හිද බැවින්, තමාට විවාහ බස් දුන්
ගර්භිනිවූ මරියානම් භාර්යාව සමග
ලියවෙන්ට ගලිලයෙහිවූ නාසරෙත්
5. නුවරින් පිටත්ව, යුදයේ බෙත්ලෙ
හෙම්නම් දාවිත්ගේ නුවරට ගියේය.
6. ඔවුන් එහි සිටින කල, ඇගේ
වදන කාලය සම්පූර්ණව කුළුදුල්
7. පුත්‍රයා වදා, වස්ත්‍රයකින් වෙලා,
නවාතැන් ගෙයි ඔවුන්ට අවකාශ
මදි නිසා ගවයින් කන ඔරුවක
බැවූවාය.
8. ඒ දේශයෙහි, රෑ තමන්ගේ
බැටළු රැල ප්‍රවේසම් කරන්නාවූ
9. එඬේරු කෙතෙහි සිටියෝය. ස්වා
මින්වහන්සේගේ දූතයා ඔවුන් ලඟට
ආයේය; ස්වාමින්වහන්සේගේ තේජ
සද ඔවුන් වටකර බැබළුනේය.
එවිට ඔවුන් අතිසයින් භයපත්වූ
10. වෝය. දේවදූතයා ඔවුන්ට කථා
කොට, "භයනොවෙල්ලාය; සියළු
මනුෂ්‍යයන්ට මහත් සන්තෝස උප
දවන සුභාරංචිය නුඹලාට දන්වමි.
11. මක්නිසාද, ස්වාමිවූ ක්‍රිස්තුස්නම්
ගැලවුන්කාර කෙනෙක් නුඹලා
සඳහා දාවිත්ගේ නුවර අද උපන්
12. සේක. වස්ත්‍රයකින් වෙලා ගව
යින් කන ඔරුවක බාවා ඉන්න ඒ

බිළිඳු තුඹලාට සම්භවෙනවා ඇත.
ඒක තුඹලාට ලකුණකැයි" කීයේය.
13. එවලේම ඒ දේවදූතයා සමග
මහත් ස්වර්ගීය සේනාවෝ දෙවි
14. යන්වහන්සේට ප්‍රසංසාකරමින්, "ඉ
තා උසස්වූ ස්ථානයෙහි දෙවියන්ව
හන්සේට මහිමයද පොලොවෙහි
සමාදානයද මනුෂ්‍යයන් කෙරෙහි
15. කරුනාවද වේවයි" කීවෝය. දේ
වදූතයෝ ඔවුන් හැර ස්වර්ගයට
ගියවිට, එඬේරු ඔවුනොවුන් කථා
කොට, "දැන්ම බෙත්ලෙහෙමට
ගොස්, ස්වාමින්වහන්සේ විසින් අපට
එළිදරව්කල මේ සිඬවුනු කාරනාව
16. බලමුය" කියා, වහාම ගොස්,
මරියාද යෝසැප්ද ගවයින් කන
ඔරුවේ බාවා උන් බිළිඳුද දුටුවෝය.
17. ඔවුන් ඒ දැක, බිළිඳු ගැන
තමන්ට කියනලද දේ එළිදරව්
18. කලෝය. ඒ ඇසූ සියල්ලෝ
තමන්ට එඬේරුන් විසින් කියනලද
19. දේවලට පුදුම වූවෝය. එහෙත්
මරියා ඒ සියල්ල කල්පනාකරමින්,
20. සිතේ තබාගත්තාය. එඬේරුද
තමන්ට කී ලෙස ඇසූ දුටු සියල්ල
ගැන දෙවියන්වහන්සේට ස්තුති
ප්‍රසංසාකරමින් හැරී ගියෝය.

21. බිළිඳුගේ චර්මඡේදනය කිරීම
ට අට් දවස සම්පූර්ණවූ කල, උන්ව
හන්සේ කුසේ පිළිසිඳෙන්ට පලමු
වෙන් දේවදූතයා විසින් තබනලද
යේසුස් යන නාමය තැබුවෝය.
22. මෝසෙස්ගේ ව්‍යවස්ථාවෙහි
ප්‍රකාරයට ඇගේ පවිත්‍රවීමෙහි දවස්
23. සම්පූර්ණවූ කල, 'කුළුදුල්වූ
සියළු පිරිමි ස්වාමින්වහන්සේට පවි
ත්‍රයෝයයි කියනු ලබතියි' ස්වාමින්
වහන්සේගේ ව්‍යවස්ථාවෙහි ලියා
තිබෙන ලෙස උන්වහන්සේ ස්වාමින්
වහන්සේගේ ඉදිරියෙහි තබන පිනි
24. සද, ස්වාමින්වහන්සේගේ ව්‍යව
ස්ථාවෙහි කියා තිබෙන ලෙස කො
බෙයියන් දෙන්නෙක්වත් පරෙවි
පැටවුන් දෙන්නෙක්වත් යාගයක්
කොට පුදන පිනිසද, උන්වහන්සේ
25. යෙරුසලමට ගෙන ගියෝය. යෙ
රුසලමෙහි සිමියොන්නම් මනුෂ්‍ය
යෙක් සිටියේය; ඔහු ඊශ්‍රායෙල්ගේ
සැනසීම බලා සිටින්නාවූ ධර්මිෂ්ඨවූ
භක්තිවන්තවූ තැනැත්තෙක. ශු
ද්ධාත්මයාණෝද ඔහු කෙරෙහි වූසේ
26. ක. "ස්වාමින්වහන්සේගේ ක්‍රිස්තුස්
දකින්නට පලමුවෙන් තුඹ මරනය
දකින්නේ නැත" කියා, ශුද්ධාත්මයා
ණන් විසින් ඔහුට ප්‍රකාශ කරනලද්
27. දේය. ඔහු ශුද්ධාත්මයාණන් විසින්
දේවමාලිගාවට පමුනුවනලද්දේය.
ළදරුවූ යේසුස්වහන්සේට ව්‍යවස්ථා
වෙහි සිරිත් ලෙස කරන්ට මව්පියෝ
28. උන්වහන්සේ ගෙනාවිට, ඔහු
උන්වහන්සේ දෑතින් වඩාගෙන,
දෙවියන්වහන්සේට ස්තුතිකොට
29. කියනුයේ, "ස්වාමින්වහන්ස,
අන්‍යජාතීන්ට එළියකිරීමට ආලෝ
කයක්ද ඔබවහන්සේගේ ඊශ්‍රායෙල්
30. සෙනගගේ තේජසදවූ, සියළු
මිනිසුන් ඉදිරියෙහි ඔබවහන්සේ
විසින් පිළියෙලකල ගැලවීම මාගේ
31. ඇසින් දුටු බැවින්, ඔබවහන්
සේගේ වචන ලෙස ඔබවහන්සේගේ
32. වැඩකාරයා දැන් සමාදානයෙන්
33. හරිනසේකැයි" කීයේය. උන්ව
හන්සේ ගැන කී කාරනාවලට යෝ
සැප්ද උන්වහන්සේගේ මෑනියෝද
34. පුදුමවූවෝය. ඉන්පසු සිමියොන්
ඔවුන්ට ආශීර්වාදකොට, උන්වහන්
සේගේ මව්වූ මරියාට කියමින්,
"මේ ළදරුවා බොහෝ දෙනාගේ
සිත්හි සිතිවිලි එළිදරව්කිරීම පිනි
සත්, ඊශ්‍රායෙල්හි බොහෝ දෙනා
ගේ වැටීම පිනිසත්, නැගිටීම පිනි
සත්, විරුඬව කියනු ලබන ලකුනක්
35. කොට නියමකරනලද්දේය. තු
ඹේ හිතටද කඩුවකින් හනිනු
ලැබේයයි" කීයේය.

36. ආෂර්ගේ ගෝත්‍රයෙහිවූ ඵානූ
වෙල්ගේ දුවූ ඉතා මහළුවූ ආනානම්
අනාගතවක්තෘයක් සිටියාය. ඈ ක
න්‍යාවස්ථාවෙහි පටන් සත් අවුරුද්
දක් ස්වාමි පුරුෂයෙකු සමග වාසය
37. කලාය. ඈ අවුරුදු අසූ හතරක්
පමන වයස් ඇති වැන්දඹු ස්ත්‍රියෙක.
ඈ දේව මාලිගාවෙන් නොගොස්,
රෑ දවල් දෙක්හි නිරාහාරයෙන් ඉද
38. යාඥාවීමෙන් මෙහෙකලාය. ඈද
එවේලේම ඇවිත්, ස්වාමින්වහන්සේට
ස්තුතිකොට, ගැලවීම බලා සිටියාවූ
යෙරුසලමෙහි සියළු දෙනාට උන්ව
හන්සේ ගැන කථාකලාය.

39. ස්වාමින්වහන්සේගේ ව්‍යවස්ථා
වෙහි ප්‍රකාරයට ඔවුන් සියල්ල නිම්
දුකලවිට, ගලීලයෙහිවූ නාසරෙත්
නම් තමන්ගේ නුවරට හැරී ගියෝය
40. ළමයාද වැඩී, ආත්මයෙන් බල
වත්ව නුවණින් සම්පූර්ණවිය. දෙවි
යන්වහන්සේගේ කරුනාවද උන්ව
හන්සේ කෙරෙහි වූයේය.

41. උන්වහන්සේගේ දෙමව්පි
යෝ අවුරුදු පතා පාස්කු මංගල්‍ය
42. යට යෙරුසලමට ගියෝය. උන්
වහන්සේට දොලොස් අවුරුදු වයස්වූ
කල, ඔවුන් මංගල්‍ය සිරිත් ලෙස
43. යෙරුසලමට ගියෝය. නියම
දවස් පසුවුනුවිට, නැවත එද්දී,
බාලවූ යේසුස්වහන්සේ යෙරුසල
මෙහි සිටිසේක. යෝසැප්ද උන්
වහන්සේගේ මෑනියෝද ඒ බව
44. නොදැන, උන්වහන්සේ එන්නන්
හා සමගයයි සිතා, දවසක ගමන්
ගොස්, නෑයන්ද අඳුනන්නවුන්ද
අතරෙහි උන්වහන්සේ සොයා නො
45. දැක, සොයමින්ම යෙරුසලමට
46. ආපසු ගියෝය. තුන් දවසකට
පසු, උන්වහන්සේ දේවමාලිගාවේ
පණ්ඩිතයන් මැද හිද, ඔවුන් කියන
දේ අහන බවද ඔවුන්ගෙන් ප්‍රශ්න
47. විචාරන බවද දුටුවෝය. උන්ව
හන්සේගේ බස් ඇසූ සියල්ලෝම්
උන්වහන්සේගේ නුවණට හා උත්
48. තරවලට විස්මපත්වූවෝය. උන්
වහන්සේගේ දෙමව්පියෝද උන්ව
හන්සේ දැක පුදුමවූවෝය. උන්ව
හන්සේගේ මෑනියෝ, "පුත්‍රය, නුබ
අපට මෙසේ කලේ මක්නිසාද?
නුබේ පියානෝද මමද ශෝකයෙ
මින් නුබ සෙව්වෙමුයයි" කීවාය.
49. එවිට උන්වහන්සේ, "නුබලා
මා සෙව්වේ මක්නිසාද? මා විසින්
මාගේ පියානන්වහන්සේගේ වැඩ
කරන්ට යුතු බව නුබලා දන්නේනැද්
50. දැයි" ඔවුන්ට කීසේක. එහෙත්
උන්වහන්සේ විසින් කී වචනය
51. ඔවුන්ට තේරුම් ගියේ නැත. ඉන්
පසු උන්වහන්සේ ඔවුන් සමග ගොස්,
නාසරෙත් නුවරට පැමින, ඔවුන්
ට යටත්ව සිටිසේක. උන්වහන්
සේගේ මෑනියෝද මේ සියල්ල
52. තමන් සිතේ තබාගත්තාය. යේ
සුස්වහන්සේ ප්‍රඥාවෙන් හා උසමහ
තින්ද දෙවියන්වහන්සේගේත් මනු
ෂ්‍යයන්ගේත් කරුනාවෙන්ද වැඩුනු
සේක.

3. පරිච්. තිබේරියස් කායිසර්
රජ්‍යයට පැමිනි පසලොස්වෙනි අවු
රුද්දේදී, පොන්තියුස් පිලාත් යුදු
යට අධිපතිවද, හෙරොද් රටෙන්
සතරෙන් කොටසක්වූ ගලීලයට අධි
පතිවද, ඔහුගේ සහෝදරවූ පිලිප්
රටෙන් සතරෙන් කොටසක්වූ ඉතූර
යටත් ත්‍රකොනිතිස් නම්ලත් දේසය
ටත් අධිපතිවද, ලිසානියස් රටෙන්
සතරෙන් කොටසක්වූ අබිලේනියට
2. අධිපතිවද, අන්නස් සහ කායා
ඵස් නායක පූජකවද සිටි කාලයෙහි,
දෙවියන්වහන්සේගේ වචනය වනාන්
තුරයෙහිදී සකරියාගේ පුත්‍රවූ යෝ
3. හන් වෙතට පැමුනුනේය. එවිට
ඔහු පාපවලින් මිදීම පිනිස පසුතැ
විල්ලෙහි බව්තීස්මය ප්‍රකාසකරමින්,
යොර්දන් වටකර සියළු රටවලටම

4. ආයේය. මක්නිසාද, "ස්වාමින්ව
හන්සේගේ මාර්ගය සාදා, උන්වහන්
සේගේ මාවත් ඇද හැරපල්ලාය;
5. සියළු මිටි තැන් පුරවනු ලැබේ;
සියළු කඳුද හෙල්ද පාත්කරනු
ලැබේ; ඇද තැන් හරිගස්සනු
ලැබේ; උස් මිටි මාවත් සමතලාක
6. රනු ලැබේ; සියළු මනුෂ්‍යයෝ
දෙවියන්වහන්සේගේ ගැලවීම දකි
නවා ඇතැයි, වනාන්තරයෙහි හඬග
ාන්නාහුගේ ශබ්දයයි" යෙසායියා
අනාගතවක්තෘහුගේ පොතෙහි ලියා
7. නලද්දේය. එවිට යොහන් තමා
ගෙන් බව්තීස්මය ලබන්නට පිටත්
ආවාවූ සමූහයන්ට කථාකොට, "පො
ලොන් වංශයෙනි, පැමිණෙන උදහ
සින් පලායන්ට නුබලාට දන්නුවේ
8. කවුද? ආබ්‍රහම් අපේ පියාණෝ
යයි සිතන්ට පටන්නොගෙන, පසු
තැවිල්ලට සුදුසු ඵල උපදවාපල්
ලාය. මක්නිසාද, මේ ගල්වලින්
ආබ්‍රහම්ට දරුවන් උපදවන්ට දෙවි
යන්වහන්සේට පුළුවනැයි නුබලාට
9. කියමි. දැන් ගස් මුල පොරව තබා
තිබෙයි. එබැවින්, යහපත් ඵල
නොදෙන සියළු ගස් කපනු ලැබ,
ගින්නෙහි දමනු ලැබේයයි" කියේය.
10. එවිට සමූහයෝ, "එසේවීනම්,
කුමක් කරමුදැයි" ඔහුගෙන් ඇසූ
11. වෝය. ඔහු උත්තර දෙමින්,
"ඇඳුම් දෙකක් ඇති තැනැත්තා
නැති තැනැත්තාට දීනුවාවේ; කෑම
ඇති තැනැත්තාද එසේම කරනු
12. වාවේයයි" ඔවුන්ට කීයේය. සුං
ගම් අයකරන්නෝද බව්තීස්මය
පිනිස ඇවිත්, "ආචාර්යනි, අපි කුමක්
කරමුදැයි" ඔහුගෙන් ඇසූවෝය.
13. ඔහු, "නුබලාට නියමකල පම
ණට වඩා අයනොකරල්ලායයි"
14. ඔවුන්ට කීයේය. සේවායෝද,
"අපි කුමක් කරමෝදැයි" ඔහුගෙන්
ඇසූවෝය. ඔහුද, "කාටවත් බලාත්
කාර නොකරල්ලාය; බොරු වැරදි
නොතබල්ලාය; නුබලාගේ කුළී
පමණකින් සතුටුවෙයල්ලායයි" කී
යේය.

15. සමූහයා බලා සිටින අතරද
සියල්ලෝ යොහන් ක්‍රිස්තුස්වහන්
සේදෝ නොවේදෝ තමන් සිතින්
සිතන අතරද, යොහන් සියල්ලන්ට
16. කථාකොට, "මම වතුරෙන්
නුබලා බව්තීස්ම කෙරෙමි. එහෙත්
මට වඩා බලවත් කෙනෙක් එන
සේක. උන්වහන්සේගේ වහන්
සගලේ පටිය මුදන්ටවත් මම වටින්
නේ නැත. උන්වහන්සේ සුද්ධාත්ම
යෙනුද ගින්නෙනුද නුබලා බව්තීස්ම
17. කරනසේක. උන්වහන්සේ කුල්ල
අතේ ඇතිව, තමන්ගේ කලවිට
හොඳ ලෙස පිරිසිදුකරනසේක.
ධාන්‍යය තමන් අටුවට රැස්කොට,
බොල් නොනිවෙන ගින්නෙන් දව
18. නසේක" කියා, වෙනත් බො
හෝ කාරනයන්ද ගෙනහැරදක්වා,
සමූහයාට සුභාරංචිය ප්‍රකාස කලේය.
19. එවිට රටෙන් සතරෙන් කොට
සකට අධිපතිවූ හෙරොද් තමන්
සහෝදරවූ පිලිප්ගේ භාර්යාවූ හෙ
රොදියස් නිසාද, තමා විසින් කල
සියළු නපුරුකම් නිසාද, යො
20. හන්ගෙන් අවවාද ලැබ,
ඒ සියළු නපුරුකම් කලා පම
ණක් නොව, යොහන් හිරේද
දැම්මේය.

21. සියළු සෙනග බව්තීස්ම ලැබූ
විට, යේසුස්වහන්සේද බව්තීස්ම
22. ලැබ, යාඥාකරන කල, අහස
ඇරී සුද්ධාත්මයානන්වහන්සේ පරවි
යෙකු මෙන් දෘශ්‍යමාන රූපයෙන්
උන්වහන්සේ පිටට බැස්සසේක.
එවිට, "නුබ මාගේ ප්‍රිය පුත්‍රයාය;
නුබ කෙරෙහි ඉතා සතුටුයෙමියි"
අහසෙන් හඬක් වූයේය.

23. යෝසැප්ගේ පුත්‍රයයි සිතනු
ලැබූ යේසුස්වහන්සේ තිස් අවුරුදු
පමන වයසට පැමිනිසේක. යෝසැප්

24. හේලිගේ පුත්‍රයාය. ඔහු මත්තාගේ පුත්‍රයාය. ඔහු ලෙවීගේ පුත්‍රයාය. ඔහු මෙල්කිගේ පුත්‍රයාය. ඔහු යාන්නාගේ පුත්‍රයාය. ඔහු යෝසෙප් 25. ගේ පුත්‍රයාය. ඔහු මත්තතියස්ගේ පුත්‍රයාය. ඔහු අමොස්ගේ පුත්‍රයාය. ඔහු නාහුම්ගේ පුත්‍රයාය. ඔහු එස්ලිගේ පුත්‍රයාය. ඔහු නග්ගී 26. ගේ පුත්‍රයාය. ඔහු මාත්ගේ පුත්‍රයාය. ඔහු මත්තතියස්ගේ පුත්‍රයාය. ඔහු සෙමෙයිගේ පුත්‍රයාය. ඔහු යෝසෙප්ගේ පුත්‍රයාය. ඔහු යූද 27. ගේ පුත්‍රයාය. ඔහු යෝහන්නාගේ පුත්‍රයාය. ඔහු රේසාගේ පුත්‍රයාය. ඔහු සොරොබාබෙල්ගේ පුත්‍රයාය. ඔහු සාලාතියෙල්ගේ පුත්‍රයාය. 28. ඔහු නේරිගේ පුත්‍රයාය. ඔහු මෙල්කිගේ පුත්‍රයාය. ඔහු අද්දිගේ පුත්‍රයාය. ඔහු කෝසම්ගේ පුත්‍රයාය. ඔහු ඇල්මෝදම්ගේ පුත්‍රයාය. ඔහු 29. ඇර්ගේ පුත්‍රයාය. ඔහු යෝසේගේ පුත්‍රයාය. ඔහු ඇලියෙසර්ගේ පුත්‍රයාය. ඔහු යොරිම්ගේ පුත්‍රයාය. ඔහු මාත්තාත්ගේ පුත්‍රයාය. ඔහු 30. ලෙවීගේ පුත්‍රයාය. ඔහු සිමියොන්ගේ පුත්‍රයාය. ඔහු යූදාගේ පුත්‍රයාය. ඔහු යෝසෙප්ගේ පුත්‍රයාය. ඔහු යෝනාන්ගේ පුත්‍රයාය. ඔහු එලි 31. යාකිම්ගේ පුත්‍රයාය. ඔහු මෙලියාගේ පුත්‍රයාය. ඔහු මයිනාන්ගේ පුත්‍රයාය. ඔහු මත්තාතාගේ පුත්‍රයාය. ඔහු නාතාන්ගේ පුත්‍රයාය. ඔහු දාවිත් 32. ගේ පුත්‍රයාය. ඔහු යෙස්සේගේ පුත්‍රයාය. ඔහු ඔබෑත්ගේ පුත්‍රයාය. ඔහු බෝවස්ගේ පුත්‍රයාය. ඔහු සාල්මොන්ගේ පුත්‍රයාය. ඔහු නාස්සොන් 33. ගේ පුත්‍රයාය. ඔහු අමීනාදබ්ගේ පුත්‍රයාය. ඔහු ආරම්ගේ පුත්‍රයාය. ඔහු එස්‍රෝම්ගේ පුත්‍රයාය. ඔහු ඵාරෙස්ගේ පුත්‍රයාය. ඔහු යූද 34. ගේ පුත්‍රයාය. ඔහු යාකොබ්ගේ පුත්‍රයාය. ඔහු ඊසාක්ගේ පුත්‍රයාය. ඔහු ආබ්‍රහම්ගේ පුත්‍රයාය. ඔහු තෙරගේ පුත්‍රයාය. ඔහු නාකෝර්ගේ 35. පුත්‍රයාය. ඔහු සාරුක්ගේ පුත්‍රයාය. ඔහු රගාගේ පුත්‍රයාය. ඔහු පාලෙක්ගේ පුත්‍රයාය. ඔහු හෙබෑර්ගේ පුත්‍රයාය. ඔහු සාලාගේ පුත්‍රයාය. 36. ඔහු කායිනන්ගේ පුත්‍රයාය. ඔහු අර්ඵාක්සද්ගේ පුත්‍රයාය. ඔහු ෂෙම්ගේ පුත්‍රයාය. ඔහු නෝවඃගේ පුත්‍ර 37. යාය. ඔහු ලාමෙක්ගේ පුත්‍රයාය. ඔහු මෙතුසලාගේ පුත්‍රයාය. ඔහු එනොක්ගේ පුත්‍රයාය. ඔහු යාරෙද්ගේ පුත්‍රයාය. ඔහු මලලීල්ගේ පුත්‍රයාය. ඔහු කායිනන්ගේ පුත්‍රයාය. ඔහු 38. එනොස්ගේ පුත්‍රයාය. ඔහු සෙත්ගේ පුත්‍රයාය. ඔහු ආදම්ගේ පුත්‍රයාය. ඔහු දෙවියන්වහන්සේගේ පුත්‍රයාය.

4. පරිච්. යේසුස්වහන්සේ ශුද්ධාත්මයෙන් සම්පූර්ණව, යොර්දනෙන් හැරී ඇවිත්, ආත්මයානන්වහන්සේ විසින් වනාන්තරයට පමුණු 2. වනු ලැබ, සතළිස් දවසක් සාතන් විසින් පරීක්ෂාකරනු ලැබූසේක. ඒ දවස්වලදී උන්වහන්සේ කිසිවක් නොකා උන්සේක. ඒ දවස් ඉකුත්වූ පසු උන්වහන්සේට බඩගිනි 3. විය. එකල සාතන්, "නුඹ දෙවියන්වහන්සේගේ පුත්‍රවනසේක්නම්, මේ ගල රොටි වෙන්ට අණකළමැන 4. වයි" උන්වහන්සේට කීයේය. යේසුස්වහන්සේ උත්තර දෙමින්, "මනුෂ්‍යයා දෙවියන්වහන්සේගේ සියළු වචනවලින් ජීවත්වෙනවා මිස, රොටි පමණකින් ජීවත් නොවෙන බව ලියා තිබෙන්නේයයි" කීසේක. 5. එවිට සාතන් උන්වහන්සේ උස්වූ පර්වතයක් මුදුනට ගෙනගොස්, ලෝකයෙහි සියළු රාජ්‍යවල් ක්ෂණය 6. කින් උන්වහන්සේට පෙන්වා, "මේ සියළු බලයද අයිශ්වර්යයද නුඹට දෙමි; ඒවා මට බාරදෙනලද්දේය; 7. මම කැමති කෙනෙකුට දෙමි; එබැ

වීත්, නුඹ මට නමස්කාර කරතොත් ඒ සියල්ලම නුඹට වන්නේයයි" 8. උන්වහන්සේට කීයේය. ජේසුස්වහන්සේ උත්තර දෙමින්, "සාතන් අහක්ව යව; මක්නිසාද, 'තාගේ ස්වාමිවූ දෙවියන්වහන්සේට නමස්කාර කරව; උන්වහන්සේට පමනක් සේවය කරවයි' ලියා තිබෙන්නේ 9. යයි" ඔහුට කීසේක. එවිට ඔහු උන්වහන්සේ *යෙරුසලමට ගෙන ගොස්, දේවමාලිගාව මුදුනේ සිටුවා, "නුඹ දෙවියන්වහන්සේගේ පුත්‍රව නසේක්නම්, මෙතනින් පහතට 10. පැන්නමැනව. මක්නිසාද, නුඹවහන්සේ රක්‍ෂාකරන පිනිස උන්වහන්සේ තමන්ගේ දූතයන්ට අන 11. දෙනසේක කියාත්, ඔවුන් නුඹවහන්සේගේ පය කිසි කලෙක ගලක නොවදින පිනිස තමන්ගේ අත්වලින් නුඹවහන්සේ උසුලාගනිතියි කියාත්, ලියා තිබෙන්නේයයි" 12. කීය. ජේසුස්වහන්සේ උත්තර දෙමින්, "තාගේ ස්වාමිවූ දෙවියන්වහන්සේ පරීක්‍ෂා නොකරව කියා තිබෙන්නේයයි" ඔහුට කීසේක. 13. සාතන් සියළු පරීක්‍ෂා නිමවා, කලකට උන්වහන්සේගෙන් අහක්ව ගියේය.

14. එවිට ජේසුස්වහන්සේ ආත්මයානන්වහන්සේගේ බලයෙන් ගලිලයට හැරී ආසේක. උන්වහන්සේගේ කීර්තිය වටකර සියළු රටවල පත 15. ලව ගියේය. උන්වහන්සේ ඔවුන්ගේ සිනගෝගවලදී උගන්වමින්, සියල්ලන්ගෙන් ප්‍රසංසා ලැබූසේක.

16. උන්වහන්සේ වැඩුනු නාසරැත්නම් නුවරට පැමින, තමන්වහන්සේගේ පුරුද්ද ලෙස සබත් දවසෙහි සිනගෝගයට ඇතුල්ව, පොත 17. කියන පිනිස නැගුටුනුසේක. එවිට යෙසායියා අනාගතවක්තෘහුගේ පොත උන්වහන්සේට දෙනලද්දේය. උන්වහන්සේ පොත දීග ඇරලා 18. බැළුවිට, "ස්වාමින්වහන්සේගේ ආත්මය මා කෙරෙහිය; මක්නිසාද, දිළිඳුන්ට සුභාරංචිය ප්‍රකාසකරන්ට මා ආලේපකලසේක. තැළුනු සිත් ඇත්තන් සුවකරන්ටද, සිරකාරයන්ට මිදීම සහ අන්ධයන්ට නැවත පෙනීම ලැබෙන බව ප්‍රකාසකරන්ටද, මඩනාලද්දවුන් මුදා හරින්ටද, 19. ස්වාමින්වහන්සේගේ ප්‍රියවූ අවුරුද්ද ප්‍රකාසකරන්ටද, උන්වහන්සේ මා එවූසේකැයි" ලියා තිබෙන 20. ස්ථානය දැක, පොත අකුලා සේවකයාට දී, වැඩඋන්සේක. එවිට සිනගෝගයෙහි සිටි සියල්ලෝ උන්වහන්සේ කෙරෙහි ඇස් හෙළා සිටි 21. යෝය. එවිට උන්වහන්සේ ඔවුන්ට දේසනාකරන්ට පටන්ගෙන, "මේ ලියවිල්ල නුඹලා අසා සිටිද්දී අදම සම්පූර්ණවියයි" කීසේ 22. ක. එකල්හි සියල්ලෝ උන්වහන්සේගේ කීමට සාක්ෂිදෙමින් උන්වහන්සේගේ මුඛයෙන් පිටත්වුන කරුනාවෙහි වචනවලට පුදුමව, "මොහු යෝසැප්ගේ පුත්‍රයා නොවේදැයි" 23. කීවෝය. එවිට උන්වහන්සේ ඔවුන්ට කියනසේක්, "වෙදුනෙනි, තමාම සුවකරගනින්නැයි යන මේ ව්‍යවහාර කීම මට කියමින්, 'නුඹ විසින් කපර්ණවුමෙහි යමක් යමක් කරනලදැයි අපි ඇසුවෝද, ඒ ඒ දේ නුඹේ රටවූ මෙහිදීත් කරපන්නැයි' ඒකාන්තයෙන් මට කියනවා ඇත. 24. සැබවක් නුඹලාට කියමි, කවර අනාගතවක්තෘ කෙනෙකුත් තමන් රටේදී පිලිගනු නොලබන්නේය. 25. සැබවක් නුඹලාට කියමි, එලියස්ගේ අවස්ථාවෙහිදී තුන් අවුරුදු සමසක් අහස පියවී රට මුළුල්ලෙහි මහත් සාගතයක් පැමිනිකල්හි, ඊශ්‍රායෙල්හි බොහෝ වැන්දඹු ස්ත්‍රී 26. යෝ සිටියෝය; නුමුත් සිදොන්හිවූ සරප්තාවේ වැන්දඹු ස්ත්‍රියක්

වෙතට මිස, ඔවුන්ගෙන් වෙන කිසි
වෙක් වෙතට එලියස් යවන්ට යෙදු
**27.** ණේ නැත. තවද අනාගතවක්
තෘවූ එලිසිවුස්ගේ කාලයෙහි, ඊශ්‍රා
යෙල්හි බොහෝ කුෂ්ට රෝගකාර
යෝ සිටියෝය; නුමුත් සිරියෙහි
නාමන් මිස, ඔවුන්ගෙන් කිසිවෙක්
පවිත්‍රකරන්ට යෙදුනේ නැතැයි”
**28.** කීසේක. සිනගෝගයෙහි සිටි
සියල්ලෝ ඒ අසා, ක්‍රෝධයෙන් පිරී,
**29.** නැගිට උන්වහන්සේ නුවරින්පත්
නා, උන්වහන්සේ පහළට මුනින් හෙ
ළනු පිණිස තමන්ගේ නුවර සාදන
ලද කන්ද මුදුනට ගෙන ගියෝය.
**30.** උන්වහන්සේ ඔවුන් අතරෙන්
**31.** ගොස්, ගලිලයෙහිවූ කපර්ණ
වුමනම් නුවරට පැමින, සබත්
දවස්වලදී ඔවුන්ට ඉගැන්වූසේක.
**32.** උන්වහන්සේගේ වචනය ආනු
භාවයෙන් යුක්තවූ බැවින්, උන්ව
හන්සේගේ ඉගැන්වීමට ඔවුන් පුදුම
වූවෝය.

**33.** තවද අසුබයක්ෂාවේසවූ මනු
ෂ්‍යයෙක් සිනගෝගයෙහි සිට, මහත්
**34.** හඬින් හඬගසා, “අහෝ නාස
රෙත් යේසුස්වහන්ස, ඔබවහන්සේට
අපෙන් කම මොකද? අප නසන්ට
ආසේක්ද? ඔබවහන්සේ කවුද කියා
දනිමි; ඔබවහන්සේ දෙවියන්වහන්
සේගේ පිරිසිදු තැනැත්තේයයි”
**35.** කීයේය. එවිට යේසුස්වහන්සේ
ඔහුට තරවටුකරමින්, “කථානොක
රව; මොහුගෙන් පිටත්ව යවයි”
කීසේක. එවිට යක්ෂයා සමූහයා මැද
ඔහු හෙළා, ඔහුට කිසි හිංසාවක්
නොකොට ඔහුගෙන් පිටත්ව ගියේය.
**36.** සියල්ලෝද පුදුමව, “මේ මොන
වචනයක්ද? උන්වහන්සේ බලයෙන්ද
ආනුභාවයෙන්ද අසුබාත්මයන්ට අන
දෙනසේක; ඔවුන්ද පිටත්ව යතියි”
ඔවුනොවුන් අතරේ කථාකලෝය.
**37.** උන්වහන්සේගේ කීර්තිය රට
වටකර සියළු තැන්වල පතලවිය.

**38.** යේසුස්වහන්සේ සිනගෝග
යෙන් ගොස්, සීමොන්ගේ ගෙට
ඇතුල්වූසේක. සීමොන්ගේ භාර්‍ය්‍යා
වගේ මව් බලවත් උන රෝගයකින්
පීඩිතව උන්නාය. ඈ සුවකරන්ට
ඔවුන් උන්වහන්සේගෙන් ඉල්ළු
**39.** වෝය. එවිට උන්වහන්සේ ඈ
ලඟ සිට උනට අනකලසේක. උන
ලෙඩ ඈගෙන් පහව ගියේය. එව
ලේම ඈ නැගිට ඔවුන්ට උපස්ථාන
කලාය.

**40.** ඉර බස්නා කල, නොයෙක්
ප්‍රකාර රෝගවලින් පීඩිතවූ රෝගීන්
ඇති සියල්ලෝම උන්වහන්සේ
වෙතට ඔවුන් ගෙනාවෝය. එවිට
උන්වහන්සේ එක එකා බැගින්
ඔවුන් පිට අත් තබා ඔවුන්ට සුව
**41.** කලසේක. යක්ෂයෝද, “ඔබව
හන්සේ දෙවියන්වහන්සේගේ පුත්‍රවූ
ක්‍රිස්තුස්ය” කියා මහත් ශබ්ද
පවත්වමින්, බොහෝ දෙනාගෙන්
දුරුව ගියෝය. උන්වහන්සේද ඔවුන්
ට සැරකොට, කථාකරන්ට අවසර
නුදුන්සේක. මක්නිසාද, උන්වහන්
සේ ක්‍රිස්තුස්යයි ඔවුන් දැනගත්
**42.** තෝය. පහන්වූ කල උන්වහන්
සේ වනාන්තරස්ථානයකට ගියසේක.
සමූහයෝද උන්වහන්සේ සොයමින්,
උන්වහන්සේ ලඟට පැමින, “අප
හැර නොගියමැනවයි” කියමින්,
උන්වහන්සේ නවත්වාගන්ට උත්
**43.** සහ කලෝය. උන්වහන්සේද
“මා විසින් අනිත් නුවරවලත් දෙවි
යන්වහන්සේගේ රාජ්‍යය ගැන සුභා
රංචිය ප්‍රකාසකලයුතුය; මේ කාරනය
පිනිස එවනලද්දෙමියි” ඔවුන්ට
**44.** කීසේක. උන්වහන්සේද ගලිල
යෙහි සිනගෝගවල දේසනාකල
සේක.

**5. පරිච්ඡේ.** තවද උන්වහන්සේ
ගෙනසරෙත් නම් විල ලඟ සිටිද්දී,
සමූහයෝ දෙවියන්වහන්සේගේ

වචන අසන්ට උන්වහන්සේ වෙතට
2. තෙරපීගන ආවෝය. එවිට විල
ලඟ තිබෙන නැව් දෙකක් දුටුසේක.
මස් අල්ලන්නෝ ඒවායින් බැස,
3. දැල් සෝදමින් සිටියෝය. එකල
ඒ නැව් දෙකෙන් සීමොන්ගේ
නැවට නැගී, ටිකක් දියත්කරන්ට
ඔහුගෙන් ඉල්වා, නැවෙහි වැඩහිඳ
4. සමූහයාට ඉගැන්වූසේක. උන්ව
හන්සේ කථාව නිමවා, සීමොන්
ට කියනසේක්, "ගැඹුරට ගොස්,
මසුන් අල්ලන්ට දැල්දමාපල්ලායයි"
5. කීසේක. සීමොන් උත්තර දෙමින්,
"ස්වාමිනි, අපි මුළු රාත්‍රියේම වෑයම්
කොට මොකවත් ඇල්ලුවේ නැත; එ
සේ නුමුත්, ඔබවහන්සේගේ වචනය
6. නිසා, දැල දමමියි" කීයේය. ඔවුන්
එසේ කොට, මසුන් මහත් රැසියක්
ඇල්ලුවෝය. දැලත් ඉරෙන්ට පටන්
7. ගත්තෝය. එවිට තමන්ට උපකාර
කරන්ට එන පිනිස, අනික් නැවේ
සිටි පංගුකාරයන්ට සංඥා කළෝය.
ඔවුන්ද ඇවිත්, ගිලෙන තරම් නැව්
8. දෙක පූරවාගත්තෝය. සීමොන්
පේතෘස් ඒ දැක, යේසුස්වහන්සේගේ
පාද ලඟ වැටී, "ස්වාමිනි, මා
කෙරෙන් ගියමැනව; මම පව්කාරවූ
9. මනුෂ්‍යයෙකැයි" කීයේය. මක්
නිසාද ඔහුද ඔහු සමග සිටියාවූ
සියල්ලෝද ඇල්ලූ මසුන් රැසිය දැක
10. පුදුම වූනෝය. එසේම සීමොන්
ගේ පංගුකාරවූ සෙබදීගේ පුත්
යාකොබ්ද යොහන්ද පුදුමවූනෝය.
එවිට යේසුස්වහන්සේ සීමොන්ට
කියනසේක්, "භයනොවෙන්න;
මෙතැන් පටන් නුඹ මනුෂ්‍යයන් අල්
11. ලනවා ඇතැයි" කීසේක. ඔවුන්
නැව් ගොඩට ඇද, සියල්ල හැර
උන්වහන්සේ පස්සේ ගියෝය.

12. උන්වහන්සේ එක් නුවරක
සිටිනකල, කුෂ්ඨයෙන් පිරුනු මනු
ෂ්‍යයෙක් එහි සිටියේය. ඔහු යේසුස්
වහන්සේ දැක, මූහුනින් වැටී, පිහිට
ඉල්ලමින්, "ස්වාමිනි, කැමතිසේක්
නම්, මා පවිත්‍ර කරන්ට ඔබවහන්සේ
ට පුළුවනැයි" උන්වහන්සේට කීයේය.
13. එවිට උන්වහන්සේ අත දිගුකොට
ඔහුපිට තබා, "කැමැත්තෙමි; පවිත්‍ර
වෙයනනැයි" කීසේක. එවලේම කු
14. ෂ්ඨයඔහුගෙන් පහවගියේය. උන්
වහන්සේද "නුඹ ඒ කාරනාව කාට
වත් නොකියා, ගොස්, පූජකයාට පෙ
නී, ඔවුන්ට සාක්ෂි පිනිස නුඹේ පවිත්‍ර
වීම ගැන මෝසෙස් විසින් නියම
කල ප්‍රකාරයට පඬුර පූජාකරපන්
15. නැයි" ඔහුට ආඥාකලසේක. නු
මුත් උන්වහන්සේගේ කීර්තිය වැඩි
වැඩිව ප්‍රසිඩවිය. බොහෝ සමූහයෝ
උන්වහන්සේගේ වචනය අහන්ටද
උන්වහන්සේ ලවා තමන්ගේ රෝග
16. සුවකරවාගන්ටද රැස්වූවෝය. එ
හෙත් උන්වහන්සේ තනියම වනාන්
තරයට ගොස්, යාඥාකරමින් සිටිසේක.

17. එක් දවසක, උන්වහන්සේ
උගන්වන කල, ගලීලයෙහි හා යූද
යෙහි සියළු නුවරවලින්ද යෙරුසල
මෙන්ද ආවාවූ ඵරිසිවරුද ව්‍යවස්ථාව
උගන්වන්නෝද ලඟ හිඳගන උන්
නෝය. මනුෂ්‍යයන් සුවකරන්ට
ස්වාමින්වහන්සේගේ බලය ප්‍රකාශ
18. විය. එවිට මිනිස්සු අංශභාග
රෝගාතුරයෙක් ඇඳ පිටින් ඔසවා
ගෙනාවෝය. ඔහු ඇතුලට ගෙන
යන්ටද උන්වහන්සේගේ ඉදිරියෙහි
19. තබන්ටද උත්සාහකොට, සමූ
හයා නිසා ඇතුලට ගෙනියන්නට
අවකාස නොලැබ, ගේ උඩට ගොස්
වහලෙන් යේසුස්වහන්සේ ඉදිරියේ
ඇඳත් සමග ඔහු මැදට බැස්සෙව්
20. වෝය. උන්වහන්සේද ඔවුන්ගේ
ඇදහිල්ල දැක, "පුරුෂය, නුඹේ
පව් නුඹට ක්ෂමාවූනේයයි" ඔහුට
21. කීසේක. එවිට ලියන්නෝද
ඵරිසිවරුද "දෙවියන්වහන්සේට වි
රුඬව අපහාස වචන කියන්නාවූ
මොහු කව්ද? දෙවියන්වහන්සේට

මිස පව් ක්‍ෂමාකරන්ට කාට පුළුවන්
22. දැයි" සිතුවෝය. එහෙත් යේසුස්
වහන්සේ ඔවුන්ගේ සිතිවිලි දැන,
ඔවුන්ට කථාකොට, "තුබලාගේ
සිතින් කල්පනාකරනෙත් කිමෙක්
23. ද? 'තුබේ පව් තුබට ක්‍ෂමාවූනා
යයි' කීමෙත්ත්, 'නැගිට, ඇව්දපන්
නැයි' කීමෙත්ත්, වඩා පහසු කෝ
24. කද? එහෙත්, මනුෂ්‍ය පුත්‍රයාට
මේ ලොව්දී පව් ක්‍ෂමාකරන්ට බලය
ඇති බව තුබලාට දැනෙන පිනිස
ය" කියා, "නැගිට; තුබේ ඇඳ
ඔසවාගෙන, ගෙදරට පලයන්නැයි,
තුබට කියමියි" අංශභාග රෝගාතු
25. රයාට කීයේක. ඔහු එවලේම
ඔවුන්ගේ ඉදිරියෙහි නැගිට, තමා
ඔත් යහන උසුලාගෙන, දෙවියන්
වහන්සේට ප්‍රසංසාකරමින් තමාගේ
26. ගෙදරට ගියේය. ඔවුන් සියල්ලෝ
ද පුදුමව, ඉතා භයපත්ව, "අද පුදුම
දේ දුටිමුව" කියා, දෙවියන්වහන්
සේට ප්‍රසංසා කලෝය.

27. මෙයින් පසු උන්වහන්සේ
පිටත්ව ගොස්, සුංගම් අයකරන
ස්ථානයක උන්නාවූ ලෙවිනම් සුං
ගම් අයකරන්නෙක් දැක, "මා පස්
සේ වරෙන්නැයි" ඔහුට කීයේක.
28. ඔහු සියල්ල අත්හැර, නැගිට,
උන්වහන්සේ පස්සේ ගියේය.
29. ලෙවි තමාගේ ගෙයි උන්වහන්
සේට මහත්වූ මංගල්‍ය කෑමක් පිළි
යෙල කලේය. සුංගම් අයකරනනන්
ගෙන්ද ඔවුන් සමග උන්නාවූ අන්‍ය
යන්ගෙන්ද මහත් සමූහයක් විය.
30. එහෙත් ඔවුන්ගේ ලියන්නෝද
ඵරිසිවරුද උන්වහන්සේගේ ගෝල
යන් සමග වාදකරමින්, "සුංගම්
අයකරන්නන්ද පව්කාරයන්ද සමග
තුබලා කමින් බොමින් සිටින්නේ
31. මක්නිසාදැයි" කීවෝය. යේසුස්
වහන්සේ උත්තර දෙමින්, "රෝ
ගීන්ට මිස නිරෝගීන්ට වෙදගෙන්
32. කමක්නැත. පව්කාරයන් මිස
ධර්මිෂ්ඨයන් පසුතැවිලිවීමට අඬග
සන්නට මම නායෙමියි" කීයේක.

33. එවිට ඔවුන් උන්වහන්සේට
කථාකොට, "යොහන්ගේ ගෝල
යෝද ඵරිසීන්ගේ ගෝලයෝද නො
යෙක් වර නිරාහාරයෙන් ඉඳ යාඥා
කරති. තුමුන් ඔබවහන්සේගේ
ගෝලයෝ කමින් බොමින් සිටි
ති ඒ මක්නිසාදැයි" ඇසුවෝය.
34. එවිට උන්වහන්සේ ඔවුන්ට
කියනසේක්, "මඟුල් ගෙදර දරුවන්
සමග මනමාලයා සිටින කල, ඔවුන්
නිරාහාරව සිටුවන්ට පුළුවන්ද?
35. නුමුත් මනමාලයා ඔවුන්ගෙන්
බැහැරගන්නා දවස් පැමිණෙනවා
ඇත; ඒ දවස්වලදී ඔවුන් නිරාහාර
යෙන් ඉන්නවා ඇතැයි" කීයේක.
36. උන්වහන්සේ ඔවුන්ට උපමාවක්
ගෙනහැරදක්වා, "කවුරුවත් තාන්
රෙදි කෑල්ලක් පරන රෙද්දට මහ
නෙත් නැත. එසේ කලොත්, එයින්
පරන රෙද්ද ඉරෙයි; තාන් රෙදි
කෑල්ලත් පරන රෙද්දත් සමාන
37. නොවෙයි. කවරෙක්වත් අළුත්
මුද්‍රිකපානය පරන සම් භාජනවල
වත්කරන්නේ නැත. එසේ කලොත්
අළුත් මුද්‍රිකපානයෙන් සම් භාජන
පැලී යන්නේය; මුද්‍රිකපානයද ඉහි
රෙන්නේය; සම් භාජනද විනාශ
38. වන්නේය. එහෙත් අළුත් මුද්‍රික
පානය අළුත් සම් භාජනවල වත්
කල යුතුය; එයින් දෙවගේම රක්‍ෂා
39. වෙනවා ඇත. කවරෙකුටවත්
පුරන මුද්‍රිකපානය බිඳ කෙනෙහිම,
අළුත් මුද්‍රිකපානය රුචි නොවන්
නේය. 'පුරන මුද්‍රිකපානය උතුමැයි'
ඔහු කියන්නේයයි" කීයේක.

6. පරිච්ඡේ. පාස්කු මංගල්‍යයෙහි
දෙවෙනි දවසට පසු පැමිණෙන
සබත් දවසෙහි, උන්වහන්සේ ගො
යම් කෙත් මැදින් යන කල, තමන්
ගෝලයෝ කරල් කඩා අතින් පොඩි

2. කර කැයේය. එවිට එරිසිවරුන්
ගෙන් සමහරෙක්, "සබත් දවස්වලදී
නොකටයුත්තක් නුඹලා කරන්නේ
මක්නිසාදැයි" ඔවුන්ට කීවෝය.
3. යේසුස්වහන්සේ ඔවුන්ට උත්තර
දෙමින්, "දාවිත්ටද ඔහු සමග සිටිය
4. වුන්ටද බඩගිනිවූ කල, ඔහු දෙ
වියන්වහන්සේගේ ගෙට ඇතුල්ව,
පූජකයන්ට මිස වෙන කාටවත්
කන්ට නුසුදුසුවූ පිදූ රොටි ගෙන
කා, තමන් සමග සිටියවුන්ටත්
5. දුන් බව කියෙව්වේ නැද්ද? තවද
මනුෂ්‍ය පුත්‍රයා සබත් දවසටත්
ස්වාමියයි" ඔවුන්ට කීසේක.

6. තවත් සබත් දවසක උන්ව
හන්සේ සිනාගෝගයට ඇතුල්ව
ඉගැන්වූසේක. එහි දකුණු අත අව
7. ලංගුවූ මනුෂ්‍යයෙක් සිටියේය. එ
විට ලියන්නෝද එරිසිවරුද උන්ව
හන්සේට වැරදි තබන පිනිස,
"උන්වහන්සේ සබත් දවසේ සුව
කරනවා ඇද්ද" කියා බලාගන සිටි
8. යෝය. නුමුත් උන්වහන්සේ
ඔවුන්ගේ සිතිවිලි දැන, අවලංගු අත
ඇති මනුෂ්‍යයාට, 'නැගිට, මැද සිට
පන්නැයි" කීසේක. ඔහු නැගිට සිටි
9. යේය. එවිට යේසුස්වහන්සේ,
"නුඹලාගෙන් එකක් අසමි; සබත්
දවස්වලදී කුමක් සුදුසුද; යහපතක්
කිරීමද, නොහොත් නපුරක්කිරීමද;
ප්‍රාණය රක්‍ෂාකිරීමද, නොහොත් නැ
10. සීමදැයි" ඔවුන්ට කියා, වටකර
ඔවුන් සියල්ලන් දෙස බලා,
ඒ මනුෂ්‍යයාට "නුඹේ අත දිගුකර
පන්නැයි" කීසේක. ඔහු දිගුකලේය.
එවිට ඔහුගේ අත අනික් අත මෙන්
11. සුවවිය. ඔවුන් අතිසයින් කිපී,
"උන්වහන්සේට කුමක් කරමුදැයි"
ඔවුනොවුන් අතරේ කථාකරගත්
තෝය.

12. ඒ දවස්වලදී උන්වහන්සේ
යාඥාකරන්ට කන්දකට ගොස්,
දෙවියන්වහන්සේට යාඥාකරමින් මුළු
13. රාත්‍රිය ගෙවා, පහන්වූ කල්හි
තමන් ගෝලයන් ලඟට කැඳවා,
ඔවුන්ගෙන් දෙලොස් දෙනෙක්
තෝරාගෙන, ඔවුන්ට ප්‍රේරිතයෝ
14. යයි නම් තැබූසේක. ඔවුන්
කවුරුදයත්; උන්වහන්සේ විසින් පේ
තෘස්යයි නම් කල සීමොන් සහ ඔහු
ගේ සහෝදරවූ අන්ද්‍රෑද, යාකොබ් ස
හ යොහන්ද, පිලිප් සහ බර්තොලො
15. මෙවුද, මතෙවු සහ තෝමස්ද,
අල්ෆේවුස්ගේ පුත්වූ යාකොබ් සහ
සේලෝතෙස්නම් සීමොන්ද, යා
16. කොබ්ගේ සහෝදරවූ යූදස් සහ
උන්වහන්සේ පාවාදුන් යූදස් ඉස්කා
17. රියොත්ද, යන මොවුන්ය. ඉන්
පසු උන්වහන්සේ ඔවුන් සමග ගොස්
සමභූමියක සිටිසේක. උන්වහන්සේ
ගේ ගෝල සමූහයාද උන්වහන්සේ
කියන දේ අහන පිනිසත්, තමන්ගේ
රෝග සුවකරගන්නා පිනිසත්, සියළු
යූදයෙන්ද යෙරුසලමෙන්ද තීර සහ
සීදොන්හි මුහුදේ අසලින්ද බොහෝ
18. සමූහයෝද ආවෝය. අසුබ යක්‍ෂ
යන් විසින් පීඩිතවූ අයවල්ද ඇවිත්
19. සුවකරනු ලැබූවෝය. උන්වහන්
සේගෙන් අනුභාව පිටත්ව සියල්
ලන්ටම සුවකල බැවින්, සියළු සමූ
හයෝ උන්වහන්සේගේ ඇගේ අත්
තබන්ට උත්සාහකලෝය.

20. එවිට උන්වහන්සේ තමන්
ගෝලයන් දෙස බලා කියනසේක්,
"දිළිඳුවූ නුඹලා වාසනාවන්තයෝය;
මක්නිසාද දෙවියන්වහන්සේගේ
21. රාජ්‍යය නුඹලාගේමය. දැන් බඩ
ගිනි ඇති නුඹලා වාසනාවන්ත
යෝය; මක්නිසාද නුඹලා තෘප්තියට
පැමිණෙනවා ඇත. දැන් හඬන්නාවූ
නුඹලා වාසනාවන්තයෝය; මක්නි
සාද නුඹලා සිනාසෙනවා ඇත.
22. මනුෂ්‍ය පුත්‍රයා නිසා යම් කලෙ
ක මනුෂ්‍යයෝ නුඹලාට වෛර බැඳ
නුඹලා වෙන්කොට නින්දාකොට
නුඹලාගේ නාමය නපුරුය කියා

හරින්නෝද, එකල්හි නුබලා වාස
23. නාවන්තයෝය; ස්වර්ගරාජ්‍යයෙ
හිදී නුබලාට මහත් විපාක ලැබෙන
බැවින්, එදවසෙහි නුබලා සන්තෝ
සවෙයල්ලාය, ප්‍රීතියෙන් නටාපල්
ලාය. මක්නිසාද, ඔවුන්ගේ පිය
වරු අනාගතවක්තෘන්ටත් එසේම
24. කලෝය. නුමුත් ධනවන්තවූ
නුබලාට දුක්වන්නේය; මක්නිසාද
නුබලාගේ සැනසීම නුබලාට ලැබූ
25. ණේය. තෘප්තියට පැමිනියාවූ
නුබලාට දුක්වන්නේය; මක්නිසාද
නුබලා බඩගිනිවීමට පැමිනෙනවා
ඇත. දැන් සිනාසෙන්නාවූ නුබලාට
දුක්වන්නේය; මක්නිසාද නුබලා
26. සෝකව හඬනවා ඇත. නුබලා
ගැන යම් කලෙක සියළු මනුෂ්‍යයෝ
යහපත කියද්ද, එකල නුබලාට දුක්
වන්නේය; මක්නිසාද ඔවුන්ගේ
පියවරු බොරු අනාගතවක්තෘන්
27. ගැනද එසේම කීවෝය. නුමුත්
අසනනාවූ නුබලාට කියමි, නුබලා
ගේ සතුරන්ට ප්‍රේමකරපල්ලාය;
නුබලාට වෛර බඳින්නන්ට යහපත්
28. කම් කරපල්ලාය; නුබලාට සාප
කරන්නන්ටද ආශිර්වාදකරපල්ලාය;
නුබලාට නින්දාකරන්නන් උදෙසා
29. යාච්ඤාකරපල්ලාය. නුබේ එක
කම්මුලකට ගහන්නාට අනිත් කම්
මුලත් හරවා දීපන්න; නුබේ උතුරු
සළුව උදුරාගන්නාට නුබේ අඳනා
රෙද්දත් ගන්ට ඉඩ හැරපන්න;
30. නුබෙන් ඉල්ලනනාවූ සියල්ලන්ට
දීපන්න; නුබේ දේපල පැහැරගන්
නාගෙන් තවත් නොඉල්ලන්න.
31. මනුෂ්‍යයෝ නුබලාට යමක් යමක්
කරනවාට නුබලා කැමතිනම්, එසේ
ම නුබලා ඔවුන්ටත් කරපල්ලාය.
32. මක්නිසාද නුබලාට ප්‍රේමකරන්
නන්ටම නුබලාත් ප්‍රේමකරනවානම්,
නුබලාට මොන ප්‍රසංසාවක්ද? පව්
කාරයෝත් තමන්ට ප්‍රේමකරන්නන්
33. ටම ප්‍රේමකරති. තවද නුබලාට
යහපත්කම් කරන්නන්ටම යහපත්
කම් කරනවානම්, නුබලාට මොන
ප්‍රසංසාවක්ද? පව්කාරයෝත් එසේම
34. කරති. නැවත ලබන අදහසින්
දෙනවානම්, නුබලාට මොන ප්‍රසංසා
වක්ද? පව්කාරයෝත් දුන් පමන නැ
වත ලබන අදහසින් පව්කාරයන්ට
35. දෙති. නුමුත් නුබලාගේ සතුරන්
ට ප්‍රේමකරපල්ලාය, යහපත්කම් කර
පල්ලාය, කිසිවක් නැවත නොල
බන අදහසින් දීපල්ලාය. එසින්
නුබලා බොහෝ විපාක ලැබ,
මහෝත්තමයාගේ දරුවෝ වෙනවා
ඇත. කල උපකාර නොසලකන්න
වුන් සහ දුෂ්ඨයන් කෙරෙහි උන්ව
36. හන්සේ කරුනාකරනසේක. එ
බැවින්, නුබලාගේ පියානන්වහන්සේ
අනුකම්පාවෙන් යුක්තවූසේම, නුබ
ලාත් අනුකම්පාවෙන් යුක්තවෙයල්
37. ලාය. විනිශ්චය නොකරල්ලාය;
නුබලාත් විනිශ්චය කරනු නොල
බත්. වරදට පත්නොකරල්ලාය;
නුබලාත් වරදට පත්කරනු නොල
බත්. ක්ෂමාවෙයල්ලාය; නුබලාටත්
38. ක්ෂමාවෙනු ලැබේ. දීපල්ලාය;
නුබලාටත් දෙනු ලැබේ. ඔබමින්
සොලවමින් උතුරුවමින් යහපත්
කොට මැන මනුෂ්‍යයෝ නුබලාගේ
ඔඩොක්කුවට දෙනවා ඇත. මක්නි
සාද, නුබලා යම් මිම්මකින් මැන
දුන්නොත්, එසින්ම නුබලාටත්
නැවත මනිනු ලැබේයයි” කීසේක.

39. තවද උන්වහන්සේ ඔවුන්ට
උපමාවක් ගෙනහැරදැක්වා, “අන්ධ
යෙක් අන්ධයෙකුට මග පෙන්වන්ට
හැකිවේද? දෙන්නම අගලක නො
40. වැටේද්ද? ගෝලයා තමාගේ
ගුරුවරයාට උසස් නොවන්නේය.
නුමුත් හොඳට උගත් සියල්ලෝම
තමන්ගේ ගුරුවරයා මෙන් වෙති.
41. නුබේම ඇසේ තිබෙන දූවය
නොසලකා, නුබේ සහෝදරයාගේ
ඇසේ තිබෙන පතුර බලන්නේ

42. මක්නිසාද? නොහොත් තුඹේ
ඇසේ තිබෙන දූවය නොසලකා,
'සහෝදරය, තුඹේ ඇසේ තිබෙන
පතුර පහකරන්ට අවසර දියනැයි'
සහෝදරයාට කියන්ට කෙසේ හැකි
වන්නේද? වංචාකාරය, පළමුකොට
තුඹේ ඇසින් දූවය පහකරපන්න;
එවිට තුඹේ සහෝදරයාගේ ඇසේ
තිබෙන පතුර පහකරන්ට හොඳට
43. පෙනෙනවා ඇත. හොඳ ගස්
නරක ඵලද නරක ගස් හොඳ ඵලද
44. නොදෙන්නේය. සියළු ගස්
තමන් ඵලයෙන් දැනගනු ලැබෙති.
කටු ගස්වලින් දිඹුල් ඵලද ගොකටු
පඳුරෙන් මුද්‍රික ඵලද නෙලාගනෙත්
45. නැත. ශිතේ පිරීමෙන් මුඛය
කථාකරන හෙයින්, සත්පුරුෂයා
තමාගේ හෘදයෙහිවූ යහපත් නිධාන
යෙන් යහපත් වස්තූන්, අසත්පුරු
ෂයා තමාගේ හෘදයෙහිවූ අයහපත්
නිධානයෙන් අයහපත් වස්තූන්, පිට
46. තට ගන්නේය. මම කියන දේ
නොකොට, මට 'ස්වාමිනි, ස්වාමි
47. නියි' කියන්නේ මක්නිසාද? ය
මෙක් මා ළඟට ඇවිත් මාගේ වචන
අසා එලෙස පිළිපදීද, ඔහු කාට
48. සමානදැයි තුඹලාට දක්වමි. ගැ
ඹුරේ හාරා, පර්වතයක් පිට අත්තිවා
රම ලා, ගෙයක් සාදාගත් මනුෂ්‍යයෙ
කුට සමානය. වතුර ගලා ඇවිත්,
වතුර පාර තදින් ඒ ගෙට ගැසුණේය.
නුමුත් පර්වතයක් පිට සෑදූ බැවින්,
49. ඒ ගේ සොලවන්ට බැරිවිය. ය
මෙක් මාගේ වචන අසා ඒවා පිළි
නොපදීද, ඔහු අත්තිවාරම නොලා
පොළොවේ ගෙයක් සාදාගත් මනු
ෂ්‍යයෙකුට සමානය. වතුර පාර ඒ
ගෙට තදෙන් ගැසුණේය; එවලේම
ඒ ගෙය වැටුනේය. ඒ ගෙහි විනාස
යද බලවත්වියයි" කීයේක.

7. පරිච්ඡේ. උන්වහන්සේ සමූහයා
අසමින් සිටිද්දී තමන්වහන්සේගේ
සියළු වචනවල් කියා නිමවා, කප
2. ර්ණාවුමට ඇතුල්වූසේක. එකල,
සියේකට මුලාදෑනියෙකුගේ ප්‍රියවූ
වැඩකාරයෙක් රෝගාතුරව මරනා
3. සන්නව සිටියේය. ඔහු යේසුස්ව
හන්සේ ගැන අසා, උන්වහන්සේ
ඇවිත් තමාගේ වැඩකාරයාට සුවක
රන්ට උන්වහන්සේගෙන් ඉල්ලන පි
නිස, යුදෙව්වරුන්ගේ වැඩිමහල්ලන්
4. උන්වහන්සේ වෙතට යැවීය. ඔවුන්
යේසුස්වහන්සේ ලඟට පැමින,
"ඔහු ඔබවහන්සේගෙන් එක ල
5. බන්ට සුදුස්සෙක; ඔහු අපගේ
වංශීකයට ප්‍රේම ඇත්තෙක; ඔහු
අපට සිනගෝගයක් සෑදුවේය"
කියා බොහෝ සෙයින් ඉල්එවෝය.
6. එවිට යේසුස්වහන්සේ ඔවුන්
සමග ගියසේක. උන්වහන්සේ ගෙට
නුදුරුව සිටි කල, සියේකට මුලාදෑ
නියා උන්වහන්සේ වෙතට මිත්‍රයන්
යවා, "ස්වාමිනි, ඔබවහන්සේ වෙ
හෙස නුවමැනව; මාගේ පියස්ස
යටට ඔබවහන්සේගේ ඊමට මම
7. නොවටිමි. එහෙයින් මම ඔබව
හන්සේ වෙතට එන්ටත් වටිනෙනැ
කියා නොසිතුයෙමි. නුමුත් වචන
යක් පමන කියමැනව; එවිට මාගේ
8. වැඩකාරයාම සුවවන්නේය. මමත්
ආඥුවට යටහත් මනුෂ්‍යයෙක; මා
යටතෙහිද සේවායෝ සිටිති. එකෙ
කුට 'යවයි' කීකල, ඔහු යන්නේය.
අනිකෙකුට 'එවයි' කීකල, ඔහු
එන්නේය. මාගේ වැඩකාරයාට
'මේක කරවයි' කීකල, ඔහු ඒ වැඩ
කරන්නේයයි" උන්වහන්සේට කියවූ
9. යේය. යේසුස්වහන්සේ ඒ අසා,
ඔහු කෙරෙහි පුදුමව, ආපසු හැරී
තමන පස්සේ එන්නාවූ සමූහයාට
කථාකොට, "තුඹලාට කියමි, ඊශ්‍රා
යෙල්හිවත් මෙබඳු මහත් ඇදහිල්
10. ලක් නුදුටිමියි" කීසේක. යවන
ලද තැනැත්තෝ ගෙට හැරී ගොස්,

රෝගාතුරව උන් වැඩකාරයා සුව පත්වූ බව දුටුවෝය.

11. පසුවද, උන්වහන්සේ නායින් 12. නම් නුවරට ගියසේක. තමන් ගෝලයන්ගෙන් බොහෝ දෙනාද මහත් සමූහයාද උන්වහන්සේ සමග ගියෝය. උන්වහන්සේ නුවර වාසල් දොරකඩට පැමිනි කල්හි, වැන්දඹු ස්ත්‍රියකගේ එකමවූ පුත්‍රයාගේ මල කඳ උසුලාගෙන පිටතට ගියෝය. ඒ නුවර බොහෝ දෙනෙක් ඈ සමග 13. ගියෝය. ස්වාමින්වහන්සේ ඈ දැක ඈ කෙරේ අනුකම්පාකොට, "අ 14. ඬන්ටඑපාය" කියා, ලඟට ඇවිත්, මිනිය ගෙනියන මැස්ස පිට අත් තැබූසේක. උසුලා ගෙන යන්නෝ නැවතුනෝය. එවිට උන්වහන්සේ "තරුණය, නුඹට කියමි, නැගිටපන් 15. නැයි" කීසේක. එවිට මලාවූ ඔහු නැගිට හිඳ, කථාකරන්ට පටන් ගත්තේය. උන්වහන්සේ ඔහුගේ මෑනියන්ට ඔහු බාරදුන්සේක. 16. සියල්ලෝද භයපත්ව, "උතුම්වූ අනාගතවක්තෘ කෙනෙක් අප අතරෙහි නැගුටුනුසේක කියාද; දෙවියන්වහන්සේ තමන්ගේ සෙනග බැළූසේක" කියාද, දෙවියන්වහන්සේට 17. ප්‍රසංසා කලෝය. උන්වහන්සේ ගැන කියනලද ඒ පවත් සියළු යුදයෙහිද වටකර රට මුළුල්ලෙහිද පතලවිය.

18. යොහන්ගේ ගෝලයෝ ඔහුට 19. ඒ සියල්ල දැන්වූවෝය. එවිට යොහන් තමාගේ ගෝලයන්ගෙන් දෙන්නෙකු කැඳවා, ජේසුස්වහන්සේ වෙතට යවමින්, "එනනාවූ තැනැත්තෝ ඔබවහන්සේද, නොහොත් වෙන කෙනෙක් බලා සිටිමුදැයි" 20. අහන්ට කීයේය. ඔවුන් උන්වහන්සේ වෙතට ඇවිත්, "එන්නාවූ තැනැත්තේ ඔබවහන්සේද, නොහොත් වෙන කෙනෙක් බලා සිටිමුදැයි අහන්ට යොහන් බව්තීස්ත අප ඔබවහන්සේ ලඟට එව්වේයයි" 21. කීවෝය. එකල්හිම උන්වහන්සේ නොයෙක් දෙනාගේ රෝග පීඩා සුවකරමින්, දුෂ්ටාත්ම පහකරමින්, නොයෙක් අන්ධයන්ට පෙනීම 22. දෙමින් උන්සේක. එවිට ජේසුස්වහන්සේ උත්තර දෙමින්, "නුඹලා ගොස්, අන්ධයෝ පෙනීම ලබති, කොරු ඇවිදිති, කුෂ්ඨරෝගාතුරයෝ පවිත්‍රවෙති, බිහිරෝ අසති, මලාවූ නැගිට සිටිති, දිළිඳුන්ට සුභාරංචිය ප්‍රකාසකරනු ලැබෙයි, යන නුඹලා ඇසූදුටු දේ යොහන්ට දන්වාපල්ලාය. 23. මා කෙරෙහි බාධා නොවෙනනා වාසනාවන්තයෙකැයි" කීසේක.

24. යොහන්ගේ දූතයෝ ගියවිට, උන්වහන්සේ යොහන් ගැන සමූහයාට කියනනාට පටන්ගෙන, "නුඹලා කුමක් බලන්ට වනාන්තරයට ගියෝද? සුලඟින් සෙලවෙන බට ගසක්ද? 25. නොහොත් කුමක් බලන්ට ගියෝද? සිහින් වස්ත්‍ර ඇන්දවූ පුරුෂයෙක්ද? අලංකාර වස්ත්‍ර හැඳ සැප විඳින් 26. නෝ රජ මාලිගාවල සිටිති. නොහොත් කුමක් බලන්ට ගියෝද? අනාගතවක්තෘ කෙනෙක්ද? එසේය, නුඹලාට කියමි, අනාගතවක්තෘ කෙනෙකුටත් වඩා උතුම් කෙනෙක. 27. මක්නිසාද, 'මම මාගේ දූතයා නුඹේ පෙරටුව යවමි; ඔහු නුඹ ඉදිරියෙහි නුඹේ මාර්ගය සාදනවා ඇතැයි' ලියා තිබෙන්නේ මොහු 28. ගැනය. තවද නුඹලාට කියමි, ස්ත්‍රීන්ගෙන් උපන්නවුන් අතරෙහි යොහන් බව්තීස්තට වඩා උතුම් අනාගතවක්තෘ කෙනෙක් නැත්තේය. නුමුත් දෙවියන්වහන්සේගේ රාජ්‍යයෙහි ඉතා කුඩා තැනැත්තා ඔහුට වඩා උතුම්යයි" කීසේක.

29. ඒ බස් ඇසූ සියළු සෙනගද සුංගම් අයකරන්නෝද යොහන්ගෙන් බව්තීස්ම ලැබ, දෙවියන්වහන්සේ ධර්මිෂ්ඨයයි ප්‍රකාසකලෝය.

30. නුමුත් එරිසිවරුද ව්‍යවස්ථාවෙහි දක්‍ෂයෝද ඔහුගෙන් බව්තිස්මය නොලැබ, තමන් ගැන දෙවියන්වහන්සේගේ අභිප්‍රාව එපාකලෝය.
31. එවිට ස්වාමින්වහන්සේ කථාකොට, "දැන් සිටින මනුෂ්‍යයන් කුමකට උපමාකෙරෙම්ද? කවරෙ
32. කුට ඔවුන් සමානද? 'අපි නුබලාට නලා පිඹෙමුව; නුබලා නොනැටුවෝය. නුබලාට විලාප කීමුව; නුබලා නොහැඬුවෝයයි' කඩපිල්වල හිඳ ඔවුනොවුන්ට හඬගසා කියන්නාවූ දරුවන්ට සමාන වෙති.
33. මක්නිසාද, යොහන් බව්තිස්ත ඇවිත්, රොටි නොකා මුද්‍රිකපානයද නොබී සිටියේය. එබැවින් 'ඔහුට යක්‍ෂයෙක් වැහී ඇතැයි' නුබලා
34. කියති. මනුෂ්‍ය පුත්‍රයා ඇවිත්, කමින් බොමින් සිටියේය. එබැවින් 'ඔහු කෑමෙහිද මුද්‍රිකපානය බීමෙහිද ලොල්වූ තැනැත්තෙක; සුංගම් අයකරන්නන්ගේත් පව්කාරයන්ගේත් මිත්‍රයෙකැයි' නුබලා කියති.
35. නුමුත් ප්‍රඥාව තමාගේ සියළු දරුවන් කරනකොටගෙන නිර්දෝෂව පෙනෙන්නීයයි" කීසේක.

36. ඉන්පසු එරිසින්ගෙන් එකෙක් තමා සමග කන්නට උන්වහන්සේට අඬගැසුයේය. උන්වහන්සේද එරිසියාගේ ගෙට ගොස්, කෑමට උන්
37. සේක. ඒ නුවර පව්කාර ස්ත්‍රියක් උන්වහන්සේ එරිසියාගේ ගෙහි කෑමට උන් බව දැන, සුවඳ තෙලින් පිරූ සුදු ගල් කරඬුවක් ගෙ
38. නවුත්, උන්වහන්සේගේ පාදයන් ලඟ පිටිපසින් හඬ හඬා සිට, උන්වහන්සේගේ පාදයන් කඳුලෙන් තෙමන්ට පටන්ගෙන, ඒවා තමාගේ ඉසකෙස්වලින් පිසදමා, උන්වහන්සේගේ පාදයන් සිඹ ඒ තෙල්
39. ගෑවාය. උන්වහන්සේ කැඳවාගත් එරිසියා ඒ දැක, "මුන්වහන්සේ අනාගතවක්තෘ කෙනෙක්නම්, තමන්ට අත ගහන ස්ත්‍රී කවරෙක්ද, කෙබඳු තැනැත්තියෙක්දැයි දැනගන්ට ඕනෑය; මක්නිසාද, ඈ පව්කාරියෙකැයි" තමන්ගේ සිතින් සිතුයේය.
40. යේසුස්වහන්සේ උත්තර දෙමින්, "සීමොන්, නුබට කාරනයක් කියන්ට මම කැමැත්තෙමියි" කීසේක. ඔහුද, "ආචාරිනි, කිවමැනවයි"
41. කීයේය. "නය දුන් පුරුෂයෙකුට නයකාරයෝ දෙන්නෙක් සිටියෝය. එකෙක් මසු පන්සියයක්ද අනිකා
42. පනසක්ද නය ඇතෙත්ය. ඔවුන්ට නය ගෙවන්ට කිසිවක් නැති හෙයින්, ඔහු ඒ දෙන්නාට ක්‍ෂමාවූයේය. ඔවුන්ගෙන් ඔහුට කවරෙක් වැඩිව ප්‍රේමවන්නේදැයි මට කියා
43. පන්නැයි" කීසේක. සීමොන් උත්තර දෙමින්, "යමෙකුට වැඩිව ක්‍ෂමාවූයේද, ඔහුමයයි සිතමියි" කීයේය. එවිට, "නුබ කීවා හරියයි"
44. ඔහුට කියා, ඒ ස්ත්‍රිය දෙසට හැරී, සීමොන්ට කථාකොට, "මේ ස්ත්‍රිය දකිනවාද? මම නුබේ ගෙට ආයෙමි; නුබ මාගේ පාද සෝදන්ට වතුර දුන්නේ නැත; නුමුත් මෑගේ කඳුලෙන් මාගේ පාද තෙමා තමාගේ
45. හිසකෙස්වලින් පිසදැමුවාය. නුබ මා සිඹියේ නැත; නුමුත් මෑ මම ආ වේලේ පටන් මාගේ පාද සිඹ සිඹ
46. උන්නාය. නුබ මාගේ ඉසේ තෙල් ගෑවේ නැත; නුමුත් මෑ මාගේ
47. පාදවල සුවඳ තෙල් ගෑවාය. එබැවින් නුබට කියමි, ඈගේ බොහෝ පව් ක්‍ෂමාවුනේය ඊට සාක්‍ෂියනම් ඈ බොහෝකොට ප්‍රේමකලාය. නුමුත් යමෙකුට ස්වල්පයක් ක්‍ෂමාවූයේද, ඔහු ස්වල්පකොට ප්‍රේමකරන්නේ
48. යයි" කීසේක. එවිට උන්වහන්සේ, "නුබේ පව් ක්‍ෂමාවුනේයයි"
49. ඈට කීසේක. එවිට උන්වහන්සේ සමග කෑමට උන්නෝ, "පව් ක්‍ෂමාකරන මොහු කව්දැයි" සිතන්ට
50. පටන්ගත්තෝය. එවිට උන්ව

හන්සේ, "ඔබේ ඇදහිල්ල ඔබ
ගැලවූවාය. සමාදානයෙන් පලයන්
නැයි" ඒ ස්ත්‍රීට කීසේක.

8. පරිච්ඡේ. ඉන්පසු උන්වහන්සේ
දේශනාකරමින්, දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යයාගේ සුභාරංචිය ප්‍රකාශ
කරමින්, සියළු නුවරවලද ගම්වලද
හැසුරුනුසේක. ගෝලයෝ දොළොස්
2. දෙනාද, දුෂ්ටාත්මවලින් සහ
රෝගවලින් සුවවූනාවූ සමහර
ස්ත්‍රීයෝද, යකුන් සත්දෙනෙක්
දුරුව ගියාවූ මග්දලේනානම් මරි
3. යාද, හෙරොද්ගේ ගබඩාකාර ඇව
තිවූ කූසාගේ භාර්‍ය්‍යාවන යොහන්
නාද, සුසානාද, තමන්ගේ වස්තු
වෙන් උන්වහන්සේට උපස්ථාන
කලාවූ වෙන බොහෝ ස්ත්‍රීයෝද,
උන්වහන්සේ සමග සිටියෝය.

4. බොහෝ සමූහයෝ රැස්ව උන්
වහන්සේ වෙත සිටිද්දී, නොයෙක් නුව
රවලින් තවත් මනුෂ්‍යයෝ එනකල,
උන්වහන්සේ උපමාවකින් කියන
5. සේක්, "වපුරන්නෙක් බිත්තර
වපුරන්ට පිටත්ව ගියේය. ඔහු වපුර
නකල, සමහරක් මාවත වැටී, පයින්
පාගන්ට යෙදුනේය; පක්ෂිහු ඇවිත්,
6. ඒවා අවුලා කෑවෝය. සමහරක්
ගල් බිමක වැටී, පැලව, දියසීරාව
7. නැති බැවින් වේලී ගියේය. සම
හරක් කටු අතරේ වැටුනේය; කටුද
ඒ සමග වැඩී යටකිරීමෙන් ඒවා
8. නැසුයේය. සමහරක් සරු බිමේ
වැටී, පැලව, එකෙන් සියක් ගුණ
යක් එල දුන්නේයයි" කියා, "අසන්ට
කන් ඇත්තෙක් අසාවයි" හඬගසා
9. කීසේක. උන්වහන්සේගේ ගෝ
ලයෝ, "මේ උපමාව කිමෙක්දැයි"
10. ඇසුවෝය. එකල උන්වහන්සේ
ඔවුන්ට කියනසේක්, "දෙවියන්
වහන්සේගේ රාජ්‍යයේ රහස් දැන
ගැන්ම නුඹලාට දෙනු ලැබේ;
නුමුත් දැක දැකත් නොදක්නාවූ අස
ාත් තේරුම් නොගන්නාවූ වෙන
අයවලට උපමාවලින් දෙනුලැබේ.
11. ඒ උපමාව මෙසේය. බිත්තර
නම්, දෙවියන්වහන්සේගේ වචනයය.
12. මාවතනම්, වචනය ඇසූ නුමුත්
අදහා නොගැලවෙන ලෙස සාතන්
ඇවිත් සිත්වලින් වචනය උදුරගනු
13. ලබන්නෝය. ගල් බිමනම්, වච
නය අසා සන්තෝසයෙන් පිළිගත්
නුමුත්, මුල් නැති බැවින් ස්වල්ප
කාලයක් අදහගෙන පරීක්ෂා කාල
14. යෙහි පසුබටවෙන්නෝය. බිත්
තර වැටුනු කටු බිම නම්, අසා
ගොස් මේ ලෝකේ සිතිවිලිවලින්ද
වස්තුවෙන්ද සැපතින්ද යටවෙමින්,
හොඳ ලෙස කිසි එලයක් නොදෙන්
15. නෝය. බිත්තර වැටුනු සරු බිම
නම්, වචනය අසා සැබෑවූ යහපත්
සිත්හි තබාගෙන ඉවසීමෙන් එල
දෙන්නෝය.

16. "කවරෙක්වත් පහනක් දල්
වා භාජනයකින් නොවසන්නේය;
ඇඳක් යටද නොතබන්නේය. නුමුත්
ඇතුල්වෙන්නන්ට එළිය පෙනෙන
පිනිස, පහන් කන්දක් උඩ තබන්
17. නේය. එලෙසම, මතු එළිදරවූ
නොවෙන්නාවූ රහසකුත් නැත;
මතු දැනනොගන්නාවූ එළිදරවූ
නොවන්නාවූ සැඟවී තිබෙන කිසිව
18. කුත් නැත. එබැවින්, ඇති අයට
දෙනු ලැබෙන නිසාත්, නැති අය
ගෙන් ඇත කියා සිතෙන දේත් උදු
රාගනු ලැබෙන නිසාත්, නුඹලා
අහන්නේ කොහොමද කියා බලා
ගනිල්ලායයි" කීසේක.

19. එවිට උන්වහන්සේගේ මෑනි
යෝද සහෝදරයෝද උන්වහන්සේ
වෙතට ආවෝය. නුමුත් සමූහයා
නිසා උන්වහන්සේ ලඟට එන්ට
20. පුළුවන්වූනේ නැත. එකල සම
හරෙක්, "ඔබවහන්සේගේ මෑනි
යෝද සහෝදරයෝද ඔබවහන්සේ
දකින්නට කැමතිව ඇවිත්, පිටත

සිටිතියි" උන්වහන්සේට දන්වූවෝය.
21. උන්වහන්සේ ඔවුන්ට උත්තර
දෙමින්, "මාගේ මෑණියොත් සහෝ
දරයොත්නම්, දෙවියන්වහන්සේගේ
වචනය අසා එලෙස පිළිපදින්නෝ
මයයි" ඔවුන්ට කීසේක.

22. එක් දවසක උන්වහන්සේ
තමන් ගෝලයන් සමග නැවකට
නැගී, "විලෙන් එගොඩට යමුයයි"
ඔවුන්ට කීසේක. එවිට ඔවුන්
23. නැව දියත්කොට යමින් සිටිද්දී,
උන්වහන්සේ නිදාගෙන උන්සේක.
තද හුළඟක් විලෙහි හටගෙන, වතු
රෙන් නැව පිරී, එයින් ඔවුන් ආන්
24. තරාවට පැමිණ, උන්වහන්සේ
ළඟට ඇවිත්, "ආචාරීනි, ආචාරීනි,
අපි විනාසයා" කියා උන්වහන්සේ
පිබිදවූවෝය. එවිට උන්වහන්සේ
නැගිට, හුළඟටත් තද රැලටත් සැර
කලසේක. එවිට ඒවා නැවති, නිශ්
25. චලයක්විය. එකල උන්වහන්සේ,
"තුඹලාගේ ඇදහිල්ල කොයිදැයි"
ඔවුන්ගෙන් ඇසූසේක. තුමූත් ඔවුන්
භයව පුදුමවෙමින්, "මූන්වහන්සේ
කෙබඳු මනුෂ්‍යයෙක්ද? හුළඟටත්
වතුරටත් ආඥකරනසේක; ඒවා
උන්වහන්සේට කීකරුවෙනවාය"
කියා, ඔවුනොවුන් කථාකරගත්
තෝය.

26. ඔවුන් ගලීලය ඉදිරියේ තිබෙ
න ගදරේනුන්ගේ රටට පැමිනි
27. යෝය. උන්වහන්සේ ගොඩ
බැස්ස කල, බොහෝ කලක පටන්
යකුන් වැශී සිටි, ඇඳුම් නාඳින, සො
හොන් ගෙවල මිස ගෙයක නොව
සන, ඒ නුවර වැසි මනුෂ්‍යයෙක් උන්
වහන්සේගේ පෙරමගට ආයේය.
28. අසුඩාත්මය නොයෙක් වර ඔහු
ඇල්ලීය; එහෙයින් මනුෂ්‍යයෝ ඔහු
විලංගුවලින්ද යදම්වලින්ද බැඳ,
රැකවල් කලෝය. තුමූත් ඔහු බැඳුම්
බිඳ, යක්ෂයා විසින් වනාන්තරයට
29. නෙරපනලද්දේය. ඔහු ජේසුස්
වහන්සේ දැක මුරගා, උන්වහන්සේ
ඉදිරියේ වැටී, "මහෝත්තමවූ දෙවි
යන්වහන්සේගේ පුත්‍රවූ ජේසුස්ව
හන්ස, ඔබවහන්සේට මාගෙන් කම
මොකද? මට පීඩා නොකලමැන
වයි" මහත් හඬින් කීයේය. මක්නි
සාද උන්වහන්සේ, "ඒ මනුෂ්‍යයා
කෙරෙන් දුරුව යවයි" අසුඩාත්ම
30. යට අනදුන්සේක. එවිට ජේසුස්
වහන්සේ, "තාගේ නම කොහොම
දැයි" ඔහුගෙන් ඇසූසේක. බොහෝ
යක්ෂයෝ වැශී සිටි නිසා, ඔහු "ලෙගි
31. යොන්යයි*" කීය. එවිට ඔවුන්,
"පාතාලයට යන්ට අපට අනනො
කලමැනවයි" උන්වහන්සේගෙන්
32. ඉල්ළුවෝය. එතනම කන්දක
මහත්වූ ඌරු රැලක් ගොදුරු කමින්
සිටියේය. "උන්ට වැහෙන්නට අව
සර දුනමැනවයි" උන්වහන්සේ
ගෙන් ඉල්ළුවෝය. උන්වහන්සේද
33. ඔවුන්ට අවසර දුන්සේක. එවිට
යක්ෂයෝ ඒ මනුෂ්‍යයා කෙරෙන්
දුරුව ගොස්, ඌරන්ට වැහුනෝය.
ඌරු රැල වේගයෙන් දුව ගොස්,
උස් තැනකින් විලේ වැටී මැරු
34. නෝය. ඌරු රැකවල්ළු ඒ දැක
පලාගොස්, නුවරෙහිද රටෙහිද ඒ
35. බව දන්වූවෝය. එවිට සිඩවූ
කාරනාව කිමෙක්දැයි දකින්ට මනු
ෂ්‍යයෝ පිටත්ව ගොස්, ජේසුස්වහන්
සේ වෙතට ඇවිත්, යක්ෂයන් දුරුව
ගියාවූ මනුෂ්‍යයා වස්ත්‍ර ඇඳ සිහි
ඇතුව ජේසුස්වහන්සේගේ පාදමූල
යෙහි උන් බව දැක භයවූවෝය.
36. යකුන් වැශී සිටි මනුෂ්‍යයාට සුව
කල බව දුටුවෝ, "ඒ කාරනාව සිඩ
වූනේ කෙලෙසදැයි" ඔවුන්ට දන්වූ
37. වෝය. එවිට ගදරේනුන්ගේ
රට වටකර සිටි සියළු සමූහයෝ
මහත්වූ භයට පැමිණ, "අප කෙරෙන්

* රවූව.

පහව ගියමැනවයි" උන්වහන්සේ
ගෙන් ඉල්ලුවෝය. උන්වහන්සේද නැ
38. වට නැගී ගියසේක. යක්ෂයන්
දුරුවගියාවූ ඒ මනුෂ්‍යයා උන්ව
හන්සේ සමග සිටින්නට ඉල්ලුවේය.
නුමුත් යේසුස්වහන්සේ ඔහු යවමින්,
39. "නුබේ ගෙදරට නැවත ගොස්,
දෙවියන්වහන්සේ විසින් නුබට කල
මහත් කාරනා දන්වාපන්නැයි"
කීසේක. එවිට ඔහු ගොස්, යේසුස්
වහන්සේ තමාට කල මහත් කාරනා
නුවර මුළුල්ලේ ප්‍රසිඬකලේය.

40. යේසුස්වහන්සේ හැරී ආකල්
හි, උන්වහන්සේගේ ඊම බලා සිටි
යාවූ සමූහයෝ උන්වහන්සේ සන්
41. තෝසයෙන් පිලිගත්තෝය. ත
වද සිනගෝගයෙහි මූලාදෑනියාවූ
යායිරස්නම් මනුෂ්‍යයෙක් ඇවිත්,
යේසුස්වහන්සේගේ පාමුල වැටී,
තමන්ගේ ගෙදරට එන ලෙස ඉල්ලු
42. වේය. මක්නිසාද, දොලොස්
අවුරුදු පමන වයස් ඇති ඔහුගේ
එකමවූ දුව මරනාසන්නව ඔත්පලව
සිටියාය. උන්වහන්සේ යන කල
සමූහයෝ උන්වහන්සේ පැහැර
43. ගෙන සිටියෝය. එකල, දො
ලොස් අවුරුද්දක පටන් මහලේ
රෝග ඇති එක් ස්ත්‍රියක් වෙදුන්ට
තමාගේ සියලු සම්පත් වියදම්කොට,
කාගෙන්වත් සුවයක් නොලැබ,
44. පිටිපසින් ලඟට ඇවිත් උන්ව
හන්සේගේ ඇඳුමේ කොන අතගෑ
වාය. එවලේම ඇගේ මහලේ නැව
45. තුනේය. එවිට යේසුස්වහන්සේ
"මා අතගෑවේ කව්දැයි" ඇසූසේක.
සියල්ලෝම, "අපි එසේ නොකලෙ
මුයයි" කී කල්හි, පේත්‍රුස්ද ඔහු
සමග සිටියෝද, "ආචාරිනි, සමූහයා
ඔබවහන්සේ වටකොට පැහැරගෙ
න සිටිද්දී, මා අතගෑවේ කව්ද කියා
46. අහනසේක්දැයි" කීවෝය. යේ
සුස්වහන්සේ, "කවුරු නුමුත් මා
අතගෑවේය; මාගෙන් අනුහාව
පිටත්ව ගියේයයි දනිමියි" කීසේක.
47. එවිට ඒ ස්ත්‍රී තමා ප්‍රසිඬවුනු බව
දැන, වෙව්ලමින් ඇවිත්, උන්වහන්
සේගේ පාමුල වැටී, තමා විසින්
උන්වහන්සේ අතගෑ කාරනාවත්
එවලේම ඇට සුවවුනු බවත් සියලු
සෙනග ඉදිරියේ උන්වහන්සේට
48. දන්වූවාය. උන්වහන්සේ, "දුව
නියෙනි, භයනොවෙන්න; නුබේ
ඇදහිල්ල නුබ සුවකලාය; සමාදාන
යෙන් පලයන්නැයි" ඈට කීසේක.
49. උන්වහන්සේ කථාකරමින් සිටිද්
දීම, සිනගෝගයෙහි ප්‍රධානයාගේ
ගෙදරින් එකෙක් ඇවිත්, "නුබේ
දියනියෝ මලාය; ආචාරින්වහන්
සේට වෙහෙස නොකරන්නැයි"
50. ඔහුට කීයේය. යේසුස්වහන්සේ
ඒ අසා, "භයනොවී, ඇදහිල්ලම
කරපන්න; එවිට ඈ රක්ෂාවෙනවා
51. ඇත" කියා, ගෙදරට ගියසේක.
පේත්‍රුස්ද යාකොබ්ද යොහන්ද
යෞවනියගේ මව්පියන්ද ඇර, වෙන
කාටවත් ඇතුල්වෙන්ට අවසර
52. නුදුන්සේක. සියල්ලෝම ඈ
නිසා අඬා වැලපුනෝය. උන්වහන්
සේද, "අඬන්ට එපාය; ඈ නිදනවා
මිස මැරුනේ නැතැයි" කීසේක.
53. එවිට ඔවුන් ඈ මල බව දැන,
54. උන්වහන්සේට සිනාසුනෝය. උ
න්වහන්සේ ඔවුන් සියල්ල පහකොට,
ඇගේ අත අල්වාගෙන, "යෞව
නිය, නැගිට සිටපන්නැයි" කීසේක.
55. එවිට ඇගේ ආත්මය නැවත ඈ
කරා පැමුනුනාය; ඈ එවලේම නැගු
56. ටුනාය. උන්වහන්සේද ඈට
කෑම දෙන්ට අනදුන්සේක. ඇගේ
මව්පියෝද පුදුමවූනෝය. නුමුත්,
සිඬවූනාවූ කාරනාව කාටවත් නො
දන්වන්ට උන්වහන්සේ ඔවුන්ට
අනදුන්සේක.

9. පරිච්ඡෙ. එවිට උන්වහන්සේ
තමන් ගෝලයන් දොලොස් දෙනා

කැඳවා, සියළු යක්ෂයන් කෙරේ බල
සඳ රෝග සුවකරන්ට පුළුවන්කමද
ඔවුන්ට දී, දෙවියන්වහන්සේගේ
රාජ්‍යය ප්‍රකාසකරන්ටද රෝගාතුර
යන් සුවකරන්ටද ඔවුන් යවමින්
3. කියනසේක්, "ගමනට කිසිවක්
එනම් හැරමිට්ටවත් පසුම්බියවත් රොටි
වත් මුදල්වත් ඇඳුම් දෙක දෙකවත්
4. නොගනිල්ලාය. නුඹලා යම් ගෙද
රකට ඇතුල්වූනොත්, එහි වාසය
5. කොට පිටත්වෙයල්ලාය. කවුරු
නුමුත් නුඹලා පිළිනොගනිතොත්,
ඒ නුවරින් පිටත්ව යනකල ඔවුන්ට
විරුඬව සාක්ෂි පිනිස නුඹලාගේ
පතුල්වල දූවිලි ගසාදමාපල්ලායයි"
6. කීසේක. ඔවුන්ද පිටත්ව, සෑම
තැන්හිම සුභාරංචිය ප්‍රකාසකරමින්,
රෝග සුවකරමින්, ගමින් ගම ඇවිද්
දෝය.

7. රටෙන් සතරෙන් කොටසකට
රජවූ හෙරොද් ජේසුස්වහන්සේ
විසින් කල සියල්ල අසා කැල
ඹුනේය. මක්නිසාද, සමහරෙක්
"යොහන් මලවුන්ගෙන් නැගුට්
8. ටේය" කියාත්, සමහරෙක් "එලි
යස් පෙනුනේය" කියාත්, සමහ
රෙක් "පෙර සිටි අනාගතවක්තෘන්
ගෙන් එක්කෙනෙක් නැගුට්ටේය"
9. කියාත් කීවෝය. එවිට හෙරොද්,
"මම යොහන්ගේ හිස කැප්පෙව්මි;
නුමුත් යමෙක් ගැන මෙපමන කාර
නා අසම්ද, ඔහු කව්ද" කියා, ඔහු
දකින්ට සෙව්ය.

10. ප්‍රේරිතයෝ හැරී ඇවිත්,
තමන් විසින් කල සියල්ල උන්වහන්
සේට කීවෝය. එවිට උන්වහන්සේ
ඔවුන් පමනක් කැඳවාගෙන, බෙත්
සයිදා නම් නුවරට අයිතිවූ වනාන්ත
11. ස්ථානයකට ගියසේක. සමූහ
යෝත් ඒ දැන, පසුව ගියෝය.
එවිට උන්වහන්සේ ඔවුන් පිළි
ගෙන, දෙවියන්වහන්සේගේ රාජ්‍ය
ය ගැන ඔවුන්ට කථාකොට, සුව
විමට ඕනෑකම ඇත්තවුන්ට සුවක
12. ළසේක. සවස්වෙන්ට පටන්
ගත්කල, දොලොස් දෙන උන්වහන්
සේ ලඟට පැමින, "අපි මේ වනාන්
තරස්ථානයේ සිටින බැවින්, සමූහයෝ
වටකර තිබෙන ගම් නියම්ගම්වලට
ගොස් නවාතැන්ද කෑමද සපයා
ගන්ට ඔවුන් ඇරියමැනවයි" කීවෝ
13. ය. උන්වහන්සේ, "නුඹලා ඔ
වුන්ට කෑම දීපල්ලායයි" කීසේක.
ඔවුන්ද, "අපි ගොස් මේ සියළු සෙ
නගට කෑම මිල දී ගත්තොත් මිස,
රොටි පහකටත් මසුන් දෙන්නෙකු
ටත් වඩා අප ලඟ නැතැයි" කීවෝය.
14. මක්නිසාද, පන්දහසක් පමන
මනුෂ්‍යයෝ එහි සිටියෝය. එවිට
ජේලියට පනහ පනහ බැගින් ඔවුන්
ඉන්දවන්ට ගෝලයන්ට කීසේක.
15. ඔවුන් එසේකොට, සෑම දෙනාම
16. ඉන්දෙව්වෝය. එවිට උන්වහන්
සේ රොටි පහත් මසුන් දෙන්නාත්
ගෙන, ස්වර්ගය දෙස බලා ස්තුති
කොට, කඩා, සමූහයා ඉදිරියේ තබන්
17. ට ගෝලයන්ට දුන්සේක. ඔවුන්
සියල්ලෝද කාලා තෘප්තියට පැමිනි
යෝය. ඉතිරිවූ කෑබලි පිරු පෙට්ටි
දොලසක් රැස්කරගත්තෝය.

18. ඉන් පසු උන්වහන්සේ තනි
යම යාඥාකරනකල්හි, උන්වහන්
සේගේ ගෝලයෝ ලඟ සිටියෝය.
එවිට උන්වහන්සේ, "මා කවරෙක
කියා සමූහයෝ කියද්දැයි" ඔවුන්
19. ගෙන් ඇසූසේක. ඔවුන් උත්තර
දෙමින්, "සමහරෙක් 'යොහන් බව්
තීස්තය,' සමහරෙක් 'එලියස්ය,'
තවත් සමහරෙක් 'පෙර සිටි අනාග
තවක්තෘන්ගෙන් එක්කෙනෙක් නැ
ගුට්ටේයයි' කියතියි" කීවෝය.
20. උන්වහන්සේ, "නුඹලා මා කව
රෙක කියන්දැයි" ඔවුන්ගෙන්
ඇසූසේක. පේතෘස් උත්තර දෙමින්,
"දෙවියන්වහන්සේගේ ක්‍රිස්තුස්යයි"
21. කීයේය. එකල උන්වහන්සේ,

"මේ දේ කාටවත් නොකියල්ලායයි"
22. ඔවුන්ට තදින් අණදී, "මනුෂ්‍ය
පුත්‍රයා නොයෙක් දුක් විඳින්ටත්,
වැඩිමහල්ලන් විසින්ද නායක පූජක
යන් විසින්ද ලියන්නන් විසින්ද එපා
කරනු ලබන්ටත්, මරනු ලබන්ටත්,
තුන්වෙනිදා නැඟිටින්ටත් ඕනෑයයි"
කීසේක.

23. එවිට උන්වහන්සේ සියල්ලන්ට
කථාකොට, "යමෙක් මා පස්සේ
එන්නට කැමතිනම්, ඔහු තමාගේ
කැමැත්ත අත්හැර, දවස්පතා
තමාගේ කුරුසිය අරගෙන, මා පස්
24. සේ ඒවා. මක්නිසාද, තමාගේ
ප්‍රාණය රක්ෂාකරගන්ට කැමති තැ
නැත්තා ඒක නැතිකරගන්නේය;
මා නිසා තමාගේ ප්‍රාණය නැතිකර
ගන්නා තැනැත්තා ඒක රක්ෂාකර
25. ගන්නේය. යම් මනුෂ්‍යයෙක් මුළු
ලෝකය ලබාගත්තත්, තමාගේ
ප්‍රාණය නැතිකරගන්නේනම්, නො
හොත් විනාසකරනු ලැබීනම්, ඔහුට
26. ප්‍රයෝජනමොකද? තවද, මටත්
මාගේ වචනයටත් යමෙක් ලැජ්ජා
වේද,. මනුෂ්‍ය පුත්‍රයා තමන්ගේද
පියානන්වහන්සේගේද පිරිසිදු දූත
යන්ගේද තේජසින් එනකල, ඔහු
27. ටත් ලැජ්ජාවෙනවා ඇත. සැබ
වක් තුඹලාට කියමි, මෙහි සිටින්
නන්ගෙන් සමහරෙක් දෙවියන්වහන්
සේගේ රාජ්‍යය දකිනතුරු, මරන
රසය නොවිඳිතියි" කීසේක.

28. මේ වචන කී අට දවසකට
පමන පසු, උන්වහන්සේ පේතෘස්ද
යොහන්ද යාකොබ්ද කැඳවාගෙන,
යාඥාකරණ පිනිස කන්දකට නැඟුනු
29. සේක. උන්වහන්සේ යාඥාකරන
කල, උන්වහන්සේගේ මුහුනේ ස්වරූ
පය වෙනස්විය. උන්වහන්සේගේ ඇ
30. දුම් සුදුව බැබළුනේය. එවිට පුරුෂ
යෝ දෙන්නෙක් උන්වහන්සේ සමග
කථාකලෝය; ඔවුන් මෝසෙස් සහ
31. එලියස්ය. ඔවුන් තේජසින් යුක්
තව පෙනී, උන්වහන්සේ විසින්
යෙරුසලමෙහිදී මරනය විඳ සම්පූ
ර්ණ කටයුතු දේ ගැන කථාක
32. ලෝය. පේතෘස්ද ඔහු සමග සිටි
යාහුද බර නින්දට පැමිනියෝය.
ඔවුන් පිබිද උන්වහන්සේගේ තේජ
සද උන්වහන්සේ සමග සිටි මනුෂ්‍ය
33. යන් දෙන්නද දුටුවෝය. ඔවුන්
උන්වහන්සේ වෙතින් පිටත්ව යන
කල්හි, පේතෘස් තමා කියන කීම
මොකදැයි නොදැන, "ආචාරිනි, අපට
මෙහි සිටින්ට යහපත; එබැවින්
ඔබවහන්සේට එකක්ද මෝසෙස්ට
එකක්ද එලියස්ට එකක්ද බැගින්
පැල් තුනක් සාදමුයයි" යේසුස්ව
34. හන්සේට කීයේය. ඔහු කථාකර
මින් සිටිද්දීම, වලාපටලයක් ඇවිත්
ඔවුන් වසාගත්තේය. වලාපටල
යෙන් වැසී ගියාවූ ඔවුන් භයපත්වූ
35. වෝය. එවිට, "මොහු මාගේ ප්‍රිය
පුත්‍රයාය; මොහුගේ බස් අසාපල්ලා
යයි" වලාපටලයෙන් හඬක් විය.
36. ඒ හඬ නැවතුනු කල, යේසුස්
වහන්සේ තනියම සිටින බව ඔවුන්
දුටුවෝය. ඔවුන්ද තමන් දුටු දේව
ලින් කිසිවක් එදවස්වලදී කාටවත්
නොකියා, සිතේ තබාගත්තෝය.

37. පසුවදා, ඔවුන් කන්දෙන්
බැස්ස කල, මහත් සමූහයක් උන්ව
හන්සේගේ පෙරමගට ආයේය.
38. සමූහය අතරෙන් එකෙක් හඬගා
සමින් කියනුයේ, "ආචාරිනි, මාගේ
පුත්‍රයා බැළුවමැනව; ඔහු මාගේ
39. එකම පුත්‍රයාය. යක්ෂයෙක් ඔහුට
වැහෙන්නේය. වැහුනු වේලේම ඔහු
මූරගසන්නේය. ඒ ආත්මයා ඔහු
වෙව්ලවා පෙනදම්වවා හිංසාකොට,
අමාරුවෙන් ඔහුගෙන් අහක්ව යන්
40. නේය. ඔහු දුරුකරන්ට ඔබව
හන්සේගේ ගෝලයන්ගෙන් ඉල්
වීමි; තුමූන් ඔවුන්ට නුපුළුවන්වියයි"
41. කීයේය. යේසුස්වහන්සේ උත්
තර දෙමින්, "ඇදහිලි නැත්තාවූ

අකීකරුවූ මනුෂ්‍යයෙනි, මම කොපමන කල් නුඹලා වෙත සිටිම්ද? කොතෙක් ඉවසම්ද? නුඹේ පුත්‍රයා මෙහි ගෙනෙන්නැයි" කීසේක. 42. ඔහු එද්දීම, යක්ෂයා ඔහු බිම හෙළා වෙව්ලෙව්වේය. ජේසුස්වහන්සේ අසුබාත්මයට සැරකොට, ළදරුවාට සුවකර, පියාට ඔහු බාරදුන්සේක.

43. එවිට සියල්ලෝම දෙවියන්වහන්සේගේ මහත්තත්වයට විස්මපත්වූවෝය. ජේසුස්වහන්සේ විසින් කළ සියළු දේවලට සියල්ලෝම පුදුමව සිටිද්දී, උන්වහන්සේ තමන් 44. ගෝලයන්ට කථාකොට, "මනුෂ්‍ය පුත්‍රයා මනුෂ්‍යයන්ගේ අත්වලට පාවාදෙනු ලැබේයයි යන මේ වචන නුඹලාගේ කන්වල බහාගනිල්ලා 45. යයි" කීසේක. ඔවුන් ඒ කීම තේරුම්ගත්තේ නැත; ඒක ඔවුන්ට නොහැඟෙන ලෙස වැසී තිබුණේය. ඔවුන්ද ඒ කීම ගැන උන්වහන්සේගෙන් අසන්ට භයවූවෝය.

46. එවිට තමන්ගෙන් කවරෙක් උතුම් වන්නේදැයි ඔවුන් අතරේ 47. වාදයක් හටගත්තේය. ජේසුස්වහන්සේ ඔවුන්ගේ සිතිවිලි දැන, ළදරුවෙක් අරගෙන තමන් ළඟ 48. සිටුවා ,කියනසේක්, "මේ ළදරුවා මාගේ නාමයෙන් පිළිගන්නා තැනැත්තා මා පිළිගන්නේය; මා පිළිගන්නා තැනැත්තා මා එවූ තැනන්වහන්සේ පිළිගන්නේය. එබැවින්, නුඹලා සියල්ලන් අතරෙන් ඉතා කුඩාවූ යමෙක් ඇද්ද, ඔහු මහත්වෙනවා ඇතැයි" කීසේක. 49. එවිට යොහන් කථාකොට, "ආචාර්යනි, ඔබවහන්සේගේ නාමයෙන් යක්ෂයන් දුරුකරන්නෙක් දුටිමුව; ඔහු අප එක්ව තෙන බැවින් 50. ඔහු වැළැක්වීමුයයි" කීයේය. එවිට ජේසුස්වහන්සේ, "ඔහු වළක්වන්ට එපාය; මක්නිසාද අපට විරුද්ධ නැත්තා අපේ පක්ෂයට සිටින්නේයයි" ඔහුට කීසේක.

51. උන්වහන්සේ ඔසවනු ලබන කාලය ළංවූ කල, උන්වහන්සේ ස්ථිරවූ සිතින් යෙරුසලමට යන්ට 52. පටන්ව, තමන්ට ඉස්සරව දූතයන් ඇරියසේක. ඔවුන්ද ගොස්, උන්වහන්සේට උවමනා දේ පිළියෙලකරන පිනිස සමාරියන්ගේ 53. ගමකට ඇතුල්වූවෝය. නුමුත් උන්වහන්සේ යෙරුසලම බලා යන හෙයින්, ඔවුන් උන්වහන්සේ පිළි 54. ගත්තේ නැත. උන්වහන්සේගේ ගෝලවූ යාකොබ්ද යොහන්ද ඒ දැක, "ස්වාමිනි, එලියස් කළාක් මෙන්, ඔවුන් නාස්තිකරන පිනිස අහසින් ගිනි බසින්ට අප විසින් අන දෙන්ට කැමතිසේක්දැයි" ඇසූ 55. වෝය. උන්වහන්සේ හැරී ඔවුන්ට සැරකොට, "නුඹලා මොන සිතකින් යුක්තව සිටිනවාදැයි නුඹලා 56. දන්නේ නැත. මනුෂ්‍ය පුත්‍රයා මනුෂ්‍යයන්ගේ ප්‍රාන රක්ෂාකරන්ට මිස, විනාසකරන්ට ආවේ නැත" කියා, ඔවුන් සමග අන් ගමකට ගියසේක.

57. ඔවුන් මාර්ගයෙහි යන කල එක්තරා මනුෂ්‍යයෙක්, "ස්වාමිනි, ඔබවහන්සේ යම් තැනකට යනසේක්ද, එතනට මමත් ඔබවහන්සේ 58. පස්සේ යෙමියි" කීයේය. ජේසුස්වහන්සේ, "කැනහිළුන්ට බිලද ආකාස පක්ෂීන්ට කූඩුද ඇත. නුමුත් මනුෂ්‍ය පුත්‍රයාට ඉස තබන්ටවත් තැනක් නැතැයි" ඔහුට කීසේක. 59. උන්වහන්සේ අනිකෙකුට "මා පස්සේ වරෙන්නැයි" කීසේක. ඔහු, "ස්වාමිනි, පළමුකොට ගොස් මාගේ පියා තැන්පත්කරන්ට මට අවසර 60. දුනමැනවයි" කීයේය. ජේසුස්වහන්සේ, "මළාහු තමන්ගේ මළවුන් තැන්පත්කෙරෙත්වා; නුඹ ගොස් දෙවියන්වහන්සේගේ රාජ්‍යය

ප්‍රකාශකරපන්නැයි" ඔහුට කීසේක.
61. අනිකෙක්ද "ස්වාමිනි, ඔබව
හන්සේ පස්සේ එමි; නුමුත් මම
පලමුකොට ගෘහ මාගේ ගෙදර
සිටින්නන්ට දන්වා එන පිනිස මට
අවසර දුනමැනවයි" කීයේය.
62. යේසුස්වහන්සේ, "නගුලේ අත
තබා ආපස්සු බලන්නාවූ කිසිවෙකුත්
දෙවියන්වහන්සේගේ රාජ්‍යයට නුසු
දුසුයයි" ඔහුට කීසේක.

10. පරිච්ඡේ. එසින් පසු, ස්වාමීන්
වහන්සේ තවත් සැත්තෑ දෙනෙක්
නියමකොට, තමන් යන්ට සිතූ සියළු
නුවරවලටද ස්ථානවලටද ඔවුන්
දෙන්න දෙන්න තමන්ට පෙරටුව
2. යවමින් කියනසේක්, "ඒකාන්ත
යෙන් ගොයම බොහෝය; නුමුත්
ගොවියෝ ස්වල්ප දෙනෙක. එබැ
වින්, තමන්ගේ ගොයමට ගොවීන්
යවන්ට ගොයම් ස්වාමියාගෙන් ඉල්
3. ලාපල්ලාය. නුබලා පලයල්ලාය;
වෘකයන් මැදට බැටළු පැටවුන්
යවන්නාක්මෙන්, මම නුබලා යවමි.
4 මුදල් පසියවත් පසුම්බියවත් වහන්
සගලවත් නොගනිල්ලාය. මාර්ග
යේදී කාටවත් ආචාර නොකරල්ලාය.
5. නුබලා යම් ගෙයකට ඇතුල්
වූනොත්, පලමුකොට 'මේ ගෙට
සමාදානය වේවයි' කියාපල්ලාය.
6. සමාදාන පුත්‍රයෙක් එහි සිටියොත්,
නුබලාගේ සමාදානය ඔහු කෙරෙහි
පිහිටන්නේය; නැතහොත්, නැවත
7. නුබලාට පැමිණෙන්නේය. වැඩ
කාරයාට තමාගේ කුලිය සුදුසු
බැවින්, ඔවුන් දෙන දෙයක් කමින්
බොමින් ඒම ගෙයිම සිටපල්ලාය. ගෙ
8. යකින් ගෙයකට නොයල්ලාය. නු
බලා යම් නුවරකට ඇතුල්වූකල, එහි
වැසියො නුබලාට ආගන්තුක සත්
කාර කලොත්නම්, නුබලා ඉදිරියෙහි
9. තබනලද දේ කා, එහි වසන
රෝගීන්ට සුවකොට, 'දෙවියන්
වහන්සේගේ රාජ්‍යය නුබලා ලඟට
පැමුනුනේයයි' ඔවුන්ට කියාපල්
10. ලාය. නුමුත් යම් නුවරකට
නුබලා ඇතුල්වූකල, එහි වැසියො ආ
ගන්තුක සත්කාර නොකලොත්නම්,
11. ඒ නුවර වීදිවලට බැස, 'අප කෙ
රෙහි ඇලෙන නුබලාගේ නුවර
දූවිලි පවා නුබලාට විරුද්ධව ගසාදම
මුව; එසේවී නුමුත් දෙවියන්වහන්
සේගේ රාජ්‍යය නුබලාට ලංවූ
බව දැනගනිල්ලායයි' කියාපල්ලාය.
12. නුබලාට කියමි, ඒ දවසෙහි ඒ
නුවර දඬුවමට වඩා සොදොම්හි දඬු
13. වම ඉවසිය හැකිවන්නේය. එම්බා
ඛොරාසීන්, තිට දුක්වන්නේය; එම්බා
බෙත්සයිද, තිට දුක්වන්නේය.
තොප ඇතුලේ කල පුදුම දේ තීර්
සහ සිදොන්හිදී කලානම්, මීට පලමු
වෙන් ගෝනි රෙදි හැද අළුයෙහි
හිදිමින් පසුතැවිල්ලට පැමුනුනෝ
14. වෙත්. එහෙත් විනිශ්චයෙහිදී
තොපගේ දඬුවමට වඩා තීර් සහ
සීදොන්ගේ දඬුවම ඉවසිය හැකිවන්
15. නේය. ස්වර්ගය දක්වා උසස්ක
රනු ලැබූ කපර්ණවූම, තී නිරය
16. දක්වා හෙළනු ලබන්නීය. නුබ
ලාගේ වචන අසන්නා මාගේ වචන
අසන්නේය. නුබලාට නින්දාකරන්
නා මට නින්දා කරන්නේය. මට
නින්දාකරන්නා මා එවූ තැනැන්වහන්
සේට නින්දාකරන්නේයයි" කීසේක.
17. ඉන් පසු ඒ සැත්තෑ දෙන
සන්තෝසයෙන් නැවත ඇවිත්,
"ස්වාමිනි, ඔබවහන්සේගේ නාමය
කරනකොටගෙන යක්ෂයෝ පවා
අපට යටත්වෙතියි" කීවෝය.
18. එවිට උන්වහන්සේ කියනසේක්,
"විදුලියක් මෙන් සාතන් අහසෙන්
19. වැටෙන බව දුටිමි. සර්පයන්ද
ගෝනුස්සන්ද පාගන්ටත් සතුරාගේ
සියළු බලය මැඩපවත්වන්ටත් නුබ
ලාට බලය දෙමි. කොයි දේකින්වත්
නුබලාට හිංසාවක් වෙන්නේ නැත.

20. එසේ නුමුත්, නුබලාගේ නාම
වල් ස්වර්ගයෙහි ලියා තිබෙන බවට
මිස, යක්ෂයෝ නුබලාට යටත්වූ බවට
සන්තෝෂ නොවෙල්ලායයි" කීසේ
21. ක. එවලේම යේසුස්වහන්සේ
සතුටු සිත් ඇතුව කියනසේක්,
"ස්වර්ගයටත් පොලොවටත් ස්වාමිවූ
පියාණෙනි, නුවන ඇත්තන්ටද පඬි
තයන්ටද මේ කාරනා සඟවා ලදරු
වන්ට එලිදරව්කල බැවින්, ඔබව
හන්සේට සතුති කෙරෙමි. පියාණෙ
නි, ඔබවහන්සේ එසේ වීමට සතුටු
22. බැවින්, එසේම වේවා. මාගේ
පියානන් විසින් සියල්ලම මට බාර
දෙනලද්දේය. පියානන්වහන්සේ මිස
කිසිවෙක් පුත්‍රයා කවරෙක්ද කියා
නොදන්නේය. පුත්‍රයාත්, පුත්‍රයා
විසින් යමෙකුට එලිදරව්කරන්ට
කැමතිද ඔහුත් හැර, කිසිවෙක්
පියානන්වහන්සේ කවරෙක්ද කියා
23. නොදන්නේයයි" කීසේක. එවිට
උන්වහන්සේ ගෝලයන් දෙසට
හැරී රහසින් කියනසේක්, "නුබලා
දකින කාරනා දකින ඇස් වාසනා
24. වන්තය. මක්නිසාද නුබලාට
කියමි, නුබලා දකින කාරනා දකින්
ටත්, නුබලා අසන කාරනා අසන්
ටත්, බොහෝ අනාගතවක්තෘවරුද
රජ දරුවෝද කැමතිව සිටියෝය.
නුමුත් දුටුවේවත් ඇසුවේවත් නැ
තැයි" කීසේක.

25. එක්තරා ව්‍යවස්ථාවෙහි සමර්ථී
යෙක් නැගිට, උන්වහන්සේ පරීක්ෂා
කරමින්, "ආචාරිනි, සදාකාල ජීව
නය උරුමවෙන්නට මා විසින් කට
යුතු දේ මොනවාදැයි" ඇසුවේය.
26. උන්වහන්සේ, "ව්‍යවස්ථාවෙහි
ලියවී තිබෙන්නේ කිමෙක්ද; නුබ
කියවන්නේ කෙලෙසදැයි" ඔහු
27. ගෙන් ඇසූසේක. ඔහු උත්තර
දෙමින්, "තාගේ මුළු හෘදයෙන්ද
තාගේ මුළු ආත්මයෙන්ද තාගේ මුළු
ශක්තියෙන්ද තාගේ මුළු නුවනින්ද
තාගේ දෙවි ස්වාමීන්වහන්සේටත්,
තට මෙන් තාගේ අසල්වාසියා
ටත් ප්‍රේමකරව; යන වගයයි"
28. කීයේය. එවිට උන්වහන්සේ,
"නුබ දුන් උත්තර හරිය; එසේ
කලොත් ජීවත්වන්නේයයි" ඔහුට
29. කීසේක. නුමුත් ඔහු තමාම නිදෝ
ශව පෙනෙන්නට කැමතිව, "මාගේ
අසල්වාසියා කවුදැයි" යේසුස්වහන්
30. සේගෙන් ඇසුවේය. යේසුස්ව
හන්සේ උත්තර දෙමින් කියන
සේක්, "එක්තරා මනුෂ්‍යයෙක් යෙරු
සලමෙන් යෙරිකෝවට යන අතර
සොරුන්ට අසුවූයේය. සොරුද ඔහු
නිර්වස්ත්‍රකොට, ඔහුට තුවාල කර
මින්, අඩපනකොට හැර ගියෝය.
31. ඉන් පසු, ඒ මාවත යන්නාවූ
පූජකයෙක් ඔහු දැක පැත්තකින්
32. ගියේය. එසේම ලෙවී ගෝත්‍ර
යෙහි මනුෂ්‍යයෙක්ද එතනට පැමින,
ලඟට ගොස්, ඔහු දැක පැත්තකින්
33. ගියේය. නුමුත් සමාරිය වැසි
යෙක් ගමන් යන අතර ඔහු සිටි
තැනට ඇවිත්, ඔහු දැක අනුකම්පා
34. කොට, ලඟට ගොස්, තෙල්ද
මුද්‍රිකපානද ඉස, තුවාල බැඳ, තමා
ගේ වාහනයටම ඔහු නන්වාගෙන,
තානායමකට ගෙනගොස් සත්කාර
කොට, පසුවදා පිටත්ව යන කල
35. මසු දෙකක් අරගෙන තානායම්
කාරයාට දී, 'මොහුට උපස්ථාන
කරපන්න; මීට වැඩියෙන් වියදම්
වූනොත්, මම නැවත ආ කල නුබට
ගෙවන්නෙමියි' ඔහුට කීයේය.
36. සොරුන්ගේ අතට පත්වූ තැනැ
ත්තාට මොවුන් තුන්දෙනාගෙන්
අසල්වාසියා කවරෙක කියා සිතන්
37. නේදැයි" ඇසූසේක. "ඔහුට
අනුකම්පාකල තැනැත්තාමයයි"
කීයේය. එවිට යේසුස්වහන්සේ,
"නුබත් ගොස් එලෙසම කරපන්
නැයි" ඔහුට කීසේක.

38. ඉන්පසු ඔවුන් යමින් ගමකට පැමුනුණෝය. එවිට මාර්තා නම් ස්ත්‍රියක් උන්වහන්සේ තමාගේ ගෙදරට 39. පමුනුවාගත්තාය. ඈට මරියා නම් සහෝදරියක් සිටියාය. ඈ යේසුස්වහන්සේගේ පාදමූලයෙහි හිඳ, උන්වහන්සේගේ වචනය ඇසුවාය. 40. මාර්තා බොහෝ උපස්ථාන කිරීමෙන් වෙහෙසව, උන්වහන්සේ වෙතට ඇවිත්, "ස්වාමිනි, මාගේ සහෝදරී උපස්ථානකරන්ට මා තනියම හැරියබව නොසලකනසේක්ද? එබැවින් මට උපකාරකරන්ට ඈට 41. කියමැනවයි" කීවාය. යේසුස්වහන්සේ උත්තර දෙමින්, "මාර්තා, මාර්තා, බොහෝ දේවල් ගැන නුබ සිතිවිලි සිතා කනගාටුවන් 42. නිය. නුමුත් ඕනෑ දේ නම් එකවය. මරියාද ඈ කෙරෙන් බැහැර නොගන්නාවූ යහපත් කොටස තෝරාගත්තායයි" ඈට කීසේක.

11. පරිච්ඡෙ. නැවතද උන්වහන්සේ එක් තැනක යාඥාකරමින් සිට නිමවූ පසු, උන්වහන්සේගේ ගෝලයන්ගෙන් එකෙක්, "ස්වාමිනි, යොහන් තමන් ගෝලයන්ට ඉගැන්වූ ලෙසම අපටත් යාඥාකරන්ට ඉගැන් 2. නුවමැනවයි" කීයේය. උන්වහන්සේ ඔවුන්ට කියනසේක්, "නුබලා යාඥාකරනකල, 'ස්වර්ගයෙහි වැඩසිටින අපගේ පියානන්වහන්ස, ඔබවහන්සේගේ නාමය සුබව පවත්වනු ලැබේවා; ඔබවහන්සේගේ රාජ්‍යය ඒවා; ඔබවහන්සේගේ කැමැත්ත ස්වර්ගයෙහි මෙන් භූමි 3. යෙහිද කරනුලැබේවා. අපේ දවස්පතා භෝජනය අපට දවසින් 4. දවස දුනමැනව. අපේ සියළු නය කාරයන්ට අපි ක්ෂමාවෙන නිසා, අපේ පව් අපට ක්ෂමාවූනමැනව. අප පරීක්ෂාවීමට නොපමුනුවා, නපුරෙන් අප ගලවාගතමැනවයි' කියාපල්ලායයි" කීසේක.

5. තවද උන්වහන්සේ ඔවුන්ට කියනසේක්, "නුබලා අතරෙයි මිත්‍රයෙක් ඇති කිසිවෙක් මධ්‍යම රාත්‍රියෙහි ඔහු ලඟට ගොස්, 'යහළුව, 6. ගමන් යන්නාවූ මාගේ මිත්‍රයෙක් මා ලඟට ආයේය; ඔහුගේ ඉදිරියෙහි තබන්ට කිසිවක් මා ලඟ නැති බැවින්, රොටි තුනක් මට නයට දීයන්නැයි' ඔහුට කියන්නේනම්, 7. එවිට ගේ ඇතුලේ සිටින තැනැත්තා උත්තර දෙමින්, 'මට වෙහෙස නොකරන්න; දූන් දොර වසා තිබෙන්නේය; මමත් මාගේ දරුවොත් ඇඳේ ඉඳිමුව; නැගිට නුබට ඒවා දෙන්නට බැරියයි' කීවොත්, 8. ඔහුගේ මිත්‍රකම නිසා නැගිට ඔහුට නොදෙතත්, ඔහුගේ නැවත නැවත ඉල්ලීම නිසා නැගිට ඔහුට ඕනෑ පමන දෙනවා ඇතැයි නුබ 9. ලාට කියමියි" කීසේක. තවද නුබලාට කියමි, "ඉල්ලාපල්ලාය; එවිට නුබලාට දෙනු ලැබේ. සොයාපල්ලාය; එවිට නුබලාට සම්භවෙයි. තට්ටුකරපල්ලාය; එවිට නුබලාට දො 10. ර අරිනුලැබේ. මක්නිසාද ඉල්ලනනාවූ සියල්ලෝම ලබති. සොයන්නාට සම්භවෙයි. තට්ටුකරන්නා 11. ටද දොර හරිනු ලැබේ. නුබලා අතරේ කවර පියෙක් නුමුත්, තමාගේ පුත්‍රයා රොටියක් ඉල්වන්නේනම්, ඔහුට ගලක් දෙන්නේද? මත්ස්‍යයෙක් ඉල්වන්නේනම්, මත්ස්‍යයා වෙනුවට සර්පයෙක් දෙන්නේද? 12. බිජුවක් ඉල්වන්නේනම්, ගෝ 13. නුස්සෙක් දෙන්නේද? දුෂ්ටවූ නුබලා නුබලාගේ දරුවන්ට යහපත් දේ දෙන්නට දනිතොත්, ස්වර්ගීයවූ පියානන්වහන්සේ තමන්වහන්සේගෙන් ඉල්ලනවුන්ට ශුද්ධාත්මය කොපමන වැඩිව නොදෙනසේක්දැයි" කීසේක.

14. උන්වහන්සේ ගොළුකරවන
යක්ෂයෙක් දුරුකරමින් සිටිසේක.
යක්ෂයා දුරුවූ කල ගොළුවා කථා
කළේය; සමූහයෝ පුදුමවූනෝය.
15. නුමුත් ඔවුන්ගෙන් සමහරෙක්,
"යක්ෂ මූලාදෑනිවූ බෙල්සෙබූල් කර
නකොටගෙන ඔහු යකුන් දුරුකරන්
16. නේයයි" කීවෝය. සෙස්සෝ
උන්වහන්සේ පරීක්ෂාකරමින්, අහ
සෙන් ලකුනක් උන්වහන්සේගෙන්
17. ඉල්ළුවෝය. නුමුත් උන්වහන්සේ
ඔවුන්ගේ සිතිවිලි දැන, ඔවුන්ට
කියනසේක්, "තම තමන්ට විරුඬව
භේදවූනාවූ යම් රජ්‍යයක් ඇද්ද,
ඒක වනාන්තර බවට පැමිනෙයි. තම
තමාට විරුඬව භේදවූනාවූ යම්
ගෙයක් ඇද්ද, ඒක වැටෙයි.
18. සාතන් තමාටම විරුඬව භේදවේ
නම්, ඔහුගේ රජ්‍යය පවතිනෙන් කෙ
සේද? මම බෙල්සෙබූල් කරනකොට
ගෙන යකුන් දුරුකරනෙන්යයි නුඹ
19. ලා මා ගැණ කියති; නුමුත් මම
බෙල්සෙබූල් කරනකොටගෙන ය
කුන් දුරුකරන්නෙම්නම්, නුඹලාගේ
පුත්‍රයෝ කවරෙකු කරනකොටගෙන
ඔවුන් දුරුකරද්ද? එහෙයින් ඔවුන්
නුඹලාගේ විනිශ්චයකාරයෝ වෙන
20. වා ඇත. නුමුත් මම දෙවියන්වහන්
සේගේ ඇඟිල්ලෙන් යක්ෂයන් දුරුක
රන්නෙම්නම්, ඒකාන්තයෙන් දෙවි
යන්වහන්සේගේ රජ්‍යය නුඹලා ලඟ
21. ට පැමුනුනේය. ආයුධවලින් සැර
හූනාවූ බලවන්තයෙක් තමාගේ ගෙ
ය රක්ෂාකරනකල, තමාගේ දේපල
22. වලට අන්තරාවක් නැත. නුමුත්
ඔහුට වැඩි බලවන්තයෙක් ඔහු ලඟ
ට ඇවිත් ඔහු පරාදකොට, ඔහු විසින්
විශ්වාසකරනලද ඔහුගේ සියළු ආයුධ
උදුරාගෙන, කොල්ලකාගත් දේ බෙ
23. දා දෙන්නේය. මාගේ පක්ෂයට
නොසිටින තැනැත්තා මට විරුඬය;
මා සමග රැස්නොකරන තැනැත්තා
24. දා ඉසුරුවන්නේය. මනුෂ්‍යයෙකු
ගෙන් දුරුව ගියාවූ අසුඬාත්මයා
නිරුදක තැන්වල ඇවිදිමින්, නිවාඩු
සොයා නොලැබ, 'මම පිටත්ව ආ
මාගේ ගෙට නැවත යෙමියි' කියා,
25. එහි පැමිනිකල ඒ ගෙය අතුගා
සරසා තිබෙන බව දක්නේය.
26. එකල්හි ඔහු ගොස්, තමාට වඩා
දුෂ්ටවූ වෙන ආත්මයන් සත්දෙ
නෙක් කැඳවාගෙන එන්නේය.
ඔවුන්ද ඇතුල්ව එහි වාසය කරති.
ඒ මනුෂ්‍යයාගේ ප්‍රථම ස්වභාවට වඩා
අන්තිම ස්වභාව නපුරුවන්නේයයි"
කීසේක.

27. උන්වහන්සේ මේ වචන කියද්
දී, සමූහයා අතරෙන් එක් ස්ත්‍රියක්
ශබ්ද පවත්වා, "ඔබවහන්සේ දැරූ
කුසේද ඔබවහන්සේට කිරි දුන්
තනද වාසනාවන්තයයි" උන්වහන්
28. සේට කීවාය. උන්වහන්සේ කිය
නසේක්, "දෙවියන්වහන්සේගේ
වචනය අසා ඒ වචනය රක්ෂාකරන්
නෝම වාසනාවන්තයෝයයි" කී
සේක.

29. සමූහයන් රැස්වූ කල්හි උන්
වහන්සේ කථාකරන්ට පටන්ගෙන,
"මේ ජාතිය දුෂ්ටවූ ජාතියක; ඔවුන්
ලකුනක් සොයති; නුමුත් යෝනා
අනාගතවක්තෘහුගේ ලකුනම මිස,
ඔවුන්ට වෙන ලකුනක් දෙනු නො
30. ලැබේ. නිනිවේ වැසියන්ට
යෝනා යම්සේ ලකුනක්විද, එසේම
මනුෂ්‍ය පුත්‍රයා මේ ජාතියටත් ලකු
31. නක් වෙනවා ඇත. දකුනු දික්හි
බිසව මේ ජාතියෙහි මනුෂ්‍යයන්
සමග විනිශ්චයෙහි නැඟිට, ඔවුන්
වරදට පත්කරන්නිය. මක්නිසාද,
ඈ සාලමොන්ගේ ප්‍රඥාව අසන්ට
පොලවෙහි සීමාවල සිට ඇවාය.
නුමුත් සාලමොන්ට වඩා උත්තම
32. යෙක් මෙහි ඇත්තේය. නිනිවේ
මනුෂ්‍යයෝ මේ ජාතිය සමග විනිශ්
චයෙහි නැඟිට, ඔවුන් වරදට පත්ක
රනවා ඇත. මක්නිසාද, යෝනාගේ

දේශනාවෙන් ඔවුන් පසුතැවිල්ලට පැමිණියෝය. නුමුත් යෝනාට වඩා උත්තමයෙක් මෙහි ඇත්තේය.
33. කවුරුවත් පානක් දල්වා, ඇතුල් වෙන්නන්ට එළිය ලැබෙන පිනිස පහන් කන්දක් පිට තබනවා මිස, රහස් තැනකවත් කුරුණියක් යට
34. වත් තබන්නේ නැත. ශරීරයේ පහනනම් ඇසය. එබැවින් නුබේ ඇස යහපත්ව තිබෙනවිට, නුබේ සියළු ශරීරයට එළිය වෙයි. නුමුත් නුබේ ඇස අයහපත්ව තිබෙන විට,
35. නුබේ ශරීරයද අඳුරුවෙයි. එබැවින් නුබ ඇතුලෙහි තිබෙන එළිය අඳුරු නොවෙන පිනිස බලාගනින්න;
36. ඒ නිසා නුබේ සියළු ශරීරය අඳුරුවූ කිසි තැනක් නැතුව එළිය වේනම්, පාන් දළුව එළිය දෙන ලෙසම සියළු ශරීරයට එළිය වන්නේයයි" කීසේක.

37. උන්වහන්සේ මෙසේ කී කලම, එරිසියෙක් තමන් සමග කන්නට උන්වහන්සේ කැඳවූයේය. එවිට උන්වහන්සේ ගොස් කෑමට වැඩ
38. උන්සේක. නුමුත් එරිසියා උන්වහන්සේ කෑමට පලමුවෙන් අත් සෝද නොගත් බව දැක පුදුමවූ
39. යේය. එවිට ස්වාමින්වහන්සේ ඔහුට කියනසේක්, "එරිසිවූ නුබලා දූන් කුසලානද තලියද පිටින් පවිත්‍ර කරති; නුමුත් නුබලාගේ ඇතුල කොල්ලයෙන්ද දුෂ්ටකමෙන්ද පිරී
40. තිබෙන්නේය. අඥානයෙනි, පිටත මැවූ තැනන්වහන්සේ ඇතු
41. ලත් නොමැව්සේක්ද? නුමුත් නුබලාට තිබෙන්නාවූ දෙයින් දන් දීපල්ලාය; එවිට සියල්ලම නුබලාට
42. පවිත්‍රවෙනවා ඇත. එරිසිවරුනි, නුබලාට දුක්වන්නේය; මක්නිසාද, නුබලා තලායෙන්ද දුරුයෙනූ සියළු පලා ජාතියෙන්ද දසයෙන් එක දෙන නුමුත්, සාධාරනකමද දෙවියන්වහන්සේ කෙරේ ප්‍රේමයද පවන්වන්නේ නැත. මේ දේ කරන්ටද ඒ දේත් අත්නොරින්ටද නුබලාට යුතුය.
43. එරිසිවරුනි, නුබලාට දුක්වන්නේය; මක්නිසාද, නුබලා සිනගෝගවලදී උතුම් ආසනවලටත් කඩපිල්වලදී වැඳුම් ලැබීමටත් කැමතිවෙති.
44. වංචාකාරවූ ලියන්නෙනි, වංචාකාරවූ එරිසිවරුනි, නුබලාට දුක්වන්නේය; මක්නිසාද, නුබලා නොපෙනෙන්නාවූද මතුපිට ඇවිදිනමනුෂ්‍යයන්ට නොදනෙන්නාවූද මිනී වලවල්වලට සමානවෙතියි" කීසේක.
45. එවිට ව්‍යවස්ථාව උගන්වන්නන්ගෙන් එකෙක්, "ආචාරීනි, මෙයාකාර කීමෙන් අපටත් නින්දාකරන
46. සේකැයි" කීයේය. එවිට උන්වහන්සේ කියනසේක්, "ව්‍යවස්ථාව උගන්වන්නෙනි, නුබලාටත් දුක්වන්නේය; මක්නිසාද, නුබලා උසුලන්නට අමාරු බර මනුෂ්‍යයන් පිට තබති; නුමුත් නුබලාගේ එක ඇඟිල්ලකින්වත් ඒ බර අල්ලන්නේ
47. නැත. නුබලාට දුක්වන්නේය; මක්නිසාද, නුබලාගේ පියවරුන් විසින් මැරූ අනාගතවක්තෘන්ගේ සොහොන් ගෙවල් නුබලා සාදති.
48. නුබලාගේ පියවරු ඒ අනාගතවක්තෘන් මැරුවෝය; නුබලාත් ඔවුන්ගේ සොහොන් ගෙවල් සාදති; එබැවින් ඔවුන්ගේ ක්‍රියාවල් නුබලාත් එත්තුගත් බවට නුබලා සාක්ෂි
49. දෙති. එසේහෙයින්, දෙවියන්වහන්සේගේ ප්‍රඥාව කියන්නී, 'අනාගතවක්තෘන්ද ප්‍රේරිතයන්ද ඔවුන් ලඟට යවමි; ඔවුන්ගෙන් සමහරෙකුට පීඩාකරනවා ඇත; සමහ
50. රෙක් මරනවා ඇත. මෙසේ ආබෙල්ගේ ලේ පටන් පූජාසනයටත් මාලිගාවටත් අතරෙහි මරනලද
51. සඛාරියාගේ ලේ දක්වා, ලෝකය මැවූ තැන් පටන් වගුරුවනලද සියළු අනාගතවක්තෘන්ගේ ලේ මේ ජාතියගෙන් අයකරනු ලබනවා

ඇතැයි' කීවාය. සැබවක් නුබලාට
කියමි, මේ ජාතියගෙන් අයකරනු
52. ලබනවා ඇත. ව්‍යවස්ථාව උගත්
වන්නෙනි, නුබලාට දුක්වන්නේය;
මක්නිසාද, නුබලා දැනගැනීමේ
යතුර අරගෙන ගියෝය. නුබලාත්
ඇතුල්වූනේ නැත; ඇතුල්වෙන්
නන්ද වලක්වතියි" කීයේක.
53. උන්වහන්සේ ඔවුන්ට මේ දේ
කියමින් සිටිකල්හි, ලියන්නෝද
ඵරිසිවරුද උන්වහන්සේට වැරදි
තබන පිනිස රැකසිට උන්වහන්සේ
54. ගේ කටින් වචනයක් අල්වාගන්
ට සොයා බලමින්, අතිසසින් උත්සහ
කරන්ටද බොහෝදේ උන්වහන්සේල
වා කථාකරවන්ටද පටන්ගත්තෝය.

12. පරිච්ඡ. එකල නොයෙක්
දහස් ගනන් මනුෂ්‍යයෝ ඔවුනො
වුන් පෑගෙන තරම් රැස්වූවෝය.
උන්වහන්සේද තමන් ගෝලයන්ට
කථාකරන්ට පටන්ගෙන, "නුබලා
ඵරිසීන්ගේ වංචා නැමති මුහුන්වලින්
2. ප්‍රවේසම්වෙයල්ලාය. මක්නිසාද,
මතු එළිදරව් නොවෙන්නාවූ වසන
ලද දෙයක් නැත; මතු දැනනො
ගන්නාවූ සඟවනලද දෙයක් නැත.
3. එබැවින් නුබලා අඳුරෙහිදී කී දේ
එළියේදී අසනු ලැබේ; ඇතුල් ගෙ
වල්වලදී නුබලා කනට කී දේ
ගෙවල් මුදුන්වලදී ප්‍රසිද්ධවෙනවා
ඇත.

4. "මාගේ මිත්‍රයෙනි, නුබලාට
කියමි, ශරීරය නසා වෙන කිසි
දෙයක් කරන්ට බැරිවූ අයවලට භය
5. නොවෙල්ලාය. එහෙත් භය
වෙන්ට සුදුසු කාටදැයි නුබලාට
දන්වමි; නසා නිරයේ හෙළන්ට පුළු
වන්වූ තැනැන්වහන්සේට භයවෙය
ල්ලාය. එසේය, උන්වහන්සේටම
භයවෙයල්ලායයි නැවතත් නුබලාට
6. කියමි. ගේ කුරුල්ලන් පස්දෙ
නෙක් පනමකට නොවිකුනද්ද?
නුමුත් ඔවුන්ගෙන් එකෙක්වත්
දෙවියන්වහන්සේට සිහිනැති නො
7. වෙයි. නුබලාගේ සියළු ඉසකෙස්
පවා ගනන්කර තිබෙන්නේය. එබැ
වින් භයනොවෙල්ලාය; නුබලා
බොහෝ ගේ කුරුල්ලන්ට වඩා අගේ
8. ඇත. තවද නුබලාට කියමි,
යමෙක් මනුෂ්‍යයන් ඉදිරියෙහි මා
පිළිගනීද, මනුෂ්‍ය පුත්‍රයාද දෙවියන්
වහන්සේගේ දූතයන් ඉදිරියෙහි ඔහු
9. පිළිගන්නවා ඇත. නුමුත් යමෙක්
මනුෂ්‍යයන් ඉදිරියෙහි මා එපාකෙ
රේද, ඔහු දෙවියන්වහන්සේගේ දූත
යන් ඉදිරියෙහි එපාකරනු ලබනවා
10. ඇත. යමෙක් මනුෂ්‍ය පුත්‍රයාට
විරුද්ධව වචනයක් කියාද, ඔහුට
ක්ෂමාව ලැබේ; නුමුත් සුද්ධාත්මයා
නන්වහන්සේට විරුද්ධව අපහාස
කරන්නාට ක්ෂමාව නොලැබේ.
11. යම් කලක සිනගෝගවලටද
ප්‍රධානීන් හා අධිකාරයන් ලඟටද
නුබලා ගෙනයනු ලබද්ද, එකල
කෙසේ කවර උත්තරයක් දෙමුද
නොහොත් කුමක් කියමුදැයි සිතා
12. කනගාටු නොවෙල්ලාය. මක්නි
සාද, නුබලා විසින් කියයුතු දේ එව
ලේම සුද්ධාත්මයානන්වහන්සේ නුබ
ලාට උගන්වනසේකැයි" කීසේක.

13. එවිට සමූහයා අතරෙන්
එකෙක්, "ආචාරීනි, මා සමග උරු
මය බෙදගන්ට මාගේ සහෝදරයාට
කිවමැනවයි" උන්වහන්සේට කීය.
14. උන්වහන්සේ, "එම්බා මනුෂ්‍යය,
නුබලාට නඩුකාරයෙක් කොටවත්
බෙදන්නෙක් කොටවත් මා නියම
කලේ කවුදැයි" ඔහුට කීසේක.
15. එවිට උන්වහන්සේ, "ලෝභයෙන්
ප්‍රවේසම්වෙන්ටබලාගනිල්ලාය. මක්
නිසාද, මනුෂ්‍යයා සන්තක කොපම
න වස්තුවඇතත් ඔහුගේ ජීවිතය එ
සින් යුක්ත නොවනෙන්යයි" කීසේ
16. ක. තවද උන්වහන්සේ ඔවුන්ට
උපමාවක් කියනසේක්, "එක් වසනු

කාරයෙකුගේ බිමෙහි බොහෝසේ
17. භෝග හටගත්තේය. එවිට ඔහු
සිතන්නේ, ‘කුමක් කරම්ද; මාගේ
භෝග රැස්කරන්නට ඉඩමක් නැත.
18. මම මෙසේ කරමි; මාගේ ගබඩා
බිඳ, මහත්කොට සාදා, එහි මාගේ
19. සියළු භෝගද වස්තුද තබා,
ප්‍රාණය, නුබට බොහෝ අවුරුදු ගන
නකට බොහෝ වස්තු රැස්කොට
තිබෙන්නේය. පහසු ගෙන, කා
බී ප්‍රීතියෙන් සිටපන්නැයි මාගේ
20. ප්‍රාණයට කියමියි’ කීයේය. නුමුත්
දෙවියන්වහන්සේ ඔහුට කියනසේක්,
‘අඥානය අද රාත්‍රියේම තාගේ ප්‍රාණය
ගනු ලැබේ; එවිට තෝ සපයාගත්
21. දේ කාට වේදැයි’ කීසේක. යමෙක්
දෙවියන්වහන්සේ වෙත පොහො
සත් නොවී, තමාටම වස්තු රැස්කර
ගනීද, ඔහු එසේමයයි” කීසේක.

22. එවිට උන්වහන්සේ තමන්
ගෝලයන්ට කියනසේක්, “එබැ
වින් නුබලාට කියමි, ජීවත්වීම ගැන
කුමක් කමුද කියාත්, ශරීරය ගැන
කුමක් අඳිමුද කියාත්, කල්පනාකර
23. කනගාටු නොවෙල්ලාය. කෑමට
වඩා ජීවත්වීමද, ඇඳීමට වඩා ශරීර
24. යද උතුම්ය. කපුටුවන් කල්පනා
කර බලාපල්ලාය. උන් වපුරන්නේ
වත් කපන්නේවත් නැත. උන්ට
ගබඩාවක්වත් භෝග අටුවක්වත්
නැත. එසේවී නුමුත්, දෙවියන්වහන්
සේ උන් පෝෂ්‍යය කරනසේක.
නුබලා පක්ෂීන්ට වඩා කොපමන
25. උතුම් නොවේද? කනගාටු
සිතීමෙන් තමාගේ උසට වඩා එක
රියනක්වත් වැඩිකරගන්ට නුබලා
26. අතරෙන් කාට පුළුවන්ද? එසේ
වීනම්, ඉතා සුළු කාරනාවක් කරන්
නටවත් බැරිවූ නුබලා අනිත් කාර
නාවල් ගැන කනගාටු වෙන්නේ
27. මක්නිසාද? මහනෙල් කෙසේ
වැඩෙන්දැයි කල්පනාකරපල්ලාය.
ඒවා වෙහෙසෙන්නේවත් නූල් කටි
න්නේවත් නැත. නුමුත් නුබලාට
කියමි, තමාගේ සියළු ඓශ්වර්ය්‍ය
යෙන් යුක්තවූ සාලමොන් පවා
එයින් එකක් ලෙස අලංකාරවූයේ
28. නැත. විශ්වාස මදි තැනැත්
තෙනි, අද කෙතේ තිබෙන්නාවූ
සෙට උදුනෙහි දමනුලබන්නාවූ
තෘණ දෙවියන්වහන්සේ මෙසේ
සරසනසේක්නම්, නුබලා කොප
මන වැඩියෙන් නොසරසනසේක්ද?
29. එබැවින් නුබලා ‘කුමක් කමුද
කුමක් බොමුදැයි’ නොසොයල්ලාය;
30. සිතින් සැක නොකරල්ලාය. මක්
නිසාද, ලෝවැසි අන්‍ය ජාතිහු මේ
සියල්ල සොයති. නුමුත් නුබලාගේ
පියානන්වහන්සේ මේ දේවල් නුබ
31. ලාට ඕනෑ බව දන්නාසේක. එ
බැවින් දෙවියන්වහන්සේගේ රාජ්‍යය
සොයාපල්ලාය; එවිට මේ සියල්ලත්
32. නුබලාට දෙනු ලැබේ. එඹා
කුඩා රැළ, භයනොවෙල්ලාය; මක්
නිසාද, නුබලාට රාජ්‍යය දෙන්නට
නුබලාගේ පියානන්වහන්සේ සතුටු
33. සේක. නුබලාගේ වස්තුව යම්
තැනක තිබෙනොත් නුබලාගේ
සිතත් එතනම තිබෙන බැවින්,
34. නුබලාගේ සම්පත් විකුණ දන්දී,
නොදිරන මුදල් පසුම්බිද නැතිනො
වෙන වස්තුවද ස්වර්ගයෙහි නුබ
ලාට සපයාගනිල්ලාය. එහිදී සොරා
ලංවෙන්නේ නැත; කාවා කන්නේ
නැත.

35. “නුබලා ඉඟ බැඳුම බැඳ,
පහන් පත්තුකරගෙන සිටපල්ලාය.
36. තවද, තමන්ගේ ස්වාමිදරුවෝ
විවාහ මංගල්‍යයෙන් නැවත ඇවිත්
දොර තට්ටුකරනකොටම හනික
අරින පිණිස, කවර වේලෙක එන්නේ
දැයි බලා සිටින්නාවූ මනුෂ්‍යයන්ට
37. නුබලා සමානවෙයල්ලාය. තමන්
ගේ ස්වාමිදරුවෝ එන කල, අවදිව
ඉන්න බව දක්නා ලබන්නාවූ වැඩ
කාරයෝ වාසනාවන්තයෝය. සැබ

වක් නුබලාට කියමි, ඒ ස්වාමියා තමන් ඉඟ බැඳුම් බැඳ, ඔවුන් කෑමට හිඳුවා, ලඟට ඇවිත් ඔවුන්ට උප 38. ස්ථාන කරනවා ඇත. ස්වාමි දරුවො දෙවෙනි යාමයෙහිවත් තුන්වෙනි යාමයෙහිවත් ඇවිත් එසේම දකිනවානම්, ඒ වැඩකාර 39. යෝ වාසනාවන්තයෝය. හොරා කොයි වේලේ එන්නේදැයි ගේ ස්වාමියා දැනගන සිටියොත්, ඔහු අවදිව හිඳ තමාගේ ගේ හාරන්ට නොදෙන 40. බව දැනගනිල්ලාය. එලෙසම නුබලා නොදන්නා වේලාවක මනුෂ්‍ය පුත්‍රයා එන බැවින්, සැදී සිටපල් 41. ලායයි" කීසේක. එවිට පේත්‍රුස්, "ස්වාමිනි, මේ උපමාව අපටම කියනසේක්ද? නොහොත් හැම දෙනාටම කියනසේක්දැයි" ඇසුයේය. 42. එකල ස්වාමින්වහන්සේ කියනසේක්, තමන්ගේ පිරිවරට නියම කලට කෑම බෙදා දෙන්ට ස්වාමිදරුවන් විසින් තමන්ගේ වැඩට පත්කලාවූ විශ්වාසවූ නුවන ඇති 43. ගබඩාකාරයා කවුද? ඔහුගේ ස්වාමිදරුවෝ එනකොට ඒ වැඩ කරමින් සිටින බව දක්නා ලබන්නාවූ ඒ වැඩකාරයා වාසනාවන්ත 44. යෙක. සැබවක් නුබලාට කියමි, ඒ ස්වාමිදරුවෝ තමාගේ සියළු වස්තුවට ඔහු ප්‍රධාන කරන්නේය. 45. නුමුත් ඒ වැඩකාරයා, 'මාගේ ස්වාමිදරුවන්ගේ ඊම ප්‍රමාදවන්නේයයි' සිතා, දාසි දාසුන්ට පහර දෙන්ටත් කා බී මත්වෙන්ටත් පටන්ගත් 46. තොත්, ඔහු විසින් බලා නොසිටින දවසක නොදන්නා වේලාවක ඒ වැඩකාරයාගේ ස්වාමිදරුවෝ ඇවිත්, ඔහු අහක්කොට අවිශ්වාසයන් සමග ඔහුගේ කොටස තබනවා ඇත. 47. තමාගේ ස්වාමිදරුවන්ගේ කැමැත්ත දැනගනත් සැදී සිට ඔහුගේ කැමැත්තලෙස නොකරන යම්වැඩකාරයෙක්ඇද්ද ඔහු බොහෝ පහරවලින් 48. තලනු ලබන්නේය. නුමුත්, ඒ කැමැත්ත දැනනොගෙණ පහර ලැබීමට සුදුසු දේ කරණ යමෙක් ඇද්ද ඔහු ස්වල්ප පහරවලින් තලනු ලබනේය. මක්නිසාද, යමෙකුට බොහෝ දේ දෙනලද්දේද, ඔහුගෙන් බොහෝ දේ අයකරනු ලැබේ. යමෙකුට මනුෂ්‍යයන් විසින් බොහෝ භාරදෙන ලද්දේද, ඔහුගෙන් ඔවුන් වඩා ඉල්ලති.

49. "පොලොවෙහි ගිනි ලන්ට ආයෙමි; දැන්ම ඇවිල තිබේනම්, කොච්චර කැමති නොවෙම්ද? 50. නුමුත් මා විසින් බව්තීස්මයක් ලැබියයුතුය; ඒක සම්පූර්ණ වෙනතුරු කොපමන හුදු වේදනා නොවිඳිම්ද? 51. පොලොවට සමගිකම දෙන පිනිස මම ආයෙම්යි සිතනවාද? නැත; නුබලාට කියමි, භේදය උපද 52. වන පිනිස ආයෙමි. මක්නිසාද, මෙතැන් පටන් එක ගෙයි පස්දෙනෙක් සිටිතොත්, දෙන්නෙකුට විරුඬව තුන්දෙනෙක්ද තුන්දෙනෙකුට විරුඬව දෙන්නෙක්ද භේදව 53. සිටිනවා ඇත. පියා පුත්‍රයාටත්, පුත්‍රයා පියාටත්, මව් දුවටත්, දුව මව්ටත්, නැන්දා යෙහෙලියටත් යෙහෙලි නැන්දාටත් විරුඬව භේදවෙනවා ඇතැයි" කීසේක.

54. තවද උන්වහන්සේ සමූහයාට කියනසේක්, "බස්නාහිර දිගින් වලාකුලක් නගින බව නුබලා දකිනවිට, 'වැස්ස එන්නේයයි' වහාම 55. කියති; එසේම වේය. දකුනෙන් හුලඟ ගහන කල, 'ග්‍රීෂ්ම වේයයි' 56. කියති; එසේම වේය. වංචාකාරයෙනි, අහසෙත් පොලොවෙත් නිමිත්ත විභාගකර බලන්නට නුබලා දනිති; නුමුත් මේ කාලය විභාගකර නොබලන්නේ මක්නි 57. සාද? කටයුතු මොකදැයි නුබලාගේම සිතින් නොවිමසන්නේ මක් 58. නිසාද? නුබේ විරුඬකාරයා

සමග නඩුකාරයා ලඟට යනකොට, පාරේ යමින්ම ඔහුගෙන් මිදෙනු ලබන්ට උත්සාහ කරපන්න. නැත් නම්, ඔහු තුබ නඩුකාරයා වෙතට ඇදගෙන යන්නේය. නඩුකාරයා තුබ සේවකයාට පාවා දෙන්නේය. සේවකයා තුබ හිරගෙයි දමන්නේ 59. ය. අන්තිම සල්ලිය ගෙවනතුරු තුබ හිරගෙයින් පිටත්ව යන්නේ නැතැයි තුබට කියමියි" කීසේක.

13. පරිච්ඡේ. තවද, "ගලීලයන් ගේ ලේ ඔවුන්ගේ යාග සමග පිලාත් විසින් මුසුකරනලදැයි" ඒ ප්‍රස්ථාවේදී ලඟ සිටි සමහරෙක් උන් 2. වහන්සේට දන්වූවෝය. ජේසුස් වහන්සේ ඔවුන්ට කියනසේක්, "මේ ගලීලයෝ එබඳුවූ පීඩාවල් වින්ද බැවින් සියළු ගලීලයන්ට වඩා පව්කාරයෝව සිටියෝයයි සිත 3. නවාද? නැතැයි තුබලාට කියමි. තුබලා පසුතැවිලි නොවෙනවා නම්, තුබලා සියල්ලෝම එසේම 4. විනාසවෙනවා ඇත. නොහොත් සිලෝයම්හි කොටුව වැටීමෙන් මැරුනු දහඅටදෙන යෙරුසලමෙහි වාසයකරන සියළු මනුෂ්‍යයන්ට වඩා වැරදිකාරයෝව සිටියෝයයි 5. සිතනවාද? නැතැයි තුබලාට කියමි. තුබලා පසුතැවිලි නො වෙනවානම්, තුබලා සියල්ලෝ ම එසේම විනාසවෙනවා ඇතැයි" කීසේක.

6. උන්වහන්සේ මේ උපමාවත් කියනසේක්, "එක් මනුෂ්‍යයෙකුගේ මිදිවත්තෙහි දිඹුල් ගහක් සිටුවා තිබුනේය. ඔහු ඇවිත්, ඒ ගහේ ගෙඩි සෙව්වේය; නුමුත් ඔහුට මො 7. කවත් ලැබුනේ නැත. එවිට ඔහු වත්තේ රැකවලාට කථා කොට, මේ 'තුන් අවුරුද්දේම මේ දිඹුල් ගහේ ගෙඩි සොයා ආයෙමි; එහෙත් මට මොකවත් ලැබුනේ නැත. ගහ කපාදමාපනාන; පොලො වට බරව තිබෙන්නේ කුමකටදැයි' 8. කීයේය. ඔහු උත්තර දෙමින්, 'ස්වාමිනි, ඒක වටකර හාරා, පෝර පස් දමමි; ඒතාක්කල් මේ අවුරුද්ද 9. ටත් ඉවසුවමැනව. ඵලදුනොත් යහපත; නුදුන්නොත් පසුව ඒක කපාදමන්ට පුළුවනැයි' ඔහුට කීයේ යයි" කීසේක.

10. උන්වහන්සේ සබත් දවසෙහි එක් සිනාගෝගයක උගන්වමින් සිටි 11. න විට, දහඅට අවුරුද්දක් මුළුල් ලේ ලෙඩින් දුක් විඳින කොයි ප්‍රකා රයකින්වත් කෙලින් සිටින්ට බැරිවූ 12. කුදුවූ ස්ත්‍රියක් එහි සිටියාය. ජේ සුස්වහන්සේ ඈ දැක අඬගසා, "ස්ත්‍රිය, තුබේ රෝගයෙන් තුබ මිදු 13. නාය" කියා, ඈ පිට අත් තැබූ සේක. එවලේම ඈ කෙලින් සිට, දෙවියන්වහන්සේට ප්‍රසංසා කලාය. 14. එහෙත් සිනාගෝගයෙහි මූලාදෑ නියා ජේසුස්වහන්සේ සබත් දව සෙහි සුවකල බැවින් කිපී, "වැඩ කල යුතුවූ සදවසක් ඇත; ඒ නිසා සබත් දවසෙහි නැවිත් අනිත් දවස් වල ඇවිත් සුවකරවාගනිල්ලායයි" 15. සමූහයාට කීයේය. එවිට ස්වාමින් වහන්සේ ඔහුට උත්තර දෙමින්, "වංචාකාරය, තුබලාගෙන් කව රෙක්වත් සබත් දවසේදී තමාගේ හරකාවත් කොටළුවාවත් ගාලෙන් මුදා වතුර පොවන්ට ගෙනියන්නේ 16. නැද්ද? දහඅට අවුරුද්දක් මුළු ල්ලෙහි සාතන් විසින් බඳනාලද ආබ්‍රහම්ගේ දූවූ මේ ස්ත්‍රී ඒ බැඳු මෙන් සබත් දවසේදී මුදන්ට නො 17. සැහේදැයි" ඇහූසේක. උන්ව හන්සේ මෙසේ කී කල්හි, උන්ව හන්සේට විරුඬව සිටි සියල්ලෝම ලැජ්ජාවට පැමිණියෝය. සියළු සමූහ යාද උන්වහන්සේ විසින් කල සියළු උත්තම ක්‍රියාවලට සතුටුවීය.

18. එවිට උන්වහන්සේ කියන
සේක්, "දෙවියන්වහන්සේගේ රාජ්‍ය
ය කුමක් හා සමානද? ඒක කුමකට
19. උපමාකරම්ද? එක් මනුෂ්‍යයෙක්
විසින් අරගෙන තමාගේ වත්තේ
දැමූ අබ ඇටයකට සමානය. ඒක
වැඩී, මහත් ගසක් වූයේය. ආකාශ
පක්ෂීහු එහි අතුවල ලැග්ගෝයයි"
20. කීසේක. නැවතත් උන්වහන්සේ
කියනසේක්, "දෙවියන්වහන්සේගේ
රාජ්‍යය කුමකට උපමාකරම්ද?
21. ස්ත්‍රියෙක් විසින් අරගෙන පිටි
නැළි තුනෙක්හි ඒ සියල්ල පිපෙන
කල් දමාතිබූ මුහුන්වලට සමාන
යයි" කීසේක.

22. උන්වහන්සේ යෙරුසලමට
යමින්, ගම්වලත් නුවරවලත් ඇවිද
23. ඉගැන්වූසේක. එක් පුරුෂයෙක්,
"ස්වාමිනි, ගැලවීම ලබන්නේ
ස්වල්ප දෙනෙක්දැයි" උන්වහන්
සේගෙන් ඇසුයේය. උන්වහන්සේ
24. ඔවුන්ට කියනසේක්, "පටු දොර
කඩින් ඇතුල්වෙන්ට වීර්‍ය්‍ය කරපල්
ලාය. මක්නිසාද නුඹලාට කියමි,
බොහෝ දෙන ඇතුල්වෙන්ට සො
යන නුමුත් බැරිවෙනවා ඇත.
25. ගෙදර මූලාදැනියා නැඟිට, දොර
වැසුවායින් පසු නුඹලා පිටත සිට
දොරට තට්ටුකරන්ට පටන්ගෙන,
"ස්වාමිනි, ස්වාමිනි, අපට දොර
හැරියමැනවයි' කියනකල, ඔහු
උත්තර දෙමින්, 'නුඹලා කොත
නින් ආවෝද කියා නොදනිමියි'
26. නුඹලාට කියන්නේය. එවිට
නුඹලා, 'ඔබවහන්සේගේ ඉදිරියෙහි
කෑමුව, බීමුව; ඔබවහන්සේ අපගේ
වීදිවලදී ඉගැන්නුසේකැයි' කියන්
27. නට පටන්ගනිති. නුමුත් ඔහු
කථාකොට, 'මම නුඹලාට කියමි,
නුඹලා කොතනින් ආවෝද කියා
නොදනිමි. අධර්මිෂ්ඨකම් කරන
නුඹලා සියල්ලෝම මා ලඟින් අහක්
28. පලයල්ලායයි' කියන්නේය. ආබ්‍ර
හම් ඊසාක් යාකොබ් සහ සියළු අනා
ගතවක්තෘවරු දෙවියන්වහන්සේගේ
රාජ්‍යයෙහි සිටින බවත් නුඹලා
පිටත දමනලද බවත් නුඹලා දකින
කල, හැඬීමද දත්මිටිකෑමද වන්
29. නේය. තවද, මනුෂ්‍යයෝ පූර්‍ව
පශ්චිම උත්තර දක්ෂිණ දිගින්
ඇවිත්, දෙවියන්වහන්සේගේ රාජ්‍ය
30. යෙහි හිඳගන්නවා ඇත. අන්ති
මයන්ගෙන් සමහරෙක් ප්‍රථමයෝද
ප්‍රථමයන්ගෙන් සමහරෙක් අන්තිම
යෝද වෙනවා ඇතැයි" කීසේක.

31. ඒ දවසෙහි ඵරිසිවරුන්ගෙන්
සමහරෙක් ඇවිත්, "මෙහින් පිටත්ව
ගියමැනව; හෙරොද් ඔබවහන්සේ
මරන අදහසින් සිටින්නේයයි"
32. උන්වහන්සේට කීවෝය. උන්
වහන්සේ ඔවුන්ට කියනසේක්,
"අදත් හෙටත් යකුන් දුරුකරමි;
රෝග පීඩා සුවකරමි; තුන්වෙනිදා
සම්පූර්ණවීමට පැමිණෙමි; නුඹලා
ගොස්, ඒ බව ඒ හිවලාට කියාපල්
33. ලාය. එසේවී නුමුත්, යෙරුසල
මෙන් පිටතදී අනාගතවක්තෘ කෙ
නෙකුගේ විනාසය නොවන බැවින්,
අදත් හෙටත් අනිද්දත් මා විසින්
34. ඇවිදින්නට යුතුය. අනාගත
වක්තෘන් නසන්නාවූ තී වෙතට එවූ
වන්ට ගල් ගසන්නාවූ යෙරුසලම,
යෙරුසලම, කිකිළි ඇගේ පැටි
යන් පියාපත් යටට එකතුකරන
සේම, මම තීගේ දරුවන් එකතු
කරන්නට කී වරක් කැමතිවීම්ද?
නුමුත් තොපි කැමතිවූයේ නැත.
35. තොපේ ගේ වනාන්තර බවට
හරිනු ලැබේ. සැබවක් තොපට
කියමි, 'ස්වාමින්වහන්සේගේ නාම
යෙන් එන්නාවූ තැනැත්තාට ආශී
ර්වාද වේවයි' තොපි කියනතුරු, මා
නොදකිතියි" කීසේක.

14. පරිච්ඡේ. උන්වහන්සේ සබත්
දවසේ කෑම කන්ට ඵරිසින්ගේ

ප්‍රධානියෙකුගේ ගෙදරට ගියකල,
උන්වහන්සේට වැරදි තබන්ට ඔවුන්
2. බලාසිටියෝය. උන්වහන්සේ ඉදිරි
යෙහි දියඋදර රෝගී මනුෂ්‍ය
3. යෙක් සිටියේය. එවිට යේසුස්ව
හන්සේ, "සබත් දවසේ සුවකරන්ට
සුදුදැයි" ව්‍යවස්ථාවේ සමජීයන්
ගෙනුත් ඵරිසීන්ගෙනුත් ඇසූසේක.
4. එවිට ඔවුන් කථානොකර සිටි
යෝය. උන්වහන්සේ ඔහු කැඳවා
සුවකොට යවා, ඔවුන්ට කථාකර
5. මින්, "තුබලාගෙන් යමෙකුගේ
කොටළුවෙක්වත් ගොනෙක්වත්
වළක වැටුනොත්, සබත් දවසේදී
වහාම ඌ ගොඩ නොගනිද්දැයි"
6. ඇසූසේක. ඔවුන්ද ඊට උත්තර
දෙන්ට නොහැක්වූවෝය.

7. කෑමට කැඳවනු ලැබූවෝ
උතුම් අසන තෝරාගන්නවා දැක,
ඔවුන්ට උපමාවක් ගෙනාහැරදක්වා
8. කියනසේක්, "යමෙක් විසින්
සරණ මංගල්‍යයට තුබ කැඳවනු
ලැබූකල, උතුම් ආසනයේ ඉඳනො
ගනින්න. සමහරවිට තුබට වඩා
ගරුතර කෙනෙක් කැඳවනු ලැබී
9. නම්, තුබලා දෙන්නා කැඳවූ
තැනැත්තා ඇවිත් 'මොහුට ඉඩම
දීපන්නැයි' තුබට කියනවිට, තුබ
ලැජ්ජාවෙන් නීච ස්ථානය ගන්නට
10. පටන්ගන්නවා ඇත. තුමුත්
කැඳවනු ලැබූකල, ගොස් නීච ස්ථා
නයේ ඉඳගනින්න; එවිට තුබ කැඳවූ
තැනැත්තා ඇවිත් 'යහළුව, උස්
ඉඩමට යනවානම් යහපතැයි' තුබට
කියනවිට, තුබ සමග කෑමට හිඳින්
නන් ඉදිරියෙහි තුබ ගෞරව ලබනවා
11. ඇත. මක්නිසාද, තමාම උසස්
කරගන්නා යටත්කරනු ලැබේ.
තමාම යටත්කරගන්නා උසස්කරනු
12. ලැබේයයි" කීසේක. එවිට උන්
වහන්සේ තමන්වහන්සේ කැඳවූ
තැනැත්තාටත් කියනසේක්, "තුබ
සම් කලෙක දවහල් කෑමක්වත්
රාත්‍රී කෑමක්වත් පිළියෙළ කර
නවානම්, තුබේ යහළුවන්වත්
සහෝදරයන්වත් නෑයන්වත් ධන
වත්තවූ අසල්වාසීන්වත් කැඳවන්ට
එපාය. මක්නිසාද, ඔවුනුත් තුබ
කැඳවති; එයින් තුබ විපාක ලබ
13. නවා ඇත. තුමුත් තුබ කෑමක්
පිළියෙල කරනකල, දිළිඳුන්ද පිළුන්ද
කොරුන්ද අන්ධයන්ද කැඳවාපනන.
14. තුබට විපාක දෙන්නට ඔවුන්ට
නුපුළුවන; එහෙයින් තුබ වාසනා
වන්තව, ධර්මිෂ්ඨයන්ගේ නැවත
නැගිටීමෙහි විපාකය ලබනවා
ඇතැයි" කීසේක.

15. උන්වහන්සේ සමග කෑමට
ඉඳගත්තවුන්ගෙන් එකෙක් ඒ අසා,
"දෙවියන්වහන්සේගේ රාජ්‍යයෙහිදී
කෑම කන තැනැත්තා වාසනාවන්
තයෙකැයි" උන්වහන්සේට කීයේය.
16. උන්වහන්සේ ඔහුට කියන
සේක්, "එක් මනුෂ්‍යයෙක් මහත්වූ රා
ත්‍රී කෑමක් පිළියෙලකොට, බොහෝ
17. දෙනාට හඬගසා, 'වරෙල්ලාය;
සියල්ලම පිළියෙලකරනලද්දේයයි'
කැඳවනු ලැබූවන්ට කියන්නට කෑම
වේලාවෙහි තමාගේ වැඩකාරයා
18. යැවීය. තුමුත් ඔවුන් සියල්ලෝම
එන්ට නුපුළුවන කියා, එකලෙස
ක්ෂමා ඉල්ලන්නට පටන්ගත්තෝය.
පළමුවෙනියා, 'මම කෙතක් මිලේට
ගතිමි; ඒක බලනනට යන්ට ඕනෑය;
මට ක්ෂමාවෙයන්නැයි' ඔහුට කීයේ
19. ය. අනිකෙක්ද, 'මම ගොන්
පස් බානක් මිලේට ගතිමි; උන්
හොඳද කියා බලන්ට යමි; මට
20. ක්ෂමාවෙයන්නැයි' කීයේය. අනි
කෙක්ද, 'මම භාර්‍යාවක් සරනපාවා
ගතිමි; එබැවින් එන්ට බැරියැයි'
21. කීයේය. ඒ වැඩකාරයා ඇවිත්,
තමාගේ ස්වාමියාට ඒ බව දන්වූ
වේය. එවිට ගේ ස්වාමියා කිපී, 'තුබ
වහාම නුවර වීදිවලටද අතුරු මාර්ග
වලටද ගොස්, දිළිඳුන්ද පිළුන්ද

කොරුඬ අන්ධයන්ද මෙහි ගෙනෙන්
නැයි' තමාගේ වැඩකාරයාට කීයේය.
22. ඒ වැඩකාරයා, 'ස්වාමිනි, තුඹ
අණකල ලෙස කරනලද්දේය; නුමුත්
තව අවකාශ තිබෙන්නේයයි'
23. කීයේය. එවිට ස්වාමියා වැඩකා
රයාට කථාකොට, 'මහ මාවත්වල
ටද වැටවල් දිගටද ගොස්, මාගේ
ගේ පිරෙන පිනිස මනුෂ්‍යයන්
24. ඕනෑකමින් ගෙනෙන්න. මක්
නිසාද, තුඹලාට කියමි, ඒ හඬගෑ
වින්ගෙන් එකෙක්වත් මාගේ
කෑමෙහි රස නොබලන්නේයයි'
කීවේයයි" කීසේක.

25. බොහෝ සමූහයෝ උන්ව
26. හන්සේ කැටුව ගියෝය. උන්ව
හන්සේද ආපසු හැරී ඔවුන්ට කියන
සේක්, "යමෙක් මා ලඟට එනවා
නම්, ඔහු තමාගේ මව්පියන්ටද අඹු
දරුවන්ටද සහෝදර සහෝදරියන්
ටද තමාගේ ජීවිතයටද අප්‍රිය නොවී
නම්, ඔහුට මාගේ ගෝලයා වෙන්
27. නට බැරිය. යමෙක් තමාගේ
කුරුසිය උසුලාගෙන මා පස්සේ
නේනවානම්, ඔහුට මාගේ ගෝලයා
28. වෙන්නට බැරිය. මක්නිසාද,
තුඹලා අතරෙන් යමෙක් කොටුවක්
බදින්ට කැමතිනම්, ඒක තීන්දුක
රන්ට තමාට මිල ඇද්දෝ, පලමු
කොට හිඳ වියදම ගනන්බලන්නේ
29. නැද්ද? එසේ නොකලොත්,
අත්තිවාරම ලා තීන්දුකරන්ට බැරි
30. වූවිට, ඒ දකින සියල්ලෝම 'ගො
ඩනගන්ට පටන්ගත් මේ මිනිහාට
තීන්දුකරන්නට බැරිවීයයි' කියමින්,
ඔහුට නින්දාකරන්නට පටන්ගන්
31. නවා ඇත. නොහොත් වෙන
රජෙක් සමග යුඩකරන්ට යනනාවූ
රජෙක් තමාට විරුඩව විසි දහසක්
සමග එන්නාවූ රජ ඉදිරියට, දසදහ
සක් සමග යන්ට පුළුවන්දෝ. පල
මුකොට හිඳ කල්පනාකරන්නේනැද්
32. ද? බැරිනම්, ඒ රජ දුර සිටිද්දීම,
පනිවිඩයක් යවා සමාදානය ඉල්වන්
33. නේය. එලෙස තුඹලා අතුරෙන්
යමෙක් තමා සන්තක සියල්ලම
අත්නෑරියොත්, මාගේ ගෝලයා
34. වෙන්ට ඔහුට බැරිය. ලුණු යහ
පත; නුමුත් ලුණු රස නැතිවූනොත්,
ඒවා රසකරන්නේ කුමකින්ද?
35. පොලොවේවත් කසලගොඩේ
වත් දමන්නට හොඳ නැතුව, පිටත
දමනු ලබනවා ඇත. අහන්ට කන්
ඇත්තෙක් අසාවයි" කීසේක.

15. පරිච්ඡේ. සියළු සුංගම් අයක
රන්නොත් පව්කාරයොත් උන්වහන්
සේගේ වචන අසන පිනිස ලඟට
2. ආවෝය. එවිට ඵරිසිවරුද ලියන්
නෝද, "මොහු පව්කාරයන් පිලි
ගෙන, ඔවුන් සමග කන්නේය"
3. කියා කොඳුලෝය. උන්වහන්සේ
මේ උපමාව ඔවුන්ට කියනසේක්,
4. "තුඹලා අතරේ යමෙකුට බැටළු
වන් සියයක් ඇත්නම්, උන්ගෙන්
එකෙක් නැතිවූනොත්, ඔහු එකුන්
සියය වනාන්තරයේ හැර, නැතිවූනු
එකා සම්භවෙනතුරු සොයා නැවී
5. දීද? සම්භවූනුවිට සතුටුවෙමින්,
ඒකා තමාගේ කරේ තබාගෙන, ගෙ
6. ට ඇවිත්, මිත්‍රයන්ද අසල්වාසීන්ද
කැඳවා, 'මාගේ නැතිවූනු බැටළුවා
සම්භවූනේය; එබැවින් මා සමග ප්‍රීති
මත්වෙයල්ලායයි' ඔවුන්ට කියන්
7. නේය. එලෙසම පශ්චාත්තාප
වෙන්ට ඕනෑ නැති ධර්මිෂ්ඨයන්
එකුන්සියයට වඩා, පශ්චාත්තාප
වෙන්නාවූ එක් පව්කාරයෙක් ගැන
ස්වර්ගයෙහි ප්‍රීතිය ඇති බව තුඹ
8. ලාට කියමි. නොහොත් රිදී මිල
දසයක් ඇති ස්ත්‍රියක් එයින් එකක්
නැතිවූනොත්, පානක් පත්තුකොට
ගේ අතුගා, ඒක සම්භවෙනතුරු
උත්සාහයෙන් සොයන්නේ නැද්ද?
9. සම්භවූනුවිට මිත්‍රයන්ද අසල්වා
සීන්ද කැඳවා, 'මාගේ නැතිවූනු රිදී

විලය සම්භවුනේය; එබැවින් මා
සමග ප්‍රීතිමත්වෙයල්ලායයි' ඔවුන්ට
10. කියන්නීය. එලෙසම පශ්චාත්
තාප වෙන්නාවූ එක් පව්කාරයෙක්
ගැන දෙවියන්වහන්සේගේ දූතයන්
ඉදිරියෙහි ප්‍රීතිය වන්නේයයි තුඹ
ලාට කියමියි" කීසේක.

11. තවද උන්වහන්සේ කියන
සේක්, "එක් මනුෂ්‍යයෙකුට පුත්‍රයෝ
12. දෙන්නෙක්, සිටියෝය. ඔවුන්
ගෙන් බාලයා, 'පියාණෙනි, මට උරු
මවිය යුතු වස්තු කොටස දියනැයි'
පියාට කීයේය. පියාද තමාගේ සම්
පත් ඔවුන්ට බෙදා දුන්නේය.
13. නොබෝ දවසකට පසු, බාල පුත්‍ර
යා සියල්ල අරගෙන, දුර රටකට
පිටත්ව ගොස්, එහිදී තමාගේ වස්තු
ව අව කල්ක්‍රියාවෙන් විනාශකලේය.
14. සියල්ල වියදම්වූ කල, ඒ රටෙහි
මහත් සාගතයක් වූනේය. ඔහුද
15. දිළිඳු බවට පැමිණ, ඒ රටේ මිනි
සෙක් ලඟට ගොස් වැඩකලේය.
ඔහු ඌරන්ට ගොදුරු කවන පිණිස,
තමාගේ කෙත්වලට ඔහු යැවීය.
16. එවිට කවුරුවත් කිසි කෑමක්
ඔහුට නුදුන් බැවින්, ඔහු ඌරෝ
කන කුඹුවලින් තමාගේ බඩ පුරවා
17. ගන්නට කැමතිවිය. ඔහු සිහි
උපදවා කියනුයේ, 'මාගේ පියා
ණන්ගේ වැඩකාරයන් කොපමණ
දෙනාට කාලා ඉතුරුවෙන තරම් කෑ
ම තිබෙනනේද? මම බඩගින්නෙන්
18. නසිමි. මම නැගිට, මාගේ පියා
ණන් ලඟට ගොස්, පියාණෙනි,
ස්වර්ගයට විරුද්ධව තුඹ ඉදිරියෙහි
19. පව්කෙලෙමි; මින්මතු තුඹේ
පුත්‍රයායයි කියනුලබන්ට යුතු නො
වෙමි; තුඹේ වැඩකාරයන්ගෙන්
එකෙක් මෙන් මා තබාගතමැනවයි
ඔහුට කියමියි' කියා, නැගිට තමාගේ
20. පියා ලඟට ගියේය. ඔහුගේ පියා
දුරදීම ඔහු එනවා දැක, අනුකම්පා
කොට, දුවගොස්, ඔහුගේ
බෙල්ල වැලඳගෙන, ඔහු සිඹගත්
21. තේය. එවිට පුත්‍රයා, 'පියාණෙනි,
ස්වර්ගයට විරුද්ධව තුඹේ ඉදිරියෙහි
පව්කෙලෙමි; මින් මතු තුඹේ පුත්‍රයා
යයි කියනු ලබන්ට යුතු නොවෙමියි'
22. ඔහුට කීය. ඔහුගේ පියාණෝ
වැඩකාරයන්ට කථාකොට, 'උතුම්වූ
වස්ත්‍රය ගෙන, මොහුට හඳවාපල්
ලාය. මොහුගේ ඇඟිල්ලේ මුදුවක්ද
23. පාදවල වහන්ද දමාපල්ලාය. ත
රවූ වස්සා ගෙනවුත් මරාපල්ලාය;
24. අපි කමින් සන්තෝෂවෙමුව. මක්
නිසාද, මේ මාගේ පුත්‍රයා නැසී,
නැවත ජීවත්ව සිටින්නේය; ඔහු
නැතිව සම්භවියයි' කීයේය. එවිට
ඔවුන් සතුටුවෙන්නට පටන්ගත්
25. තෝය. ඔහුගේ වැඩිමහල් පුත්‍ර
යා කෙතේ සිට ඇවිත්, ගේ ලඟට පැ
26. මිණ, ගීතිකා කිරීමත් නැටීමත්
අසා, වැඩකාරයන්ගෙන් එකෙකු
කැඳවා, 'මේ කිමෙක්දැයි' ඇසුයේය.
27. එවිට ඔහු, 'තුඹේ මලයා ආයේය
තුඹේ පියාණෝ ඔහු සුවසේ ලබා:
ගත් බැවින්, තරවූ වස්සා මැරුවේ
28. යයි' කීය. එවිට ඔහු කිපී, ගෙද
රට ඇතුල්වෙන්ට අකමැතිවිය.
එබැවින් ඔහුගේ පියා පිටතට ගොස්,
බොහෝ සෙයින් ඔහු කැඳවිය.
29. ඔහු උත්තර දෙමින්, 'මෙපමණ
අවුරුදු තුඹට වැඩකෙලෙමි; කවදා
වත් තුඹේ අණ කඩකලේ නැත;
එසේ නුමුත් තුඹ මාගේ මිත්‍රයන්
සමග සන්තෝෂවෙන්ට එළුපැටි
වෙක්වත් මට කවදාවත් දුන්නේ
30. නැත. නුමුත් තුඹේ වස්තුව
වේශ්‍යාවන් සමග නාස්තිකලාවූ
තුඹේ මේ පුත්‍රයා ආ වේලේම, තරවූ
වස්සා ඔහු නිසා මැරෙව්වේයයි'
31. පියාට කීය. එවිට ඔහු, පුත්‍රය,
තුඹ නිතරම මා සමග සිටින්නේය;
මා සන්තක සියල්ලත් තුඹේය.
32. මේ තුඹේ සහෝදරයා නැසී
නැවත ජීවත්ව සිටින බැවින්ද,

නැතිව් සම්භවූනු බැවින්ද, ප්‍රීති
සන්තෝස වෙන්ට යුතුයයි' කියේ
යයි" කීසේක.

16. පරිච්ඡ. තවද උන්වහන්සේ
තමන් ගෝලයන්ට කියනසේක්,
"එක් වස්තුකාරයෙකුට ගබඩාකාර
යෙක් සිටියේය. ගබඩාකාරයා ඔහු
ගේ වස්තු නාස්තිකරන්නේයයි වස්
2. තුකාරයාට දන්වනලද්දේය. එවිට
ඒ වස්තුකාරයා ඔහු කැඳවා 'නුඹ
ගැන මා විසින් අසනලද මේ කාර
නාව කිමෙක්ද? මෙතැන් පටන්
ගබඩාකාරයෙක්ව සිටින්ට නුපුළු
වන; එබැවින් ගබඩාවේ ගනන
3. දීයන්නැයි' ඔහුට කීයේය. ගබ
ඩාකාරයා කල්පනාකරන්නේ, 'කු
මක් කෙරෙම්ද? මාගේ ස්වාමියා
ගබඩා කාර තනතුර මගෙන්
අහක්කරන්නේය. බිම කොටන්ට
බැරිය; සිඟන්මත් ලැජ්ජාවෙමි.
4. ගබඩා කාර තනතුරෙන් මා
අහක්කල කල්හි තමන්ගේ ගෙවල්
වලට මා පිළිගන්නා හැටියට, මා
5. විසින් කුමක් කටයුතුදැයි දනිමි'
සිතා, තමාගේ ස්වාමිහුගේ ණයකාර
යන් එක එකා බැගින් කැඳවා,
'මාගේ ස්වාමියාට නුඹ කොපමන
ණය ඇත්තේදැයි' පළමුවෙනියා
6. ගෙන් ඇසුයේය. ඔහු, 'තෙල්
බාත් * සියයකැයි' කීය. එවිට, නුඹේ
මේ ගනන් පත්‍රය අරන්, ඉඳගන පන
සකැයි වහාම ලියාපන්නැයි' ඔහුට
7. කීයේය. එවිට, 'නුඹේ ණය කො
පමනදැයි' අනිකකුගෙන් ඇසුයේය.
ඔහු, 'ගෝධුම අමුනු සියයකැයි'
කීය. එවිට, 'නුඹේ මේ ගනන් පත්‍රය
අරන්, අසූවකැයි ලියාපන්නැයි'
8. ඔහුට කීයේය. ඒ ස්වාමියා අධර්මි
ෂ්ඨවූ ගබඩාකාරයාගේ නුවනට ප්‍රස.
සා කෙළේය. එලෙසම ආලෝක
යෙහි දරුවන්ට වඩා මෙලොව දරු
වෝ තමන්ගේ ව්‍යවහාරයේ නුවන
9. ඇත්තෝය. තවද, නුඹලා නසින
කල සදාකාල වාසස්ථානවලට නුඹලා
පිළිගනු ලබන හැටියට, මිථ්‍යා
වස්තුවෙන් මිත්‍රයන් සපයාගනිල්ලා
10. යයි නුඹලාට කියමි. ඉතා ස්වල්
පයක් ගැන විශ්වාසයා බොහෝ
දේ ගැනත් විශ්වාසවෙයි. ඉතා
ස්වල්පයක් ගැන අවිශ්වාසයා බො
හෝ දේ ගැනත් අවිශ්වාසවෙයි.
11. එබැවින් නුඹලා මිථ්‍යා වස්
තුව ගැන විශ්වාස නූනොත්, සැබෑවූ
වස්තුව නුඹලාට භාරදෙන්නේ
12. කවුද? අනුන්ගේ දේ ගැන
නුඹලා විශ්වාස නූනොත්, නුඹලා
ගේම දේ නුඹලාට දෙන්නේ කවුද?
13. ස්වාමිවරුන් දෙන්නෙකුට වැඩ
කරන්ට කවර වැඩකාරයෙකුටත් බැ
රිය. මක්නිසාද, ඔහු එක්කෙනෙකුට
අප්‍රියව, අනික්අයට ප්‍රිය වෙයි; නො
හොත් එක්කෙනෙකුට ඇළුම්ව,
අනික් අය නොසලකන්නේය. දෙවි
යන්වහන්සේටත් වස්තුවටත් වැඩක
රන්ට නුඹලාට බැරියයි" කීසේක.

14. වස්තුවට ලෝභවූ ඵරිසිවරුද
මේ සියල්ල අසා, උන්වහන්සේට
15. නින්දාකලෝය. උන්වහන්සේ
ඔවුන්ට කියනසේක්, "නුඹලා මනු
ෂ්‍යයන් ඉදිරියෙහි 'අපි නිර්දෝෂකාර
යෝයයි' කියති; නුමුත් දෙවියන්
වහන්සේ නුඹලාගේ සිත් දන්නා
සේක. මනුෂ්‍යයන් විසින් උතුම්
කොට සිතන යමක් ඇද්ද, ඒක
දෙවියන්වහන්සේ ඉදිරියෙහි පිළි
16. කුල්ය. ව්‍යවස්ථාවද අනාගත
වාක්‍යයද යොහන් දක්වා පැවතු
නේය; එතැන් පටන් දෙවියන්වහන්
සේගේ රාජ්‍යය ප්‍රකාසකරනු ලැබේ;
සියලෝද බලෙන් එහි ඇතුල්
17. වෙති. එසේවී නුමුත්, ව්‍යවස්ථා
වෙන් එක්බින්දුවක්වත් සම්පූර්ණ
නොවීමට වඩා අහසත් පොළොවත්
18. නැතිව යාම පහසුය. යමෙක්
තමාගේ ස්ත්‍රිය හැර වෙන ස්ත්‍රියක්

* බාතක් නැළි තිහක් පමන වේ.

සරනපාවාගන්නේනම්, ඔහු පරදාර
කර්මය කරන්නේය. යමෙක් පුරුෂ
යා විසින් හරිනලද ඒ ස්ත්‍රිය සරන
පාවාගන්නේනම්, ඔහු පරදාර කර්මය
කරන්නේය.

19. "රතු පාට ඇඳුම් සහ සිහින්
රෙදි අඳින දවස්පතා රස ආහාර
ගන්නාවූ වස්තුකාරයෙක් සිටියේය.
20. තවද වනවලින් ගැවසීගත්
ශරීර ඇති ලාසරුස්නම් දිළින්දෙක්
21. සිටියේය. ඔහු වස්තුකාරයා
ගේ දොරකඩ තබනලදුව, ඔහු
ගේ මේසෙන් වැටුනු කෑබලි කා
රැකෙන්ට කැමතිවිය. බල්ලෝ
ඇවිත් ඔහුගේ වන ලෙව්වෝය.
22. ඒ දිළින්දා නැසී, දේවදූතයන්
විසින් ආබ්‍රහම්ගේ ළැපැත්තේ හාන්
සිටිමට ගෙනයනු ලැබුයේය. වස්තු
කාරයාත් නැසී තැන්පත්කරනලද්
23. දේය. ඔහු නිරයෙහි දුක් විඳිමින්,
ඇස් ඔසවා, ආබ්‍රහම් සහ ඔහුගේ
ළැපැත්තේ උන් ලාසරුස්ද දුර සිට
24. දැක, 'අනේ පියවූ ආබ්‍රහම්, මේ
ගිනි දැලෙහි දුක් විඳින මා කෙරෙහි
අනුකම්පාකොට, ලාසරුස් තමාගේ
ඇඟිලි අග දියේ ගලා මාගේ දිව
සිහිල්කරන්ට එව්වමැනවයි' මුර
25. ගසා කීය. නුමුත් ආබ්‍රහම් කියනු
යේ, 'පුත්‍රය, නුඹ ජීවත්ව සිටිද්දී
නුඹේ යහපත් දේ නුඹට ලැබුනේය;
එලෙසම ලාසරුස්ට අයහපත් දේ
ලැබුනේයයි සිහිකරපන්න. දැන්
ඔහු සැනසී ඉන්නේය; නුඹ දුක්
26. විඳින්නේය. ඇරත් මෙයින්
නුඹලා ළඟට යන්ටත් එයින් අප
ළඟට එන්ටත් කැමතිවූවන්ට බැරි
ලෙස අපටත් නුඹලාටත් අතරෙහි
මහත් කුහරයක් තිබෙන්නේයයි'
27. කීය. එවිට ඔහු, 'එසේවීනම්,
පියානෙනි, මට සහෝදරයෝ පස්
දෙනෙක් ඇත; ඔවුන් මේ දුක්
28. විඳින ස්ථානයට නොපැමිනෙන
ලෙස, මේ ගැන ඔවුන්ට දන්වන
පිනිස ඔහු මාගේ පියානන්ගේ ගෙද
29. රට ඇරියමැනවයි' කීය. ආබ්‍ර
හම්ද, 'මෝසෙස් සහ අනාගතවක්
තෘහු ඔවුන්ට ඇත; ඔවුන්ගේ වචන
30. අසත්වයි' ඔහුට කීයේය.
එසේනොවේය 'පියවූ ආබ්‍රහම්, මල
වුන්ගෙන් යමෙක් ඔවුන් වෙත
ට ගියොත් පසුතැවිලිවෙනවා ඇතැ
31. යි' කීය. ආබ්‍රහම්ද, 'මෝසෙස්
ගේත් අනාගතවක්තෘන්ගේත් බස්
ඔවුන් නෑසුවොත්, මලවුන්ගෙන්
කිසිවෙක් නැගුටුනත් නොඅදහ
තියි' ඔහුට කීයේයයි" කීසේක.

17. පරිච්ඡෙ. එවිට උන්වහන්සේ
ගෝලයන්ට කියනසේක්, "බාධා
වන්ගේ පැමිනීම වලකිනනට බැරිය.
නුමුත් යමෙක් කාරනකොටගෙන
ඒවා පැමිනේද, ඔහුට දුක්වෙයි.
2. යමෙක් මේ බාලයන්ගෙන් එකෙ
කුට බාධාකෙරේනම්, එයට වඩා
ඔහුගේ බෙල්ලේ අඹරන ගලක්
එල්ලා මුදේ දැමීම ඔහුට යහපත.
3. නුඹලා ප්‍රවේසම්වෙයල්ලාය. නුඹේ
සහෝදරයා නුඹට විරුඹව වැරදි
කලොත්, ඔහුට දූනිම්තිකම් දීපන්
න. පසුතැවිලිවේනම් ඔහුට ක්ෂමා
4. වෙයන්න. ඔහු දවසකට සත්
වරක් නුඹට විරුඹව වැරදිකොට,
දවසකට සත් වරක් නුඹ ළඟට
ඇවිත්, 'මම පසුතැවිලිවෙමියි' කී
වොත්, ඔහුට ක්ෂමාවෙයන්නැයි"
5. කීසේක. එවිට ප්‍රේරිතයෝ,
"අපේ ඇදහිම වැඩිකලමැනවයි"
6. ස්වාමින්වහන්සේට කීවෝය. තව
ද ස්වාමින්වහන්සේ කියනසේක්,
"අබ ඇටයක් පමන ඇදහිම නුඹ
ලාට ඇත්නම්, මේ ඇඹිලල ගහට
'මුලින් ඉදිරී ගොස් මුහුදේ සිටමේ
වයි' කිව්නම්, ඒ ගහ නුඹලාට කීක
7. රුවන්නේය. තවද, නුඹලා අත
රෙහි යමෙකුට හාන්නාවූ එක්කෝ
ගවයින් ගොදුරු කවන්නාවූ වැඩ

කාරයෙක් ඇත්තේද, කෙතෙන් ඔහු ආකල 'කන්නට ඉදගනින්නැයි' එවලේම ඔහුට කියන්නේද, 8. නොහොත් 'මට කෑම පිළියෙලකොට, මා බැඳුම් බැඳගණ, මම කනබොනකල් මට උපස්ථානකරපනන; ඉන් පසු තුබ කාපන්න, බ්පන්නැයි' 9. ඔහුට කියන්නේද? ඒ වැඩකාරයා විසින් තමාට ආඥාකරනලද දේ කල බැවින්, ස්වාමියා ඔහුට ස්තුති කෙ 10. රේද? නැතැයි සිතමි. එලෙසම, තුබලාට ආඥාකල සියල්ල තුබලා කලාසින් පසු, 'අපි නිෂ්ප්‍රයොජන වැඩකාරයෝය; අප විසින් කටයුතු දේ පමනක් කෙලෙමුයයි' කියාපල්ලායයි" කීසේක.

11. තවද උන්වහන්සේ යෙරුසලමට යමින්, සමාරියද ගලිලයද 12. මැදින් ගියසේක. උන්වහන්සේ ගමකට ඇතුල්වෙනකල, කුෂ්ඨරෝගාතුරයෝ දසදෙනෙක් උන්වහන්සේගේ ඉදිරියට ඇවිත් දුරින් සිට, 13. "ආචාර්වූ යේසුස්වහන්ස, අප කෙරෙහි අනුකම්පා කලමැනවයි" 14. මුරගසා කීවෝය. උන්වහන්සේ ඔවුන් දැක, "තුබලා ගොස් පූජකයන්ට පෙනියල්ලායයි" කීසේක. ඔවුන් යනකල පවිත්‍රවූනෝය. 15. ඔවුන්ගෙන් එකෙක් තමාට සුවවූහු බව දැක, හැරී ඇවිත්, මහත් ශබ්දයකින් දෙවියන්වහන්සේට ප්‍රසංසාකොට, උන්වහන්සේගේ පාමුල මුනන් වැටී, උන්වහන්සේට ස්තුති 17. කෙලේය. ඔහු සමාරියයෙක. එවිට යේසුස්වහන්සේ කියනසේක්, "දස දෙනෙක් පවිත්‍රවූනා නො 18. වෙද්ද? අනිත් නව දෙන කොසිද? මේ පරදේසියා මිස කව්රුවත් දෙවියන්වහන්සේට ප්‍රසංසාකරන්ට හැරී නාවෝය" කියා, ඔහුට කථා 19. කොට "නැගිට, පලයන්න; තුබේ ඇදැයිම් තුබ සුවකලායයි" කීසේක.

20. "දෙවියන්වහන්සේගේ රාජ්‍යය කොයි කලෙක එන්නේදැයි" එරිසීන් විසින් ඇසූ කල, උන්වහන්සේ ඔවුන්ට උත්තර දෙමින්, "දෙවියන්වහන්සේගේ රාජ්‍යය පෙරහැරෙන් 21. නොඑනේය. දෙවියන්වහන්සේගේ රාජ්‍යය තුබලා ඇතුලේ තිබෙන නිසා, ඒක මෙතනය, එතනයයි මනුෂ්‍යයෝ කියනෙන්නැතැයි" කීසේක. 22. එවිට ගෝලයන්ට කියනසේක්, "තුබලා මනුෂ්‍ය පුත්‍රයාගේ දවස්වලින් එකක් දකින්ට කැමති තුමුත් ඒක දකින්ට නොලැබෙන කාලයක් 23. එන්නේය. උන්වහන්සේ මෙතනය, එතනයයි තුබලාට කියන තුමුත්, තුබලා නික්මනොයල්ලාය; 24. ඔවුන් පස්සේ නොයල්ලාය. මක්නිසාද, ආකාසයේ එක් දිසාවකින් නැගෙන්නාවූ විදුලිය ආකාසයේ අනික් දිසාවටත් බබලන්නාක් මෙන්, මනුෂ්‍ය පුත්‍රයා තමන් දවසේ 25. වන්නේය. තුමුත්, පලමුකොට ඔහු බොහෝ සෙයින් දුක් විද, මේ ජාතිය විසින් එපාකරනු ලැබිය 26. යුතුය. නෝවාගේ දවස්වලදී උනාක්මෙන්, මනුෂ්‍ය පුත්‍රයාගේ 27. දවස්වලදීත් වන්නේය. නෝවා මහත් නැවට ඇතුල්වූ දවස දක්වා, මනුෂ්‍යයෝ කමින් බොමින් සරනපාවා ගනිමින් සරන පාවා දෙමින් සිටියෝය. එකල ජලගැල්ම පැමින, සියල්ලන්ම විනාසකෙලේය. ලොත්ගේ 28. දවස්වලදීත් එසේම වූනේය. මනුෂ්‍යයෝ කමින් බොමින් විකුනමින් ගනිමින් සිටුවමින් ගෙවල් සාදමින් 29. සිටියෝය. තුමුත් ලොත් සොදොම්හි සිට පිටත්ව ගිය දවසේම, අහසෙන් ගිනි සහ කෙන්දගන් වැසි වැසීමෙන් සියල්ලන්ම විනා 30. සවූනෝය. මනුෂ්‍ය පුත්‍රයා ප්‍රකාශවෙන දවසේත් එසේම වන්නේය. 31. ඒ දවසේ, ගේ මුදුනේ සිටින තැනැත්තා ගෙයි තිබෙන තමාගේ

බඩු ගෙනියන්ට නොබසීවා; එලෙ
සම කෙතේ සිටින තැනැත්තාද
32. ආපසු නේවා. ලොත්ගේ භාර්‍ය්‍යා
33. ව සිහිකරපල්ලාය. යමෙක් ත
මාගේ ප්‍රාණය රක්‍ෂාකරගන්ට සො
යන්නේද, ඔහු ඒක නැතිකරගන්
නේය. යමෙක් තමාගේ ප්‍රාණය
නැතිකරගන්නේද, ඔහු ඒක රක්‍ෂා
34. කරගන්නේය. නුඹලාට කියමි,
ඒ රාත්‍රියෙහි, එක යහනේ දෙන්
නෙක් හිඳිති; එකෙක් ගනු ලැබේ;
35. අනිකා හරිනු ලැබේ. ස්ත්‍රියෝ
දෙන්නෙක් එක්ව අඹරමින් හිඳිති;
එකියෙක් ගනු ලැබේ; අනික්
36. තැනැත්තී හරිනු ලැබේ. දෙන්
නෙක් කෙතෙහි සිටිති; එකෙක්
ගනු ලැබේ; අනිකා හරිනු ලැබේ
37. යයි" කීසේක. එවිට ඔවුන්
"ස්වාමිනි, කොතැන්හිදැයි" උන්ව
හන්සේගෙන් ඇසුවෝය. උන්වහන්
සේ ඔවුන්ට කියනසේක්, "යම්
තැනක මලකුන තිබේද, එතනට
ගිජුලිහිණි එක්වෙතියි" කීසේක.

18. පරිච්ඡේ. උන්වහන්සේ කලාන්
ත නොවී නිතර යාඥාකරන්ට ඕනෑ
බවට උපමාවක් ඔවුන්ට කියන
2. සේක්, "එක් නුවරක දෙවියන්ව
හන්සේට භය නැත්තාවූ මනුෂ්‍ය
යන්ට ගරු නොකරන්නාවූ නඩුකාර
3. යෙක් සිටියේය. එම නුවර වැන්
දඹු ස්ත්‍රියක්ද සිටියාය. ඈ ඔහු ලඟට
ගොස්, 'මා සහ විරුද්ධකාරයාත්
අතරේ යුක්තක් කලමැනවයි'
4. කීවාය. ඔහු බොහෝ කලක්
නොකැමතිවිය. පසුව, 'මම දෙවි
යන්වහන්සේට භය නැත්තෙමි;
5. මනුෂ්‍යයන්ටත් ගරු නොකරමි;
නුමුත් මේ වැන්දඹුව මට කනගාටු
කරණ හෙයින්, නිතරම ඇවිත් මා
නොවෙහෙසන පිනිස ඈට යුක්තක්
කරමියි' තමන් සිතින් සිතීයයි"
6. කීසේක. එවිට ස්වාමීන්වහන්සේ
කියනසේක්. "ඒ අධර්මිෂ්ඨ නඩුකාර
7. යාගේ කීම අසාපල්ලාය. දෙවි
යන්වහන්සේද තමන්වහන්සේට රෑ
දවල් හඬගසන්නාවූ තමන් තෝරා
ගත්තවුන්ගේ යුක්තිය ප්‍රමාද කරන
නුමුත්, ඒ යුක්තිය විනිශ්චය නොක
8. රනසේක්ද? නුඹලාට කියමි,
ඔවුන්ගේ යුක්තිය වහාම විනිශ්චය
කරනසේක. නුමුත් මනුෂ්‍ය පුත්‍රයා
එනකල්හි, පොළොවෙහි මෙබඳු ඇ
දහිල්ල දකිනවා ඇද්දැයි" කීසේක.
9. තවද තමන් ධර්මිෂ්ඨයෝයයි
සිතාගෙන අනුන්ට හෙලාදක්නාවූ
සමහරෙකුට මේ උපමාව කියන
10. සේක්, "මනුෂ්‍යයෝ දෙදෙනෙක්
යාඥාවීමට දේවමාලිගාවට ගියෝය.
එකෙක් ඵරිසියෙක; අනික් තැනැ
11. ත්තා සුංගම් අයකරන්නෙක. ඵරි
සියා නැගිට, 'දෙවියන්වහන්ස, මම
සොරවූ අධර්මිෂ්ඨවූ පරදාරිකවූ වෙන
මිනිසුන් වාගේ කෙනෙක්වත්, මේ
සුංගම් අයකරනනා වාගේ කෙනෙ
ක්වත් නොවෙමි. එබැවින් ඔබවහන්
12. සේට ස්තුතිකරමි. සතියකට
දෙවරක් කෑම නොකා ඉඳිමි. මා
විසින් සපයාගත් සියල්ලෙන් දස
යෙන් කොටසක් දෙමියි' තනියම
13. සිට යාඥාකෙලේය. සුංගම් අය
කරන්නා දුරින් සිට, ස්වර්ගය දෙසට
ඇස් ඔසවා බලන්ටත් භයව, තමා
ගේ ලැපැත්තේ අත් ගසමින්, 'දෙවි
යන්වහන්ස, පව්කාරයෙක්වූ මට
14. ක්‍ෂමාවූවමැනවයි' කීයේය. මම
නුඹලාට කියමි, මොහු අනිකාට
වඩා ධර්මිෂ්ඨව තමාගේ ගෙදරට
ගියේය. මක්නිසාද, තමාම උසස්ක
රගන්නා යටත්කරනු ලබන්නේය.
තමාම යටත්කරගන්නා උසස්කරනු
ලබන්නේයයි" කීසේක.
15. උන්වහන්සේගෙන් අත් තැබීම
ලබන පිණිස, ළදරුවන් උන්වහන්සේ
ලඟට ගෙනාවෝය. ගෝලයෝ ඒ දැ
16. ක ඔවුන්ට සැරකලෝය. නුමුත්

යේසුස්වහන්සේ ඔවුන් තමන් ළඟට
කැඳවා, "ළදරුවන් නොවලක්වා,
මා ළඟට එන්ට අවකාශ ඇරපල්
ලාය; මක්නිසාද, දෙවියන්වහන්
සේගේ රාජ්‍යය එබඳුවූවන්ගේමය.
17. සැබවක් තුඹලාට කියමි,
යමෙක් ළදරුවෙක් මෙන් දෙවියන්
වහන්සේගේ රාජ්‍යය පිළිනොගනි
තොත්, ඔහු එහි ඇතුල්නොවන්
නේමයයි" කීසේක.

18. එවිට එක් මූලාදෘනියෙක්,
"යහපත් ආචාරීනි, මම සදාකාල
ජීවනය උරුමවෙන පිනිස කුමක්
කරම්දැයි" උන්වහන්සේගෙන් ඇසු
19. වේය. යේසුස්වහන්සේ ඔහුට
කියනසේක්, "මට යහපතැයි කිය
නෙත් මක්නිසාද? දෙවියන්වහන්සේ
හැර වෙන කවුරුවත් යහපත්
20. නොවේ. පරදර කර්මය නොක
රව, මිනී නොමරව, සොරකම් නො
කරව, බොරු සාක්ෂි නොකියව,
දෙමව්පියන්ට ගෞරව කරවයි යන
මේ ආඥාවල් තුඹ දන්නේයයි"
21. කීසේක. ඔහුද "ඒ සියල්ල
මාගේ යෞවන අවස්ථාවේහි පටන්
22. රක්ෂාකෙළෙමියි" කීයේය. යේ
සුස්වහන්සේ ඒ අසා, "තවත් එක්
කාරණයක් තුඹට අඩුව තිබෙන්
නේය; තුඹ සන්තක සියල්ලම
විකුණ දිළිඳුන්ට බෙදා දීපන්න;
එවිට ස්වර්ගයේදී තුඹ වස්තුව ලබන්
නේය; තුඹද මා පස්සේ වරෙන්
23. නැයි" කීසේක. එවිට බොහෝ
වස්තුකාරයෙක්වූ ඔහු ඒ අසා, අති
සයින් ශෝකයට පැමිනියේය.
24. ඔහු ඉතා ශෝකයට පැමිනි බව
යේසුස්වහන්සේ දැක කියනසේක්,
"වස්තුකාරයෙක් දෙවියන්වහන්
සේගේ රාජ්‍යයට කොපමන අමාරු
25. වෙන් ඇතුල්වේද? දෙවියන්ව
හන්සේගේ රාජ්‍යයට වස්තුකාරයෙ
කුගේ පැමිනීමට වඩා, ඉඳිකටු සිදු
රෙන් ඔටුවාගේ ගමන පහසුයයි"
26. කීසේක. ඒ ඇසුවෝ, "එසේවී
නම් ගැලවෙන්ට කාට පුළුවන්දැයි"
27. කීවෝය. උන්වහන්සේද "මනු
ෂ්‍යයන්ට නුපුළුවන් දේ දෙවියන්ව
හන්සේට පුළුවනැයි" කීසේක.
28. එවිට පේත්‍රුස්, "අපි සියල්ල
අත්හැර, ඔබවහන්සේ පස්සේ ආවෙ
29. මුයයි" කීයේය. උන්වහන්සේද
ඔවුන්ට කියනසේක්, "සැබවක්
තුඹලාට කියමි, යමෙක් දෙවියන්ව
හන්සේගේ රාජ්‍යය නිසා, ගේවත්
දෙමව්පියන්වත් සහෝදරයන්වත්
භාර්‍යාවවත් දරුවන්වත් අත්ඇරි
30. තොත්, ඔහු මෙලොවදී බො
හෝ වැඩිකොට ලැබ, පරලොවදී
අනන්ත ජීවත්වීමත් ලබන්නේයයි"
කීසේක.

31. එවිට දොළොස් දෙනා තමන්
වහන්සේ වෙත කැඳවාගෙන
ඔවුන්ට කියනසේක්, "අපි යෙරුස
ලමට යමුව; එහිදී මනුෂ්‍ය පුත්‍රයා
ගැන අනාගතවක්තෘන් විසින් ලියා
තිබෙන සියල්ල සම්පූර්ණවන්
32. නේය. ඔහු අන්‍ය ජාතීන්ට පාවා
දෙනලද්දුව, නින්දා සවටකමුත්
33. කෙලගැසීමත් ලබන්නේය. ඔ
වුන් ඔහුට තලා, මරනට පත්කර
නවා ඇත; තුන්වෙනිදා ඔහු දෙවනු
නැගිටිනවා ඇතැයි" කීසේක.
34. මෙයින් මොකවත් ඔවුන්ට
තේරුනේ නැත; මේ කීම ඔවුන්ට
සැඟවී තිබුනේය; කිව් කාරනාවල්
හැඟී ගියේ නැත.

35. උන්වහන්සේ යෙරිකෝව ළඟට
පැමිනිකල, එක්තරා අන්ධයෙක් සිඟ
36. මින් මග අසල උන්නේය. සමූ
හයා යනවා ඔහුට ඇසී, "මේ
37. කිමෙක්දැයි" ඇසුවේය. නාස
රැත්හි යේසුස්වහන්සේ මග යනසේ
38. කැයි ඔහුට දන්නුවෝය. එවිට
ඔහු, "දාවිත්ගේ පුත්‍රවූ යේසුස්ව
හන්ස, මට අනුකම්පා කළමැනවයි"
39. කියා මොරගැසුවේය. ඉස්සරින්

යන්නෝ ඔහුට සැරකොට, "මුර නොගසන්නැයි" කීවෝය. නුමුත් ඔහු, "දාවිත්ගේ පුත්‍රය, මට කරුනා කලමැනවයි" වඩ වඩා මුරගැසූ
40. වේය. යේසුස්වහන්සේ නැවතී සිට, "ඔහු මා ලඟට ගෙනෙල්
41. ලායයි" අනදුන්සේක. ඔහු ලඟට ආකල, උන්වහන්සේ "මා ලවා කුමක් කරවාගන්නට කැමති
42. දැයි" ඔහුගෙන් ඇසූසේක. ඔහු "ස්වාමිනි, පෙනීමයයි" කීය. එවිට යේසුස්වහන්සේ, "පෙනීම ලබාපනන; නුඹේ ඇදහිල්ල නුඹ සුවකලා
43. යයි" ඔහුට කීසේක. එවලේම ඔහු පෙනීම ලැබ, දෙවියන්වහන්සේට ප්‍රසංසාකරමින් උන්වහන්සේ පස්සේ ගියේය. සියළු සෙනග ඒ දැක, දෙවියන්වහන්සේට සතුතිකලෝය.

19. පරිච්ඡේ. යේසුස්වහන්සේ යෙරිබෝවට පැමින, ඒ මැදින් යන
2. අතර, සුංගම් අයකරන්නන්ගේ මූලාදෑනියෙක්වූ සාකෙවුස්නම් වස්
3. තුකාරයෙක් යේසුස්වහන්සේ කවරෙක්දැයි බලන්ට සෙවීය. නුමුත් ඔහු මිටි බැවින් සමූහයා නිසා නො
4. හැකිවිය. යේසුස්වහන්සේ ඒ මඟින් යන සේකැයි දැන, ඉස්සරව දුව ගොස්, උන්වහන්සේ දක්නා පිනිස දිඹුල් ගහකට නැගුනේය.
5. යේසුස්වහන්සේ ඒ ස්ථානයට පැමින, උඩ බලා ඔහු දැක, "සාකෙවුස්, වහාම බැසපන්න; අද නුඹේ ගෙයි මා විසින් සිටිය යුතුයයි"
6. ඔහුට කීසේක. ඔහු වහාම බැස, සන්තෝසයෙන් උන්වහන්සේ පිළි
7. ගත්තේය. ඒ දුටුවාවූ සියල්ලෝම, "උන්වහන්සේ පව්කාර මනුෂ්‍යයෙකු ලඟට ආගන්තුක සත්කාර ලබන්නට ගියසේකැයි" කොදුලෝය.
8. සාකෙවුස්ද නැගිට සිට, "ස්වාමිනි, මාගේ වස්තුවෙන් දෙකෙන් පංගුවක් දිළිඳුන්ට දෙමි. යමෙකුට බොරු වැරදි තැබීමෙන් කිසිවක් ගතිම් නම්, ඔහුට සතර පංගුවක් නැවත දෙමියි" ස්වාමින්වහන්සේට කීයේය.
9. එවිට යේසුස්වහන්සේ කියන සේක්, "මොහුද ආබ්‍රහම්ගේ පුත්‍ර
10. යෙක් බැවින් ගැලවීම අද මේ ගෙට පැමුනුනේය. මක්නිසාද මනුෂ්‍ය පුත්‍රයා නැතිවූ දේ සොයන්ටද ගලවාගන්ටද ආයේයයි" කීසේක.
11. මේ කාරනා ඔවුන් අසනකල, උන්වහන්සේ යෙරුසලම ලඟට පැමිනි බැවින්ද, දෙවියන්වහන්සේගේ රාජ්‍යය ලඟදීම එළිදරව් වේයයි ඔවුන් සිතූ බැවින්ද, උන්වහන්සේ නැවතත් උපමාවක් කිය
12. මින්, "වංශවත් මනුෂ්‍යයෙක් තමාටම රාජ්‍යයක් ලැබගෙන නැවත එන පිනිස, දුරු රටකට යන්ට පිටත්ව,
13. තමාගේ වැඩකාරයන් දසදෙනෙකුට හඬගසා, ඔවුන්ට මිනානම් මිල දසයක් දී, 'මම එනතුරු වෙලඳම් කරපල්ලාය' කියා ගියේය.
14. රටවැසියෝද ඔහුට වෛරව, 'මේ මනුෂ්‍යයා අපට රජ වෙනවාට කැමති නැතැයි' ඔහු පස්සේ පනිවිඩ
15. යත් ඇරියෝය. ඔහු රාජ්‍යය ලැබගෙන ඇවිත්, වෙලඳමෙන් එක එකා කොපමන උපදවාගත්තෝදැයි දැනගන්නා පිනිස, තමන් විසින් මිලදුන් වැඩකාරයන් තමන්
16. ලඟට අඬගැස්සෙව්වේය. එවිට පලමුවෙනියා ඇවිත්, 'ස්වාමිනි, ඔබගේ එක මිනායෙන් මිනා දස
17. යක් ඉපදවීමියි' කීය. ඔහුද, 'උතුම්වූ වැඩකාරය, නුඹ යහපතක් කලේය; නුඹ ස්වල්ප දෙයට විස්වාසවූ බැවින්, නුවරවල් දසයකට මූලාදෑනියා වෙයන්නැයි' ඔහුට කීයේය.
18. දෙවෙනියාද ඇවිත්, 'ස්වාමිනි, ඔබගේ මිනායෙන් මිනා පහක් ඉපද
19. වීමියි' කීය. එවිට, 'නුඹත් නුවර පහකට මූලාදෑනියා වෙයන්නැයි'
20. ඔහුට කීයේය. තව එකෙක්

ඇවිත්, 'ස්වාමීනි, මා විසින් රෙදි
කඩක ඳවටා තිබූ ඔබගේ මිනාය
21. මෙන්ය. මක්නිසාද, ඔබ නොතිබූ
දේ ගන්නාවූ නොවපුල දේ කපන්
නාවූ කකීස කෙනෙක් බැවින්,
22. ඔබට භයවීමියි' කීය. එවිට ඔහු,
'දුෂ්ටවූ වැඩකාරය, නුබේ කටින්ම
නුබ විනිශ්චය කරමි; මම නොතිබූ
දේ ගන්නාවූ නොවපුල දේ කපන්
නාවූ කකීස කෙනෙකැයි නුබ දැන
23. ගත්තේය. එසේනම්, මම
ඇවිත් පොලීත් සමග ලබන
පිණිස, මාගේ මිල වෙළඳුන්ට නුදු
නෙත් මක්නිසාදැයි' කියා, ළඟ සිටි
යවුන්ට 'මිනාය මොහුගෙන් අර
24. ගෙන, මිනා දසය ඇත්තාට
25. දීපල්ලායයි' කීයේය. එවිට,
'ස්වාමිනි, ඔහුට මිනා දසයක් ඇත්
26. තේයයි' කීවෝය. එවිට ඔහු
උත්තර දෙමින්, 'ඇත්තාවූ සියල්
ලන්ටම දෙනු ලැබේ; නැති තැනැ
ත්තාගෙන් ඔහු සන්තක දේත් උදු
රාගනු ලැබේයයි' නුබලාට කියමි.
27. නුමුත් මම තමන් කෙරේ රජ
වෙනවාට කැමති නැත්තාවූ ඒ
මාගේ සතුරන් මෙහි ගෙනවුත්, මා
ඉදිරියෙහි මරාපල්ලායයි' කීයේයයි"
28. කීසේක. උත්වහන්සේ මෙසේ
කියා, ඔවුන්ට ඉස්සරව යෙරුසලම
බලා ගියසේක.

29. උත්වහන්සේ ඔලීව කන්දට
කිට්ටුවූ බෑත්ඵාගයටද බෙතානියටද
ළංවූ කල, තමන්ගේ ගෝලයන්
ගෙන් දෙන්නෙක් යවමින් කියන
සේක්, "ඉදිරිපිට තිබෙන ගමට පල
30. යල්ලාය. එහි ඇතුල්වූ විටම
කවුරුවත් කවදාවත් නොනැගුනාවූ
බැඳලා සිටින කොටළු වස්සෙක්
සම්භවෙයි; ඌ ලිහාගෙන වරෙල්
31. ලාය. කවුරුවත් 'ඌ ලිහන්නේ
මක්නිසාදැයි' ඇසුවොත්, 'උගෙන්
ස්වාමින්වහන්සේට වැඩ ඇත්තේ
යයි' ඔහුට කියාපල්ලායයි" කීසේක.

32. යවනු ලැබුවෝ ගොස්, ඔවුන්ට
කී ලෙසම වස්සා සම්භව ලිහනකල,
33. ඌ අයිතිකාරයෝ "වස්සා ලිහ
නෙත් මක්නිසාදැයි" ඔවුන්ගෙන්
34. ඇසුවෝය. ඔවුන්, "උගෙන්
ස්වාමින්වහන්සේට වැඩ ඇත්තේ
35. යයි" කීවෝය. ඔවුන් වස්සා
යේසුස්වහන්සේ ලඟට ගෙනවුත්,
තමන්ගේ වස්ත්‍ර ඌ පිට ලා, යේසුස්
වහන්සේ ඌ පිට හිඳෙව්වෝය.
36. උන්වහන්සේ යන කල, සමූහයෝ
තමන්ගේ වස්ත්‍ර මග අතුලෝය.
37. උත්වහන්සේ ඔලීව කන්දෙන්
බසින තැනට ළංවූ කල, සියළු ගෝල
සමූහයා ඔවුන් දුටු සියළු ආශ්චර්‍යයන්
නිසා සතුටුව, මහත් ශබ්දයෙන්
දෙවියන්වහන්සේට ස්තුතිකරන්නට
38. පටන්ගෙන, "ස්වාමින්වහන්
සේගේ නාමයෙන් එන්නාවූ රජුට
ආශීර්වාද වේවයි" කියාත්, "ස්වර්ග
යෙහි සමගිකමද ඉතා උස්වූ තැන්හි
මහත්තත්වයද වේවයි" කියාත්
39. කීවෝය. සමූහයා අතරෙන් සම
හර ඵරිසිවරු, "ආචාර්යනි, ඔබවහන්
සේගේ ගෝලයන්ට දනමුතුකම්
දුනමැනවයි" උත්වහන්සේට කී
40. වෝය. උත්වහන්සේ උත්තර
දෙමින්, "මොවුන් කථානොකර සිටි
යොත්, ගල් මූරගසතියි නුබලාට
කියමියි" ඔවුන්ට කීසේක.

41. උත්වහන්සේ නුවරට ළංව,
ඒ දුටු කල ඒ ගැන හඬමින්, "තීගේ
මේ දවසේදීවත් තීගේ සමගිකමට
සුදුසු දේ දැනගත්තොත් යහපත.
දැන් ඒවා තීගේ ඇස්වලට මුවාවී
43. තිබෙයි. තී විමසා බලන කාලය
නොදැන සිටි බැවින්, තීගේ සතුරෝ
තී හාත්පසින් අගලක් කපා, තී
වටකොට සියළු දිසාවෙන්ම කොටු
කරගෙන, තී සහ තී තුල සිටින තීගේ
දරුවන්ද බිම හා සමතලාකොට, තී
තුලේ ගලක් උට ගලක් තිබෙන්ට

නාරින දවස් පැමිණෙනවා ඇතැයි" කීසේක.

45. ඉන්පසු උන්වහන්සේ දේව මාලිගාවට ඇතුල්ව, එහි ගනුදෙනු කරන්නන් බැහැරකරන්ට පටන් 46. ගෙන, "මාගේ ගේ යාඥකිරීමේ ගේයයි ලියනලද්දේය; නුඹුත් නුඹලා ඒක සොරුන්ගේ ගුහාවක් කලෝයයි" ඔවුන්ට කීසේක 47. උන්වහන්සේ දවස් පතා දේව මාලිගාවේ ඉගැන්වූසේක. එවිට නායක පූජකයෝද ලියන්නෝද ජනයන්ගේ ප්‍රධානිද, උන්වහන්සේ 48. මරන්ට සොයා, සියළු සෙනග උන්වහන්සේගේ වචන ඕනෑකමින් ඇහූ බැවින්, උන්වහන්සේට කිසි දෙයක් කරන්ට නොහැකිවූවෝය.

20. පරිච්ඡේ. උන්වහන්සේ, ඒ දවස්වලින් එකක, දේවමාලිගාවේ සෙනගට උගන්වමින්, සුභාරංචිය ප්‍රකාසකරමින් සිටිකල, නායක පූජකයෝද ලියන්නෝද වැඩිමහල්ලන් සමග උන්වහන්සේ ලඟට 2. පැමින, "මොන බලයකින් මෙසේ කරන්නේද, නොහොත් මේ බලය නුඹට දුන්නේ කවුදැයි, අපට කියාපන්නැයි" උන්වහන්සේට කීවෝය. 3. උන්වහන්සේ උත්තර දෙමින් "මමත් නුඹලාගෙන් එකක් අසමි, 4. ඒක මට කියාපල්ලාය; යොහන් කල බව්තීස්මය වූනේ ස්වර්ගයෙන්ද නොහොත් මනුෂ්‍යයන් 5. ගෙන්දැයි" ඇහූසේක. එවිට ඔවුන් තමතමන් අතරෙහි කථාකරමින්, "ස්වර්ගයෙනැයි කීවුනම්, නුඹලා ඔහු අදහනොගත්තේ මක් 6. නිසාදැයි කියනවා ඇත. මනුෂ්‍යයන්ගෙනැයි කීවුනම්, යොහන් අනාගතවක්තෘ කෙනෙකැයි සැබෑවට ගෙන සිටි සියළු සෙනග අපට ගල් 7. ගසතියි" කියා, "කොහින් වූනාදැයි අපි දන්නේ නැතැයි" උත්තර 8. දුන්නෝය. එවිට යේසුස්වහන්සේ, "මමත් අසවල් බලයෙන් මේ දේ කෙරෙමියි නුඹලාට නොකියමියි" ඔවුන්ට කීසේක.

9. එවිට උන්වහන්සේ සෙනගට මේ උපමාව කියන්නට පටන්ගෙන, "එක් පුරුෂයෙක් මිදි වත්තක් වවා ගොයියන්ට බදු දී, බොහෝ කලකට 10. දුර රටකට ගියේය. ඵල අවස්ථාවෙහිදී, මිදි වත්තේ ඵල කොටස ගන්ට ගොයින් ලඟට වැඩකාරයෙක් යැවීය. එහෙත් ගොවිහු ඔහුට තලා, 11. හිස් අතින් ඇරියෝය. පසුව ඔහු අනික් වැඩකාරයෙක් යැවීය. ඔවුන් ඔහුටද තලා, නින්දාකොට, 12. හිස් අතින් ඇරියෝය. නැවතද ඔහු තුන්වෙනියෙක් යැවීය. ඔවුන් ඔහුටද තුවාලකොට, පිටත දැම් 13. මෝය. එවිට මිදි වත්තේ ස්වාමියා 'මම මක්කරම්ද? මාගේ ප්‍රිය පුත්‍රයා යවමි; සමහරවිට ඔහු දැක 14. ගෞරව කරතියි' කීයේය. නුඹුත් ගොවිහු ඔහු දැක තමතමන් අතරෙහි කථාකොට, 'මේ උරුමක්කාරයාය; උරුමය අපට වෙන පිනිස මොහු මර 15. මුයයි' කියා, ඔහු මිදි වත්තෙන් පිටත ලා මැරුවෝය. එහෙයින් මිදිවත්තේ ස්වාමියා ඔවුන්ට කුමක් 16. කරන්නේද? ඔහු ඇවිත් ඒ ගොවින් නසා, මිදි වත්ත වෙන අයවලට දෙනේයයි" කීසේක. ඔවුන් ඒ අසා "එසේ නොවේවයි" කීවෝ 17. ය. උන්වහන්සේ ඔවුන් දෙස බලා, "එසේනම්, 'ගෙවල් සාදන්නන් විසින් එපාකරනලද ගලම කොනේ ප්‍රධාන ගල වූනේයයි 18. ලියනලද්දේ කිමෙක්ද? ඒ ගල පිට යමෙක් වැටුනොත්, ඔහු කැබලිවෙයි; යමෙක් පිට ඒ ගල වැටුනොත්, එයින් ඔහු සුනුකරනු ලබන් 19. නේයයි" කීසේක. එවලේම නායක පූජකයෝද ලියන්නෝද මේ උපමාව ඔවුන්ට විරුඬව උත්ති

හන්සේ කී බව දැන, උන්වහන්සේ අල්ලන්නට සෙව්වෝය; නුමුත් සෙනඟට භයවූනෝය.

20. තවද නපුරු අදහසින් බලා සිටින්නාවූ ඔවුන්, උන්වහන්සේගේ වචනයෙන් උන්වහන්සේ අල්වාගෙන, ආඬුවටද අධිපතියාගේ බලයටද උන්වහන්සේ පාවාදෙන පිනිස, තමන් ධර්මිෂ්ඨයෝයයි හඟවන්නාවූ
21. චරපුරුෂයන් යැව්වෝය. එවිට ඔවුන් "ආචාරිනි, ඔබවහන්සේ යුතු ප්‍රකාර කියමින් උගන්වන බවත්, මනුෂ්‍යයන්ගේ තරාතිරම් නොබලා සැබෑ ලෙස දෙවියන්වහන්සේගේ මාර්ගය උගන්වන බවත් දනිමුව.
22. එබැවින් අප විසින් කායිසර්ට ආදායම් දීම යුතුද අයුතුදැයි" උන්ව
23. හන්සේගෙන් ඇසුවෝය. උන්වහන්සේ ඔවුන්ගේ දුෂ්ටකම දැන, "මා පරීක්ෂා කරන්නේ මක්නිසාද; මට
24. විලයක් පෙන්වාපල්ලාය; මෙහි කොටනලද රූපයත් නමත් කාගේදැයි" ඔවුන්ගෙන් ඇසූසේක. ඔවුන් උත්තරදෙමින්, "කායිසර්ගේයයි" කී
25. වෝය. "එසේවීනම් කායිසර්ගේ දේ කායිසර්ටද, දෙවියන්වහන්සේගේ දේ දෙවියන්වහන්සේටද දීපල්ලායයි" උන්වහන්සේ ඔවුන්ට කී
26. සේක. ඔවුන් සෙනඟ ඉදිරියෙහිදී උන්වහන්සේගේ වචන අල්ලන්ට බැරිව, උන්වහන්සේගේ උත්තරයට පුදුමව, කථානොකර සිටියෝය.
27. එවිට මලවුන්ගෙන් නැගිටීමක් නැතැයි කියන සද්දුසිවරුන්ගෙන් සමහරෙක්, උන්වහන්සේ ලඟට පැමින, උන්වහන්සේගෙන් ප්‍රශ්ණ
28. යක් අසමින්, "ආචාරිනි, භාර්‍ය්‍යාව ඇති යමෙක් දරුවෙක් නොලැබ මලොත්, ඔහුගේ සහෝදරයා විසින් මලාහුගේ භාර්‍ය්‍යාව පාවාගෙන, තමාගේ සහෝදරයාගේ නමට දරුවෙක් උපදවන්ට යුතුයයි, මෝසෙස් විසින්
29. අපට ලියා තිබෙයි. සහෝදරයෝ සත් දෙනෙක් සිටියෝය; පලමුවෙනියා භාර්‍ය්‍යාවක් සරන පාවාගෙන, දරුවෙක් නොලැබ, මැරු
30. ණේය. දෙවෙනියාත් ඒ ස්ත්‍රිය සරන පාවාගෙන, දරුවෙක් නො
31. ලැබ මැරුණේය. තුන්වෙනියාත් ඈ සරන පාවාගත්තේය; සත්දෙනාම එසේම ඈ සරන පාවාගෙන, දරුවෙක් නොලැබ මැරුනෝය.
32. සියල්ලන්ට පසු ඒ ස්ත්‍රීත් මලාය;
33. එබැවින් මලවුන්ගේ නැගිටීමේදී ඈ කාගේ භාර්‍ය්‍යාව වන්නීද? මක්නිසාද සත්දෙනම ඈ සරන පාවා
34. ගත්තෝයයි" කීවෝය. යේසුස්වහන්සේ උත්තරදෙමින් "මෙලොව දරුවෝ සරන පාවාගනිති, සරන
35. පාවා දෙති. නුමුත්, පරලොවද මලවුන්ගේ නැගිටීමද ලැබිය සුදුස්සෝයයි නියමකරණු ලැබුවෝ සරන පාවා නොගනිති, සරන පාවා නො
36. දෙති. ඔවුන් නැවත මරනයට නොපැමින, දේවදූතයන් හා සමානව, මලවුන්ගෙන් නැගිටීමෙහි පුත්‍රුයෝ බැවින් දෙවියන්වහන්සේගේ
37. පුත්‍රයෝ වෙති; තවද මෝසෙස් පදුර ලඟදී, 'ස්වාමින්වහන්සේ ආබ්‍රහම්ගේ දෙවියන්වහන්සේය, ඊසාක්ගේ දෙවියන්වහන්සේය, යාකොබ්ගේ දෙවියන්වහන්සේයයි' කීමෙන්, මලවූන් නැගිටින බව හැඟෙව්වේය.
38. මක්නිසාද දෙවියන්වහන්සේ ජීවත්වනනාවුන්ගේ දෙවියන්වහන්සේ මිස, මලවුන්ගේ දෙවියන්වහන්සේ නොවේය. සියල්ලෝම උන්වහන්සේ ඉදිරියෙහි ජීවත්වෙතියි"
39. කීසේක. එවිට ලියන්නන්ගෙන් සමහරෙක් උත්තරදෙමින්, "ආචාරිනි, ඔබවහන්සේ කීවා යහප
40. තැයි" කීවෝය. එසින් පසු, කිසි ප්‍රශ්ණයක් උන්වහන්සේගෙන් අහන්නට කිසිවෙක් ධෛර්‍ය්‍ය ඇතිව නොසිටියෝය.

41. එවිට උන්වහන්සේ ඔවුන්ට

කියනසේක් "ක්‍රිස්තුස් දාවිත්ගේ
42. පුත්‍රයයි කියන්නේ කෙසේද?
මම නුඹේ සතුරන් නුඹේ පාපුටුව ක
43. රන තුරු, මාගේ දකුණු පැත්
තේ හිඳින්නැයි ස්වාමීන්වහන්සේ
මාගේ ස්වාමීන්වහන්සේට කීසේකැයි
දාවිත්ම ගීතිකා පොතෙහි කීයේය.
44. එහෙයින් දාවිත් උන්වහන්සේට
ස්වාමීන්වහන්සේයයි කියන්නේනම්,
උන්වහන්සේ ඔහුගේ පුත්‍රවන්නේ
45. කොහොමදැයි" කීසේක. එවිට
උන්වහන්සේ සියළු සෙනග අසමින්
සිටිද්දී, තමන් ගෝලයන්ට කියන
46. සේක්, "දිග වස්ත්‍ර හැද ඇවිදින්ට
කැමතිවූ, කඩපිල්වලදී ආචාර ලැබී
මටද සිනගෝගවලදී උතුම් ආසන
වලටද මංගල්‍යවලදී උත්තම ස්ථාන
47. වලටද කැමතිවූ, වැන්දඹුවන්ගේ
ගෙවල් කොල්ලකනනාවූ, වමා
පිනිස දීඝ යාඥා කරනනාවූ ලියන්
නන්ගෙන් ප්‍රවේසම්වෙල්ලාය. ඔ
වුන් බලවත් අච්චුවට පැමිණෙනවා
ඇතැයි" කීසේක.

21. පරිච්ඡ. තමන්ගේ පඩුරු මු
දල් ගබඩාවෙහි දමන වස්තුකාරයන්
2. උන්වහන්සේ බලාසිට, සල්ලි දෙ
කක් එහි දමන දිලිඳුවූ වැන්දඹුවක්
3. දැක, "සැබවක් නුඹලාට කියමි,
මේ දිළිඳු වැන්දඹුව සියල්ලන්ට වඩා
4. දැමුවාය. මක්නිසාද, මේ සියල්ලෝ
ම තමතමන්ගේ ඉතුරුවෙන වස්තු
වෙන් දෙවියන්වහන්සේට පඩුරු දැමු
වෝය; නුමුත් මෑ තමාගේ දිළිඳු
කමින් මැට රක්ෂාවට තිබුණු සියල්
ලම දැමුවායයි" කීසේක.
5. ඉන්පසු, "ලක්ෂන ගල්වලින්ද
පඩුරුවලින්ද කෙසේ අලංකාර කර
නලදදැයි" දේවමාළිගාව ගැන සම
6. හරෙක් කියමින් සිටි කල්හි, "නු
ඹලා දකින්නාවූ මේ දේවලින් ගලක්
පිට ගලක් නොතිබෙන්ට කඩා
හෙළන දවස් පැමිණෙනවා ඇතැයි"
7. කීසේක. ඔවුහු, "ආචාරීනි, මේ
කාරණ කොයි කලෙක පැමිණෙන්
නේද? මේ කාරණ පැමිණෙන කාල
යෙහි ලකුන කිමෙක්දැයි?" උන්ව
8. හන්සේගෙන් ඇසුවෝය. උන්ව
හන්සේ කියනසේක්, "මුලාකරණු
නොලබන්ට බලාගනිල්ලාය. මක්
නිසාද, බොහෝ දෙන මාගේ නාම
යෙන් ඇවිත්, 'මම ක්‍රිස්තුස්ය; කාලය
ලංවියයි' කියනවා ඇත. ඔවුන් පස්
9. සේ නොයල්ලාය. එහෙත් යුඩ
සහ කැලඹීමවල් ගැන නුඹලා අසන
කල, භය නොවෙල්ලාය. ඒවා පලමු
වෙන් වෙන්නට ඕනෑය; නුමුත්
කෙලවර එවලේම නොපැමිණේයයි"
10. කීසේක. තවද උන්වහන්සේ
ඔවුන්ට කියනසේක්, "ජාතිය ජාතිය
ටද, රාජ්‍යය රාජ්‍යයටද විරුඬව නැගී
11. ටිනවා ඇත. නොයෙක් තැන්වල
මහත් භූමිකම්පාද දුර්භික්ෂද වසං
ගත රෝගද වෙනවාඇත. අහසින්
භයංකාර දැකීමවල්ද මහත්වූ ලකු
12. නුද වෙනවා ඇත. ඒ සියල්ලට
පලමුවෙන්, මාගේ නාමය නිසා
ඔවුන් නුඹලා අල්වා හිංසාකොට,
සිනගෝගවලටද හිරගෙවලටද පා
වා දෙති. නුඹලා රජුන්ගේද මූලා
දෑනීන්ගේද ඉදිරියට ගෙනයනු ලබ
13. ති. ඒ කාරනා නුඹලාට සාක්ෂි
14. පිනිස වින්නේය. එබැවින් 'කිය
යුතු කිමෙක්දැයි' පලමුකොට කල්
පනා නොකරන්ට නුඹලාගේ සිත්
15. වල තබාගනිල්ලාය. මක්නිසාද,
සියළු එදිරිකාරයන් විසින් නුඹලාට
විරුඬව කථාකරන්ටවත් විරුඬව
සිටින්ටවත් බැරිවූ මුඛයද ප්‍රඥාවද
16. නුඹලාට දෙන්නෙමි. මව්පියන්
විසින්ද සහෝදරයන් විසින්ද නෑදෑ
මිත්‍රයන් විසින්ද නුඹලා පාවාදෙනු
ලබනවා ඇත. ඔවුන් නුඹලාගෙන්
සමහරෙක් මරනට පත්කරවනවා
17. ඇත. මාගේ නාමය නිසා සියල්
ලෝම නුඹලාට වෛර වෙනවා ඇත.

18. නුඹුත් නුඹලාගේ ඉසකෙසක්
19. වත් විනාශ නොවන්නේය. ඉවසීමෙන් නුඹලාගේ ප්‍රාණවල් රක්
20. ෂාකරගනිල්ලාය. යම් කලක සේනාවන් විසින් යෙරුසලම වටකරනු ලබනවා නුඹලා දකිද්ද, එකල එහි විනාශය කිට්ටුයයි දැනගනිල්ලාය.
21. එවිට යූදයෙහි සිටින්නෝ කඳුවලට පලා යත්වා. එහි මැද සිටින්නෝ පිටතට යත්වා. පිට රටවල සිටින්නෝ එහි ඇතුල් නොවෙත්වා.
22. මක්නිසාද, ලියනලද සියල්ල සම්පූර්ණවෙන පිනිස, ඒ දවස් පලිගැ
23. නීමේ දවස් වෙනවා ඇත. නුඹුත් රටෙහි මහත් විපත්තියද මේ සෙනගට උදහසද වන බැවින්, ඒ දවස්වලදී ගර්භිනියන්ටද කිරි පොවන
24. ස්ත්‍රීන්ටද දුක් වන්නේය. තවද ඔවුන් කඩුමුවහතින් වැටෙති; සියළු රටවලට වාල්කමට ගෙනයනු ලබති. අන්‍යජාතීන්ගේ කාලවල් සම්පූර්ණවෙන තුරු, යෙරුසලම අන්‍ය ජාතීන් විසින් මැඩපවත්වනු ලබන්
25. නේය. ඉර සඳ තාරකාවල්වල ලකුනුද, පොලොවෙහි මිනිසුන්ට සාංකා සහිතව විපත්තියද, මුදේ කුනාටුවේ ඝෝෂාවද වන්නේය.
26. අහසේ බලපරාක්‍රමද සෙලවෙන බැවින්, පොලොවට පැමිනෙන්නාවූ දේ බලන්නාවූ මනුෂ්‍යයන්ගේ හිත්
27. භයින් මලානිකවන්නේය. එකල ඔවුන්, බලයෙන්ද මහත්වූ තේජසින්ද වලාකුලෙන් එන්නාවූ මනුෂ්‍ය
28. පුත්‍රයා දකිනවා ඇත. මේ දේ පැමිනෙන්නට පටන්ගන්නා කල්හි, උඩබලා, හිස ඔසවාපල්ලාය; නුඹලාගේ මිදීම ලංවන්නේයයි" කීසේක.

29. උන්වහන්සේ එක් උපමාවක් ඔවුන්ට කියනසේක්, "දිඹුල් ගහද
30. සියළු ගස්ද බලාපල්ලාය. ඒවා දළු ලනවිට, ඒදැක ග්‍රීෂ්ම කාලය
31. ලඟයයි නුඹලාම දනිති. එලෙසම මේ දේ පැමිනෙන බව දකින කල, දෙවියන්වහන්සේගේ රාජ්‍යය
32. ලඟයයි දැනගනිල්ලාය. සැබවක් නුඹලාට කියමි, සියල්ල සිඞවෙන තුරු මේ මනුෂ්‍ය වර්ගයා නැතිවෙන්
33. නේ නැත. අහසත් පොලොවත් නැතිවන්නේය. නුඹුත් මාගේ වචන නැතිවෙන්නේ නැත.

34. නුඹලා බලා නොසිටින වේලාවක ඒ දවස නුඹලාට නොපැමිනෙන පිනිස, පමන නොදන කෑමෙන්ද මත්වීමෙන්ද මෙලොව සිතිවිලිවලින්ද ප්‍රමාද නොවෙන්ට
35. පුවේසම් වෙයල්ලාය. මුළු පොලොවෙහි වසන්නාවූ සියල්ලන්ට උගුලක් මෙන් ඒ දවස පැමිනෙන්
36. නේය. එබැවින්, ඒ පැමිනෙන සියල්ලෙන් ගැලවෙන්ටද, මනුෂ්‍ය පුත්‍රයාගේ ඉදිරියෙහි සිටින්ටද, නුඹලා සුදුස්සෝයයි නියමකරනු ලබන පිනිස, නිතරම යාඥාකරමින්, අවදිව හිඳිල්ලායයි" කීසේක.

37. උන්වහන්සේ දවහල් දේවමාලිගාවේ උගන්වමින් සිට, රාත්‍රියේ පිටත්ව ඔලීව කන්දට ගොස් විසූ
38. සේක. සියළු සෙනගද උන්වහන්සේගේ වචන අහන්ට, අළුයම් වේලෙහි දේවමාලිගාවේ වැඩඋන්නාවූ උන්වහන්සේ වෙතට ආවෝය.

22. පරිච්ඡේ. පාස්කුව නම්වූ මුහුන් නොදැමූ රොටි මංගල්‍යය
2. ලංවිය. එවිට නායක පූජකයෝද ලියනෙනෝද සෙනගට භයවූ බැවින්, උන්වහන්සේ නසන්නේ කෙසේදැයි
3. සෙව්වෝය. එවිට දෙලොස් දෙනාගෙන් එකෙක්වූ ඉස්කාරියොත් නම් යූදස්ගේ හිතට සාතන් වැනු
4. නේය. ඔහු ගොස්, උන්වහන්සේ පාවාදෙන අන්දම ගැන නායක පූජකයන් සහ මුලාදෑනීන් සමග
5. මන්ත්‍රනය කලේය. ඔවුන්ද ඊට සන්තෝසව, ඔහුට මිල දෙන්ට

6. පොරොන්දුවූයෝය. ඔහු ගිවිසුම්
කොට, සමූහයා ලඟ නැතිවිටක
උන්වහන්සේ ඔවුන්ට පාවාදෙන්
නට ප්‍රස්ථාවක් සෙව්වේය.

7. මුහුන් නොදමූ රොටි මංගල්‍ය
යෙහි, පාස්කු බැටළු පැටවා මරන්ට
8. සුතුවූ දවස පැමිනුනේය. එවිට
උන්වහන්සේ පේත්‍රුස්ද යොහන්ද
යවමින්, "තුබලා ගොස්, අපට
කන්නට පාස්කු මංගල්‍යය පිළියෙල
9. කරපල්ලායයි" කීසේක. ඔවුහු,
"කොතන පිළියෙලකරනවාට කැම
තිදැයි" උන්වහන්සේගෙන් ඇසූ
10. වෝය. උන්වහන්සේ ඔවුන්ට
කියනසේක්, "තුබලා නුවරට ඇතුල්
වූවිට, මිනිහෙක් වතුර කලයක් අර
ගෙන තුබලා ඉදිරියට එන්නේය.
11. ඔහු යම් ගෙයකට ඇතුල්වේද,
ඒ ගෙට ඔහු කැටුව ගොස්, 'මම
මාගේ ගෝලයන් සමග පාස්කු
මංගල්‍යය කන්නට සුදුසු ආගන්තුක
සාලාව කොතැන්හිදැයි ආචාරින්ව
හන්සේ අසනසේකැයි' ඒ ගෙහි
12. ස්වාමියාට කියාපල්ලාය. එවිට
ඔහු සරහා තිබෙන මහත් උඩුමහ
ලක් තුබලාට පෙන්වන්නේය; එහි
පිළියෙල කරපල්ලායයි" කීසේක.
13. ඔවුන්ද ගොස්, උන්වහන්සේ
තමන්ට කී ලෙස දැක, පාස්කු මංග
ල්‍යය පිළියෙල කලෝය.

14. වේලාව පැමිනිකල, උන්ව
හන්සේ ප්‍රේරිතයන් දොලොස් දෙනා
සමග වැඩහිද ඔවුන්ට කියනසේක්,
15. "මම වධවිදීමට පලමුවෙන්,
මේ පාස්කු මංගල්‍යය තුබලා සමග
කන්නට අතිසෙයින් කැමතිවීමි.
16. මක්නිසාද තුබලාට මම කියමි,
දෙවියන්වහන්සේගේ රාජ්‍යයෙහිදී
ඒක සම්පූර්ණවෙන තුරු, මෙතැන්
පටන් මෙයින් නොකම්යි" කීසේක.
17. උන්වහන්සේද කුසලාන ගෙන
ස්තුතිකොට, "මේක ගෙන තුබලා
18. අතරේ බෙදාගනිල්ලාය. මක්නි
සාද තුබලාට කියමි, දෙවියන්වහන්
සේගේ රාජ්‍යය එනතුරු, මේ මුද්‍රික
ඵල රසයෙන් නොබොමියි" කීසේක.
19. තවද රොටි ගෙන, ස්තුතිකො
ට කඩා ඔවුන්ට දෙමින්, "තුබ
ලා නිසා දෙනලද මාගේ ශරීරය
මේය. මා සිහිවීමට මේක කරපල්ලා
20. යයි" කීසේක. එලෙසම රාත්‍රි
භෝජනයෙන් පසු ඔවුන්ට කුසලාන
දී, "මේ කුසලාන තුබලා නිසා වැගි
රවූ මාගේ ලෙයින් පිහිටුවනලද
21. අළුත් ගිවිසීමය. තවද මා පාවා
දෙන්නාගේ අත මා සමග මේස
22. යේය. ඒකාන්තයෙන්ම මනුෂ්‍ය
පුත්‍රයා නියමවූ ලෙස යන්නේය.
නුමුත් ඔහු පාවාදෙන්නාට දුක්වන්
23. නේයයි" කීසේක. එවිට ඔවුන්
ගෙන් කවරෙක් ඒක කරන්නේදෝ,
තමන් අතරෙහි අහන්නට පටන්
24. ගත්තෝය. තවද, ඔවුන්ගෙන්
කවරෙක් උතුම් වන්නේදැයි, ඔවු
නොවුන් අතරෙහි වාදයක් හටගත්
25. තේය. උන්වහන්සේද ඔවුන්ට
කියනසේක්, "අන්‍යජාතීන්ගේ රජ
දරුවෝ ඔවුන් කෙරෙහි අතිපතිකම්
කරති; ඔවුන්ගේ මූලාදෑනි උපකාර
26. කරන්නෝයයි කියනු ලබති. නු
මුත් තුබලා අතරෙහි එසේ නොවිය
යුතුය. තුබලාගෙන් උතුම් කෙනෙක්
බාලයෙක් මෙන්ද, ප්‍රධාන කෙනෙක්
27. සේවකයෙක් මෙන්ද වේවා. කෑ
මට හිඳින තැනැත්තාගෙනුත් වැඩ
කරන තැනැත්තාගෙනුත් උතුම් කවු
ද? කෑමට හිඳින තැනැත්තා නොවේ
ද? නුමුත් මම තුබලා අතරේ වැඩක
28. රන්නෙක් මෙන් වෙමි. මාගේ
පරීක්ෂාවලදී මා සමග සිටියෝ තුබ
29. ලාමය. මාගේ පියානන්වහන්
සේ විසින් මට රාජ්‍යයක් නියමක
ලාක්මෙන්ම, මාගේ රාජ්‍යයේදී මා
30. ගේ මේසයේ කන්ටද බොන්
ටද, ඊශ්‍රායෙල්ගේ ගෝත්‍ර දො
ලොස විනිශ්චයකරමින් සිංහාසනවල

කාරයෙක් ඇත්තේද, කෙතෙන්
ඔහු ආකල 'කන්නට ඉඳගනින්
නැයි' එවලේම ඔහුට කියන්නේද,
8. නොහොත් 'මට කෑම පිළියෙල
කොට, ඉඟ බැඳුම් බැඳගණ, මම කන
බොනකල් මට උපස්ථානකරපනන;
ඉන් පසු තුබ කාපන්න, බීපන්නැයි'
9. ඔහුට කියන්නේද? ඒ වැඩකාරයා
විසින් තමාට ආඥාකරනලද දේ කල
බැවින්, ස්වාමියා ඔහුට ස්තුති කෙ
10. රේද? නැතැයි සිතමි. එලෙසම,
තුබලාට ආඥාකල සියල්ල තුබලා
කලායින් පසු, 'අපි නිෂ්ප්‍රයොජන
වැඩකාරයෝය; අප විසින් කටයුතු
අද් පමනක් කෙලෙමුයයි' කියාපල්
ලායයි" කීසේක.

11. තවද උන්වහන්සේ යෙරුසල
මට යමින්, සමාරියද ගලිලයද
12. මැදින් ගියසේක. උන්වහන්සේ
ගමකට ඇතුල්වෙනකල, කුෂ්ඨරෝ
ගාතුරයෝ දසදෙනෙක් උන්වහන්
සේගේ ඉදිරියට ඇවිත් දුරින් සිට,
13. "ආචාරිවූ යේසුස්වහන්ස, අප
කෙරෙහි අනුකම්පා කලමැනවයි"
14. මුරගසා කීවෝය. උන්වහන්සේ
ඔවුන් දැක, "තුබලා ගොස් පූජක
යන්ට පෙනියල්ලායයි" කීසේක.
ඔවුන් යනකල පවිත්‍රවූනෝය.
15. ඔවුන්ගෙන් එකෙක් තමාට සුව
වුනු බව දැක, හැරී ඇවිත්, මහත්
ශබ්දයකින් දෙවියන්වහන්සේට ප්‍රසං
සාකොට, උන්වහන්සේගේ පාමුල
මුනින් වැටී, උන්වහන්සේට ස්තුති
17. කෙලේය. ඔහු සමාරියයෙක. ඒ
විට යේසුස්වහන්සේ කියනසේක්,
"දස දෙනෙක් පවිත්‍රවූනා නො
18. වෙද්ද? අනිත් නව දෙන කො
සිද? මේ පරදේසියා මිස කව්රුවත්
දෙවියන්වහන්සේට ප්‍රසංසාකරන්ට
හැරී නාවෝය" කියා, ඔහුට කථා
19. කොට "නැඟිට, පලයන්න;
තුබේ ඇදහීම තුබ සුවකලායයි"
කීසේක.

20. "දෙවියන්වහන්සේගේ රාජ්‍යය
කොයි කලෙක එන්නේදැයි" ඵරි
සීන් විසින් ඇසූ කල, උන්වහන්සේ
ඔවුන්ට උත්තර දෙමින්, "දෙවියන්
වහන්සේගේ රාජ්‍යය පෙරහැරෙන්
21. නොඑනෙන්ය. දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යය තුබලා ඇතුලේ තිබෙන
නිසා, ඒක මෙතනය, එතනයයි මනු
ෂ්‍යයෝ කියනෙන්නැතැයි" කීසේක.
22. එවිට ගෝලයන්ට කියනසේක්,
"තුබලා මනුෂ්‍ය පුත්‍රයාගේ දවස්
වලින් එකක් දකින්ට කැමති නුමුත්
ඒක දකින්ට නොලැබෙන කාලයක්
23. එන්නේය. උන්වහන්සේ මෙත
නය, එතනායයි තුබලාට කියන
නුමුත්, තුබලා නික්ම නොයල්ලාය;
24. ඔවුන් පස්සේ නොයල්ලාය. මක්
නිසාද, ආකාසයේ එක් දිසාවකින්
නැගෙන්නාවූ විදුලිය ආකාසයේ
අනික් දිසාවටත් බබලන්නාක්
මෙන්, මනුෂ්‍ය පුත්‍රයා තමන් දවසේ
25. වන්නේය. නුමුත්, පලමුකොට
ඔහු බොහෝ සෙයින් දුක් විඳ, මේ
ජාතිය විසින් එපාකරනු ලැබිය
26. යුතුය. නෝවාගේ දවස්වලදී
උනාක්මෙන්, මනුෂ්‍ය පුත්‍රයාගේ
27. දවස්වලදීත් වන්නේය. නෝවා
මහත් නැවට ඇතුල්වූ දවස දක්වා,
මනුෂ්‍යයෝ කමින් බොමින් සරනපා
වා ගනිමින් සරන පාවා දෙමින් සිටි
යෝය. එකල ජලගැල්ම පැමින, සිය
ල්ලන්ම විනාසකෙලේය. ලොත්ගේ
28. දවස්වලදීත් එසේම වූනේය. මනු
ෂ්‍යයෝ කමින් බොමින් විකුනමින්
ගනිමින් සිටුවමින් ගෙවල් සාදමින්
29. සිටියෝය. නුමුත් ලොත් සො
දොම්හි සිට පිටත්ව ගිය දවසේම,
අහසෙන් ගිනි සහ කෙන්දගන්
වැසි වැසීමෙන් සියල්ලන්ම විනා
30. සවූනෝය. මනුෂ්‍ය පුත්‍රයා ප්‍රකා
ශවෙන දවසේත් එසේම වන්නේය.
31. ඒ දවසේ, ගේ මුදුනේ සිටින
තැනැත්තා ගෙයි තිබෙන තමාගේ

බඩු ගෙනියන්ට නොබසීවා; එලෙ
සම කෙතේ සිටින තැනැත්තාද
32. ආපසු නේවා. ලොත්ගේ භාර්‍යා
33. ව සිහිකරපල්ලාය. යමෙක් ත
මාගේ ප්‍රාණය රක්‍ෂාකරගන්ට සො
යන්නේද, ඔහු ඒක නැතිකරගන්
නේය. යමෙක් තමාගේ ප්‍රාණය
නැතිකරගන්නේද, ඔහු ඒක රක්‍ෂා
34. කරගන්නේය. තුබලාට කියමි,
ඒ රාත්‍රියෙහි, එක යහනේ දෙන්
නෙක් හිඳිති; එකෙක් ගනු ලැබේ;
35. අනිකා හරිනු ලැබේ. ස්ත්‍රියෝ
දෙන්නෙක් එක්ව අඹරමින් හිඳිති;
එකියෙක් ගනු ලැබේ; අනික්
36. තැනැත්තී හරිනු ලැබේ. දෙන්
නෙක් කෙතෙහි සිටිති; එකෙක්
ගනු ලැබේ; අනිකා හරිනු ලැබේ
37. යයි" කීසේක. එවිට ඔවුන්
"ස්වාමිනි, කොතැන්හිදැයි" උන්ව
හන්සේගෙන් ඇසුවෝය. උන්වහන්
සේ ඔවුන්ට කියනසේක්, "යම්
තැනක මලකුන තිබේද, එතනට
ගිජුලිහිණි එක්වෙතියි" කීසේක.

18. පරිච්ඡ. උන්වහන්සේ කලාන්
ත නොවී නිතර යාඥාකරන්ට ඕනෑ
බවට උපමාවක් ඔවුන්ට කියන
2. සේක්, "එක් නුවරක දෙවියන්ව
හන්සේට භය නැත්තාවූ මනුෂ්‍ය
යන්ට ගරු නොකරන්නාවූ නඩුකාර
3. යෙක් සිටියේය. එම නුවර වැන්
දඹු ස්ත්‍රියක්ද සිටියාය. ඈ ඔහු ළඟට
ගොස්, 'මා සහ විරුඬකාරයාත්
අතරේ යුක්තක් කලමැනවයි'
4. කීවාය. ඔහු බොහෝ කලක්
නොකැමතිවිය. පසුව, 'මම දෙවි
යන්වහන්සේට භය නැත්තෙමි;
5. මනුෂ්‍යයන්ටත් ගරු නොකරමි;
නුමුත් මේ වැන්දඹුව මට කනගාටු
කරණ හෙයින්, නිතරම ඇවිත් මා
නොවෙහෙසන පිණිස ඈට යුක්තක්
කරමියි' තමන් සිතින් සිතීයයි"
6. ක්සේක. එවිට ස්වාමියාවහන්සේ
කියනසේක්. "ඒ අධර්මිෂ්ට නඩුකාර
7. යාගේ කීම අසාපල්ලාය. දෙවි
යන්වහන්සේද තමන්වහන්සේට රෑ
දවල් හඬගසන්නාවූ තමන් තෝරා
ගත්තාවූන්ගේ යුක්තිය ප්‍රමාද කරන
නුමුත්, ඒ යුක්තිය විනිශ්චය නොක
8. රනසේක්ද? තුබලාට කියමි,
ඔවුන්ගේ යුක්තිය වහාම විනිශ්චය
කරනසේක. නුමුත් මනුෂ්‍ය පුත්‍රයා
එනකල්හි, පොලොවෙහි මෙබඳු ඇ
දහිල්ල දකිනවා ඇද්දැයි" කීසේක.

9. තවද තමන් ධර්මිෂ්ටයෝයයි
සිතාගෙන අනුන්ට හෙළාදක්නාවූ
සමහරෙකුට මේ උපමාව කියන
10. සේක්, "මනුෂ්‍යයෝ දෙදෙනෙක්
යාඥාවීමට දේවමාලිගාවට ගියෝය.
එකෙක් ඵරිසියෙක; අනික් තැනැ
11. ත්තා සුංගම් අයකරන්නෙක. ඵරි
සියා නැගිට, 'දෙවියන්වහන්ස, මම
සොරවූ අධර්මිෂ්ටවූ පරදාරිකවූ වෙන
මිනිසුන් වාගේ කෙනෙක්වත්, මේ
සුංගම් අයකරනනා වාගේ කෙනෙ
ක්වත් නොවෙමි. එබැවින් ඔබවහන්
12. සේට ස්තුතිකරමි. සතියකට
දෙවරක් කෑම නොකා ඉඳිමි. මා
විසින් සපයාගත් සියල්ලෙන් දස
යෙන් කොටසක් දෙමියි' තනියම
13. සිට යාඥාකෙළේය. සුංගම් අය
කරන්නා දුරින් සිට, ස්වර්ගය දෙසට
ඇස් ඔසවා බලන්ටත් භයව, තමා
ගේ ළපැත්තේ අත් ගසමින්, 'දෙවි
යන්වහන්ස, පව්කාරයෙක්වූ මට
14. ක්‍ෂමාවූවමැනවයි' කීයේය. මම
තුබලාට කියමි, මොහු අනිකාට
වඩා ධර්මිෂ්ටව තමාගේ ගෙදරට
ගියේය. මක්නිසාද, තමාම උසස්ක
රගන්නා යටත්කරනු ලබන්නේය.
තමාම යටත්කරගන්නා උසස්කරනු
ලබන්නේයයි" කීසේක.

15. උන්වහන්සේගෙන් අත් තැබීම
ලබන පිණිස, ළදරුවන් උන්වහන්සේ
ළඟට ගෙනාවෝය. ගෝලයෝ ඒ දැ
16. ක ඔවුන්ට සැරකලෝය. නුමුත්

යේසුස්වහන්සේ ඔවුන් තමන් ලඟට
කැඳවා, "ළදරුවන් නොවලක්වා,
මා ලඟට එන්ට අවකාශ ඇරපල්
ලාය; මක්නිසාද, දෙවියන්වහන්
සේගේ රාජ්‍යය එබඳුවූවන්ගේමය.
17. සැබවක් තුබලාට කියමි,
යමෙක් ළදරුවෙක් මෙන් දෙවියන්
වහන්සේගේ රාජ්‍යය පිළිනොගනි
තොත්, ඔහු එයි ඇතුල්නොවන්
නේමයයි" කීසේක.

18. එවිට එක් මූලාදෑනියෙක්,
"යහපත් ආචාරීනි, මම සදාකාල
ජීවනය උරුමවෙන පිනිස කුමක්
කරම්දැයි" උන්වහන්සේගෙන් ඇසු
19. යේය. යේසුස්වහන්සේ ඔහුට
කියනසේක්, "මට යහපතැයි කිය
නෙත් මක්නිසාද? දෙවියනවහන්සේ
හැර වෙන කවුරුවත් යහපත්
20. නොවේ. පරදාර කර්මය නොක
රව, මිනී නොමරව, සොරකම් නො
කරව, බොරු සාක්ෂි නොකියව,
දෙමව්පියන්ට ගෞරව කරවයි යන
මේ ආඥාවල් තුබ දන්නේයයි"
21. කීසේක. ඔහුද "ඒ සියල්ල
මාගේ යෞවන අවස්ථාවෙහි පටන්
22. රක්ෂාකෙළෙමියි" කීයේය. යේ
සුස්වහන්සේ ඒ අසා, "තවත් එක්
කාරනයක් තුබට අඩුව තිබෙන්
නේය; තුබ සන්තක සියල්ලම
විකුන දිළිඳුන්ට බෙදා දීපන්න;
එවිට ස්වර්ගයේදී තුබ වස්තුව ලබන්
නේය; තුබද මා පස්සේ වරෙන්
23. නැයි" කීසේක. එවිට බොහෝ
වස්තුකාරයෙක්වූ ඔහු ඒ අසා, අති
සයින් ශෝකයට පැමිනියේය.
24. ඔහු ඉතා ශෝකයට පැමිනි බව
යේසුස්වහන්සේ දැක කියනසේක්,
"වස්තුකාරයෙක් දෙවියන්වහන්
සේගේ රාජ්‍යයට කොපමන අමාරු
25. වෙන් ඇතුල්වේද? දෙවියන්ව
හන්සේගේ රාජ්‍යයට වස්තුකාරයෙ
කුගේ පැමිනීමට වඩා, ඉඳිකටු සිදු
රෙන් ඔටුවාගේ ගමන පහසුයයි"
26. කීසේක. ඒ ඇසුවෝ, "එසේවී
නම් ගැලවෙන්ට කාට පුළුවන්දැයි"
27. කීවෝය. උන්වහන්සේද "මනු
ෂ්‍යයන්ට නුපුළුවන් දේ දෙවියන්ව
හන්සේට පුළුවනැයි" කීසේක.
28. එවිට පේතෘස්, "අපි සියල්ල
අත්හැර, ඔබවහන්සේ පස්සේ ආවෙ
29. මුයයි" කීයේය. උන්වහන්සේද
ඔවුන්ට කියනසේක්, "සැබවක්
තුබලාට කියමි, යමෙක් දෙවියන්ව
හන්සේගේ රාජ්‍යය නිසා, ගේවත්
දෙමව්පියන්වත් සහෝදරයන්වත්
භාර්‍ය්‍යාවවත් දරුවන්වත් අත්ඇරි
30. යොත්, ඔහු මෙලොවදී බො
හෝ වැඩිකොට ලැබ, පරලොවදී
අනන්ත ජීවන්වීමත් ලබනෝයයි"
කීසේක.

31. එවිට දොළොස් දෙනා තමන්
වහන්සේ වෙත කැඳවාගෙන
ඔවුන්ට කියනසේක්, "අපි යෙරුස
ලමට යමුව; එහිදී මනුෂ්‍ය පුත්‍රයා
ගැන අනාගතවක්තෘන් විසින් ලියා
තිබෙන සියල්ල සම්පූර්ණවන්
32. නේය. ඔහු අන්‍ය ජාතීන්ට පාවා
දෙනලදුව, නින්දාත් සවටකමුත්
33. කෙලගැසීමත් ලබන්නේය. ඔ
වුන් ඔහුට තළා, මරනට පත්කර
නවා ඇත; තුන්වෙනිදා ඔහු දෙවනු
නැගිටිනවා ඇතැයි" කීසේක.
34. මෙයින් මොකවත් ඔවුන්ට
තේරුනේ නැත; මේ කීම ඔවුන්ට
සැඟවී තිබුනේය; කිව් කාරනාවල්
හැඟී ගියේ නැත.

35. උන්වහන්සේ යෙරිකෝව ලඟට
පැමිනිකල, එක්තර අන්ධයෙක් සිඟ
36. මින් මග අසල උන්නේය. සමූ
හයා යනවා ඔහුට ඇසී, "මේ
37. කිමෙක්දැයි" ඇසුයේය. නාස
රැත්හි යේසුස්වහන්සේ මග යනසේ
38. කැයි ඔහුට දැන්නුවෝය. එවිට
ඔහු, "දාවිත්ගේ පුත්‍රවූ යේසුස්ව
හන්ස, මට අනුකම්පා කලමැනවයි"
39. කියා මුරගැසුවේය. ඉස්සරින්

යන්නෝ ඔහුට සැරකොට, "මුර
නොගසන්නැයි" කීවෝය. නුමුත්
ඔහු, "දාවිත්ගේ පුත්‍රය, මට කරුනා
කලමැනවයි" වඩ වඩා මුරගෑසු
40. වේය. ජේසුස්වහන්සේ නැවතී
සිට, "ඔහු මා ලඟට ගෙනෙල්
41. ලායයි" අනදුන්සේක. ඔහු
ලඟට ආකල, උන්වහන්සේ "මා
ලවා කුමක් කරවාගන්නට කැමති
42. දැයි" ඔහුගෙන් ඇසූසේක. ඔහු
"ස්වාමිනි, පෙනීමයයි" කීය. එවිට
ජේසුස්වහන්සේ, "පෙනීම ලබාප
න්න; නුඹේ ඇදහිල්ල නුඹ සුවකලා
43. යයි" ඔහුට කීසේක. එවලේම
ඔහු පෙනීම ලැබ, දෙවියන්වහන්
සේට ප්‍රසංසාකරමින් උන්වහන්සේ
පස්සේ ගියේය. සියළු සෙනඟ ඒ දැක,
දෙවියන්වහන්සේට සතුතිකලෝය.

19. පරිච්ඡේ. ජේසුස්වහන්සේ
යෙරිකෝවට පැමින, ඒ මැදින් යන
2. අතර, සුංගම් අයකරන්නන්ගේ
මූලාදෑනියෙක්වූ සාකෙවුස්නම් වස්
3. තුකාරයෙක් ජේසුස්වහන්සේ
කවරෙක්දැයි බලන්ට සෙවීය. නුමුත්
ඔහු මිටි බැවින් සමූහයා නිසා නො
4. හැකිවිය. ජේසුස්වහන්සේ ඒ
මඟින් යන සේකැයි දැන, ඉස්සරව
දුව ගොස්, උන්වහන්සේ දක්නා
පිනිස දිඹුල් ගහකට නැගුනේය.
5. ජේසුස්වහන්සේ ඒ ස්ථානයට
පැමින, උඩ බලා ඔහු දැක, "සාකෙ
වුස්, වහාම බැසපන්න; අද නුඹේ
ගෙයි මා විසින් සිටිය යුතුයයි"
6. ඔහුට කීසේක. ඔහු වහාම බැස,
සන්තෝසයෙන් උන්වහන්සේ පිලි
7. ගත්තේය. ඒ දුටුවාවූ සියල්ලෝම,
"උන්වහන්සේ පව්කාර මනුෂ්‍යයෙකු
ලඟට ආගන්තුක සත්කාර ලබන්
නට ගියසේකැයි" කොඳුලෝය.
8. සාකෙවුස්ද නැගිට සිට, "ස්වාමිනි,
මාගේ වස්තුවෙන් දෙකෙන් පංගු
වක් දිලිඳුන්ට දෙමි. යමෙකුට බොරු
වැරදි තැබීමෙන් කිසිවක් ගතිම
නම්, ඔහුට සතර පංගුවක් නැවත
දෙමියි" ස්වාමින්වහන්සේට කීයේය.
9. එවිට ජේසුස්වහන්සේ කියන
සේක්, "මොහුද ආබ්‍රහම්ගේ පුත්‍ර
10. යෙක් බැවින් ගැලවීම අද මේ
ගෙට පැමුනුනේය. මක්නිසාද මනු
ෂ්‍ය පුත්‍රයා නැතිවූ දේ සොයන්ටද
ගලවාගන්ටද ආයේයයි" කීසේක.

11. මේ කාරනා ඔවුන් අසනකල,
උන්වහන්සේ යෙරුසලම ලඟට
පැමිනි බැවින්ද, දෙවියන්වහන්
සේගේ රාජ්‍යය ලඟදීම එලිදරව්
වේයයි ඔවුන් සිතූ බැවින්ද, උන්ව
හන්සේ නැවතත් උපමාවක් කිය
12. මින්, "වංශවත් මනුෂ්‍යයෙක්
තමාටම රාජ්‍යයක් ලැබගෙන නැවත
එන පිනිස, දුරු රටකට යන්ට පිටත්ව,
13. තමාගේ වැඩකාරයන් දසදෙ
නෙකුට හඬගසා, ඔවුන්ට මිනානම්
මිල දසයක් දී, 'මම එනතුරු වෙල
ඳම් කරපල්ලාය' කියා ගියේය.
14. රටවැසියෝද ඔහුට වෛරව, මේ
මනුෂ්‍යයා අපට රජ වෙනවාට කැම
ති නැතැයි' ඔහු පස්සේ පනිවිඩ
15. යක් ඇරියෝය. ඔහු රාජ්‍යය
ලැබගෙන ඇවිත්, වෙලඳාමෙන්
එක එකා කොපමන උපදවාගත්
තෝදැයි දැනගන්නා පිනිස, තමන්
විසින් මිලදුන් වැඩකාරයන් තමන්
16. ලඟට අඬගැස්සෙව්වේය. එවිට
පලමුවෙනියා ඇවිත්, 'ස්වාමිනි,
ඔබගේ එක මිනායෙන් මිනා දස
17. යක් ඉපදවීමියි' කීය. ඔහුද,
'උතුම්වූ වැඩකාරය, නුඹ යහපතක්
කලේය; නුඹ ස්වල්ප දෙයට විස්වා
සවූ බැවින්, නුවරවල් දසයකට මූලා
දෑනියා වෙයන්නැයි' ඔහුට කීයේය.
18. දෙවෙනියාද ඇවිත්, 'ස්වාමිනි,
ඔබගේ මිනායෙන් මිනා පහක් ඉපද
19. වීමියි' කීය. එවිට, 'නුඹත් නුවර
පහකට මූලාදෑනියා වෙයන්නැයි'
20. ඔහුට කීයේය. තව එකෙක්

ඇවිත්, ‘ස්වාමීනි, මා විසින් රෙදි කඩක දවටා තිබූ ඔබගේ මිනාය
21. මේය. මක්නිසාද, ඔබ නොතිබූ දේ ගන්නාවූ නොවපුල දේ කපන්නාවූ කකීස කෙනෙක් බැවින්,
22. ඔබට භයවීමියි’ කීය. එවිට ඔහු, ‘දුෂ්ටවූ වැඩකාරය, තුබේ කටින්ම තුබ විනිශ්චය කරමි; මම නොතිබූ දේ ගන්නාවූ නොවපුල දේ කපන්නාවූ කකීස කෙනෙකැයි තුබ දැන
23. ගත්තේය. එසේනම්, මම ඇවිත් පොලිත් සමග ලබන ජනිස, මාගේ මිල වෙලඳුන්ට තුදුනෙත් මක්නිසාදැයි’ කියා, ළඟ සිටියවුන්ට ‘මිනාය මොහුගෙන් අර
24. ගෙන, මිනා දසය ඇත්තාට
25. දීපල්ලායයි’ කීයේය. එවිට, ‘ස්වාමිනි, ඔහුට මිනා දසයක් ඇත්
26. තේයයි’ කීවෝය. එවිට ඔහු උත්තර දෙමින්, ‘ඇත්තාවූ සියල්ලන්ටම දෙනු ලැබේ; නැති තැනැත්තාගෙන් ඔහු සන්තක දේත් උදුරාගනු ලැබේයයි’ තුබලාට කියමි.
27. තුමූත් මම තමන් කෙරේ රජවෙනවාට කැමති නැත්තාවූ ඒ මාගේ සතුරන් මෙහි ගෙනවුත්, මා ඉදිරියෙහි මරාපල්ලායයි’ කීයේයයි”
28. කීසේක. උන්වහන්සේ මෙසේ කියා, ඔවුන්ට ඉස්සරව යෙරුසලම බලා ගියසේක.

29. උන්වහන්සේ ඔලීව කන්දට කිට්ටුවූ බැත්ඵාගයටද බෙතානියටද ළංවූ කල, තමන්ගේ ගෝලයන්ගෙන් දෙන්නෙක් යවමින් කියනසේක්, “ඉදිරිපිට තිබෙන ගමට පල
30. යල්ලාය. එහි ඇතුල්වූ විටම කවුරුවත් කවදාවත් නොනැගුනාවූ බැඳලා සිටින කොටළු වස්සෙක් සම්භවෙයි; ඌ ලිහාගෙන වරෙල්
31. ලාය. කවුරුවත් ‘ඌ ලිහන්නේ මක්නිසාදැයි’ ඇසුවොත්, ‘උගෙන් ස්වාමින්වහන්සේට වැඩ ඇත්තේයයි’ ඔහුට කියාපල්ලායයි” කීසේක.
32. යවනු ලැබූවෝ ගොස්, ඔවුන්ට කී ලෙසම වස්සා සම්භව ලිහනකල,
33. ඌ අයිතිකාරයෝ “වස්සා ලිහනෙත් මක්නිසාදැයි” ඔවුන්ගෙන්
34. ඇසුවෝය. ඔවුන්, “උගෙන් ස්වාමින්වහන්සේට වැඩ ඇත්තේ
35. යයි” කීවෝය. ඔවුන් වස්සා යේසුස්වහන්සේ ළඟට ගෙනවුත්, තමන්ගේ වස්ත්‍ර ඌ පිට ලා, යේසුස්වහන්සේ ඌ පිට හිඳෙව්වෝය.
36. උන්වහන්සේ යන කල, සමූහයෝ තමන්ගේ වස්ත්‍ර මග අතුළෝය.
37. උන්වහන්සේ ඔලීව කන්දෙන් බහින තැනට ළංවූ කල, සියළු ගෝල සමූහයා ඔවුන් දුටු සියළු ආශ්චර්‍ය්‍ය නිසා සතුටුව, මහත් ශබ්දයෙන් දෙවියන්වහන්සේට සතුතිකරන්නට
38. පටන්ගෙන, “ස්වාමින්වහන්සේගේ නාමයෙන් එන්නාවූ රජුට ආශීර්වාද වේවයි” කියාත්, “ස්වර්ගයෙහි සමගිකමද ඉතා උස්වූ තැන්හි මහත්තත්වයද වේවයි” කියාත්
39. කීවෝය. සමූහයා අතරෙන් සමහර ඵරිසිවරු, “ආචාර්ය්‍යන්, ඔබවහන්සේගේ ගෝලයන්ට දනමුතුකම් දනමැනවයි” උන්වහන්සේට කී
40. වෝය. උන්වහන්සේ උත්තර දෙමින්, “මොවුන් කථානොකර සිටියොත්, ගල් මුරගසතියි තුබලාට කියමියි” ඔවුන්ට කීසේක.

41. උන්වහන්සේ නුවරට ළංව, ඒ දුටු කල ඒ ගැන හඬමින්, “තීගේ මේ දවසේදීවත් තීගේ සමගිකමට සුදුසු දේ දැනගත්තොත් යහපත. දැන් ඒවා තීගේ ඇස්වලට මුවාවී
43. තිබෙයි. තී විමසා බලන කාලය නොදැන සිටි බැවින්, තීගේ සතුරෝ තී හාත්පසින් අගලක් කපා, තී වටකොට සියළු දිසාවෙන්ම කොටු කරගෙන, තී සහ තී තුළ සිටින තීගේ දරුවන්ද බිම හා සමතලාකොට, තී තුළේ ගලක් උට ගලක් තිබෙන්ට

නාටින දවස් පැමිනෙනවා ඇතැයි" කීසේක.

45. ඉන්පසු උන්වහන්සේ දේව මාලිගාවට ඇතුල්ව, එහි ගනුදෙනු කරන්නන් බැහැරකරන්ට පටන් 46. ගෙන, "මාගේ ගේ යාඥාකිරීමේ ගේයයි ලියනලද්දේය; නුමුත් නුබලා ඒක සොරුන්ගේ ගුහාවක් කලෝයයි" ඔවුන්ට කීසේක 47. උන්වහන්සේ දවස් පතා දේව මාලිගාවේ ඉගැන්වූසේක. එවිට නායක පූජකයෝද ලියන්නෝද ජනයන්ගේ ප්‍රධානිද, උන්වහන්සේ 48. මරන්ට සොයා, සියළු සෙනග උන්වහන්සේගේ වචන ඕනෑකමින් ඇහූ බැවින්, උන්වහන්සේට කිසි දෙයක් කරන්ට නොහැකිවූවෝය.

20. පරිච්ඡේ. උන්වහන්සේ, ඒ දවස්වලින් එකක, දේවමාලිගාවේ සෙනගට උගන්වමින්, සුභාරංචිය ප්‍රකාසකරමින් සිටිකල, නායක පූජකයෝද ලියන්නෝද වැඩිමහල්ලන් සමග උන්වහන්සේ ළඟට 2. පැමින, "මොන බලයකින් මෙසේ කරන්නේද, නොහොත් මේ බලය නුබට දුන්නේ කවුදැයි, අපට කියාපන්නැයි" උන්වහන්සේට කීවෝය. 3. උන්වහන්සේ උත්තර දෙමින් "මමත් නුබලාගෙන් එකක් අසමි, 4. ඒක මට කියාපල්ලාය; යොහන් කල බව්තීස්මය වූයේ ස්වර්ගයෙන්ද නොහොත් මනුෂ්‍යයන් 5. ගෙන්දැයි" ඇහූසේක. එවිට ඔවුන් තමතමන් අතරෙහි කථාකරමින්, "ස්වර්ගයෙනැයි කීවූනම්, නුබලා ඔහු අදහනොගත්තේ මක් 6. නිසාදැයි කියනවා ඇත. මනුෂ්‍යයන්ගෙනැයි කීවූනම්, යොහන් අනාගතවක්තෘ කෙනෙකැයි සැබෑවට ගෙන සිටි සියළු සෙනග අපට ගල් 7. ගසතියි" කියා, "කොයින් වූනාදැයි අපි දන්නේ නැතැයි" උත්තර 8. දුන්නෝය. එවිට යේසුස්වහන්සේ, "මමත් අසවල් බලයෙන් මේ දේ කෙරෙමියි නුබලාට නොකියමියි" ඔවුන්ට කීසේක.

9. එවිට උන්වහන්සේ සෙනගට මේ උපමාව කියන්නට පටන්ගෙන, "එක් පුරුෂයෙක් මිදි වත්තක් වවා ගොයින්ට බදු දී, බොහෝ කලකට 10. දුර රටකට ගියේය. ඵල අවසාන වෙයිදී, මිදි වත්තේ ඵල කොටස ගන්ට ගොයින් ලඟට වැඩකාරයෙක් යැවීය. එහෙත් ගොවිහූ ඔහුට තලා, 11. හිස් අතින් ඇරියෝය. පසුව ඔහු අනික් වැඩකාරයෙක් යැවීය. ඔවුන් ඔහුටද තලා, නින්දාකොට, 12. හිස් අතින් ඇරියෝය. නැවතද ඔහු තුන්වෙනියෙක් යැවීය. ඔවුන් ඔහුටද තුවාලකොට, පිටත දැමූ 13. යෝය. එවිට මිදි වත්තේ ස්වාමියා 'මම මක්කරම්ද? මාගේ ප්‍රිය පුත්‍රයා යවමි; සමහරවිට ඔහු දැක 14. ගෞරව කරතියි' කීයේය. නුමුත් ගොවිහූ ඔහු දැක තමතමන් අතරෙහි කථාකොට, 'මේ උරුමක්කාරයාය; උරුමය අපට වෙන පිනිස මොහු මර 15. මුයයි' කියා, ඔහු මිදි වත්තෙන් පිටත ලා මැරුවෝය. එහෙයින් මිදිවත්තේ ස්වාමියා ඔවුන්ට කුමක් 16. කරන්නේද? ඔහු ඇවිත් ඒ ගොවීන් නාසා, මිදි වත්ත වෙන අය වලට දෙනෙන්යයි" කීසේක. ඔවුන් ඒ අසා "එසේ නොවේවයි" කීවෝ 17. ය. උන්වහන්සේ ඔවුන් දෙස බලා, "එසේනම්, 'ගෙවල් සාදන්නන් විසින් එපාකරනලද ගලම කොනේ ප්‍රධාන ගල වූයේයයි 18. ලියනලද්දේ කුමක්ද? ඒ ගල පිට යමෙක් වැටුනොත්, ඔහු කැබලිවෙයි; යමෙක් පිට ඒ ගල වැටුනොත්, එයින් ඔහු සුනුකරනු ලබන් 19. නේයයි" කීසේක. එවලේම නායක පූජකයෝද ලියන්නෝද මේ උපමාව ඔවුන්ට විරුඬව උන්වී

හන්සේ කී බව දැන, උන්වහන්සේ
අල්ලන්නට සෙව්වෝය; නුමුත් සෙ
නඟට භයවූණෝය.

20. තවද නපුරු අදහසින් බලා
සිටින්නාවූ ඔවුන්, උන්වහන්සේගේ
වචනයෙන් උන්වහන්සේ අල්වා
ගෙන, ආඩුවටද අධිපතියාගේ බල
යටද උන්වහන්සේ පාවාදෙන පිනිස,
තමන් ධර්මිෂ්ඨයෝයයි හඟවන්නාවූ
21. චරපුරුෂයන් යැව්වෝය. එවිට
ඔවුන් "ආචාරිනි, ඔබවහන්සේ යුතු
ප්‍රකාර කියමින් උගන්වන බවත්,
මනුෂ්‍යයන්ගේ තරාතිරම් නොබලා
සැබෑ ලෙස දෙවියන්වහන්සේගේ
මාර්ග උගන්වන බවත් දනිමුව.
22. එබැවින් අප විසින් කායිසර්ට
අඩයම් දීම යුතුද අයුතුදැයි" උන්ව
23. හන්සේගෙන් ඇසුවෝය. උන්ව
හන්සේ ඔවුන්ගේ දුෂ්ටකම දැන, "මා
පරීක්ෂා කරන්නේ මක්නිසාද; මට
24. විලයක් පෙන්වාපල්ලාය; මෙහි
කොටනලද රූපයත් නමත් කාගේ
දැයි" ඔවුන්ගෙන් ඇසූසේක. ඔවුන්
උත්තරදෙමින්, "කායිසර්ගේයයි"කී
25. වෝය. "එසේවීනම් කායිසර්ගේ
දේ කායිසර්ටද, දෙවියන්වහන්සේ
ගේ දේ දෙවියන්වහන්සේටද දීපල්
ලායයි" උන්වහන්සේ ඔවුන්ට කී
26. සේක. ඔවුන් සෙනඟ ඉදිරියෙ
හිදී උන්වහන්සේගේ වචන අල්ලන්
ට බැරිව, උන්වහන්සේගේ උත්තර
යට පුදුමව, කථානොකර සිටියෝය.
27. එවිට මළවුන්ගෙන් නැඟිටීමක්
නැතැයි කියන සද්දුසිවරුන්ගෙන්
සමහරෙක්, උන්වහන්සේ ළඟට
පැමිණ, උන්වහන්සේගෙන් ප්‍රශ්ණ
28. යක් අසමින්, "ආචාරිනි, භාර්යාව
ඇති යමෙක් දරුවෙක් නොලැබ
මළොත්, ඔහුගේ සහෝදරයා විසින්
මළාහුගේ භාර්යාව පාවාගෙන, තමා
ගේ සහෝදරයාගේ නමට දරුවෙක්
උපදවන්ට යුතුයයි, මෝසෙස් විසින්
29. අපට ලියා තිබෙයි. සහෝදර
යෝ සත් දෙනෙක් සිටියෝය; පළ
මුවෙනියා භාර්යාවක් සරන පාවා
ගෙන, දරුවෙක් නොලැබ, මැරු
30. ණේය. දෙවෙනියාත් ඒ ස්ත්‍රිය
සරන පාවාගෙන, දරුවෙක් නො
31. ලැබ මැරුණේය. තුන්වෙනියාත්
ඈ සරන පාවාගත්තේය; සත්දෙ
නාම එසේම ඈ සරන පාවාගෙන,
දරුවෙක් නොලැබ මැරුණෝය.
32. සියල්ලන්ට පසු ඒ ස්ත්‍රීත් මළාය;
33. එබැවින් මළවුන්ගේ නැඟිටීමේ
දී ඈ කාගේ භාර්යාව වන්නීද? මක්
නිසාද සත්දෙනම ඈ සරන පාවා
34. ගත්තෝයයි" කීවෝය. යේසුස්
වහන්සේ උත්තරදෙමින් "මෙලො
ව දරුවෝ සරන පාවාගනිති, සරන
35. පාවා දෙති. නුමුත්, පරලොවද
මළවුන්ගේ නැඟිටීමද ලැබිය සුදුස්
සෝයයි නියමකරණු ලැබූවෝ සරන
පාවා නොගනිති, සරන පාවා නො
36. දෙති. ඔවුන් නැවත මරනයට
නොපැමිණ, දේවදූතයන් හා සමාන
ව, මළවුන්ගෙන් නැඟිටීමෙහි පුත්‍ර
යෝ බැවින් දෙවියන්වහන්සේගේ
37. පුත්‍රයෝ වෙති; තවද මෝසෙස් ප
දුර ළඟදී, 'ස්වාමීන්වහන්සේ ආබ්‍රහම්
ගේ දෙවියන්වහන්සේය, ඊසාක්ගේ
දෙවියන්වහන්සේය, යාකොබ්ගේ
දෙවියන්වහන්සේයයි' කීමෙන්, මළ
වුන් නැඟිටින බව හැඟෙව්වේය.
38. මක්නිසාද දෙවියන්වහන්සේ ජී
වත්වනනාවුන්ගේ දෙවියන්වහන්සේ
මිස, මළවුන්ගේ දෙවියන්වහන්
සේ නොවේය. සියල්ලෝම උන්
වහන්සේ ඉදිරියෙහි ජීවත්වෙතියි"
39. කීසේක. එවිට ලියන්නන්
ගෙන් සමහරෙක් උත්තරදෙමින්,
"ආචාරිනි, ඔබවහන්සේ කීවා යහප
40. තැයි" කීවෝය. එයින් පසු, කිසි
ප්‍රශ්ණයක් උන්වහන්සේගෙන් අහන්
නට කිසිවෙක් ධෛර්ය ඇතිව නො
සිටියෝය.

41. එවිට උන්වහන්සේ ඔවුන්ට

කියනසේක් "ක්‍රිස්තුස් දාවිත්ගේ
42. පුත්‍රයයි කියන්නේ කෙසේද?
මම තුඹේ සතුරන් තුඹේ පාපුටුව ක
43. රනතුරු, මාගේ දකුණු පැත්
තේ හිඳින්නැයි ස්වාමීන්වහන්සේ
මාගේ ස්වාමීන්වහන්සේට කීසේකැයි
දාවිත්ම ගීතිකා පොතෙහි කියේය.
44. එහෙයින් දාවිත් උන්වහන්සේට
ස්වාමීන්වහන්සේයයි කියන්නේනම්,
උන්වහන්සේ ඔහුගේ පුත්‍රවන්නේ
45. කොහොමදැයි" කීසේක. එවිට
උන්වහන්සේ සියළු සෙනග අසමින්
සිටිද්දී, තමන් ගෝලයන්ට කියන
46. සේක්, "දිග වස්ත්‍ර හැඳ ඇවිදින්ට
කැමතිවූ, කඩපිල්වලදී ආචාර ලැබී
මටද සිනගෝගවලදී උතුම් ආසන
වලටද මංගල්‍යවලදී උත්තම ස්ථාන
47. වලටද කැමතිවූ, වැන්දඹුවන්ගේ
ගෙවල් කොල්ලකනනාවූ, වංචා
පිනිස දීඝ යාඥා කරනනාවූ ලියන්
නන්ගෙන් ප්‍රවේසම්වෙල්ලාය. ඔ
වුන් බලවත් අච්චුවට පැමිණෙනවා
ඇතැයි" කීසේක.

21. පරිච්. තමන්ගේ පඬුරු මු
දල් ගබඩාවෙහි දමන වස්තුකාරයන්
2. උන්වහන්සේ බලාසිට, සල්ලි දෙ
කක් එහි දමන දිළිඳුවූ වැන්දඹුවක්
3. දැක, "සැබවක් තුඹලාට කියමි,
මේ දිළිඳු වැන්දඹුව සියල්ලන්ට වඩා
4. දැමුවාය. මක්නිසාද, මේ සියල්ලෝ
ම තමතමන්ගේ ඉතුරුවෙන වස්තු
වෙන් දෙවියන්වහන්සේට පඬුරු දැමු
වෝය; තුමුත් මැ තමාගේ දිළිඳු
කමින් මැට රක්ෂාවට තිබුණු සියල්
ලම දැමුවායයි" කීසේක.
5. ඉන්පසු, "ලක්ෂන ගල්වලින්ද
පඬුරුවලින්ද කෙසේ අලංකාර කර
නලදදැයි" දේවමාලිගාව ගැන සම
6. හරෙක් කියමින් සිටි කල්හි, "තු
බලා දකින්නාවූ මේ දේවලින් ගලක්
පිට ගලක් නොතිබෙන්ට කඩා
හෙළන දවස් පැමිණෙනවා ඇතැයි"
7. කීසේක. ඔවුහු, "ආචාරීනි, මේ
කාරණ කොයි කලෙක පැමිණෙන්
නේද? මේ කාරණ පැමිණෙන කාල
යෙහි ලකුන කිමෙක්දැයි?" උන්ව
8. හන්සේගෙන් ඇසුවෝය. උන්ව
හන්සේ කියනසේක්, "මුලාකරනු
නොලබන්ට බලාගනිල්ලාය. මක්
නිසාද, බොහෝ දෙන මාගේ නාම
යෙන් ඇවිත්, 'මම ක්‍රිස්තුස්ය; කාලය
ලංවියයි' කියනවා ඇත. ඔවුන් පස්
9. සේ නොයල්ලාය. එහෙත් යුඬ
සහ කැලඹීම්වල් ගැන තුඹලා අසන
කල, භය නොවෙල්ලාය. එවා පලමු
වෙන් වෙන්නට ඕනැය; නුමුත්
කෙලවර එවලේම නොපැමිණේයයි"
10. කීසේක. තවද උන්වහන්සේ
ඔවුන්ට කියනසේක්, "ජාතිය ජාතිය
ටද, රාජ්‍යය රාජ්‍යයටද විරුඬව නැගි
11. ටිනවා ඇත. නොයෙක් තැන්වල
මහත් භූමිකම්පාද දුර්භික්ෂද වසං
ගත රෝගද වෙනවාඇත. අහසින්
භයංකාර දැකීම්වල්ද මහත්වූ ලකු
12. ණුද වෙනවා ඇත. ඒ සියල්ලට
පලමුවෙන්, මාගේ නාමය නිසා
ඔවුන් තුඹලා අල්වා හිංසාකොට,
සිනගෝගවලටද හිරගෙවලටද පා
වා දෙති. තුඹලා රජුන්ගේද මුලා
දෑනීන්ගේද ඉදිරියට ගෙනයනු ලබ
13. ති. ඒ කාරනා තුඹලාට සාක්ෂි
14. පිනිස වන්නේය. එබැවින් 'කිය
යුතු කිමෙක්දැයි' පලමුකොට කල්
පනා නොකරන්ට තුඹලාගේ සිත්
15. වල තබාගනිල්ලාය. මක්නිසාද,
සියළු එදිරිකාරයන් විසින් තුඹලාට
විරුඬව කථාකරන්ටවත් විරුඬව
සිටින්ටවත් බැරිවූ මුඛයද ප්‍රඥාවද
16. තුඹලාට දෙන්නෙමි. මව්පියන්
විසින්ද සහෝදරයන් විසින්ද නෑදෑ
මිත්‍රයන් විසින්ද තුඹලා පාවාදෙනු
ලබනවා ඇත. ඔවුන් තුඹලාගෙන්
සමහරෙක් මරනට පත්කරවනවා
17. ඇත. මාගේ නාමය නිසා සියල්
ලෝම තුඹලාට වෛර වෙනවා ඇත.

18. නුඹුත් නුඹලාගේ ඉසකෙසක්
19. වත් විනාශ නොවන්නේය. ඉව
සීමෙන් නුඹලාගේ ප්‍රානවල් රක්
20. ෂාකරගනිල්ලාය. යම් කලක
සේනාවන් විසින් යෙරුසලම වටකර
නු ලබනවා නුඹලා දකිද්දද, එකල එහි
විනාසය කිට්ටුයයි දැනගනිල්ලාය.
21. එවිට යුදයෙහි සිටින්නෝ කඳු
වලට පලා යත්වා. එහි මැද සිටින්
නෝ පිටතට යත්වා. පිට රටවල
සිටින්නෝ එහි ඇතුල් නොවෙත්වා.
22. මක්නිසාද, ලියනලද සියල්ල සම්
පූර්ණවෙන පිනිස, ඒ දවස් පලිගැ
23. නීමේ දවස් වෙනවා ඇත. නුඹුත්
රටෙහි මහත් විපත්තියද මේ සෙන
ගට උදහසද වන බැවින්, ඒ දවස්
වලදී ගර්භිනීන්ටද කිරි පොවන
24. සත්‍රීන්ටද දුක් වන්නේය. තවද
ඔවුන් කඩුමුවහතින් වැටෙති; සියළු
රටවලට වාල්කමට ගෙනයනු ලබති.
අන්‍යජාතීන්ගේ කාලවල් සම්පූ
ර්ණවෙන තුරු, යෙරුසලම අන්‍ය
ජාතීන් විසින් මැඩපවත්වනු ලබන්
25. නේය. ඉර සඳ තාරකාවල්වල
ලකුනුද, පොලොවෙහි මිනිසුන්ට
සාංකා සහිතව විපත්තියද, මුදේ
කුනාටුවේ ඝෝෂාවද වන්නේය.
26. අහසේ බලපරාක්‍රමද සෙලවෙන
බැවින්, පොලොවට පැමිනෙන්නාවූ
දේ බලන්නාවූ මනුෂ්‍යයන්ගේ හිත්
27. භයින් මලානිකවන්නේය. එක
ල ඔවුන්, බලයෙන්ද මහත්වූ තේජ
සින්ද වලාකුලෙන් එන්නාවූ මනුෂ්‍ය
28. පුත්‍රයා දකිනවා ඇත. මේ දේ
පැමිනෙන්නට පටන්ගන්නා කල්හි,
උඩබලා, හිස ඔසවාපල්ලාය; නුඹ
ලාගේ මිදීම ලංවන්නේයයි" කී
සේක.

29. උන්වහන්සේ එක් උපමාවක්
ඔවුන්ට කියනසේක්, "දිඹුල් ගහද
30. සියළු ගස්ද බලාපල්ලාය. ඒවා
දළු ලනවිට, ඒදැක ග්‍රීෂ්ම කාලය
31. ලඟයයි නුඹලාම දනිති. එලෙ
සම මේ දේ පැමිනෙන බව දකින
කල, දෙවියන්වහන්සේගේ රාජ්‍යය
32. ලඟයයි දැනගනිල්ලාය. සැබවක්
නුඹලාට කියමි, සියල්ල සිඩවෙන
තුරු මේ මනුෂ්‍ය වර්ගය නැතිවෙන්
33. නේ නැත. අහසත් පොලොවත්
නැතිවන්නේය. නුඹුත් මාගේ වචන
නැතිවෙන්නේ නැත.

34. නුඹලා බලා නොසිටින වේලා
වක ඒ දවස නුඹලාට නොපැමි
නෙන පිනිස, පමන නොදුන
කෑමෙන්ද මත්විමෙන්ද මෙලොව
සිතිවිලිවලින්ද ප්‍රමාද නොවෙන්ට
35. ප්‍රවේසම් වෙයල්ලාය. මුළු පො
ලොවෙහි වසන්නාවූ සියල්ලන්ට
උගුලක් මෙන් ඒ දවස පැමිනෙන්
36. නේය. එබැවින්, ඒ පැමිනෙන
සියල්ලෙන් ගැලවෙන්ටද, මනුෂ්‍ය
පුත්‍රයාගේ ඉදිරියෙහි සිටින්ටද,
නුඹලා සුදුස්සෝයයි නියමකරණු
ලබන පිනිස, නිතරම යාඥාකරමින්,
අවදිව හිඳිල්ලායයි" කීසේක.

37. උන්වහන්සේ දවහල් දේවමා
ලිගාවේ උගන්වමින් සිට, රාත්‍රිගේ
පිටත්ව ඔලිව කන්දට ගොස් විසූ
38. සේක. සියළු සෙනගද උන්වහන්
සේගේ වචන අහන්ට, අළුයම්
වේලෙහි දේවමාලිගාවේ වැඩඋන්
නාවූ උන්වහන්සේ වෙතට ආවෝය.

22. පරිච්ඡේ. පාස්කුව නම්වූ
මුහුන් නොදැමූ රොටි මංගල්‍යය
2. ලංවිය. එවිට නායක පූජකයෝද
ලියනෙනෝද සෙනගට භයවූ බැවින්,
උන්වහන්සේ නසන්නේ කෙසේදැයි
3. සෙව්වෝය. එවිට දෙලොස් දෙ
නාගෙන් එකෙක්වූ ඉස්කාරියොත්
නම් යූදස්ගේ හිතට සාතන් වැනු
4. නේය. ඔහු ගොස්, උන්වහන්සේ
පාවාදෙන අන්දම ගැන නායක
පූජකයන් සහ මූලාදෑනීන් සමග
5. මන්ත්‍රනය කලේය. ඔවුන්ද ඊට
සන්තෝසව, ඔහුට මිල දෙන්ට

6. පොරොන්දුවූනෝය. ඔහු ගිවිසුම්
කොට, සමූහයා ලඟ නැතිවිටක
උන්වහන්සේ ඔවුන්ට පාවාදෙන්
නට ප්‍රස්ථාවක් සෙව්වේය.
7. මුහුන් නොදැමූ රොටි මංගල්‍ය
යෙහි, පාස්කු බැටළු පැටවා මරන්ට
8. යුතුවූ දවස පැමිනුනේය. එවිට
උන්වහන්සේ පේතෘස්ද යොහන්ද
යවමින්, "තුඹලා ගොස්, අපට
කන්නට පාස්කු මංගල්‍යය පිළියෙල
9. කරපල්ලායයි" කීසේක. ඔවුහු,
"කොතන පිළියෙලකරනවාට කැම
තිදැයි" උන්වහන්සේගෙන් ඇසූ
10. වෝය. උන්වහන්සේ ඔවුන්ට
කියනසේක්, "තුඹලා නුවරට ඇතුල්
වූවිට, මිනිහෙක් වතුර කලයක් අර
ගෙන තුඹලා ඉදිරියට එන්නේය.
11. ඔහු යම් ගෙයකට ඇතුල්වේද,
ඒ ගෙට ඔහු කැටුව ගොස්, 'මම
මාගේ ගෝලයන් සමග පාස්කු
මංගල්‍යය කන්නට සුදුසු ආගන්තුක
සාලාව කොතැන්හිදැයි ආචාරින්ව
හන්සේ අසනසේකැයි' ඒ ගෙයි
12. ස්වාමියාට කියාපල්ලාය. එවිට
ඔහු සරහා තිබෙන මහත් උඩුමහ
ලක් තුඹලාට පෙන්වන්නේය; එහි
පිළියෙල කරපල්ලායයි" කීසේක.
13. ඔවුන්ද ගොස්, උන්වහන්සේ
තමන්ට කී ලෙස දැක, පාස්කු මංග
ල්‍යය පිළියෙල කලෝය.
14. වේලාව පැමිනිකල, උන්ව
හන්සේ ප්‍රේරිතයන් දොලොස්දෙනා
සමග වැඩහිඳ ඔවුන්ට කියනසේක්,
15. "මම වධවිඳීමට පලමුවෙන්,
මේ පාස්කු මංගල්‍යය තුඹලා සමග
කන්නට අතිසෙයින් කැමතිවීමි.
16. මක්නිසාද තුඹලාට මම කියමි,
දෙවියන්වහන්සේගේ රාජ්‍යයෙහිදී
ඒක සම්පූර්ණවෙනතුරු, මෙතැන්
පටන් මෙයින් නොකමියි" කීසේක.
17. උන්වහන්සේද කුසලාන ගෙන
ස්තුතිකොට, "මේක ගෙන තුඹලා
18. අතරේ බෙදාගනිල්ලාය. මක්නි
සාද තුඹලාට කියමි, දෙවියන්වහන්
සේගේ රාජ්‍යය එනතුරු, මේ මිද්‍රික
ඵලරසයෙන් නොබොමියි" කීසේක.
19. තවද රොටි ගෙන, ස්තුතිකො
ට කඩා ඔවුන්ට දෙමින්, "තුඹ
ලා නිසා දෙනලද මාගේ ශරීරය
මේය. මා සිහිවීමට මේක කරපල්ලා
20. යයි" කීසේක. එලෙසම රාත්‍රි
භෝජනයෙන් පසු ඔවුන්ට කුසලාන
දී, "මේ කුසලාන තුඹලා නිසා වැගි
රවූ මාගේ ලෙයින් පිහිටුවනලද
21. අළුත් ගිවිසීමය. තවද මා පාවා
දෙන්නාගේ අත මා සමග මේස
22. යේය. ඒකාන්තයෙන්ම මනුෂ්‍ය
පුත්‍රයා නියමවූ ලෙස යන්නේය.
නුමුත් ඔහු පාවාදෙන්නාට දුක්වන්
23. නේයයි" කීසේක. එවිට ඔවුන්
ගෙන් කවරෙක් ඒක කරන්නේදැයි,
තමන් අතරෙහි අහන්නට පටන්
24. ගත්තෝය. තවද, ඔවුන්ගෙන්
කවරෙක් උතුම් වන්නේදැයි, ඔවු
නොවුන් අතරෙහි වාදයක් හටගත්
25. තේය. උන්වහන්සේද ඔවුන්ට
කියනසේක්, "අන්‍යජාතීන්ගේ රජ
දරුවෝ ඔවුන් කෙරෙහි අධිපතිකම්
කරති; ඔවුන්ගේ මූලාදෑනි උපකාර
26. කරන්නෝයයි කියනු ලබති. නු
මුත් තුඹලා අතරෙහි එසේ නොවිය
යුතුය. තුඹලාගෙන් උතුම් කෙනෙක්
බාලයෙක් මෙන්ද, ප්‍රධාන කෙනෙක්
27. සේවකයෙක් මෙන්ද වේවා. කෑ
මට හිඳින තැනැත්තාගෙනුත් වැඩ
කරන තැනැත්තාගෙනුත් උතුම් කවු
ද? කෑමට හිඳින තැනැත්තා නොවේ
ද? නුමුත් මම තුඹලා අතරේ වැඩක
28. රන්නෙක් මෙන් වෙමි. මාගේ
පරීක්ෂාවලදී මා සමග සිටියෝ තුඹ
29. ලාමය. මාගේ පියානන්වහන්
සේ විසින් මට රාජ්‍යයක් නියමක
ලාක්මෙන්ම, මාගේ රාජ්‍යයේදී මා
30. ගේ මේසයේ කන්ටද බොන්
ටද, ඊශ්‍රායෙල්ගේ ගෝත්‍ර දො
ලොස විනිශ්චයකරමින් සිංහාසනවල

සිඳින්වද, නුඹලා නියමකරව්යි" කී
31. සේක. තවද ස්වාමින්වහන්සේ, කි
යනසේක් "සීමොන්, සීමොන්, නුඹ
ලා ගෝධුමමෙන් පොලන්ට සාතන්
32. අවසර ලැබුයේය. නුමුත් මම, නු
ඹේ ඇදහීම නැතිනොවෙන ලෙස,
නුඹ උදෙසා යාඥාකෙලෙම්. නුඹ හැ
රුන කල, නුඹේ සහෝදරයන්ද සවි
33. කරපන්නැයි" කීසේක. ඔහුද,
"ස්වාමිනි, ඔබවහන්සේ සමග හිර
ගෙටත් මරනයටත් යන්නට සෑදී සිටි
34. මියි" උන්වහන්සේට කීය. උන්
වහන්සේද, "පේතෘස්, නුඹට මම
කියමි, අද කුකුලා අඬලන්ට පලමු
වෙන්, නුඹ තුන් වරක්ම 'ඔහු අඳු
නන්නේ නැතැයි' මා ගැන කිය
35. නවා ඇතැයි" කීසේක. එවිට
උන්වහන්සේ, "මුදල් පසියද පසුම්
යද වහන්සගලද නැතුව මම නුඹලා
හැරියා කල, කිසිවක් නුඹලාට හිඟවී
දැයි" ඔවුන්ගෙන් ඇහුසේක. ඔවුන්
"මොකවත් හිඟවුනේ නැතැයි"
36. කීවෝය. උන්වහන්සේ ඔවුන්ට
කියනසේක්, "දැන් මුදල් පසියක්
ඇත්තෙක් ඒක ගනිවා; පසුම්යද
එසේමය. කඩුවක් නැත්තා තමාගේ
පොරවනා රෙද්දවත් විකුන කඩු
37. වක් ගනිවා; මක්නිසාද නුඹ
ලාට කියමි, 'ඔහු වරදකාරයන් සමග
ගනන් ගන්නාලදැයි' ලියාතිබෙන
මේ දේ මා කෙරෙහි සම්පූර්ණ
වෙන්ට ඕනෑය. මා ගැන ලියනලද
දේ ඉෂ්ටවීමට පැමිනෙන්නේයයි"
38. කීසේක. ඔවුන්ද, "ස්වාමිනි,
කඩු දෙකක් මෙහි ඇත්තේයයි"
කීවෝය. උන්වහන්සේද "ඇතැයි"
ඔවුන්ට කීසේක.

39. එවිට උන්වහන්සේ පිටත්ව,
පුරුදු ලෙස ඕලිව කන්දට ගියසේක.
උන්වහන්සේගේ ගෝලයෝද උන්
40. වහන්සේ කැටුව ගියෝය. උන්
වහන්සේ එහි සිටිකල, "පරීක්ෂාවට
නොපැමිනෙන්ට යාඥාකරපල්ලා
41. යයි" ඔවුන්ට කීසේක. උන්ව
හන්සේද ගලක් ගසන පමන දුර
ඔවුන්ගෙන් අහක්ව ගොස්, දනින්
42. හිඳ යාඥාකරමින්, "පියානන්ව
හන්ස, ඔබවහන්සේ කැමතිසේක්
නම්, මේ කුසලාන මගෙන් අහක්
කලමැනාව. එසේ නුමුත් මාගේ
කැමැත්ත නොව, ඔබවහන්සේගේ
43. කැමැත්ත වේවයි" කීසේක. ස්ව
ර්ගයෙන් දේවදූතයෙක් උන්වහන්
සේට පෙනී, උන්වහන්සේ ස්ථිරකෙ
44. ලේය. උන්වහන්සේ මහත්
වේදනා විඳිමින්, බොහෝ උත්සාහ
යෙන් යාඥාකලසේක. උන්වහන්
සේගේ ඩාදිය මහත් ලේ බිඳු වාගේ
45. බිම වැටුනේය. උන්වහන්සේ
යාඥාවෙන් නැගිට, තමන් ගෝල
යන් ලඟට ගොස්, සෝකයෙන් නිද
46. නාවූ ඔවුන් දැක, "නිදන්
නේ මක්නිසාද? පරීක්ෂාවට නොපැ
මිනෙන පිනිස නැගිට යාඥාකරපල්
ලායයි" ඔවුන්ට කීසේක.

47. උන්වහන්සේ කථාකරමින්
සිටිද්දීම සමූහයක් ආයේය. දොලොස්
දෙනාගෙන් එකෙක් වන යූදස්ද
ඔවුන්ට ඉස්සරව ඇවිත්, යේසුස්ව
හන්සේ සිඹින පිනිස උන්වහන්සේට
48. ලන්විය. යේසුස්වහන්සේද,
"යූදස්, නුඹ සිඹීමකින් මනුෂ්‍ය පුත්‍රයා
පාවාදෙන්නේදැයි" ඔහුට කීසේක.
49. උන්වහන්සේ වටකර සිටියෝ
පැමිනෙන දේ දැක, "ස්වාමිනි, කඩු
වෙන් ගසමුදැයි" උන්වහන්සේගෙන්
50. ඇසුවෝය. ඔවුන්ගෙන් එකෙක්
නායක පූජකයාගේ වැඩකාරයාට
ගසා, ඔහුගේ දකුනු කන කපාදැමු
51. වේය. යේසුස්වහන්සේ උත්තර
දෙමින්, "මෙපමන ඇත" කියා,
ඔහුගේ කන අතගා, ඔහුට සුවකල
52. සේක. ඉන්පසු, යේසුස්වහන්සේ
තමන් ලඟට ආවාවූ නායක පූජක
යන්ටද දේවමාලිගාව රකිනනන්ගේ
මූලාදෑනින්ටද වැඩිමහල්ලන්ටද

කියනසේක්, "තුබලා සොරෙක්
අල්ලන්ට මෙන්, කඩු මුගුරු අර
53. ගෙන පිටත්ව ආවෝද? දවස්
පතා දේවමාලිගාවේ තුබලා සමග
මම සිටිද්දී, තුබලා මට විරුඬව
අත් දිගුකලේ නැත. නුමුත් දැන්
තුබලාගේ ප්‍රස්ථාවද අන්ධකාරයාගේ
බලයද වේයයි" කීසේක.

54. එවිට ඔවුන් උන්වහන්සේ
අල්ලා, නායක පූජකයාගේ ගෙදරට
ගෙනගියෝය. පේතෘස්ද දුරින් පස්
55. සේ ගියේය. ඔවුන් සාලාව මැද
ගිනි පත්තුකොට, එකතුව හුන්
කල, පේතෘස් ඔවුන් අතරේ උන්
56. නේය. දාසියෙක් ගිනි ලඟ හුන්
ඔහු දැක, හොඳට බලා, "මොහුද
ඔහු සමග සිටියේයයි" කීවාය.
57. ඔහුද "ස්ත්‍රිය, මම ඔහු නාඳුන
58. මියි" කීයේය. ස්වල්ප වේලාවකට
පසු වෙන එකෙක් ඔහු දැක, "තුබත්
ඔවුන්ගෙන් එකෙකැයි" කීයේය.
පේතෘස්ද "මනුෂ්‍යය, ඒ මම නොවෙ
59. මියි" කීයේය. පැයකට පමන
පසු, වෙන එකෙක් "සැබෑවටම
මොහු ඔහු සමග සිටියේය; මොහු
ගලිලයෙකැයි" ස්ථිරකොටම කීයේ
60. ය. පේතෘස්ද "මනුෂ්‍යය, තුබ
මක් කියනවාදැයි නොදනිමියි"
කීයේය. ඔහු කථාකරමින් සිටි
61. වේලේම කුකුලා හඬලීය. එවිට
ස්වාමින්වහන්සේ හැරී පේතෘස් දෙස
බැළූසේක. පේතෘස්ද "කුකුලා හඬ
ලන්ට පලමුවෙන්, ඔහු නාඳුනමියි
තුබ මා ගැන තුන් වරක් කියන්නෙ
යයි" ස්වාමින්වහන්සේ විසින් ඔහුට
62. කියනලද වචනය සිහිව, පිටත
ගොස් බලවත් දුකින් හැඬුයේය.
63. එකල යේසුස්වහන්සේ අල්ලා
ගෙන සිටි මනුෂ්‍යයෝ උන්වහන්
64. සේට නින්දාකොට, පහර දී, උන්
වහන්සේගේ ඇස් වසා උන්වහන්
සේගේ මූනට ගසා, "කවුරු තට
පහර දුන්නේදැයි දිවසින් කියව"
65. කියා, වෙනත් බොහෝ කාරනා
වලින් උන්වහන්සේට අපහාසකොට
කීවෝය.

66. පහන්වූකල, සෙනගගේ වැඩි
මහල්ලෝද නායක පූජකයෝද
ලියන්නෝද එකතුව, තමන්ගේ
සභාවට උන්වහන්සේ ගෙනගොස්,
67. "තුබ ක්‍රිස්තුස්දැයි අපට කියා
පන්නැයි" කීවෝය. උන්වහන්සේද
"තුබලාට මම කීවත් තුබලා අදහ
68. නොගනිති. තවද තුබලාගෙන්
මම ඇසුවොත්, තුබලා මට උත්තර
දෙන්නේ නැත; යන්ට අරින්නෙත්
69. නැත. මින් මතු මනුෂ්‍ය පුත්‍රයා
දෙවියන්වහන්සේගේ පරාක්‍රමයාගේ
දකුනු පැත්තේ හිඳිනවා ඇතැයි"
70. කීසේක. එවිට ඔවුන් සියල්
ලෝම, "එසේවීනම්, තුබ දෙවියන්
වහන්සේගේ පුත්‍රදැයි" ඇසුවෝය.
"තුබලාම ඇත්ත කියති; ඒ මම
71. යයි" කීසේක. ඔවුන්ද "මොහු
ගේ කටින්ම කියනවා අපි ඇසූ
බැවින්, වෙන සාක්ෂියකින් අපට
කම මොකදැයි" කීවෝය.

23. පරිච්ඡේ. එවිට සියළු සමූහ
යාම නැගිට, උන්වහන්සේ පිලාත්
2. ලඟට ගෙනගොස්, උන්වහන්සේට
වැරදි තබන්ට පටන්ගෙන, "මො
හු සෙනග මුලාකරන බවද, තමාම
ක්‍රිස්තුස් රජයයි කියා කායිසර්ට
අඬයම නොදෙවියයි කියන බවද,
3. අපි දැනගතිමුයයි" කීවෝය. එවිට
පිලාත්, "තුබ යුදෙව්වන්ගේ රජ
දැයි" උන්වහන්සේගෙන් ඇසුයේය.
උන්වහන්සේද ඔහුට උත්තර දෙ
මින්, "තුබම කියන්නේයයි" කීසේ
4. ක. එවිට පිලාත් නායක පූජක
යන්ටද සමූහයාටද, "මේ මනුෂ්‍යයා
කෙරෙහි කිසි වරදක් මට පෙනෙන්
5. නේ නැතැයි" කීයේය. ඔවුන්ද
"මොහු ගලිලයේ පටන් මෙතැන්
දක්වා යුදය මුළුල්ලේ උගන්වමින්,

සෙනග කැරළිගස්වන්නේයයි” වඩ
6. වඩා කීවෝය. පිලාත්ද ගලිලය
යන්නු අසා, “මේ මනුෂ්‍යයා ගලිල
7. යෙක්දැයි” විචාරා, උන්වහන්සේ
හෙරොද්ගේ ආඥුවට යටත්වූ දේස
යෙහි කෙනෙක් බව දැන, එවකට
යෙරුසලමේ සිටියාවූ හෙරොද් ලඟට
උන්වහන්සේ යැවීය

8. හෙරොද් යේසුස්වහන්සේ දැක
ඉතා සන්තෝසවූයේය. මක්නිසාද,
උන්වහන්සේ ගැන බොහෝ කාරනා
ඇසූ බැවින්, බොහෝ කලක සිට
උන්වහන්සේ දකින්ට කැමතිවූයේය.
උන්වහන්සේ විසින් කරන යම් පුදු
මයක් දකින්ටද, ඔහු බලාපොරොත්
9. තුවූයේය. එබැවින් බොහෝ
වචන උන්වහන්සේගෙන් ඇසූයේය.
නුමුත් උන්වහන්සේ කිසි උත්තර
10. යක් ඔහුට දුන්නේ නැත. නායක
පූජකයෝද ලියන්නෝද උන්වහන්
සේට බොහෝකොට වැරදි තබමින්
11. සිටියෝය. හෙරොද් තමාගේ
යුධ සේනාව සමග උන්වහන්සේට
නින්දාකොට, සෙල්ලාදකිමින්, දිලි
සෙන්නාවූ වස්ත්‍රයක් හඳවා, පිලාත්
ලඟට උන්වහන්සේ නැවත යැවීය.
12. පිලාත් සහ හෙරොද් පලමු එදි
රිව සිටියෝය; එහෙත් ඒ දවසේ මිත්‍ර
වූවෝය.

13. පිලාත් නායක පූජකයන්ද
ප්‍රධානීන්ද සෙනගද එකතුකරවා,
14. ඔවුන්ට කියනුයේ, “නුබලා මේ
මනුෂ්‍යයා සෙනග මුලාකරන තැනැ
ත්තෙක කියා, ඔහු මා ලඟට ගෙනා
වෝය. මම නුබලා ඉදිරියෙහිම විභා
ගකොට, නුබලා විසින් මොහු කෙ
රෙහි තබනලද දෝසවලින් කිසිවක්
නුදුටිමි; හෙරොද්ද නුදුටුයේය.
15. මක්නිසාද, මම නුබලා ඔහු
ලඟට යවූයෙමි; එහෙත් මරනයට
නිසිවූ කිසි වරදක් ඔහු විසින් නො
16. කරන ලද්දේය. එබැවින් ඔහුට
17. තලා හරිමියි” කීයේය. මක්නි
සාද, ඒ මංගල්‍යයේදී එකෙක් ඔහු
විසින් ඔවුන්ට මුදා හැරිය යුතුම
18. තිබුනේය. නුමුත් ඔවුන් සියල්
ලෝම, “මොහු මරා, බරබ්බා අපට
හැරියමැනවයි” මුරගසා කීවෝය.
19. ඒ බරබ්බා නුවර කැරලිගැසීමද
මිනී මැරීමද නිසා හිරගෙයි දමන
20. ලද්දේය. පිලාත් යේසුස්වහන්
සේ මුදා හරින්ට කැමතිව, නැවතත්
21. ඔවුන්ට කථාකලේය. නුමුත්
ඔවුන්, “මොහු කුරුසියෙහි ඇන
ගැස්වුවමැනව; කුරුසියෙහි ඇන
ගැස්වුවමැනව” කියා මුරගෑසුවෝය.
22. ඔහු තුන්වෙනි වාරයෙහි, “කි
මෙක්ද? මොහු කල වරද මොකද?
මරනයට යුතුවූ කිසි දෝසයක් මොහු
අත මම නුදුටිමි; එබැවින් මොහුට
තලා මුදා හරිමියි” ඔවුන්ට කීයේය.
23. නුමුත් ඔවුන්, “කුරුසියෙහි
ඇනගැසුවමැනවයි” මහත් ශබ්ද
කොට ඉල්ලුවෝය. ඔවුන්ගේද
නායක පූජකයන්ගේද කීම ජය
24. ගත්තේය. පිලාත් ඔවුන්ගේ
කැමැත්ත ලෙස වෙන්ට නියම
25. කොට, කැරලිගැසීමද මිනී මැරී
මද නිසා හිරගෙයි ලා සිටියාවූ ඔවුන්
ඉල්ලුවාවූ තැනැත්තා ඔවුන්ට මුදා
හැර, යේසුස්වහන්සේ ඔවුන්ගේ
කැමැත්තට පාවාදුන්නේය.

26. ඔවුන් උන්වහන්සේ ගෙන
යන කල, කෙතෙන් එන්නාවූ කිරේ
නියෙහි සීමොන්නම් මනුෂ්‍යයෙක්
අල්වා, යේසුස්වහන්සේගේ පස්
සෙන් කුරුසිය උසුලාගෙන යන්ට
27. ඔහු පිට තැබුවෝය. මහත් සමූ
හයාද, උන්වහන්සේ නිසා හඬා
වැලපෙන්නාවූ ස්ත්‍රීහුද, උන්වහන්
28. සේ පස්සේ ගියෝය. යේසුස්ව
හන්සේ හැරී ඔවුන් දෙස බලා,
“යෙරුසලමෙහි දූවරුනි, මා නිසා
නොහඬා, නුබලා සහ නුබලාගේ
29. දරුවන් නිසා හඬාපල්ලාය. මක්
නිසාද, ‘වඳ ස්ත්‍රීහුද දරුවන් නොවැදූ

කුසද කිරි නුදුන් තනද වාසනාවන්
තායයි' කියන දවස් පැමිණෙනවා
30. ඇත. එවිට පර්වතවලට, අප පිට
වැටියල්ලායයි; කඳුවලට, අප වසාග
නිල්ලායයි කියන්ට පටන්ගන්නවා
31. ඇත. මක්නිසාද, අමු ගසට මේ
දේ කරන්නට යෙදුනොත්, වියළි
ගසට මක්කරන්නට නොයෙදෙද්
32. දැයි" කීසේක. වරදකාරයෝ
දෙන්නෙක්ද මරනට පත්කරන
පිනිස උන්වහන්සේ සමග ගෙන
33. යනලද්දෝය. ඔවුන් කල්වරි
නම් ස්ථානයට පැමිණ, එහිදී උන්ව
හන්සේ කුරුසියේ ඇනගැසුවෝය.
ඒ වරදකාරයන්ද එකෙක් උන්වහන්
සේගේ දකුණු පැත්තෙහිද, එකෙක්
වම් පැත්තෙහිද කුරුසියෙහි ඇන
34. ගැසුවෝය. එවිට යේසුස්වහන්
සේ, "පියාණෙනි, ඔවුන්ට ක්ෂමාවුව
මැනව; ඔවුන් කරන්නේ කිමෙක්
දැයි ඔවුන් නොදනිතියි" කීසේක.
උන්වහන්සේගේ වස්ත්‍ර දුදු දැමීමෙන්
35. බෙදාගත්තෝය. සෙනගද බල
බලා සිටියෝය. ඔවුන්ද ඔවුන්ගේ
මූලාදෑනිද උන්වහන්සේට අපහාස
කරමින්, "මොහු අනුන් ගැලවීය;
දෙවියන්වහන්සේගේ තෝරාගත්
ක්‍රිස්තුස් මොහුනම්, තමාම ගැලවේ
36. වයි" කීවෝය. හේවායෝද උන්
වහන්සේ ලඟට ඇවිත්, කාඩි උන්
37. වහන්සේට ලංකොට, "නුඹ
යුදෙව්වන්ගේ රජනම්, තමාම ගැල
වියන්න" කියා අපහාස කළෝය.
38. තවද, "මොහු යුදෙව්වන්ගේ
රජයයි" ග්‍රීක් ලතින් හෙබෙව් අකු
රුවලින් ලිවූමක් ලියා, උන්වහන්
සේගේ හිස උඩින් තබනලද්දේය.
39. ඇනගැසුවාවූ වරදකාරයන්
ගෙන් එකෙක් උන්වහන්සේට අප
හාසකරමින්, "නුඹ ක්‍රිස්තුස්නම්,
තමාද අපද ගලවාගනින්නැයි"
40. කීය. අනිකාද උත්තර දෙමින්,
ඔහුට තරවටුකොට කියනුයේ, "එම
අවවුවට පැමිණිලා ඉන්නාවූ නුඹත්,
දෙවියන්වහන්සේට භය නැද්ද?
41. අපි යුතු ලෙසින් ඒ අවවුවට
පත්ව, අපේ ක්‍රියාවලම සුදුසු ඵල
ලබමුව; නුමුත් මූන්වහන්සේ කිසි
වරදක් කළේ නැත" කියා, "ස්වාමී
නි, ඔබවහන්සේගේ රාජ්‍යයට ඔබව
හන්සේ පැමිණි කල, මා සිහිකල
මැනවයි" යේසුස්වහන්සේට කීයේ
43. ය. යේසුස්වහන්සේ, "සැබවක්
නුඹට කියමි, අදම නුඹ මා සමග
පරාදීසයෙහි සිටිනවා ඇතැයි"
44. ඔහුට කීසේක. ,සවෙනි පැය
පමනෙයි පටන් නවවෙනි පැය
දක්වා, දේසය මුළුල්ලෙහි අංධකාර
45. විය. ඉර අඳුරුවිය; දේවමාලි
ගාවේ තිරය දෙකඩව ඉරුනේය.
46. යේසුස්වහන්සේ, "පියාණෙනි,
ඔබවහන්සේගේ අතට මාගේ ආත්
මය භාරදෙමියි" මහත් ශබ්දයකින්
හඬගසා, ප්‍රාණය හැරියසේක.

47. එවිට සියේකට නායකයා
සිදුවූ දේ දැක, දෙවියන්වහන්සේට
ප්‍රසංසාකරමින්, "සැබවින් මේ මනු
ෂ්‍යයා ධර්මිෂ්ඨයෙකැයි" කීයේය.
48. මේක බලන්ට ආ සියළු සමූහ
යෝද සිදුවූ කාරනා දැක, ළය අන්
49. ගසාගනිමින් ආපසු ගියෝය. උන්
වහන්සේ අඳුනන සියල්ලෝද, ගලි
ලායේ සිට උන්වහන්සේ කැටුව ආ
ස්ත්‍රීහුද ඒ දේ බලමින් දුරින් සිටි
50. යෝය. අරිමාතියනම් යුදෙව්
වන්ගේ නුවර වාසීවූ, සත්පුරුෂවූ,
51. ධර්මිෂ්ඨවූ, දෙවියන්වහන්සේගේ
රාජ්‍යය බලා සිටින්නාවූ, ඔවුන්ගේ
මන්ත්‍රණයටද ක්‍රියාවටද එකඟ නූනා
වූ යෝසැප්නම් මන්ත්‍රියෙක් සිටි
52. යේය. ඔහු පිලාත් ලඟට ගොස්,
යේසුස්වහන්සේගේ මිනිය ඉල්වා
53. ගෙන, බාවා, සිහින් රෙද්දකින්
වෙලා, කවදාවත් කවුරුවත් නොතැ
බූවාවූ ගලක කපා තිබූනාවූ සො
54. හොන් ගෙයක තැබූයේය. ඒ

දවස සූදානම්කරන දවසය; සබත්
55. දවස කිට්ටුය. ගලිලයේසිට උන්
වහන්සේ සමග ආ ස්ත්‍රීහුද කැටුව
ගොස්, සොහොන් ගෙයද උන්වහන්
සේගේ මිනිය තැබූ අන්දමද දැක,
56. හැරී ඇවිත්, සුවඳ බඩුද සුවඳ
තෙල්ද පිළියෙලකොට, අණවූ
ලෙස සබත් දවසේ නිවාඩු ගත්
තෝය.

24. පරිච්ඡේ. සතියෙහි පලමුවෙ
නිදා ඉතා උදය, තමන් විසින් පිළි
යෙලකල සුවඳ බඩු අරගෙන, වෙ
නත් සමහර ස්ත්‍රීන් සමග, සොහොන්
2. ගේ ලඟට ඇවිත්, ගල සොහොන්
ගෙයින් අහකට පෙරලා තිබුනු බව
3. දුටුවෝය. නුමුත් ඇතුලට පැමිනි
කල, ස්වාමිවූ යේසුස්වහන්සේගේ මි
4. නිය දුටුවේ නැත. ඒ ගැන ඔවුන්
බොහෝ සෙයින් සැකකරන කල,
දිලිහෙන වස්ත්‍ර ඇන්දවූ පුරුෂයෝ
දෙන්නෙක් ඔවුන් ලඟ සිටියෝය.
5. ඔවුන් භයපත්ව බිම බලාගන
සිටිකල, ඒ පුරුෂයෝද "ජීවමාන
තැනැත්තා මලවුන් අතරේ සොය
6. නෙන් මක්නිසාද? උන්වහන්සේ
මෙහි නැත; නැගුටුනුසේක. උන්ව
7. හන්සේ ගලිලයෙහි සිටිද්දීම, 'පව්
කාරයන්ගේ අතට මනුෂ්‍ය පුත්‍රයාගේ
පාවාදීමද, කුරුසියෙහි මැරීමද,
තුන්වෙනිදා දෙවනු නැගිටීමද විය
යුතුයයි' නුබලාට කී බව සිහිකර
8. පල්ලායයි ඔවුන්ට කීයේය. ඔවුහු
උන්වහන්සේගේ වචන සිහිකොට,
9. සොහොන් ගෙයින් හැරී ඇවිත්,
ඒ සියල්ල එකොලොස් දෙනාටද
සෙසු සියල්ලන්ටද දන්වූවෝය.
10. මග්දලායෙහි මරියාද, යොවන්
නාද, යාකොබ්ගේ මව්වූ මරියාද,
ඔවුන් සමග සිටි අනික් ස්ත්‍රීහුද
11. ප්‍රේරිතයන්ට ඒ දේ කීවෝය. ඔ
වුන් ඒ ස්ත්‍රීන්ගේ වචන නිරර්ථක
ක්‍රියායයි සිතා, විශ්වාසකලේ නැත.
12. එවිට පේතෘස් නැගිට, සොහොන්
ගෙය ලඟට දුවගන ගොස්, නැමී,
රෙදි පමනක් තිබෙන බව දැක,
සිද්ධවූ කාරනාවලට පුදුමව ගියේය.
13. ඔවුන්ගෙන් දෙන්නෙක් ඒ
දවසේම යෙරුසලමේ සිට දෙගව්
වක් පමන දුරවූ එම්මාවුස්නම් ගමට
14. යමින්, සිද්ධවූ ඒ සියල්ල ගැන
15. කථාකලෝය. ඔවුන් කථාකර
මින් විචාරමින් සිටිකල, යේසුස්ව
හන්සේ ඔවුන් ලඟට පැමින, ඔවුන්
16. සමග ගියසේක. නුමුත් උන්ව
හන්සේ නාඳුනන ලෙස ඔවුන්ගේ
17. ඇස් බැඳී තිබුනේය. උන්වහන්
සේ, "නුබලා දුක්ඛිත මුහුනු ඇතිව
කථාකරමින් යන්නේ, මොන කාර
නා ගැනදැයි" ඔවුන්ගෙන් ඇසූ
18. සේක. ක්ලෙයෝපස්නම් ඔවුන්
ගෙන් එකෙක් උත්තර දෙමින්,
"යෙරුසලමෙහි මේ දවස්වල සිද්ධවූ
කාරනා දන්නේ නැති විදේසියා
නුබ පමනක්දැයි" උන්වහන්සේ
19. ගෙන් ඇසුයේය. උන්වහන්සේ,
"මොන දේදැයි" ඔවුන්ගෙන් ඇසූ
සේක. එවිට ඔවුන් කියන්නෝ,
"දෙවියනුවහන්සේගේද සියළු සෙන
ගයේද ඉදිරියෙහි කීමෙහිද ක්‍රියා
වෙහිද බලවත්වූ, අනාගතවක්තෘ
කෙනෙක්ව සිටියාවූ නාසරුත් යේසු
20. ස්වහන්සේ අපගේ නායක පූජක
යන් විසින්ද ප්‍රධානවරුන් විසින්ද
මරනයට පාවාදී, කුරුසියෙහි ඇන
21. ගසනලද බවය; අපි ඊශ්‍රායෙල්
ගලවන තැනැත්තා උන්වහන්සේ
යයි අදහගතිමුව. මෙපමනකුත්නො
ව, මේ දේ සිද්ධව අදට තුන් දවසෙක;
22. අපේසමාගම්කාරවූ සමහර ස්ත්‍රීහු
අළුයම සොහොන් ගේ ලඟටගොස්,
උන්වහන්සේගේ මිනිය නොදැක,
23. ඇවිත් ඔවුන්ට පෙනුන දේව
දූතයෝ 'උන්වහන්සේ ජීවත්ව සිටි
නසේකැයි' කී බව අපට කියා, අප
24. පුදුමකලෝය. තවද අප සමග

සිටියවුන්ගෙන් සමහරෙක් සො
හොන්ගේ ළඟට ගොස්, ඒ ස්ත්‍රීහු
කී හැටියටම දුටුවෝය; නුමුත්
උන්වහන්සේ දුටුවේ නැතැයි”
25. කීවෝය. එවිට උන්වහන්සේ
ඔවුන්ට කියනසේක්, “අනාගත
වක්තෘන් විසින් කියනලද සියල්ල
අදහන්ට ප්‍රමාද සිත් ඇත්තාවූ අඥ
26. නයෙනි, ඒ දුක් විඳින්නටද
තමන් ඓශ්වර්‍ය්‍යයට පැමිණෙන්ටද
ක්‍රිස්තුස්වහන්සේට නුසුදුසුද” කියා,
27. මෝසෙස් විසින්ද සියළු අනාගත
වක්තෘන් විසින්ද තමන්වහන්සේ
ගැන ලියනලද සියළු ලියවිලිවල
කාරනා ක්‍රමයෙන් තෝරාදුන්සේක.
28. ඔවුන් යන්නට ගිය ගම ළඟට
පැමිනිකල, උන්වහන්සේ වඩා දුර
29. යන ආකාර දැක්වූසේක. නුමුත්
ඔවුන්, “අප සමග සිටිනමැනව;
දවස කෙලවරවී, රෑවෙනවාය”
කියා, උන්වහන්සේගෙන් අතිසයින්
30. ඉල්ලුවෝය. එවිට උන්වහන්සේ
ඔවුන් සමග සිටින්ට ඇතුල්ව,
ඔවුන් සමග කෑමට වැඩහිඳ, රොටි
අරගෙන ස්තුතිකොට කඩා, ඔ
31. වුන්ට දුන්සේක; එකල ඔවුන්
ගේ ඇස් ඇරී, උන්වහන්සේ ඇඳින
ගත්තෝය. උන්වහන්සේද ඔවුන්
32. කෙරෙන් අන්තර්ධානවූසේක. එ
විට, “උන්වහන්සේ අප සමග මගදී
කථාකරමින්, ලියවිලි අපට තෝරා
දුන් කල අපගේ සිත් දැවා නොවේ
දැයි” ඔවුනොවුන් කථාකලෝය.
33. ඔවුන් එවෙලේම නැගිට, යෙරූ
සලමට හැරී ගොස්, එකොලොස්දෙ
34. නාද සමග සිටියෝද රැස්ව “ස්වා
මින්වහන්සේ සැබැවටම නැගිට,
සීමොන්හට පෙනුනුසේක” කිය
35. කියා සිටින බව දැක, මගදී සිදුවූ
කාරනාවල්ද රොටි කැඞීමෙන් ඔවුන්
උන්වහන්සේ ඇඳිනගත් බවද
කීවෝය.

36. ඔවුන් මෙසේ කථාකරමින්
සිටිද්දී, යේසුස්වහන්සේම ඔවුන්
මැද සිට, “නුඹලාට සමාදානය වේ
37. වයි” ඔවුන්ට කීසේක. ඔවුන්
භයටද තැතිගැන්මටද පැමින,
“ආත්මයක් දුටිමුයයි” සිතුවෝය.
38. එවිට උන්වහන්සේ, “නුඹලා
කැලඹීමෙන් මේ ආකාර සිතිවිලි
39. උපදවන්නේ මක්නිසාද? මාගේ
අත් පා බලා මා බව දැනගනිල්ලාය.
මා අතගා බලාපල්ලාය; මට මස්ද
ඇටද ඇති බව නුඹලා දකිති; ඒ
ආකාරයෙන් ආත්මයකට නැත”
40. කියා, අත් පා ඔවුන්ට පෙන්වූ
41. සේක. ඔවුන් පුදුමව, සන්තෝස
යෙන්, අදහනොගෙන සිටිකල, උන්
වහන්සේ “කෑමට මොකවත් නුඹලා
ළඟ තිබේදැයි” ඔවුන්ගෙන් ඇසූ
42. සේක. එවිට ඔවුන් බැදපු මාළු
කැල්ලක්ද, මීවද කැල්ලක්ද, උන්
43. වහන්සේට දුන්නෝය. උන්ව
හන්සේ ඒවා අරගෙන, ඔවුන්ගේ
44. ඉදිරියෙහි කෑසේක. එවිට උන්
වහන්සේ ඔවුන්ට කියනසේක්,
“මෝසෙස්ගේ ව්‍යවස්ථාවෙහිද, අනා
ගතවක්තෘන්ගේ ලිවුම්වලද, ගීති
කාවලද, මා ගැන ලියනලද සියල්ල
සම්පූර්ණවෙන්ට යුතුයයි, මම නුඹ
ලා සමග සිටිද්දීම නුඹලාට කී දේ
45. වෙයයි” කීසේක. එවිට උන්ව
හන්සේ ශුද්ධ ලියවිලි ඔවුන්ට වැට
හෙන පිනිස ඔවුන්ට සිහි උපදවා,
46. “මෙසේ ලියා තිබෙන්නේය;
මෙසේ ක්‍රිස්තුස් වධ විඳ තුන්
වෙනිදා මලවුන්ගෙන් නැගිටිය
47. යුතුය. යෙරුසලමෙහි පටන් සියළු
ජාතීන්ට ඔහුගේ නාමයෙන් පසුතැ
විල්ල සහ පාපයෙන් මිදීම ගැන
48. ප්‍රකාසකල යුතුය. නුඹලා මේ
49. දේවලට සාක්ෂිකාරයෝය. මාගේ
පියානන්වහන්සේගේ පොරොන්දුව
නුඹලාට එවමි; නුමුත් උඩින් නුඹලා
බලයෙන් සරසනු ලබනතුරු, යෙරූ

සලම් නුවර වාසයකරපල්ලායයි”
කීසේක.

50. උන්වහන්සේද ඔවුන් බෙතා
නිය දක්වා කැඳවාගෙන ගොස්,
තමන්වහන්සේගේ අත් ඔසවා
51. ඔවුන්ට ආශිර්වාදකලසේක. උන්
වහන්සේ ඔවුන්ට ආශිර්වාදකරමින්
සිටිද්දීම, උන්වහන්සේ ඔවුන් කෙ
රෙන් වෙන්කරනලදුව, ස්වර්ගයට
52. ගෙනයනු ලැබූසේක. ඔවුන්
උන්වහන්සේට නමස්කාරකොට,
මහත් සන්තෝසයෙන් යෙරුසලමට
53. හැරී ඇවිත්, නිතරම දේවමාලි
ගාවේ දෙවියන්වහන්සේට ස්තුතික
රමින්ද ප්‍රසංසාකරමින්ද වාසය ක
ලෝය. ආමෙන්.

---

# යොහන් විසින් ලියනලද

# සුභාරංචිය.

---

1. පරිච්ඡේදය. පටන්ගැන්මෙහිදී
වාක්‍යයානෝ සිටිසේක; වාක්‍යයා
නෝ දෙවියන්වහන්සේ සමග සිටිසේ
ක; ඒවාක්‍යයානෝ දෙවියන්වහන්සේ
2. ව සිටිසේක. එම තැනන්වහන්සේ
පටන්ගැන්මෙහි දෙවියන්වහන්සේ
3. සමග සිටිසේක. ඒ තැනන්වහන්
සේ කරනකොටගෙන සියල්ල මව
නලද්දේය. මවනලද කිසිවක් උන්
වහන්සේ නැතුව නොමවනලද්
4. දේය. උන්වහන්සේ තුල ජීවනය
තිබුනේය. ඒ ජීවනය මනුෂ්‍යයන්ගේ
5. ආලෝකය වූයේය. ආලෝකය
අඳුරෙහි බබලන්නේය. අඳුර ඒක
පිලිගත්තේ නැත.

6. දෙවියන්වහන්සේ විසින් එව
නලද යොහන්නම් මනුෂ්‍යයෙක්
7. සිටියේය. ඔහු තමන් කරනකොට
ගෙන සියල්ලන් විසින් අදහන
පිනිස, ඒ ආලෝකයට සාක්ෂි දෙන්ට
8. සාක්ෂිකාරයෙක්ව ආයේය. ඔහු
ඒ ආලෝකය නුවූයේය; නුමුත් ඒ
ආලෝකයට සාක්ෂි දෙන පනිස
9. ආයේය. ලෝකයට එන්නාවූ,
සියළු මනුෂ්‍යයන්ට ආලෝක කරන
සැබෑවූ ආලෝකයනම් මූනවහන්සේ
10. වය. උන්වහන්සේ ලෝකයෙහි
සිටිසේක. ලෝකයද උන්වහන්සේ
විසින් මවනලද්දේය; නුමුත් ලෝක
යා උන්වහන්සේ ඇඳිනගත්තේ
11. නැත. උනවහන්සේ ස්වකීයයන්
ලගට ආසේක; ස්වකීයයෝ උන්ව
12. හන්සේ පිලිගත්තේ නැත. එ
සේවී නුමුත්, යම් පමන දෙනෙක්
උනවහන්සේ පිලිගෙන උනවහන්සේ
ගේ නාමය අදහගත්තෝද? එප
මන දෙනාට දෙවියන්වහන්සේගේ
දරුවෝ වෙන්ට බලය දෙනලද්
13. දේය. ඔවුන් දෙවියන්වහන්සේ
ගෙන් මිස, ලෙයෙන්වත් මාංශයෙහි
කැමැත්තෙන්වත් මනුෂ්‍ය කැමැත්
14. තෙන්වත් නූපන්නෝය. ඒ වාක්‍ය
යානෝ මාංශව.න්ව, කරුනාවෙන්ද
සැබෑකමෙන්ද සම්පූර්ණව, අප
අතරෙහි සිටිසේක; පියානන්වහන්
සේගේ ඒකජාතයානන්වහන්සේගේ
තේජස මෙන්, උන්වහන්සේගේ
තේජස දුටිමුව.

15. යොහන් උන්වහන්සේ ගැන
සාක්ෂි දෙමින්, “මට පසුව එන්නා
මට පලමුවෙන් සිටි බැවින්, මට
වඩා උතුම් කෙනෙකැයි, යම් කෙ
නෙක් ගැන කීයෙම්ද? ඒ මූනවහන්
සේමයයි” මහත් ශබ්දයෙන් කීයේය.

16. උන්වහන්සේගේ සම්පූර්ණක
මෙන් අපි සියල්ලෝ වැඩි වැඩිව
17. කරුනාව ලැබ්මුව. මක්නිසාද,
ව්‍යවස්ථාව මෝසෙස් කරනකොට
ගෙන දෙනලද්දීය. නුමුත් කරුනා
වද සැබෑකමද යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ කරනකොටගෙන පැමුනු
18. ණෝය. කවරෙක්වත් කිසි කලක
දෙවියන්වහන්සේ දුටුවේ නැත.
පියානන්වහන්සේගේ ඒකජාත ඖ
රස පුත්‍රයානන්වහන්සේම උන්ව
හන්සේ එළිදරව්කලසේක.

19. "නුඹ කවරෙක්දැයි" යොහන්
ගෙන් අසන්ට, යුදෙව්වරු යෙරු
සලමේ සිට පූජකයන්ද ලෙවීවරුන්ද
යවූකල, ඔහු විසින් දුන් සාක්ෂි මේය.
20. ඔහු සැබෑවම කියමින්, "මම
ක්‍රිස්තුස් නොවෙමියි" නොසඟවා
21. සත්‍යයම කීයේය. "එසේවීනම්
නුඹ කවරෙක්ද? එලියස්දැයි?"
ඔවුන් ඇසූකල, "නොවෙමියි"
කීයේය. "නුඹ ඒ අනාගතවක්තෘ
දැයි?" ඇසුවෝය; "නැතැයි" උත්
22. තර දුන්නේය. එකල, "අප
එවූවන්ට අපි උත්තර දෙන පිනිස,
නුඹ කවරෙක්දැයි නුඹ ගැනම නුඹ
කියන්නේ මොකදැයි?" ඔහුගෙන්
23. ඇසුවෝය. ඔහු, "යෙසායියා
අනාගතවක්තෘ කී හැටියට, 'ස්වාමින්
වහන්සේගේ මාර්ගය ඇදහැරපල්
ලායයි, වනාන්තරයෙහි හඬගසන්
නෙකුගේ ශබ්දය' මමයයි" කීයේය.
24. එවනලද අයවල් ඵරිසිවරුය.
25. එවිට ඔවුන් කථාකොට, "එසේ
වීනම් නුඹ ක්‍රිස්තුස්වත්, එලියස්වත්,
ඒ අනාගතවක්තෘවත් නොවේනම්,
බව්තීස්ම කරන්නේ මක්නිසාදැයි?"
26. ඔහුගෙන් ඇසුවෝය. යොහන්
ඔවුන්ට උත්තර දෙමින්, "මම වතු
රෙන් බව්තීස්මකරමි; නුමුත් නුඹලා
සාදුනන කෙනෙක් නුඹලා අත
27. රෙහි සිටිනසේක. මට පසුව
එන උන්වහන්සේ මට පලමුත් සිටි
සේක. උන්වහන්සේගේ වහන්
සගලේ පටිය මුදන්ටවත් මම වටින්
28. නේ නැතැයි" කීයේය. යොහන්
බව්තීස්මකරමින් සිටි යොර්දනෙන්
එගොඩ බෙතාබරේදී මේ කාරනා
සිඬවූනේය.

29. පසුවදා, යොහන් තමන් ලඟට
එන්නාවූ යේසුස්වහන්සේ දැක කිය
නුයේ, "බලාපල්ලාය, ලෝකයෙහි
පාපය දුරුකරන්නාවූ දෙවියන්
වහන්සේගේ බැටළු පැටියාය.
30. 'මට පසුව එන්නාවූ මනුෂ්‍යයා
මට පලමුවෙන් සිටි බැවින්, මට
වඩා උතුම් සේකැයි' මම කීවේ,
31. මූන්වහන්සේ ගැනය. මම උන්
වහන්සේ නොහැඳින්නෙමි; නුමුත්
උන්වහන්සේ ඊශ්‍රායෙල්හට එළිදරව්
වෙන පිනිස, මම වතුරෙන් බව්තීස්
මකරමින් ආයෙමියි" කීයේය.
32. තවද යොහන් සාක්ෂි දෙමින්
කියනුයේ, "ආත්මයානන්වහන්සේ
පරවියෙකු මෙන් අහසින් බැස උන්
වහන්සේ පිට සිටින බව දුටිමි.
33. මමද උන්වහන්සේ නැඳිනෙමි;
නුමුත් වතුරෙන් බව්තීස්ම කරන්ට
මා එවූ තැනැන්වහන්සේම, 'යමෙක්
මත්තේ ආත්මයානන්වහන්සේ බැස
සිටින බව දකීද, උන්වහන්සේම
සුඬාත්මයෙන් බව්තීස්මකරනසේ
34. කැයි' මට කීසේක. මම ඒ දැක,
මූන්වහන්සේ දෙවියන්වහන්සේගේ
පුත්‍රයානයි සාක්ෂි දුනිමියි" කීයේය.

35. පසුවදා යොහන් තමන් ගෝල
යන්ගෙන් දෙන්නෙක් සමඟ සිටිනා
36. විට, යේසුස්වහන්සේ ඇවිදින
වා දැක, "බලාපල්ලාය, දෙවියන්ව
හන්සේගේ බැටළු පැටියායයි"
37. කීයේය. ඒ ගෝලයෝ දෙන්නාද
ඔහුගේ බස් අසා, යේසුස්වහන්සේ
38. පස්සේ ගියෝය. එවිට යේසුස්
වහන්සේ හැරී, තමන් පස්සේ එන්
නාවූ ඔවුන් දැක, "කුමක් සොයන
වාදැයි?" ඔවුන්ගෙන් ඇසූසේක.

ඔවුන්ද, ආචාරීත්වහන්ස යන අර්ථ
ඇති "රබ්බී, ඔබවහන්සේ පදිංචිව
සිටින්නේ කොතනදැයි?" ඇසූ
39. වෝය. උන්වහන්සේ, "ඇවිත්
බලාපල්ලායයි" ඔවුන්ට කීසේක.
ඔවුන්ද ගොස් උන්වහන්සේ වාසය
කරන ස්ථානය දැක, දස පැය පමනවූ
බැවින් ඒ දවස උන්වහන්සේ සමග
40. සිටියෝය. යොහන්ගේ බස් අසා
උන්වහන්සේ පස්සේ ගියාවූ දෙන්
නාගෙන් එකෙක්, සීමොන් පේත්‍රුස්
41. ගේ සහෝදරවූ අන්ද්‍රෑය. ඔහු
පලමුකොට තමන් සහෝදරවූ සී
මොන් දැක, "මෙසියස් දුටිමුයයි"
ඔහුට කීයේය. එහි අර්ථයනම් ක්‍රිස්
42. තුස්ය. එවිට ඔහු යේසුස්වහන්
සේ ලඟට කැඳවාගෙන ආයේය.
යේසුස්වහන්සේ ඔහු බලා, "තුබ
යෝනාගේ පුත්‍රවූ සීමොන්ය. තුබේ
නම කේඵස් වේයයි" කීසේක. එහි
අර්ථයනම් ගලය.

43. පසුවද යේසුස්වහන්සේ ගලි
ලයට පිටත්ව යන්නට කැමතිව
පිලිප් දැක, "මා පස්සේ වරෙන්
44. නැයි" ඔහුට කීසේක. පිලිප්ද
අන්ද්‍රෑ සහ පේත්‍රුස් විසූ බෙත්සයිද
45. නුවර වැසියෙක. පිලිප්ද නතා
නියෙල් දැක, "යම් කෙනෙක් ගැන
ව්‍යවස්ථාවෙහි මෝසෙස් විසිත්තුත්,
අනාගතවක්තෘන් විසිත්තුත් ලියනලද්
දේද? උන්වහන්සේ දුටිමුව. උන්ව
හන්සේනම් යෝසෑප්ගේ පුත්‍රවූ
නාසරෙත් යේසුස්යයි" ඔහුට කීයේය.
46. නතානියෙල්ද, "නාසරෙත් නුව
රින් කිසි යහපතක් වෙන්නට පුළු
වන්දැයි" ඔහුගෙන් ඇසුයේය.
පිලිප්ද, "ඇවිත් බලාපන්නැයි"
47. ඔහුට කීයේය. යේසුස්වහන්සේ
නතානියෙල් තමන් ලඟට එනවා
දැක, "මොහු සැබෑවූ වංචා නැති
ඊශ්‍රායෙල් කෙනෙකැයි" ඔහු ගැන
48. කීසේක. නතානියෙල්, "මා අඳු
නන්නේ කොහොමදැයි?" උන්වහන්
සේගෙන් ඇසුයේය. යේසුස්වහන්
සේ උත්තර දෙමින්, "පිලිප් තුබ
කැඳවන්ට පලමුවෙන්, දිඹුල් ගස
යට සිටියදී තුබ දුටිමියි" කීසේක.
49. එවිට නතානියෙල් උත්තර
දෙමින්, "රබ්බී, ඔබවහන්සේ දෙවි
යන්වහන්සේගේ පුත්‍රයාය; ඔබව
හන්සේ ඊශ්‍රායෙල්ගේ රජයයි"
50. කීයේය. යේසුස්වහන්සේ ඔහුට
උත්තර දෙමින්, "දිඹුල් ගස යට සිටි
යදී තුබ දුටිමියි තුබට කී බැවින්
අදහගන්නවාද? තුබ මීට වඩා මහත්
දේ දකිනවා ඇතැයි" කීසේක.
51. තවද උන්වහන්සේ, "සැබවක්
සැබවක් තුබලාට කියමි, මින් මතු
ස්වර්ගය ඇරී, දෙවියන්වහන්සේගේ
දූතයෝ මනුෂ්‍ය පුත්‍රයා කරා බසින
බවද නගින බවද තුබලා දකිනවා
ඇතැයි" කීසේක.

2. පරිච්. තුන්වෙනිදා ගලිල
යෙහිවූ කානාහි විවාහ මංගල්‍යයක්
විය. යේසුස්වහන්සේගේ මෑනියෝද
2 එහි සිටියාය. යේසුස්වහන්සේත්
උන්වහන්සේගේ ගෝලයෝත් ඒ
මංගල්‍යයට කැඳවනු ලැබුවෝය.
3. මුද්‍රිකපානය අඩුවූතුකල, "ඔවුන්
ට මුද්‍රිකපානය නැතැයි" යේසුස්ව
හන්සේගේ මෑනියෝ උන්වහන්සේට
4. කීවාය. යේසුස්වහන්සේ, "ස්ත්‍රිය,
තුබටත් මටත් එයින් කම් කිමද? මා
ගේ වේලාව තවම පැමුනුනේ නැතැ
5. යි" කීසේක. උන්වහන්සේගේ මෑනි
යෝ, "උන්වහන්සේ තුබලාට කියන
දේ කරපල්ලායයි" වැඩකාරයන්ට
6. කීවාය. යුදෙව්වන්ගේ පවිත්‍රවීමේ
ව්‍යවහාරය ලෙස, එක එකට මෙත්‍රෙ
ක දෙකක් තුනක් පමන අල්ලන්
නාවූ ගල් සැලි හයක් එහි තබා
7. තිබුනේය. යේසුස්වහන්සේ, "ඒ
සැලිවල වතුර පුරවාපල්ලායයි"
ඔවුන්ට කීසේක. ඔවුන්ද ඒවා කට
8. දක්වා පිරෙව්වෝය. එවිට උන්ව

හන්සේ, "එසීන් අරන්, මංගල්‍ය
යෙහි ප්‍රධානයා ළඟට පලයල්
ලායයි" ඔවුන්ට කීසේක. ඔවුන්ද
9. ගෙනගියෝය. මංගල්‍යයෙහි ප්‍රධා
නයා වතුරෙන් සෑදූ මුද්‍රිකපානය
රස බලා, වතුර ගෙනා වැඩකාරයෝ
මිස කොතනින් ගෙනාවාද කියා
10. නොදැන, මනමාලයා කැඳවා, "සි
යළු මනුෂ්‍යයෝ පලමුකොට හොඳ
මුද්‍රිකපානය දෙති; කැඳවනු ලැබූ
වෝ හොඳටම බීකල්හි ඊට නරක
මුද්‍රිකපානය දෙති; නුඹ මේ වෙන
තුරුම හොඳ මුද්‍රිකපානය තැබූයේ
11. යයි" ඔහුට කීයේය. යේසුස්ව
හන්සේ ගලීලයෙහි කානාහිදී මේ
පලමුවෙනි ආශ්චර්‍ය්‍යය කොට,
තමන්ගේ තේජස පෙන්නුසේක.
උන්වහන්සේගේ ගෝලයෝ උන්
12. වහන්සේ අදහගත්තෝය. ඉන්
පසු උන්වහන්සේද උන්වහන්සේගේ
මෑනියෝද සහෝදරයෝද ගෝල
යෝද කපර්ණවුමට ගියෝය.
නුමුත් ඔවුන් බොහෝ දවස් එහි
නොසිටියෝය.

13. යුදෙව්වන්ගේ පාස්කු මංග
ල්‍යය කිට්ටුවූකල, යේසුස්වහන්සේ
14. යෙරුසලමට ගියසේක. එහි පැ
විත, දේවමාලිගාවේ ගවයින් බැට
එවන් පරෙවියන් විකුණන්නෝද
මිල මාරුකරන්නෝද ඉන්න බව
15. දැක, සිහින් ලනුවලින් කසයක්
සාදා, මාලිගාවෙන් ඔවුන් සියල්ලනු
බැටළුවන්ද ගවයින්ද පිටත එලවා,
මිල මාරුකරන්නන්ගේ මිල ඉසුරුවා,
16. මේස පෙරලාදමා, "මේ දේවල්
මෙතනින් හැරගනිල්ලාය; මාගේ
පියානන්වහන්සේගේ ගේ වෙළඳම්
ගෙයක් නොකරල්ලායයි" පරෙ
වියන් විකුනන්නන්ට කීසේක.
17. එවිට, "ඔබවහන්සේගේ ගේ
ගැන ජ්වලිතය මා දැව්වේයයි" ලියා
තිබෙන බව උන්වහන්සේගේ ගෝ
ලයන්ට සිහිවිය.

18. එකල යුදෙව්වරු උන්වහන්
සේට කථාකොට, "ඔබ මේ දේ
කිරීමට මොන ලකුනක් අපට දක්
19. වන්නේදැයි?" ඇසුවෝය. යේසු
ස්වහන්සේ ඔවුන්ට උත්තර දෙමින්,
"නුඹලා මේ දේවමාලිගාව නැසු
වොත් තුන් දවසකින් ගොඩනගමි
20. මියි" කීසේක. යුදෙව්වරු, "මේ
මාලිගාව ගොඩනැගීමට සතලිස්
සාවුරුද්දක් ගියේය. නුඹ ඒක තුන්
දවසකින් ගොඩනගන්නේදැයි?"
21. කීවෝය. නුමුත් උන්වහන්සේ
තමන්ගේ ශරීරය නැමති දේවමාලි
22. ගාව ගැන කථාකලසේක. උන්
වහන්සේ ඔවුන්ට මේ කාරනා කී
බව, උන්වහන්සේ මලවුන්ගෙන්
නැගුටුනායින් පසු, උන්වහන්සේගේ
ගෝලයෝ සිහිකොට, ලියවිලිද
යේසුස්වහන්සේ කී වචනයද අදහා
ගත්තෝය.

23. උන්වහන්සේ පාස්කු මංගල්‍ය
යේදී යෙරුසලමෙහි සිටි කල්හි,
බොහෝ දෙන උන්වහන්සේ විසින්
කල ආශ්චර්‍ය්‍යයන් දැක, උන්වහන්
සේගේ නාමය කෙරෙහි අදහගත්
24. තෝය. නුමුත් යේසුස්වහන්සේ
සියල්ලන් අඳුනන බැවින්, තමාම
25. ඔවුන්ට බැඳුනේ නැත. මනුෂ්‍ය
යන් තුලේ තිබෙන සියල්ල දැනගත්
බැවින්, යමෙක් ගැන සාක්ෂි ලැබී
මෙන් උන්වහන්සේට කමක් නැත.

3. පරිච්ඡෙ. යුදෙව්වන්ගේ ප්‍රධා
නියෙක්වූ නිකදේමුස්නම් ඵරිසි
2. යෙක් සිටියේය. ඔහු රාත්‍රියේ
යේසුස්වහන්සේ ළඟට ඇවිත්,
"රබ්බි, ඔබවහන්සේ දෙවියන්වහන්
සේ කෙරෙන් ආවාවූ ගුරු කෙනෙ
කැයි දනිමුව; මක්නිසාද, යමෙක්
සමග දෙවියන්වහන්සේ නැත්නම්,
ඔබවහන්සේ කරන්නාවූ මේ ආශ්
චර්‍ය්‍යයන් කරන්නට ඔහුට බැරියයි"
3. උන්වහන්සේට කීයේය. යේසුස්

වහන්සේ උත්තර දෙමින්, "සැබ
වක් සැබවක් තුබට කියමි, යමෙක්
නැවත තූපන්නොත්, ඔහුට දෙවි
යන්වහන්සේගේ රාජ්‍යය දකින්නට
4. බැරියයි" කීසේක. එවිට නිකදේ
මුස්, "මනුෂ්‍යයෙකුට මහළුවූ පසු
උපදින්නට පුළුවන් කොහොමද?
දෙවෙනි වර මව්කුසට ඇතුල්ව උප
දින්ට පුළුවන්දැයි?" උන්වහන්සේ
5. ගෙන් ඇසුයේය. යේසුස්වහන්සේ
උත්තර දෙමින්, "සැබවක් සැබ
වක් තුබට කියමි, යමෙක් වතුරෙන්ද
ආත්මයෙන්ද තූපන්නොත්, ඔහුට
දෙවියන්වහන්සේගේ රාජ්‍යයට ඇ
6. තුල්වෙන්නට බැරිය. මාංශයෙන්
උපන් දේ මාංශයය; ආත්මයෙන්
7. උපන් දේ ආත්මයය. තුබලා
නැවත උපදින්ට ඕනෑයයි මම
8. කීවාට පුදුමවෙන්ට එපාය. හුලඟ
කැමති කැමති තැනට ගසන්නේය;
එහි ශබ්දය තුබට ඇසෙන්නේය;
නුමුත් කොහෙන් එන්නේද කොත
නට යන්නේදැයි නොදන්නේය.
ආත්මයෙන් උපන් සියල්ලෝම එසේ
9. වයයි" කීසේක. නිකදේමුස් උන්
වහන්සේට උත්තර දෙමින්, "මේ
දේ වෙන්නට පුළුවන් කොහොම
10. දැයි?" ඇසුයේය. යේසුස්වහන්
සේ උත්තර දෙමින්, "ඊශ්‍රායෙල්ගේ
ගුරුකෙනෙක්වූ තුබ මේ දේ දනෙන්
11. නැද්ද? සැබවක් සැබවක් තුබට
කියමි, අපි දන්නා දේ කියමුව;
අපි දුටු දේටම සාක්ෂි දෙමුව; නුමුත්
තුබලා අපේ සාක්ෂිය නොගණිති.
12. මම තුබලාට පොළොවේ දේ
කී කල්හි තුබලා අදහා නොගත්
තොත්, ස්වර්ගීයවූ දේ කියනවානම්
ඒ දේ අදහගන්නේ කොහොමද?
13. ස්වර්ගයෙන් බැස්සාවූ, ස්වර්ග
යෙහි සිටින්නාවූ මනුෂ්‍ය පුත්‍රයා
මිස, කිසිවෙක්වත් ස්වර්ගයට නො
14. නැංගේය. මෝසෙස් වනාන්
තුයේදී සර්පයා එසවූ ලෙසම,
15. මනුෂ්‍ය පුත්‍රයාද, තමන්වහන්සේ
අදහගන්නා සියල්ලෝම විනාසයට
නොපැමින සදාකාල ජීවනය ලබන
පිනිස, ඔසවනු ලබන්නට ඕනෑය.
16. මක්නිසාද, උන්වහන්සේ අදහා
ගන්නා සියල්ලෝම විනාසයට නො
පැමින සදාකාල ජීවනය ලබන
පිනිස, දෙවියන්වහන්සේ තමන්ගේ
ඒකජාත පුත්‍රයා දෙමින්, ලොවට
17. එපමන ප්‍රේම කලසේක. තවද,
ලෝකයා වරදට පත්කිරීම පිනිස
නොව, උන්වහන්සේ කරනකොට
ගෙන ලෝකයාගේ ගැලවීම පිනිස,
දෙවියන්වහන්සේ තමන්ගේ පුත්‍රයා
18. ලෝකයට එවූසේක. උන්වහන්
සේ අදහාගන්නා තැනැත්තේ වර
දට පත්නොකරනලද්දේය. අදහා
නොගන්නා තැනැත්තේ, දෙවියන්
වහන්සේගේ ඒකජාත පුත්‍රයාගේ
නාමය අදහා නොගත් බැවින්,
දැන්ම වරදට පත්කරනලද්දේය.
19. ලෝකයට ආලෝකය පැමිනි
යේය; නුමුත් මනුෂ්‍යයන්ගේ ක්‍රියා
වල් නපුරුව තිබෙන බැවින්, ඔවුන්
ආලෝකයට වඩා අන්ධකාරයට ප්‍රිය
කරති; ඒකම ඔවුන් වරදට පත්වී
20. මට කාරනා වේ. මක්නිසාද,
නපුරුකම් කරන සියල්ලෝ ආලෝ
කයට අප්‍රියව, තමන්ගේ ක්‍රියාවල්
ප්‍රකාස නොවෙන පිනිස ආලෝක
21. යට එනෙන්නැත. නුමුත් සැබෑව
කරන තැනැත්තේ, තමන්ගේ ක්‍රියා
වල් දෙවියන්වහන්සේ කෙරෙහි කර
නලදැයි ප්‍රකාසවෙන පිනිස, ආලෝ
කයට එන්නේයයි" කීසේක.

22. ඉන්පසු යේසුස්වහන්සේද
තමන් ගෝලයෝද යුදය රටට පැමි
නියෝය. එහිදී උන්වහන්සේ ඔවුන්
සමග සිට බව්තීස්ම කලසේක.
23. යොහන්ද සාලිම් ලඟවූ බොහෝ
වතුර ඇති ඒනොන් යන ස්ථාන
යෙහි බව්තීස්මකරමින් සිටියේය.
මනුෂ්‍යයොද ඇවිත් බව්තීස්ම ලැබූ

24. වෝය. යොහන් එතකල්ම හිර
ගෙහි දමනු නොලැබූයේය.
25. එකල පවිත්‍රවීම ගැන යුදෙව්
වන් සහ යොහන්ගේ ගෝලයන්
අතරේ වාදයක් හටගත්තේය.
26. එවිට ඔවුන් යොහන් ලඟට
ඇවිත්, "රබ්බී, යොර්දන් එගොඩ
නුඹ සමග සිටියාවූ යමෙක් ගැන නුඹ
සාක්ෂි දුන්නේද? උන්වහන්සේම බව්
තීස්ම කරනසේක. සියල්ලෝද උන්
වහන්සේ වෙතට පැමිණෙතිය"
27. ඔහුට කීවෝය. යොහන් උත්තර
දෙමින් කියනුයේ, "මනුෂ්‍යයෙකුට
ස්වර්ගයෙන් දුන් දෙයක් හැර කිසි
28. වක් ලැබෙන්ට බැරිය. 'මම ක්‍රිස්
තුස් නොවෙමි; නුමුත් උන්වහන්
සේට ඉස්සරව එවනලද්දෙමියි' මම
කී බවට නුඹලාම සාක්ෂිකාරයෝ
29. වෙති. මනමාලී ඇත්තා මනමා
ලයාය; නුමුත් මනමාලයාගේ බස්
අසමින් සිටින්නාවූ මිත්‍රයා මනමාල
යාගේ කථාවට බොහෝසෙයින්
සන්තෝසවෙයි. එසේම මාගේ මේ
සන්තෝසය සම්පූර්ණවූනේය.
30. උන්වහන්සේ වඩිනවෙන්ටද
31. මම අඩුවෙන්ටද නිසිය. උඩින්
එන්නාවූ උන්වහන්සේ සියල්ලන්ටම
උතුම්ය. භූමියෙන්වූ තැනැත්තේ
භූමිකව, භූමිය ගැන කථාකරන්
නේය. ස්වර්ගයෙන් එන්නාවූ තැනැ
න්වහන්සේ සියල්ලන්ට උතුම්ව,
32. තමන්වහන්සේ විසින් අහපු දු
කපු දේ ගැන සාක්ෂි දෙනසේක. නු
මුත් කවරෙක්වත් උන්වහන්සේගේ
33. සාක්ෂිය පිළිනොගන්නේය. දෙවි
යන්වහන්සේ විසින් එවනලද්දාවූ
තැනැන්වහන්සේ ප්‍රමාණයක් නැතුව
දෙවියන්වහන්සේගෙන් ආත්මය
ලැබ, දෙවියන්වහන්සේගේම වචන
34. කියන බැවින්, යමෙක් උන්ව
හන්සේගේ සාක්ෂි පිළිගත්තොත්,
ඔහු දෙවියන්වහන්සේ සැබෑ කෙනෙ
කැයි තමන්ගේ මුද්‍රය තැබූයේය.
35. පියානන්වහන්සේ පුත්‍රයාට ප්‍රේ
මව, සියල්ල උන්වහන්සේගේ අතට
36. බාරදුන්සේක. පුත්‍රයානන්වහන්
සේ කෙරේ අදහන්නාට සදාකල්
ජීවත්වීම ඇත. පුත්‍රයානන්වහන්
සේට කීකරු නොවෙන්නා ජීවනය
නොදක්නේය. එහෙත් දෙවියන්ව
හන්සේගේ උදහස ඔහු කෙරෙහි
පවත්නේයයි" කීයේය.

4. පරිච්ඡේ. යේසුස්වහන්සේගේ
ගෝලයෝ විස, උන්වහන්සේම බව්
තීස්ම නොකලසේක; නුමුත්,
2. "යොහන්ට වඩා යේසුස්වහන්සේ
ගෝලයන් සාදාගෙන බව්තීස්මකල
සේකැයි" ඵරිසිවරුන්ට ආරංචිවූ බව
3. ස්වාමින්වහන්සේ දැන, යුදය හැර
4. ගලිලයට නැවත ගියසේක. උන්
වහන්සේ සමාරිය මැදින් යන්නට
5. ඕනෑය. එකල, යාකොබ් තමන්
පුත්‍රවූ යෝසෑප්ට දුන් බිමට නුදුරුව
තිබෙන සමාරියෙහි සිකාර්නම් නුව
6. රකට පැමිණිසේක. එහි යාකොබ්
ගේ ලිද තිබුනේය. යේසුස්වහන්
සේ ගමනින් වෙහෙසව, ලින් පඩිය
උඩ හිඳගත්සේක. එවිට හවෙනි පැය
7. පමන විය. සමාරියේ ස්ත්‍රියක්
වතුර අදින්නට ආවාය. යේසුස්ව
හන්සේ, "මට බොන්ට දියන්නැයි"
8. ඈට කීසේක. මක්නිසාද, උන්ව
හන්සේගේ ගෝලයෝ කෑම මිලේට
9. ගන්නට නුවරට ගියෝය. එවිට
යුදෙව්වරුන් සමග සමාරිවරුන්ගේ
ගනුදෙනුවක් නැති බැවින්, සමාරි
යෙහි ස්ත්‍රී උන්වහන්සේට කථාකොට,
යුදෙව් කෙනෙක්වූ නුඹ සමාරියේ
ස්ත්‍රියෙක්වූ මගෙන් බොන්නට ඉල්
ලන්නේ කොහොමදැයි" කීවාය.
10. යේසුස්වහන්සේ උත්තර දෙ
මින්, "දෙවියන්වහන්සේගේ තෑග්ග
කිමෙක්ද කියාත්, 'මට බොන්නට
දියන්නැයි' නුඹට කීවේ කවුද
කියාත් නුඹ දැනගත්තානම්, නුඹ

ඔහුගෙන් ඉල්ලනවා ඇත. එවිට
ඔහු නුඹට ජීවනදායක වතුර දෙන
11. වා ඇතැයි” ඈට කීසේක. ඒ
ස්ත්‍රී, “ස්වාමිනි, නුඹට වතුර අදින
භාජනයක් නැත; ලිඳද ගැඹුරුය.
එහෙයින් මේ ජීවනදායක වතුර
12. නුඹට කොයින්ද? “මේ ලිඳ
අපට දුන් අපගේ පියවූ යාකොබ්ට
වඩා නුඹ උතුම් කෙනෙක්ද? ඔහුද
ඔහුගේ පුත්‍රයෝද ඔහුගේ සිව්පා
වෝද මෙයින් බීවෝයයි” උන්වහන්
13. සේට කීවාය. යේසුස්වහන්සේ
උත්තර දෙමින්, “මේ වතුරෙන්
බොන්නාට නැවත පිපාසවෙයි.
14. නුමුත් මම දෙන්නාවූ වතුර
බොන්නාට කවදාවත් පිපාස වෙන්
නේ නැත. මම ඔහුට දෙන වතුර,
සදාකාල ජීවනයට වතුර උනනනාවූ
උල්පතක් මෙන්, ඔහු ඇතුලෙහි
15. වන්නේයයි” කීසේක. ඈ “ස්වා
මිනි, මට පිපාස නොවෙන පිණිසද,
මෙහි අදින්ට නේන පිණිසද, ඒ
16. වතුර දුනමැනවයි” කීවාය. යේ
සුස්වහන්සේද “නුඹ ගොස්, නුඹේ
පුරුෂයා කැඳවාගෙන, මෙහි වරෙන්
17. නැයි” ඈට කීසේක. ඒ ස්ත්‍රිය,
“මට පුරුෂයෙක් නැතැයි” කීවාය.
යේසුස්වහන්සේ ඈට කියනසේක්,
“මට පුරුෂයෙක් නැතැයි නුඹ කීවා
18. හරිය. මක්නිසාද, නුඹට පුරු
ෂයෝ පස්දෙනෙක් වූවෝය; දැන්
සිටින තැනැත්තේ නුඹේ පුරුෂයා
නොවේය, ඒ ගැන සැබෑවම කීවා
19. යයි” කීසේක. ස්ත්‍රීද උන්වහන්
සේට කියන්නී, “ස්වාමිනි, නුඹ අනා
ගතවක්තෘ කෙනෙකැයි දනිමි.
20. අපගේ පියවරු මේ කන්දේදී
නමස්කාර කළෝය; නුමුත් නමස්
කාර කටයුතුවූ ස්ථානය යෙරුසල
මේයයි නුඹලා කියතියි” කීවාය.
21. යේසුස්වහන්සේ ඈට කියන
සේක්, “ස්ත්‍රිය, මාගේ වචනය අදහ
ගනින්න; මේ කන්දේදීවත් යෙරු
සලමේදීවත් පියානන්වහන්සේට න
මස්කාර නොකරන කාලය පැමි
22. ණෙන්නේය. නුඹලා නොදන්
නා දේට නමස්කාර කරති. ගැලවීම
යුදෙව්වන්ගෙන් වන බැවින්, අපි
දන්නා දේට නමස්කාර කරමුව.
23. නුමුත් සැබෑවූ නමස්කාර කරන්
නෝ ආත්මයෙන්ද සැබෑකමෙන්ද
පියානන්වහන්සේට නමස්කාර කරන
කාලය පැමිණෙන්නේය; දැනුත් පැ
මිණ තිබෙයි; මක්නිසාද, පියානන්
වහන්සේ තමන්වහන්සේට නමස්
කාර කරන පිණිස එබඳුවූවන් සො
24. යනසේක. දෙවියන්වහන්සේ
ආත්මයෙක; උන්වහන්සේට නමස්
කාර කරන්නන් විසින් ආත්මයෙන්ද
සැබෑකමෙන්ද නමස්කාර කරන්ට
25. යුතුයයි” කීසේක. ස්ත්‍රීද කියන්
නී, “ක්‍රිස්තුස්යයි කියනලද මෙසි
යස් එනසේකැයි දනිමි. උන්වහන්
සේ ආකල සියල්ල අපට දන්වනසේ
26. කැයි” කීවාය. එවිට යේසුස්ව
හන්සේ, “නුඹ සමග කථාකරනනාවූ
27. මම ඔහුමයයි” ඈට කීසේක. එ
විට උන්වහන්සේගේ ගෝලයෝ
ඇවිත්, උන්වහන්සේ ස්ත්‍රිය සමග
කථාකරනවාට පුදුමවූනෝය. නුමුත්,
කුමක් සොයනසේක්ද? නොහොත්
ඈ සමග කථාකරන්නේ මක්නිසා
දැයි? කවුරුවත් ඇසුවේ නැත.
28. එකල ස්ත්‍රී කලය තබා, නුවරට
29. ගොස්, “මා විසින් කල සියල්ල
මට කීවාවූ මනුෂ්‍යයෙකු බලන්නට
වරෙල්ලාය; ඒ ක්‍රිස්තුස් නොවේ
30. දැයි” මනුෂ්‍යයන්ට කීවාය. එවිට
ඔවුන් නුවරින් පිටත්ව උන්වහන්සේ
වෙතට පැමුනුනෝය.

31. ඒ අතර ගෝලයෝ, “ආචාර්
නි, කැවමැනවයි” උන්වහන්සේට
32. කීවෝය. උන්වහන්සේ, “නුඹලා
නොදන්නා කෑම කන්ට මට ඇ
33. තැයි” ඔවුන්ට කීසේක. එවිට,
“මුන්වහන්සේට කෑම කවුරුවත්

ගෙණාවාද්දෝ" කියා, ගෝලයෝ ඔවු
34. නොවුන් කථාකරගත්තෝය. යේ
සුස්වහන්සේද "මාගේ කෑමනම්
මා එවූ උන්වහන්සේගේ කැමැත්ත
කොට උන්වහන්සේගේ වැඩ තීන්දු
35. කිරීමය. තව සාර මසකින් ගො
යම් කපන කාලය පැමිණෙන්නේ
යයි නුඹලා නොකියද්ද? නුඹලාගේ
ඇස් ඔසවා කුඹුරු දිහා බලාපල්
ලාය; ගොයම් දැනටම කැපීමට පැහී
36. තිබෙන බව පෙනෙන්නේය. වපු
රන්නාත් කපන්නාත් එක්ව සන්
තෝසවෙන පිණිස, කපන්නා කුලී
ලැබ සදාකල් ජීවත්වීමට අස්වැන්න
37. එකතුකරනවා ඇත. මෙසින්
'එකෙක් වපුරන්නේය; අනිකෙක්
කපන්නේය' යන කීම සැබෑය.
38. නුඹලා විසින් වැඩ නොකල
ගොයම් කපන්නට නුඹලා යැවීමි;
අන්‍යයෝ වැඩකලෝය; නුඹලා
ඔවුන්ගේ වැඩේ ඵලප්‍රයෝජන ලැබූ
39. වෝයයි" කීසේක. "මා විසින්
කල සියල්ල මට කීවායයි" සාක්ෂි
දුන් ස්ත්‍රියගේ වචන නිසා, ඒ නුවර
බොහෝ සමාරියයෝ උන්වහන්සේ
40. අදහගත්තෝය. සමාරියයෝ
උන්වහන්සේ ලඟට ඇවිත්, තමන්
සමග සිටින ලෙස ඉල්ළුවෝය. උන්
වහන්සේද දෙදවසක් එහි සිටිසේක.
41. වෙනත් බොහෝ දෙන උන්ව
හන්සේගේම වචන නිසා අදහා,
42. ස්ත්‍රියට කථාකොට, "දැන් නුඹේ
වචන නිසා අදහාගන්නේ නැත;
අපිම උන්වහන්සේගෙන් අසා, සැබෑ
වට ලෝකයාගේ ගැලවුන්කාරයාවූ
ක්‍රිස්තුස්වහන්සේ මුන්වහන්සේමය
කියා දනිමුයයි" කීවෝය.

43. දෙදවසකට පසු උන්වහන්සේ
එතනින් පිටත්ව, ගලිලයට ගිය
44. සේක. "අනාගතවක්තෘ කෙනෙ
කුට තමන්ගේ දේසයේදී ගෞරව
නැතැයි" යේසුස්වහන්සේම සාක්ෂි
45. දුන්සේක. ගලිලයට උන්ව
හන්සේ පැමිණිකල, යෙරුසලමේ
මංගල්‍ය කාලයෙහිදී උන්වහන්සේ
විසින් කල සියල්ල දුටුවාවූ ගලිල
යෝ උන්වහන්සේ පිළිගත්තෝය.
මක්නිසාද, ඔවුහුත් මංගල්‍යයට
46. පැමිණ සිටියෝය. එකල, යේසුස්
වහන්සේ තමන් විසින් වතුරෙන් මුද්‍රි
කපානය සෑදුවාවූ ගලිලයේ කානා
නුවරට නැවත ගියසේක. කප
ර්ණවූමෙහි රෝගීව සිටියාවූ පුත්‍ර
යෙක් ඇති මුලාදෑනියෙක් සිටියේය.
47. ඔහු යේසුස්වහන්සේ යුදයෙහි
සිට ගලිලයට ආ බව අසා, තමාගේ
පුත්‍රයා මරනාසන්නව සිටි බැවින්
උන්වහන්සේ ලඟට ඇවිත්, "මාගේ
පුත්‍රයාට සුවකරන්ට අවමැනවයි"
48. උන්වහන්සේගෙන් ඉල්විය. එවිට
යේසුස්වහන්සේ, "නුඹලා ලකුනුද
ආශ්චර්යයීවල්ද නොදැක අදහගන්
49. නේ නැතැයි" ඔහුට කීසේක. ඒ
මුලාදෑනියා, "ස්වාමිනි, මාගේ පුත්‍රයා
නැසින්ට පලමුවෙන් අවමැනවයි"
50. කීයේය. යේසුස්වහන්සේ, "පලා
යන්න; නුඹේ පුත්‍රයා ජීවත්ව සිටින්
නේයයි" ඔහුට කීසේක. ඔහු යේසුස්
වහන්සේ කී වචනය අදහගෙන
51. ගියේය. ඔහු යනකල, ඔහුගේ
වැඩකාරයෝ ඔහු ඉදිරියට ඇවිත්,
"නුඹේ පුත්‍රයා ජීවත්ව සිටින්නේ
52. යයි" ඔහුට දැන්වූවෝය. එවිට
ඔහු, "කොයි වේලේ සිට සුවවෙන්ට
පටන්ගත්තේදැයි" ඔවුන්ගෙන් ඇසූ
යේය. ඔවුන්ද, "ඊයේ සත්වෙනි
පැයේදී උන බැස්සායයි" ඔහුට
53. කීවෝය. එකල, "නුඹේ පුත්‍රයා
ජීවත්ව සිටින්නේයයි" යේසුස්ව
හන්සේ තමහට කිව් පැයමයයි පියා
දැන, ඔහුද ඔහුගේ සියළු ගෙයි වැසි
54. යෝද අදහගත්තෝය. යේසුස්
වහන්සේ යුදයේ සිට ගලිලයට
නැවත ඇවිත් කලාවූ දෙවෙනි ආශ්
චර්යය මේය.

5. පරිච්ඡෙ. එයින් පසු යුදෙව්වරුන්ගේ මංගල්‍යයක් විය. යේසුස්වහන්සේද යෙරුසලමට ගියසේක. 2. යෙරුසලමෙහි බැටළු දොර ලඟ, හෙබ්‍රෙව් භාෂාවෙන් බෙතෙස්ද නම්වූ, මඩු පහක් ඇති පොකුනක් 3. ඇත්තේය. කලින් කලට දේවදූතයෙක් පොකුනට බැස, වතුර කලඹන්නේය. වතුර කැලඹුනු පසු පලමුකොට එහි බැස්ස යමෙකුට යම් රෝගයක් ඇත්නම්, ඒක සුව වන් 4. නේය. එබැවින්, ඒ මඩුවල අන්ධයෝය, කොරුය, වියලි අවයව ඇත්තෝය, යනාදී බොහෝ රෝගාතුරයෝ වතුර කැලඹීම පැමිනෙනතුරු 5. බලාසිටියෝය. එහි තිස්අට අවුරුද්දක් රෝගයෙන් පීඩිතවූ මනුෂ්‍ය 6. යෙක් සිටියේය. යේසුස්වහන්සේ ඔත්පලව උන් ඔහු දැක, මොහු බොහෝ කල්ගිය රෝගාතුරයෙකැයි දැන, "සුව ලබන්ට කැමතිදැයි?" 7. ඔහුගෙන් ඇසූසේක. රෝගියා උන්වහන්සේට උත්තර දෙමින්, "ස්වාමිනි, වතුර කැලඹෙන කල, මා පොකුනට බස්වන්ට මට කවුරුවත් නැත; ඒ නිසා මම යනකල, වෙන කෙනෙක් මට පලමුවෙන් 8. බස්නේයයි" කීයේය. යේසුස්වහන්සේද, "නැගිට, තුබේ ඇඳ උසුලාගන ඇවිදපන්නැයි" කීසේක. 9. එවලේම ඒ මනුෂ්‍යයා සුවපත්ව, තමාගේ ඇඳ උසුලාගන ඇවිද්දේය. 10. ඒ දවස සබත් දවසය. එහෙයින් යුදෙව්වරු, "මේ සබත් දවසය; ඇඳ උසුලාගන යන්ට හරි නැතැයි" සුව කරනු ලැබූ මනුෂ්‍යයාට කීවෝය. 11. ඔහු ඔවුන්ට උත්තර දෙමින්, "මා සුවකල උන්වහන්සේම, 'තුබේ ඇඳ උසුලාගන ඇවිදපන්නැයි' 12. මට කීසේකැයි" කීය. එවිට ඔවුන්, "තුබේ ඇඳ උසුලාගන ඇවිදින්ට තුබට කී මනුෂ්‍යයා කව්දැයි" 13. ඔහුගෙන් ඇසූවෝය. ඒ ස්ථානයේ සමූහයක් සිටි බැවින්, යේසුස්වහන්සේ පහව ගියසේක. එහෙයින් සුවකරනු ලැබූ මිනිහා උන්වහන්සේ කවුද කියා දැනගත්තේ නැත 14. ඉන්පසු යේසුස්වහන්සේ දේවමාලිගාවේදී ඔහු දැක, "බලාපන, තුබ සුව ලැබුයේය; තුබට වැඩි නරකක් නොපැමිනෙන පිනිස, මතු පව් නො 15. කරන්නැයි" ඔහුට කීසේක. ඒ මනුෂ්‍යයා ගොස්, තමාට සුවකලේ යේසුස්වහන්සේයැයි යුදෙව්වරුන්ට 16. දැන්වූවේය. යේසුස්වහන්සේ මේ දේ සබත් දවසේ කල බැවින්, යුදෙව්වරු උන්වහන්සේට පීඩාකොට උන්වහන්සේ මරන්ට සෙව්වෝය.

17. එවිට යේසුස්වහන්සේ ඔවුන්ට උත්තර දෙමින්, "මාගේ පියානන්වහන්සේ මෙතැන් දක්වාම ක්‍රියා කරනසේක; මමත් ක්‍රියා කෙරෙමියි" 18. කීසේක. එහෙයින් උන්වහන්සේ සබත් කඩකලා පමනක්නොව, දෙවියන්වහන්සේ තමන්ගේම පියානෝයයි කියමින් තමන් දෙවියන්වහන්සේ සමාන කරගත් බැවින්, යුදෙව්වරු උන්වහන්සේ මරන්ට වඩ 19. වඩා සෙව්වෝය. එකල යේසුස්වහන්සේ උත්තර දෙමින්, "සැබවක් සැබවක් තුබලාට කියමි, පියානන්වහන්සේ යමක් කරනසේකැයි පුත්‍රයා දක්නේද? ඒ දේ හැර තනියම මොකවත් කරන්නට බැරිය. පියානන්වහන්සේ කරන දේ පුත්‍ර 20. යාත් එසේම කරන්නේය. තවද, පියානන්වහන්සේ පුත්‍රයා කෙරෙහි සෙන්හව, තමන්වහන්සේ කරනනාවූ සියල්ල ඔහුට පෙන්වනසේක. තුබලා පුදුමවෙන ලෙස, මීට වඩා මහත් ක්‍රියාවන් ඔහුට පෙන්වනසේක. 21. මක්නිසාද, පියානන්වහන්සේ මලවුන් නැගුටුවා ජීවත්කරන ලෙසම, පුත්‍රයා තමන් කැමතිවූවන් 22. ජීවත්කරන්නේය. තවද, සියළු මනුෂ්‍යයෝම පියානන්වහන්සේට

ගෞරව කරන්නාක්මෙන්ම පුත්‍රයා
ටත් ගෞරව කරන පිනිස, පියානන්
වහන්සේ කවරෙක්වත් විනිශ්චය
නොකොට, සියළු විනිශ්චයම පුත්‍ර
22. යාට බාරදුන්සේක. පුත්‍රයාට
ගෞරව නොකරන්නා ඔහු එවූ පියා
නන්වහන්සේටද ගෞරව නොක
24. රන්නේය. සැබවක් සැබවක්
නුබලාට කියමි, මාගේ වචනය අසා
මා එවූ උන්වහන්සේ අදහන්නාට
සදාකාල ජීවනය ඇත. ඔහු වර
දට පත්නොව, මරනින් ජීවනයට
25. පැමිනියේය. සැබවක් සැබවක්
නුබලාට කියමි, දෙවියන්වහන්සේ
ගේ පුත්‍රයාගේ ශබ්දය මලවුන්ට
ඇසෙන පැය පැමිනෙන්නේය;
දැනුත් පැමින තිබේ; අසන්නෝද
26. ජීවත්වෙනවා ඇත. මක්නිසාද,
පියානන්වහන්සේ තමන්වහන්සේ
තුලෙහි ජීවනය බරන්නාසේම, පුත්‍ර
යාටත් තමන් තුලෙහි ජීවනය
27. බරන්ට දුන්සේක. ඔහු මනුෂ්‍ය
පුත්‍ර බැවින්, විනිශ්චයකරන්ටද
28. බලය දුන්සේක. මේ කාරනයට
පුදුමවෙන්නට එපාය. මක්නිසාද,
මිනීවලවල්හි සිටින සියල්ලෝ ඔහු
ගේ ශබ්දය අසන කාලය පැමිනෙන්
29. නේය. එවිට යහපත්කම් කලාහු
ජීවනයෙහි නැවත නැගිටීමටද, අය
හපත්කම් කලාහු දඬුවමෙහි නැවත
නැගිටීමටද, පිටත්ව එනවා ඇත.
30. මා එවූ මාගේ පියානන්වහන්
සේගේ කැමැත්ත මිස, මාගේ කැමැ
ත්ත කරන්ට නොසොයන බැවින්,
තනියම මොකවත් කරන්ට මට නුපුළු
වන; මම අහන ලෙසම විනිශ්චය
කෙරෙමි; මාගේ විනිශ්චයද සාධාර
නය.

31. "මම තනියම මා ගැනම
සාක්ෂි දුනිම්නම්, මාගේ සාක්ෂිය පිළි
32. ගන්ට සුදුසු නැත. මා ගැන සාක්ෂි
දෙන්නාවූ අනිකෙක් ඇත්තේය.
ඔහු විසින් මා ගැන දෙන සාක්ෂිය
33. පිළිගන්ට සුදුසු බව දනිමි. නුබ
ලා යොහන් ලඟට මනුෂ්‍යයන් යැවූ
වෝය; ඔහුද සැබෑකමට සාක්ෂි දුන්
34. නේය. මට මනුෂ්‍ය සාක්ෂිය කමක්
නැත; නුමුත් නුබලාගේ ගැලවීම
35. පිනිස මෙසේ කියමි. ඔහු ඇවිලෙ
න්නාවූ දිලිහෙන්නාවූ පහනක්ව සිටි
යේය. නුබලා ඔහුගේ එළියට ස්වල්ප
කලක් සන්තෝසවෙන්නට කැමති
36. වූවෝය. නුමුත් යොහන්ගේ
සාක්ෂියට වඩා මහත්වූ සාක්ෂියක්
මට ඇත්තේය. එනම්, යම් ක්‍රියාවක්
නිමකරන්ට පියානන්වහන්සේ මට
නියමකලසේක්ද; මම කරන ඒ
ක්‍රියාවම පියානන්වහන්සේ මා එවූ
37. බවට සාක්ෂි දෙන්නේය. මා එවූ
පියානන්වහන්සේම මා ගැන සාක්ෂි
දුන්සේක. නුබලා කවදාවත් උන්ව
හන්සේගේ ශබ්දය ඇසුවේවත්,
උන්වහන්සේගේ රූපය දුටුවේවත්
38. නැත. උන්වහන්සේ විසින් එව
නලද තැනැත්තේ නුබලා අදහ
නොගත් බැවින්, උන්වහන්සේගේ
වචනය නුබලාගේ හිතේ පවතින්
39. නේ නැත. සුබලියවිලි සොයා
පල්ලාය; මක්නිසාද, එහි නුබලාට
සදාකල් ජීවත්වීම ඇතැයි නුබලා
සිතති. ඒවා මා ගැන සාක්ෂි දෙ
40. ති. නුමුත් නුබලා ජීවනය
ලබන පිනිස, මා ලඟට එන්නට
41. කැමති නැත. මනුෂ්‍යයන්ගෙන්
42. ගෞරව නොලබමි. නුමුත් නුබ
ලා හඳුනමි; නුබලා තුලෙහි දෙවි
යන්වහන්සේ කෙරෙහි ප්‍රේමය
43. නැත්තේය. මම මාගේ පියා
නන්වහන්සේගේ නාමයෙන් ආයෙ
මි; නුමුත් නුබලා මා පිළිගන්නේ
නැත. වෙන කෙනෙක් තමාගේම
නාමයෙන් එනෙන්නම්, නුබලා ඔහු
44. පිළිගන්නවා ඇත. දෙවියන්ව
හන්සේ කෙරෙන් පමනක් පැමි
නෙන ගෞරවය නොසොයා, ඔවු
නොවුන්ගෙන් ගෞරව සොයන්

නාවූ තුබලාට අදහගන්ට පුළුවන්
45. කොහොමද? පියානන්වහන්
සේගේ ඉදිරියෙහි මම තුබලාට
වැරදි තබන්නෙමියි නොසිතල්ලාය.
තුබලාට වැරදි තබන්නේ, තුබලා
46. විශ්වාසකරන මෝසෙස්මය. තව
ද, මෝසෙස් මා ගැන ලිව් නිසා,
තුබලා ඔහු අදහාගන්නවානම්
47. මාත් අදහගනිති. තුමුත් ඔහු
ගේ ලියවිලි අදහනොගන්නවානම්,
මාගේ වචන අදහන්නේ කොහො
මදැයි" කීසේක.

6. පරිච්ඡෙ. ඉන්පසු, යේසුස්ව
හන්සේ ගලීලයේ තිබේරියස්නම්වූ
2. මූදෙන් එගොඩට ගියසේක. ම
හත් සමූහයාද උන්වහන්සේ පස්සේ
ගියෝය. මක්නිසාද, රෝගාතුරයන්
කෙරෙහි උන්වහන්සේ විසින් කල
3. ආශ්චර්‍ය්‍යවල් ඔවුන් දුටුවෝය. යේ
සුස්වහන්සේ කන්දකට නැගී, තමන්
ගෝලයන් සමග වැඩලුන්සේක.
4. එකල යුදෙව්වරුන්ගේ පාස්කු
5. මංගල්‍යය කිට්ටුවිය. යේසුස්වහන්
සේ ඉදිරිය බලා, තමන් ලඟට බො
හෝ සමූහයෝ එනවා දැක, "මො
වුන්ට කන්නට කෑම අපි කොත
නින් මිලේට ගනිමුදැයි" පිලිප්ට
6. කීසේක. තමන්වහන්සේ විසින්
කටයුතු කිමෙක්දැයි තමන්ම දන්න
තුමුත්, ඔහු පරීක්ෂාකරන්ට මෙසේ
7. කීසේක. පිලිප් උන්වහන්සේට
උත්තර දෙමින්, "ඔවුන්ගෙන් එක
එකාට ටික ටික දෙන්නට මසු දෙසී
යයක රොටිත් මදියයි" කීයේය.
8. උන්වහන්සේගේ ගෝලයන්ගෙන්
එකෙක්වූ සීමොන් පේත්‍රුස්ගේ
9. සහෝදරවූ අන්ද්‍රෑ කියන්නේ, "යව
රොටි පසක්ද කුඩා මසුන් දෙන්
නෙක්ද ඇත්තාවූ තරුනයෙක් මෙහි
ඇත. තුමුත් මෙපමන දෙනෙකුට
ඒවා කුමටදැයි" උන්වහන්සේට කීය.
10. යේසුස්වහන්සේ, "මනුෂ්‍යයන්
වාඩිකරවාපල්ලායයි" කීසේක. එත
න තනකොල බොහෝය. එවිට
ගනන් වසයෙන් පන්දහසක් පමනවූ
11. මනුෂ්‍යයෝ වාඩිවූනෝය. එකල
යේසුස්වහන්සේ රොටි අරගෙන,
ස්තුතිකොට, ගෝලයන්ට බෙදාදුන්
සේක. ගෝලයෝද ඉඳගත්තවුන්ට
බෙදාදුන්නෝය. එසේම මසුන්ගෙනුද
ඔවුන්ට කැමති පමන දුන්නෝය.
12. ඔවුන් තෘප්තියට පැමිනිකල්හි,
"කිසිවක් නැතිනොවෙන පිනිස,
ඉතුරුවූන කැබලි එකතුකරපල්ලා
යයි" තමන් ගෝලයන්ට කීසේක.
13. එවිට ඔවුන් එකතුකොට, මිනී
සුන් කාලා ඉතුරුවූන යව රොටි පසේ
කැබලිවලින් පෙට්ටි දොලහක් පුර
වාගත්තෝය.

14. යේසුස්වහන්සේ විසින් කල
ආශ්චර්‍ය්‍යය ඒ මනුෂ්‍යයෝ දැක,
"සැබැවටම මූන්වහන්සේ ලෝකයට
එන්නාවූ අනාගතවක්තෘමයයි" කී
15. වෝය. එකල ඔවුන් ඇවිත් ත
මන් රජකමට තබාගන්නා පිනිස බ
ලාත්කාරයෙන් අල්වාගනිතියි යේසු
ස්වහන්සේ, දැන, තනියම නැවත
16. කන්දට ගියසේක. සවස්වූකල
උන්වහන්සේගේ ගෝලයෝ වෙර
17. ලට ගොස්, නැවට නැගී, මූදෙන්
කපර්ණවූමට යන පිනිස ගියෝය.
එවිට අන්ධකාරවිය. යේසුස්වහන්සේ
18. ඔවුන් ලඟට ආවේ නැත. තද
හුළඟක් ගැසූ බැවින්, මූද කැලඹු
19. නේය. ගව්වක් පමන දුර පැද
ගන ගියාවූ ඔවුන්, මූද පිට ඇවිදි
මින් නැව ලඟට එන්නාවූ යේසුස්ව
20. හන්සේ දැක, භයවූවෝය. උන්
වහන්සේද "මමය; භයනොවෙල්
21. ලායයි" ඔවුන්ට කීසේක. එවිට
ඔවුන් උන්වහන්සේ සන්තෝසයෙන්
නැවට ගත්තෝය. එවලේම නැව
ඔවුන් විසින් යන්ට ගිය ඉඩමට පැමු
නුනේය.

22. පසුවද, වෙරළේ සිටියාවූ සමූ
හයෝ උන්වහන්සේගේ ගෝලයන්
නැංගාවූ නැව මිස එහි වෙන කිසි
නැවක් නැති බවත්, යේසුස්වහන
සේ තමන් ගෝලයන් සමග ඒ
නැවට නොනැගුනු බවත්, උන්වහන
සේගේ ගෝලයන් පමනක් ගිය
23. බවත්, දැනගත්තෝය. නුමුත
ස්වාමින්වහන්සේ සතුතිකොට යම්
තැනකදී සමූහයාට රොටි දුන්සේක්
ද; ඊට නුදුරුවූ තිබේරියස්හි සිට
24. වෙන නැව් ආවෝය. එසේහෙ
යින් සමූහයෝ යේසුස්වහන්සේවත්
උන්වහන්සේගේ ගෝලයෝවත් එහි
නැතැයි දැන, නැව්වලට නැගී, යේ
සුස්වහන්සේ සොයමින් කපර්ණවූ
25. මට ගියෝය. ඔවුන් මූදෙන්
එගොඩව සිටි උන්වහන්සේ දැක,
"රබ්බී, ඔබවහන්සේ කොයි වේලේ
මෙතනට ආසේක්දැයි" ඇසුවෝය.
26. යේසුස්වහන්සේ උත්තර දෙමින්,
"සැබවක් සැබවක් නුබලාට කියමි.
නුබලා විසින් ආශ්චර්‍යයවල් දුටු බැ
වින් නොව, රොටී කා තෘප්තියට පැ
මිනි බැවින් නුබලා මා සොයති.
27. විනාසවෙන්නාවූ කෑම පිනිස
වැඩනොකොට, පියවූ දෙවියන්ව
හන්සේ විසින් මුද්‍රකල මනුෂ්‍ය පුත්‍රයා
නුබලාට දෙන්නාවූ, සදාකාල ජීවත්
වීම පිනිස පවතින කෑමට වැයම්
28. කරපල්ලායයි" කීසේක. එවිට
ඔවුන්, "දෙවියන්වහන්සේගේ වැඩ
කරන පිනිස අප විසින් කුමක් ක
රමුදැයි" උන්වහන්සේගෙන් ඇසු
29. වෝය. යේසුස්වහන්සේ උත්තර
දෙමින්, "දෙවියන්වහන්සේගේ වැඩ
නම්, උන්වහන්සේ එවූ තැනැත්තා
නුබලා විසින් අදහගැන්මයයි" ඔ
30. වුන්ට කීසේක. එවිට ඔවුන්,
"එසේවීනම්, අප විසින් දැක ඔබව
හන්සේ අදහගන්නා පිනිස, මොන
ලකුනක් අපට පෙන්වනසේක්ද?
ඔබවහන්සේ කරන්නේ මොකද?
31. 'ඔහු ස්වර්ගයෙන් ඔවුන්ට කන
පිනිස කෑම දුන්නේයයි' ලියා තිබෙ
න ලෙස, අපේ පියවරු වනාන්තු
රේදී මන්නා කෑවෝයයි" උන්වහන්
32. සේට කීවෝය. එකල යේසුස්
වහන්සේ ඔවුන්ට කියනසේක්,
"සැබවක් සැබවක් නුබලාට කියමි,
මෝසෙස් ස්වර්ගයෙන් කෑම නුබ
ලාට දුන්නේ නැත. මාගේ පියානන්
වහන්සේ ස්වර්ගයෙන් සැබෑවූ කෑම
33. නුබලාට දෙනසේක. දෙවියන්
වහන්සේ දෙන කෑමනම්, ස්වර්ග
යෙන් බැස ලෝකයාට ජීවනය
34. දෙන කෑමයයි" කීසේක. එවිට
ඔවුන්, "ස්වාමිනි, ඒ කෑම නිතරම
35. අපට දුනමැනවයි" කීවෝය. යේ
සුස්වහන්සේ ඔවුන්ට කියනසේක්,
"ජීවන දායක කෑමනම් මමය; මා
ළඟට එන්නාට කිසි කලෙකත් බඩ
ගිනි වෙන්නේ නැත. මා අදහන්
නාට කිසි කලෙකත් පිපාස වෙන්
36. නේ නැත. මම නුබලාට කී
ලෙසම, නුබලා මා දැකත් අදහන්
37. නේ නැත. පියානන්වහන්සේ
මට දෙන සියල්ලෝ මා ළඟට එනවා
ඇත. මා ළඟට එන තැනැත්තා
ඒකාන්තයෙන්ම අහක නොදමමි.
38. මක්නිසාද, මා එවූ තැනන්වහන්
සේගේ කැමැත්ත මිස, මාගේ කැමැ
ත්ත කරන්ට ස්වර්ගයෙන් නොබැස්
39. සෙමි. මා එවූ පියානන්වහන්
සේගේ කැමැත්තනම්, උන්වහන්සේ
මට දුන් සියල්ලන්ගෙන් කිසිවෙක්
නැතිනොකොට, අන්තිම දවසේදී
40. ඔවුන් නැගිටවීමය. මා එවූ තැ
නන්වහන්සේගේ කැමැත්තනම්,
පුත්‍රයා දැක ඔහු කෙරෙහි අදහන්
නාවූ සියල්ලන්ට සදාකාල ජීවනය
ලැබීමත්, අන්තිම දවසේදී මා විසින්
ඔවුන් නැගිටවීමත්යයි" කීසේක.

41. එවිට "ස්වර්ගයෙන් බැස්සාවූ
කෑමනම් මමයයි" උන්වහන්සේ කී
බැවින්, යුදෙව්වරු උන්වහන්සේ

42. ගැන කොඳුරමින්, "මොහු යෝ
සැප්ගේ පුත්‍රවූ යේසුස් නොවේද?
මොහුගේ මව්පියන් අපි නාඳුනමුද?
එසේවීනම්, 'මම ස්වර්ගයෙන් බැස්
සෙමියි' මොහු කියන්නේ කොහො
43. මදැයි' කීවෝය. එකල යේසුස්
වහන්සේ ඔවුන්ට උත්තර දෙමින්
කියනසේක්, "තුඹලා අතරෙහි
44. කොඳුරන්ට එපාය. මා එවූ පියා
නන්වහන්සේ විසින් මා ලඟට පමුනු
වන්නාවූ කෙනෙකුට මිස, වෙන
කාටවත් මා ලඟට පැමිනෙනනට
බැරිය. මම අන්තිම දවසේදී ඔහු
45. නැගුටුවමි. 'සියල්ලෝම දෙවිය
න්වහන්සේ විසින් උගන්වනු ලබතියි'
අනාගතවක්තෘන්ගේ ලියවිලිවල ලි
යාතිබෙයි. එසේහෙයින් පියානන්ව
හන්සේගෙන් අසා උගත් සියල්
ලෝම මා ලඟට එනවා ඇත.
46. එසේ නුමුත්, දෙවියන්වහන්සේ
කෙරෙන් ආ තැනැත්තා මිස, කවුරු
වත් පියානන්වහන්සේ දුටුවේ නැත.
ඔහුම පියානන්වහන්සේ දුටුවේය.
47. සැබවක් සැබවක් තුඹලාට
කියමි, මා අදහනනාට සදාකාල ජීව
48. නය ඇත. ජීවනදායක කෑව
49. මමය. තුඹලාගේ පියවරු වනාන්
තරයේදී මන්නා කෑ නුමුත් නැසු
50. නෝය. මෙයින් කන කවුරු
නුමුත් නොනසින පිනිස, ස්වර්ග
51. යෙන් බැස්සාවූ කෑම මේය. ස්ව
ර්ගයෙන් බැස්සාවූ ජීවනදායක කෑම
මමය; කවුරු නුමුත් මේ කෑම කෑ
වොත් සදාකල් ජීවත්වනෙන්ය. ලෝ
කයාගේ ජීවත්වීම පිනිස මම දෙන්
නාවූ කෑමනම්, මාගේ මාංශයයි" කී
52. සේක. එවිට යුදෙව්වරු ඔවුනො
වුන් අතරේ වාදකරමින්, "අපට කෑ
මට තමන්ගේ මාංශ දෙන්නට මො
හුට පුළුවන් කොහොමදැයි" කී
53. වෝය. ඒ නිසා යේසුස්වහන්සේ
ඔවුන්ට කියනසේක්, "සැබවක් සැබ
වක් තුඹලාට කියමි, තුඹලා මනුෂ්‍ය
පුත්‍රයාගේ මාංශ නොකනවානම්,
ඔහුගේ ලේ නොබොනවානම්,
තුඹලා තුලෙහි ජීවනය ඇත්තේ
54. නැත. මාගේ මාංශ කන්නාවූ
මාගේ ලේ බොන්නාවූ තැනැත්තාට
සදාකාල ජීවනය ඇත. අන්තිම දව
55. සේදී මම ඔහු නැගුටුවමි. මක්නි
සාද, මාගේ මාංශය සැබෑවූ කෑමත්,
56. මාගේ ලේ සැබෑවූ බීමත්ය. මා
ගේ මාංශ කන්නාවූ මාගේ ලේ
බොන්නාවූ තැනැත්තේ මා ඇතු
ලෙහි වසයි; මමද ඔහු ඇතුලෙහි
57. වසමි. ජීවමානවූ පියානන්ව
හන්සේ මා එවූවාක්මෙන්ද, මමත්
පියානන්වහන්සේ නිසා ජීවත්වන්
නාක්මෙන්ද, මා කන තැනැත්තේම
58. මා නිසා ජීවත්වෙනවා ඇත. ස්ව
ර්ගයෙන් බැස්සාවූ කෑම මේය. මේක
තුඹලාගේ පියවරු කෑ මන්නා වාගේ
නොවේය. ඔවුන් එයින් කෑ නුමුත්
නැසුනෝය. යමෙක් මේ කෑම
කෑවොත්, ඔහු සදාකල් ජීවත්වෙ
59. නවා ඇතැයි" කීසේක. උන්
වහන්සේ කපර්ණවුමේ සිනගෝ
ගයේ උගන්වද්දී මේ කාරනා කීසේක.

60. උන්වහන්සේගේ ගෝලයන්
ගෙන් බොහෝදෙන ඒ අසා, "මේ
කීම අප්‍රසන්නය; මේක පිළිගන්ට
61. කාට පුළුවන්දැයි" කීවෝය. ගෝ
ලයෝ ඒ ගැන කොඳුරනවා යේසුස්
වහන්සේ තමන් සිතින් දැන, ඔවුන්ට
කියනසේක්, "මේක තුඹලාට බාධා
62. වක්ද? මනුෂ්‍ය පුත්‍රයා පෙර විසූ
තැනට නගිනවා තුඹලා දකිනවා
63. නම් කෙසේද? ජීවත්කරන්නේ
ආත්මයය. මාංශයෙන් කිසි ප්‍රයෝජ
නයක් නැත. මම තුඹලාට කියන
වචනම ආත්මයද ජීවනයද වෙයි.
64. නුමුත් තුඹලා අතරෙන් සමහ
රෙක් අදහනෙන් නැතැයි" කීසේක.
යේසුස්වහන්සේ මෙසේ කීවේ, නො
අදහනෙනා කවුරුද, තමන්වහන්සේ
පාවාදෙන තැනැත්තා කවුදැයි, මුල

65. පටන් දැනගත් නිසාය. තවද
උන්වහන්සේ කියනසේක්, "එහෙ
යින් මාගේ පියානන්වහන්සේ විසින්
බලය දුන් කෙනෙකුට මිස, කාටවත්
මා ළඟට එන්නට බැරි බව තුබලාට
66. කීමියි" කීසේක. එතැන් පටන්
උන්වහන්සේගේ ගෝලයන්ගෙන්
බොහෝ දෙනෙක් උන්වහන්සේ
සමග නොහැසිර අහක්ව ගියෝය.

67. එකල යේසුස්වහන්සේ, "තුබ
ලාත් අහක්ව යන්ට කැමතිදැයි"
දොලොස් දෙනාගෙන් ඇසූසේක.
68. එවිට සීමොන් පේත්‍රුස් උන්වහන්
සේට උත්තර දෙමින්, "ස්වාමීනි, අපි
කවුරු ළඟට යමුද? සදාකල් ජීවනය
දෙන වචන ඔබවහන්සේට ඇත්
69. තේය. ඔබවහන්සේ ජීවමාන
දෙවියන්වහන්සේගේ පුත්‍රවූ ක්‍රිස්තුස්
යයි, අපි දැනගෙන අදහමුයයි" කී
70. යේය. යේසුස්වහන්සේ ඔවුන්ට
උත්තර දෙමින්, "මම තුබලා දො
ලොස්දෙන තෝරා නොගතිම්ද?
නුමුත් තුබලාගෙන් එකෙක් මට විරු
71. ඩකාරයයි" කීසේක. සීමොන්
ගේ පුත්‍රවූ යූදස් ඉස්කාරියෝත් ගැන
මෙසේ කීසේක. මක්නිසාද, දොළස
ගෙන් එකෙක්වූ ඔහු උන්වහන්සේ
පාවාදෙන තැනැත්තාය.

7. පරිච්ඡේ. ඉන්පසු යුදෙව්වරු
යේසුස්වහන්සේ මරන්ට සෙවූ බැ
වින්, උන්වහන්සේ යුදයෙහි හැසි
රෙන්ට නොකමැතිව, ගලීලයෙහි
හැසුරුනුසේක.

2. යුදෙව්වරුන්ගේ කූඩාරම් නම්
3. වූ මංගල්‍යය ළන්වීය. එවිට උන්
වහන්සේගේ සහෝදරයෝ කිය
නෙනෝ, "තුබ කරන ක්‍රියාවල් තු
ඹේ ගෝලයොත් දකින පිනිස,
මෙයින් පිටත්ව යුදයට ගිය මැන
4. ව. මක්නිසාද, ප්‍රසිඬවෙන්නට
සොයන්නාවූ තැනැත්තේ කිසි දෙ
යක් රහසින් කරන්නේ නැත. එබැ
වින් තුබ මේ දේ කරනවා නම්,
ලෝකයාට තමන් දක්වුව මැන
5. වයි" කීවෝය. මක්නිසාද, උන්
වහන්සේගේ සහෝදරයෝ පවා
උන්වහන්සේ අදහගත්තේ නැත.
6. එවිට යේසුස්වහන්සේ ඔවුන්ට
කියනසේක්, "මාගේ කාලය තවම
පැමුනුනේ නැත. තුබලාගේ කාලය
7. නිතරම පැමිනී තිබෙයි. තුබලාට
වෛර වෙන්නට ලෝකයාට බැරිය.
නුමුත් ඔවුන්ගේ ක්‍රියාවල් නපුරු
බවට මම සාක්ෂි දෙන බැවින්, මට
8. වෛරවෙති. ඒ මංගල්‍යයට තුබලා
පලයල්ලාය; මාගේ කාලය තවම සම්
පූර්ණනුවූ හෙයින්, ඒ මංගල්‍යයට
9. දැන්ම නොයමියි" කීසේක. උන්
වහන්සේ මෙසේ ඔවුන්ට කියා, ගලී
10. ලයෙහි සිටිසේක. තවද තමන්
ගේ සහෝදරයෝ ගිය කල, උන්ව
හන්සේද අප්‍රසිඬව රහස් වසයෙන්
මංගල්‍යයට ගියසේක.

11. යුදෙව්වරු මංගල්‍යයෙහිදී උන්
වහන්සේ සොයමින්, "ඔහු කො
12. තැන්හිදැයි" ඇසූවෝය. සමූහ
යන් අතරෙහි උන්වහන්සේ ගැන
මහත් කෙඳිරීමක් විය. සමහරෙක්,
"ඔහු සත්පුරුෂයෙකැයි" කීවෝය.
සමහරෙක්, "නැත; ඔහු සමූහයා
13. රවටන්නේයයි" කීවෝය. නුමුත්
යුදෙව්වරුන්ට භය නිසා, කවුරුවත්
උන්වහන්සේ ගැන ප්‍රසිඬයෙන් කථා
14. කලේ නැත. මංගල්‍යය මැදදී
යේසුස්වහන්සේ දේවමාලිගාවට
15. ගොස් ඉගැන්වූසේක. එවිට
යුදෙව්වරු පුදුමව, "කවදාවත් ඉග
නතාවූ මූන්වහන්සේ පඬිතයෙක්ව
සිටිනෙන කොහොමදැයි" කීවෝය.
16. යේසුස්වහන්සේ ඔවුන්ට උත්
තර දෙමින්, "මාගේ ඉගැන්වීම මා
එවූ උන්වහන්සේගේ මිස, මාගේ
17. නොවේය. යමෙක් උන්වහන්
සේගේ කැමැත්ත කරන්නට කැම
තිනම්, ඔහු ඒ ඉගැන්වීම දෙවියන්

වහන්සේගෙන්වූ ඉගැන්වීමක්ද,
නොහොත් මාගේ සිතින් උපදවා
18. කියන දේදැයි දැනගනිති. තමා
ගේ හිතෙන් උපදවන දේ කියනතා
තමාගේම ගෞරවය සොයයි; නුමුත්
තමන් එවූ තැනන්වහන්සේගේ
ගෞරවය සොයන්නා සැබෑවූ කෙ
නෙක; ඔහු කෙරෙහි වංචාවක් නැත.
19. මෝසෙස් නුබලාට ව්‍යවස්ථාව
දුන්නේ නැද්ද? නුමුත් නුබලාගෙන්
කවුරුවත් ව්‍යවස්ථාව රක්ෂාකරන්
නේ නැත. මා මරන්නට සොයන්
20. නේ මක්නිසාදැයි" කීසේක. ස
මූහයෝ උත්තර දෙමින්, නුබට
යක්ෂයෙක් ආවේසව ඇත; නුබ
මරන්ට සොයන්නේ කවුදැයි"
21. කීවෝය. යේසුස්වහන්සේ උත්
තර දෙමින්, "එක් ක්‍රියාවක් කෙ
ලෙමි; එයට නුබලා සියල්ලෝ පුදුම
22. වෙති. මෝසෙස් චර්මඡේදනය
නුබලාට දුන්නේය; එත් මෝසෙස්
ගෙන් නොව පියවරුන්ගෙන් වූනේ
ය. නුබලාද සබත් දවසේදී මනුෂ්‍ය
23. යෙකු චර්මඡේදනය කරති. මෝ
සෙස්ගේ ව්‍යවස්ථාව අවලංගු නොක
රන පිනිස, මනුෂ්‍යයෙක් සබත් දව
සේදී චර්මඡේදනය ලබනවානම්,
මම සබත් දවසේදී මනුෂ්‍යයෙක්
සම්පූර්ණයෙන් සුවකලාට නුබලා
24. මා කෙරේ කුමට කිපෙද්ද?
ධාර්මික විනිශ්චයෙන් මිස, නිකම්
පෙනෙන හැටියට විනිශ්චය නොක
25. රල්ලායයි" කීසේක. එවිට යෙ
රුසලම් වාසීන්ගෙන් සමහරු කියන්
නෝ, "ඔවුන් විසින් මරන්නට සො
26. යන්නේ මොහු නොවේද? මො
හු භයක් නැතුව කථාකරන්නේය;
ඔවුන්ද මොහුට කිසි දෙයක් කියන්
නේ නැත. ඔවුන් මොහු ක්‍රිස්තුස්ම
27. යයි සැබෑවටම දන්නෝද? මො
හු කොතනින් ආයේදැයි දනිමුව.
නුමුත් ක්‍රිස්තුස්වහන්සේ එනකල,
උන්වහන්සේ කොතනින් එනසේක්
දැයි කවුරුවත් නොදන්නේයයි"
28. කීවෝය. ඒ නිසා, දේවමාලිගා
වේ උගන්වමින් සිටියාවූ යේසුස්ව
හන්සේ ශබ්ද පවත්වමින්, "නුබලා
මා කවුද කියාත්, කොතනින් ආවාද
කියාත් දනිති. මාගේම කැමැත්
තෙන් නායෙමි; නුමුත් මා එවූ උන්
වහන්සේ සැබෑ කෙනෙක. නුබලා
උන්වහන්සේ අඳුනන්නේ නැත.
29. මම උන්වහන්සේ කෙරෙන් ආ
බැවින්ද, උන්වහන්සේ විසින් මා
එවූ බැවින්ද, උන්වහන්සේ අඳුන
30. මියි" කීසේක. එවිට ඔවුන් උන්
වහන්සේ අල්ලන්ට සෙව්වෝය.
නුමුත් උන්වහන්සේගේ කාලය ඒ
වෙනතුරුම නොපැමුනුන බැවින්,
කවුරුවත් උන්වහන්සේ ඇල්ලුවේ
31. නැත. සමූහයාගෙන් බොහෝ
දෙන උන්වහන්සේ අදහගෙන,
"ක්‍රිස්තුස්වහන්සේ ආකල, මූන්ව
හන්සේ විසින් කල ආශ්චර්යවලට
වඩා උන්වහන්සේ කරනසේක්දැයි"
කීවෝය.

32. සමූහයෝ උන්වහන්සේ ගැන
මෙයාකාර කොඳුරතියි ඵරිසිවරු ඇසූ
වෝය. ඔවුන්ද, නායකපූජකයෝද,
උන්වහන්සේ අල්ලන්ට සේවකයන්
33. යැව්වෝය. එවිට යේසුස්වහන්
සේ ඔවුන්ට කියනසේක්, "ස්වල්ප
වේලාවක් මම නුබලා සමග සිටිමි;
ඉන්පසු මා එවූ උන්වහන්සේ ලඟට
34. යමි; නුබලා මා සොයති; නුමුත්
නුබලාට සම්භ නොවෙමි. මම සිට්න
තැනට එන්නට නුබලාට නුපුළුව
35. නැයි" කීසේක. ඒ නිසා යුදෙව්
වරු ඔවුනොවුන් කථාකරමින්,
"ඔහු අපට සම්භනොවෙන්ට කො
තනට යන්නේද? ග්‍රීකයන් කෙරෙන්
ඉසිරී ගියවුන් ලඟට ගොස්, ග්‍රීකයන්
36. ට උගන්වන්නේද? 'නුබලා මා
සොයති; නුමුත් නුබලාට සම්භනො
වෙමි; මම සිට්න තැනට එන්නට
නුබලාට නුපුළුවනැයි' ඔහු විසින්

කී කාරනාව මොකදැයි" කීවෝය.
37. මංගල්‍යයේ අන්තිම මහත් දව
සෙහි යේසුස්වහන්සේ වැඩසිට ශබ්ද
පවත්වමින්, "යමෙකුට පිපාස ඇද්ද;
38. ඔහු මා ළඟට ඇවිත් බීවාවේ. ය
මෙක් මා අදහන්නේද; ශුද්ධ ලිය
විල්ලෙහි කියා තිබෙන හැටියට,
ජීවන දියක වතුර ඇති ගංගා
ඔහු කෙරෙන් ගලනවා ඇතැයි"
39. කීසේක. මේ උන්වහන්සේ අද
හනවුන්ට ලැබෙනනට තිබෙන ආත්
මය ගැන උන්වහන්සේ කීසේක.
මක්නිසාද, යේසුස්වහන්සේ ඒතාක්
කල්ම තේජසට නොපැමිනි බැවින්,
ඒතාක්කල්ම ශුද්ධාත්මය නොදෙන
40. ලද්දේය. සමූහයාගෙන් බොහෝ
දෙන මේ වචනය අසා, "සැබැවටම
මූනවහන්සේ අනාගතවක්තෘමයයි"
41. කීවෝය. සමහරු, "මූනවහන්සේ
42. ක්‍රිස්තුස්යයි" කීවෝය. සමහරු,
"ක්‍රිස්තුස් ගලීලයෙන් එනවා ඇද්ද?
ක්‍රිස්තුස් දාවිත්ගේ වංශයෙනුද, දාවිත්
විසූ බෙත්ලෙහෙම් නුවරින්ද එනවා
ඇතැයි ශුද්ධලියවිල්ලෙහි කියාතිබෙ
43. නවා නොවේදැයි" කීවෝය. මෙ
සේ උන්වහන්සේ ගැන සමූහයා අත
44. රෙහි භේදයක් වූනේය. ඔවුන්
ගෙන් සමහරෙක් උන්වහන්සේ අල්
ලන්ට කැමතිවූවෝය. නුමුත් කවුරු
වත් උන්වහන්සේ පිට අත් තැබූවේ
45. නැත. පසුව සේවකයෝ නායක
පූජකයන් සහ ඵරිසිවරුන් ළඟට
ආවෝය. එකල ඔවුන්, "නුබලා ඔහු
නොගෙනාවේ මක්නිසාදැයි" සේව
46. කයන්ගෙන් ඇසූවෝය. සේවක
යෝ උත්තර දෙමින්, "මේ මනුෂ්‍යයා
ලෙස කිසි කලෙක කිසි මනුෂ්‍ය
යෙක් කථාකලේ නැතැයි" කීවෝ
47. ය. එවිට ඵරිසිවරු ඔවුන්ට උත්
තර දෙමින්, "නුබලාත් රැවටුනෝද?
48. ප්‍රධානීන්ගෙනවත් ඵරිසීන්ගෙන්
වත් කිසිවෙක් ඔහු අදහගත්තෝද?
49. නුමුත් ව්‍යවස්ථාව නොදත්තාවූ
වූ සමූහයා සාපලත්තෝයයි" කී
50. වෝය. එකල ඔවුන්ගෙන් එ
කෙක්වූ, රාත්‍රියෙහි යේසුස්වහන්සේ
ළඟට ගියාවූ නිකදේමුස් උත්තර
51. දෙමින්, "කාට නුමුත් කියන්
නට තිබෙන දෙයක් පලමු කොටම
නොඅසා, ඔහු කරන්නේ මොකද
නොදැන, අපගේ ව්‍යවස්ථාවෙන් ඔහු
වරදට පමුනුවන්නට සුතුදැයි"
52. ඔවුන්ගෙන් ඇසුයේය. ඔවුන්ද
ඔහුට උත්තර දෙමින්, "නුබත් ගලී
ලයෙක්ද? සොයා බලාපන්න; ගලී
ලයෙන් කිසි අනාගතවක්තෘ කෙ
නෙක් නොනැගිටින්නේයයි" කී
53. වෝය. එවිට සියල්ලෝම තම
තමන්ගේ ගෙවලට ගියෝය.

8. පරිච්ඡ. යේසුස්වහන්සේද
2. ඔලීව කන්දට ගියසේක. උන්ව
හන්සේ උදයම දේවමාලිගාවට නැව
ත ආසේක. සියළු සෙනග උන්වහන්
සේ ළඟට පැමිනියෝය; උන්වහන්
සේ වැඩහිඳ, ඔවුන්ට ඉගැන්නුසේක.
3. එවිට පරපුරුෂ සේවනය කරද්
දීම අසුවූන ස්ත්‍රියක් ලියන්නෝද
ඵරිසිවරුද උන්වහන්සේ ළඟට ගෙ
4. නවුත්, මැද සිටුවා, "ආචාරිනි, මේ
ස්ත්‍රී පරපුරුෂ සේවනය කරද්දීම
5. අල්ලන්නට යෙදුනාය. මෙබඳුවූ
වන්ට ගල් ගසා මරන්නට, මෝසෙස්
ව්‍යවස්ථාවෙහි අපට අනකලේය.
එහෙත් ඔබවහන්සේ කුමක් කියන
සේක්දැයි" උන්වහන්සේගෙන් ඇසූ
6. වෝය. මේ කාරනාව කීවේ, උන්
වහන්සේ පරීක්ෂාකරමින් උන්වහන්
සේට දෝෂ පමුනුවන පිනිසය.
නුමුත් යේසුස්වහන්සේ නැමී, ඇඟි
7. ල්ලෙන් බිම ලිවූසේක. ඔවුන්
උන්වහන්සේගෙන් අසමින් සිටිද්දීම,
උන්වහන්සේ කෙලින්ව, "නුබලා
අතරෙන් පව් නැති මනුෂ්‍යයෙක්
ඇට පලමුකොට ගලක් ගසාවයි" කී
8. යා, නැවතත් නැමී බිම ලිවූසේක.

9. ඔවුන් ඒ අසා, තමතමන්ගේ හෘදසාක්ෂියටම වරදකාරයන් බව හැඟී, වැඩිමහල්ලා පටන් බාලයා දක්වා එක එකා පිටත්ව ගියෝය. යේසුස්වහන්සේ පමනක් සිටිසේක; 10. ඒ ස්ත්‍රීද මැද සිටියාය. යේසුස්ව හන්සේ කෙලින්ව, ඒ ස්ත්‍රිය හැර වෙන කවුරුවත් නොදක, "ස්ත්‍රිය, තුබට වැරදි තබමින් සිටියෝ කොහිද? කවුරුවත් තුබ අච්චුවට නියම කලේ නැද්දැයි?" ඇගෙන් ඇසූ 11. සේක. ඈ "ස්වාමිනි, නැතැයි" කීවාය. එවිට යේසුස්වහන්සේ, "මම ද තුබ අච්චුවට නියම නොකරමි; පලයන්න; මෙතැන් පටන් පව් නොකරන්නැයි" ඈට කීසේක.

12. යේසුස්වහන්සේ නැවතත් ඔවුන් සමග කථාකරමින්, "ලෝක යෙහි ආලෝකය මමය. මා පස්සේ එන්නා අඳුරෙහි නොහැසිර, ජීවන යෙහි එළිය ලබන්නේයයි" කීසේක. 13. එවිට ඵරිසියෝ, "තුබ තමන් ගැනම සාක්ෂි දෙන්නේය. තුබේ සාක්ෂිය සැබෑ නැතැයි" උන්වහන් 14. සේට කීවෝය. යේසුස්වහන් සේ උත්තර දෙමින්, "මම මා ගැනම සාක්ෂි දෙන නුමුත්, මම ආවේ කොතනින්ද යන්නේ කොත නටදැයි දැනගත් බැවින්, මාගේ සාක්ෂි සැබෑය. මම කොතැන්හි සිට ආයෙම්ද, කොතැනට යෙම්දැයි තුබ 15. ලා දන්නේ නැත. තුබලා මාංශාකාරයෙන් විනිශ්චය කරති; මම කවුරුවත් විනිශ්චය නොකරමි. 16. මම විනිශ්චය කෙරෙම්නම්, මම තනියම නොසිට මා එවූ පියානන්ව හන්සේ මා සමග සිටින බැවින්, 17. මාගේ විනිශ්චය සැබෑය. 'දෙ දෙනෙකුගේ සාක්ෂිය සැබෑයයි' තුබලාගේ ව්‍යවස්ථාවෙහි ලියන 18. ලද්දේය. මම මා ගැන සාක්ෂි දෙමි; මාගේ පියානන්වහන්සේද මා ගැන සාක්ෂි දෙනසේකැයි" කීසේක.

19. එවිට ඔවුන්, "තුබේ පියා කොතනදැයි" උන්වහන්සේගෙන් ඇසූවෝය. යේසුස්වහන්සේ උත්තර දෙමින්, "තුබලා මා අඳුනන්නේ වත්, මාගේ පියානන්වහන්සේ අඳු නන්නේවත් නැත. තුබලා මා ඇඳි නනානම්, මාගේ පියානන්වහන් සේත් අඳුනනවා ඇතැයි" කීසේක. 20. යේසුස්වහන්සේ දේවමාලිගාවේ උගන්වමින් සිට, මුදල් ගබඩාවේදී මේ වචන කීසේක. උන්වහන්සේගේ කාලය ඒතාක්කල්ම නොපැමිනි බැවින්, කවුරුවත් උන්වහන්සේ ඇල් ලුවේ නැත.

21. නැවතත් යේසුස්වහන්සේ, "මම පිටත්ව යෙමි; තුබලා මා සොයනවා ඇත. නුමුත් තුබලා තමන්ගේ පාපයෙහි මැරෙනවා ඇත. මම යන ස්ථානයට තුබලාට එන්නට නුපුළුව 22. නැයි" කීසේක. එවිට යුදෙව් වරු, "මම යන ස්ථානයට තුබලාට එන්නට නුපුළුවනැයි මොහු කියන් නේ, මොහු තමන්ම නසාගන්වද්‍යෙ" 23. කීවෝය. තවද උන්වහන්සේ, "තුබලා පහලින් වෙති; මම ඉහලින් වෙමි. තුබලා මෙලොවින් වෙති; 24. මම මෙලොවින් නොවෙමි. එහෙයින් 'තුබලා තමන්ගේ පාපයෙහි මියනවා ඇතැයි' තුබලාට මම කීමි. මක්නිසාද, මම ඔහුමයයි තුබලා අදහ නොගත්තොත්, තුබලාගේ පාපයෙහි මැරෙනවා ඇතැයි" කී 25. සේක. එවිට ඔවුන්, "තුබ කවුදැයි" උන්වහන්සේගෙන් ඇසූවෝය. යේසුස්වහන්සේද, "මම පල මු තුබලාට කී තැනැත්තේම වෙමි. 26. තුබලා ගැන කියන්ටත් විනිශ්චය කරන්ටත් බොහෝ කාරනා ඇත. නුමුත් මා එවූ උන්වහන්සේ සැබෑ කෙනෙක. මමද උන්වහන්සේගෙන් ඇසූ දේ ලොවට කියමියි" කීසේක. 27. උන්වහන්සේ පියානන්වහන්සේ ගැන ඔවුන්ට කථාකලසේකැයි, ඕ

28. වුන්ට වැටහුණේ නැත. එවිට
යේසුස්වහන්සේ ඔවුන්ට කියන
සේක්, “තුබලා මනුෂ්‍ය පුත්‍රයා එ
සවූ පසු, මම ඔහුම බවත්, මාගේ
පියානන්වහන්සේ මට ඉගැන්වූ දේ
කියනවා මිස මාගේ කැමැත්තෙන්
කිසි දෙයක් නොකරණ බවත්,
29. තුබලා දනනවා ඇත. මා එවූ
උන්වහන්සේ මා සමගය. මාගේ
පියානන්වහන්සේට ප්‍රසන්න දේ මම
නිතරම කරන හෙයින්, උන්වහන්සේ
මා තනියම සිටින්නට ඇරියේ නැ
30. තැයි” කීසේක. උන්වහන්සේ
මෙසේ කියද්දීම, බොහෝ දෙන
31. උන්වහන්සේ අදහගත්තෝය. එ
කල යේසුස්වහන්සේ තමන් අදහ
ගත් යුදෙව්වරුන්ට කියනසේක්,
“තුබලා මාගේ වචනයෙහි පිහිටා
සිටිනවානම්, සැබෑවට මාගේ ගෝල
32. යෝ වෙති; තුබලා සැබෑකම
දන්නවා ඇත; සැබෑකම තුබලා
මුදනවා ඇතැයි” කීසේක.

33. ඔවුන් උන්වහන්සේට උත්තර
දෙමින්, “අපි ආබ්‍රහම්ගෙන් පැවත
එන්නෝ වෙමුව; අපි කිසි කලෙක
කවරෙකුමත් වාල් වූනෙමුව. ‘තුබ
ලා මුදනු ලබනවා ඇතැයි’ තුබ
කියනෙත් කොහොමදැයි” කීවෝය.
34. යේසුස්වහන්සේ ඔවුන්ට උත්
තර දෙමින්, “සැබවක් සැබවක් තුබ
ලාට කියමි, පව්කරන සියල්ලෝම
35. පාපයට වාල්වෙති. වාලා නිත
රම පව්ලේ සිටින්නේ නැත; පුත්‍රයා
36. නිතරම සිටින්නේය. එසේහෙ
යින්, පුත්‍රයා තුබලා මුදන්නේනම්
සැබෑවටම තුබලා මුදනු ලබනවා
37. ඇත. තුබලා ආබ්‍රහම්ගෙන්
පැවත එන්නෝයයි දනිමි; නුමුත්
මාගේ වචනය තුබලා ඇතුලේ පිහි
ටා නැති බැවින්, මා මරන්නට සො
38. යති. මම මාගේ පියානන්වහන්
සේ ලඟදී දුටු දේ කියමි; තුබලා
තුබලාගේ පියා ලඟදී දුටු දේ කර
39. තිති” කීසේක. ඔවුන් උත්තර
දෙමින්, “ආබ්‍රහම් අපගේ පියානෝ
යයි” උන්වහන්සේට කීවෝය. එවිට
යේසුස්වහන්සේ ඔවුන්ට කියන
සේක්, “තුබලා ආබ්‍රහම්ගේ පුත්‍රයෝ
40. නම්, ආබ්‍රහම්ගේ ක්‍රියා කරති. මා
විසින් දෙවියන්වහන්සේගෙන් අසා
නලද සැබෑකම තුබලාට කීමි. මා
මරන්නට දැන් තුබලා සොයති;
41. ආබ්‍රහම් එසේ කලේ නැත. තුබ
ලා තුබලාගේ පියාගේ ක්‍රියා කර
තියි” කීසේක. එවිට ඔවුන්, “අපි
වෙශ්‍යාකමින් උපන්නෝ නොවෙ
මුව. අපගේ පියානෝ එක්කෙනෙක;
ඒ දෙවියන්වහන්සේමයයි” කීවෝය.
42. එවිට යේසුස්වහන්සේ ඔවුන්ට
කියනසේක්, “ඉදින්, දෙවියන්ව
හන්සේ තුබලාගේ පියානෝනම්,
තුබලා මට ප්‍රේම කරනවා ඇත.
මක්නිසාද, මම දෙවියන්වහන්සේ
කෙරෙන් ආයෙමි; මාගේ කැමැත්
තෙන් නෑයෙමි; උන්වහන්සේ මා
43. එවූසේක. මාගේ කීම තුබලාට
නොවැටහුනේ මක්නිසාද? මාගේ
වචන පිළිගන්ට තුබලාට බැරි නිසා
44. ය. තුබලාගේ පියා සාතන්ය;
තුබලාගේ පියාගේ ආසාවන් කරන්
ට තුබලා කැමතිවෙති. ඔහු මුල
පටන් මිනී මරන්නෙක. ඔහු තුලේ
සැබෑකම නැති හෙයින්, ඔහු සැබෑ
කමෙන් අහක්ව ගියේය. ඔහු බොරු
කාරයෙක; බොරුවේ පියාය. ඒ
නිසා ඔහු බොරුවක් කියන කල,
45. ඔහුගේම දේ කියන්නේය. මම
තුබලාට සැබෑකම කියමි; එහෙයින්
46. තුබලා මා අදහන්නේ නැත. මා
වරදකාරයෙක්කොට ඔප්පුදෙනන
ට තුබලා අතරෙන් කාට පුළුවන්ද?
මම සැබෑකම කියනවානම්, මා අදහ
47. නොගන්නේ මක්නිසාද? දෙවි
යන්වහන්සේ කෙරෙන් ආ තැනැත්
තේ දෙවියන්වහන්සේගේ වචන
පිළිගන්නේය. තුබලා දෙවියන්ව

හන්සේ කෙරෙන් නොවූ බැවින්,
ඒ වචන පිළිගන්නේ නැතැයි”
48. කීසේක. එවිට යුදෙව්වරු උත්
තර දෙමින්, “නුඹ සමාරියෙකැයි
කියාද, යක්ෂයා වැහුනාවූ කෙනෙ
කැයි කියාද, අපි කියනවා හරි නො
වේදැයි” උන්වහන්සේට කීවෝය.
49. ජේසුස්වහන්සේ උත්තර දෙමින්,
“මම යක්ෂයා වැහුනාවූ කෙනෙක්
නොවෙමි; මම මාගේ පියානන්ව
හන්සේට ගෞරව කෙරෙමි; නුඹලා
50. මට අගෞරව කරති. මම මාගේ
ගෞරවය නොසොයමි; ඒ සොයන්
නාවූ විනිශ්චයකරනනාවූ කෙනෙක්
51. ඇත. සැබවක් සැබවක් නුඹලාට
කියමි, යමෙක් මාගේ වචනය රක්ෂා
කරන්නේනම්, ඔහු කිසි කලෙකත්
මරනය දකින්නේ නැතැයි” කීසේ
52. ක. එවිට යුදෙව්වරු, “නුඹ යක්ෂ
යා වැහුනාවූ කෙනෙකැයි දැන් දනි
මුව. ආබ්‍රහම්ද අනාගතවක්තෘහුද
නැසුනෝය. නුඹද ‘යමෙක් මාගේ
වචනය රක්ෂාකරන්නේනම්, ඔහු
කිසි කලෙකත් මරනයේ රස විඳින්
53. නේ නැතැයි’ කියන්නේය. නුඹ
අපගේ පියවූ ආබ්‍රහම්ට වඩා උතුම්
කෙනෙක්ද? ඔහු නැසුනේය; අනා
ගතවක්තෘහුද නැසුනෝය. නුඹ කව
රෙක කියා සිතන්නේදැයි” කීවෝ
54. ය. ජේසුස්වහන්සේ උත්තර
දෙමින්, “මම මටම ගෞරව කෙරෙම්
නම්, මාගේ ගෞරවය සිස්වෙයි.
මට ගෞරව කරන්නේ, මාගේ පියා
නන්වහන්සේය. උන්වහන්සේ නුඹ
ලාගේ දෙවියන්වහන්සේයයි නුඹලා
55. කියති. නුමුත් නුඹලා උන්වහන්
සේ අඳුනන්නේ නැත. මම උන්ව
හන්සේ අඳුනමි; ‘උන්වහන්සේ නා
ඳුනමියි’ කීමිනම්, මමත් නුඹලා
සමාන බොරු කියන්නෙක් වෙම්.
මම උන්වහන්සේ අඳුනමි; උන්ව
හන්සේගේ වචනයද රක්ෂාකෙරෙමි.
56. නුඹලාගේ පියවූ ආබ්‍රහම් මාගේ
දවස දැකින්ට ප්‍රීතියෙන් බලාසිටි
යේය; දැක, සන්තෝෂවූයේයයි”
57. කීසේක. එකල යුදෙව්වරු,
“තව වයස් පනහකට නොපැමිනි
යාවූ නුඹ ආබ්‍රහම් දුටුයේදැයි” උන්
58. වහන්සේට කීවෝය. ජේසුස්ව
හන්සේ, “සැබවක් සැබවක් නුඹ
ලාට කියමි, ආබ්‍රහම්ගේ ඉපදීමට
පලමු මම ඇත්තෙමියි” ඔවුන්ට
59. කීසේක. එවිට ඔවුන් උන්වහන්
සේට ගසන පිනිස, ගල් අතට ගත්
තෝය. නුමුත් ජේසුස්වහන්සේ සැ
ඟවී, ඔවුන් මැදින් ගොස්, දේවමාලි
ගාවෙන් පිටත්ව ගියසේක.

9. පරිච්ඡේ. ජේසුස්වහන්සේ ය
මින්, මවු කුසේ පටන් අන්ධවූ මනුෂ්‍ය
2. යෙක් දුටුසේක. එවිට උන්වහන්
සේගේ ගෝලයෝ, “ආචාරීනි, කවු
රු විසින් කරනලද පාපයකින් මොහු
අන්ධව උපන්නේද? මොහු විසින්ද?
මොහුගේ මව්පියන් විසින්දැයි”
3. ඇසුවෝය. ජේසුස්වහන්සේ උත්
තර දෙමින්, “දෙවියන්වහන්සේගේ
ක්‍රියාවන් මොහු කෙරේ ප්‍රකාශකරන
පිනිස මිස, මොහු විසින්වත් මොහු
ගේ මව්පියන් විසින්වත් කල පාපය
4. කින් මේ දේ සිඬවූයේ නැත. දව
හල්ව තිබෙන කල, මා එවූ උන්ව
හන්සේගේ වැඩ මා විසින් කටයුතුය.
කාටවත් වැඩකරන්ට නුපුළුවන්වූ
5. රාත්‍රිය පැමිනෙන්නේය. මම ලෝ
කයෙහි සිටින අතර, ලෝකයෙහි ආ
6. ලෝකය වෙමියි” කීසේක. උන්
වහන්සේ මේ වචන කියා, බිමට කෙ
ලගසා, එයින් මඩ සාදා, ඒ මඩ අන්ධ
7. යාගේ ඇස්වල ගා, “නුඹ ගොස්,
සිලෝහම් පොකුනෙන් නාපන්නැ
යි” ඔහුට කීසේක. සිලොහම් යන
වචනයෙහි අර්ථයනම්, “එවනලද”
යනුය. එවිට ඔහු ගොස්, නා, පෙනීම
8. ලැබ ආයේය. එකල අසල්වාසී
යෝද, ඔහු අන්ධව සිටි කල ඔහු

පුවු අයවල්ද, "ඉඳගෙන, සිඟමන් ඉල්ලුවේ මොහු නොවේදැයි" කීවෝ 9. ය. සමහරෙක්, "මේ ඔහුමය;" තවත් සමහරෙක්, "මොහු ඔහු සමානයයි" කියාල, ඔහු, "ඒ මමයයි" 10. කීයේය. එවිට ඔව්හු, "නුඹේ ඇස් පෑදුනේ කොහොමදැයි" ඔහු 11. ගෙන් ඇසුවෝය. ඔහු උත්තර දෙමින්, "යේසුස්නම් මනුෂ්‍යයෙක් මඩ සාදා මාගේ ඇස්වල ගා, 'නුඹ සිලොහම් පොකුනට ගොස් නාපනැයි' මට කීයේය. මමද ගොස් නා, පෙනීම ලැබ්මියි" කීයේය. 12. එකල ඔව්හු "ඔහු කොතැනදැයි" ඇසුවෝය. "මම නොදනිමියි" ඔහු කීයේය.

13. පලමු අන්ධව සිටි ඔහු ඵරිසීන් 14. ළඟට ගෙන ගියෝය. යේසුස්වහන්සේ මඩ සාදා ඔහුගේ ඇස් පෑදූ දවස, සබත් දවසය. 15. ඵරිසිවරුද "නුඹට පෙනීම ලැබුනේ කොහොමදැයි" ඔහුගෙන් ඇසුවෝය. ඔහු, "උන්වහන්සේ මාගේ ඇස්වල මඩ ගෑසේක. මම නාලා පෙනීම ලැබුයෙමියි" ඔවුන්ට 16. කීයේය. එවිට ඵරිසිවරුන්ගෙන් සමහරෙක්, "ඒ මනුෂ්‍යයා සබත් දවස නොපවත්වන බැවින්, දෙවියන්වහන්සේ කෙරෙන් ආ කෙනෙක් නොවේයයි" කීවෝය. තවත් සමහරෙක්, "මෙයාකාර ආශ්චර්‍ය්‍යයන් කරන්නට පව්කාරයෙකුට පුළුවන්දැයි" කීවෝය. මෙසේ ඔවුනොවුන් 17. අතරේ භේදයක් විය. නැවතද ඔව්හු, "නුඹේ ඇස් ඔහු විසින් පෑදූ බැවින්, ඔහු ගැන නුඹ කියන්නේ මොකදැයි" අන්ධයාගෙන් ඇසුවෝය. "අනාගතවක්තෘ කෙනෙ 18. කැයි" ඔහු කීයේය. නුමුත් යුදෙව්වරු පෙනීම ලැබූ අයගේ මව්පියන් කැඳවනතුරු, ඔහු අන්ධව සිට පෙනීම ලැබුයේයයි අදහනො 19. යෙන, "අන්ධව උපන්නේයයි නුඹලා කියන නුඹලාගේ පුත්‍රයා මොහුද? එසේනම්, දැන් ඔහුට පෙනෙන්නේ කොහොමදැයි" ඔවුන් 20. ගෙන් ඇසුවෝය. ඔහුගේ මව්පියෝ ඔවුන්ට උත්තර දෙමින්, "මොහු අපගේ පුත්‍ර බවද, අන්ධව 21. උපන් බවද දනිමුව. නුමුත් දැන් කොහොම මොහුට පෙනෙන්නේද කියාත්, මොහුගේ ඇස් පෑදුවේ කවුද කියාත්, අපි දන්නේ නැත. මොහුට වයස් ඇත; මොහුගෙන් අසාපල්ලාය; ඔහු කියන්නේයයි" 22. කීවෝය. ඔහුගේ මව්පියෝ යුදෙව්වරුන්ට භයින් මෙසේ කීවෝය. මක්නිසාද, කවුරුවත් උන්වහන්සේ ක්‍රිස්තුස්යයි කීයේනම්, ඔහු සිනගෝගයෙන් අහක්කරනු ලබන්නේයයි, පලමුවෙන්ම යුදෙව්වරු නියෝ 23. ගකලෝය. එහෙයින් ඔහුගේ මව්පියෝ, "මොහුට වයස් ඇත; මොහුගෙන් අසාපල්ලායයි" කීවෝ 24. ය. එවිට ඔව්හු අන්ධව සිටි මනුෂ්‍යයා දෙවනු කැඳවා, "දෙවියන්වහන්සේට ප්‍රසංසාකරපන්න; මේ මනුෂ්‍යයා පව්කාරයෙකැයි අපි දනි 25. මුයයි" ඔහුට කීවෝය. ඔහු උත්තර දෙමින්, "උන්වහන්සේ පව්කාරයෙක්ද නැද්දැයි මම නොදනිමි; එකක් දනිමි; පලමු අන්ධව්මි; දැන් මට පෙනීම ඇත්තේයයි" කීය. 26. ඔව්හුද, "ඔහු නුඹට කලේ මොකද? නුඹේ ඇස් පෑදුවේ කොහොමදැයි" නැවතත් ඔහුගෙන් 27. ඇසුවෝය. ඔහු ඔවුන්ට උත්තර දෙමින්, "පලමුවෙන් නුඹලාට කීමි; නුඹලා සැලකුවේ නැත. නුඹලා නැවත අහන්නට කැමතිවන්නේ මක්නිසාද? නුඹලාත් උන්වහන්සේගේ ගෝලයෝ වෙන්නට කැමති 28. දැයි." කීයේය. එවිට ඔව්හු ඔහුට නින්දාකොට, "තෝ ඔහුගේ ගෝලයාය; අපි මෝසෙස්ගේ ගෝල 29 යෝය. දෙවියන්වහන්සේ මෝ

සේ සමග කථාකල බව දනිමුව.
මොහු කොතනින් ආයේදැයි නොද
30. නිමුයයි" කීවෝය. ඒ මනුෂ්‍යයා
උත්තර දෙමින්, "උන්වහන්සේ
මාගේ ඇස් පෑදුසේක. උන්වහන්සේ
කොහනින් ආසේක්දැයි, නුඹලා
31. දනනොගත් බව පුදුමයෙක. දෙ
වියන්වහන්සේ පව්කාරයන්ගේ වච
න නොඅසන බවත්, යමෙක් දෙවි
යන්වහන්සේ කෙරේ භක්ති ඇතුව
උන්වහන්සේගේ කැමැත්ත කරන්
නේනම් ඔහුගේ වචන අසන බවත්,
32. අපි දනිමුව. කවුරුවත් අන්ධව
උපන්නෙකුගේ ඇස් පෑදුවේයයි,
ලෝකය පටන්ගැන්මේ සිට නෑසු
33. කාරනාවක. මුන්වහන්සේ දෙවි
යන්වහන්සේ කෙරෙන් නාසේක්
නම්, කිසි දෙයක් කරන්නට උන්ව
හන්සේට නුපුළුවනැයි" කීයේය.
34. ඔවුන් ඔහුට උත්තර දෙමින්,
"සියළු ප්‍රකාරයෙන් පාපයෙහි උපන්
නාවූ තෝ අපට උගන්වන්නේදැයි"
35. කියා, ඔහු අහක්කලෝය. ඔවුන්
විසින් ඔහු අහක්කල බව ඇසුවාවූ
යේසුස්වහන්සේ ඔහු දැක, "නුඹ
දෙවියන්වහන්සේගේ පුත්‍රයා කෙරෙ
හි ඇදහිලිකරන්නේදැයි" ඔහු
36. ගෙන් ඇසූසේක. ඔහු උත්තර
දෙමින්, "ස්වාමිනි, මම උන්වහන්සේ
කෙරෙහි ඇදහිලිකරන්ට උන්වහන්
37. සේ කවුදැයි" ඇහුයේය. යේසු
ස්වහන්සේ ඔහුට කියනසේක්, "නුඹ
උන්වහන්සේ දුටුයේය; නුඹ සමග
කථාකරන්නේ උන්වහන්සේමයයි"
38. කීසේක. ඔහුද "ස්වාමිනි, මම අද
හමි" කියා, උන්වහන්සේට නමස්
39. කාර කෙළේය. එවිට යේසුස්ව
හන්සේ, "ඇස් නොපෙනෙනවුන්ට
ඇස් පෙනෙන පිනිසද, ඇස් පෙනෙ
නවුන් අන්ධවෙන පිනිසද, විනිශ්
චය ගැන මේ ලෝකයට ආයෙමියි"
40. කීසේක. උන්වහන්සේ සමග
සිටියාවූ ඵරිසිවරුන්ගෙන් සමහ
රෙක් ඒ අසා, "අපිත් අන්ධයෝ
දැයි" උන්වහන්සේගෙන් ඇසුවෝය.
41. යේසුස්වහන්සේ, "නුඹලා අන්
ධවූනානම් නුඹලාට පාපයක් නැත.
දැන් 'අපට පෙනෙන්නේයයි' නුඹ
ලා කියති; එහෙයින් නුඹලාගේ
පාපය පවතින්නේයයි" ඔවුන්ට
කීසේක.

10. පරිච්ඡේ. "සැබවක් සැබවක්
නුඹලාට කියමි, යමෙක් දොරකඩින්
බැටළු ගාලට ඇතුල්නොව, වෙන
මගකින් ඇතුල්වේද; ඔහු සොරෙක්
2. ද කොල්ලකන්නෙක්ද වෙයි. නු
මුත් දොරකඩින් ඇතුල්වෙන තැනැ
3. ත්තාම බැටළු එඬේරා වෙයි. ඔහුට
දොරටුපාලයා දොර හරියි; බැටළු
වෝද ඔහුගේ හඬ අසති. ඔහු තමා
ගේ බැටළුවන්ගේ නම් කියා හඬ
ගසා, ඔවුන් පිටතට ගෙනයයි.
4. ඔහු තමාගේ බැටළුවන් පිටත්
කොට, ඔවුන්ට ඉස්සරව යයි. බැටළු
වෝද ඔහුගේ හඬ අඳුනන බැවින්,
5. ඔහු පස්සේ යති. උන් වෙන
කෙනෙකුගේ හඬ නාඳුනන හෙයින්,
ඔහු පස්සේ නොගොස් ඔහු කෙ
රෙන් පලා යනවා ඇතැයි" කීසේක.
6. යේසුස්වහන්සේ මේ උපමාව
ඔවුන්ට කී නුමුත්, උන්වහන්සේ
විසින් කියනලද කාරනාව ඔවුන්
7. තේරුම්ගත්තේ නැත. එවිට යේ
සුස්වහන්සේ නැවතත් ඔවුන්ට කිය
නසේක්, "සැබවක් සැබවක් නුඹ
ලාට කියමි, බැටළු ගාලේ දොරකඩ
8. නම් මමය. මට පලමු ආ සියල්
ලෝම සොරුද කොල්ලකන්නෝද
වෙති. නුමුත් බැටළුවෝ ඔවුන් කීවා
9. ඇසුවේ නැත. මම දොරකඩ වෙ
මි; යමෙක් මා කරනකොටගෙන
ඇතුල්වේද; ඔහු රක්ෂාකරනු ලැබ,
ඇතුලටද පිටතටද ගොස් කෑම
10. ලබන්නේය. සොරා සොරකම්
කරන්ටද මරන්ටද විනාශකරන්ටද

විස, වෙන කිසිවකට එන්නේ නැත.
ඔවුන්ට ජීවනයද ඒ ජීවනයේ සම්
පූර්ණකයද ලැබෙන පිනිස මම
11. ආයෙමි. යහපත් බැටළු එඬේරා
මමය. යහපත් බැටළු එඬේරා තමා
ගේ ප්‍රානය බැටළුවන් උදෙසා දෙන්
12. නේය. කුලීන් බැටළු එඬේරා
නොවූ, බැටළුවන්ගේ ස්වාමියා නො
වන්නාවූ කුලිකාරයා වෘකයා එනවා
දැක, බැටළුවන් අත්හැර පලායයි.
එවිට වෘකයා උන් අල්ලමින්, බැටළු
13. රැල කඩින් කඩද එලවයි. කුලී
කාරයා කුලිකාරයෙක් බැවින් බැට
14. ළුවන් නොසලකා පලා යයි. යහ
පත් බැටළු එඬේරා මමය පියානන්
වහන්සේ මා යම්සේ අඳුනනසේක්
ද? මම පියානන්වහන්සේ යම්සේ
අඳුනම්ද? එසේ මම මාගේ බැටළු
15. වන් අඳුනමි. මාගේ බැටළුවෝත්
මා අඳුනති. බැටළුවන් නිසා මාගේ
16. ප්‍රානය දෙමි. ඒ ගාලට අයිති
නුවූ වෙනත් බැටළුවෝ මට ඇත.
ඔවුන්ද මා විසින් ගෙනයාම යුතුය.
ඔවුන් මාගේ හඬ අසනවා ඇත.
එකල එකම රැලක්ද එකම බැටළු
17. එඬේරෙක්ද වනෙන්ය. මා විසින්
නැවත ගන්නා පිනිස මාගේ ප්‍රානය
දෙන බැවින්, මාගේ පියානන්වහන්
18. සේ මට ප්‍රේමවනසේක. මාගේ
ප්‍රානය කැමැත්තෙන් දෙනවා මිස,
කවුරුවත් ඒක මාගෙන් උදුරාගන්
නේ නැත. ඒක දෙන්ටද නැවත
ගන්ටද මට බලය ඇත. මාගේ පියා
නන්වහන්සේගෙන් ඒ අන ලැබීමියි"
19. කීසේක. එවිට ඒ කීම් ගැන
යුදෙව්වරු අතරේ භේදයක් නැවත
20. ඇටගත්තේය. ඔවුන්ගෙන් බො
හෝදෙනෙක්, "ඔහු යක්ෂයා වැහු
නාවූ පිස්සෙක. ඔහුගේ බස් අසන්
21. නේ මන්නිසාදැයි" කීවෝය. ත
වත් සමහරෙක්, "මේ යක්ෂයා වැහු
නාවූ කෙනෙකුගේ බස් නොවෙයි;
අන්ධයන්ට පෙනා දෙන්නට යක්ෂයා
වැහුනාවූ අයට පුළුවන්දැයි" කී
වෝය.

22. පවිත්‍රකිරීමනම්වූ මංගල්‍යය
යෙරුසලමේ තිබුණේය; සීතල කාල
23. යද විය. එවිට යේසුස්වහන්සේ
දේවමාලිගාවේ සාලමොන්ගේ මඩු
24. වේ සක්මන්කලසේක. එවිට
යුදෙව්වරු ඇවිත් උන්වහන්සේ වට
කර සිට, "කොපමන කල් අපට
සැක උපදවනසේක්ද? ඔබවහන්
සේ ක්‍රිස්තුස්නම්, ප්‍රකාසයෙන් අපට
කියමැනවයි" උන්වහන්සේට කීවෝ
25. ය. යේසුස්වහන්සේ ඔවුන්ට
උත්තරදෙමින්, "මම තුබලාට කීමි,
තුබලා අදහගත්තේ නැත. මාගේ
පියානන්වහන්සේගේ නාමයෙන් මම
කරන ක්‍රියාවල්ම මා ගැන සාක්ෂි
26. දෙති. මම තුබලාට කිව් හැටි
යට, තුබලා මාගේ රැලෙයි බැටළු
වෝ නොවන බැවින්, තුබලා අදහ
27. ගනෙන් නැත. මාගේ බැටළුවෝ
මාගේ හඬ අසති; මමද ඔවුන් අඳු
නමි; ඔවුහුත් මා පස්සේ එති.
28. මම ඔවුන්ට සදාකාල ජීවනය
දෙමි. ඔවුන් කවදාවත් විනාස නො
වෙති. කවුරුවත් මාගේ අතින්
29. ඔවුන් උදුරාගන්නේ නැත. මට
ඔවුන් දුන්නාවූ මාගේ පියානන්ව
හන්සේ සියල්ලන්ට වඩා උතුම්
කෙනෙක. මාගේ පියානන්වහන්සේ
ගේ අතින් ඔවුන් උදුරාගන්ට කාට
30. වත් බැරිය. මමද පියානන්වහන්
සේද ඒකත්වයක්ව සිටිමුයයි" කී
31. සේක. එවිට යුදෙව්වරු උන්ව
හන්සේට ගල් ගසන්ට නැවතත්
32. ගල් අතට ගත්තෝය. යේසුස්ව
හන්සේ ඔවුන්ට කියනසේක්, "මා
ගේ පියානන්වහන්සේගෙන්වූ නො
යෙක් යහපත් ක්‍රියාවල් තුබලාට
දැක්වීමි. එයින් කොයි ක්‍රියාව නිසා
33.* මට ගල් ගසද්දැයි" කීසේක. යු
දෙව්වරු උන්වහන්සේට උත්තර
දෙමින්, "යහපත් ක්‍රියාවක් නිසා

නොව, තුඹ මනුෂ්‍යයෙක්ව සිට දෙ
වියන්වහන්සේ වෙන්ට සාදමින් දෙ
වියන්වහන්සේට අපහාස කරන
නිසා, තුඹට ගල් ගසමුයයි" කීවෝ
34. ය. යේසුස්වහන්සේ ඔවුන්ට උත්
තර දෙමින්, "තුඹලා දෙවිවරුයයි
මම කීමියි යන වචන තුඹලාගේ
ව්‍යවස්ථාවෙහි ලියා තිබෙනවා නො
වේද? සුබලියවිල්ල කඩකරන්ට
35. බැරිය. එහෙයින් දෙවියන්වහන්
සේගේ වචනය ලැබූවන්ට 'දෙවිව
රුයයි' උන්වහන්සේ කීසේක්නම්,
36. මම දෙවියන්වහන්සේගේ පුත්‍ර
වෙමියි මම කීවි නිසා, පියානන්ව
හන්සේ විසින් පිරිසිදුකොට ලොවට
එවනලද තැනැත්තා දෙවියන්වහන්
සේට අපහාසකරන්නේයයි තුඹලා
37. කෙසේ කියද්ද? මාගේ පියාන
න්වහන්සේගේ ක්‍රියාවල් නොකෙ
රෙම්නම්, මා අදහා නොගනිල්ලාය
38. කෙරෙම්නම්, තුඹලා මා අදහා
නොගනිතත්, පියානන්වහන්සේ මා
ඇතුලෙහිද මම උන්වහන්සේ ඇතු
ලෙහිද ඇතැයි දැන අදහන පිනිස,
ක්‍රියාවන් අදහාගනිල්ලායයි" කීසේ
39. ක. එවිට උන්වහන්සේ අල්ලන
පිනිස ඔවුන් නැවත සෙවි තුමුත්,
උන්වහන්සේ ඔවුන්ගෙන් ගැලවී
ගියසේක.

40. පසුව උන්වහන්සේ යොර්දා
නෙන් එගොඩ යොහන් පලමුවෙන්
බව්තීස්මකල ස්ථානයට නැවත
41. ගොස්, එහි වාසයකලසේක. බො
හෝදෙනද උන්වහන්සේ ලඟට
ඇවිත්, "යොහන් කිසි ආශ්චර්‍ය්‍යයක්
කෙලේ නැත; තුමුත් මූන්වහන්සේ
ගැන යොහන් කී සියල්ලම සැබෑ
42. යයි" කීවෝය. බොහෝ දෙනද
එහිදී උන්වහන්සේ අදහගත්තෝය.

11. පරිච්ඡේ. තවද මරියාද ඇගේ
සහෝදරීවූ මාර්තාද වසන බෙතානි
ගමවාසිවූ ලාසරුස්නම් මනුෂ්‍යයෙක්
2. රෝගාතුර වූයේය. ඒ මරියානම්,
ස්වාමින්වහන්සේට සුවඳ තෙල් ගා
තමාගේ හිසකෙසින් උන්වහන්සේ
ගේ පාද පිසදැමූ තැනැත්තිය. රෝ
ගාතුරවූ ලාසරුස් ඇගේ සහෝදරවූ
3. යේය. එවිට ඔහුගේ සහෝදරියෝ,
"ස්වාමිනි, ඔබවහන්සේ ආදරවූ
තැනැත්තා රෝගාතුරව සිටින්නේ
යයි" උන්වහන්සේට කියා යැවී
4. වෝය. යේසුස්වහන්සේ ඒ අසා,
"ඒ රෝගය දෙවියන්වහන්සේගේ
ගෞරවය පිනිස දෙවියන්වහන්සේ
ගේ පුත්‍රයාට එයින් ගෞරව ලැබ්මට
මිස, මරනය පිනිස නොවේයයි"
5. කීසේක. යේසුස්වහන්සේ මාර්තා
ටද ඇගේ සහෝදරීටද ලාසරුස්ටද
6. ප්‍රේම ඇතිසේක. උන්වහන්සේ
ලාසරුස් රෝගාතුරව සිටින්නේයයි
අසා, තමන් සිටි ස්ථානයේම තව දෙ
7. දවසක් විසූසේක. ඉන්පසු උන්ව
හන්සේ, "යුදයට නැවත යමුයයි"
8. ගෝලයන්ට කීසේක. ගෝලයෝ,
"ආචාරිනි, ස්වල්ප දවසකට පලමු
වෙන් යුදෙව්වරු ඔබවහන්සේට
ගල්ගසන්ට සෙව්වෝය; එතනට
නැවත යනසේක්දැයි" උන්වහන්
9. සේට කීවෝය. යේසුස්වහන්සේ
උත්තර දෙමින්, "දවසට දොලොස්
පැයක් නැද්ද? යමෙක් දවහල් ඇවි
දින්නේනම්, මේ ලෝකයෙහි එලිය
ඔහුට තිබෙන හෙයින් පැකිලෙන්
10. නේ නැත. තුමුත් යමෙක් රාත්‍රි
යේ ඇවිදින්නේනම්, ඔහුට එලිය
නැති නිසා ඔහු පැකිලෙනෙන්යයි"
11. කීසේක. මෙසේ කියා, "අපගේ
මිත්‍රවූ ලාසරුස් නිදන්නේය; ඔහු
පුබුදුවන්ට යමියි" ඔවුන්ට කීසේක.
12. එවිට උන්වහන්සේගේ ගෝල
යෝ, "ස්වාමිනි, ඔහු නිදන්නේනම්,
ඔහුට සුවවන්නේයයි" කීවෝය.
13. යේසුස්වහන්සේ ඔහුගේ මරනය
ගැන කීසේක. ඔවුන් නින්දේ නිවා
ඩුව ගැන කීසේයයි සිතුවෝය.

14 එකල යේසුස්වහන්සේ, "ලාසරුස්
නැසුනේයයි" ඔවුන්ට ප්‍රකාශ ලෙස
15. කියා, "නුබලා අදහගන්නා පි
නිස, මම එහි නොසිටි බැවින්
නුබලා නිසා සන්තෝසවෙමි. නුමුත්
16. ඔහු ළඟට යමුයයි" කීසේක. එ
විට දිදුමස්නම් තෝමස්, "මුන්ව
හන්සේ සමග නසින පිනිස අපිත්
යමුයයි" අනිත් ගෝලයන්ට කීයේය.
17. එවිට යේසුස්වහන්සේ ඇවිත්,
ඔහු සොහොන් ගෙයි තබා සතර
18. දවසකැයි දැනගත්සේක. බෙතා
නිය යෙරුසලමට ගව් බාගයක් පම
19. නදුරය. යුදෙව්වරුන්ගෙන් බො
හෝ දෙනෙක් මාර්තා සහ මරියාත්
ඔවුන්ගේ සහෝදරයා ගැන සනසන
පිනිස, ඔවුන් ළඟට ආවෝය.
20. මාර්තා යේසුස්වහන්සේ එන බව
අසා, උන්වහන්සේගේ පෙරමගට
ගියාය. මරියා ගෙයිම සිටියාය.
21. එවිට මාර්තා යේසුස්වහන්සේට
කියන්නී, "ස්වාමිනි, ඔබවහන්සේ
මෙහි සිටිසේක්නම්, මාගේ සහෝද
22. රයා නොනසීය. දැනුත් ඔබව
හන්සේ දෙවියන්වහන්සේගෙන්
යමක් ඉල්ලනසේක්නම්, ඒක දෙවි
යන්වහන්සේ ඔබවහන්සේට දෙන
23. සේකැයි දනිමි" කීවාය. යේසුස්
වහන්සේ, "නුබේ සහෝදරයා නැව
ත නැඟිටින්නේයයි" ඈට කීසේක.
24. මාර්තා, "අන්තිම දවසේ නැවත
නැඟිටීමෙහිදී ඔහු නැවත නැඟිටින
බව දනිමි" කියා උන්වහන්සේට
25. කීවාය. යේසුස්වහන්සේ ඈට
කියනසේක්, "නැවත නැඟිටීමද
ජීවනයද මමය. මා අදහන්නාවූ
තැනැත්තේ මල නුමුත් ජීවත්වන්
26. නේය. ජීවත්වෙන්නාවූ යමෙක්
මා අදහන්නේද ඔහු කොයි කලක
වත් නසින්නේ නැත. මේක අදහන්
27. නීදැයි" කීසේක. ඈ "එසේය
ස්වාමිනි, ඔබවහන්සේ දෙවියන්වහන්
සේගේ පුත්‍රවූ, ලෝකයට එන්නාවූ
ක්‍රිස්තුස්වහන්සේයයි අදහගනිමියි"
28. උන්වහන්සේට කීවාය. ඈ මෙ
සේ කියා ගොස් ඈගේ සහෝදරීවූ
මරියා රහසින් කැඳවා, "ආචාරින්
වහන්සේ ඇවිත් නුබට අඬගසන
29. සේකැයි" කීවාය. ඈ ඒ අසා,
වහාම නැඟිට උන්වහන්සේ ළඟට
30. ගියාය. යේසුස්වහන්සේ ඒතාක්
කල් ගමට නොපැමිණ, මාර්තා තමන්
වහන්සේගේ පෙරමගට ආවාවූ ඉඩ
31. මේම සිටිසේක. එවිට මරියා
සමග ගෙයි සිට ඈ සනසන්නාවූ
යුදෙව්වරු ඈ වහාම නැඟිට පිටත්ව
යන බව දැක, "සොහොන් ගේ
ළඟදී අඬන පිනිස එහි යන්නීයයි"
32. සිතා, ඈ පස්සේ ගියෝය. එකල
මරියා යේසුස්වහන්සේ සිටි තැනට
ඇවිත්, උන්වහන්සේ දැක උන්වහන්
සේගේ පාමුල වැටී, "ස්වාමිනි, ඔබ
වහන්සේ මෙහි සිටිසේක්නම් මාගේ
සහෝදරයා නොනසීයයි" කීවාය.
33. යේසුස්වහන්සේ ඈද ඈ සමග
ආවාවූ යුදෙව්වරුන්ද අඬන බව
දැක, ආත්මයෙන් සුසුම්ලා සෝකව,
"නුබලා ඔහු කොතන තැබුවෝ
34. දැයි" ඇසූසේක. ඔවුන්, "ස්වා
මිනි, ඇවිත් බැළුවමැනවයි" කීවෝ
35. ය. යේසුස්වහන්සේ ඇඬූසේක.
36. එවිට යුදෙව්වරු, "මුන්වහන්සේ
ඔහුට කොපමණ ආදරවූසේක්දැයි"
37. කීවෝය. ඔවුන්ගෙන් සමහ
රෙක්, "අන්ධයාට පෙනීම දුන්නාවූ
මුන්වහන්සේට ඔහුගේ මරනය වලක්
වන්ට බැරිවූනේදැයි" කීවෝය.
38. එවිට යේසුස්වහන්සේ නැවතත්
සුසුම්ලා, සොහොන් ගේ ළඟට ගිය
39. සේක. ඒක ගුහාවක; ගලක් ඒ
පිට තබනලද්දේය. යේසුස්වහන්සේ,
"ගල අහක්කරපල්ලායයි" කීසේක.
මල තැනැත්තාගේ සහෝදරීවූ මාර්තා
"ස්වාමිනි, මරනට පැමිණ සතර
දවසක් වෙන බැවින්, දැනට ගඳ
40. ඇතැයි" කීවාය. යේසුස්වහන්

සේ, "තුඹ අදහගතොත් දෙවියන්
වහන්සේගේ මහිමතාව දකිනවා
ඇත කියා තුඹට මම කිවේ නැද්
41. දැයි" ඈට කීසේක. එවිට මිනිය
තිබුනු සොහොන් ගෙයින් ගල
අහක්කලෝය. යේසුස්වහන්සේද
ඇස් ඔසවා, "පියානන්වහන්ස,
මාගේ වචන ඇසූ බවට ඔබවහන්
42. සේට සතුති කෙරෙමි. ඔබවහන්
සේ නිතරම මාගේ වචන අසනසේ
කැයි දනිමි. තුමුත් ඔබවහන්සේ
විසින් මා එවූ බව හාත්පස සිටින්
නාවූ සමූහයා විසින් අදහගන්නා
පිනිස, ඔවුන් නිසා කීමියි" කීසේක.
43. උන්වහන්සේ මෙසේ කියා,
"ලාසරුස්, පිටතට වරෙන්නැයි"
මහත් ශබ්ද පවත්වා කීසේක.
44. එවිට මල තැනැත්තෙත්, පටිවලින්
බැඳපු අත් පා සහ රෙදිකඩින් වෙ
ලාපු මූනද ඇතුව, පිටතට ආයේය.
යේසුස්වහන්සේ, "මොහු මුදා යන්ට
හැරපල්ලායයි" ඔවුන්ට කීසේක.
45. එවිට මරියා ලඟට ආවාවූ යුදෙව්
වරුන්ගෙන් බොහෝ දෙනෙක්
යේසුස්වහන්සේ කල ක්‍රියාවල් දැක,
46. උන්වහන්සේ අදහගත්තෝය. තු
මුත් ඔවුන්ගෙන් සමහරෙක් ඵරිසීන්
ලඟට ගොස්, යේසුස්වහන්සේ විසින්
කල ක්‍රියාවල් ඔවුන්ට කීවෝය.

47. එකල නායකපූජකයෝද ඵරි
සිවරුද සභාව එකතුකරවා, "මක්
කරමුද? මේ මනුෂ්‍යයා බොහෝ
48. ආශ්චර්යයිවල් කරන්නේය. ඔහුට
කිසි දෙයක් නොකලෙමුනම්, සියල්
ලෝම ඔහු අදහගන්නවා ඇත;
එවිට රෝමවාසීහු ඇවිත්, අපේ ස්ථා
නයත් වග්ගියත් උදුරගන්නවා ඇ
49. තැයි" කීවෝය. ඒ අවුරුද්දට
උත්තම පූජකවූ කායාඵස්නම් ඔවුන්
ගෙන් එකෙක් ඔවුන්ට කියනුයේ,
"තුබලා මොකවත් දන්නේ නැත.
50. සියළු වග්ගියා විනාශ නොවෙන
පිනිස, එක් මිනිහෙක් සෙනග නිසා
මලොත් අපට ප්‍රයෝජන ඇති බව
තුබලා සලකන්නේ නැතැයි" කී
51. යේය. ඔහු ඒ කීම තමාගේ තුව
නින්කීවේ නැත. තුමුත් ඔහු ඒ අවු
රුද්දට උත්තම පූජකව සිට, යේසුස්
වහන්සේ ඒ වග්ගියා නිසා නසින
52. බවත්, ඒ වග්ගියා නිසා පමනක්
නොව දෙවියන්වහන්සේගේ කඩින්
කඩ ගියාවූ දරුවන් එකතැනකට
රැස්කරන බවත්, අනාගත වාක්‍ය
53. යෙන් කීයේය. එදාපටන්, "උන්
වහන්සේ කෙසේ නසමුදැයි" එක්ව
54. මන්ත්‍රනය කලෝය. එහෙයින්
යේසුස්වහන්සේ එතැන්පටන් ප්‍රසිඞ
යෙන් යුදෙව්වරුන් අතරෙහි නො
හැසිර, එයින් පිටත්ව වනාන්තරයට
ලඟවූ එප්‍රායිම්නම් තුවරට ගොස්,
තමන් ගෝලයන් සමග එහි සිටි
සේක.

55. එකල යුදෙව්වරුන්ගේ පාස්කු
මංගල්‍යය කිට්ටුවූනේය. බොහෝ
දෙනද තමන්ගේ පවිත්‍රවීම පිනිස,
පාස්කු මංගල්‍යයට පලමුවෙන් ගම්
වලින් පිටත්ව යෙරුසලමට ගියෝය.
56. ඔවුන් යේසුස්වහන්සේ සොය
මින්, "තුබලා මක් සිතනවාද? උන්
වහන්සේ මංගල්‍යයට නේද්ද" කිය
මින්, දේවමාලිගාවේ සිට ඔවුනො
57. වුන් කථාකලෝය. නායකපූජක
යෝද ඵරිසිවරුද උන්වහන්සේ අල්
වන පිනිස, ඔහු සිටින තැනක්
යමෙක් දනිතොත් ඒ බව කියනනට
අනකලේය.

12. පරිච්ඡේ. යේසුස්වහන්සේ
පාස්කු මංගල්‍යයට සදවසකට පලමු
වෙන්, බෙතානියට ගියසේක. මැරු
නායින් පසු උන්වහන්සේ විසින්
මලවුන්ගෙන් නැගිටෙව්වාවූ ලාස
2. රුස් එහි සිටියේය. එහිදී කෑමක්
උන්වහන්සේට පිලියෙලකලෝය
මාර්තා උපස්ථාන කලාය; ලාසරුස්
උන්වහන්සේ සමග කන්නට උනාන

3. වුන්ගෙන් එකෙක් වූයේය. එවිට
මරියා බොහෝ මිල වටිනා ජටාමාංශ
තෙලින් මනාවක් අරගෙන, යේසුස්
වහන්සේගේ පාදවල ගා, ඇගේ
ඉසකෙස්වලින් උන්වහන්සේගේ
පාද පිසදැම්මාය. ගේද තෙලේ සුව
4. ඳින් පිරුනේය. එකල උන්වහන්
සේගේ ගෝලයන්ගෙන් එකෙක්වූ
උන්වහන්සේ පාවාදෙන්නාවූ සී
මොන්ගේ පුත්‍රවූ යූදස් ඉස්කාරි
5. යොත් කියනුයේ, "මේ තෙල මසු
රන්සියේකට විකුන දිළිඳුන්ට නුදු
6. නෙත් මක්නිසාදැයි?" කීය. ඔහු
සොරෙක් බැවිනුත් පසුම්බිය සහ
එහි තිබුනු මුදල් දරූ බැවිනුත්
මිස, දිළිඳුන් සලකා එසේ කීවේ
7. නැත. එකල යේසුස්වහන්සේ
කියනසේක්, "ඇට වෙහෙස නො
දෙල්ලාය; මාගේ සැරීරය තැන්
පත්කරන දවසට මේ තෙල මැ
8. තිබාගන ඉදීය. තවද නුබලා
සමග දිළින්දෝ නිතරම ඇත; මම
නුබලා සමග නිතරම නැතැයි"
9. කීසේක. එවිට යුදෙව්වන්ගෙන්
බොහෝ දෙන උන්වහන්සේ එහි
සිටිනසේකැයි දැන, යේසුසවහන්සේ
පමනක් නොව උන්වහන්සේ විසින්
මලවුන්ගෙන් නැගිටෙව්වාවූ ලාස
10. රුස්ද දකින පිනිස ආවෝය. ලා
සරුස් නිසා යුදෙව්වරු බොහෝ
දෙනෙක් ගොස් යේසුස්වහන්සේ
11. අදහගත් බැවින්, නායකපූජක
යෝ ඔහුද මරන්නට මන්ත්‍රන ක
ළෝය.

12. පසුවද මංගල්‍යයට ආවාවූ
මහත් සමූහයක් "යේසුස්වහන්සේ
යෙරුසලමට එනසේකැයි" අසා,
13. තල් අතු අරංගෙන උන්වහන්සේ
ගේ පෙරමගට පිටත්ව ගොස්, "හෝ
සානා, ස්වාමින්වහන්සේගේ නාම
යෙන් එන්නාවූ ඊශ්‍රායෙල්ගේ රජුට
ආසිර්වාදවේවයි" සබ්ද පවත්වමින්
14. කීවෝය. "සියොන්ගේ දුවනි
යෙනි, භයනොවෙන්න; නුබේ රජ
කොටළු පැටියෙක් පිට නැගී එන
15. සේකැයි" ලියා තිබෙන හැටි
යට, යේසුස්වහන්සේ කොටළු පැටි
යෙක් ලැබ ඌ පිට නැගුනුසේක.
16. උන්වහන්සේගේ ගෝලයෝ
ඒ කාරනා පලමුවෙන් දැනගනෙත්
නැත; නුමුත් යේසුස්වහන්සේ මහි
මතාවට පැමිනි පසු, උන්වහන්සේ
ගැන මෙසේ ලියා තිබුනු බවද මෙ
සේ උන්වහන්සේට කල බවද සිහි
17. කලෝය. උන්වහන්සේ සො
හොන් ගෙයින් ලාසරුස් පිටතට
කැඳවා මලවුන්ගෙන් නැගිටවූකල,
උන්වහන්සේ සමග සිටියාවූ සමූහයා
18. ඒ ගැන සාක්ෂි දුනෝය. ඒ ආශ්
චර්‍ය්‍යය උන්වහන්සේ කලසේකැයි
සමූහයාට ඇසුවූ බැවින්, ඔවුන්
උන්වහන්සේගේ පෙරමගට ගියෝය.
19. එකල ඵරිසිවරු ඔවුනොවුන්
කථාකරගනිමින්, "නුබලා කරන
දේ නිස්ප්‍රයෝජන බව නුබලාට
නොපෙනේද? ලෝකයා ඔහු පස්
සේ ගියායයි" කීවෝය.

20. නමස්කාර කරන පිනිස මංග
ල්‍යයට ආවුන් අතරේ සමහර ග්‍රීක
21. යෝ සිටියෝය. ඔවුන් ගලීල
යෙහි බෙත්සෙද නුවර වැසිවූ පිලිප්
ලගට පැමින, "ස්වාමිනි, යේසුස්ව
හන්සේ දකින්ට කැමැත්තෙමුයයි"
22. කීවෝය. පිලිප් ගොස් අන්ද්‍රෑට
කීයේය. එවිට අන්ද්‍රෑද පිලිප්ද
23. යේසුස්වහන්සේට කීවෝය. යේ
සුස්වහන්සේ ඔවුන්ට උත්තර දෙ
මින්, "මනුෂ්‍ය පුත්‍රයාට ගෞරව
24. ලැබෙන කාලය පැමිනුනේය. සැ
බවක් සැබවක් නුබලාට කියමි,
ගෝධූම ඇටය බිම වැටී නොම
ළොත්, තනියම තිබෙන්නේය. ම
ළොත් බොහෝ ඵල දෙන්නේය.
25. තමන්ගේ ජීවිතයට ප්‍රිය වෙන
තැනැත්තේ ඒක නසාගන්නේය.
මේ ලෝකයෙහි තමන්ගේ ජීවිත

යට ප්‍රිය නොවෙන තැනැත්තේ සදා
කාලයටම ඒක රක්ෂාකරගන්නේය.
26. යමෙක් මට සේවය කෙරේනම්
ඔහු මා පස්සේ ඒවා. මම යම් තැනක
සිටිම්ද, එතන මාගේ සේවකයාද
සිටින්නේය. යමෙක් මට සේවයකෙ
රේනම්, ඔහුට මාගේ පියානන්වහන්
27. සේ ගෞරවකරනසේක. දැන්
මාගේ සිත කැලඹෙනේය; කුමක්
කියම්ද? පියානන්වහන්ස, මේ පැ
යින් මා ගැලෙව්වමැනව; නුමුත්
මේ පිනිසම මේ පැයට පැමිනුනු
28. නෙමි. පියානන්වහන්ස, ඔබ
ගේ නාමය ගෞරවයට පැමිනෙව්ව
මැනවයි" කීසේක. එවිට "ගෞරව
යට පැමිනෙව්මි; නැවතද ගෞරවයට
පමුනුවන්නෙමියි" අහසෙන් ශබ්ද
29. යක් විය. ලඟ සිටියාවූ සමූහය
ඒ අසා, "අහස ගොරවන්නේයයි"
කීයේය. තවත් සමහරෙක්, "දේව
දූතයෙක් උන්වහන්සේ සමග කථා
30. කෙළේයයි" කීවෝය. යේසුස්ව
හන්සේ කියනසේක්, "ඒ ශබ්දය
මානිසා නොව, නුබලා නිසා පැමිනි
31. යේය. මේ ලෝකයෙහි විනිශ්චය
දැන් පැමිනෙන්නේය. දැන් මේ ලෝ
කයෙ මූලාදෘනියා දුරුකරනු ලැබේ.
32. මම භූමියෙන් ඔසවාගනු ලැබිම්
නම්, සියල්ලන්ම මා ලඟට ඇදගනි
33. මියි" කීසේක. මෙසේ කීවේ,
තමන්වහන්සේගේ මරනය කෙසේ
34. දැයි දක්වන පිනිසය. සමූහයා
උන්වහන්සේට උත්තර දෙමින්,
"ක්‍රිස්තුස්වහන්සේ සදාකල් සිටින
කෙනෙකැයි අපි ව්‍යවස්ථාවෙන් ඇසි
මුව. එසේවිනම්, 'මනුෂ්‍ය පුත්‍රයා
ඔසවනු ලැබිය යුතුයයි' නුබවහන්
සේ කියන්නේ කොහොමද? ඒ මනු
35. ෂ්‍ය පුත්‍රයා කවුදැයි" කීයේය. එ
විට යේසුස්වහන්සේ ඔවුන්ට කියන
සේක්, "තව ස්වල්ප වේලාවක්
ආලෝකය නුබලා සමග ඇත. අඳු
රෙහි ඇවිදින තැනැත්තේ කොතන
යන්නේදැයි දන්නේ නැත. එබැවින්
අන්ධකාරය නුබලාට නොපැමිනෙන
පිනිස, නුබලාට ආලෝකය තිබෙන
36. කල ඇවිදපල්ලාය. නුබලා ආ
ලෝකයෙහි පුත්‍රයෝවන පිනිස, ආ
ලෝකය නුබලාවතිබෙනකලආලෝ
කය විශ්වාසකරපල්ලායයි" කීසේක.
යේසුස්වහන්සේ මෙසේ කියා, ඔවුන්
කෙරෙන් ගොස් සැඟවී සිටිසේක.
37. ඔවුන් ඉදිරියෙහි උන්වහන්සේ
මෙපමන ආශ්චර්යවල් කල නුමුත්,
ඔවුන් උන්වහන්සේ අදහගත්තේ
38. නැත. එසේ සිඩවූනේ, "ස්වාමින්
වහන්ස, අපගේ වචන අදහගනෙන්
කවුද? ස්වාමින්වහන්සේගේ අත
කාට ප්‍රකාසකරනලද්දේදැයි" යෙස
යියා අනාගතවක්තෘහුගේ කීම සම්පූ
39. ර්ණවෙන පිනිසය. තවද ඔවුන්
ට අදහගන්ට නුපුළුවන්විය; මක්නි
සාද යෙසායියා නැවතත් කියන්නේ
40. "ඔවුන්ගේ ඇසින් නොදකින
පිනිසද, හිතෙන් තේරුම් නොගන්
නා පිනිසද, හරවාගනු නොලබන
පිනිසද, මා විසින් සුවකරනු නොල
බන පිනිසද, ඔවුන්ගේ ඇස් අන්ධ
කොට ඔවුන්ගේ හිත් දැඩිකලසේ
41. කැයි" කීයේය. යෙසායියා උන්
වහන්සේගේ මහිමතාව දැක, උන්
වහන්සේ ගැන කථාකරමින් මේ
42. කාරනා කීයේය. එසේ නුමුත්
ප්‍රධානීන්ගෙන් බොහෝ දෙන උන්ව
43. හන්සේ අදහගත්තෝය; නුමුත්
සිනාගෝගයෙන් දුරුකරනු නොලබ
න පිනිස, ඵරිසීන් නිසා ඒ ඇදහීම
ප්‍රකාසකලේ නැත. මක්නිසාද,
ඔවුන් දෙවියන්වහන්සේගේ ප්‍රසං
සාවට වඩා මනුෂ්‍යයන්ගේ ප්‍රසංසා
44. වට කැමතිවූවෝය. යේසුස්ව
හන්සේ ශබ්ද පවත්වමින් කියන
සේක්, "මා අදහන තැනැත්තේ මා
නොව මා එවූ උන්වහන්සේ අදහන්
45. නේය. මා දකින තැනැත්තේ
මා එවූ උන්වහන්සේ දකින්නේය.

46. මා අදහන සියල්ලෝ අන්ධකාර
යෙහි නොසිටින පිණිස, මම ලොවට
47. ආලෝකයක්ව ආවෙමි. මම ලෝ
කය ගලවන්ට මිස ලෝකයා විනිශ්
චයකරන්ට නා බැවින්, යමෙක්
මාගේ වචන අසා අදහා නොගනොත්
නම් ඔහු විනිශ්චය නොකෙරෙමි.
48. මා එපාකොට මාගේ වචන පිළි
නොගන්නාවූ තැනැත්තා විනිශ්චය
කරන්නෙක් ඇත. මම කී වචනව
ලින්ම ඔහු අන්තිම දවසේදී විනිශ්
49. චයකරනු ලබනවා ඇත. මක්නි
සාද මාගේ කැමැත්තෙන් කථානො
කලෙමි; නුමුත් මා එවූ පියානන්වහන්
සේම මා විසින් කියයුතු කුමක්ද,
කථාකලයුතු කුමක්දැයි මට අණදුන්
50. සේක. උන්වහන්සේගේ අණනම්
සදාකාල ජීවනයයි දනිමි; එහෙයින්
මම කියන දේ පියානන්වහන්සේ
මට කියාදුන් ලෙසම කියමියි”
කීසේක.

13. පරිච්ඡේ. යේසුස්වහන්සේ මේ
ලෝකයෙන් පිටත්ව පියානන්වහන්
සේ ළඟට තමන්වහන්සේ යන කා
ලය පැමුනුනේයයි පාස්කුමංගල්‍ය
යට පලමුවෙන් දැන, ලෝකයෙහි
සිටියාවූ තමන්ගේ සෙනගට ප්‍රේම
කොට කෙලවර දක්වා එවුන්ට ප්‍රේම
2. කලසේක. උන්වහන්සේ පාවා
දෙන්ට සීමොන්ගේ පුත්‍රවූ යූදස්
ඉස්කාරියොත්ට සාතන් හිත් ඉපදවූ
3. පසු, රාත්‍රී කෑම කද්දීම, යේසුස්ව
හන්සේ පියානන්වහන්සේ විසින්
තමන්ගේ අතට සියල්ල දුන් බවද,
තමන් දෙවියන්වහන්සේ ලඟින් ආ
බවද, දෙවියන්වහන්සේ ලඟට යන
4. බවද දැන, රාත්‍රී කෑමෙන් නැගිට,
සළුව මුදා තබා, රෙදිකඩක් අරගෙන
5. ඉඟටියෙහි බැඳගෙන, භාජනයක
වතුර වත්කොට, ගෝලයන්ගේ පා
සෝදන්ටත් තමන්ගේ ඉඟටියෙහි
බැඳගත් රෙදිකඩින් පිසදමන්ටත්
6. පටන්ගත්සේක. සීමොන් පේත්‍රුස්
ළඟට උන්වහන්සේ ආකල, “ස්වාමී
නි, ඔබවහන්සේ මාගේ පා සෝදන
7. සේක්දැයි” පේත්‍රුස් කීයේය. යේ
සුස්වහන්සේ උත්තර දෙමින්, “මම
කුමක් කෙරෙම්දැයි දැන් නුඹට දැනෙ
නෙන් නැත; නුමුත් මතු දැනෙන්
8. නේයයි” ඔහුට කීසේක. පේත්‍රුස්
ද, “ඔබවහන්සේ කවදාවත් මාගේ
පා නොසෝදනසේක්වයි” උන්ව
හන්සේට කීයේය. යේසුස්වහන්සේ
උත්තර දෙමින්, “නුඹ නොසෝදන්
නෙම්නම්, මා සමග කොටසක් නුඹ
9. ට නැතැයි” කීසේක. සීමොන්
පේත්‍රුස් උන්වහන්සේට කියනුයේ,
“ස්වාමිනි, මාගේ පා පමනක් නොව,
අත් දෙකත් හිසත් සමග සේදුවමැ
10. නවයි” කීයේය. යේසුස්වහන්සේ
ඔහුට කියනසේක්, “නෑවාවූ තැනැ
නොත් සියළු අන්දමෙන් පවිත්‍රය;
පා සේදීම මිස වෙන දේකින් ඔහුට
කමක් නැත. නුඹලා පවිත්‍ර අයවල්
ය; නුමුත් නුඹලා සියල්ලෝම එසේ
11. නොවෙතියි” කීසේක. තමන්
පාවාදෙන්නා දැනගත් නිසා, “නුඹ
ලා සියල්ලෝම පවිත්‍ර නොවෙතියි”
12. කීසේක. උන්වහන්සේ ඔවුන්ගේ
පා සෝදා, සළුව ඇඳගෙන නැවත
හිඳ ඔවුන්ට කියනසේක්, “මම නුඹ
ලාට කෙලේ මොකදැයි නුඹලා දනිද්
13. ද? නුඹලා ‘ආචාරීනි, ස්වාමීනියි’
මට කියති; ඒක නුඹලා කියනවා
14. හරිය; එසේ වෙමි. එසේවීනම්,
ස්වාමිවූ ආචාර්‍යවූ මම නුඹලාගේ පා
සේදූ බැවින්, නුඹලා විසිනුත් ඔවු
නොවුන්ගේ පා සෝදන්ට යුතුය.
15. මම නුඹලාට කල ලෙස නුඹලාත්
කරන පිණිස, නුඹලාට ආදර්ශයක්
16. දුනිමි. සැබවක් සැබවක් නුඹ
ලාට කියමි, වැඩකාරයා තමාගේ
ස්වාමියාට වඩා උතුම් නැත; යවන
ලද තැනැත්තේද තමන් යැවූ තැනැ
17. ත්තාට වඩා උතුම් නැත. මේ

දේ නුඹලා දැන, ඒවා කරනවානම්
වාසනාවන්තයෝය.

18. "නුඹලා සියල්ලන් ගැන
නොකියමි. මම තෝරාගත්තවුන්
දනිමි; නුමුත් 'මා සමග කෑම කන්
නා මට විරුද්ධව විළුඹ එසවූයේයයි'
ලියා තිබෙන කාරනාව සම්පූර්ණ
19. වන්නේය. ඒක පැමිනෙන කල
මම ඔහුමයයි නුඹලා අදහන පිනිස,
දැන් ඒක පැමිනෙන්ට පලමුවෙන්
20. නුඹලාට කීමි. සැබවක් සැබවක්
නුඹලාට කියමි, මා විසින් එවන
කෙනෙක් පිළිගන්නා මා පිළිගන්
නේය; මා පිළිගන්නා මා එවූ උන්
වහන්සේ පිළිගන්නේයයි" කීසේක.
21. යේසුස්වහන්සේ මෙසේ කියා
කැලඹුනාවූ සිත් ඇතිව, "සැබවක්
සැබවක් නුඹලාට කියමි, නුඹලා
ගෙන් එකෙක් මා පාවාදෙන්නේ
22. යයි" ප්‍රසිද්ධලෙස කීසේක. එවිට
කවුරු ගැන කීසේක්දැයි ගෝලයෝ
සැකකොට, ඔවුනොවුන් දෙස බැළු
23. වෝය. යේසුස්වහන්සේගේ ගෝ
ලයන්ගෙන් තමන්වහන්සේට ප්‍රියවූ
එකෙක්, උන්වහන්සේගේ ලැපැත්ත
24. ලඟ හාන්සිවී සිටියේය. සීමොන්
පේත්‍රුස් උන්වහන්සේ කා ගැන
කථාකලසේක්දැයි, අහන්ට ඔහුට
25. සංඥාකලේය. එවිට ඔහු යේසුස්
වහන්සේගේ ලැපැත්තේ හාන්සිව,
"ස්වාමිනි, ඒ කවුදැයි" උන්වහන්සේ
26. ගෙන් ඇසුයේය. යේසුස්වහන්
සේ උත්තර දෙමින්, "මම කැබෙල්
ලක් පොඟවා යමෙකුට දෙම්ද, ඒ
ඔහුමයයි" කියා, කැබෙල්ලක් පො
ඟවා සීමොන්ගේ පුත්‍රවූ යූදස් ඉස්
27. කාරියොත්ට දුන්සේක. ඔහු
කැබෙල්ල ගත් පසු, සාතන් ඔහුට
වැහුනේය. එවිට යේසුස්වහන්සේ,
"නුඹ කරන දේ හනික කරපන්
28. නැයි" ඔහුට කීසේක. ඒ වචන
ඔහුට මක්නිසා කීසේක්දැයි, සමග
උන්නවුන්ගෙන් කවුරුවත් දැන
29. ගනොත් නැත. සමහරෙක්, යූදස්
පසුම්බිය දරුබැවින් යේසුස්වහන්සේ
මංගල්‍යයට සුදුසු දේ මිලදී ගනි
නැයි, නොහොත් දිළිඳුන්ට මො
කවත් දීපන්නැයි ඔහුට කීසේකැයි
30. සිතුවෝය. ඔහු කැබෙල්ල ගත්
වේලේම, පිටත ගියේය; එකල රාත්‍රි
යද විය.

31. ඔහු ගියකල යේසුස්වහන්සේ
කියනසේක්, "මනුෂ්‍ය පුත්‍රයා දැන්
ගෞරවයට පැමුනුනේය; දෙවියන්
වහන්සේද ඔහු නිසා ගෞරවයට
32. පැමුනුනසේක. දෙවියන්වහන්
සේ ඔහු නිසා ගෞරවයට පැමිනි
සේක්නම්, දෙවියන්වහන්සේද තම
න්වහන්සේ නිසා මනුෂ්‍යපුත්‍රයා ගෞ
රවයට පමුනුවනසේක; තවද හනික
ඔහු ගෞරවයට පමුනුවනසේක.
33. දරුවෙනි, තව ටික වේලාවක්
නුඹලා සමග සිටිමි. නුඹලා මා සො
යනවා ඇත. නුමුත් 'මම යන තැනට
එන්ට නුඹලාට බැරියයි' යුදෙව්ව
රුන්ට මම කීලෙසම, දැන් නුඹලා
34. ටත් කියමි. නුඹලා ඔවුනොවුන්
ට ප්‍රේමකරපල්ලාය; මම නුඹලාට
ප්‍රේමකල ලෙසම නුඹලාත් ඔවුනො
වුන්ට ප්‍රේමකරපල්ලායයි, අළුත්
35. අනක් නුඹලාට දෙමි. නුඹලා
ඔවුනොවුන්ට ප්‍රේම කෙරෙත්නම්,
එයින් නුඹලා මාගේ ගෝලයෝයයි
සියල්ලෝ දැනගන්නවා ඇතැයි"
කීසේක.

36. සීමොන් පේත්‍රුස් කථාකොට,
"ස්වාමිනි, කොතනට යනසේක්
දැයි" උන්වහන්සේගෙන් ඇසුයේය.
යේසුස්වහන්සේ ඔහුට උත්තර දෙ
මින්, "මම යන තැනට දැන් මා සම
ග යන්ට නුඹට බැරිය; නුමුත් පසුව
මා සමග යන්නේයයි" කීසේක.
37. පේත්‍රුස්ද, "ස්වාමිනි, දැන් ඔබ
වහන්සේ සමග යන්ට මට බැරි මක්
නිසාද? ඔබවහන්සේ නිසා මාගේ
ප්‍රාණය දෙමියි" උන්වහන්සේට

38. කීයේය. යේසුස්වහන්සේ ඔහුට
උත්තර දෙමින්, නුඹේ ප්‍රාණය මා
නිසා දෙන්නේද? සැබවක් සැබවක්
නුඹට කියමි, කුකුළා හඬලන්ට පල
මුවෙන්, නුඹ තුන්වරක් 'ඔහු නාඳු
නමියි' මා ගැන කියන්නේයයි"
කීසේක.

14. පරිච්ඡ. "නුඹලාගේ සිත්
කැලඹෙනනට නොදෙල්ලාය; දෙවි
යන්වහන්සේ අදහපල්ලාය; මාත්
2. අදහපල්ලාය. මාගේ පියානන්ව
හන්සේගේ ගෙයි නොයෙක් වාස
ස්ථාන ඇත; නැත්නම් නුඹලාට ඒ
බව කියමි. නුඹලාට ස්ථානයක් පිළි
3. යෙළකරන්ට යමි. මම ගොස්
නුඹලාට ස්ථානයක් පිළියෙළ කෙ
රෙම්නම්, මම සිටින තැන නුඹලාත්
සිටිනා පිණිස, මම නැවත ඇවිත්
4. නුඹලා මා ළඟට ගනිමි. මම යන
ස්ථානය නුඹලා දනිති; මාර්ගයද
5. දනිතියි" කීසේක. තෝමස්ද,
"ස්වාමිනි, ඔබවහන්සේ කොතනට
යනසේක්දැයි අපි දන්නේ නැත.
මාර්ගය දැනගන්නට පුළුවන් කො
හොමදැයි" උන්වහන්සේට කීය.
6. යේසුස්වහන්සේ ඔහුට කියන
සේක්, "මාර්ගයද, සැබෑකමද, ජීව
නයද මමය. මා කරනකොටගෙන
මිස, කවුරුවත් පියානන්වහන්සේ
7. ළඟට යන්නේ නැත. නුඹලා මා
ඇඳින්නෝනම්, මාගේ පියානන්ව
හන්සේද අඳුනති. මෙතැන් පටන්
නුඹලා උන්වහන්සේ හඳුනති; දුටු
8. වෝද වෙතියි" කීසේක. පිලිප්ද,
"ස්වාමිනි, පියානන්වහන්සේ අපට
දක්වුවමැනව; එපමන අපට ඇ
9. තැයි" උනවහන්සේට කීය. යේසු
ස්වහන්සේ ඔහුට කියනසේක්, "පි
ලිප්, මම මෙපමන කල් නුඹලා
සමග සිටියෙමි; නුඹුත් මා නැඳින්
නේද? මා දුටු තැනැත්තේ පියානන්
වහන්සේ දුටුයේය; එසේවීනම්,
'පියානන්වහන්සේ අපට දක්වුව
මැනවයි' කියන්නේ කොහොමද?
10. මම පියානන්වහන්සේ ඇතුලෙ
හිද, පියානන්වහන්සේ මා ඇතුලෙ
හිද ඇතැයි අදහන්නේ නැද්ද? මම
නුඹලාට කියන වචන මමම නොකි
යමි. තවද මා ඇතුලෙහි සිටින්නාවූ
පියානාවහන්සේම ඒ ක්‍රියාවල් කර
11. නසේක. මම පියානන්වහන්සේ
ඇතුලෙහිත්, පියානන්වහන්සේ මා
ඇතුලෙහිත් සිටිනසේකැයි අදහග
නිල්ලාය. එසේ නැත්නම්, ක්‍රියාවල්
12. නිසා මා අදහගනිල්ලාය. සැබ
වක් සැබවක් නුඹලාට කියමි, මා
අදහගන්නා මම කරන ක්‍රියාවළුත්
කරන්නේය. මම මාගේ පියානන්ව
හන්සේ ළඟට යන නිසා, ඊට වඩා
මහත් ක්‍රියාවළුත් කරන්නේය.
13. නුඹලා මාගේ නාමයෙන් යමක්
ඉල්වනවානම්, පුත්‍රයා නිසා පියාන
න්වහන්සේ ගෞරව ලබන පිණිස,
14. මම ඒක කෙරෙමි. නුඹලා මාගේ
නාමයෙන් යමක් ඉල්වනවානම්,
15. ඒක මම කෙරෙමි. නුඹලා මට
ප්‍රේම ඇත්නම්, මාගේ ආඥාවල්
16. රක්ෂාකරපල්ලාය. මමද පියාන
න්වහන්සේගෙන් ඉල්ලන්නෙමි; එව්
ට උන්වහන්සේ වෙන සැනසිලිකා
රයෙක් නුඹලා සමග අඳකල්ම සි
17. ටින්ට නුඹලාට දෙනසේක; ඒ
සැනසිලිකාරයා සැබෑකමෙහි ආත්
මයානන්වහන්සේය. ලෝකයා උන්
වහන්සේ දකින්නේවත් අඳුනන්
නේවත් නැත; ඒ නිසා උන්වහන්
සේ පිළිගන්ට ලෝකයාට බැරිය.
නුඹුත් උන්වහන්සේ නුඹලා සමග
සිටිනබැවිනුද නුඹලා ඇතුලෙහි වසන
බැවිනුද, නුඹලා උනවහන්සේ අඳුනති.
18. නුඹලා අසරනව නාරිමි; නුඹලා
19. ළඟට එමි. තව ටික වේලාවකින්
ලෝකයා මා දකින්නේනැත; නුඹුත්
නුඹලා මා දකිති. මම ජීවත්වෙන
බැවින්, නුඹලාත් ජීවත්වෙනවා

20. ඇත. ඒ දවසේ, මම පියානන්ව
හන්සේ ඇතුලෙහිත්, තුබලා මා ඇ
තුලෙහිත්, මම තුබලා ඇතුලෙහිත්
සිටින බව, තුබලා දන්නවා ඇත.
21. යමෙක් මාගේ අඥාවල් පිලි
ගෙන රඤාකරන්නේනම්, ඔහු මට
ප්‍රේම කරන්නේය; යමෙක් මට ප්‍රේම
කරන්නේනම්, ඔහුට මාගේ පියා
නන්වහන්සේ ප්‍රේමකරනසේක. මමද
ඔහුට ප්‍රේමකරන්නෙමි; මා ඔහුට ප්‍ර
22. කාසකරනෙමියි"කීසේක. ඉස්
කාරියොත් නොවූ යූදස්ද, "ස්වාමිනි,
ඔබවහන්සේ විසින් ලොවට තමන්
ව ප්‍රකාස නොකොට, අපට ප්‍රකාස
කරන්නේ කොහොමදැයි" උන්ව
23. හන්සේගෙන් ඇසුයේය. යේසුස්
වහන්සේ උත්තර දෙමින්, "යමෙක්
මට ප්‍රේමකරන්නේනම්, ඔහු මාගේ
වචනය රඤාකරන්නේය. මාගේ
පියානන්වහන්සේද ඔහුට ප්‍රේමකර
නසේක; අපි ඔහු ලඟට ඇවිත් ඔහු
24. සමඟ වාසයකරමුව. මට ප්‍රේම
නොකරන තැනැත්තෝ මාගේ වචන
රඤාකරන්නේ නැත. තුබලා අසන
වචනය මා එවූ පියානන්වහන්සේගේ
25. මිස, මාගේ නොවේය. මම තුබ
ලා සමඟ සිටිද්දීම, මේ කාරනා තුබ
26. ලාට කීමි. තවද මාගේ නාම
යෙන් පියානන්වහන්සේ එවන
සුධාත්මනම් සැනසිලිකාරයානන්ව
හන්සේ තුබලාට සියල්ල උගන්වා,
මා විසින් තුබලාට කියනලද සියල්ල
27. තුබලාට සිහිකරවනසේක. තුබ
ලා වෙත සමාදානය තබා යමි; මා
ගේ සමාදානය තුබලාට දෙමි; ලෝ
කයා දෙන්නාක්මෙන් තුබලාට
නොදෙමි. තුබලාගේ සිත් කැල
ඹෙන්ට නොදෙල්ලාය; භයනො
28. වෙල්ලාය. 'මම අහක්ව ගොස්
තුබලා ලඟට නැවත එමියි' මම තු
බලාට කී බව තුබලාට ඇසුනේය.
තුබලා මට ප්‍රේම කරනවානම්, 'මා
ගේ පියානන්වහන්සේ ලඟට යමියි'
මා විසින් කී බවට සන්තෝස වෙනු
වා ඇත. මක්නිසාද, මාගේ පියානන්
වහන්සේ මට වඩා උතුම් කෙනෙ
29. ක. ඒ දේ සිඩවෙන කල තුබලා
අදහගන්නා පිනිස, දැන් සිඩවෙන්ට
30. පලමුවෙන් තුබලාට කීමි. මෙ
තැන් පටන් තුබලා සමඟ බොහෝ
කොට කථානොකරමි. මක්නිසාද,
මේ ලොවට මූලාදෑනියා එන්නේය;
තුමුත් ඔහුට මා ඇතුලේ කිසි දෙ
31. යක් නැත්තේය. එහෙත් මේ
දේ සිඩවෙන්නේ, පියානන්වහන්
සේට මම ප්‍රේමකරන බවද, පියානන්
වහන්සේ මට අනකල ලෙස මම
කරන බවද, ලෝකයා දැනගන්නා
පිනිසය. නැගිට මෙතනින් යමුයයි"
කීසේක.

15. පරිච්ඡේ. "සැබෑවූ මිදි වැල
මමය; මාගේ පියානන්වහන්සේ ඒකා
2. රඤාකරන්නාය. මා ඇතුලෙහිවූ
එල නොදෙන සියළු අතු උන්වහන්
සේ කපාදමනසේක; එලගන්නාවූ
සියළු අතු වඩා එලගන්නා පිනිස
3. පවිත්‍රකරනසේක. මා විසින් තුබ
ලාට කියනලද වචනයෙන් තුබලා
4. පවිත්‍රය. මා ඇතුලෙහි සිටපල්
ලාය; මමද තුබලා ඇතුලෙහි සිටිමි.
අත්තක් මිදි වැලෙහි නොපවතී
නම් තනියම එලගන්නට බැරුවා
වාගේ, තුබලා මා ඇතුලේ නොපව
තින්නම් එලගන්නට තුබලාට බැ
5. රිය. මිදි වැල මමය; තුබලා
අතුය. යමෙක් මා ඇතුලේ සිටින්
නේද, මම ඔහු ඇතුලේ සිටිම්ද,
ඔහු බොහෝ එලගනියි. මක්නිසාද,
මාගෙන් වෙන්ව කිසිවක් කරනනට
6. තුබලාට බැරිය. යමෙක් මා ඇතු
ලේ නොපවතිනම්, ඔහු වේලී ගිය
අත්තක් වාගේ පිටත දමනු ලැබේ.
එබදු අතු එක්කොට ගින්නේ දමා
7. දවනු ලැබෙත්. තුබලා මා ඇතු
ලේ සිටිනවානම්, මාගේ වචන තුබ

ලා ඇතුලේ පවතීනම්, නුඹලා යමක්
කැමතිව ඉල්ලුවොත් ඒදේ නුඹලාට
8. දෙනු ලැබේ. නුඹලා බොහෝ
එලගැනීමෙන් මාගේ පියානන්වහන්
සේට ගෞරව ඇත; එයින් නුඹලා
මාගේ ගෝලයෝද වෙනවා ඇත.
9. පියානන්වහන්සේ මට ප්‍රේමක
ලාක්මෙන්, මමත් නුඹලාට ප්‍රේම
කෙලෙම්; මාගේ ප්‍රේමයෙහි සිටපල්
10. ලාය. මම මාගේ පියානන්වහන්
සේගේ ආඥාවන් රක්ෂාකොට උන්ව
හන්සේගේ ප්‍රේමයෙහි යම්සේ සිටිම්
ද, එසේම නුඹලාත් මාගේ ආඥාවල්
රක්ෂාකරනවානම් මාගේ ප්‍රේමයෙහි
11. සිටිනවා ඇත. නුඹලා කෙරෙහි
මාගේ ප්‍රීතිය පවතින පිනිසද, නුඹ
ලාගේ ප්‍රීතිය සම්පූර්ණවෙන පිනි
සද, මේ කාරනා නුඹලාට කීමි.
12. මම නුඹලාට ප්‍රේම කලාක්මෙන්,
නුඹලාත් ඔවුනොවුන්ට ප්‍රේම කර
පල්ලාය; මාගේ ආඥාවනම් මේය.
13. යමෙක් තමාගේ මිත්‍රයන් වෙනු
වට තමාගේ ප්‍රානය දුනීනම්, ඊට
වඩා ප්‍රේමයක් කාටවත් ඇත්තේ
14. නැත. මම නුඹලාට ආඥාකරන්
නාවූ දේ නුඹලා කරනවානම්, නුඹ
15. ලා මාගේ මිත්‍රයෝ වෙති. වැඩ
කාරයා තමාගේ ස්වාමියා මක්කරන්
නේදැයි නොදන්නා බැවින්, මෙයින්
මතු නුඹලාට වැඩකාරයෝයයි නො
කියමි. තවද මාගේ පියානන්වහන්
සේගෙන් මම ඇසූ සියල්ල නුඹලාට
දැන්වූ බැවින්, නුඹලා මිත්‍රයෝයයි
16. කීමි. නුඹලා මා තෝරාගත්තේ
නැත; නුමුත් මාගේ නාමයෙන්
පියානන්වහන්සේගෙන් නුඹලා ය
මක් ඉල්ලුවොත් ඒ ඒ දේ උන්වහන්
සේ නුඹලාට දෙන පිනිසද, නුඹලා
ගොස් එලගන්නා පිනිසද, නුඹලා
ගේ එල පවතින පිනිසද, මම නුඹ
ලා තෝරාගෙන නියමකෙලෙමි.

17. "ඔවුනොවුන්ට ප්‍රේම කරපල්
ලායයි නුඹලාට ආඥාකෙරෙමි.
18. ලෝකයා නුඹලාට වෛර වන්
නේනම්, නුඹලාට පලමුවෙන්
මට වෛරවූයේයයි දැනගනිල්ලාය.
19. නුඹලා ලෝකයාගේ පක්ෂයට
වූනොත්, ලෝකයා තමාගේ පක්ෂ
යට සිටින අයවළුන්ට ප්‍රේමකරන්
නේය. නුමුත් නුඹලා ලෝකයාගේ
පක්ෂයට නොසිටින නිසාත්, මම
ලෝකයාගෙන් නුඹලා තෝරාගත්
නිසාත්, ලෝකයා නුඹලාට වෛර
20. වෙති. 'වැඩකාරයා තමාගේ
ස්වාමියාට වඩා උතුම් නැතැයි' මා
විසින් නුඹලාට කී වචනය සිහිකර
පල්ලාය. ඔවුන් මට පීඩාකලෝනම්,
නුඹලාටත් පීඩාකරනවා ඇත; මා
ගේ වචනවල් රක්ෂාකලෝනම්, නුඹ
ලාගේ වචනවළුත් රක්ෂාකරනවා
21. ඇත. නුමුත් ඔවුන් මා එවූ උන්
වහන්සේ නාදුනන බැවින්, මාගේ
නාමය නිසා මේ සියල්ල නුඹලාට
22. කරනවා ඇත. මම ඇවිත් ඔවුන්
ට කථානොකෙලෙම්නම්, ඔවුන්ට
පාපයක් නුවූයේය; දැන් ඔවුන්ගේ
23. පාපයට වැස්මක් නැත. මට
වෛරවෙන්නා මාගේ පියානන්වහන්
24. සේටත් වෛරවේ. මම ඔවුන්
අතරෙහි වෙන කාටවත් කරන්නට
බැරි ක්‍රියාවන් නොකෙලෙම්නම්,
ඔවුන්ට පාපයක් නුවූයේය. දැන්
ඔවුන් ඒ දැකත් මටද මාගේ පියා
නන්වහන්සේටද වෛරවූනෝය.
25. 'කාරණවක් නැතුව මට වෛරවූ
නෝයයි' ඔවුන්ගේ ව්‍යවස්ථාවෙහි
ලියාතිබෙන වචනය මෙසේ සම්පූ
26. ර්ණවිය. නුමුත් පියානන්වහන්
සේ කෙරෙන් පිටතව එන්නාවූ සැබෑ
කමෙයි ආත්මයවූ, සැනසිලිකාරයා
නන්වහන්සේ පියානන්වහන්සේ කෙ
රෙන් නුඹලා ලඟට එවමි. උන්වහන්
සේ ආකල මා ගැන සාක්ෂිදෙනසේ
27. ක. නුඹලාත් පටන්ගැන්මේ සිට
මා සමග සිටිය බැවින්, සාක්ෂි දෙන
වා ඇත.

16. පරිච්ඡේ. "නුඹලා බාධාවනු
නොලබන පිණිස මේ කාරනා නුඹ
2. ලාට කීමි. ඔවුන් සිනාගෝගව
ලින් නුඹලා අහක්කරනවා ඇත.
ඒපමනක්නොව, නුඹලා මරන්නාවූ
සියල්ලෝ ඒ මැරීම තමන් විසින්
දෙවියන්වහන්සේට කරන පූජාව
කැයි සිතන කාලය පැමිනෙන්
3. නේය. ඔවුන් පියානන්වහන්සේත්
මාත් නාදුනන බැවින්, ඒ දේ නුඹ
4. ලාට කරනවා ඇත. තවද ඒ කා
ලය පැමිනිකල මම මේවා නුඹලාට
කී බව සිහිවෙන පිණිස, මේ කාරනා
නුඹලාට කීමි. නුමුත් පටන්ගැන්මේ
සිට නුඹලා සමග සිටිය බැවින්, මේ
5. කාරනා නුඹලාට නොකීමි. දැන්
මා එවූ උන්වහන්සේ ලඟට යමි;
'කොතනට යනසේක්දැයි' නුඹලා
අතරෙහි කවුරුවත් මාගෙන් අහන්
6. නේ නැත. නුමුත් මේ කාරණ නු
බලාට මම කී බැවින්, නුඹලාගේ
සිත් ශෝකයෙන් පිරී තිබෙනෙන්ය.

7. "එසේ නුමුත් මම සැබෑව
නුඹලාට කියමි; මාගේ අහක්ව යා
මෙන් නුඹලාට ප්‍රයෝජන ඇත.
මක්නිසාද, මම අහක්ව නොගියෙම්
නම්, සැනසිලිකාරයානන්වහන්සේ
නුඹලා ලඟට එන්නේ නැත; නුමුත්
මම අහක්ව ගියෙම්නම්, උන්වහන්
8. සේ නුඹලා ලඟට එවමි. උන්ව
හන්සේ ආකල, පාපය ගැනද, ධර්මි
ෂ්ඨකම ගැනද, විනිශ්චය ගැනද,
9. ලෝකයාට දන්වාදෙනසේක. 'පා
පය ගැනය' කීවේ, ඔවුන් මා නො
10. අදහන බවය. 'ධර්මිෂ්ඨකම ගැ
නය' කීවේ, මාගේ පියානන්වහන්
සේ ලඟට යෙමි, එසින් පසු නුඹලා
11. මා නොදක්නා බවය. 'විනිශ්ච
ය ගැනය' කීවේ, මේ ලෝකයෙහි
මූලාදෑනියා විනිශ්චයකරනු ලබන
12. බවය. මා විසින් නුඹලාට කියයු
තුවූ වෙනත් බොහෝ කාරණ ඇත;
දැන් ඒවා දරන්ට නුඹලාට බැරිය.
13. එසේ නුමුත් සැබෑකමෙහි ආත්
මයානන්වහන්සේ ආකල, උන්වහන්
සේ නුඹලා සියළු සැබෑකමෙහි මාර්ග
යට පමුනුවනසේක. තමන්වහන්සේ
ගේම අභිප්‍රාවෙන් කථානොකර, උ
න්වහන්සේට ඇහෙන දේ කියා, මතු
පැමිනෙන දේ නුඹලාට දක්වනසේක.
14. උන්වහන්සේ මා සන්තක දෙයින්
අරගෙන නුඹලාට එළිදරව්කොට,
මා ගෞරවයට පමුනුවනසේක.
15. පියානන්වහන්සේ සන්තක සිය
ල්ල මා සන්තකය; එහෙයින් 'මා සන්
තක දෙයින් අරගන නුඹලාට දක්
16. වනසේකැයි' කීමි. මම පියානන්
වහන්සේ ලඟට යන නිසා, ස්වල්ප
වේලාවකින් මා දකින්නේ නැත.
නැවතත් ස්වල්ප වේලාවකින් මා
17. දකිනවා ඇතැයි" කීසේක. එවිට
තමන් ගෝලයන්ගෙන් සමහරෙක්,
"ස්වල්ප වේලාවකින් මා දකිනෙන්
නැත කියාත්, නැවතත් ස්වල්ප
වේලාවකින් මා දකිනවා ඇත කි
යාත්, පියානන්වහන්සේ ලඟට යනා
නිසාය කියාත්, මුන්වහන්සේ අපට
18. කියන්නේ මොකද? 'ස්වල්ප
වේලාවකැයි' උන්වහන්සේ මේ කි
යන්නේ මොකද කියා, අපි දන්
නේ නැතැයි" කථාකරගත්තෝය.
19. ජේසුස්වහන්සේ තමන්වහන්සේ
ගෙන් ඒ කාරණව ගැන අහන්නට
ඔවුන් කැමති බව දැන, ඔවුන්ට
කියනසේක්, "ස්වල්ප වේලාවකින්
මා දකින්නේ නැත, නැවතත්
ස්වල්ප වේලාවකින් මා දකිනවා
ඇතැයි, මම කී කාරණව ගැන
නුඹලා ඔවුනොවුන් කථාකරමින්
20. සොයද්ද? සැබවක් සැබවක්
නුඹලාට කියමි, නුඹලා හඬා වැල
පෙති; නුමුත් ලෝකයා සන්තෝස
වෙයි. නුඹලා ශෝකවෙති; නුමුත්
නුඹලාගේ ශෝකය සන්තෝසයට
21. පෙරලෙයි. ස්ත්‍රියක් වදන කල,
ඇගේ පැය පැමිනි නිසා ශෝකවත්

ණීය. නුමුත් ඈ දරුවා වැදූකල, ලෝකයෙහි මනුෂ්‍යයෙක් උපන්නේය යන සන්තෝෂයෙන් එතැන් පටන් වේදු
22. නාව සිහිකරන්නේ නැත. නුඹලාත් දැන් ශෝකවෙති; නුමුත් නැවත නුඹලා දක්නෙමි; එවිට නුඹලාගේ සිත් සන්තෝෂ වන්නේය. නුඹලාගේ සන්තෝෂය නුඹලාගෙන් කවුරුවත් උදුරාගන්නේ නැත.

23. "ඒ දවසේ නුඹලා මාගෙන් කිසි දෙයක් විභාගකරන්නේ නැත. සැබවක් සැබවක් නුඹලාට කියමි, මාගේ නාමයෙන් පියානන්වහන්සේගෙන් නුඹලා යමක් ඉල්ළුවොත්,
24. ඒ දේ නුඹලාට දෙනසේක. දැන් දක්වා මාගේ නාමයෙන් නුඹලා මොකවත් ඉල්ළුවේ නැත. නුඹලාගේ ප්‍රීතිය සම්පූර්ණවෙන පිනිස, ඉල්ලාපල්ලාය; එවිට නුඹලා ලබන
25. වා ඇත. මේ දේ උපමාවලින් නුඹලාට කීමි; නුමුත් උපමාවලින් නැවත නුඹලාට. නොකියා, ප්‍රකාශයෙන් පියානන්වහන්සේ ගැන නුඹලාට දන්වන්නාවූ කාලය පැමිණෙන්
26. නේය. ඒ දවසේ මාගේ නාමයෙන් නුඹලා ඉල්ලනවා ඇත
27. නුඹලා මට සෙන්හවූ බැවින්ද, මම දෙවියන්වහන්සේ කෙරෙන් ආමියි ඇදහූ බැවින්ද, පියානන්වහන්සේම නුඹලාට සෙන්හවනසේක. ඒ නිසා නුඹලා ගැන පියානන්වහන්සේගෙන් ඉල්ලනෙනමියි නොකිය
28. මි. මම පියානන්වහන්සේ ලඟින් පිටත්ව, ලෝකයට ආමි; නැවත ලෝකය හැර, පියානන්වහන්සේ
29. ලඟට යමියි" කීසේක. උන්වහන්සේගේ ගෝලයෝ, "දැන් ඔබවහන්සේ උපමා නැතුව ප්‍රකාශයෙන්
30. කියනසේක. ඔබවහන්සේ සියල්ල දන්නා බවද, කාගේවත් විභාගකිරීමෙන් ඔබට ඕනෑකමක් නැති බවද දැන් දනිමුව. මෙසින් ඔබවහන්සේ දෙවියන්වහන්සේ ලඟින් පිටත්ව
31. ආ බව අදහමුයයි" කීවෝය. යේසුස්වහන්සේ ඔවුන්ට උත්තර දෙමින්, "නුඹලා දැන් අදහන්නෝද?
32. නුඹලා සියල්ලෝම තම තමන්ගේ ස්ථානවලට ඉසිරී ගොස්, මා තනියම හරින කාලය පැමිණෙන්නේය; දැනටම පැමිණී තිබෙයි. එසේ නුමුත් පියානන්වහන්සේ මා සමග නිසා තනියම නොවෙමි.
33. මා නිසා නුඹලා සමාදානය ලබන පිනිස, මේ කාරනා නුඹලාට කීමි. ලෝකයේදී නුඹලා දුකට පැමිණෙනවා ඇත; නුමුත් ස්ථිර සිතින් සිටපල්ලාය; මම ලෝකයෙන් ජයගතිමියි" කීසේක.

17. පරිච්ඡේ. යේසුස්වහන්සේ මෙසේ කියා ස්වර්ගයාදෙසට ඇස් ඔසවා, කියනුයේ "පියානන්වහන්ස, කාලය
2. පැමුනුනේය. ඔබවහන්සේ විසින් ඔබගේ පුත්‍රයාට දෙනලද සියල්ලන්ට සදාකාල ජීවනය දෙන පිනිස ඔබවහන්සේ සියළු මනුෂ්‍යයන් කෙරෙහි ඔහුට බලය දුන් හෙයින්, ඔහු කරනකොටගෙන ඔබවහන්සේට ගෞරව ලැබෙන පිනිස ඔබවහන්සේගේ පුත්‍රයාට ගෞරව දුන
3. මැනව. ඒ සදාකාල ජීවනයනම්, එකම සැබෑවූ දෙවිවූ ඔබවහන්සේ සහ ඔබවහන්සේ විසින් එවනලද්දාවූ යේසුස් ක්‍රිස්තුස් දැනගැන්ම වේ.
4. මම ඔබවහන්සේ පොලොවේ ගෞරවයට පැමිනවීමි. ඔබවහන්සේ මට කරන්නට දුන් වැඩ තීන්දුකෙ
5. ලෙමි. දැනට පියානෙනි, ලෝකය මැවීමට පලමුවෙන් ඔබවහන්සේ ලඟ මට තිබුනාවූ ගෞරවයෙන්, ඔබවහන්සේ ලඟදී මා ගෞරවයට
6. පැමිනෙව්ව මැනව. ඔබවහන්සේ විසින් ලෝකයෙන් මට දුන් මනුෂ්‍යයන්ට ඔබගේ නාමය එළිදරව්කෙලෙමි. ඔවුන් ඔබවහන්සේ සන්තක වූවෝය; ඔබවහන්සේ ඔවුන් මට

දුන්සේක; ඔවුන් ඔබවහන්සේගේ
7. වචනය රක්ෂාකලෝය. ඔබවහන්
සේ මට දුන් සියල්ල ඔබවහන්සේ
8. ලඟිනැයි ඔවුන් දැන් දනිති. ඔබ
වහන්සේ විසින් මට දුන් වචන මම
ඔවුන්ට දුනිමි; ඔවුන් ඒවා පිළිගෙ
න, මම ඔබවහන්සේ කෙරෙන් ආ
බව අනුමානයක් නැතුව දැන, ඔබ
වහන්සේ මා එවූ බව අදහගත්තෝ
9. ය. මම ඔවුන් නිසා යාඥාකරමි;
ලෝකයා නිසා යාඥානොකරමි;
නුමුත් ඔබවහන්සේ මට දුන්නාවූ
ඔවුන් නිසා යාඥාවෙමි; මක්නිසාද,
ඔවුන් ඔබවහන්සේ සන්තකය.
10. මා සන්තක සියල්ල ඔබවහන්
සේ සන්තකය; ඔබවහන්සේ සන්
තක සියල්ල මා සන්තකය. මමද
ඔවුන් කරනකොටගෙන ගෞරව
11. යට පැමිනියෙමි. මෙතැන් පටන්
මම ලෝකයේ නොසිටිමි; නුමුත්
ඔවුන් ලෝකයේ සිටිති; මම ඔබව
හන්සේ ලඟට එමි. සුබවූ පියානෙනි,
ඔබවහන්සේ මට දුන්නාවූ ඔවුන් අප
සේම ඒකත්වයක් වෙන පිනිස ඔබ
වහන්සේගේ නාමයෙන් රක්ෂාකල
12. මැනව. මම ඔවුන් සමග ලෝක
යේ සිටිද්දී, ඔවුන් ඔබවහන්සේගේ
නාමයෙන් රක්ෂාකෙලෙමි; ඔබව
හන්සේ මට දුන්නාවූ ඔවුන් ප්‍රවේ
සම් කෙලෙම්; විනාසයෙහි පුත්‍රයා
හැර, ඔවුන් අතරෙන් කවුරුවත්
විනාසවූනේ නැත; මෙසේ ලියවිලල
13. සම්පූර්ණවූනේය. නුමුත් දැන්
ඔබවහන්සේ ලඟට මම එමි; මාගේ
ප්‍රීතිය ඔවුන් කෙරේ සම්පූර්ණවෙ
න පිනිස, ලෝකයෙහිදී මේ කාරනා
14. කියමි. මම ඔවුන්ට ඔබවහන්
සේගේ වචනය දුනිමි. මම යම්සේ
ලෝකයාගේ පක්ෂයට නොවෙම්ද,
එසේම ඔවුනුත් ලෝකයාගේ පක්ෂ
යට නොවෙත්; ඒ නිසා ලෝකයා
15. ඔවුන්ට වෛර වූයේය. ඔබව
හන්සේ විසින් ඔවුන් නපුරෙන්
රක්ෂාකරගන්ට මිස, ලෝකයෙන්
16. ගෙනයන්ට යාඥානොකරමි. මම
යම්සේ ලෝකයාගේ පක්ෂයට නො
වෙම්ද, එසේම ඔවුනුත් ලෝකයා
17. ගේ පක්ෂයට නොවෙති. ඔබව
හන්සේගේ සැබෑකමෙන් ඔවුන්
පිරිසිදුකලමැනව; ඔබවහන්සේගේ
18. වචනය සැබෑකමනම් වේ. ඔබ
වහන්සේ මා ලෝකයට එව්වාසේම,
19. මම ඔවුන් ලෝකයට යවීමි. සැ
බෑකමෙන් ඔවුන් පිරිසිදුවෙන පිනි
ස, ඔවුන් නිසා මා පිරිසිදුකරගනිමි.
20. "තවද ඔවුන් නිසා පමනක්
නොව, ඔවුන්ගේ වචනය කරනා
කොටගෙන මා අදහන්නාවුන් නි
21. සාත් යාඥාකරමි. ඔබවහන්සේ
මා එවූ බව ලෝකයා අදහගන්නා
පිනිස, ඔවුන් සියල්ලෝ ඒකත්වයක්
වේවා. පියාවූ ඔබවහන්සේ මා ඇතු
ලෙහිත් මම ඔබවහන්සේ ඇතුලෙ
හිත් සිටින්නාසේම, අප ඇතුලෙහි
22. ඔවුනුත් ඒකත්වයක් වේවා. අපි
ඒකත්වයක්ව සිටිනනාසේම ඔවුනුත්
23. ඒකත්වයක්වෙන පිනිසද, මම ඔ
වුන් ඇතුලෙහිද ඔබවහන්සේ මා
ඇතුලෙහිද සිටීමෙන් ඔවුන්ගේ
ඒකත්වයක්වීම සම්පූර්ණවෙන පිනි
සද, ඔබවහන්සේ මා එවූ බවත් ඔබ
වහන්සේ මට ප්‍රේම කලසේම ඔවුන්
ටත් ප්‍රේමකල බවත් ලෝකයා දැන
ගන්නා පිනිසද, ඔබවහන්සේ වි
සින් මට දුන් මහිමය මම ඔවුන්ට
24. දුනිමි. පියානෙනි, ලෝකය
මැවීමට පලමුවෙන් මට ප්‍රේමක
ලාවූ ඔබවහන්සේ විසින් මට
දුන් මහිමය ඔබවහන්සේ මට
දුන්නාවුන් විසිනුත් දක්නා පිනිස,
මම සිටින තැන ඔවුනුත් මා සමග
25. සිටීමට කැමැත්තෙමි. ධර්මිෂ්ඨවූ
පියානෙනි, ලෝකයා ඔබවහන්සේ
හැඳින්නේ නැත; නුමුත් මම ඔබව
හන්සේ හැඳින්නෙමි; මොවුන් ඔබ
වහන්සේ මා එවූසේකැයි දැනගත්

26. යෝය. ඔබවහන්සේ මට ඇති
නාවූ ප්‍රේමය ඔවුන් ඇතුලෙහිද
මමත් ඔවුන් ඇතුලෙහිද වෙන
පිනිස, ඔබවහන්සේගේ නාමය
ඔවුන්ට දැන්වීමි, දන්වන්නෙමියි"
කීසේක.

18. පරිච්ඡෙ. යේසුස්වහන්සේ මෙ
සේ කියා, තමන් ගෝලයන් සමග
කෙද්‍රොන්නම් ඔය එගොඩට ගොස්,
එහි තිබෙන උයනකට ගෝලයන් ස
2. මග පැමිණිසේක. යේසුස්වහන්සේ
තමන් ගෝලයන් සමග නොයෙක්ව
ර එහි ගිය බැවින්, උන්වහන්සේ පාවා
දෙන යූදස් ඒ ස්ථානය දැන පුරු
3. දුය. එහෙයින් ඔහු සේනාව සහ
නායක පූජකයන්ගෙන්ද එරිසීන්
ගෙන්ද සේවකයන් ලබාගෙණ,
පහන් විලක්කු ආයුධ අරගෙන එත
4. නට ආයේය. යේසුස්වහන්සේ
තමන්ට පැමිණෙන සියළු දේ දැන
පිටත්ව ගොස්, "තුබලා සොයන්
නේ කාදැයි" ඔවුන්ගෙන් ඇසූසේ
5. ක. ඔවුන් උන්වහන්සේට උත්
තර දෙමින්, "නාසරැත් යේසුස්යයි"
කීවෝය. යේසුස්වහන්සේ, "ඒ මම
යයි" කීසේක. උන්වහන්සේ පාවා
දෙන්නාවූ යූදස් ඔවුන් සමග සිටි
6. යේය. "ඒ මමයයි" යේසුස්වහන්
සේ ඔවුන්ට කී වේලේම, ඔවුන් පස්
සෙන් පස්සට ගොස් බිම වැටුනෝය.
7. නැවතත් උන්වහන්සේ "තුබලා
සොයන්නේ කාදැයි" ඇසූසේක.
ඔවුන් "නාසරැත් යේසුස්යයි" කී
8. වෝය. යේසුස්වහන්සේ ඔවුන්ට
උත්තර දෙමින්, "ඒ මමයයි තුබලා
ට කීමි. එහෙයින් තුබලා මා සොයන්
නේනම්, මොවුන්ට යන්ට හැරපල්
9. ලායයි" කීසේක. මෙසේ කීවේ,
"ඔබවහන්සේ මට දුන්නවුන්ගෙන්
කවුරුවත් විනාසවූයේ නැතැයි"
උන්වහන්සේ විසින් කියනලද වච
නය මෙසේ සම්පූර්ණවෙන පිනි
10. සය. එකල කඩුවක් අරන් සිටි
සීමොන් පේතෘස් ඒක ඇද, නායකපූ
ජකයාගේ වැඩකාරයෙකුට ගසා, ඔ
හුගේ දකුණු කන කපාදැමීය. ඒ වැඩ
11. කාරයාගේ නම මල්කස්ය. එවිට
යේසුස්වහන්සේ පේතෘස්ට කියන
සේක්, "තුබේ කඩුව කොපුවේ දමා
පන්න; පියානන්වහන්සේ විසින්
මට දුන් කුසලාන නොබොම්දැයි"
කීසේක.

12. එකල සේනාවද සේනාපතී
යාද යුදෙව්වරුන්ගේ සේවකයෝද
13. යේසුස්වහන්සේ අල්ලා බැඳ, ඒ
අවුරුද්දට උත්තම පූජකවූ කායා
එස්ගේ මාමාවූ අන්නස් ලඟට පලමු
14. කොට ගෙනගියෝය. ඒ කායා
එස්, "සෙනග නිසා එක් මනුෂ්‍යයෙ
කුගේ මරනය ප්‍රයෝජන ඇතැයි"
මන්ත්‍රන සභාවෙහිදී යුදෙව්වන්ට
කී තැනැත්තාය.

15. සීමොන් පේතෘස්ද තවත්
ගෝලයෙක්ද යේසුස්වහන්සේ පස්
සේ ගියෝය. ඒ ගෝලයා උත්තම
පූජකයා විසින් අඳුනන බැවින්,
යේසුස්වහන්සේ සමග උත්තම පූජ
කයාගේ සාලාවට ඇතුල්වූයේය.
16. නුමුත් පේතෘස් දොරකඩ ලඟ
පිටත සිටියේය. එවිට උත්තම පූජ
කයා විසින් අඳුනනලද ඒ අනික්
ගෝලයා පිටතට ගොස්, දොරටුපා
ලීට කියා, පේතෘස් ඇතුලට ගෙන
17. ආයේය. එවිට දොරටුපාලීවූ දාසී,
"තුබත් ඒ මනුෂ්‍යයාගේ ගෝලයන්
ගෙන් එකෙක් නොවේදැයි" පේ
තෘස්ට කීවාය. "මම නොවෙමියි"
18. කීය. සීතල බැවින්, වැඩකාර
යෝද සේවකයෝද ගිනි දල්වා තපි
මින් සිටියෝය. පේතෘස්ද ඔවුන් සම
19. ග ගිනි තපිමින් සිටියේය. එවිට
උත්තම පූජකයා යේසුස්වහන්සේ
ගේ ගෝලයන් ගැනද, ඉගැන්වීම
ගැනද, උන්වහන්සේගෙන් ඇසුයේ
20. ය. යේසුස්වහන්සේ ඔහුට උත්

තර දෙමින්, "මම ප්‍රකාශයෙන්
ලොවට කථාකෙළෙමි; යුදෙව්වරුන්
නිතර රැස්වෙන්නාවූ සිනගෝගවල
දීත් දේව මාලිගාවේදීත් නිතරම
ඉගැන්වීමි; රහසින් කිසිවක් නොකී
21. යෙමි. මාගෙන් අහන්නේ මක්
නිසාද? මාගේ වචන ඇසූවන්ගෙන්
මම ඔවුන්ට කීවේ මොකදැයි අසා
පන්න. මම කීවේ මොකදැයි ඔවුන්
22. දනිතියි" කීසේක. උන්වහන්සේ
මෙසේ කීකල, ලඟ සිටියාවූ සේවක
යන්ගෙන් එකෙක්, "උත්තම පූජ
කයාට මෙසේ උත්තර දෙන්නේද"
කියා, යේසුස්වහන්සේට අතුල් පහ
23. රක් ගැසීය. යේසුස්වහන්සේ
ඔහුට උත්තර දෙමින්, "මම නර
කක් කීවනම්, ඒ නරක ගැන සාක්ෂි
දීපන්න; හොඳක් කීවනම්, මට පහ
ර දෙන්නේ මක්නිසාදැයි" කීසේක.
24. බැඳලා සිටි උන්වහන්සේ අන්
නාස් විසින් උත්තම පූජකවූ කායා
25. ඵස් ලඟට යවනු ලැබූසේක. සී
මොන් පේතෘස් ගිනි තපිමින් සිටි
කල, ඔවුන් "නුඹ ඔහුගේ ගෝල
යන්ගෙන් එකෙක් නොවේදැයි"
ඔහුට කීවෝය. "නැත; මම නො
26. වෙමියි" කීයේය. උත්තම පූජ
කයාගේ වැඩකාරයන්ගෙන් එකෙක්
වූ, පේතෘස් විසින් කන කැපූ තැනැ
ත්තාගේ නෑයෙක්, "ඔහු සමග උය
නේ සිටි නුඹ නුදුටිමිදැයි" කීය.
27. එවිට පේතෘස් නැවතද, "නැ
තැයි" කීය. එවලේම කුකුලා හඬ
ලීය.

28. එකල ඔවුන් යේසුස්වහන්සේ
කායාඵස් ලඟින් නඩුසාලාවට ගෙන
ගියෝය. එවිට පහන්විය. ඔවුන්
පාස්කු මංගල්‍ය කෑමට අපවිත්‍ර
නොවෙන පිනිස, නඩු සාලාවට ඇ
29. තුල්වූනේ නැත. එකල පිලාත්
ඔවුන් වෙතට පිටත්ව ගොස්, "මේ
මනුෂ්‍යයාට විරුඬව මොන වරදක්
30. තබද්දැයි" කීය. ඔවුන් උත්තර
දෙමින්, "මොහු වැරදිකාරයෙක්
නොවීනම්, නුඹට ඔහු පාවා නො
31. දෙමුයයි" කීවෝය. එවිට පිලාත්,
"නුඹලා ඔහු ගෙනගොස්, නුඹලා
ගේ ව්‍යවස්ථාව ලෙස විනිශ්චය කර
පල්ලායයි" ඔවුන්ට කීය. එවිට
යුදෙව්වරු, "කිසිවෙක් මරන්ට අපට
32. බලය නැතැයි" කීවෝය. මෙ
සේ වූනේ, යේසුස්වහන්සේ මොන
මරණයකින් මැරෙනසේක්ද කියා
තමන්වහන්සේ විසින් කියා තිබූන
වචනය සම්පූර්ණවෙන පිනිසය.
33. එවිට පිලාත් නැවත නඩුසාලා
වට ඇතුල්ව යේසුස්වහන්සේ කැඳ
වා, "නුඹ යුදෙව්වන්ගේ රජදැයි"
34. ඇසූයේය. යේසුස්වහන්සේ ඔහු
ට උත්තර දෙමින්, "නුඹම මෙසේ
කියන්නේද, නොහොත් අනුන් මා
ගැන එසේ නුඹට කීවෝදැයි" කීසේ
35. ක. පිලාත් උත්තර දෙමින්,
"මම යුදෙව්වෙක්ද? නුඹේම ජාති
යද නායකපූජකයෝද නුඹ මට පා
වාදුන්නෝය. නුඹ කලේ මොකදැයි"
36. කීය. යේසුස්වහන්සේ උත්තර
දෙමින්, "මාගේ රාජ්‍යය මේ ලෝක
යෙන් නොවේය. මාගේ රාජ්‍යය මේ
ලෝකයෙන් වීනම්, මම යුදෙව්ව
රුන්ට පාවාදෙනු නොලබන පිනිස,
මාගේ වැඩකාරයෝ යුඬ කෙරෙති.
දැන් මාගේ රාජ්‍යය මෙයින් නොවේ
37. යයි" කීසේක. එවිට පිලාත්,
"එසේවීනම් නුඹ රජෙක්දැයි" උන්
වහන්සේට කීය. යේසුස්වහන්සේ
උත්තර දෙමින්, "මම රජයයි නුඹ
ම කියන්නේය. මම උපන්නෙත්,
ලෝකයට ආවෙත් සැබෑකමට සා
ක්ෂිදෙන පිනිසය. සැබෑකමෙන්
වූ තැනැත්තේ මාගේ ශබ්දය අ
38. සන්නේයයි" කීසේක. පිලාත්
"සැබෑකමනම් මොකදැයි" උන්ව
හන්සේට කියා, නැවත යුදෙව්ව
රුන් වෙතට පිටත්ව ගොස්, "මොහු
අත කිසි වරදක් මට පෙනෙන්නේ

39. නැත. නුමුත් පාස්කු මංගල්‍යයෙහිදී නුඹලාට මා විසින් එකෙක් මුදා දෙන සිරිතක් තිබෙයි; එහෙයින් යුදෙව්වන්ගේ රජ මා විසින් නුඹලාට මුදා හරින්ට නුඹලා කැමති 40. දැයි" ඔවුන්ගෙන් ඇසුයේය. එවිට ඒ සියල්ලෝ නැවත මොරගසමින්, "මොහු නොවේය; බරබ්බායයි" කීවෝය. බරබ්බා සොරෙක්ය.

19. පරිච්ඡෙ. එවිට පිලාත් යේසුස්වහන්සේට කසවලින් තැලෙව්වේය. 2. සේවායෝද කටු ඔටුන්නක් ගොතා උන්වහන්සේගේ හිසේ තබා, 3. රත් වස්ත්‍රයක් උන්වහන්සේට හඳවා, "යුදෙව්වන්ගේ රජ්ජුරුවෙනි, සුවසේ සිටිනසේක්වයි" කියා උන්වහන්සේට අතුල්පහර දුන්නෝ 4. ය. එකල පිලාත් නැවත පිටත්ව ගොස්, "මොහු අත කිසි වරදක් මට නොපෙනෙන බව නුඹලා දැනගන්නා පිනිස, මොහු නුඹලා ළඟට 5. ගෙනායෙමියි" ඔවුන්ට කීය. එවිට යේසුස්වහන්සේ කටු ඔටුන්නද රත් වස්ත්‍රයද දරමින් පිටතට ආසේක. එවිට පිලාත්ද "ඒ මනුෂ්‍යයා 6. බලාපල්ලායයි" ඔවුන්ට කීය. එවිට නායකපූජකයෝද සේවකයෝද උන්වහන්සේ දැක, මොරගසමින් "කුරුසියෙහි ඇනගැසුවමැනව; කුරුසියෙහි ඇනගැසුවමැනවයි" කීවෝය. පිලාත්, "නුඹලාම මොහු ගෙනගොස් කුරුසියෙහි මරාපල්ලාය; මොහු අත කිසි වරදක් මට පෙනෙන්නේ 7. නැතැයි" ඔවුන්ට කීය. යුදෙව්වරු ඔහුට උත්තර දෙමින්, "අපට ව්‍යවස්ථාවක් ඇත; තමා විසින්ම තමන් දෙවියන්වහන්සේගේ පුත්‍රයායයි කීබැවින්, ඒ ව්‍යවස්ථාවේ හැටියට ඔහු 8. මරනයට සුදුසුයයි" කීවෝය. පි 9. ලාත් ඒ අසා වඩා භයව, නැවත නඩුශාලාවට ඇතුල්ව, "නුඹ කොතනින්දැයි" යේසුස්වහන්සේට කීයේය. යේසුස්වහන්සේ ඔහුට කිසි උත් 10. තරයක් දුන්නේ නැත. එකල පිලාත්, "නුඹ මට කථාකරන්නේනැද්ද? නුඹ කුරුසියෙහි ඇනගසන්ටද මුදන්ටද මට බලය ඇති බව දන්නේ නැද්දැයි" උන්වහන්සේට කීය. 11. යේසුස්වහන්සේ උත්තර දෙමින්, "උඩින් නුඹට නොදෙනලද්දේනම්, මට විරුද්ධව නුඹට කිසි බලයක් නැත; එහෙයින් මා නුඹට පාවාදුන් තැනැත්තාට වැඩි මහත් පව් 12. ඇත්තේයයි" කීසේක. එතැන් පටන් පිලාත් උන්වහන්සේ මුදන්ට සෙවීය. නුමුත් යුදෙව්වරු, මොරගසමින් "මොහු මුදුවොත් නුඹ කායිසර්ගේ මිත්‍රයානොවේය. යමෙක් තමාම රජ කරගනීනම්, ඔහු කායිසර්ට විරුද්ධව කථාකරන්නේයයි" කීවෝය. 13. පිලාත් ඒ බස් අසා, යේසුස්වහන්සේ පිටතට අරගෙන, හෙබ්‍රෙව් භාෂාවෙන් ගබ්බතායයි කියන ගල්ලැලිනව ඉඹවේ නඩු ආසනයෙහි 14. ඉඳගත්තේය. එවිට පාස්කු මංගල්‍යය සූදානම්කරන දවසේ සවෙනි පැය පමණ විය. එවිට ඔහු, "නුඹලාගේ රජ බලාපල්ලායයි" යුදෙව්වන්ට 15. කීය. නුමුත් ඔවුන්, මොරගසමින් "ඔහු අහක්කලමැනව; අහක්කලමැනව; ඔහු කුරුසියෙහි ඇනගැසුවමැනවයි" කීවෝය. පිලාත්ද, "නුඹලාගේ රජ කුරුසියෙහි ඇනගසම්දැයි" ඔවුන්ගෙන් ඇසුයේය. එවිට නායකපූජකයෝ උත්තර දෙමින්, "කායිසර් මිස අපට වෙන රජෙක් නැතැයි" 16. කීවෝය. එකල ඔහු යේසුස්වහන්සේ කුරුසියෙහි ඇනගසනු ලබනපිනිස ඔවුන්ට පාවාදුන්නේය. එවිට ඔවුන් යේසුස්වහන්සේ අල්ලා ගෙන ගියෝය.

17. උන්වහන්සේ තමාගේ කුරුසිය උසුලාගෙන හෙබ්‍රෙව් භාෂාවෙන් ගොල්ගොතායයි කියන

ලද ඉස්කබලස්ථානයට පිටත්ව ගිය
18. සේක. එහිදී යේසුස්වහන්සේ
මැදිකොට, උන්වහන්සේගේ දෙපැ
ත්තෙන් උන්වහන්සේ සමග වෙනත්
දෙන්නෙක් කුරුසියෙහි ඇනගැසූ
19. වෝය. තවද පිලාත් පත්‍ර
යක් ලියා කුරුසියෙහි තැබීය. ඒ පත්‍ර
යේ, "මේ යුදෙව්වන්ගේ රජවූ නාස
රෙත් යේසුස්යයි" ලියනලද්දේය.
20. යේසුස්වහන්සේ කුරුසියෙහි
ඇනගැසූ ස්ථානය නුවරට සමීප
බැවින්, යුදෙව්වන්ගෙන් බොහෝ
දෙනෙක් ඒ පත්‍රය කියෙව්වෝය.
ඒ පත්‍රය හෙබ්‍රෙව් ග්‍රීක් ලතින්
යන භාෂාවලින් ලියා තිබුණේය.
21. එවිට යුදෙව්වන්ගේ නායක පූජ
කයෝ කථාකොට, "යුදෙව්වන්ගේ
රජයයි නොලියා, මම යුදෙව්වන්ගේ
රජයයි, ඔහු විසින් කියනලද්දේයයි
ලිව්වමැනවයි" පිලාත්ට කීවෝය.
22. පිලාත් "මම යමක් ලිව්විම්ද, ඒක
23. ලිව්මියි" කීයේය. සේවායෝ
යේසුස්වහන්සේ කුරුසියෙහි ඇන
ගැසූකල, උන්වහන්සේගේ වස්ත්‍ර
අරගෙන, එක එක සේවායාට එක
එක කොටස බැගින් සතර කොට
සක් කලෝය. උන්වහන්සේගේ යට
ඇඳුමද ගත්තෝය. ඒ ඇඳුම නොම
හා උඩ පටන් මුළුල්ලම වියලා තිබූ
24. යේය. එබැවින් "මේක නොඉ
රා කාට වේදැයි දැනගන්නා පිනිස
දාදු දමමුයයි" ඔවුනොවුන් කීවෝය.
මෙසේවූයේ "මාගේ වස්ත්‍ර ඔවුන්අත
රේ බෙදා, මාගේ ඇඳුම පිනිස දාදු දැමූ
වෝයයි" යන ලියවිල්ල සම්පූර්ණ
වෙනපිනිසය. එහෙයින් සේවායෝ
25. මෙලෙසකලෝය. තවද යේසුස්ව
හන්සේගේමෑණියෝද, මෑණියන්ගේ
සහෝදරිවූ ක්ලෝපාගේ භාර්යාවූ
මරියාද, මග්දලාගේ මරියාද, උන්ව
හන්සේගේ කුරුසිය ලඟ සිටියෝය.
26. එවිට යේසුස්වහන්සේ ලඟ සිටි
නාවූ තමන්ගේ මෑණියන්ද, තමන්
විසින් ප්‍රේමකරනලද ගෝලයාද
දැක, "ස්ත්‍රිය, නුඹේ පුත්‍රයා බලාපන්
නැයි" තමාගේ මෑණියන්ට කියා
27. "නුඹේ මෑණියන් බලාපන්
නැයි" ගෝලයාට කීසේක. එවේ
ලෙහි පටන් ඒ ගෝලයා තමාගේ
28. ගෙදරට ඈ පිළිගත්තේය. ඉන්
පසු යේසුස්වහන්සේ දැන් සියල්ල
තීන්දුවූන බව දැන, ලියවිල්ල සම්
පූර්ණවෙන පිනිස, "පිපාස ඇත්
29. තෙමියි" කීසේක. එවිට කාඩි
යෙන් පිරුනු භාජනයක් එහි තබා
තිබුණේය. ඔවුන් මූදු හත්තක් කාඩි
යෙන් පොවා, හිසොප්දඬක බැඳ,
උන්වහන්සේගේ මුඛයට දික්ක
30. ලෝය. යේසුස්වහන්සේ කාඩි
ගෙණ "තීන්දුවූනේයයි" කියා,
හිස නමා ප්‍රාණය පාවාදුන්
සේක.

31. ඒ දවස සූදානම්කරන දවස
බැවින්, සබත් දවසේ ශරීර කුරුසි
යෙහිම නොතිබෙන පිනිස, ඔවුන්
ගේ කෙණ්ඩා බිඳුවා ඔවුන් අහක්කර
වන්ට, යුදෙව්වරු පිලාත්ගෙන් ඉල්ලූ
32. වෝය. මක්නිසාද ඒ සබත්දවස
මහත් දවසක්ය එකල සේවායෝ ඇ
විත්, උන්වහන්සේ සමග කුරුසියෙහි
ඇනගසනලද පලමුවෙනියාගේ සහ
33. අනිකාගේත් කෙණ්ඩා බින්දෝය. නු
මුත් ඔවුන් යේසුස්වහන්සේ ලඟට ඇ
විත්, උන්වහන්සේ මල බව දැන, උන්
වහන්සේගේ කෙණ්ඩා බින්දේ නැත.
34. තවද සේවායින්ගෙන් එකෙක්
හෙල්ලයකින් උන්වහන්සේගේ ඇල
පතට ඇන්නේය; එවලේම ලේත් ව
35. තුරත් එහින් පිටත්වූනේය. ඒ දුටු
තැනැත්තේ එයට සාක්ෂි දුන්නේය;
ඔහුගේ සාක්ෂි සැබෑය; නුඹලා අද
හන පිනිස, ඔහු සැබෑව කියන බව
36. ඔහුම දන්නේය. මේ සිඬවූනේ,
"උන්වහන්සේගේ ඇටවලින් එකක්
වත් බිඳිනු නොලැබේයයි" ලියා
තිබුන ලියවිල්ල සම්පූර්ණවෙන

37. පිනිසය. නැවතත්, "ඔවුන්
විසින් අත්නාලද තැනන්වහන්සේ
බලනවා ඇතැයි" වෙන ලියවිල්
ලක කියා තිබෙන්නේය.
38. ඉන්පසු යුදෙව්වන්ට භයින්
රහසින් යේසුස්වහන්සේට ගෝලවූ,
අරිමාතයෙහි යෝසැප් යේසුස්වහන්
සේගේ මිනිය ගෙනියන පිනිස,
පිලාත්ගෙන් ඉල්ලීය; පිලාත් අවසර
දුන්නේය. එහෙයින් ඔහු ඇවිත්,
යේසුස්වහන්සේගේ මිනිය ගෙන
39. ගියේය. පලමුවෙන් යේසුස්ව
හන්සේ ලඟට රාත්‍රියෙහි ආවාවූ නික
දේමුස්ද ගන්ධරස මිශ්‍රවූ අගිල් රාත්
තල් සියයක් පමන අරගෙන ආයේය.
40. එකල ඔවුන් යේසුස්වහන්සේ
ගේ මිනිය අරගෙන, යුදෙව්වරුන්
තැන්පත්කරන සිරිතේ හැටියට
සුවඳ බඩු සමග රෙදිවලින් වෙළ
41. වෝය. උන්වහන්සේ කුරුසියෙහි
ඇනගැසූ ස්ථානයෙහි උයනක් විය.
ඒ උයනෙහි කවදාවත් කවුරුවත්
නොතැබූවාවූ අළුත් සොහොන්
42. ගෙයක් තිබුනේය. යුදෙව්වරුන්
ගේ සූදානම් කරන දවස බැවින්ද,
ඒ සොහොන් ගෙය සමීප බැවින්ද,
යේසුස්වහන්සේ එහි තැබුවෝය.

20. පරිච්ඡ. සතියේ පලමුවෙ
නිද අළුයම් වේලේ, මග්දලායෙහි
මරියා අඳුර තිබෙද්දීම සොහොන්
ගේ ලඟට ගොස්, සොහොන් ගෙ
යින් ගල අහක්කොට තිබෙන බව
2. දුටුවාය. එවිට ඈ සීමොන් පේ
තෘස් ලඟටද, යේසුස්වහන්සේ විසින්
ප්‍රේමකරනලද අනික් ගෝලයා ලඟ
ටද දුවගන ගොස්, "ස්වාමින්වහන්සේ
සොහොන් ගෙයින් අහක්කොට
ගෙනගොස්, කොතන තැබුවෝද
නොදනිමුයයි" ඔවුන්ට කීවාය.
3. එකල පේතෘස් සහ අනික් ගෝල
යා සොහොන් ගේ ලඟට යන්ට
4. පිටත්ව, දෙන්නාම එක්ව දිව්වෝය.
අනික් ගෝලයා පේතෘස්ට ඉස්සරින්
වඩා හනික දිවගොස්, පලමුකොට
5. සොහොන්ගෙය ලඟට පැමින, නැ
මී බලා එහි තබනලද රෙදි දුටුයේය.
එසේ නුමුත් ඇතුලට ගියේ නැත.
6. එවිට සීමොන් පේතෘස් ඔහු පස්
සේ සොහොන් ගෙට ඇතුල්ව, රෙදි
7. තබා තිබෙන බවද, උන්වහන්
සේගේ හිස වට වෙළූ රෙදිකඩ
ඇඳුම් සමග නැතිව වෙන තැනක
තනියම අකුලා තබා තිබෙන බවද
8. දුටුයේය. එකල පලමුකොට සො
හොන් ගෙය ලඟට ආවාවූ ඒ අනික්
ගෝලයාද ඇතුල්ව, බලා ඇදහූ
9. යේය. මක්නිසාද, "උන්වහන්සේ
මලවුන්ගෙන් නැගිටින්ට යුතුයයි"
ලියනලද ලියවිල්ල ඒතාක්කල් ඔ
10. වුන් දැනනොගත්තෝය. එවිට
ගෝලයෝ තමතමන්ගේ ගෙවලට
11. නැවත ගියෝය. නුමුත් මරියා
සොහොන් ගෙය ලඟ පිටත හඬමින්
සිටියාය. හඬන්නාවූ ඈ නැමී සො
12. හොන් ගෙය බලා, යේසුස්වහන්
සේගේ මිනිය තබනලද ස්ථානයෙහි
සුදු වස්ත්‍ර හඳනාලද දේවදූතයෝ
දෙන්නෙක්, එකෙක් හිස ලඟද
එකෙක් පාද ලඟද, ඉන්න බව දුටු
13. වාය. ඔවුන්, "ස්ත්‍රිය, මක්නිසා
හඬන්නීදැයි" ඈට කීවෝය. ඈ,
"මාගේ ස්වාමින්වහන්සේ අහක්
කොට ගෙන, කොතන තැබුවෝ
දැයි නොදන්න නිසායයි" කීවාය.
14. ඈ මෙසේ කියා ආපසු හැරී,
යේසුස්වහන්සේ සිටින බව දුටුවාය.
නුමුත් යේසුස්වහන්සේ බව දැන
15. ගත්තේ නැත. යේසුස්වහන්සේ,
"ස්ත්‍රිය, මක්නිසා හඬන්නීද? කවුරු
සොයන්නීදැයි" ඈට කීසේක. ඈ
උයන්ගොව්වායයි සිතා, "ස්වාමීනි,
තුඹ විසින් උන්වහන්සේ ගෙනගන
ලද්දේනම්, උන්වහන්සේ කොතන
තැබුවේදැයි මට කියමැනව; එවිට
මම උන්වහන්සේ ඉවත්කොට ගෙන

16. යමියි" කීවාය. යේසුස්වහන්සේ,
"මරියා" කියා ඇට කීසේක. ඇ
හැරී, "රබ්බොනියි" උන්වහන්සේට
කීවාය. රබ්බොනි යනු ආචාරිනි යන
17. අර්ථයි. යේසුස්වහන්සේ, "මට අ
ත තබන්නට එපාය; මක්නිසාද මා
ගේ පියානන්වහන්සේ ළඟට තවම
නොනැංගෙමි. නුමුත් මාගේ සහෝද
රයන් ළඟට ගොස්, 'මම මාගේ පියා
නන්වහන්සේද නුබලාගේ පියානන්
වහන්සේද, මාගේ දෙවියන්වහන්
සේද නුබලාගේ දෙවියන්වහන්සේද
ළඟට නගිමියි' ඔවුන්ට කියාපන්
18. නැයි" ඇට කීසේක. මග්දලා
යෙහි මරියා ගොස්, තමා විසින් ස්වා
මින්වහන්සේ දුටු බවද, උන්වහන්
සේ විසින් මෙසේ තමාට කී බවද,
ගෝලයන්ට දැන්නුවාය.

19. සතියෙහි පලමුවෙනිවූ එමද
සවස, ගෝලයෝ එක්ව සිටි තැන්හි
යුදෙව්වන්ට භයින් දොරවල් වැසූ
කල්හි, යේසුස්වහන්සේ ඇවිත් මැද
සිට, "නුබලාට සමාදානය වේවයි"
20. ඔවුන්ට කීසේක. උන්වහන්සේ
මෙසේ කියා, තමන්වහන්සේගේ
අත්ද ඇලයද ඔවුන්ට දැක්වූසේක.
එවිට ගෝලයෝ ස්වාමින්වහන්සේ
21. දැක සන්තෝසවූනෝය. යේසුස්
වහන්සේ, "නුබලාට සමාදානය
වේවයි" ඔවුන්ට නැවත කියා, "පි
යානන්වහන්සේ මා එවූසේම, මම
22. නුබලා යවමියි" කීසේක. උන්
වහන්සේ මෙසේ කියා ඔවුන් දෙසට
හුස්ම හෙලා, "සුධාත්මය ඉවසාපල්
23. ලාය. යම් කෙනෙකුගේ පව් නුබ
ලා මුදනවානම්, ඒවා ඔවුන්ට මිදෙ
නු ලැබේ; යම් කෙනෙකුගේ පව්
නුබලා බඳිනවානම්, ඒවා බඳිනු ලැ
බේයයි" ඔවුන්ට කීසේක.

24. යේසුස්වහන්සේ ආකල,
දොලසගෙන් එකෙක්වූ දිදිමුස්නම්
තෝමස් ඔවුන් සමග සිටියේ නැත.
25. එහෙයින් අනිත් ගෝලයෝ,
"ස්වාමින්වහන්සේ දුටිමුයයි" ඔහුට
කීවෝය. නුමුත් ඔහු කියනුයේ,
"උන්වහන්සේගේ අත්වල ඇන
ගැසූ ලකුන නොදැක ඇනගැසූ ලකු
නේ මාගේ ඇඟිල්ල නොබහා,
උන්වහන්සේගේ ඇලයෙහි මාගේ
අත නොබහා, නොඅදහමියි" ඔවුන්
26. ට කීය. අටදවසකට පසු උන්ව
හන්සේගේ ගෝලයෝ නැවත ගේ
ඇතුලෙහි සිටියෝය; තෝමස්ද
ඔවුන් සමග සිටියේය. දොරවල් වැසූ
කල, යේසුස්වහන්සේ ඇවිත් මැද
සිට, "නුබලාට සමාදානය වේවයි"
27. කීසේක. එකල උන්වහන්සේ,
"නුබේ ඇඟිල්ල මෙහි දිගුකොට,
මාගේ අත් බලා, නුබේ අත මෙහි
දිගුකොට මාගේ ඇලයෙහි බහා,
අවිස්වාස නොකොට අදහා ගනිත්
28. නැයි" තෝමස්ට කීසේක. තෝ
මස් උත්තර දෙමින්, "මාගේ ස්වාමි
නි, මාගේ දෙවියනියි" උන්වහන්
29. සේට කීය. යේසුස්වහන්සේ,
"තෝමස්, නුබ මා දුටු බැවින් අදහ
ගත්තේය; නොදැක අදහන්නෝ වා
සනාවන්තයෝයයි" ඔහුට කීසේක.

30. මේ පොතේ නොලියනලද
වෙනත් බොහෝ ආශ්චර්‍ය්‍යයන්
යේසුස්වහන්සේ තමන් ගෝලයන්
31. ගේ ඉදිරියේ කලසේක. නුමුත්
යේසුස්වහන්සේ දෙවියන්වහන්සේ
ගේ පුත්‍රවූ ක්‍රිස්තුස්යයි නුබලා අදහ
ගන්නා පිනිසද, අදහගෙන උන්ව
හන්සේගේ නාමයෙන් ජීවනය
ලබන පිනිසද, මේවා ලියනලද්දේය.

21. පරිච්ඡේ. ඉන්පසු යේසුස්වහන්
සේ තිබේරියස්නම්වූ මූද අද්දරදී,
ගෝලයන්ට තමන් නැවත දැක්වූ
2. සේක. ඒ දැක්විම මෙසේ විය. සී
මොන් පේතෘස්ද, දිදිමුස්නම් තෝ
මස්ද, ගලීලයේ කානාහිවූ නතානි
යෙල්ද, සෙබදීගේ පුත්‍රයෝද, තවත්
ගෝලයෝ දෙන්නෙක්ද එක්ව

3. සිටියෝය. සීමොන් පේත්‍රුස්ද
"මසුන් අල්ලන්ට යමියි" ඔවුන්ට
කීයේය. ඔවුන්ද "අපිත් නුඹ සමග
යමුයයි" ඔහුට කීවෝය. ඔවුන් එව
ලේම පිටත්ව ගොස්, නැවට නැඟු
නෝය; නුමුත් ඒ රාත්‍රියෙහි කිසිවක්
4. ඇල්ලුවේ නැත. පහන්වූකල
යේසුස්වහන්සේ වෙරළෙහි සිටිසේ
ක; නුමුත් ගෝලයෝ යේසුස්වහන්
5. සේයයි දැනගත්තේ නැත. එකල
යේසුස්වහන්සේ, "දරුවෙනි, නුඹලා
ළඟ කන්නට මොකවත් තිබේදැයි"
ඔවුන්ගෙන් ඇහුසේක. ඔවුන්ද
6. "නැතැයි" කීවෝය. එවිට උන්
වහන්සේ, "නැවේ දකුණු පැත්
තෙන් දැල දැම්මොත් අහුවේයයි"
ඔවුන්ට කීසේක. ඔවුන් එසේ දැල
දමා, මසුන් බොහෝ බැවින් ඇද
7. ගන්ට නොහැකිවූවෝය. එවිට
යේසුස්වහන්සේ ප්‍රේමකල ගෝල
යා පේත්‍රුස්ට කථාකොට, "ඒ ස්වා
මින්වහන්සේයයි" කීය. සීමොන්
පේත්‍රුස් ඒ ස්වාමින්වහන්සේයයි අසා,
තමන් ඇඳුම් නැතුව සිටි බැවින්
සළුව බැඳගෙන, මූදට පැන්නේය.
8. අනික් ගෝලයෝ මසුන් සමග
දැල ඇදගෙන, ඔරුවෙන් ආවෝය.
මක්නිසාද, ඔවුන් වෙරළින් රියන්
දෙසීයකට වඩා දුර නොවී සිටියෝය.
9. ඔවුන් ගොඩබැස්සකල, එහි ගිනි
අඟුරුද ඒ පිට මසුන් තිබෙන බවද
10. රොටිද දුටුවෝය. යේසුස්වහන්
සේ, "නුඹලා දැන් ඇල්ලූ මසුන්
ගෙන් ගෙනෙල්ලායයි" ඔවුන්ට
11. කීසේක. සීමොන් පේත්‍රුස් හැරී
ගොස්, එකසිය පනස්තුන්දෙනෙක්
මහ මසුන්ගෙන් පිරුනු දැල වෙරළට
ඇද්දේය. එපමන තිබෙද්දිත් දැල
12. ඉරුනේ නැත. යේසුස්වහන්සේ
කථාකොට, "ඇවිත් කාපල්ලායයි"
ඔවුන්ට කීසේක. උන්වහන්සේ ස්වා
මින්වහන්සේයයි දැන, ගෝලයන්
ගෙන් කිසිවෙක්වත්, "ඔබවහන්සේ
කවුදැයි" උන්වහන්සේගෙන් අහන්
13. නට භයවූවෝය. එවිට යේසුස්
වහන්සේ ඇවිත්, රොටි අරගෙන
ඔවුන්ට දී, එසේම මසුන්ද දුන්සේක.
14. යේසුස්වහන්සේ මලවුන්ගෙන්
නැඟිට, ගෝලයන්ට තමන් දැක්වූ
මේ තුන්වෙනි වාරයය.

15. ඔවුන් කෑ පසු යේසුස්වහන්
සේ, "යෝනාගේ පුත්‍රවූ සීමොන්,
මොවුන් මට ප්‍රේමවෙනවාට වඩා
නුඹ මා කෙරෙහි ප්‍රේම වන්නේදැයි"
සීමොන් පේත්‍රුස්ට කීසේක. ඔහු
"එසේය, ස්වාමිනි, මම ඔබවහන්
සේ කෙරෙහි සෙන්හ ඇති බව ඔබ
වහන්සේ දන්නාසේකැයි" උන්ව
හන්සේට කීය. උන්වහන්සේ, "මා
ගේ බැටළු පැටියන් පෝෂ්‍යයකරප
16. න්නැයි" ඔහුට කීසේක. නැව
තත් දෙවෙනි වර, "යෝනාගේ
පුත්‍රවූ සීමොන්, නුඹ මා කෙරෙහි
ප්‍රේම ඇද්දැයි" ඔහුට කීසේක. ඔහු,
"එසේය, ස්වාමිනි, මම ඔබවහන්
සේ කෙරෙහි සෙන්හ ඇති බව ඔබ
වහන්සේ දන්නාසේකැයි" උන්ව
හන්සේට කීය. උන්වහන්සේ "මාගේ
බැටළුවන් ප්‍රවේසම්කරපන්නැයි"
17. ඔහුට කීසේක. තුන්වෙනි වර,
"යෝනාගේ පුත්‍රවූ සීමොන්, නුඹ
මා කෙරෙහි සෙන්හ ඇද්දැයි" ඔහුට
කීසේක. තුන්වෙනි වර, "මා කෙ
රෙහි සෙන්හ ඇද්දැයි" යේසුස්වහන්
සේ ඔහුට කී බැවින්, පේත්‍රුස් දුකට
පැමින, "ස්වාමිනි, ඔබවහන්සේ
සියල්ල දන්නාසේක; මම ඔබවහන්
සේ කෙරෙහි සෙන්හ ඇති බව ඔබ
වහන්සේම දන්නාසේකැයි" උන්ව
හන්සේට කීය. යේසුස්වහන්සේද
ඔහුට කියනසේක්, "මාගේ බැටළු
18. වන් පෝෂ්‍යයකරපන්න. සැබ
වක් සැබවක් නුඹට කියමි, නුඹේ
යෞවන කාලයේ නුඹේ ඉඟපිය බැඳ
ගෙන කැමති තැන්වල ඇවිද්දේය;
නුමුත් නුඹේ මහළු කාලයේ නුඹේ

අත දිගුකරන්නේය, වෙන එකෙක් නුඹේ ඉඟටිය බැඳ, නුඹ නොකමැති තැනට ගෙන යනවා ඇතැයි” කී
19. යේක. කවර මරණයකින් ඔහු දෙවියන්වහන්සේ ගෞරවයට පමුනුවන්නේදැයි පෙන්වමින්, මෙසේ කීයේක. මෙසේ කියා, “මා පස්සේ එරෙන්නැයි” ඔහුට කීයේක.

20. එකල පේතෘස් හැරී, යේසුස්වහන්සේ ප්‍රේමවූ, රාත්‍රිභෝජනයෙහිදී උන්වහන්සේගේ ළැපැත්තේ හාන්සිව “ස්වාමිනි, ඔබවහන්සේ පාවාදෙන්නා කවුදැයි” ඇසූවාවූ යෝ
21. ලයා පස්සේ එනවා දැක, “ස්වාමිනි, මොහුට කුමක් වන්නේදැයි” යේසුස්වහන්සේගෙන් ඇසුයේය.
22. යේසුස්වහන්සේ “මම එනතුරු ඔහුගේ සිටීමට මම කැමතිනම්, නුඹට මොකද? නුඹ මා පස්සේ
23. එරෙන්නැයි” ඔහුට කීයේක. එහෙයින් “ඒ යෝලයා නොමියන්නේයයි” යන වචනය සහෝදරයන් අතරේ පතලවී ගියේය. එසේ නුමුත් යේසුස්වහන්සේ, “මම එනතුරු ඔහුගේ සිටීමට මම කැමතිනම්, නුඹට මොකදැයි” කීවා මිස, “ඔහු නොමියන්නේයයි” නොකීයේක.

24. මේ දේ ගැන සාක්ෂි දෙන්නාවූ මේ දේ ලිවූ යෝලයා මේය; ඔහුගේ සාක්ෂිය සැබෑයයි අපි දනිමුව.
25. යේසුස්වහන්සේ විසින් කල වෙනත් බොහෝ කාරනා ඇත; ඒවා එකින් එක ලියනලද්දේනම්, ලියනලද පොත් බරන්ට ලෝකයට බැරියයි සිතමි.

---

# ප්‍රේ රි ත ය න් ගේ ක්‍රි යා ය.

---

1. පරිච්ඡේදය. එඹා තෙයෝපිලස්, යේසුස්වහන්සේ තමන් විසින් තෝරාගත් ප්‍රේරිතයන්ට ශුද්ධාත්මයානන්වහන්සේ කරනකොටගෙන
2. ආඥා දී, ස්වර්ගයට ඔසවාගනු ලැබූ දවස දක්වා උන්වහන්සේ විසින් කරන්ටද උගන්වන්ටද පටන් ගත් සියල්ල ගැන, පළමු පොත
3. සෑදීමි. තමන්වහන්සේගේ මරණින් පසු, බොහෝ සැක නැති ලකුණුවලින් ජීවමානවූ තමන් ප්‍රේරිතයන්ට දක්වා, දෙවියන්වහන්සේගේ රාජ්‍යයට අයිතිවූ දේ ගැන කථාකරමින්, සතළිස් දවසක් ඔවුන් විසින්
4. දකිනු ලබමින් සිටියේක. උන්වහන්සේ තමන් සමග රැස්ව සිටියාවූ ඔවුන්ට අනදෙනසේක්, “යෙරුසලමෙන් අහක්ව නොගොස්, නුඹලාපී මා විසින් කී පියානන්වහන්සේගේ
5. පොරොන්දුව බලාසිටපල්ලාය. මක්නිසාද, යොහන් වතුරෙන් බව්තීස්ම කලේය; නුමුත් නුඹලා මෙයින් නොබෝ දවසක් ගිය පසු, ශුද්ධාත්මයෙන් බව්තීස්ම කරනු ලබනවා ඇතැයි”
6. කීයේක. රැස්ව සිටියාවූ ඔවුන්, “ස්වාමිනි, මේ කාලයෙහි ඊශ්‍රායෙල්ට රාජ්‍යය නැවත දෙනසේක්දැයි”
7. උන්වහන්සේගෙන් ඇසුවෝය. උන්වහන්සේ ඔවුන්ට කියනසේක්, “පියානන්වහන්සේ තමන් බලයෙන් නියමකල කාලවල්ද ප්‍රස්තාවල්ද දැනගන්නට, නුඹලාට යුතු නැත.
8. නුමුත් නුඹලා කෙරෙහි ශුද්ධාත්මයානන්වහන්සේ පැමිණි පසු, බලය

ලබනවා ඇත. තවද යෙරුසලමෙහිද, සියළු යුදයෙහිද, සමාරියෙහිද, පොළොවේ සීමාව දක්වාද, නුඹලා මට සාක්ෂිකාරයෝ වෙනවා ඇතැයි"
9. කීයේක. උන්වහන්සේ මෙසේ කියා, ඔවුන් බලා සිටිද්දීම ඔසවා ගනු ලැබූසේක; වලාකුලකින් වසා ගන්නාලදුව, ඔවුන්ට නොපෙනී ගිය
10. සේක. උන්වහන්සේ නගින කල ඔවුන් ස්වර්ගය දෙස බලා සිටිද්දීම, සුදු වස්ත්‍ර ඇන්දාවූ මනුෂ්‍යයෝ දෙන්
11. නෙක් ඔවුන් ළඟ සිට, "ගලිලයෙහි මනුෂ්‍යයෙනි, නුඹලා ස්වර්ගය දෙස බල බලා සිටින්නේ මක්නිසාද? නුඹලා කෙරෙන් ස්වර්ගයට ඔසවා ගන්නාලද මේම යේසුස්වහන්සේ ස්වර්ගයට යනවා නුඹලා දුටුවාසේම, නැවතත් එනවා ඇතැයි" කීයේක.
12. එකල ඔවුන් යෙරුසලමෙහි සිට සබත් දවසක ගමන් පමන දුරවූ ඔලීවනම් කන්දෙන් යෙරුසලමට
13. ආපසු ගොස්, තමන් විසූ උඩුම හලෙට නැගුනෝය. එහි පේත්‍රුස්ද, යාකොබ්ද, යොහන්ද, අන්ද්‍රෑද, පිලිප්ද, තෝමස්ද, බර්තොලොමෙවුද, මතෙවුද, අල්ෆෙවුස්ගේ පුත්‍රවූ යාකොබ්ද, සෙලොතෙස්නම් සීමොන්ද, යාකොබ්ගේ සහෝදරවූ යුදස්ද,
14. සිටියෝය. ඒ සියල්ලෝද, ස්ත්‍රීහුද, යේසුස්වහන්සේගේ මව්වූ මරියාද, උන්වහන්සේගේ සහෝදරයෝද, ඒක්සිත්ව යාඥකරමින් කන්
15. නලව්කරමින් සිටියෝය. රැස්ව සිටි ඔවුන් ගනන් වසයෙන් එකසිය විසි දෙනෙක් පමනය. ඒ දවස්වලදී, පේත්‍රුස් ගෝලයන් මැද නැගී සිට
16. කියනුයේ, "සහෝදරවූ මනුෂ්‍යයෙනි, අප සමග ගනන් ගන්නාලදුව මේ මෙහෙයට පංගුකාරයෙක් වූ, යේසුස්වහන්සේ ඇල්ලවන්ට මග
17. පෙන්නුවාවූ යුදස් ගැන, ශුද්ධාත්මයානන්වහන්සේ දාවිත් ලවා පලමු කියෙව්වාවූ ලියවිල්ල සම්පූර්ණ
18. වෙන්ට යුතුය. (ඔහු අධර්මිෂ්ඨකම් කුලියෙන් එක් බිමක් මිලදී ගෙන, මූනින් වැටී මැදින් පැළුනේය; ඔහුගේ බඩවැල් සියල්ලද පිටත
19. ආයේය. මේ කාරනාව යෙරුසලම් වාසී සියල්ලන් අතරේ පතලීය; එහෙයින් ඒ බිමට ඔවුන්ගේ භාෂාවෙන් ලේවල බිමයයි අර්ථ ඇති අකෙල්දමයයි කියනලදී.)
20. මක්නිසාද, 'ඔහුගේ වාසස්ථානය වනාන්තර වේවා, කවුරුවත් එහි නොසිටීවා, ඔහුගේ තනතුර වෙන කෙනෙක් ගනීවයි' ගීතිකා පොතේ
21. ලියනලද්දේය. එහෙයින්, යොහන්ගේ බව්තීස්මය පටන් ස්වාමිවූ යේසුස්වහන්සේ අප කෙරෙන් ඔස
22. වාගත් දවස දක්වා, උන්වහන්සේ අප අතරෙහි ආගිය සියළු කාලයෙහි නිතරම අප සමග සිටියාවූ මේ මිනිසුන්ගෙන් එකෙක්, උන්වහන්සේගේ මලවුන්ගෙන් නැගීමට සාක්ෂිකාරයෙක් වෙන්නට යුතු
23. යයි" කීයේය. එවිට ඔවුන් යුස්තස් කියන බර්සබස්නම් යෝසෑප්ද, මත්තියස්ද, යන දෙදෙන නියම
24. කොට, යාඥකරමින්, "සියල්ලන්ගේ සිත් දන්නාවූ ස්වාමින්වහන්ස, තමන්ගේ ස්ථානයට යන පිනිස හැරී ගියාවූ යුදස් කල මේ සේවා සහ ප්‍රේරිතකමට පංගුකාර
25. යෙක් වෙන පිනිස, මොවුන් දෙන්නාගෙන් තෝරගත් තැනැත්තෙක් දක්වූවමැනවයි" කියා,
26. ඔවුන් ගැන පසඇට දැමුවෝය. එවිට මත්තියස්ට පසඇටය වැටුනේය. එකල ඔහු ප්‍රේරිතයන් එකොළස සමග ගනන් ගන්නාලද්දේය.

2. පරිච්ඡේ. තවද පෙන්තකොස්තයේ දවස පැමිනිකල, සියල්ලෝ ඒක්සිත්ව එක තැන සිටියෝය.
2. එකල මහත් සැර හුළඟක් මෙන් ශබ්දයක් අහසෙන් යුහුව ආයේය;

එකින් ඔවුන් උන්නාවූ ගේ මුළුල්ල
3. පිරුණේය. එවිට ගිනි සමානවූ
බෙදුනාවූ දිව් ඔවුන්ට පෙනී, ඔවුන්
එක එකා කෙරෙහි පිහිටුනේය.
4. ඔවුන් සියල්ලෝද ශුද්ධාත්මයෙන්
සම්පූර්ණව, ආත්මයානන්වහන්සේ
ඔවුන්ට යම්සේ කථාකරන්නට දුන්
සේක්ද, එසේ අන් භාෂාවලින්
කථාකරන්නට පටන්ගත්තෝය.
5. අහසින් යට තිබෙන සියළු දේශ
වලින් ආවාවූ භක්තිවන්තවූ යුදෙව්
වරු යෙරුසලමේ වාසයකලෝය.
6. මේ කාරනා ප්‍රසිද්ධවූ කල සමූහය
එකතුව ඇවිත් විස්මිතවිය; මක්නි
සාද සියළු දෙන තමතමන්ගේ භාෂා
වලින් ඔවුන් කථාකරන බව ඇසු
7. වෝය. ඔවුන් සියල්ලෝ විස්මය
ටද පුදුමයටද පැමිණ, ඔවුනොවුන්
කථාකොට, "මේ කථාකරන්නාවූ
සියල්ලෝ ගලිලයෝ නොවෙද්ද?
8. අපි සියල්ලෝ අපේම ජන්ම භාෂා
වලින් ඔවුන් කථාකරන බව කෙසේ
9. අසමෝද? පාර්ති රට වාසිවූද, මේද
රට වාසිවූද, එලමේ රට වාසිවූද, මෙ
සොපොතාමිය, යුදය, කපදෝසිය,
10. පොන්තසය, ආසියාය, පිරිගිය, පම්
පිලිය, මිසරය, කිරේනිය වටකර ලිබි
යාය යන මෙකී දේසවාසිවූද, රෝම
යෙහි ආගන්තුකවාසිවූ යුදෙව්වරුන්
සහ ඔවුන්ගේ සමයට හැරුනවුන්ද,
11. ක්‍රීත් රට වාසිවූද, අරාබි රට වාසි
වූද යන අපි අපගේ භාෂාවලින්
දෙවියන්වහන්සේගේ ආශ්චර්යමත්
ක්‍රියාවල් ගැන ඔවුන් කථාකරනවා
12. අසමුව." එවිට ඔවුන් සියල්ලෝ
පුදුමව, සැකව, "මේ කිමෙක්දැ
යි" ඔවුනොවුන් කථාකරගත්තෝ
13. ය. සමහරෙක්, "මේ මනුෂ්‍යයෝ
අළුත් මුද්‍රිකපානයෙන් පිරුණෝයයි"
නින්දාකොට කීවෝය.

14. එවිට පේත්‍රුස් එකොළොස්
දෙනා සමග නැගිට, ශබ්ද පවත්ව
මින් ඔවුන්ට කියනුයේ, "යුදෙව්ව
රුනි, යෙරුසලමෙහි වසන සියල්
ලෙනි, මේ කාරනා නුබලාට දැනේ
වා; මාගේ වචනවලට කන් දීයල්
15. ලාය. දැනට පාන්ව තුන් පැයක්
පමන හෙයින්, නුබලා සිතන්නාසේ
මොවුන් මත්වූනෝ නොවෙති.
16. එහෙත් යොවෙල් අනාගතවක්
තෘ ලවා කියවනලද කාරනා මේය.
17. එනම්, 'අන්තිම දවස්වලදී මා
ගේ ආත්මයෙන් සියළු මනුෂ්‍යයන්ට
ම වත්කරන්නෙමි. එවිට නුබලාගේ
පුත්‍රයෝද දූවරුද අනාගත වාක්‍යය
කියනවා ඇත; නුබලාගේ තරුණ
යෝ දර්ශනයන් දකිනවා ඇත; නුබ
ලාගේ මහල්ලෝද සිහින දකිනවා
18. ඇත. ඒ දවස්වලදී මාගේ දාස
යන්ගේද මාගේ දාසීන්ගේද මත
යෙහි මාගේ ආත්මයෙන් වත්කරමි;
ඔවුන්ද අනාගත වාක්‍යය කියනවා
19. ඇත. තවද උඩ ආකාසයෙහි
පුදුමවල්ද, පාත පොලොවේ ලකු
නුද, ලේද, ගිනිද, දුම් වලාපටලද
20. දක්වන්නෙමි. ස්වාමින්වහන්සේ
ගේ මහත්වූ තේජවන්තවූ ඒ දවස
පැමිනෙන්නට පලමුවෙන්, ඉර අඳු
21. රුවෙයි; හඳ ලේ වෙයි. එවිට
ස්වාමින්වහන්සේගේ නාමයෙන් යා
ඥාකරන සියල්ලෝම ගැලවෙනවා
ඇතැයි' දෙවියන්වහන්සේ කීසේක.

22. "ඊශ්‍රායෙල්හි මනුෂ්‍යයෙනි, මේ
වචනවල් අසාපල්ලාය. නාසරෙත්හි
යේසුස්වහන්සේ දෙවියන්වහන්සේ
කෙරෙන් ආ මනුෂ්‍යයෙක් බව නුබ
ලාට දැනෙන හැටියට, නුබලා අත
රේ දෙවියන්වහන්සේ විසින් උන්ව
හන්සේ ලවා කෙරෙව්වාවූ ආශ්චර්ය
වලින්ද, පුදුමවලින්ද, ලකුනුවලින්ද
23. ප්‍රකාසව තිබේ. දෙවියන්වහන්
සේගේ නියමවූ මන්ත්‍රණයෙන්ද පූර්
ඥානයෙන්ද පාවාදුන් උන්වහන්සේ
නුබලා අල්වා, අධර්මිෂ්ඨ අත්වලින්
කුරුසියේ ඇනාගසා මැරුවෝය.
24. නුමුත් දෙවියන්වහන්සේ මරන

දුකින් මුදා උන්වහන්සේ නැගිටවූ
සේක. මක්නිසාද උන්වහන්සේ
එයින් බැඳී සිටින්ට නුපුළුවන්විය.
25. දාවිත්ද උන්වහන්සේ ගැන කථා
කරමින්, 'ස්වාමීන්වහන්සේ නිතරම
මාගේ ඉදිරියෙහි දුටුයෙමි; මම නො
සෙලවෙන පිණිස, උන්වහන්සේ
26. මාගේ දකුණෙහි සිටිනසේක. එ
හෙයින් මාගේ සිත ප්‍රීතිවිය; මාගේ
27. දිවද සතුටුවිය. තවද ඔබවහන්
සේ මාගේ ප්‍රාණය මලවුන්ගේ වාස
ස්ථානයෙහි පවතින්නටවත්, ඔබ
ගේ පවිත්‍ර තැනැත්තේ කුණුවෙන්
නටවත් ඉඩ නාරින බැවින්, මාගේ
ශරීරය බලාපොරොත්තුවෙන් සැත
28. පෙන්නේය. ජීවනයෙහි මාර්ග
වල් ඔබවහන්සේ මට දැන්වූසේක.
ඔබවහන්සේගේ ඉදිරියෙහි මා ප්‍රීති
යෙන් සම්පූර්ණ කරනසේකැයි'
29. කීයේය. සහෝදරවූ මනුෂ්‍යයෙ
නි, පියවූ දාවිත් ගැන නුඹලාට ප්‍රකා
සයෙන් මා විසින් කියයුතුය. ඔහු
නැසී තැන්පත්කරනලද්දේය; ඔහු
ගේ සොහොන් ගෙයද අද දක්වා
30. අප ලඟය. එහෙයින් ඔහු අනා
ගතවක්තෘව, ශරීරකාරයෙන් ඔහු
ගෙන් පැවත එන්නවුන් අතරෙන්,
ඔහුගේ සිංහාසනය පිට හිඳිනා පිණි
ස, ක්‍රිස්තුස්වහන්සේ නැගුට්වනසේ
කැයි දෙවියන්වහන්සේ ඔහුට දිවුර
31. පූ බව දැන, ක්‍රිස්තුස්වහන්සේ
ගේ මලවුන්ගෙන් නැගිටීම ගැන,
උන්වහන්සේගේ ප්‍රාණය මලවුන්ගේ
වාසස්ථානයෙහි පවතින්නට ඉඩ
නාරින බවත්, උන්වහන්සේගේ ශරී
රය කුණුවීමට නොපැමිණෙන බවත්,
32. පලමුවෙන් දැන කීයේය. මෙම
යේසුස්වහන්සේ දෙවියන්වහන්සේ
විසින් නැගිටවනු ලැබූසේක; එයට
අපි සියල්ලෝ සාක්ෂිකාරයෝය.
33. එහෙයින් දෙවියන්වහන්සේගේ
දකුනට ඔසවනලද උන්වහන්සේ,
පියානන්වහන්සේගෙන් ශුද්ධාත්මය
දෙන ලෙස පොරොන්දුව ලැබ, නුඹ
බලා දැන් අසන දකින දේ වත්කල
34. සේක. මක්නිසාද දාවිත් ස්වර්ග
35. යට නැගුනේ නැත; නුමුත්
'මම නුඹේ සතුරන් නුඹේ පාපුටුව
කරනතුරු මාගේ දකුණු පැත්තේ
ඉඳගනින්නැයි, ස්වාමීන්වහන්සේ
මාගේ ස්වාමීන්වහන්සේට කීසේ
36. කැයි' ඔහුම කීයේය. එහෙයින්
නුඹලා විසින් කුරුසියෙහි ඇනගැසු
වාවූ මෙම යේසුස්වහන්සේ දෙවිය
න්වහන්සේ විසින් ස්වාමීන්වහන්සේද
ක්‍රිස්තුස්වහන්සේද කල බව, ඊශ්‍රා
යෙල්ගේ වංශයෙහි සියල්ලෝ සැක
නැතුව දනිත්වයි" කීය.

37. ඔවුන් ඒ අසා, බිඳුනු සිත්
ඇතිව, "සහෝදරවූ මනුෂ්‍යයෙනි,
කුමක් කරමුදැයි" පේත්‍රුස්ටද අනිත්
38. ප්‍රේරිතයන්ටද කීවෝය. එවිට
පේත්‍රුස්ද, "නුඹලා සියල්ලෝම පශ්
තැවිලිව, පව් මිදීම පිණිස යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ නාමයෙන් බව්
තීස්ම ලබාපල්ලාය; එවිට ශුද්ධාත්ම
දානය නුඹලා ලබනවා ඇත.
39. මක්නිසාද නුඹලාටද, නුඹලා
ගේ දරුවන්ටද, දුර සිටින්නාවූ සිය
ල්ලන්ටද, ස්වාමිවූ අපගේ දෙවියන්
වහන්සේ යම් පමණ දෙනෙකුට අඬ
ගසනසේක්ද, ඒ සියල්ලන්ට, ඒ
පොරොන්දුවීම ඇත්තේයයි" කියා,
40. වෙනත් නොයෙක් වචනවලින්
සාක්ෂිදී, "මේ දුෂ්ට වර්ගයාගෙන්
ගැලවියල්ලායයි" කියා දැනමුතුකම්
41. දුන්නේය. එකල ඔහුගේ වච
නය සතුටින් පිලිගත්තෝ බව්තීස්ම
ලැබුවෝය. එමදා තුන්දහසක් පමන
මනුෂ්‍යයෝ ඔවුන්ගේ සමාගමට
ඇතුල්වූනෝය.

42. තවද ඔවුන් ප්‍රේරිතයන්ගේ
ඉගැන්වීමෙහිද, සමාගමෙහිද; රොටි
කැඞීමෙහිද, යාඥාවලද පිහිටුනෝය.
43. එවිට සියල්ලන්ටම භයක් පැමු
නුනේය. බොහෝ පුදුමවල්ද ලකු

44. ණුද ප්‍රේරිතයෝ කලෝය. එවිට
අදහගත් සියල්ලෝ එකතුව, සියළු
දේ පොදුවේ තබාගත්තෝය;
45. තමන්ගේ ගම්බිම් සහ සම්පත්ද
විකුන, එක එකාට ඕනෑවූ හැටියට
46. බෙදා දුන්නෝය. තවද ඔවුන්
දවස්පතා එක්සිත්ව දේව මාලිගා
වේ සිටිමින්, ගෙයින් ගෙට රොටි
කඩමින්, දෙවියන්වහන්සේට ප්‍රසං
සාකරමින්, සියළු මනුෂ්‍යයන්ගෙන්
ආදර ලබමින්, සන්තෝසයෙන් හා
47. අවංකකමින්ද කෑම කෑවෝය. ගැ
ලවීම ලබනනාවූ යම් පමන දෙනෙක්
ඇද්ද, ස්වාමින්වහන්සේ ඔවුන් දවස්
පතා සභාවට එක්කලසේක.

3. පරිච්ඡෙ. තවද පේතෘස් සහ
යොහන්ද යාඥා වේලාවවූ නවවෙනි
පැයෙහි දේවමාලිගාවට ගියෝය.
2. එවිට මව්කුස පටන් කොරවූ එක්
තරා මනුෂ්‍යයෙක් ගෙනත්, මාලිගා
වට ඇතුල්වෙන්නාවුන්ගෙන් සිඟ
මන් ඉල්වන පිනිස, මාලිගාවේ සුද
ර්ශනනම් දොර ලඟ දවස්පතා තබන
3. ලද්දේය. ඔහු දේව මාලිගාවට
ඇතුල්වෙන්නාවූ පේතෘස්ද යොහන්ද
4. දැක, සිඟමන් ඉල්වීය. පේතෘස්ද
යොහන් සමග ඔහු දෙස බලා, “අප
5. දෙස බලාපන්නැයි” කීය. ඔහු
ඔවුන්ගෙන් මොකවත් ලබම් සිතා,
6. ඔවුන් දෙස බැලීය. එකල පේ
තෘස්, “රන් රිදී මට නැත; නුමුත්
මට ඇති දේ නුබට දෙමි. නාසරැත්
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ නාම
යෙන් නැගිට ඇවිදපන්නැයි” කි
7. යා, ඔහුගේ දකුනත අල්වා ඔහු
නැගිටවීය. එවලේම ඔහුගේ කකුල්
8. දබොලටද සවිවූනේය. ඔහු පැන
නැගී, කෙලින් සිට ඇවිද්දේය. ඔහු
ඇවිදිමින්, පැනනගිමින්, දෙවියන්
වහන්සේට ප්‍රසංසාකරමින්, ඔවුන්
9. සමග මාලිගාවට ඇතුල්වීය. එවිට
සියළු සෙනග දෙවියන්වහන්සේට
ස්තුතිකරමින්, ඇවිදින්නාවූ ඔහු
10. දැක, දේවමාලිගාවේ සුදර්ශන
දොරටුවේ සිඟමින් උන් තැනැත්
තේ මේයයි දැන, ඔහුට පැමිනි කාර
නාව ගැන විස්මයෙන් හා පුදුම
11. යෙන්ද පිරුනෝය. සුවපත්වූ
කොරා පේතෘස්ද යොහන්ද වැලඳ
ගෙන සිටිද්දී, සියළු සෙනග ඉතාම
පුදුමව, සලමොන්ගේයයි කියන
පිට දොරටුවට එක්ව දිව්වේය.
12. පේතෘස් ඒ දැක සෙනගට කථා
කරමින්, “ඊශ්‍රායෙල් මනුෂ්‍යයෙනි,
මේ කාරනාවට පුදුමව සිටින්නේ
මක්නිසාද? නොහොත් අපගේම
බලයෙන්වත් භක්තිවන්තකමින්
වත් ඔහු ඇවිද්දවමුයයි සිතා, අප
13. දෙස බලන්නේ මක්නිසාද? ආබ්‍ර
හම්ගේද ඊසාක්ගේද යාකොබ්ගේද
දෙවිවූ, අපගේ පියවරුන්ගේ දෙවි
යන්වහන්සේ තමන්ගේ පුත්‍රවූ යේ
සුස්වහන්සේ ගෞරවයට පැමිනවූ
සේක. නුබලා විසින් පාවාදෙනලද
උන්වහන්සේ පිලාත් හරින්ට සෑදූ
කල, ඔහුගේ ඉදිරියෙහි උන්වහන්
14. සේ එපාකලෝය. එසේ නුබලා
පිරිසිදුවූ ධර්මිෂ්ඨවූ උන්වහන්සේ
එපාකොට, මිනිමරනනා ගලවා
15. නුබලාට දෙන පිනිස ඉල්ලා, ජී
වනයෙහි අධිපතියා මැරුවෝය.
උන්වහන්සේ දෙවියන්වහන්සේ
විසින් මලවුන්ගෙන් නැගුටුවනලද්
දේය. අපි එයට සාක්ෂිකාරයෝය.
16. උන්වහන්සේගේ නාමය කෙ
රෙහි ඇදහිල්ලෙන්, උන්වහන්සේ
ගේ නාමය නුබලා දකින්නාවූ අඳු
නන්නාවූ මේ මනුෂ්‍යයා සවිකෙලේ
ය. උන්වහන්සේ කරනකොටගෙන
ඇත්තාවූ ඇදහිල්ල, නුබලා සියල්
ලන්ගේ ඉදිරියෙහි, ඔහුට මේ සම්
17. පූර්ණ සුවය දුන්නේය. තවද
සහෝදරයෙනි, නුබලාද නුබලාගේ
මූලාදෘනිද අඥානකමින් ඒක කලෝ
18. යයි දනිමි. එහෙත් ක්‍රිස්තුස්ව

[illegible]ත් දුක් විඳිනසේකැයි, දෙවි
යන්වහන්සේ තමන්ගේ සියළු අනා
ගතවක්තෘන් ලවා පළමුවෙන් දැක්
වූවාවූ කාරණා මෙසේ සම්පූර්ණක
19. ළසේක. එබැවින් නුඹලාගේ
පාපයන් මැකී යන පිණිසද, ස්වාමින්
වහන්සේගේ ඉදිරියෙන් නිවාවූ කා
20. ලවල් පැමිණෙන පිණිසද, පළමු
වෙන් නුඹලාට දේශනා කරනලද්
දාවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ නුඹ
ලා කරා එවන පිණිසද, පශ්චාත්තා
21. පව හැරියල්ලාය. දෙවියන්වහන්
සේ ලෝකය පටන්ගැන්මෙහි සිට,
තමන්ගේ සියළු පිරිසිදුවූ අනාගත
වක්තෘන් ලවා කියෙව්වාවූ සියල්ල
නැවත පිහිටුවීමේහි කාලවල් දක්වා,
එම යේසුස්වහන්සේ ස්වර්ගයේ
22. සිටින්ට යුතුය. මක්නිසාද, මෝ
සෙස් අපේ පියවරුන්ට කියනුයේ,
'ස්වාමිවූ නුඹලාගේ දෙවියන්වහන්
සේ මා බඳුවූ අනාගතවක්තෘ කෙ
නෙකු නුඹලාගේ සහෝදරයන්
ගෙන් නුඹලාට උපදවනසේක; ඔහු
කියන්නාවූ සියල්ලම නුඹලා අහන්
23. නට ඕනෑය; ඒ අනාගතවක්තෘ
හුගේ බස් පිළිනොගන්නාවූ සියල්
ලෝ සෙනග අතරෙන් නාසතිකරනු
24. ලබතියි' කීයේය. තවද සාමු
වෙල් පටන් යම් පමන අනාගත
වක්තෘවරු කථාකලෝද, ඒ සියල්
ලෝ මේ දවස් පළමුවෙන් දැන්වූ
25. වෝය. නුඹලා අනාගතවක්
තෘන්ගේ දරුවෝද, 'නුඹේ වංශය
කරනකොටගෙන ලෝකයෙහි සිය
ළු වර්ගයෝ ආශීර්වාද ලබතියි' ආබ්‍ර
හම්ට කියමින්, දෙවියන්වහන්සේ
විසින් අපගේ පියවරු සමග කල
26. ගිවිසුමෙහි දරුවෝද වෙති. දෙ
වියන්වහන්සේ තමන් පුත්‍රවූ යේසුස්
වහන්සේ නැගුට්වා, නුඹලා අතරෙ
හි සියල්ලන් තම තමන්ගේ දුෂ්ට
කම්වලින් හැරවීමෙන් නුඹලාට
ආශීර්වාද කරන පිණිස, පළමුකොට
නුඹලා ළඟට උන්වහන්සේ එවූ
සේක."

4. පරිච්ඡේ. ඔවුන් සෙනග සමග
කථාකරන කල්හි, පූජකයෝද දේව
මාලිගාවේ මූලාදෘනියාද සද්දුසිවරුද
සෙනගට ඔවුන් ඉගැන්වූ බැවින්ද,
2. යේසුස්වහන්සේ කරනකොටගෙ
න මළවුන්ගෙන් නැගිටීම ප්‍රකාශ
කල බැවින්ද, අමනාපව ඇවිත්
3. ඔවුන් අල්වා, සවස්වූ බැවින් දෙ
වෙනි දවස දක්වා හිරගෙයි තැබූ
4. වෝය. එසේ නුමුත් වචනය ඇසූ
වන්ගෙන් බොහෝ දෙන අදහගත්
තෝය. ඒ මනුෂ්‍යයන්ගේ ගනන
පන්දහසක් පමන විය.
5. දෙවෙනි දවසේ මූලාදෘනීද,
6. වැඩිමහල්ලෝද, ලියන්නෝද, උ
සතම පූජකවූ අන්නස්ද, කායාඵස්ද,
යොහන්ද, අලෙක්සන්දර්ද, උත්තම
පූජකයාගේ සියළු නෑයෝද, යෙරු
7. සලමට රැස්ව තමන් ඉදිරියේ
ඔවුන් සිටුවා, "නුඹලා මේ කලේ
මොන බලයකින්ද, නොහොත් මො
8. න නාමයකින්දැයි" ඇසුවෝය. එ
විට ශුද්ධාත්මයෙන් සම්පූර්ණවූ පේ
තෘස් ඔවුන්ට කියනුයේ, "සෙනගේ
ප්‍රධානියෙනි, ඉශ්‍රායෙල්ගේ වැඩිම
9. හල්ලෙනි, මේ රෝගාතුරයාට
කලාවූ යහපත ගැන මොන කාරනා
වකින් ඔහු සුවයට පැමුනුනේදැයි,
අපගෙන් අද විභාගකරනවානම්,
10. නුඹලා විසින් කුරුසියෙහි මරන
ලද්දාවූද, දෙවියන්වහන්සේ විසින්
මළවුන්ගෙන් නැගුට්ටවනලද්දාවූද,
නාසරීන් යේසුස්වහන්සේගේ නාම
යෙන්ම, මේ මනුෂ්‍යයා නුඹලා ඉදිරි
යෙහි සුවපත්ව සිටින්නේයයි, නුඹ
ලා සියල්ලන්ටත් සියළු ඉශ්‍රායෙල්
11. සෙනගටත් දැනේවා. මේ ඉදිකර
රන්නාවූ නුඹලා විසින් එපාකල
ගල මේය; එය කොනෙහි ප්‍රධාන
12. ගල විය. වෙන කෙනෙකුගෙන්

ගැලවීමක් නැත්තේය; මක්නිසාද, ගැලවීමට අප පමුනුවන්ට සුතුවූ වෙනින් නාමයක් ස්වර්ගයෙන් යට මනුෂ්‍යයන්ට නොදෙනලද්දේයයි"
13. කීය. එවිට ඒ ප්‍රධානී පේත්‍රුස්ගේද යොහන්ගේද භයනැතිකම දැක, ඔවුන් නූගත්තාවූ අපඬිතවූ අය බව දැන, පුදුමව, ඔවුන් යේසුස්වහන්සේ සමග සිටියෝයයි දැනගත්
14. තෝය. සුවපත්වූ මනුෂ්‍යයා ඔවුන් සමග සිටින බව දැක, ඊට විරුඬව කිසිවක් කියන්නට නොහැ
15. කිවූවෝය. එහෙත් සභාවෙන් පිටත යන්නට ඔවුන්ට අඥකොට,
16. ඔවුනොවුන් කථාකරමින්, "මේ මනුෂ්‍යයන්ට කුමක් කරමුද? ප්‍රසිඬවූ ආශ්චර්ය්‍යයක් ඔවුන් විසින් කරනලද්දේය; ඒක යෙරුසලමෙහි සිටින්නාවූ සියල්ලන්ට එළිදරව්විය; ඒක
17. බොරුකරන්නට අපට බැරිය. නුමුත් සෙනග අතරේ වැඩිදුරට පතල නොවෙන පිණිස, මින්මතු කාටවත් මේ නාමයෙන් කථානොකරන පිනිස තදින් ඔවුන්ට අඥකරමුයයි"
18. කියා, ඔවුන් කැඳවා, යේසුස්වහන්සේගේ නාමයෙන් කිසි දෙයක් කථානොකරන්ටද, නූගන්වන්ටද,
19. ඔවුන්ට අඥකලෝය. නුමුත් පේත්‍රුස්ද යොහනූ උත්තර දෙමින්, "දෙවියන්වහන්සේගේ කීම අසනවාට වඩා තුබලාගේ කීම අසන්ට, දෙවියනවහන්සේගේ ඉදිරියෙහි වචිද නොවපීදැයි, තුබලාම විනිශ්චය කර
20. පල්ලාය. අප විසින් ඇසූ දුටු දේ නොකියන්ට අපට බැරියයි"
21. ඔවුන්ට කීවෝය. තවද මේ ආශ්චර්ය්‍යයෙන් සුවවූනාවූ මනුෂ්‍යයාට සතලිස් අවුරුද්දකට වඩා වයස් ඇති බැවින්ද, සිඬවූ දේ ගැන සියල්ලෝම දෙවියන්වහන්සේට ප්‍රසංසා
22. කල බැවින්ද, සෙනග නිසා ඔවුන්ට අච්චුකරන්නට අන්දමක් නොදැක, ඔවුන්ට නැවතත් සැරකොට හැරියෝය.

23. ඔවුන් එයින් ගිය කල තමන්ගේ සමාගමට ගොස්, නායක පූජකයන් විසින්ද ප්‍රධානීන් විසිනුද තමන්ට කියනලද සියල්ල දැන්වූවෝය.
24. ඔවුන්ද ඒ අසා, එක්සිත්ව දෙවියන්වහන්සේට මහත් ශබ්ද පවත්වමින්, "ස්වාමිනි, ඔබවහන්සේ අහසත් පොළොවත් මුහුදත් එහි ඇත්තාවූ සියල්ලත් මැවූ දෙවියන්වහන්
25. සේය. ඔබගේ වැඩකාරයාවූ දාවිත්ගේ මුඛයෙන් කියවනසේක්, 'පරදේසීහු කෝලාහල කලේත්, සෙනග නිෂ්ප්‍රයෝජන කාරනා සිතූ
26. වේත් මක්නිසාද? ස්වාමිනවහන්සේටද උන්වහන්සේ ආලේපකල තැනන්වහන්සේටද විරුඬව, පොළොවෙහි රජදරුවෝ නැගිට්ටෝය. ප්‍රධානීද එක්ව රැස්වූනෝයයි' කිය
27. වූසේක. ඔබවහන්සේගේ අතින්ද අභිප්‍රාවෙන්ද පලමුවෙන් නියම
28. කල දේ ඉෂ්ටකරන පිණිස, ඔබවහන්සේ ආලේපකල ඔබගේ පිරිසිදු පුත්‍රවූ යේසුස්වහන්සේට විරුඬව, සැබවින් හෙරොද්ද, පොන්තියුස් පිලාත්ද, අන්‍යජාතීන් සහ ඉශ්‍රායෙල්
29. ජනයන්ද සමග රැස්වූනෝය. දැනුත් ස්වාමිනි, ඔවුන්ගේ තරවටුකම් බලා, ලකුනුද ආශ්චර්ය්‍යවල්ද ඔබවහන්සේගේ පිරිසිදු පුත්‍රවූ යේසුස්වහන්සේගේ නාමයෙන් කරනු ලබන කල්හි, සුවකිරීමට ඔබවහන්සේගේ
30. අත දිගුකොට, ඔබවහන්සේගේ වචනය භයක් නැතුව කියන්ට ඔබවහන්සේගේ වැඩකාරයන්ට දුන
31. මැනවයි" කීවෝය. ඔවුන් යාඥකලායින් පසු, ඔවුන් රැස්ව සිටි ස්ථානය කම්පාවිය. එවිට ඔවුන් සියල්ලෝ ශුඬාත්මයෙන් සම්පූර්ණව, දෙවියනවහන්සේගේ වචනය භයක් නැතුව කීවෝය.

32. තවද ඇදහිලිවන්ත සමූහය
එක හෘදයක්ව එක්සිත්ව සිටියෝය.
කිසිවෙක් තමාගේ වස්තුවෙන් කිසි
දෙයක් තමන් සන්තකයයි නොකි
යේය; එහෙත් සියල්ල ඔවුන්ට පො
33. දුව තිබුණේය. තවද ස්වාමිවූ
ජේසුස්වහන්සේගේ නැගිටීම ගැන,
ප්‍රේරිතයෝ මහත් බලයෙන් සාක්ෂි
දුන්නෝය. ඔවුන් සියල්ලන්ට මහත්
34. කරුනාව ලැබුනාය. ඔවුන් අත
රෙහි කවරෙකුටවත් හිඟයක් නො
විය. මක්නිසාද ඔවුන් අතරේ බිම්
වත් ගෙවල්වත් ඇති සියල්ලෝ ඒවා
විකුන, විකුනපූ දේවල මිල අරගෙ
35. න, ප්‍රේරිතයන්ගේ පාමුල තැබූ
වෝය; එකල එක එකාට ඕනෑ පමන
36. බෙදනලද්දේය. කුප්‍රන්හි උපන්
නාවූ ලෙවි ගෝත්‍ර ඇති ප්‍රේරිතයන්
ගෙන් සැනසිල්ලෙහි පුත්‍ර යන අර්ත
ඇති බාර්ණබස් නම්ලත් යෝසෙස්
37. හට බිමක් තිබුනාය. ඔහු ඒක
විකුන මිල අරගෙන ප්‍රේරිතයන්ගේ
පාමුල තිබුයේය.

5. පරිච්. තවද අනනියස්නම්
මනුෂ්‍යයෙක් සපිරානම් තමන් භා
ර්‍යාව සමග බිමක් විකුන, තමාගේ
2. ස්ත්‍රී දැනිවත්ව මිලෙන් කොටසක්
සඟවා, කොටසක් ගෙනගොස් ප්‍රේ
3. රිතයන්ගේ පාමුල තැබුයේය. එ
විට පේත්‍රුස් කථාකොට, "අනනි
යස්නි, ශුද්ධාත්මයානන්වහන්සේට
විරුද්ධව බොරු කියන්නටද, බිමේ
මිලෙන් කොටසක් සඟවන්නටද,
සාතන් නුබේ හිත පිරෙව්වේ මක්
4. නිසාද? ඒක තිබෙද්දී නුබේ
නොවේද? විකුනපූ මිල නුබට අයිති
නොවේද? නුබේ හිතේ මේ නපුරු
කල්පනාව තබාගත්තේ මක්නිසාද?
මනුෂ්‍යයන්ට නොව, දෙවියන්වහන්
5. සේට බොරු කීයේයයි" කීය. අන
නියස් ඒ වචන අසා, වැටී මැරුනේය.
ඒ ඇසූ සියල්ලන්ට මහත් භයක්
6. පැමුනුනේය. එවිට තරුනයෝ
නැගිට, ඔහු වෙලා පිටතට ගෙන
7. ගොස් වැලලූවෝය. ඊට තුන්
පැයකට පමන පසු, ඔහුගේ භාර්‍යා
ව සිදුවූන කාරනා නොදැන එහි
8. පැමුනුනාය. පේත්‍රුස්ද "නුබලා
බිම විකුණේ මෙපමනටදැයි මට කි
යාපන්නැයි" ඈට කීයේය. ඈ "එසේ
9. ය, මෙපමනටයයි" කීවාය. එවිට
පේත්‍රුස්, "ස්වාමින්වහන්සේගේ ආත්
මය පරීක්ෂාකරන්නට කොහොම
නුබලා එකඟවූනෝද? නුබේ පුරුෂ
යා වැලලූවන්ගේ පාද දොරටුව ළඟ
ය. නුබද පිටතට ගෙන යතියි" ඈට
10. කීයේය. එවලේම ඈ ඔහුගේ
පාමුල වැටී මලාය. තරුනයෝ පැමි
න, මලාවූ ඈ දැක පිටතට ගෙන
ගොස්, ඈගේ පුරුෂයා ළඟ වැලලූ
11. වෝය. එවිට සියළු සභාවටද මේ
දේ ඇසූ සියල්ලන්ටද මහත් භයක්
පැමිනියේය.

12. තවද ප්‍රේරිතයන්ගේ අත්ව
ලින්, නොයෙක් ලකුනුද ආශ්චර්‍ය
වල්ද සෙනඟ අතරේ කරනලද්දේය.
ඔවුන් සියල්ලෝ එක්සිත්ව සල
මොන්ගේ දොරටුවෙහි සිටියෝය.
13. අන්‍යයන්ගෙන් කිසිවෙක් ඔවුන්
සමග එක්වෙන්නට භයින් නොහැ
කිවිය; නුමුත් සෙනඟ ඔවුන්ට ගෞ
14. රව කලෝය. පුරුෂයන්ගෙන්ද
ස්ත්‍රීන්ගෙන්ද බොහෝ ඇදහිලිවන්
තයෝ වැඩි වැඩිව, ස්වාමින්වහන්සේ
15. කෙරෙහි එක්වූනෝය. තවද
පේත්‍රුස් යන එනවිට සෙවනැල්ල
පමනවත් රෝගීන්ට වැටෙන පිනිස,
ඔවුන් ඇඳවල් සහ යානාවලින් ගෙ
16. නත්, වීදිවල තැබුවෝය. වටකර
තිබෙන නුවරවලින් බොහෝ අස
වල් රෝගීන්ද අසුද්ධාත්මවලින් පීඩිත
වූවන්ද උසුලාගෙන, යෙරුසලමට
ආවෝය. ඒ සියල්ලෝද සුවකරනු
ලැබුවෝය.

17. එවිට උත්තම පූජකයාද ඔහු
සමග සිටියාවූ සද්දුසීන්ගේ පක්ෂයට
ඇතුලත්වූ සියල්ලෝද නැගිට, ක්‍රෝ
18. ධයෙන් පිරී, ප්‍රේරිතයන් අල්වා
19. මහ හිරගෙයි දැම්මෝය. නුමුත්
ස්වාමින්වහන්සේගේ දූතයා රාත්‍රියේ
හිරගෙයි දොරවල් ඇර, ඔවුන් පිට
20. තට ගෙනත්, "නුබලා ගොස්,
ජීවන දායකවූ මේ සියළු වචනවල්
දේවමාලිගාවේ සිට සෙනගට කියා
21. පල්ලායයි" කීය. ඔවුන් ඒ අසා,
අළුයම් වේලේ දේවමාලිගාවට ඇ
තුල්ව ඉගැන්වූවෝය. ඒ අතර උතුම්
පූජකයාද ඔහු සමග සිටියෝද ඇ
විත්, මන්ත්‍රණ සභාවද ඊශ්‍රායෙල්
වරුන්ගේ සියළු වැඩිමහල්ලන්ද එක
තුකරවා, ඔවුන් ගෙනෙන පිනිස
22. හිරගෙට මිනිසුන් යැව්වෝය. එ
විට සේවකයෝ ගොස්, හිරගෙයි
ඔවුන් නොදැක, ආපසු ඇවිත්,
23. "හිරගේ සියළු ප්‍රවේශමෙන්
වසා තිබෙන බවද, රැකවල්ඵ දොර
කඩ ඉදිරියේ පිටත සිටින බවද දුටි
මුව. එහෙත් දොර හැරිය කල, ගේ
ඇතුලෙහි කිසිවෙක් සිටිනවා දුටුවේ
24. නැතැයි" දැන්වූවෝය. උතුම්
පූජකයාද මාලිගාවේ ප්‍රධානියාද
නායක පූජකයෝද මේ වචන අසා,
"මේ කුමක්වන්නේදෝ" කියා ඔ
25. වුන් ගැන සැක කලෝය. එකල
මිනිහෙක් ඇවිත්, "නුබලා හිරගෙයි
ඇලූ මනුෂ්‍යයෝ මාලිගාවේ සිට සෙ
නගට උගන්වතියි" ඔවුන්ට දැන්වූ
26. වෝය. එවිට මූලාදෑනියා සේව
කයන් සමග ගොස්, සෙනග ගල්ග
සනවා ඇතැයි යන භයින් බලාත්
27. කාර නොකොට, ඔවුන් ගෙ
නැත් සභාව ඉදිරියේ සිටෙව්වෝය.
එවිට උතුම් පූජකයා කථාකොට,
28. "මේ නාමයෙන් නුගන්වන්ට
නුබලාට තදින් අන නුදුන්නෙමුද?
නුමුත් නුබලාගේ ඉගැන්වීමෙන් යෙ
රුසලම පුරවා, ඒ මනුෂ්‍යයාගේ ලේ
අපට නන්වන්ට හදතියි" කීයේය.

29. එවිට පේතෘස්ද අනික් ප්‍රේරිත
යෝද උත්තර දෙමින්, "මනුෂ්‍ය
යන්ට වඩා දෙවියන්වහන්සේට අප
30. විසින් කීකරුවෙනනට ඕනය. නු
බලා ගසේ එල්ලා මැරුවාවූ යේසුස්
වහන්සේ අපගේ පියවරුන්ගේ දෙ
31. වියන්වහන්සේ නැගිටවූසේක. ඊ
ශ්‍රායෙල්ට පශ්චාත්තාපයද පව් මිදී
මද දෙන අධිපතියෙක්ද ගැලවුම්
කාරයෙක්ද වෙන පිනිස, දෙවියන්
වහන්සේ තමන්ගේ දකුනට උන්ව
32. හන්සේ ඔසවාගත්සේක. අපි
මේ කාරනාවලට උන්වහන්සේගේ
සාක්ෂිකාරයෝය. එපමනක්නොව,
දෙවියන්වහන්සේ විසින් තමන්
වහන්සේගේ අන පවත්වන්නාවූන්
ට දුන් සුධාත්මයානන්වහන්සේත්
33. සාක්ෂිකාරයෙක්යයි" කීවෝය. ඔ
වුන් ඒ අසා අතිසයින් කිපී, ඔවුන්
34. මරන්ට මන්ත්‍රණය කලෝය. එ
විට ව්‍යවස්ථාව උගන්වන්නාවූ, සියළු
මනුෂ්‍යයන් විසින් ගරුකරනලද්දවූ
ගමාලියෙල්නම් එක් ඵරිසියෙක් ස
භාවෙන් නැගී සිට, ප්‍රේරිතයන්
ස්වල්ප වේලාවකට පිටත ගෙන
35. යන්ට අනකොට කියනුයේ,
"ඊශ්‍රායෙල් මනුෂ්‍යයෙනි, මේ මනු
ෂ්‍යයන්ට නුබලා කරන්නට හදන්
නේ මොකදැයි බලාගනිල්ලාය.
36. මක්නිසාද මේ දවස්වලට පලමු
වෙන් තුදාස්නම් එකෙක් තමන්
මහතෙක කියා නැගුටුනේය. ඔහුට
මනුෂ්‍යයෝ හාරසියයක් පමන එක්
වූනෝය; ඔහු නාස්තිවූනේය; ඔහුට
කීකරුවූ සියල්ලෝද ඉසිරී ගොස්
37. විනාසවූනෝය. ඔහුට පසුව ලේ
ඛනය කරන දවස්වලදී, ගලිලයෙහි
යූදස් නැගිට බොහෝ සමූහයන්
තමන් ලඟට ඇදගත්තේය. ඔහුද
විනාසවූනේය; ඔහුට කීකරුවූ සියල්
38. ලෝද ඉසිරී ගියෝය. දැන් නුබ

ලාට කියමි, මේ මනුෂ්‍යයන්ට කිසි
වක් නොකොට ඔවුන් හැරපල්ලාය.
මේ මන්ත්‍රණයවත් ක්‍රියාවවත් මනු
ෂ්‍යයන්ගෙන් වූයේනම්, ඒක විනාශ
39. යට පැමිණෙන්නේය. දෙවියන්
වහන්සේගෙන් වූයේනම්, ඒක විනා
ශකරන්ට නුබලාට බැරිය. දෙවියන්
වහන්සේට විරුඬව යුඬකරන්නෝව
නොසිටින්ට බලාගනිල්ලායයි" කී
40. යේය. ඔවුන් ඔහුගේ වචනය
පිළිගෙන, ප්‍රේරිතයන කැඳවා පහ
රදී, යේසුස්වහන්සේගේ නාමයෙන්
කථානොකරන්ට අනකොට ඔවුන්
හැරියෝය.

41. ඔවුන් උන්වහන්සේගේ නාම
ය නිසා නින්ද විඳින්නට තමන්
වටින්නෝයයි ගනන්ගනු ලැබූ බව
ට සන්තෝසව, සභාව ඉදිරියෙන්
42. පිටත්ව ගොස්, දවස්පතා දේව
මාලිගාවේද සියළු ගෙවල්වලද නො
කඩව උගන්වමින්, යේසුස් ක්‍රිස්තුන්
වහන්සේගේ සුභාරංචිය ප්‍රකාශකර
මින් හැසුරුණෝය.

6. පරිච්ජෙ. ඒ දවස්වල ගෝල
යන් වැඩිවූකල, දවස්පතා කරන
උපස්ථානයෙන් තමන්ගේ වැන්දඹු
වන්ට නොබලනවායයි හෙබ්‍රෙවූව
රුන්ට විරුඬව හෙලෙනිස්තයෝ
2. කොඳුලෝය. එවිට දෙලොස්දෙ
න ගෝල සමූහයා කැඳවා, "සහෝ
දරයෙනි, දෙවියන්වහන්සේගේ වච
නය හැර මේසවල වැඩකිරීම අපට
3. වටින්නේ නැත. එහෙයින් මේ
වැඩට, අප විසින් නියමකල යුතුවූ,
සුඬාත්මයෙන්ද නුවනින්ද සම්පූ
ර්ණවූ, සත්පුරුෂයෝයයි පුසිඬවූ
මනුෂ්‍යයන් සත්දෙනෙක් නුබලා
4. අතරෙන් සොයාපල්ලාය. අපි
යාඥාවද වචනයේ මෙහෙයද නිතර
5. ම කරමුයයි" කීවෝය. ඒ කීම
සියළු සමූහයාට ප්‍රියවූනේය. එවිට
ඇදහිමෙන්ද සුඬාත්මයෙන්ද සම්පූ
ර්ණවූ ස්ටෙපන්නම් පුරුෂයෙක්ද,
පිලිප්ද, ප්‍රොඛොරස්ද, නිකනෝර්
ද, තිමොන්ද, පර්මෙනස්ද, යුදෙව්
වන්ගේ ආගම ගත් අන්තියෝකි
යෙහි නිකොලස්ද තෝරාගෙන,
6. ඔවුන් ප්‍රේරිතයන්ගේ ඉදිරියෙහි
සිටෙව්වෝය. ප්‍රේරිතයෝ යාඥාකො
ට ඔවුන් පිට අත් තැබුවෝය.

7. තවද දෙවියන්වහන්සේගේ
වචනය වඩා ප්‍රකාසවිය. ගෝලයන්
ගේ ගනන යෙරුසලමෙහි බොහෝ
සෙයින් වැඩිවූනේය. පූජකයන්
ගෙන් බොහෝ දෙනද ඇදහිල්ලට
කීකරුවූනේය.

8. ස්ටෙපන්ද ඇදහිල්ලෙන් හා
අනුභාවයෙන්ද සම්පූර්ණව, ම
හත් ආශ්චර්‍ය්‍යවල්ද ලකුනුද සෙනඟ
9. අතරේ කලේය. එවිට ලිබර්තින
යන්ගේද, කුරෙනියන්ගේද, අලෙ
ක්සන්ද්‍රියන්ගේද, කිලිකියෙහි සහ
ආසියාවෙහි වැසියන්ගේයයි කියන
සිනගෝගයෙන් සමහරෙක් නැගිට,
10. ස්ටෙපන් සමග වාදකලෝය. නු
මුත් ඔහු නුවනින්ද ආත්මයෙන්ද
කල කථාවට විරුඬව සිටින්ට ඔවුන්
11. ට බැරිවිය. එවිට, "මෝසෙස්ටද
දෙවියන්වහන්සේටද විරුඬව, ඔහු
අපහාස වචන කියනවා ඇසීමුයයි"
කියන්නාවූ මනුෂ්‍යයන් සලස්වා,
12. සමූහයාද ප්‍රධානීනද ලියන්නන්ද
කලඹා, ඔහු අල්වා සභාවට ගෙන
13. ගොස්, "මේ මනුෂ්‍යයා මේ පිරි
සිදු ඉඩමටත් ව්‍යවස්ථාවටත් විරුඬව
අපහාස වචන කීමෙන් වැලකෙන්
14. නේ නැත. 'නාසරත් යේසුස්
මේ ස්ථානය නාසා, මෝසෙස් විසින්
අපට දුන් චාරිත්‍රවල් වෙනස්කරන
වා ඇතැයි', ඔහු කියන බව ඇසීමු
යයි" කියන්නාවූ බොරු සාක්ෂිකාර
15. යන් සිටෙව්වෝය. එවිට සභා
වෙහි හුන්නාවූ සියල්ලෝම ඔහු
දෙස බැළූකල, ඔහුගේ මූන දේව

දූතයෙකුගේ මූණ මෙන් තිබෙන බව දුටුවෝය.

7. පරිච්ඡේ. එවිට උත්තම පූජකයා, "මේ කාරනා සැබෑදැයි" කීයේ 2. ය. ස්තෙපන්ද කියනුයේ, "සහෝදරයෙනි, පියවරුනි, අහපල්ලාය; අපගේ පියවූ ආබ්‍රහම් ඛාරන්හි විසීමට පළමුවෙන්, මෙසොපොතාමයෙහි සිටිකල, තේජවන්තවූ දෙවි 3. යන්වහන්සේ ඔහුට පෙනී, 'තාගේ රටින්ද නෑයන් ලඟින්ද පිටත්ව, මම තට පෙන්වන්නාවූ දේසයට 4. යවයි' කීසේක. එවිට ඔහු කල්දීය වාසීන්ගේ දේසයෙන් පිටත්ව ගොස්, ඛාරන්හි විසූයේය. ඔහුගේ පියා මල කල්හි, උන්වහන්සේ ඔහු එසින් තුබලා දැන් වසන්නාවූ දේස 5. යට පමුනුවා, එක් පියවරක් තබන පමන බිමක්වත් ඔහුට උරුමයක් කොට නොදී, ඔහු දරුවන් නොලැබ සිටිද්දී, 'මේ දේසය තටද තාගෙන් පසු තාගේ වංශයටද උරුමයක් කොට දෙන්නෙමියි' පොරොන්දු 6. වක් දුන්සේක. තවද දෙවියන්වහන්සේ කියනසේක්, 'තාගේ වංශය පරදේසයෙහි කලකට සිටිනවා ඇත. ඒ දේසවාසිහු ඔවුන් වාලට පත්කොට, අවුරුදු හාරසියයක් මුළුල්ලෙහි දුකට පමුනුවනවා ඇත. 7. මම ඔවුන් වාලට ගන්නවුන් විනිශ්චයකෙරෙමි; ඉන්පසු ඒ වංශය පිටත්ව ඇවිත්, මේ ස්ථානයේදී මා සේවයකරනවා ඇතැයි' කීසේක. 8. උන්වහන්සේ චර්මඡේද ගිවිසුම ඔහුට දුන්සේක. ඉන්පසු ආබ්‍රහම් ඊසාක් ජාතකකොට, අටවෙනිද ඔහු චර්මඡේදය කලේය. ඊසාක් යාකොබ් ජාතකකෙලේය; යාකොබ්ද පියවරුන් දොලොස් දෙන ජාතක 9. කලේය. පියවරුද ඊර්ෂ්‍යාවෙන් යෝසැප් මිසරයට වික්කෝය. නුමුත් දෙවියන්වහන්සේ ඔහු සමග සිට, 10. ඔහුගේ සියළු දුක්වලින් ඔහු මුදා, මිසරයෙහි රජවූ ඵාරාවෝ ඉදිරියෙහි කරුනාවද නුවනද ඔහුට දුන්සේක; ඒ රජ මිසරයෙහිද තමන්ගේ ගෙහි සියල්ලෙහිද ඔහු ප්‍රධාන 11. කොට තැබුයේය. සියළු මිසර දේසයෙහිද කානාන්හිද දුර්භික්ෂයද මහත් දුකද පැමිනියේය. එවිට අපගේ පියවරුන්ට කෑම නැතිවූ 12. යේය. එකල යාකොබ් මිසරයෙහි ධාන්‍ය ඇතැයි අසා, පලමුවාරයෙහි අපගේ පියවරුන් යැවීය. 13. දෙවෙනි වාරයෙහි යෝසැප් තමන්ගේ සහෝදරයන්ට අඳුන්වා දෙනලද්දේය. යෝසැප්ගේ නෑසින් 14. ඵාරාවෝ දැනගත්තේය. එවිට යෝසැප් තමන් පියවූ යාකොබ්ද, සැත්තෑපස්දෙනෙක් පමන තමන්ගේ සියළු නෑයන්ද, තමා ලඟට කැ 15. ඳවීය. යාකොබ්ද මිසරයට ගියේය. එහි ඔහුද අපගේ පියවරුද නැසී, 16. සිඛෙම් නුවරට ගෙනායනලදුව, සිඛෙම්ගේ පියවූ එම්මොර්ගේ පුත්‍රයන්ගෙන් ආබ්‍රහම් මිලේට ගත් සොහොන් ගෙහි තබනලද්දෝය.

17. "තවද දෙවියන්වහන්සේ ආබ්‍රහම්ට දිවුරා දුන් පොරොන්දුවේ කාලය ලංවූකල, සෙනග මිසරයේ වඩ 18. වඩා බෝවූනෝය. එකල යෝසැප් නොසලකන්නාවූ අන් රජෙක් 19. නැගිටුනේය. ඒ රජ අපේ ජාතියට විරුද්ධව නපුරු උපායක් යොද, අපේ පියවරුන්ගේ දරුවෝ ජීවත් නොවෙන පිනිස ඔවුන් අහක දමමවා, පියවරුන් දුකට පැමිනවූයේය. 20. ඒ අතර මෝසෙස් උපන්නේය; ඉතා ලක්ෂණවූ ඔහු තමන්ගේ පියානන්ගේ ගෙයි තුන්මසක් වැඩී පිට 21. ත දමනලද්දේය. එකල ඵාරාවෝගේ දුව ඔහු රැගෙන, තමාට පුත්‍ර 22. කොට ඇතිකරගත්තාය. මෝසෙස් මිසරයන්ගේ සියළු ශාස්ත්‍ර ඥාන, කථාවෙහිද ක්‍රියාවෙහිද දක්ෂ

23. ගෙක් වූයේය. ඔහුට සතලිස්
අවුරුදු වයස් පිරුනු කල, ඊශ්‍රායෙල්
ගේ පුත්‍රවූ තමන් සහෝදරයන් දක්
න පිනිස ඔහුට අභිප්‍රාවක් හටගත්
24. තේය. එවිට අශුතුකම් විඳින්
නාවූ එකෙක් දැක, ඔහු රක්‍ෂාකොට
මිසරයා මරා, පීඩා වින්ද තැනැත්
25. තාට යුක්ති කලේය. මක්නිසාද
දෙවියන්වහන්සේ ඔහු ලවා ස්වකීය
සහෝදරයන් ගලවන බව ඔවුන්ට
හැඟෙන්නේයයි ඔහු සිතුයේය; නු
මුත් ඔවුන්ට ඒක හැඟුනේ නැත.
26. පසුවදා දබර කරන්නාවූ ඔවුන්ට
තමන් දක්වා, ඔවුන් සමගිකරනු
කැමතිව, 'මනුෂ්‍යයෙනි, නුබලා
සහෝදරයෝය; ඔවුනොවුන්ට මක්
නිසා අශුතුකම් කරනවාදැයි' කීයේ
27. ය. එවිට තමාගේ අසල්වාසියාට
අනඩු කරන මිනිහා ඔහු අහක්කො
ට, 'අප කෙරෙහි ප්‍රධානකමටද නඩු
ඇසීමටද නුබ පත්කලේ කවුද?
28. ඊයේ මිසරයා මැරූ ලෙස, මාත්
මරන්නට කැමතිදැයි' කීයේය.
29. ඒ වචනය නිසා මෝසෙස් පලා
ගොස්, මිදියන්හි විදේසිව, එහිදී
පුත්‍රයන් දෙන්නෙක් ජනිතකලේය.
30. හතලිස් අවුරුද්දක් පිරුනු පසු,
ස්වාමින්වහන්සේගේ දූතයෙක් සීනා
කන්දේ වනාන්තරයෙහි ගින්නෙන්
ඇවිලෙන පඳුරේ සිට, ඔහුට පෙනු
31. නේය. මෝසෙස් ඒ දැක, දර්ශණ
යට පුදුමව, බලන පිනිස සමීපයට
32. යනකල, 'මම තාගේ පියවරුන්
ගේ දෙවියන්වහන්සේය, ආබ්‍රහම්
ගේ දෙවියන්වහන්සේය, ඊසාක්ගේ
දෙවියන්වහන්සේය, යාකොබ්ගේ
දෙවියන්වහන්සේයයි' කියන්නාවූ
ස්වාමින්වහන්සේගේ ශබ්දය ඔහුට
ඇසුනේය. එවිට මෝසෙස් වෙව්ල
33. මින් බලන්නට භයවිය. එකල
ස්වාමින්වහන්සේ ඔහුට කියනසේක්,
'තාගේ පාදවල වහන් ගලවව;
තා සිටින ස්ථානය පිරිසිදු භූමියෙක.
34. මිසරයෙහි වසන්නාවූ මාගේ
සෙනගගේ දුක සැබෑවටම දුටිමි;
ඔවුන්ගේ සුසුම්ලීම අසා ඔවුන් ගල
වන පිනිස බැස්සෙමි. වරෙව, තා මි
සරයට යවමියි' කීසේක.

35. "නුබ ප්‍රධානකමටද නඩුඇසී
මටද පත්කලේ කවුදැයි කියා ඔවුන්
එපාකල මෙම මෝසෙස් ප්‍රධාන
යෙක්ද ගැලවුන්කාරයෙක්ද වෙන
පිනිස, දෙවියන්වහන්සේ පඳුරේදී
ඔහුට පෙනුනු දූතයා ලවා යවූසේක.
36. ඔහු මිසරයෙන් ඔවුන් පිටතට
ගෙනායේය. මිසරයේදීද, රූප් මුදේ
දීද, සතලිස් අවුරුද්දක් මුළුල්ලෙහි
වනාන්තරයෙහිද, ආශ්චර්‍යවත් ල
37. කුනුත් කලේය. 'මා වැනිවූ අනා
ගතවක්තෘ කෙනෙක් නුබලාගේ
දෙවිවූ ස්වාමින්වහන්සේ නුබලාගේ
සහෝදරයන් අතරෙන් නුබලාට
උපදවනසේක; ඔහුගේ වචන අසා
පල්ලායයි' ඊශ්‍රායෙල්ගේ පුත්‍රයන්ට
38. කීවාවූ මෝසෙස් මෙය. තවද
වනාන්තර සභාවේදීද, සීනා කන්දේ
ද තමන්ට කථාකල දේවදූතයා
සමගත් අපගේ පියවරුන් සමගත්
සිට, ජීවනදායක වචනයන් අපට
දෙන්නට ලැබූ තැනැත්තේ මෙය.
39. අපගේ පියවරුද ඔහුට කීකරු
වෙන්ට නොකමැතිව, තමන් කෙ
රෙන් ඔහු අහක්කොට, තමන් මිස
රයට හැරී යන අභිප්‍රාව ඇතුව
40. ආරොන්ට කථාකරමින්, 'අප ඉස්
සරව යන්ට දේවතාවන් අපට සාද
පන්න; මිසර දේසයෙන් අප පිටතට
ගෙනාවාවූ ඒ මෝසෙස්ට කුමක්
වූනේදැයි අපි දන්නේ නැතැයි'
41. කීවෝය. ඔවුන් ඒ දවස්වලදී
වස්සෙකුගේ රූපයක් සාද, ඒ රූප
යට පූජාකොට, තමන්ගේ හස්තක
42. ර්මාන්තවලට සතුටුවූනෝය. එ
විට දෙවියන්වහන්සේ ඔවුන් කෙ
රෙන් හැරී, ආකාශ සේනාව සේවය
කරන්ට ඉඩඇරියසේක. ඒ හැටියට

අනාගතවක්තෘන්ගේ පොතේ ලියා
තිබෙන්නේ, 'එම්බා ඉශ්‍රායෙල්වරුනි,
මැරුවාවූ සිව්පාවන් හා පූජාවල්ද
වනාන්තරයෙහිදී සතළිස් අවුරුද්දක්
මුළුල්ලෙහි තොපි මට පූජාකළෝද?
43. තොපි මොලොක්ගේ කූඩාරමද,
තොපගේ රෙන්ඵාන් දේවතාවාගේ
තාරකාවද, යන නමස්කාර කරන
පිණිස තොප විසින් සාදනලද රූප
ඔසවාගත්තෝය. තොපි බබිලෝනි
යෙන් දුරට ගෙනයෙමියි' දෙවියන්
44. වහන්සේ කීසේක. තවද 'නුඹ
දුටුවාවූ ආදිසය මෙන් සාදපන්නැයි'
මෝසෙස්ට කීවාවූ උන්වහන්සේ නිය
මකළ ලෙස, සාක්ෂියෙහි කූඩාරම
අපගේ පියවරුන්ට වනාන්තරයෙහි
45. තිබුණේය. ඒක අපගේ පියවරු
යෝෂුවා සමග අරගෙන, දෙවියන්
වහන්සේ විසින් අපගේ පියවරුන්
ගේ ඉදිරියෙන් නෙරපනලද අන්‍ය
ජාතීන්ගෙන් ගත් ස්ථානයට ගෙ
නත්, දාවිත්ගේ දවස් දක්වා තිබු
46. ණේය. ඔහු දෙවියන්වහන්සේ
ගෙන් කරුණාව ලැබ, යාකොබ්ගේ
දෙවියන්වහන්සේට කූඩාරමක් සෑ
47. දන්ට කැමතිවිය. නුමුත් සාල
මොන් උන්වහන්සේට ගෙයක් සෑදූ
48. යේය. එසේ නුමුත් අනාගතවක්
තෘහු විසින් කියාතිබෙන හැටියට,
මහෝත්තමයානන්වහන්සේ අතින්
සෑදුවාවූ මාළිගාවල වාසයකරන්
49. නේ නැත. 'ස්වර්ගය මාගේ සිං
හාසනයද, පොළොව මාගේ පාපුටු
වද වෙයි; මොන ගෙයක් නුඹලා
මට සාදනවාද? නොහොත් මාගේ
50. නිවාඩු ස්ථානය කිමෙක්ද? මේ
සියල්ල මාගේ අතින් නොකරනලද
දැයි ස්වාමින්වහන්සේ කීසේක.'

51. "තදවූ කුලල් ඇත්තෙනි,
සිත්වලත් කන්වලත් ඡේදන නොකළ
චර්ම ඇත්තෙනි, නුඹලාගේ පියවරු
මෙන් නුඹලාත් නිතර ශුද්ධාත්මයට
52. විරුද්ධව සිටිති. නුඹලාගේ පියව
රුන්ගෙන් පීඩා නොලැබූ අනාගත
වක්තෘ කෙනෙක් කවුද? ඔවුන්
ධර්මිෂ්ඨයාගේ ඊම පළමුවෙන් දන්
වූවන් මැරුවෝය. නුඹලා දැන් උන්
වහන්සේ පාවාදුන්නෝද මරන්
53. නෝද වූවෝය. නුඹලා දේවදූත
මෙහෙවරින් ව්‍යවස්ථාව ලැබත්
ඒක රක්ෂා නොකළෝයයි" කීයේය.

54. ඔවුන් ඒ කාරනා අසා, අනින
ලද සිත් ඇතිව දත්මිටි කෑවෝය.
55. ඔහු ශුද්ධාත්මයෙන් සම්පූර්ණ
ව, ස්වර්ගය දෙස බලා, දෙවියන්ව
හන්සේගේ තේජසද දෙවියන්වහන්
සේගේ දකුණු පැත්තේ සිටින්නාවූ
56. යේසුස්වහන්සේද දැක, "ස්ව
ර්ගය ඇරී තිබෙන බවද, මනුෂ්‍ය
පුත්‍රයා දෙවියන්වහන්සේගේ දකුණු
පැත්තේ සිටින බවද දකිමියි" කී
57. යේය. එවිට ඔවුන් මහත් ශබ්ද
යෙන් මොරගසා, කන් වසාගෙන,
එක්සිත්ව ඔහු ළඟට දිව ගොස්,
58. අල්ලා, නුවරින් පිටත ලා ගල්
ගැසුවෝය. සාක්ෂිකාරයෝද තමන්
ගේ වස්ත්‍ර සාවුල්නම් යෞවනයාගේ
59. පාමුල තබා, "ස්වාමිවූ යේසුස්ව
හන්ස, මාගේ ආත්මය ගතමැනවයි"
කියා යාඥාකරන්නාවූ ස්තේඵාන්ට
60. ගල් ගැසුවෝය. ඔහු දනින් හිඳ,
"ස්වාමින්වහන්ස, ඔවුන් කෙරෙහි
මේ පාපය නොතැබුවමැනවයි"
මහත් ශබ්දයෙන් කියා සැතපුණේය.

8. පරිච්ඡ. සාවුල්ද ඔහුගේ මැරී
මට එකඟවූයේය. ඒ දවසේදී යෙරූ
සලමෙහිවූ සභාවට විරුද්ධව මහත්
පීඩාවක් විය. එවිට ප්‍රේරිතයන් හැර,
ඒ සියල්ලෝ යුදයෙහිද සමාරියෙහිද
2. ඉසිරී ගියෝය. භක්තිවන්තයෝ
ස්තේඵාන් උසුලාගෙන, ඔහු නිසා
බොහෝ සෙයින් වැලපුණෝය.
3. සාවුල්ද සියළු ගෙවලට ඇතුල්ව,
පුරුෂයන්ද ස්ත්‍රීන්ද ඇදගෙන ගොස්
හිරගෙයි දමමින්, සභාව නාස්ති

4. කෙළේය. නුමුත් ඉසිරී ගියාවූ
ඔවුන් වචනය දේශනාකරමින්, සිය
එ තැන්වල ඇවිද්දෝය.

5. එකල පිලිප් සමාරිය නුවරට
ගොස්, එහි වැසියන්ට ක්‍රිස්තුස්ව
හන්සේ ගැන දේශනා කෙළේය.
6. එවිට අසුබාත්මාවේසවූ බොහෝ
දෙනාගෙන් ඒ ආත්මයෝ මහත්
ශබ්ද පවත්වමින් අහක්ව ගියෝය.
බොහෝ අංශභාග රෝගාතුරයෝද
7. කොරුද සුවකරනු ලැබූවෝය. එ
හෙයින් සමූහයෝ පිලිප් විසින් කළ
ලාවූ ආශ්චර්යවල් අසමින් දකිමින්,
ඔහු විසින් කියනලද කාරනා එක්
8. සිත්ව හිතට ගත්තෝය. ඒ නුවර
9. මහත් සන්තෝසයක් විය. නුමුත්
ඒ නුවරම පලමුවෙන් මායාකාරවූ,
තමන් මහත් කෙනෙකැයි කියන්
නාවූ, සමාරිය වැසියන් මුලාකරන්
නාවූ සීමොන් නම් මනුෂ්‍යයෙක් සිටි
10. යේය. "මොහු දෙවියන්වහන්
සේගේ මහත් බලයයි" කියා, ලොකු
11. කුඩා සියල්ලෝ සැලකුවෝය. ඔ
හුන් එසේ සැලකුවේ, ඔහුගේ මායා
වලින් බොහෝ කලක පටන් ඔවුන්
12. මුලාකරනු ලැබූ නිසාය. නුමුත්
ඔවුන්, දෙවියන්වහන්සේගේ රාජ්‍යය
ගැනද යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
නාමය ගැනද දේශනාකරන්නාවූ
පිලිප් අදහාගෙන, පුරුෂයෝද ස්ත්‍රී
13. හුද බව්තීස්ම ලැබූවෝය. එවිට
සීමොන්ද අදහාගෙන බව්තීස්ම
ලැබ, පිලිප් ආශ්‍රයකොට, කරනලද
මහත් ආශ්චර්යවල්ද ලකුණුද දැක
පුදුමවූයේය.

14. සමාරියයෝ දෙවියන්වහන්
සේගේ වචන පිලිගත් බව යෙරුස
ලමෙහි සිටියාවූ ප්‍රේරිතයෝ අසා,
පේතෘස් සහ යොහන් ඔවුන් ලඟට
15. යැව්වෝය. ඔවුන් එහි ගොස්,
සුබාත්මය ඒ තාක්කල්ව ඔවුන්ගෙන්
කිසිවකු කෙරෙහිත් නොබැස්ස හෙ
16. යින්ද, ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ නාමයෙන් බව්තීස්මය
පමනක් ලැබූ හෙයින්ද, සුබාත්මය
ඔවුන්ට ලැබෙන පිනිස ඔවුන් ගැන
17. යාඥාකොට, ඔවුන් කෙරෙහි
අත් තැබූවෝය. එවිට ඔවුන් සුබාත්
18. මය ලැබූවෝය. සීමොන්ද ප්‍රේරි
තයන්ගේ අත් තැබීමෙන් සුබාත්මය
ලැබෙන බව දැක ඔවුන් වෙතට
19. මිල ගෙනවුත්, "යමෙක් කෙ
රෙහි මම අත්තැබුවනම්, ඔහුට
සුබාත්මය ලැබෙන බලය මටත්
20. දියල්ලායයි" කීයේය. එවිට පේ
තෘස් ඔහුට කියනුයේ, "දෙවියන්ව
හන්සේගේ දීම මිලේට ගන්නට
පුළුවන කියා නුබ සිතූ බැවින්, නුබේ
21. මිල නුබ සමග විනාසවේවා. මෙ
යින් නුබට උරුමයක්වත් කොටසක්
වත් නැත. දෙවියන්වහන්සේගේ
ඉදිරියේ නුබේ සිත අවංක නැත.
22. නුබ තිත්තවූ පිතේද දුෂ්ටකමේ
බැඳුමේද සිටින බව මට පෙනෙන
23. නිසා, නුබේ හෘද කල්පනාව
නුබට ක්ෂමාවනු ලැබේදෝ කියා
බලන පිනිස, මේ නුබේ දුෂ්ටකම
ගැන පශ්චාත්තාපව, දෙවියන්ව
හන්සේට යාඥාකරපන්නැයි" කීයේ
24. ය. එකල සීමොන් උත්තර දෙ
මින්, "නුබලා කීවාවූ දෙයින් මොක
වත් මට නොපැමිනෙන පිනිස, මා
ගැන ස්වාමින්වහන්සේට යාඥාකල
25. මැනවයි" කීය. ඔවුන්ද සාක්ෂිදී,
ස්වාමින්වහන්සේගේ වචනය දේශ
නාකොට, යෙරුසලමට නැවත
යමින් සමාරීයයන්ගේ නොයෙක්
ගම්වල සුභාරංචිය ප්‍රකාශ කලෝය.

26. තවද ස්වාමින්වහන්සේගේ
දූතයෙක් පිලිප්ට කථාකොට, "නැ
ගිට, දකුනු දිසාව බලා, යෙරුසල
මෙහි සිට ගාසට බසින වනාන්තරවූ
පාරින් පලයන්නැයි" කීයේය.
27. ඔහු නැගිට ගියේය. එවිට ඉති
යෝප්‍ය රට වැසියන්ගේ කන්දකීනම්
බිසවගේ මහ ඇමතිවූ, ඈගේ සියළු

වස්තුව රක්ෂාකරන්නාවූ, නපුංසකවූ
ඒතියෝප්‍යයෙක් යාඥාකරන පිණිස
28. යෙරුසලමට ඇවිත් ආපසු
යමින්, තමන්ගේ රථයේ හිඳ යෙසයි
යාගේ අනාගත වචනය කියවූයේය.
29. එවිට ආත්මයානන්වහන්සේ,
"මේ රථය ළඟට ගොස් එක්වෙයන්
30. නැයි" පිලිප්ට කීසේක. පිලිප්ද
ළඟට දිවගොස්, යෙසායියාගේ අනා
ගත වචනය ඔහු කියන බව අසා,
"නුඹ කියවන දේ නුඹට තේරෙන්
31. නේදැයි" කීය. ඔහුද "කවුරු
වත් මට මග නොකීයේනම්, කො
හොම තේරුම්ගනිම්දැයි" කියා, රථ
යට නැගී ඉන්නට පිලිප්ගෙන් ඉල්ලු
32. වේය. "උන්වහන්සේ බැටළුවෙක්
මෙන් මරනයට ගෙනයනු ලැබ,
ලෝම කපන්නාගේ ඉදිරිපිට නිශ්
ශබ්දවූ බැටළුවස්සෙක් මෙන් තමන්
33. මුඛය නොහැරියසේක. උන්ව
හන්සේගේ පහත්වීමෙහි උන්වහන්
සේගේ නඩුව විභාගයක් නැතුව
හරිනලද්දේය. උන්වහන්සේගේ ජීවි
තය මෙලොවින් නැතිවූ බැවින්,
උන්වහන්සේගේ වංශය ප්‍රකාශක
රන්නේ කවුදැයි" ලියා තිබෙන
34. වගන්තියම කියවීය. නපුංසක
යාද, "අනාගතවක්තෘහු කවුරු ගැන
මේ කාරනාව කියන්නේද? තමන්
ගැනද නොහොත් වෙන කෙනෙක්
ගැනදැයි" පිලිප්ගෙන් ඇසුවේය.
35. එවිට පිලිප් කථාකොට, එම ලිය
විල්ල පටන්ගෙන යේසුස්වහන්සේ
ගැන සුභාරංචිය ඔහුට ප්‍රකාශක
36. ළේය. මාර්ගයෙහි යන්නාවූ
ඔවුන් වතුර තිබෙන ඉඩමකට පැමි
ණුනෝය. එවිට නපුංසකයා, "වතුර
ඇතැයි බලාපන්න; බව්තීස්ම ල
බන්ට මට කවර බාධාවක්දැයි" කීය.
37. එවිට පිලිප්, "නුඹ මුළු සිතින්
අදහතොත් වටනේයයි" කීය. ඔහු
උත්තර දෙමින්, "යේසුස් ක්‍රිස්තුස්
වහන්සේ දෙවියන්වහන්සේගේ පුත්‍ර
38. යයි අදහමියි" කියා, රථය
නවත්වන්ට කීයේය. එවිට පිලිප්
සහ නපුංසකයා වතුරට බැස්සෝය;
39. පිලිප් ඔහු බව්තීස්මකෙළේය. ව
තුරෙන් ඔවුන් ගොඩනැගුනුකල,
ස්වාමීන්ගේ ආත්මයානන්වහන්සේ
පිලිප් අරගෙන ගියේය. නපුංසකයා
එතැන් පටන් ඔහු නුදුටුයේය;
තවද සන්තෝසයෙන් තමන් යන
40. මාර්ගයෙහි ගියේය. පිලිප් අසො
තයෙදී පෙනී, ඇවිදිමින් කායිසාරී
යට එනතෙක් සියළු නුවරවල සුභා
රංචිය ප්‍රකාශකෙළේය.

9. පරිච්ඡෙ. සාවුල් ස්වාමීන්වහන්
සේගේ ගෝලයන්ට විරුඬව, "ඔවුන්
නාසමියි" තදලෙස කථාකරමින්,
2. උතුම් පූජකයා ළඟට ගොස්, ඒ
මාර්ගයේ යන කොයි ස්ත්‍රියෙක්වත්
පුරුෂයෙක්වත් දුටුවොත් ඔවුන්
බැඳ යෙරුසලමට ගෙනඑන්ට, දමස්
කයෙහි සිනගෝගවලට ලියුම්පත්‍ර
3. ඉල්ලාගත්තේය. මාර්ගයෙහි යන්
නාවූ ඔහු දමස්කය ළඟට පැමිනි
කල, හදිස්සියෙන් අහසින් එලියක්
4. ඔහු වටකර බැබළුනේය. එවිට
ඔහු බිම වැටී, "සාවුල්, සාවුල්, මක්
නිසා මට පීඩාකරන්නේදැයි" ඔහුට
කියන්නාවූ ශබ්දයක් ඇසුයේය.
5. එවිට ඔහු, "ස්වාමිනි, ඔබ කවු
දැයි" කීයේය. ස්වාමීන්වහන්සේ,
"නුඹ පීඩාකරන්නාවූ යේසුස් මමය.
උල්වලට පයින් ගසන්නට නුඹට
6. අමාරුයයි" කීසේක. එවිට ඔහු
වෙව්ලමින් පුදුමව, "ස්වාමීන්වහන්ස,
මම මක්කරනවාට ඔබවහන්සේ
කැමතිසේක්දැයි" කීයේය. එවිට
ස්වාමීන්වහන්සේ ඔහුට කියනසේක්,
"නැගිට නුවරට ඇතුල්වෙයන්න;
නුඹ විසින් කටයුතු දේ එහිදී නුඹට
7. කියනු ලැබේයයි" කීසේක. ඔහු
සමග යන්නෝ ශබ්දය අසාත් කිසි
කෙනෙක් නොදැක පුදුමවසිටියෝය.

8. සාවුල්ද බිමින් නැගිට, ඇස් ඇරි
යකල ඔහුට කවුරුවත් පෙනුනෙ
නැත. ඒ නිසා ඔහුගේ අත අල්වා
9. දමස්කයට ගෙනගියෝය. ඔහු
තුන්දවසක් ඇස් නොපෙනී, නො
කා නොබී සිටියේය.

10. දමස්කයෙහි අනනියස්නම්
ගෝලයෙක් සිටියේය. ස්වාමින්වහන්
සේ දර්ශනයකින්, "අනනියස්නි"
කියා ඔහුට කීසේක. ඔහුද "ස්වාමීන්
වහන්ස, මම මෙහියයි" කීයේය.
11. එකල ස්වාමින්වහන්සේ ඔහුට
කියනසේක්, "නැගිට පෘජුනම් වීදි
යට ගොස්, තාර්ෂස්හි සාවුල්නම් මනු
ෂ්‍යයා යූදස්ගේ ගෙයි සොයාපනන.
12. දැනට ඔහු යාඥාකරන්නේය. ඔහු
දර්ශනයකින් අනනියස්නම් මනුෂ්‍ය
යාගේ පැමිනීමද, තමාට පෙනීම
ලැබෙන පිනිස තමන් පිට අත තැබී
13. මද දුටුයේයයි" කීසේක. එකල
අනනියස් උත්තර දෙමින්, "ස්වාමි
නි, මේ මනුෂ්‍යයා විසින් යෙරුසල
මේදී ඔබවහන්සේගේ පිරිසිදුවූ
වන්ට කොපමන නපුරුකම් කරන
ලදදැයි, බොහෝ දෙනාගෙන් ඇරංචි
14. ලැබීමි. මෙහිදීත් ඔබවහන්සේ
ගේ නාමයෙන් යාඥාකරන්නාවූ
සියල්ලන් බඳින්ට, නායක පූජක
යන්ගෙන් බලය ලැබූයේයයි" කීයේ
15. ය. ස්වාමින්වහන්සේද, "පලය
නන; ඔහු මාගේ නාමය අන්‍යජා
තීන්ගේද රජුන්ගේද ඊශ්‍රායෙල්
පුත්‍රයන්ගේද ඉදිරියෙහි ඔරන්ට තෝ
16. රාගත්තාලද භාජනයක. මාගේ
නාමය නිසා කොපමන දුක් විඳින්ට
ඕනෑදැයි ඔහුට දක්වමියි", කීසේක.
17. එවිට අනනියස් ගොස්, ඒ ගෙද
රට පැමින ඔහු පිට අත් තබා, "ස
හෝදරවූ සාවුල්නි, තුඹට පෙනීම
ලැබෙන පිනිසද, ශුද්ධාත්මයෙන්
සම්පූර්ණවෙන පිනිසද, මාර්ගයේ
දී තුඹට පෙනුනාවූ ස්වාමිවූ යේසුස්
වහන්සේ මා එවූසේකැයි" කීයේය.
18. එවලේම ඔහුගේ ඇස්වලින්
කොරපොතු වාගේ වැටුනේය; ඔහු
ඒ ක්ෂනයේම පෙනීම ලැබ, නැගිට
19. බව්තීස්ම ලැබ, කෑම කා ශක්
තිමත්වූයේය. එවිට සාවුල් දමස්ක
යෙහි සිටි ගෝලයන් සමග කීප දව
20. සක් සිට, කල් නොයවාම ක්‍රිස්
තුස්වහන්සේ දෙවියන්වහන්සේගේ
පුත්‍රයායයි සිනගෝගවලදී දේශනා
21. කලේය. ඒ ඇසූ සියල්ලෝ පුදු
මව, "යෙරුසලමේදී මෙම නාම
යෙන් යාඥාකරන්නාවූන් විනාශ
කොට, මෙහි සිටිනාවූන්ද නායක
පූජකයන් ලඟට බැඳගෙන යන්නට
ආ තැනැත්තේ මොහු නොවේදැයි"
22. කීවෝය. නුමුත් සාවුල් වඩ වඩා
බලයට පැමින, දමස්කයේ සිටි
යූදෙව්වන්ට ඊට විරුද්ධව කිසි දෙ
යක් කියන්ට බැරි හැටියට, උන්ව
හන්සේම ක්‍රිස්තුස්වහන්සේයයි ඔප්
23. පුදුන්නේය. බොහෝ දවස් ගිය
කල යූදෙව්වරු ඔහු මරන්ට මන්ත්‍ර
24. නයකලෝය. එහෙත් ඔවුන්ගේ
නපුරු මන්ත්‍රනය සාවුල් දැනගත්
තේය. ඔවුන්ද ඔහු මරන්ට රෑ දවල්
25. දොරටුවල රැක සිටියෝය. එකල
ගෝලයෝ රාත්‍රියේ ඔහු කැඳවාගෙ
නගොස්, කූඩයක ලා, පව්රෙන් බැස්
සෙව්වෝය.

26. එවිට සාවුල් යෙරුසලමට
ඇවිත්, ගෝලයන් සමග එක්වෙන්
නට උත්සාහ කලේය. නුමුත් ඔවුන්
සියල්ලෝ ඔහු ගෝලයෙක් බව විස්
වාසනොකොට, ඔහුට භයවූවෝය.
27. බාර්ණබස්ද ප්‍රේරිතයන් ලඟ
ට ඔහු කැඳවාගෙන ගොස්, මාර්ග
යේදී ස්වාමින්වහන්සේ ඔහුට පෙණී
ඔහු සමග කථාකල බවද, යේසුස්ව
හන්සේගේ නාමයෙන් දමස්කයේදී
ඔහු භයක් නැතුව දේශනාකල
28. බවද ඔවුන්ට දැන්වීය. ඔහුද
ඔවුන් සමග යෙරුසලමෙහි යමින්
29. එමින් සිට, ස්වාමිවූ යේසුස්වහන්

සේගේ නාමයෙන් භය නැතුව කථා
කරමින්, හෙල්ලීනිස්තයන් සමග
වාදකෙළේය. ඔවුන්ද ඔහු මරන්
30. නට සෙව්වෝය. සහෝදරයෝ
ඒ දැන, ඔහු කායිසාරියට ගෙන
ගොස් තර්ෂස් නුවරට යැව්වෝය.
31. එවිට යුදයෙහිද ගලිලයෙහිද
සමාරියෙහිද සියළු තැන්හි සභාවල්
සමාදානය ලැබ දියුණුව, ස්වාමින්
වහන්සේ කෙරෙහි භය ඇතිව
හැසිර, ශුද්ධාත්මයානන්වහන්සේගේ
සැනසිල්ලෙන් යුක්තව වැඩීවූවෝය.

32. තවද පේත්‍රුස් සියළු තැන්වල
හැසිරෙමින්, ලිද්දායෙහි සිටින පිරිසි
33. දුවූවන් ලඟටද ආයේය. එහි අට
අවුරුද්දක් මුළුල්ලෙහි ඇඳේම ඔත්
පලව උන් අංශභාග රෝගීවූ අයි
34. නෙස්නම් මනුෂ්‍යයෙක් දැක, "අ
යිනෙස්නි, ජේසුස් ක්‍රිස්තුස්වහන්සේ
නුඹට සුවකරනසේක; නැගිට, නුඹේ
ඇඳ සරසාපන්නැයි" කීයේය. ඔහුද
35. වහාම නැගුට්ටුනේය. ලිද්දායෙහිද
සාරෝනෙහිද සිටින සියල්ලෝ ඔහු
දැක, ස්වාමීන්වහන්සේ වෙතට හැරු
නෝය.

36. යොප්පාවෙහි මුවදෙනැයි
අර්ථ ඇති දර්කස් නොහොත් තබිතා
නම් ගෝල ස්ත්‍රියක් සිටියාය; ඈ
තමන් විසින් කරනලද යහපත්
ක්‍රියාවලින්ද දානයෙන්ද සම්පූර්ණ
37. වූනාය. ඒ දවස්වල ඈ රෝගීව
මලාය; ඔවුන් ඈ නාවා උඩුමහල්
38. ගෙයි තැබුවෝය. ලිද්දාව යොප්
පාවට ලඟ බැවින් පේත්‍රුස් එහි සිටි
නේයයි ගෝලයෝ අසා, තමන්
ලඟට වහාම එන ලෙස ඉල්ලමින්,
දෙන්නෙක් ඔහු වෙතට යැව්වෝය;
39. එවිට පේත්‍රුස් ඔවුන් සමග
ගියේය. ඔහු ආකල ඔවුන් උඩුමහල්
ගෙට ඔහු කැඳවාගෙන ගියෝය.
සියළු වැන්දඹු ස්ත්‍රීහුද ඔහු ලඟ සිට
හඬ හඬා, දර්කස් තමන් සමග සිටිද්දී
මැසූ හැට්ටත් වස්තුත් පෙන්වූ
40. වෝය. එවිට පේත්‍රුස් සියල්ලන්
ම පිටත්කොට, දණින් හිඳ යාඥා
කොට, මිනිය දෙසට හැරී, "තබිතා,
නැගිටියන්නැයි" කීයේය. එවිට ඈ
ඇස් හැර පේත්‍රුස් දැක හිඳගත්තාය.
41. ඔහු ඈට අත දී නැගුට්ටුවා, පිරි
සිදුවූවන්ද වැන්දඹුවන්ද කැඳවා,
42. ජීවත්වූ ඈ ඔවුන්ට දැක්වීය. ඒ
කාරනාව යොප්පාව මුළුල්ලෙහි
ප්‍රකාශවිය; බොහෝ දෙනද ස්වාමින්
43. වහන්සේ අදහගත්තෝය. ඔහු
සීමොන්නම් සම්කරුවෙකු සමග
යොප්පාවෙහි බොහෝ දවසක් වාස
යකෙළේය.

10. පරිච්ඡෙ. ඉතාලිකයයි කියන
ලද සේනාවේ සියයකට මුලාදෑනිවූ,
2. භක්තිවන්තවූ, තමන්ගේ සියළු
ගෙයි වැසියන් සමග දෙවියන්වහන්
සේට භය ඇත්තාවූ, දිළිඳුන්ට බො
හෝ දන දෙන්නාවූ, නිතරම දෙවිය
න්වහන්සේට යාඥාකරනනාවූ කොර්
නේලියස්නම් මනුෂ්‍යයෙක් කායිසා
3. රියෙහි සිටියේය. ඔහු දවහල්
නවවෙනි පැය පමනේදී, තමන්
ලඟට එන්නාවූ, "කොර්නේලියස්
යයි" තමහට කියන්නාවූ දේවදූත
යෙකු දර්ශනයකින් පැහැදිලි ලෙස
4. දැක, ඔහු දෙස බලා භයපත්ව,
"ස්වාමිනි, කිමෙක්දැයි" කීය. එවිට,
"නුඹේ යාඥාවද දානයද සිහිවීම
පිනිස දෙවියන්වහන්සේ ඉදිරියට
5. පැමිනුනේය. දැන් යොප්පාවට
මනුෂ්‍යයන් යවා, පේත්‍රුස්නම් සී
6. මොන් කැඳවාපන්න. ඔහු මුහුද
අද්දර සම්කරු සීමොන්ගේ ගෙදර
නවාතැන් ගෙන සිටින්නේය. නුඹ
විසින් කටයුතු දේ ඔහු නුඹට කිය
7. නවා ඇතැයි" කීයේය. කොර්
නේලියස් සමග කථාකල දේවදූත
යා ගියකල, ඔහු තමන්ගේ ගෙයි
වැඩකාරයන් දෙන්නෙකුත් තමහට
නිතර වැඩකරන සේවකින්ගෙන්

8. භක්තිවන්තයෙකුත් කැඳවා, ඔ
වුන්ට මේ සියල්ල දන්වා, යොප්පා
වට ඔවුන් යැවීය.

9. ඔවුන් ගොස් දෙවෙනි දවස්හි
ඒ නුවරට ළංවූකල, පේත්‍රුස් සවෙනි
පැය පමණේදී යාඥාකරන්ට ගේ
10. මුදුනට ගියේය. ඔහු බඩගිනිව
කෑම කන්නට කැමතිවිය. ඔවුන්
එය පිළියෙල කරණවිට ඔහු මූර්ඡා
11. වට පැමිණියේය. එවිට අහස
ඇරී, සතර කොන බැඳපු, බිමට බස්
සවනලද මහත් ඇතිරිල්ලක් වැනිවූ
භාජනයක්, තමා ළඟට බසිනවා දුටු
12. යේය. එහි පොළොවෙහි සියළු
ආකාර සිව්පාවෝද, වන මෘගයෝද,
බඩගානා ජාතිහුද, ආකාශ පක්ෂිහුද
13. සිටියෝය. "පේත්‍රුස්, නැගිට,
මරා කාපන්නැයි" යන ශබ්දයක් ඔ
14. හුට ඇසුනේය. පේත්‍රුස්ද, "ස්වා
මිනි, එසේ නොවේවා; පිළිකුල්වූ
අපවිත්‍රවූ දෙයක් කිසි කලෙකත්
15. නොකෑවෙමියි" කීයේය. "දෙවි
යන්වහන්සේ පවිත්‍රකල දේ අපවි
ත්‍රායයි කියන්ට එපාය" කියන සැබ
දයක්, දෙවෙනි වාරයෙහි ඔහුට
16. ඇසුනේය. මෙසේ තුන්වරක්
කරනලද්දේය. ඉන් පසු ඒ භාජනය
අහසට නැවත ඔසවාගනු ලැබුයේය.
17. පේත්‍රුස් තමන් දුටු දර්ශනයෙහි
අර්ථය කිමෙක්දැයි සැකකරනකල,
කොර්නේලියස් ළඟින් එවනලද ම
නුෂ්‍යයෝ, "සීමොන්ගේ ගෙදර කො
හිදැයි" අසාගෙන, දොරකඩ ළඟ සිට,
18. "පේත්‍රුස් නම්ලත් සීමොන්
මෙහි සිටින්නේදැයි" අඬගසා ඇසූ
19. වෝය. පේත්‍රුස් දර්ශනය ගැන
සිත සිතා උන්කල, ආත්මයානන්ව
හන්සේ කියනසේක්, "මනුෂ්‍යයෝ
20. තුන්දෙනෙක් නුඹ සොයති; නැ
ගිට, පහත බැස, මා විසින් ඔවුන්
එවූ බැවින් සැක නොකොට ඔවුන්
21. සමග පලයන්නැයි" කීසේක. එ
විට පේත්‍රුස් කොර්නේලියස් ළඟින්
තමන් වෙතට එවනලද මනුෂ්‍යයන්
ළඟට බැස, "නුඹලා සොයන මිනිහා
මමය; නුඹලා ආවේ කුමක් පිනිස
22. දැයි" කීයේය. ඔවුන් කියන්
නෝ, "සියෙකට මුලාදෑන්වූ, ධර්මිෂ්ඨ
මනුෂ්‍යයෙක්වූ, දෙවියන්වහන්සේට
භය ඇත්තෙක්වූ, සියළු යුදෙව්වන්
අතරේ යහපතැයි ප්‍රකාසවූ කොර්
නේලියස්, තමාගේ ගෙදරට නුඹ
කැඳවා නුඹෙන් වචන අසන්නට,
දෙවියන්වහන්සේ විසින් පිරිසිදුවූ
දේවදූතයෙකු ලවා දන්වනලද්දේ
23. යයි" කීවෝය. එකල පේත්‍රුස්
ඔවුන් ඇතුලට කැඳවා ආගන්තුක
සත්කාරකොට, දෙවෙනිදා ඔවුන්
සමග ගියේය. යොප්පායෙහි සහෝ
දරයන්ගෙන් සමහරෙක්ද ඔහු කැටු
24. ව ගියෝය. පසුවදා ඔවුන් කායි
සාරියට පැමුණුනෝය. කොර්නේලි
යස් තමාගේ නෑයන්ද ප්‍රිය මිත්‍රයන්ද
කැඳවාගෙන, ඔවුන්ගේ ඊම බල
25. බලා සිටියේය. පේත්‍රුස් ඇතුල්
වෙන කල කොර්නේලියස් ඔහු ඉදි
රියට ගොස්, ඔහුගේ පාමුල වැටී
26. නමස්කාර කෙලේය. පේත්‍රුස්
ඔහු නැගුට්ටුවා, "නැගිටියන්න;
27. මමත් මනුෂ්‍යයෙක්ය" කියා, ඔහු
සමග කථාකරමින්, ගේ ඇතුලට
පැමිණ, එකතුවූ බොහෝ දෙන දැක
28. ඔවුන්ට කියනුයේ, "යුදෙව් මනු
ෂ්‍යයෙකුට පරදේසියෙක් හා සමා
ගම් බැඳීමවත් ඔහු ළඟට ඊමවත්
නුසුදුසුයයි නුඹලා දනිති. නුමුත්
කොයි මනුෂ්‍යයෙකුටවත් පිළිකුලෙ
ක නොහොත් අපවිත්‍රයෙකැයි නො
කියන්ට, දෙවියන්වහන්සේ මට දන්
29. වූසේක. එහෙයින් මට අඬගහනු
වෙලේම, මම විරුඬ කථාවක් නැතු
ව ආයෙමි. මොනකාරනාවක් පිනිස
මට අඬගැසුවෝදැයි අසමියි" කීය.
30. එවිට කොර්නේලියස් කියනුයේ,
"සතර දවසකට පලමුවෙන්, මේ
පැය දක්වා නිරාහාරව සිටියාවූ මම

නවවෙනි පැයේදී මාගේ ගෙයි යාඥා
කරමින් සිටියෙමි. එවිට දිලිසෙන්
නාවූ වස්ත්‍ර ඇඳපූ පුරුෂයෙක් මා
31. ඉදිරියෙහි සිට, 'කොර්නේලි
යස්, තුබේ යාඥාව අසනලද්දේය;
තුබේ දානද දෙවියන්වහන්සේ ඉදිරි
32. යෙහි සිහිවීමට පැමුණුනේය; එ
හෙයින් යොප්පාවට මිනිසුන් යවා
පේත්‍රුස්නම් සීමොන් මෙතනට කැඳ
වාපන්න; ඔහු මුහුද ලඟ සම්කරු
සීමොන්ගේ ගෙයි සිටින්නේය; ඔහු
ඇවිත් තුබ සමග කථාකරනවා
33. ඇතැයි' කීයේය. එහෙයින් එව
ලේම තුබ ලඟට යැවීමි; තුබද ඊමෙන්
යහපතක් කෙළේය. දැනට අපි සිය
ල්ලෝ දෙවියන්වහන්සේ විසින්
තුබට ආඥාකරනලද සියල්ල අහ
ගන්නට මෙහි දෙවියන්වහන්සේ
ඉදිරියෙහි සිටිමුයයි" කීයේය.

34. එවිට පේත්‍රුස් කථාකොට,
"දෙවියන්වහන්සේ මිනිසුන්ගේ තා
35. රම නොබලන බවත්, සියළු
ජාතීන් අතරේ උන්වහන්සේට භය
ඇතිව ධර්මිෂ්ඨකම් කරන තැනැත්
තෝ උන්වහන්සේ විසින් පිළිගනු
36. ලබන බවත්, සැබවින් දනිමි. දෙ
වියන්වහන්සේ සියල්ලන්ට ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ ලවා සම
හිකම ප්‍රකාශකරවමින්, ඊශ්‍රායෙල්
37. පුත්‍රයන්ට එවනලද වචනය තු
බලා දනිති. ඒනම් දෙවියන්වහන්
සේ ශුද්ධාත්මයෙන්ද බලයෙන්ද නාස
රැත් යේසුස්වහන්සේ ආලේපකල
බවද, දෙවියන්වහන්සේ උන්වහන්
සේ සමග සිටි බැවින් උන්වහන්සේ
යහපත්කම් කරමින් සාතන් විසින්
පීඩාකරනලද සියල්ලන්ට සුවකර
38. මින් හැසුරුනු බවද, යනාදී යො
හන් විසින් ප්‍රකාශකරනලද බව්තීස්
මයට පසු ගලිලය පටන් යුදය මුළුල්
ලෙහි සිද්ධවූනාවූ ප්‍රවෘත්තිය තුබලා
39. දනිති. උන්වහන්සේ විසින්
යුදෙව්වරුන්ගේ දේශයෙහිද යෙරූ
සලමෙහිද කරනලද සියල්ලට අපි
සාක්ෂිකාරයෝය. ඔවුන් උන්වහන්
සේ ගහේ එල්වා මැරුවෝය.
40. තුන්වෙනිදා දෙවියන්වහන්සේ
උන්වහන්සේ නැගිටුවා, ප්‍රකාශලෙස
41. දක්වූසේක. සියළු සෙනගට
නොව, පළමුවෙන් දෙවියන්වහන්
සේ විසින් නියමකරනලද සාක්ෂිකා
රවූ, උන්වහන්සේ මළවුන්ගෙන් නැඟි
ටුනු පසු උන්වහන්සේ සමග කෑවාවූ
42. බීවාවූ අපටමය. මේ කාරනා
සෙනගට ප්‍රකාශකරන්ටත්, ජීවත්
වෙන්නන්ටද මළවුන්ටද නඩුකාර
යාවෙන පිනිස දෙවියන්වහන්සේ
විසින් නියමකරනලද තැනැත්තෝ
උන්වහන්සේමයයි සාක්ෂිදෙනාකොටත්,
43. අපට අනකලසේක. උන්වහන්
සේ කෙරේ අදහන සියල්ලෝ උන්
වහන්සේගේ නාමයෙන් පාපයෙන්
මිදීම ලබනවා ඇතැයි, සියළු අනා
ගතවක්තෲවරු උන්වහන්සේට සාක්ෂි
දෙතියි" කීයේය.

44. මේ වචන පේත්‍රුස් කථාකරද්
දීම, වචනය ඇසූ සියල්ලන් කෙරෙහි
ශුද්ධාත්මයානන්වහන්සේ බැස්සෙන්
45. කා. පේත්‍රුස් කැටුව ආවාවූ චර්ම
ඡේදවූ ඇදහිලිවන්තයෝ ඔවුන්
අන් භාෂාවලින් කථාකරන බවද,
46. දෙවියන්වහන්සේට ප්‍රශංසාකරන
බවද අසා, "අන්‍යජාතීන් කෙරෙහි
ශුද්ධාත්ම දානය වගුරුවනලදැයි;
කියා පුදුමවූවෝය. එවිට පේත්‍රුස්
47. උත්තර දෙමින්, "අප මෙන්
ශුද්ධාත්මය ලැබූ මොවුන්ට බව්තීස්
මය නොලැබෙන්ට වතුර වළක්
වන්ට කාට පුළුවන්දැයි" කියා,
48. ස්වාමීන්වහන්සේගේ නාමයෙන්
ඔවුන් බව්තීස්ම කරන්නට ආඥාකෙ
ළේය. එවිට ඔවුන් කීප දවසක්
තමන් සමග සිටින්ට ඔහුගෙන් ඉල්
ලුවෝය.

11. පරිච්ඡ. අන්‍යජාතීන්ද දෙවි
යන්වහන්සේගේ වචන පිළිගත් බව,
යුදයෙහි සිටියාවූ ප්‍රේරිතයන්ටත්
2. සහෝදරයන්ටත් ආරංචිවිය. පේ
තෘස් යෙරුසලමට ආකල චර්මච්ඡේද
වූවෝ ඔහු සමග වාදකරමින්,
3. "නුඹ චර්මච්ඡේද නූවූවන් ලඟට
පැමිණ, ඔවුන් සමග කෑයේයයි"
4. කීවෝය. එවිට පේතෘස් ඒ කාර
නාව මුලපටන් ක්‍රමයෙන් ඔවුන්ට
5. කියමින්, "මම යොප්පානම් නුව
රෙහි යාඥාකරමින් සිටියෙමි. එකල
මම මූර්ච්ඡාව, සතරකොණෙන් බැඳ
පු අහසෙන් බස්වනලද මහත් ඇති
රිල්ලක් වැනිවූ භාජනයක් මා ලඟට
බැස එන බව, දර්ශණයකින් දුටිමි.
6. ඒක බලා විමසන්නාවූ මම පො
ළොවෙහි සිවුපාවුන්ද වන මෘගයන්ද
බඩගානා ජාතීන්ද ආකාශ පක්ෂීන්ද
7. දුටිමි. එවිට, 'පේතෘස්, නැගිට
මරා කාපන්නැයි' මට කියන්නාවූ
8. ශබ්දයක් ඇසීමි. මම, 'ස්වාමිනි,
එසේ නොවේවා; පිළිකුල්වූ අපවිත්‍ර
වූ දෙයක් කිසි කලෙකත් මාගේ
කටට ඇතුල්වුනේ නැතැයි' කීමි.
9. නුමුත් ශබ්දය දෙවෙනි වාරයෙහි
අහසෙන් මට උත්තර දෙමින්, 'දෙවි
යන්වහන්සේ පවිත්‍රකල දේ අපවිත්‍ර
යයි කියන්නට එපායයි' කීයේය.
10. තුන් වරක්ම මෙසේ කරනලද්
දේය; නැවත සියල්ල අහසට ඔසවා
11. ගන්නාලද්දේය. එවලේම කාසි
සාරියෙන් මා ලඟට එවනලද මනු
ෂ්‍යයෝ තුන්දෙන මම සිටි ගෙට
12. පැමුනුනෝය. එවිට ආත්මයා
නන්වහන්සේ, 'සැක නොකොට
ඔවුන් සමග පලයන්නැයි' මට
කීසේක. තවද මේ සහෝදරයෝ
සදෙන මා සමග ගියෝය. අපිද ඒ
මනුෂ්‍යයාගේ ගෙට ඇතුල්වූනෙමුව.
13. එකල ඔහු තමාගේ ගෙයි සිට
පෙනුනාවූ දේවදූතයෙක්, 'යොප්පා
වට මනුෂ්‍යයන් යවා, පේතෘස් නම්
14. ලත් සීමොන් කැඳවාපනන; ඔහු
නුඹද නුඹේ සියළු ගෙයි වැසියන්ද
ගැලවීමට පමුනුවන්නාවූ වචන
නුඹට කියනවා ඇතැයි' තමහට කී
15. බව අපට දැන්වූයේය. මම කථා
කරන්ට පටන්ගත්කල, සුද්ධාත්මයා
නන්වහන්සේ, පලමු අප කෙරෙහි
මෙන්,ඔවුන්කෙරෙහිද බැස්සසේක.
16. එකල, 'යොහන් වතුරෙන් බව්
තීස්ම කලේය; නුඹලා සුද්ධාත්ම
යෙන් බව්තීස්ම ලබනවා ඇතැයි'
ස්වාමින්වහන්සේ විසින් කියනලද
17. මචනය මට සිහිවිය. එහෙයින්,
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
අදහන්නාවූ අපට ඩාගේ, දෙවියන්
වහන්සේ ඔවුන්ටත් එම දානය දුන්
බැවින්, දෙවියන්වහන්සේ වලක්
වන්ට මම කවරෙක්දැයි" කීයේය.
18. ඔවුන් ඒ දේ අසා, තවත් වාද
නොකොට දෙවියන්වහන්සේට ස්තු
තිකරමින්, "එසේවිනම් දෙවියන්
වහන්සේ අන්‍යජාතීන්ටත් ජීවනය
ලැබිය යුතු පශ්චාත්තාපය දුන්සේ
කැයි" කීවෝය.

19. ස්තෙපාන් ගැන හටගත් පීඩා
වෙන් ඉසිරී ගියාවූ ගෝලයෝ යුදෙව්
වරුන්ට මිස වෙන කාටවත් වචනය
නොකියා, පෙනිකයද කුප්‍රස්ද අන්
තියෝකියද දක්වා හැසුරුනෝය.
20. ඔවුන්ගෙන් සමහරෙක් කුප්‍රස්
හිද කිරේනියෙහිද මනුෂ්‍යයෝය.
ඔවුන් අන්තියෝකියට පැමිණ ග්‍රීක
යන්ට කථාකරමින්, ස්වාමිවූ යේසුස්
වහන්සේ ගැන දේසනා කලෝය.
21. ස්වාමින්වහන්සේගේ අත ඔවුන්
සමග විය. බොහෝ දෙනද අදහ
මින්, ස්වාමින්වහන්සේ වෙතට හැරු
22. නෝය. ඒ ප්‍රවෘත්තිය යෙරුසල
මෙහි සභාවේ කන්වල වැටුනේය.
ඔවුන්ද අන්තියෝකිය දක්වා යන්
23. නට බාර්ණබස් යව්වෝය. සු
ද්ධාත්මයෙන්ද ඇදහිල්ලෙන්ද සම්
පූර්ණවූ සත්පුරුෂවූ ඔහු ගොස්,

දෙවියන්වහන්සේගේ කරුනාව දැක
සන්තෝසව, ස්වාමින්වහන්සේ කෙ
රෙහි ස්ථිරවූ සිතින් ඇළුම්ව සිටින්
නට සියල්ලන්ට, දැන්මුතුකම් දුන්
24. නේය. බොහෝ අයවල් ස්වාමින්
වහන්සේට එක්වූනෝය.

25. එවිට බාර්ණබස් සාවුල්
සොයන්නට තාර්සස්ට ගොස්, ඔහු
දැක අන්තියෝකියට කැඳවාගෙන
26. ආයේය. ඔවුන් අවුරුද්දක් මුළුල්
ලෙහි සභාවට රැස්ව, බොහෝ අය
වලට ඉගැන්නුවෝය. ගෝලයෝ
ද පලමුකොට අන්තියෝකියෙහිදී
"ක්‍රිස්තියානිකාරයෝයයි" කියනලද්
දෝය.

27. ඒ දවස්වලදී යෙරුසලමෙන්
අනාගතවක්තෘවරු අන්තියෝකියට
28. ආවෝය. ඔවුන්ගෙන් ආගබස්
නම් එකෙක් නැගිට, "සියළු ලෝක
යෙහි මහත්වූ දුර්භික්ෂයක් වන්නේ
යයි" ආත්මයාණන්වහන්සේගේ ආනු
භාවෙන් දැන්වූයේය. ඒ සිද්ධවූනේ,
ක්ලෞදියස් කායිසර්ගේ කාලයේ
29. දීය. එකල ගෝලයෝ එක එකා
තම තමන්ට පුළුවන් හැටියට, යූද
යේ සිටින සහෝදරයන්ට උපක
රන යවන්නට නියමකරගත්තෝය.
30. ඔවුන් එසේකොට, බාර්ණ
බස් සහ සාවුල් අත වැඩිමහල්ලන්
ලඟට ඒ උපකරන හැරියෝය.

12. පරිච්ඡේ. ඒ කාලයෙහි හෙ
රොද් රජ සභාවෙහි සමහරෙකුට
2. පීඩාකරන්ට අත දිගුකොට, යො
හන්ගේ සහෝදරවූ යාකොබ් කඩු
3. වෙන් මැරුවේය. යුදෙව්වන්ට ඒ
සන්තෝසයයකැයි දැක, පේත්‍රුස්ද
ඇල්ලීය. එකල මුහුන් නුමුසු රොටි
4. කන දවස වීය. ඔහු අල්වා හිර
ගෙයි තබා, පාස්කු මංගල්‍යයෙන්
පසු සමූහයාගේ ඉදිරියට පිටත ගෙ
නෙන්නට සිතා, හේවායින් සතර
සතර දෙන බැගින් ඇති වර්ග සත
රකට ඔහු රක්ෂාකරන්ට බාරදුන්
5. නේය. මෙසේ පේත්‍රුස් හිරගෙයි
ප්‍රවේසම්කරනලද්දේය. නුමුත් සභා
ව ඔහු උදෙසා දෙවියන්වහන්සේට
6. නිතර යාඥාකෙලේය. ඔහු පිටත
ගෙනෙන්ට හෙරොද් නියමකල දට
ඉස්සරින්ද රාත්‍රියේ, පේත්‍රුස් දම්වැල්
දෙකකින් බඳිනු ලැබ, හේවායින්
දෙදෙනෙකු මැද නිදාඋන්නේය.
රැකවල්ලෝද දොරකඩ ඉදිරියෙහි සිට,
7. හිරගෙය රක්ෂාකලෝය. එවිට
ස්වාමින්වහන්සේගේ දූතයා ඔහු
වෙතට පැමිනියේය; ආලෝකයක්
සිරගෙයි බැබළුනේය. දේවදූතයා
පේත්‍රුස්ගේ ඇලයට ගසා ඔහු පුබුදු
වමින්, "වහාම නැගිටියන්නැයි"
කීයේය. එවිට ඔහුගේ දම්වැල් අත්
8. වලින් ගැලවී වැටුනේය. "ඉඟ
පටිය වෙලා වහන් බැඳගනින්නැයි"
දූතයා කීයේය. ඔහු එසේම කෙ
ලේය. තවද "ඇඳුම් ඇඳ මා පස්සේ
9. වරෙන්නැයි" ඔහුට කීයේය. ඔහු
පිටත්ව, දූතයා විසින් කරනලද දේ
සැබෑවක් බව නොදැන, තමා හීන
යක් දුටුයේයයි සිතමින්, ඔහු පස්සේ
10. ගියේය. ඔවුන් පලමුවෙනි දෙ
වෙනි මුරපලවල් පසුකොට, නුවරට
යන යකඩ දොර ලඟට ගියෝය; ඒක
ඔවුන්ට ඉබේම ඇරුනේය. ඔවුන්
පිටත්ව වීදියක් පසුකෙලේය; එකෙ
නෙහිම දූතයා ඔහු ලඟින් අහක්ව
11. ගියේය. පේත්‍රුස් සිහි ලැබ,
"ස්වාමින්වහන්සේ තමන් දූතයා
එවා, හෙරොද්ගේ අතින්ද, යුදෙව්ව
රුන්ගේ බලාපොරොත්තුවීමෙන්ද
මා මිදූසේකැයි, දැන් සත්‍යයෙන්
12. දන්මියි" කීයේය. ඔහු කල්පනා
කොට, මාර්ක් නම්ලත් යොහන්ගේ
මව්වූ මරියාගේ ගෙට ගියේය. එහි
බොහෝදෙන රැස්ව යාඥාකරමින්
13. සිටියෝය. වාසල් දොරට පේත්‍රුස්
ගැහුකල, රොදා නම් තරුන ස්ත්‍රියක්
14. අසන්ට ආවාය. ඇ පේත්‍රුස්ගේ

කටහඬ ඇඳින, සන්තෝෂය නිසා
දොර නැර ඇතුලට දිවගොස්, "පේ
ත්‍රුස් දොර ලඟ සිටින්නේයයි" දැන්වූ
15. වාය. ඔවුන් "නුඹට ඔල්මාදයයි"
කීවෝය. නුමුත් ඈ, "පේත්‍රුස් සිටින්
නේමයයි" සත්‍යකොට කීවාය. එවිට
ඔවුන් "ඔහුගේ දූතයායයි" කීවෝ
16. ය. පේත්‍රුස් තට්ටුකරමින් සිටි
යේය. ඔවුන් දොර හැර ඔහු දැක
17. විස්මපත්වූවෝය. ඔහු ඔවුන්ට
කථානොකර සිටින්නට අතින් සඟි
ඥාකොට, ස්වාමින්වහන්සේ ඔහු හිර
ගෙයින් පිටත ගෙනා බව ඔවුන්ට
කියාදී, "යාකොබ්ටද සහෝදරයන්
ටද මේ කාරනා දන්වාපල්ලායයි"
කියා, පිටත්ව වෙන තැනකට
ගියේය.

18. පහන්වූකල පේත්‍රුස් කොත
නට ගියේදැයි කියා, භේවායින් අත
රේ මහත් කෝලාහලයක් විය.
19. හෙරොද් ඔහු සොයා සම්බ
නොවී, රැකවල්න්ගෙන් විචාර
ඔවුන් මරන්නට ආඥාකොට, යුද
යෙන් කායිසාරියට ගොස් එහි වාස
20. යකෙලේය. හෙරොද් තීර් සහ
සිදොන් වැසියන්ට කෝපවූයේය.
ඔවුන්ද තමන්ගේ රට රජහුගේ
රටෙන් රක්ෂාවෙන බැවින්, එක්සිත්
ව ඔහු ලඟට ඇවිත්, රජහුගේ බලා
සතුන්නම් ප්‍රධාන ඇමතියා කැමති
කරවාගෙන, සමගිකම ඉල්ලුවෝය.
21. නියමවූ දවසක, හෙරොද් රජ
වස්ත්‍ර හැඳ සිංහාසනය පිට හිඳ,
ඔවුන්ට ප්‍රකාසයෙන් කථාකෙලේය.
22. එවිට සමූහයෝ, "මේ හඩ දෙවි
කෙනෙකුගේ මිස, මනුෂ්‍යයෙකුගේ
හඩක් නොවේයයි" මහත් ශබ්ද
23. පවත්වමින් කීවෝය. හෙරොද්
ඒ ගෞරවය දෙවියන්වහන්සේට
නුදුන් බැවින්, ස්වාමින්වහන්සේගේ
දූතයා වහාම ඔහුට පහර දුන්නේය.
ඔහු පනුවන් විසින් කනලදුව නැසු
නේය.

24. දෙවියන්වහන්සේගේ වචනය
25. වඩ වඩා දියුනුවූනේය. බාර්ණ
බස්ද සාවුල්ද තමන්ගේ මෙහෙය
සම්පූර්ණකොට, මාක් නම්ලත්
යොහන් කැඳවාගෙන යෙරුසල
මෙන් නැවත ආවෝය.

13. පරිච්ඡේ. අන්තියෝකියේ
සභාවෙහි බාර්ණබස්ද, නිගර්නම්
සිමියොන්ද, කිරේනියෙහි ලූකියස්ද,
රටෙන් සතරෙන් කොටසකට අධිප
තිවූ හෙරොද් සමග ඇතිවූන මානා
යින්ද, සාවුල්ද, යන මේ අනාගත
වක්තෘවරුද උගන්වන්නෝද සිටී
2. යෝය. ඔවුන් ස්වාමින්වහන්සේට
සේවයකරමින් නිරාහාරයෙන් උන්
කල, ශුද්ධාත්මයානන්වහන්සේ "බා
ර්ණබස්ද සාවුල්ද මම ඔවුන් අඩ
ගැහු මෙහෙය පිනිස මට ඔවුන්
3. වෙන්කරපල්ලායයි" කීසේක. ඔ
වුන් නිරාහාරයෙන් ඉද යාඥාකොට,
ඔවුන් පිට අත් තබා හැරියෝය.
4. එසේ ඔවුන් ශුද්ධාත්මයානන්වහන්
සේ විසින් යවනලදුව, සිලූකියට
ගොස්, එතින් නැව් නැගී කුප්‍රස්නම්
5. දිවයිනට ගියෝය. සලමියෙහි
සිටින්නාවූ ඔවුන් යුදෙව්වරුන්ගේ
සිනගෝගවල දෙවියන්වහන්සේගේ
වචනය ප්‍රකාසකලෝය. යොහන්ද
6. ඔවුන්ට උපස්ථායක වූයේය. ඔ
වුන් ඒ දිවයින මැදින් පාෆස් දක්වා
ගොස්, නුවන ඇත්තාවූ සර්ගියස්
පාවුල්නම් ඒ රටේ අධිපතියා සමග
සිටියාවූ, බාර්යිසුනම් මායාකාරවූ,
බොරු අනාගතවක්තෘවූ යුදෙව්වෙ
7. කු දුටුවෝය. සර්ගියස් පාවුල්
බාර්ණබස් සහ සාවුල් කැඳවාගෙ
න, දෙවියන්වහන්සේගේ වචනය
8. අහන්නට කැමතිවිය. එවිට මායා
කාර අර්ථ ඇති එලිමස්නම් තැනැ
ත්තේ අධිපතියා ඇදහිල්ලෙන් හර
වාගන්නට සොයමින්, ඔවුන්ට විරු
9. ඩව සිටියේය. එවිට පාවුල්නම්

සාවුල් ශුද්ධාත්මයෙන් සම්පූර්ණව
10. ඔහු දෙස බලා, “සියළු වංචා
වෙන් හා දුෂ්ටකමින්ද සම්පූර්ණවූ,
සාතන්ගේ පුත්‍රවූ, සියළු ධර්මිෂ්ඨකම
ට සතුරුවූ නුඹ ස්වාමීන්වහන්සේගේ
ඇද නැති මාර්ගවල් නිතර පෙර
11. ළන්නේද? දැන් ස්වාමින්වහන්
සේගේ අත නුඹ පිට තිබෙන්නේය.
නුඹ කලකට ඉර නොදකින ලෙස
අන්ධවේයයි” කීයේය. එවලේම දුමා
රයද අන්ධකාරයද ඔහුට පැමිණුනේ
ය. ඔහු කනවැල අල්වන්නන් සොය
12. මින් ඇවිද්දේය. එකල අධිපති
යා කරනලද දේ දැක, ස්වාමින්වහන්
සේගේ ඉගැන්වීමෙහි විස්මපත්ව
අදහගත්තේය.

13. පාවුල්ද ඔහු සමග සිටියෝද
පාෆොස් හැර ගොස් පම්පිලියෙහි
පර්ගාවට පැමුනුනෝය. එකල යො
හන්ද ඔවුන්ගෙන් වෙන්ව යෙරුස
14. ලමට නැවත ගියේය. ඔවුන්ද
පර්ගාවෙන් පිටත්ව, පිසිදියෙහි
අන්තියෝකියට ඇවිත්, සබත් දව
සේ සිනගෝගයට ඇතුල්ව හිඳගත්
15. තෝය. ව්‍යවස්ථාවද අනාගත
වාක්‍යද කියවීමෙන් පසු, සිනගෝ
ගයෙහි මූලාදෑනි ඔවුන් ලඟට මිනි
සුන් යවා, “සහෝදරවූ මනුෂ්‍යයෙ
නි, සෙනගට අවවාද වචනයක් නුඹ
ලාට ඇත්නම්, කියාපල්ලායයි” කී
16. වෝය. එවිට පාවුල් නැගිට
අතින් සංඥාකොට කියනුයේ, ඊශ්‍රා
යෙල් මනුෂ්‍යයෙනි, දෙවියන්වහන්
සේට භය ඇත්තෙනි, අහපල්ලාය.
17. මේ ඊශ්‍රායෙල් සෙනගගේ දෙවි
යන්වහන්සේ අපේ පියවරුන් තෝ
රාගෙන, මිසර දේශයෙහි විදේශීන්
කොට වසන්නාවූ එම සෙනග උසස්
කොට, දිගුකලාවූ අතින් ඔවුන්
18. එයින් පිටත ගෙනවිත්, සතලිස්
අවුරුද්දක් පමන කල් වනාන්ත
19. රේදී ඔවුන් පෝෂ්‍යයකොට, කා
නාන් දේශයේ වර්ග සතක් නසා,
ඔවුන්ගේ දේශය ඒ සෙනගට දෑ
20. දුම්මෙන් බෙදාදුන්සේක. එයින්
පසු, අවුරුදු හාරසිය පනහක් පමන
කල් සාමුවෙල් අනාගතවක්තෘ දක්
වා, ඔවුන්ට නඩුකාරයන් දුන්සේක.
21. ඉන්පසු ඔවුන් රජෙක් ඉල්ලූ
වෝය; එවිට දෙවියන්වහන්සේ සත
ළිස් අවුරුද්දකට කිස්ගේ පුත්‍රවූ
බෙන්යමින්ගේ ගෝත්‍රයෙහිවූ සාවුල්
22. ඔවුන්ට දුන්සේක. උන්වහන්සේ
ඔහු අහක්කොට, දාවිත් ඔවුන්ට රජ
කමට ඔසවා, ‘මාගේ සිතට එකඟ
මනුෂ්‍යයෙක්වූ, යෙස්සෙගේ පුත්
දාවිත් දුටිමි; ඔහු මාගේ සියළු කැමැ
ත්ත කරනවා ඇතැයි’ ඔහු ගැන
23. සාක්ෂි දෙමින් කීසේක. ඔහුගේ
වංශයෙන්, දෙවියන්වහන්සේ පො
රොන්දුවූ ලෙස, ඊශ්‍රායෙල්ට යේසුස්
නම් ගැලවුන්කාරයෙක් උත්පාදක
24. රවූසේක. උන්වහන්සේගේ ඊමට
පලමුවෙන්, යොහන් ඊශ්‍රායෙල්ගේ
සියළු සෙනගට පශ්චාත්තාපයෙහි
25. බව්තීස්මය ප්‍රකාසකෙලේය. යො
හන්ද තමාගේ මෙහෙය සම්පූර්ණ
කරමින්, ‘නුඹලා මා කවුරුය කියා
සිතද්ද? මම ඒ උන්වහන්සේ නො
වෙමි. මට පසුව එන තැනැත්තෙක්
ඇත, උන්වහන්සේගේ පාදයෙහි
වහන් මුදන්ටවත් මම නොවටිමියි’
26. කීයේය. ආබ්‍රහම්ගේ වංශයෙහි
පුත්‍රවූ සහෝදර මනුෂ්‍යයෙනි, නුඹ
ලා අතරෙහි දෙවියන්වහන්සේට
භය ඇත්තාවූ සියල්ලෙනි, මේ ගැල
වීමෙහි වචනය නුඹලාට එවනලද්
27. දේය. තවද යෙරුසලමෙහි වස
න්නෝද ඔවුන්ගේ ප්‍රධානීද උන්ව
හන්සේවත් සියළු සබත් දවසෙහි
කියවන අනාගතවාක්‍යයන්වත් නො
28. දැන, උන්වහන්සේ මරන පිනිස
කිසි කාරනාවක් නොදැකත් උන්ව
හන්සේ මරන්නට පිලාත්ගෙන් ඉල්
වා, උන්වහන්සේ දඬුවමට පැමිනව්
මෙන් ඒ කාරනා සම්පූර්ණකළ

29. ලෝය. තවද උන්වහන්සේ ගැන
ලියා තිබෙන සියල්ල සම්පූර්ණ
කොට, ගසෙන් උන්වහන්සේ බස්
සවා සොහොන් ගෙයක තැබුවෝය.
30. නුමුත් දෙවියන්වහන්සේ මල
වුන්ගෙන් උන්වහන්සේ නැගිටවූ
31. සේක. උන්වහන්සේ තමන්ව
හන්සේ සමග ගලිලයෙන් යෙරුසල
මට ගියාවුන්ට බොහෝ දවසක් පෙ
නී පෙනී සිටිසේක. ඔවුන් සෙනග
ඉදිරියෙහි උන්වහන්සේගේ සාක්ෂි
32. කාරයෝය. දෙවියන්වහන්සේ
33. පියවරුන්ට දුන් පොරොන්දුව යේ
සුස්වහන්සේ නැගිටවීමෙන් ඔවුන්
ගේ පුත්‍රවූ අපට සම්පූර්ණකලසේ
කැයි, යන සුභාරංචි නුබලාට දන්ව
මුව. එසේම දෙවෙනි ගීතිකාවේ,
‘නුබ මාගේ පුත්‍රයාය; අද නුබ ඉපද
34. විමියි’ ලියා තිබෙන්නේය. මෙ
තැන් පටන් කුනු නොවෙන පිනිස,
දෙවියන්වහන්සේ විසින් උන්වහන්
සේ මලවුන්ගෙන් නැගිටෙව් බව
ගැන, ‘දාවිත්ගේ සත්‍යවූ කරුනා
35. වල් නුබට දෙමියි’ කීසේක. එ
බැවින් ඔහු වෙන ගීතිකාවක්හිද,
‘ඔබවහන්සේගේ පවිත්‍රයහට කුනු
වෙන්ට නොදෙනසේකැයි’ කීයේය.
36. දාවිත්ද දෙවියන්වහන්සේගේ
කැමැත්ත ලෙස තමන් පරම්පරාවේ
සිට මෙහෙකොට සැතපී, තමන්ගේ
පියවරුන් ලඟ තබනලදුව කුනුවූ
37. නේය; නුමුත් දෙවියන්වහන්සේ
විසින් නැගුට්ටුවනලද උන්වහන්සේ
කුනු නුවූසේක.

38. "එහෙයින් සහෝදරවූ මනුෂ්‍ය
යෙනි, මූන්වහන්සේ කරනකොට
ගෙන පව් මිදීම නුබලාට ප්‍රකාසකර
39. නලදැයි දැනගනිල්ලාය. තවද
අදහන්නාවූ සියල්ලෝ උන්වහන්සේ
කරනකොටගෙන සියළු දේවලින්
නිදෝසකරනු ලබති. එහෙත් මෝ
සෙස්ගේ ව්‍යවස්ථාවෙන් සියල්ලෙන්
නිදෝසකරනු ලබන්ට නුබලාට නුපු
40. එවන. එබැවින්, ‘නින්දා කරන්
නෙනි, යමෙක් නුබලාට දන්වූ
නුමුත් නුබලා විසින් නොඅදහන්
නාවූ ක්‍රියාවක් නුබලාගේ දවසවලදී
මම කරන බැවින් බලා විස්මපත්
වෙයල්ලාය, විනාසවෙයල්ලායයි’
41. අනාගත වචනවල ලියා තිබෙන
දේ නුබලා කෙරෙහි නොපැමිනෙන්
ට බලාගනිල්ලායයි" කීයේය.

42. යුදෙව්වරු සිනගෝගයෙන්
පිටත ගියකල, අන්‍යජාතීහු මෙම
වචනයන් ඊලඟ සබත් දවසෙහිත්
තමන්ට ප්‍රකාසකරන පිනිස ඉල්ළු
43. වෝය. සිනගෝගය කොලවරවූ
කල, යුදෙව්වන්ගෙනූ යුදෙවු ආගම
ගත්තාවූ භක්තිවන්තයින්ගෙන්ද
බොහෝ දෙන පාවුල් සහ බාර්ණ
බස් කැටුව ගියෝය. ඔවුනූ ඔවුන්ට
කථාකරමින්, දෙවියන්වහන්සේගේ
කරුනාවෙහි පවතින්නට ඔවුන්ට
44. දැනිමිතිකව් දුන්නෝය. දෙවෙ
නි සබත් දවසේ දෙවියන්වහන්සේ
ගේ වචනය අහන්ට, ස්වල්ප දෙ
නෙක් හැර සියළු නුවරු රැස්ව
45. ආවෝය. එහෙත් යුදෙව්වරු
සමූහයන් දැක ඊර්ෂ්‍යාවෙන් පිරී, පා
වුල් විසින් කියනලද කාරනාවලට
විරුඹව කථාකරමින් නින්දාකලෝය.
46. එකල පාවුල්ද බාර්ණබස්ද
භයක් නැතුව කථාකරමින්, "දෙවි
යන්වහන්සේගේ වචනය පලමුකොට
නුබලාට කියයුතුය; නුමුත් නුබලා
ඒක පහකොට අනන්ත ජීවනයට
තමන් නුසුදුස්සෝයයි විනිශ්චයක
රන හෙයින්, අපි අන්‍යජාතීන් අතට
47. හැරෙමුව. මක්නිසාද, ‘පොල
වේ ඉම දක්වා ගැලවීම වෙන පිනිස,
නුබ අන්‍යජාතීන්ට එලියක්කොට
තැබුයෙමියි’ ස්වාමින්වහන්සේ අපට
48. අඥකලසේකැයි" කීවෝය. අ
න්‍යජාතීහු ඒ අසා සතුටුව, ස්වාමින්
වහන්සේගේ වචනයට ප්‍රසංසාක
ලෝය. අනන්ත ජීවනය ලැබීමට

නියමිකරනලද සියල්ලෝම අදහ
49. ගත්තෝය. දෙවියන්වහන්සේ
ගේ වචනය ඒ රටේ සියළු තැන්වල
50. පතලවූයේය. යුදෙව්වරු භක්ති
වන්තවූ කුල ස්ත්‍රීන්ද නුවර ප්‍රධා
නීන්ද කලඹා, පාවුල් සහ බාර්ණ
බස්ට විරුඬව පීඩා උපදවා, තමන්
ගේ භූමිවලින් ඔවුන් පිටත ඇරියෝය.
51. ඔවුන්ද තමන් පාදවල දූවිලි
ඔවුන්ට විරුඬව ගසාදමා, ඉකොනි
52. යට ගියෝය. ගෝලයෝ සන්
තෝෂයෙන්ද සුඬාත්මයෙන්ද සම්
පූර්ණවූවෝය.

14. පරිච්. ඉකොනියේදී ඔවුන්
දෙදෙන යුදෙව්වරුන්ගේ සිනගෝ
ගයට ඇතුල්ව, යුදෙව්වරුන්ගෙන්ද
ග්‍රීකයන්ගෙන්ද බොහෝ දෙන අද
2. හගන්නා ලෙස කථාකලෝය. නො
අදහන්නාවූ යුදෙව්වරු අන්‍යජාතීන්
කලඹා, ඔවුන්ගේ සිත් සහෝදර
3. යන් කෙරෙහි බින්දවූවෝය. ඒ
හෙයින් ඔවුන් ස්වාමින්වහන්සේගේ
කාරනයෙහි භයක් නැතුව කථාකර
මින්, බොහෝ කලක් සිටියෝය.
උන්වහන්සේ තමන්ගේ කරුනා
වෙහි වචනයට සාක්ෂි දෙමින්, ඔවුන්
ගේ අත්වලින් ලකුනුද පුදුමද කරන්
4. නට බලය දුන්සේක. නුමුත් නුව
ර සමූහයෝ භේදව, සමහරෙක්
යුදෙව්වන්ගේ පක්ෂයටද, සමහරෙක්
ප්‍රේරිතයන්ගේ පක්ෂයටද සිටියෝය.
5. තවද අන්‍යජාතීහුද, යුදෙව්වරුද,
ඔවුන්ගේ ප්‍රධානීද, ඔවුන්ට නින්ද
පීඩාකරන්ටත් ගල්ගසන්ටත් සැදු
6. කල්හි, ඔවුන් ඒ දැන ළුකොනි
යෙහි නුවරවල්වූ ළුස්ත්‍රාවටද, දර්බ
යටද, ඒ වටකොට තිබෙන දේසවල
7. ටද ගොස්, එහිදී සුභාරංචිය ප්‍රකා
සකලෝය.

8. තවද තමාගේ මව්කුස පටන්
කොරවූ හෙයින් පාද දුර්වලවූ, කිසි
කලෙකත් නැවිද්දවූ මනුෂ්‍යයෙක්
9. ළුස්ත්‍රායෙහි උන්නේය. ඔහු පාවුල්
කථාකරන බව ඇසුයේය. පාවුල්
ඔහු දෙස බලා, සුව ලබන්ට ඇද
10. හිල්ල ඔහුට ඇතැයි දැන, "නුඹ
ගේ පාදවලින් කෙලින් සිටපන්නැ
යි" මහත් ශබ්දයෙන් කීය. එවිට
11. ඔහු පැනනැගී ඇවිද්දේය. සමූ
හයෝ පාවුල් විසින් කරනලද කාර
නාව දැක මුරගසමින්, "මනුෂ්‍ය
වේසයෙන් දෙවිවරු අප ලඟට බැස
සෝයයි" ළුකොනිය භාෂාවෙන්
12. කීවෝය. ඔවුන් බාර්ණබස්
හට "සියුස්යයි" කියාද, කථාකිරීමට
ප්‍රධාන බැවින් පාවුල්හට "හෙර්මීස්
13. යයි" කියාද නම් තැබූවෝය. ඔ
වුන්ගේ නුවර ඉදිරියෙහි පිහිටියාවූ
සියුස්ගේ දෙවාලයෙහි පූජකයා
ගොන්ද මල්මාලාද දොරවල් ලඟට
ගෙනවුත්, සමූහයා සමග යාගක
14. රන්ට කැමතිවිය. ප්‍රේරිතවූ
බාර්ණබස්ද පාවුල්ද ඒ අසා, ත
මන්ගේ වස්ත්‍ර ඉරාගෙන, සමූහයා
මැදට දිවගොස්, ශබ්ද පවත්වා,
15. "එඹා මනුෂ්‍යයෙනි, මේ දේ
කරන්නේ මක්නිසාද? අපිත් නුඹලා
සමාන සැප දුක් විඳින මනුෂ්‍යයෝය.
මේ නිෂ්ප්‍රයෝජන දේවල්වලින්
දුරුව, අහසත් පොලොවත් මූදත්
එහි ඇත්තාවූ සියල්ලත් මැවූ ජීව
මානවූ දෙවියන්වහන්සේ දෙසට
හැරෙන පිනිස, මේ සුභාරංචිය නුඹ
16. ලාට දන්වමුව. උන්වහන්සේ
පසුගිය කාලයෙහි සියළු වර්ගයන්ට
තමතමන්ගේ මාර්ගවල හැසිරෙන්ට
17. ඉඩහැරියසේක. නුමුත් උන්ව
හන්සේ යහපත්කම්කොට, අහ
සෙන් වර්ෂාව සහ ඵල දෙන කාලවල්
අපට දී, කෑමෙනුද සන්තෝසයෙනුද
අපගේ සිත් සම්පූර්ණකොට, ත
මන්වහන්සේ ගැන සාක්ෂි දුන්සේ
18. කැයි" කීවෝය. ඔවුන් මෙසේ
කියා, සමූහයා තමන්ට කරන යාගය
අමාරුවෙන් වළැක්වූවෝය.

19. තවද අන්තියෝකියෙන්ද
ඉකොනියෙන්ද යුදෙව්වරු ලුස්ත්‍රාවට
ඇවිත්, සමූහයා කැමතිකරවාගෙන
පාවුල්ට ගල් ගසා, "ඔහු නැසුනේ
යයි" සිතා නුවරින් පිටත ඇද්දෝය.
20. නුමුත් ඔහු වටකර ගෝලයෝ
සිටිකල, ඔහු නැගිට නුවරට ඇතුල්
ව, පසුවද බාර්ණබස් සමග දර්බ
යට ගියේය.

21. ඒ නුවරදී ඔවුන් සුභාරංචිය
දේසනාකොට නොයෙක් දෙනා
ගෝලයන්කර, ලුස්ත්‍රාවටද, ඉකොනි
යටද, අන්තියෝකියටද නැවත ඇ
22. විත්, "දෙවියන්වහන්සේගේ
රාජ්‍යයට බොහෝ දුක් විඳීමෙන් අප
විසින් ඇතුල්වෙන්ට යුතුයයි" කිය
මින්, ගෝලයන්ගේ සිත් සවිකොට,
ඇදහිල්ලෙන් පවතින්ට ඔවුන්ට
23. දූනම්තිකම් දුන්නෝය. ඒ ඒ
සභාවල ඔවුන්ට වැඩිමහල්ලන් නි
යමකොට, නිරාහාරයෙන් ඉඳ යාඥා
කොට, ඔවුන් අදහගත් ස්වාමින්ව
24. හන්සේට ඔවුන් භාරදී, පිසිදිය
මැදින් ගොස්, පම්පිලියට ඇවිත්,
25. පාර්ගායෙහිදී වචනය දේසනා
26. කොට, අත්තාලියට බැස, එසින්
නැව් නැගී, යම් වැඩක් කරන පිනිස
දෙවියන්වහන්සේගේ කරුනාවට
අන්තියෝකියේදී ඔවුන් භාරදෙන
ලද්ද, ඒ වැඩ තීන්දුකොට එම අන්
27. තියෝකියට ආවෝය. ඔවුන්
ඇවිත් සභාව රැස්කරවා, දෙවියන්
වහන්සේ තමන් ලවා කෙරෙව්වාවූ
සියල්ලද, අන්‍යජාතීන්ට උන්වහන්
සේ ඇදහිල්ලෙහි දොර ඇරිය බවද
28. දූන්වූවෝය. එහි ඔවුන් ගෝල
යන් සමග බොහෝ කලක් සිටියෝය.

15. පරිච්ඡේ. තවද යූදයෙන් ආ
වාවූ සමහරු, "මෝසෙස්ගේ ව්‍යව
ස්ථාව ලෙස චර්මඡේදනය කරනු නො
ලැබුවොත්, ගැලවීම ලබන්ට නුපුළු
වනැයි" සහෝදරයන්ට ඉගැන්වූ
2. වෝය. එහෙයින් පාවුල්ද බාර්ණ
බස්ද ඔවුන් සමග බොහෝ වාදත්
තරගත් කලවිට, පාවුල් සහ බා
ර්ණබස්ද ඔවුන්ගෙන් සමහරෙක්
ද මේ ප්‍රශ්නය ගැන ප්‍රේරිතයන් සහ
වැඩිමහල්ලන්ගෙන් අසන පිනිස,
යෙරුසලමට යන්නට නියෝගක
3. ළෝය. සභාව විසින් යවනලද්දාවූ
ඔවුන් පෙනිකියද සමාරියද මැදින්
ගොස්, අන්‍යජාතීන්ගේ හැරීම දක්ව
මින්, සියළු සහෝදරයන්ට මහත්
4. සන්තෝස ඉපදෙව්වෝය. ඔවුන්
යෙරුසලමට ආවිට, සභාව විසින්ද
ප්‍රේරිතයන් විසින්ද වැඩිමහල්ලන්
විසින්ද පිළිගන්නාලදුව, දෙවියන්
වහන්සේ තමන් ලවා කෙරෙව්වාවූ
5. සියල්ලද දූන්වූවෝය. එහෙත්,
පරිසීන්ගේ පක්ෂයට ඇතුලත්වූ ඇද
හිලිවන්තවූ සමහරෙක් නැගිට
"ඔවුන්ට චර්මඡේදනය කරන්ටත්,
මෝසෙස්ගේ ව්‍යවස්ථාව රක්ෂාකරන
ලෙස අඥාකරන්ටත් නිසියයි" කී
6. වෝය. එවිට ප්‍රේරිතයෝද වැඩිම
හල්ලෝද මේ කාරනාව සොයා බල
7. න පිනිස එකතුවූනෝය. මහත්
වාදයක් හටගත්තායින් පසු, පේතෘස්
නැගිට ඔවුන්ට කියනුයේ, "සහෝ
දරවූ මනුෂ්‍යයෙනි, අන්‍යජාතීහු ම
ගේ කටින් සුභාරංචිය අසන්ටද අද
හන්ටද, බොහෝ කලකට පලමු
වෙන් දෙවියන්වහන්සේ අපෙන් මා
තෝරාගත් බව නුබලා දනිති.
8. සිත් දන්නාවූ දෙවියන්වහන්සේ
අපට මෙන් ඔවුන්ටත් සුද්ධාත්මය
එවා ඔවුන් ගැන සාක්ෂි දෙමින්,
9. ඔවුන්ටත් අපටත් කිසි වෙනසක්
නොකොට, ඇදහිල්ලෙන් ඔවුන්
10. ගේ සිත් පවිත්‍රකලසේක. එහෙ
යින් අපගේ පියවරුන්ටවත් අපට
වත් උසුලන්නට බැරිවූ වියගහක්
ගෝලයන්ගේ කරේ තැබ්මෙන්, මක්
නිසා දෙවියන්වහන්සේ පරීක්ෂාක
11. රව්ද? ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්

වහන්සේගේ කරුනාවෙන්, ඔවුන්
මෙන් අපිත් ගැලවෙනවා ඇතැයි
විශ්වාසකරමුයයි” කීයේය.

12. එවිට සියළු සමූහයෝ කථා
නොකර සිට, පාවුල් හා බාර්ණබස්
තමන් ලවා දෙවියන්වහන්සේ අන්‍ය
ජාතීන් අතරෙහි කෙරෙවූ ලකුනුද
පුදුමද එළිදරව්කරන බව ඇසුවෝය.
13. ඔවුන් කථාකොට කම්මුතුවූකල,
යාකොබ් උත්තර දෙමින් කියනුයේ,
සහෝදරවූ මනුෂ්‍යයෙනි, මාගේ වච
14. න අසාපල්ලාය. දෙවියන්වහන්
සේ තමන්ගේ නාමයට අන්‍යජාතීන්
ගෙන් සෙනගක් වෙන්කරගන්නට
ඔවුන් බැළු හැටි සීමියොන් කීයේය.
15. තවද අනාගතවක්තෘන්ගේ වච
න ඊට සමානවෙති. කෙසේද, ‘ඉති
රිවූ මනුෂ්‍යයෝද මාගේ නාමය ලත්
සියළු අන්‍යජාතීහුද ස්වාමින්වහන්සේ
16. සොයන පිනිස, මෙසින් පසු මම
නැවත ඇවිත් දාවිත්ගේ වැටුනාවූ
කූඩාරම නැවත නගා එහි බිඳුනු දේ
17. සාදා ඒක පිහිටුවමියි, මේ සිය
ල්ල කරනනාවූ ස්වාමින්වහන්සේ කිය
18. නසේකැයි’ ලියනලද්දේය. දෙ
වියන්වහන්සේ ලෝකයේ පටන්
ගැන්මෙහි සිට, තමන්වහන්සේගේ
19. සියළු ක්‍රියාවල් දන්නාසේක. එ
හෙයින් අන්‍යජාතීන් අතරෙන් දෙවි
යන්වහන්සේ වෙතට හැරෙනවුන්ට
20. වෙහෙස නොදී, රූපවල අසුබ
කමින්ද, වේශ්‍යාකමින්ද, ලේ නැර
මැරූ සතුන්ගෙන්ද, ලෙයින්ද වල
කින්නට ඔවුන්ට ලියා යවන්නට
21. යුතුයයි, විනිශ්චය කෙරෙමි. මක්
නිසාද, ආදි කාලයේ පටන් නුවරක්
නුවරක් පාසා මෝසෙස්ගේ ව්‍යව
ස්ථාව ප්‍රකාසකරන්නෝ ඇත. ඔවුන්
සබත් දවස්පතා ඒ ව්‍යවස්ථාව සින
ගෝගවල කියතියි” කීයේය.

22. එකල තමන් අතරෙන් තෝ
රාගත්තාවූ, සහෝදරයන් අතරෙහි
ප්‍රධාන මනුෂ්‍යවූ බර්ශබස්නම් යූදස්ද
සීලස්ද, පාවුල් හා බාර්ණබස් සමග
අන්තියෝකියට යවන්නට, ප්‍රේරිත
යන්ටද වැඩිමහල්ලන්ටද සියළු සභා
23. වටද සුදුසුව පෙනුනේය. ඔවුන්
අත මෙසේ ලියමනක් ලියා යවන්
නාහු, “ප්‍රේරිතයෝද වැඩිමහල්
ලෝද සහෝදරයෝද, අන්තියෝකි
යෙහිත් සිරියායෙහිත් කිලිකියෙහිත්
වසන අන්‍යජාතීවූ සහෝදරයන්ට
සුභ සිද්ධවේවයි, ලියා එවන වගනම්;
24. අපගෙන් අන නොලැබූවාවූ
සමහරෙක් අප අතරෙන් පිටත්ව
ගොස්, වචනවලින් නුබලා කලඹ
මින්, නුබලා විසින් චර්මඡේදනව
ව්‍යවස්ථාව රක්ෂා කටයුතුයයි කියා
නුබලාගේ සිත් චඤ්චල කලෝයයි,
25. අප විසින් දැනගත් බැවින්, අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ නාමය නිසා තමන්ගේ ජීවි
තයන් උපද්‍රවට පැමිනවූ, අපගේ
ප්‍රියවූ බාර්ණබස්ද පාවුල්ද සමග,
තෝරාගත් මනුෂ්‍යයන් නුබලා ලග
26. ට එවන්නට, එක්සිත්ව රැස්වූ
27. අපට සුදුසුව පෙනුනේය. එහෙ
සින් යූදස්ද සීලස්ද එවමුව. ඔවුන්
මුඛයෙන්ද එම කාරනා නුබලාට
28. දන්වනවා ඇත. රූපවලට පිදූ
කෑමවලින්ද, ලේවලින්ද, ලේ නැර
මැරූ සතුන්ගෙන්ද, වේශ්‍යාකමින්ද,
නුබලා විසින් වැලකිය යුතුවූ මේ
දෙයට වඩා කිසි බරක් නුබලා පිට
නොතබන්ට, සුද්ධාත්මයටත් අපටත්
29. සුදුසුව පෙනුනේය. මෙසින් නු
බලා වැලකුනොත් නුබලාට යහප
තක් වෙයි. සුවසේ සිටපල්ලායයි”
ලියා යැව්වෝය.

30. යවනලද්දාවූ ඔවුන් අන්ති
යෝකියට පැමින, සමූහයා එකතුක
31. රවා, ලිවුම දුන්නෝය. ඔවුන්
ඒක කියවා, ඒ සැනසිල්ලට සතුටුවූ
32. නෝය. යූදස්ද සීලස්ද තමන්
දේසනාකාරයන් බැවින්, බොහෝ
වචනවලින් සහෝදරයන්ට දනවූහු

33. තව දී, ඔවුන් ස්ථිරකලෝය. ඔ
වුන් ස්වල්ප කාලයක් එහි සිටියා
යින් පසු, සහෝදරයන් කෙරෙන්
ප්‍රේරිතයන් ලඟට සමාදානයෙන්
34. යවනලද්දෝය. නුමුත් සීලස්ට
එහි සිටින්නට සුදුසුව පෙනුනේය.
35. පාවුල් සහ බාර්ණබස් වෙන
බොහෝදෙනා සමග උගන්වමින්,
ස්වාමීන්වහන්සේගේ සුභාරංචිය ප්‍ර
කාසකරමින් අන්තියෝකියේ සිටි
යෝය.

36. කීප දවසකට පසු පාවුල්
කථාකොට, "අපි ස්වාමීන්වහන්සේ
ගේ වචනය දේශනාකලාවූ සියළු
නුවරවල සිටින අපගේ සහෝදර
යෝ කොහොම සිටිද්දැයි දැනගන්
නා පිනිස, නැවත ගොස් ඔවුන්
බලමුයයි" බාර්ණබස්හට කීයේය.
37. එවිට මාර්ක් නම්ලත් යොහන්
නමත් සමග ගෙනයන්ට බාර්ණ
38. බස් කැමතිවූයේය. නුමුත් පා
වුල්, පම්පිලියෙහිදී තමන්ගෙන්
අහක්ව තමන් සමග මෙහෙයට
නොගියාවූ තැනැත්තා තමන් සමග
ගෙනයන්ට නුසුදුසුයයි, සිතුයේය.
39. ඒ ගැන ඔවුනොවුන් අතරෙහි
විරුඩ කථාවක් හටගත් බැවින්,
ඔවුනොවුන් වෙන්ව ගියෝය. බා
ර්ණබස්ද මාර්ක් එක්ව නැව් නැගී
40. කුප්‍රසට ගියේය. පාවුල්ද සීලස්
තෝරාගෙන, සහෝදරයන් විසින්
දෙවියන්වහන්සේගේ කරුනාවට
41. පාවාදෙනලදුව පිටත්ව, සිරියා
යෙහිද කිලිකියායෙහිද මැදින්
ගොස්, සභාවල් ස්ථිරකලේය.

16. පරිච්ඡේ. තවද ඔහු දර්බයටද
ලුස්ත්‍රාවටද ආයේය. තිමෝතියස්
නම් ගෝලයෙක් එහි සිටියේය. ඔහු
ඇදහිලිවන්ත යුදෙව් ස්ත්‍රියෙකුගේද
2. ග්‍රීක් පියෙකුගේද පුත්‍රවූ, ලුස්ත්‍රා
යෙහිද ඉකොනියෙහිද සිටි සහෝද
රයන් විසින් යහපතැයි කියනලද්
3. දුවූ කෙනෙක. පාවුල් තමන්
සමග ඔහු කැඳවාගෙන යන්ට කැම
තිව, ඒ රටවල සිටි යුදෙව්වරුන්
නිසා ඔහුගේ චර්මඡේදනය කලේය.
මක්නිසාද, ඔහුගේ පියා ග්‍රීකයෙ
කැයි සියල්ලෝ දැනගත්තෝය.
4. ඔවුන් නුවරක් නුවරක් පාසා
යද්දී, යෙරුසලමෙහි සිටි ප්‍රේරිතයන්
විසින්ද වැඩිමහල්ලන් විසින්ද නිය
මකරනලද ආඥා පවත්වන්නට,
5. ඔවුන්ට පාවාදුන්නෝය. මෙසේ
සභාවල් ඇදහිල්ලෙන් සවිව, දවස්
6. පතා ගනනින් වැඩිවූනෝය. ඔ
වුන් පිරිගියාව ගලාතියාව මැදින්
ගොස්, ආසියායෙහිදී වචනය කියන්
ට ශුද්ධාත්මයානන්වහන්සේ විසින්
7. වලක්වනු ලැබ, මිසියට ඇවිත්
බිතිනියට යන්ට උත්සාහ කලෝය;
නුමුත් ආත්මයානන්වහන්සේ ඉඩ
8. ඇරියේ නැත. එවිට මිසිය හැර,
9. ත්‍රෝවායට ගියෝය. පාවුල්හට
රාත්‍රියෙහි දර්සනයක් විය. කෙසේද,
"මකිදෝනියට ඇවිත් අපට උපකා
ර කරපන්නැයි," මකිදෝනියෙහි මි
නුස්සයෙක් ඔහුගෙන් ඉල්ලුයේය.
10. ඔහු දර්සනය දුටුකල, ඔවුන්ට
සුභාරංචිය ප්‍රකාසකරනනට ස්වාමීන්
වහන්සේ අප කැඳෙව්වේකැයි, අනු
මානයක් නැතුව දැන, මකිදෝනියට
වහාම යන්නට උත්සාහ කොලෙමුව.
11. එහෙයින් ත්‍රෝවායෙන් නැව්
නැගී, සාමොත්‍රාකියටද, දෙවෙනි
දා නෙයාපොලිසයටද කෙලින්
12. ගොස්, එයින් මකිදෝනියෙහි ඒ
භාගයට ප්‍රධාන නුවරවූ, රෝමයන්
ගේ ආඥාව පවතින්නාවූ පිලිප්පියට
ඇවිත්, ඒ නුවර කීප දවසක් සිටියෙ
මුව.

13. තවද සබත් දවසෙහි නුවරින්
පිටත්ව, ගංගාවක් ලඟවූ යාඥාකරන්
නට ව්‍යවහාරවූ ස්ථානයට ගොස්,
හිඳ, එකතුවූ ස්ත්‍රීන්ට කථාකෙලෙ
14. මුව. එවිට තියාතීරා නුවරවැසිවූ,

දුඹුරුවන් පිළි විකුනන්නාවූ, දේව
භක්ති ඇත්තාවූ ලිදියානම් ස්ත්‍රියක්
අපගේ වචන ඇසුවාය. පාවුල් විසින්
කියනලද කාරනා සිහියට ගන්ට,
ස්වාමින්වහන්සේ ඇගේ සිත පුබුදු
15. කලසේක. ඇද ඇගේ ගෙයි වැ
සියෝද බව්තීස්ම ලැබුවායින් පසු,
ඈ "ස්වාමින්වහන්සේ කෙරෙහි මම
ඇදහිලි ඇත්තියෙකැයි තුබලා සිත
තොත්, මාගේ ගෙට ඇවිත් එහි සිට
පල්ලායයි" ඉල්ලා, උත්සාහයෙන්
අප නවතාගත්තාය.

16. අපි යාඥාකරන්ට යනකල,
ශාස්ත්‍ර කියන ආත්මයක් වැහි, ශා
ස්ත්‍ර කීමෙන් තමන් ස්වාමිවරුන්ට
බොහෝ ලාභ උපදවන්නාවූ එක්
යෞවනියක් අප ඉදිරියට ආවාය.
17. ඈ පාවුල්ද අපද පස්සේ එමින්,
"මේ මනුෂ්‍යයෝ ගැලවීමේ මාර්ගය
අපට පෙන්වන්නාවූ, මහෝත්තම
දෙවියන්වහන්සේගේ වැඩකාරයෝ
18. යයි" මුරගසා කීවාය. ඈ බො
හෝ දවසක්ම එසේ කලාය; පාවුල්ද
දුකට පැමින ආපසු හැරී, "යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ නාමයෙන්
ඈගෙන් දුරුව යන්ට ආඥාකෙරෙ
19. මියි," ආත්මයහට කීයේය. එව
ලේම ඔහු දුරුව ගියේය. ඇගේ
ස්වාමිවරු තමන්ට ලැබෙන ලාභය
නැතිවූ බව දැන, පාවුල් සහ සීලස්
අල්වා, නඩුසාලාවේ ප්‍රධානීන් ලඟට
20. ඇදගෙන ගියෝය. නඩුකාර
යන්ට ඔවුන් පාවාදී, "යුදෙව්වරුවූ
මේ මනුෂ්‍යයෝ අපගේ නුවර අතිස
21. යින් කලඹමින්, රෝමයන්වූ අප
විසින් පිලිගන්නටවත් පවත්වන්න
ටවත් නුසුදුසුවූ චාරිත්‍රවල් උගන්ව
22. තියි" කීවෝය. එවිට සමූහයෝ
ඔවුන්ට විරුඬව නැගුටුනෝය. නඩු
කාරයෝද ඔවුන්ගේ වස්ත්‍ර ඉරාදමා,
23. ඔවුන්ට තලන්ට ආඥාකොට, ඔ
වුන්ට බොහෝ පහරදී, හිරගෙයි
දමා, ඔවුන් ප්‍රවේසමෙන් රක්ෂාකර
නනට හිරගෙයි රැකවලාට ආඥාක
24. ලෝය. ඔහු ඒ අන ලැබ, ඔවුන්
ඇතුල් හිරගෙයි දමා, ඔවුන්ගේ
දෙපය දඬුගැසුවේය.

25. මධ්‍යම රාත්‍රියේ පාවුල්ද සීලස්
ද යාඥාකොට, දෙවියන්වහන්සේට
ස්තුති ගීතිකා කලෝය; ඒක හිරකා
26. රයන්ට ඇසුනේය. එවලේම
මහත් පොලෝ කම්පාවක් විය;
එයින් හිරගෙයි අත්තිවාරම් සෙලවු
නේය; එකෙනෙහිම සියළු දොරවල්
27. හැරී ගියේය; සියල්ලන්ගේ බැ
ඳුම් මිදුනේය. හිරගෙයි රැකවලා
නින්දෙන් පිබිද, හිරගෙයි දොරවල්
ඇරී තිබෙන බව දැක, හිරකාරයෝ
පලාගියෝයයි සිතා, කඩුව ඇදගෙ
න තමාම මරාගන්ට කැමතිවිය.
28. එහෙත් පාවුල්, "තුබට කිසි හිං
සාවක් කරනොගන්න; අපි සියල්
ලෝ මෙහි සිත්මුයයි" මහත් ශබ්ද
29. යෙන් හඬගැසුවේය. එවිට ඔහු
එලියක් ඉල්වාගෙන ඇතුලට පැන,
වෙව්ලමින් පාවුල් සහ සීලස්ගේ
30. ඉදිරියෙහි වැටී, ඔවුන් පිටතට
කැඳවාගෙන, "හාමුදුරුවරුනි, ගල
වනු ලැබීම පිනිස, මා විසින් කුමක්
31. කටයුතුදැයි" කීයේය. ඔවුන්ද
"ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
අදහගනින්න; එවිට තුබද තුබේ
පවුලද ගලවනු ලැබේයයි" කියා,
32. ඔහුටද ඔහුගේ ගෙදර වැසි සිය
ල්ලන්ටද ස්වාමින්වහන්සේගේ වච
33. නය කීවෝය. ඔහු රාත්‍රියේ එම
පැයෙහිම ඔවුන් රැගෙන, ඔවුන්ගේ
පහර කැලල් සෝදා, ඔහුද ඔහුගේ
පවුලේ සියල්ලෝද එවලේම බව්
34. තීස්ම ලැබුවෝය. තමාගේ ගෙට
ඔවුන් කැඳවාගෙන, ඔවුන්ට කෑම
දී, තමාගේ ගෙයි වැසි සියල්ලන්
සමග දෙවියන්වහන්සේ අදහමින්
සන්තෝස වූයේය.

35. පහන්වූ කල නඩුකාරයෝ ඒ
මනුෂ්‍යයන් හරින්ට, සේවකයන් අත

36. කියා යව්වෝය. එවිට හිරගෙයි
රැකවලා ඒ බව පාවුල්ට දන්වා,
"තුබලා හරින්ට නඩුකාරයෝ කියා
එව්වෝය; එබැවින් දැන් සැපසේ
37. පිටත්වෙයල්ලායයි" කීයේය. නු
මුත් පාවුල්, "රෝමයන්වූ අප විචාර
නොකොට, ප්‍රකාශයෙන් තලා හිර
ගෙයි ඈවෝය. දැන් අප අප්‍රකාශ
යෙන් පිටත්කරද්ද? එසේනොව,
ඔවුන් ඇවිත් අප පිටතට ගෙන
38. යෙන්වයි" ඔවුන්ට කීයේය. සේ
වකයෝ ඒ බස් නඩුකාරයන්ට දැන්
වූවෝය. ඔවුන් රෝමයෝයයි අසා
39. භයපත්ව, ඇවිත් ඔවුන් සමග
කථාකොට, ඔවුන් පිටතට කැඳවා,
නුවරින් පිටත්ව යන ලෙස ඔවුන්
40. ගෙන් ඉල්ළුවෝය. ඔවුන්ද හිර
ගෙයින් පිටත්ව, ලිදියාගේ ගෙට
පැමින, සහෝදරයන් දැක ඔවුන්
සනසා පිටත්ව ගියෝය.

17. පරිච්ඡේ. ඔවුන් අම්පිපොලිස්
හා අපොලෝනියේ මැදින් ගොස්,
යුදෙව්වන්ගේ සිනාගෝගය තිබෙන
2. තෙසලොනීකයට ආවෝය. පා
වුල් තමාගේ ව්‍යවහාරයවූ ලෙස
ඔවුන් ලඟට ගොස්, සබත් දවස්
තුනක් ඔවුන් සමග වාදකරමින්,
3. "ක්‍රිස්තුස්වහන්සේ දුක් විඳින්ටද,
මලවුන්ගෙන් නැගිටින්ටද යුතුයය;
තුබලාට මම දන්වන මේ යේසුස්ව
හන්සේ ක්‍රිස්තුස්වහන්සේයයි" ලිය
විලිවලින් එළිදරව්කොට දැක්වූ
4. යේය. ඔවුන්ගෙන් සමහරෙක්ද,
භක්තිවන්තවූ ග්‍රීකයන්ගෙන් බො
හෝදෙනාද, නොයෙක් ප්‍රධාන ස්ත්‍රී
හුද අදහාගෙන, පාවුල් සහ සීලස්
5. සමග සමාගම් වූවෝය. නුමුත්
නොඅදහන්නාවූ යුදෙව්වරු ඊෂ්‍යා
වෙන් දිලියෙමින්, කඩ පිල්වල සිටි
දුෂ්ට මිනිස්සු කැඳවාගෙන, සමූහ
යක් රැස්කරවා නුවර කලඹා, යා
සොන්ගේ ගෙදර වටකොට සිට
සමූහයා වෙතට ඔවුන් ගෙනෙන්ට
6. සෙවූවෝය. ඔවුන් නොදැක,
යාසොන් සහ සමහර සහෝදරයන්
නුවර මූලාදෑනීන් ලඟට ඇදගෙන
ගොස්, "ලෝකය පෙරලන්නාවූ
මොවුන් මෙතැනටත් ආවෝය;
7. යාසොන් මොවුන් පිළිගත්තේය;
මොවුන් සියල්ලෝද යේසුස්නම්
අන් රජෙක් ඇතැයි කියා කායිසර්
ගේ ආඥාවට විරුඬකම් කෙරෙතියි"
8. මුරගසා කියමින්, මේ කාරණ
අසන සමූහයාද නුවර මූලාදෑනීන්ද
9. කැලඹුවෝය. යාසොන්ගෙන්ද
අනිත් අයවළුන්ගෙන්ද ඇප ගෙන
ඔවුන් ඇරියෝය.

10. එකෙනෙහිම සහෝදරයෝ
රාත්‍රියේම පාවුල්ද සීලස්ද බෙරියයට
යැව්වෝය. ඔවුන් එතනට පැමින,
යුදෙව්වරුන්ගේ සිනාගෝගයට ඇ
11. තුල්වූවෝය. බෙරීයයෝ තෙස
ලොනීකයන්ට වඩා උතුම්ව, ඉතා
සැලකීමෙන් වචනය පිළිගෙන, මේ
කාරණ මෙසේදැයි දැනගන්නා පිනි
ස, දවස්පතා ලියවිලි සෙව්වෝය.
12. එහෙයින් ඔවුන්ගෙන් බොහෝ
දෙනාද, නොයෙක් ග්‍රීක් කුල ස්ත්‍රීහුද,
13. පුරුෂයෝද අදහගත්තෝය. නු
මුත් තෙසලොනීකයෙහි යුදෙව්වරු,
"පාවුල් විසින් බෙරීයයෙහිදීත් දෙවි
යන්වහන්සේගේ වචනය දේසනා
කරනලදැයි" දැන, එහිද ගොස් සමූ
14. හයා කැලඹූවෝය. එවිට සහෝ
දරයෝ වහාම පාවුල් මුහුදෙන් යව
නනට මෙන් යැව්වෝය. එහෙත් සී
ලස්ද තිමෝතියස්ද එහි සිටියෝය.
15. පාවුල් කැඳවාගෙන ගත්තෝ
අතීනසය දක්වා ගෙනගොස්, "සීලස්
හටද තිමෝතියස්හටද මා ලඟට
වහාම එන්ට කියාපල්ලායයි" අන
ලැබ ගියෝය.

16. අතීනසයෙහිදී ඔවුන්ගේ ඊම
පාවුල් බලා සිට, නුවරු රූප ඇදහී
මට ඉතා ඇළුනු බව දැක, බොහෝ

17. සෙසින් කැලඹුනෝය. එහෙයින්
සිනගෝගයෙහිදී යුදෙව්වරුන් හා
භක්ති ඇත්තවුන් සමගද, දවස්
පතා කඩපිල්වලදී සම්භවූවුන් සම
18. ගද වාදකෙළේය. එකල එපිකූ
රෙව්වන්ගෙනුද ස්තොයිකියන්ගෙනුද
සමහර පඬිතයෝ ඔහු සමග වාද
කලෝය. සමහරෙක්, "මේ වාචාල
යා මක්කියන්නේදැයි" කීවෝය. ත
ව සමහරෙක්, ඔහු ජේසුස්වහන්සේද
මලවුන්ගෙන් නැගිටීමද ඔවුන්ට
දැන්වූ බැවින්, "පරදේශී දේවතා
වන් එළිදරව්කරන්නෙක් මෙන්
19. පෙනෙන්නේයයි" කීවෝය. ඉන්
පසු ඔහු අරියොපගයට කැඳවාගෙ
න ගොස්, "නුඹ කියන මේ අළුත්වූ
ඉගැන්වීම මොකදැයි දැනගන්නට
20. පුළුවන්ද? පෙර නෑසූ කාරණ
නුඹ අපේ කන්වල එලන්නේය.
එහෙයින් මේ කාරණවල අර්ථ කි
මෙක්දැයි දැනගන්නට කැමතියයි"
21. කීවෝය. මක්නිසාද සියළු අතී
නාසයෝද, එහි සිටියාවූ විදේශීහුද,
අළුත් කාරණාවක් කීමෙන් නො
හොත් ඇසීමෙන් මිස, වෙන හැටිය
කින් කල් අරින්නේ නැත.

22. එවිට පාවුල් අරියොපගය
මැද සිට කියනුයේ, "අතීනාසයෙහි
මනුෂ්‍යයෙනි, නුඹලා සියළු කාරණ
වල ඉතා දේව භය ඇත්තෝයයි
23. දනිමි; මක්නිසාද, මාර්ගයෙහි
යන්නාවූ මම නුඹලාගේ පූජාවල්
බලා, 'නාඳුනනලද දෙවියන්ටයයි'
ලියා තිබෙන පූජාසනයක් දුටිමි.
යම් කෙනෙකුට නුඹලා නැඳින
නමස්කාර කරව්ද, උන්වහන්සේ මම
24. නුඹලාට දන්වමි. ලෝකයද එහි
ඇති සියල්ලද මැවූ දෙවියන්වහන්
සේම ස්වර්ගයටත් පොළොවටත්
ස්වාමිව, අතින් කරනලද මාළිගා
25. වල නොවසනසේක. සියල්ලන්
ට ජීවිතයද හුස්මද සියළු දේවල්ද
දෙන්නාවූ උන්වහන්සේ, මොන
දෙයකින්වත් අඩුකමක් ඇතිවූ
කෙනෙක් මෙන්, මනුෂ්‍යයන්ගෙන්
26. උපස්ථාන නොගන්නාසේක. සි
යළු පොළෝතලයෙහි වසන පිනිස,
මනුෂ්‍යයන්ගේ සියළු ජාතීන් එක
27. ලෙයින් මැවූසේක. උන්වහන්
සේ අප සියල්ලන්ට නුදුරුව සිටිනත්,
අතගා යමින් තමන්වහන්සේ දක්
නා පිනිස සොයාගන්නට, ඔවුන්ගේ
නියම කාලවල්ද වාසස්ථානයෙහි
28. සීමාවල්ද නියෝගකලසේක. 'අ
පි උන්වහන්සේගේ දරුවෝයයි' නුඹ
ලාගේ කාව්‍යකාරයන්ගෙන් සම
හරෙක් කියා තිබුන හැටියට, අපි
උන්වහන්සේ තුලේ ජීවත්වෙමුව,
29. හැසිරෙමුව, සිටිමුව. එහෙයින්
දෙවියන්වහන්සේගේ දරුවූ අප
විසින්, දේවකම මනුෂ්‍ය බුඩියෙන්
හා නුවනින් රනින්වත් රිදීයෙන්
වත් ගල්වලින්වත් කරනලද දෙයට
30. සමානයයි නොසිතිය යුතුය. මේ
අඥානකමෙහි කාලවල් දෙවියන්ව
හන්සේ පසුකර හැර, සියළු මනුෂ්‍ය
යන්ට සැම තැන්හි දැන් පසුතැවිලි
31. වෙන්නට අනදෙනසේක. මක්
නිසාද තමන්වහන්සේ විසින් නියම
කල පුරුෂයා ලවා, ලෝකයා ධර්මි
ෂ්ඨකමෙන් විනිශ්චයකරවන්ට එක්
දවසක් නියමකලසේක. උන්වහන්
සේ, ඒ පුරුෂයා මලවුන්ගෙන් නැගි
ටවීමෙන්, සියළු මනුෂ්‍යයන්ට ඒ
ගැන අනුමාන නැති ඔප්පුවක් දුන්
සේකැයි" කීයේය.

32. මලවුන්ගෙන් නැගිටීම ගැන
ඔවුන් ඇසූකල සමහරු නින්දාක
ලෝය; සමහරු, "මේ ගැන නැවත
33. නුඹෙන් අසමුයයි" කීවෝය; එ
විට පාවුල් ඔවුන් කෙරෙන් පිටත්ව
34. ගියේය. එසේ නමුත් සමහර
මනුෂ්‍යයෝ ඔහු සමග සිට අදහගත්
තෝය. ඔවුන් අතරෙහි අරියොපාගය
යෙහි දියොනිසියස්ද, දමරිස්නම්

සත්‍රියක්ද, ඔවුන් සමග වෙන අය
වල්ද සිටියෝය.

18. පරිච්ඡේ. මෙයින් පසු පාවුල්
අතීනසයෙන් පිටත්ව, කොරින්ති
2. යට ඇවිත්, ක්ලෞදියස්නම් මහ
රජ සියලු යුදෙව්වරුන්ට රෝම
යෙන් අහක්ව යන්නට අන දුන්
බැවින්, ඉතාලියෙන් අළුත ආවාවූ
පොන්තස්හි උපන්නාවූ අකිලනම්
යුදෙව්වෙක්ද, ඔහුගේ ප්‍රිස්කිලනම්
භාර්‍ය්‍යාවද සම්භව, එවුන් ලඟට
3. ගොස්, තමතුත් ඔවුන් සමාන
කූඩාරම් හදන්නාවූ කර්මාන්තකාර
යෙක් බැවින්, ඔවුන් සමග සිට
4. කර්මාන්ත කෙළේය. ඔහු සබත්
දවස්පතා සිනගෝගයෙහිදී වාද
කොට, යුදෙව්වන්ද ග්‍රීකයන්ද ඇද
හිමට පමුනුවන්ට උත්සාහ කෙළේ
5. ය. සීලස්ද තිමෝතියස්ද මකිදෙ
නියෙන් ආකල, පාවුල් බොහෝ
සිනෑකමින්, "යේසුස්වහන්සේ ක්‍රිස්
තුස්මයයි" යුදෙව්වරුන්ට සාක්ෂි
6. දුන්නේය. නුමුත් ඔවුන් විරුඬව
සිට අපහාසකල කල්හි, ඔහු තමා
ගේ රෙදි ගසාදමා, "තුබලාගේ ලේ
තුබලාගේ හිස් පිටම වේවා; මම
නිදෙස් වෙමි; මෙතැන් පටන් අන්‍ය
ජාතීන් ලඟට යෙමියි" ඔවුන්ට කියා,
7. එයින් පිටත්ව ගොස්, දේවභක්
තිවූ යුස්තස්නම් මනුෂ්‍යයෙකුගේ
ගෙට ඇතුල්විය; ඔහුගේ ගේ සින
8. ගෝගයට ලඟය. ක්‍රිස්පස්නම්
සිනගෝගයෙහි මූලාදෑනියා, තමා
ගේ සියලු පවුල සමග, ස්වාමිනවහන්
සේ අදහගත්තේය. කොරින්තියෙ
හිද බොහෝ අයවල් අසා අදහගෙ
9. න බව්තීස්ම ලැබූවෝය. එවිට
ස්වාමින්වහන්සේ රාත්‍රියෙහි දර්ශනය
කින් පාවුල්ට පෙනී, "භයනොවෙ
නාන; කට නොකොට කථාකරපන්
10. න; මම තුබ සමග සිටිනහෙයින්,
කවුරුවත් තුබට හිංසාකරන්ට තුබ
පිට අත් තබන්නේ නැත; මේ නුවර
බොහෝ මනුෂ්‍යයන් මට ඇතැයි"
11. කීසේක. ඔහු එක් අවුරුද්ද සම
සක් එහි වාසයකොට, දෙවියන්ව
හන්සේගේ වචනය ඔවුන්ට ඉගැන්
විය.

12. ගලියෝ අඛායෙහි ප්‍රධාන
කමට පැමිනිකල, යුදෙව්වරු එක්
සිත්ව පාවුල්ට විරුඬව නැගිට ඔහු
13. නඩුසාලාවට ගෙනවුත්, "මොහු
ව්‍යවස්ථාවට විරුඬව දෙවියන්වහන්
සේට නමස්කාර කරන්ට මනුෂ්‍ය
යන්ට උගන්වන්නේයයි" කීවෝය.
14. පාවුල් කථාකරන්ට පටන්ගන්
කල ගලියෝ, "යුදෙව්වරුනි, මේ
කාරනාව අසාධාරනකමක්වත් නපු
රු උපද්‍රවක්වත් වූයේනම්, තුබලා
15. ගේ කාරනා ඇසිය යුතුය; නු
මුත් වචන ගැනද නාම ගැනද තුබ
ලාගේ ව්‍යවස්ථාව ගැනද විභාගයක්
නම්, තුබලාම බලාගනිල්ලාය. මේ
බඳු දේ ගැන නඩුකාරයෙක් වෙන්ට
16. නොකමැත්තෙමි" කියා, ඔවුන්
17. නඩුසාලාවෙන් නෙරපීය. එකල
ග්‍රීකයෝ සියල්ලෝ සිනගෝගයෙහි
මූලාදෑනිවූ සොස්තෙනිස් අල්වා,
නඩුසාලාව ඉදිරියෙහිදී පහර දුන්
නෝය. ගලියෝ මෙයින් කිසි දෙ
යක් සැලකුවේ නැත.

18. පාවුල් කීප දවසක් එහි වාස
යකොට, සහෝදරයන්ගෙන් අවසර
ගෙන, තමන් පොරොන්දුවක් කල
බැවින් කෙන්ක්‍රෙයායෙහිදී හිස මුඩු
කොට, සිරියාවට යන්ට නැව් නැගු
නේය. ප්‍රිස්කිලාද අකිලාද ඔහු සම
19. ග ගියෝය. ඔහු එපීසයට පැමි
න ඔවුන් එහිදී හැර, සිනගෝගයට
ඇතුල්ව යුදෙව්වරුන් සමග වාද
20. කෙළේය. තමන් සමග වැඩිකා
ලක් සිටින්ට ඔවුන් ඉල්ලූ කල්හි
21. ඔහු නොකමැතිව, ඔවුන්ගෙන්
අවසර ගෙන, "එන්නාවූ මංගල්‍යය
යෙරුසලමෙහිදී මා විසින් ඒකාන්ත

ගෙන් පැවැත්වීය යුතුය; නුමුත්
දෙවියන්වහන්සේ කැමතිසේක්නම්,
නුබලා ලඟට නැවත එමි" කියා
22. එපීසයෙන් නැව් නැගී, කායිසා
රියට ගොඩබැස, යෙරුසලමට ගොස්
සභාවට ආචාරකොට, අන්තියෝකි
යට ගියේය.

23. ඔහු එහි ස්වල්ප කාලයක් පසු
කොට එයින් පිටත්ව, ගලාතියා
දේසයෙහිද පිරිගියායෙහිද ක්‍රම
යෙන් හැසිර, සියළු ගෝලයන් ස්ථිර
24. කලේය. අලෙක්ෂන්ද්‍රියෙහි උප
නාවූ, ක්මෙහි දක්ෂවූ, ලියවිලිවල
සමර්ථවූ අපොල්ලොස්නම් යුදෙව්වෙක්
25. එපීසයට ආයේය. ඔහු ස්වාමීන්
වහන්සේගේ මාර්ගය ඉගනගත්
කෙනෙක. ඔහු යොහන්ගේ බව්තීස්
මය පමනක් දැන, ආත්මයෙන් ජ්වලි
තව ස්වාමීන්වහන්සේගේ කාරනා
26. වල් උත්සාහයෙන් උගන්වා, සි
නගෝගයෙහිදී භයක් නැතුව කථා
කරන්නට පටන්ගත්තේය අකිලාද
ප්‍රිස්කිලාද ඔහුගේ බස් අසා, ඔහු
තමන් ලඟට කැඳවාගෙන, දෙවියන්
වහන්සේගේ මාර්ගය ඔහුට වැඩි
විස්තර වසයෙන් දැන්වූවෝය.
27. අඛායට යන්ට ඔහු කැමතිවූ
කල, ඔහු පිළිගන්ට සහෝදරයෝ
ගෝලයන්ට ලිව්වෝය. ඔහු එහි
පැමින, කරුනාව කරනකොටගෙන
අදහගත්තවුන්ට බොහෝ උපකාර
28. කරමින්, "යේසුස්වහන්සේ ක්‍රිස්
තුස්මයයි" ලියවිලිවලින් එළිදරව්
වෙන් දන්වා, යුදෙව්වන් පරාදකෙ
ලේය.

19. පරිච්ඡ. අපොල්ලොස් කොරින්
තියෙහි සිටිකල්හි, පාවුල් ඉහළ රට
වල ඇවිද, එපීසයට ඇවිත් සමහර
2. ගෝලයන් දැක, "නුබලා අදහ
ගෙන සුධාත්ම දානය ලැබූවෝදැයි"
ඔවුන්ගෙන් ඇසුයේය. ඔවුන්, "සු
ධාත්ම දානයක් ඇති නැති බවක්
3. අපි නැසිමුයයි" කීවෝය. ඔහු,
"එසේවීනම්, නුබලා ලැබුවේ කුමන
බව්තීස්මයදැයි" ඔවුන්ගෙන් ඇසු
යේය. ඔවුන්, "යොහන්ගේ බව්තීස්
4 මයයි" කීවෝය. එකල පාවුල්,
"සැබවින් යොහන් පසුතැවිලෙලහි
බව්තීස්මයෙන් බව්තීස්මකොට, සෙ
නගට කථාකරමින්, 'මට පසුව එන්
නාවූ උන්වහන්සේ අදහගනිල්ලා
යයි' කීයේය. ඒ උන්වහන්සේනම්,
යේසුස් ක්‍රිස්තුස්වහන්සේයයි" කී
5. යේය. ඔවුන් ඒ අසා, ස්වාමිවූ යේ
සුස්වහන්සේගේ නාමයෙන් බව්තීස්
6. ම ලැබූවෝය. පාවුල් ඔවුන් පිට
අත් තැබූ කල, සුධාත්මයානන්ව
හන්සේ ඔවුන් කෙරෙහි ආසේක;
ඔවුන් අන් භාෂාවලින් කථාකරමින්
7. දේසනාකලෝය. ඒ මනුෂ්‍යයෝ
සියල්ලෝම දෙලොස්දෙනෙක් පම
8. න ඇත. පාවුල්ද කලින් කලට
සිනගෝගයට ඇතුල්ව, තුන් මසක්
වාදකරමින්, දෙවියන්වහන්සේගේ
රාජ්‍යයෙහි කාරනා ප්‍රකාසකරමින්,
9. භයක් නැතුව කථාකෙලේය. එ
හෙත් සමහරු සිත් තදකරගන නො
අදහා, සමූහයාගේ ඉදිරියෙහි ඒ මා
ර්ගයට නින්දාකල කල්හි, ඔහු
ඔවුන් ලඟින් අහක්ව, ගෝලයන්
ඔවුන්ගෙන් වෙන්කොට, තුරානස්
නම් තැනැත්තකුගේ ශාස්ත්‍ර සාලා
වෙහි දවස් පතා වාදකෙලේය.
10. ඔහුද දෑවුරුද්දක්ම මෙසේ කෙ
ලේය. එයින් ආසියායෙහි වසන
සියළු යුදෙව්වරුද, ග්‍රීක්වරුද, ස්වාමි
වූ යේසුස්වහන්සේගේ වචනය ඇසූ
11. වෝය. දෙවියන්වහන්සේ පාවුල්
ගේ අතින් අපූර්වවූ පුදුමවල් කෙරෙව්
12. සේක. ඔහුගේ ශරීරයෙන් ඇඟ
පිස්නාකඩවත් වස්ත්‍ර කැබලිවත්
රෝගීන් පිට තැබූකල, රෝග ඔවුන්
ගෙන් පහවූනේය. දුෂ්ඨාත්මයෝද
ඔවුන්ගෙන් දුරුව ගියෝය.

13. එකල ඒ ඒ තැන ඇවිදින
යකදුරුවූ යුදෙව්වරුන්ගෙන් සමහ
රෙක්, දුෂ්ටාත්මාවේශවූවන් කෙරෙ
හි ස්වාමිවූ යේසුස්වහන්සේගේ නා
මය කියන්ට පටන්ගෙන, "පාවුල්
ප්‍රකාශකරන්නාවූ යේසුස්වහන්සේ
ගේ නාමයෙන් තුඹලාට අණ දෙමු
14. යයි" කීවෝය. ප්‍රධාන පූජකවූ
ස්කේවානම් යුදෙව්වෙකුගේ පුත්‍ර
යෝ සත්දෙනෙක් මෙසේ කළෝය.
15. දුෂ්ටාත්මයා උත්තර දෙමින්,
"යේසුස්වහන්සේ දනිමි; පාවුල්ද
දනිමි; තුඹුත් තුඹලා කවුරුදැයි"
16. කීය. එවිට දුෂ්ටාත්මාවේශවූ මනු
ෂ්‍යයා ඔවුන්ට පැනනැගී, ඔවුන්
පරදවා ජයගත්තේය. එයින් ඔවුන්
නිරුවතුව තුවාල ලැබ, ඒ ගෙයින්
17. පලාගියෝය. මේ කාරනාව එපී
සයෙහි වසන්නාවූ සියළු යුදෙව්වෝ
ද ග්‍රීකයෝද දැන, සියල්ලෝම භයට
පැමුනුණෝය. ස්වාමිවූ යේසුස්වහන්
සේගේ නාමයද මහත්කමට පැමුනු
18 ණේය. අදහගත්තවුන්ගෙන් බො
හෝ දෙන ඇවිත්, තමන්ගේ ක්‍රියා
19. වල් ප්‍රසිද්ධලෙස දන්වූවෝය. ඇස්
බැන්දුම්කාරයින් අතරෙන් බොහෝ
දෙනෙක්ද තමන් පොත් එක්කොට
ගෙනත්, සියල්ලන්ගේ ඉදිරියෙහි
දැවුවෝය. ඒ පොත්වල මිල ගනන්
බලා, රිදී මිල පනස් දහසකැයි දැන
20. ගත්තෝය. මෙසේ දෙවියන්ව
හන්සේගේ වචනය වැඩී වර්ධනව
බලවත්විය.

21. මෙයින් පසු පාවුල් මකිදෙනි
යෙහිද අඛායෙහිද මැදින් ගොස්,
යෙරුසලමට යන්ට සිතින් නියම
කොට, "එහි මම ගියායින් පසු මා
විසින් රෝමයද දක්ක යුතුයයි"
22. කීයේය. තමන්ට මෙහෙකරන්
නන්ගෙන් තිමෝතියස්ද එරස්තස්
ද යන දෙන්න මකිදෙනියට යවා,
ස්වල්ප කාලයක් ආසියායෙහි සිටි
23. යේය. ඒ කාලයෙහි ඒ මාර්ගය
ගැන මහත් කෝලාහලයක් හට
24. ගත්තේය; ඒ මෙසේය. අතීමිස්
දේවිට රිදී කරඬු සාදන්නාවූ දෙමෙ
ත්‍රියස්නම් රිදීකරුවෙක් කර්මාන්ත
කාරයන්ට බොහෝ ලාභ ඉපදෙව්
25. වේය. ඔහු ඔවුන්ද එබඳුවූ ක
ර්මාන්තකාරයන්ද එකතුකරවා කිය
නුයේ, "මනුෂ්‍යයෙනි, මේ සිල්ප
යෙන් අපගේ රක්ෂාව වන්නේයයි
26. තුඹලා දනිති. මේ පාවුල් එපීස
යෙහි පමනක්නොව, විකක් හැර
ආසියාව මුළුල්ලෙහි, 'අත්වලින්
කලාවූ දේවල් දෙවිවරු නොවෙ
තියි' කියමින්, බොහෝ මනුෂ්‍යයන්
කැමතිකරවාගෙන හරවාගත්තේ
යයි තුඹලා දුටුවත් ඇත, ඇසුවත්
27. ඇත. එහෙයින් අපගේ මේ සිල්
පය පිරිහීමට පැමිනෙනවා පමනක්
නොව, මහත් දේවතාවීවූ අතීමිස්
ගේ මාලිගාව අවමාන්නයට පැමිනී
මටද, ආසියාව මුළුල්ලත් ලෝකයත්
නමස්කාර කරන්නාවූ ඇගේ මහිම
තාවය විනාසවීමටද උපදෘවක්යයි"
28. කීයේය. ඔවුන් ඒ අසා ක්‍රෝධ
යෙන් පිරී, "එපීසයන්ගේ අතීමිස්
මහත් තැනැත්තීයයි" කියා මොරගැ
සුවෝය. එවිට නුවර මුළුල්ල කෝලා
29. හලයෙන් පිරුනේය. ඔවුන්ද
පාවුල් සමග ගමන් යන්නාවූ මකි
දෙනියෙහිවූ ගායස්ද අරිස්තාකීස්ද
ඇදගෙන, එක්සිත්ව සභාව රැස්
වෙන ස්ථානයට තදින් දිව්වෝය.
30. සමූහයා ලඟට පැමිනෙන්නට
පාවුල් සිතුකල, ගෝලයෝ ඔහුගේ
31. ගමන වැලැක්කුවෝය. ඔහුට
මිත්‍රවූ ආසියායෙහි ප්‍රධානවරුන්
ගෙන් සමහරෙක්, සභාව රැස්වෙන
ස්ථානයට නොපැමිනෙන්ට ඔහුට
32. කියා යැව්වෝය. සභාව අවුල්වූ
බැවින්, සමහරෙක් එකක්ද සමහ
රෙක් අනිකක්ද කියා මොරගැසුවෝය.
ඔවුන්ගෙන් බොහෝ දෙනෙක් එක
තුවූයේ කුමකටදැයි දැනගත්තේ

33. නැත. යුදෙව්වරු සමූහයා අත
රෙන් අලෙක්ෂන්ද්‍ර කැඳවාගෙන,
ඉදිරියට තැබුවෝය. අලෙක්ෂන්ද්‍රද
සමූහයාට කථාකරන්ට කැමතිව
34. අතින් සංඥාකෙලේය. නුමුත්
ඔහු යුදෙව්වෙකැයි ඔවුන් දැන,
"එපීසයන්ගේ අර්තිමිස් මහත් තැ
නැත්තීයයි" දෙපැයක් පමන සිය
ල්ලෝම එක හඬින් හඬගැසුවෝය.
35. නුවර ලේකම කෝලාහලය සං
සිඳුවා කියනුයේ, "එපීසිය මනුෂ්‍ය
යෙනි, එපීසයන්ගේ නුවර මහත්
දේවතාවීවූ අර්තිමිස්ටද, සියුස් ලඟින්
වැටුනාවූ රූපයටද පූජාකරන නුවර
36. බව නොදන්නේ කවුද? මේ
දේවලට විරුඬව කථාකරන්ට කාට
වත් බැරි හෙයින්, අනුනු කල්පනාව
කින් කිසි දෙයක් නොකොට, නිශ්
37. චලව සිටින්නට යුතුය. නුබලා
මෙහි ගෙනාවාවූ මේ මනුෂ්‍යයෝ
දේව සන්තක දේ සොරකම් කලේ
වත්, නුබලාගේ දේවතාවීට නින්ද
38. කලේවත් නැත. එහෙයින් යමෙ
කුට විරුඬව දෙමේත්‍රියස්ගේද, ඔහු
සමග සිටින්නාවූ කර්මාන්තකාරයන්
ගේද පැමිනිලක් ඇත්නම්, නඩු
39. දවස්ද නඩුකාරයෝද ඇත. ඔ
වුන් තම තමන්ට විරුඬව නඩු කියා
පුවාවේ; නුමුත් නුබලා වෙන කාර
නාවක් ගැන විචාරකරනවානම්, ඒ
කාරනාව සුදුසුවූ සභාවේදී තීන්දු
40. කරනු ලැබේ. මක්නිසාද මේ
කෝලාහලය ගැන කිසි කාරනාවක්
කියන්නට අපට නුපුළුවන් බැවින්,
ඒ ගැන උත්තර දෙනනට සිඬවේය"
41. කියා, සභාව යනනට හැරියේය.

20. පරිච්ඡේ. කෝලාහලය සංසි
ඳුනු පසු, පාවුල් ගෝලයන් කැඳවා
ආචාරකොට, මකිදෙනියට යන්ට
2. පිටත්ව ගියේය. ඔහු ඒ දේසවල
ඇවිද, ඔවුන්ට බොහෝ සෙයින්
දුනමුතුකම්දී, ග්‍රීක් දේසයට ඇවිත්
3. එහි තුන්මාසයක් වාසයකොට,
නැවෙන් සිරියාවට යන්ට සිටියේය.
එහෙත් ඔහු මරන්නට යුදෙව්වරු
උපායක් යෙදූ කල, මකිදෙනිය
මැදින් නැවත යන්ට කල්පනාක
4. ලේය. බෙරියායෙහි සොපාතර්ද,
තෙසලොනිකයන්ගෙන් අරිස්තා
කීස්ද සෙකුන්දස්ද, දර්බෙයෙහි ගා
යස්ද, තිමෝතියස්ද, ආසියායෙහි
තිකීකස්ද ත්‍රොපිමස්ද, ඔහු සමග
5. ආසියාවට ගියෝය. මොවුන් ඉස්
සරව ත්‍රොවායට ගොස්, අපගේ ඊම
6. බලා සිටියෝය. අපි මුහුන් නො
දැමූ රොටි කන දවස්වලට පසු, පිලිප්
පියෙන් නැව් නැගී, පස් දවසකින්
ත්‍රොවායෙහි සිටියාවූ ඔවුන් ලඟට
ඇවිත්, එහි සත් දවසක් සිටියෙමුව.
7. සතියෙහි පලමුවෙනිද, රොටි
කඩන්ට ගෝලයෝ එකතුවූකල,
පසුවද, යන්ට සිටියාවූ පාවුල් ඔවුන්
ට දේසනාකරමින්, මධ්‍යම රාත්‍රිය
දක්වා කඩනැතුව කථාකෙලේය.
8. ඔවුන් රැස්ව සිටි උඩුමහල් ගෙයි
9. නොයෙක් පහන් තිබුනේය. ඉයු
තිබස්නම් තරුනයෙක් කවුළු දෙර
ලඟ හිඳ, පාවුල් බොහෝ වේලා
කථාකල බැවින්, නිදිබරව තුන්වෙ
නි මහලින් පහතට වැටුනේය. ඔහු
කෙලින්කරන කල මැරිලා සිටියේය.
10. එවිට පාවුල් බැස, ඔහු පිට වැටී
ඔහු වැලඳගෙන, "මොහුගේ ප්‍රාන
ය මොහු තුල තිබෙන්නේය; කන
ගාටු නොවෙලලායයි" කීයේය.
11. ඔහු නැවත නැගිට, රොටි කඩ
කා, පහන්වෙනතුරුම බොහෝ කා
රනාවල් කථාකොට, පිටත්ව ගියේය.
12. ඔවුන් ජීවත්වූ තරුනයා අරගෙ
න, අප්‍රාමාන සැනසිල්ල ලැබුවෝය.
13. පාවුල් ආසස් දක්වා පයින්
ගොස්, ඒ නුවරදී නැව් නගින්ට
කැමතිව, පලමුවෙන් නැව් නැගී
එහි යන්නට අපට කී බැවින්, අපි
14. එහි ගියෙමුව. ආයස්හිදී අප

ළඟට ආවාවූ ඔහු නැවට නන්වා
15. ගෙන, මිතුලේනට ආවෙමුව. අපි
එයින් නැව් නැගී, පසුවදා ඛීයස්
දිවයින ඉදිරියටද, පසුවදා සාමස්
දිවයිනටද ඇවිත්, ත්‍රොගිලියම්හි
සිට පසුවදා මිලේතස්නම් පටුනට
16. ආවෙමුව. එසේ කලේ, පුළුවන්
නම් පෙන්තකොස්ත දවසේ යෙරුසල
මෙහි සිටින්ට ඉක්මන්කරන්නාවූ
පාවුල්, ආසියායෙහි කල් නොගෙව
න පිනිස, නැවින් එපීසයට නොයන්
නට නියමකරගත් නිසාය.

17. තවද මිලේතයෙන් එපීසයට
යවා, සභාවෙහි වැඩිමහල්ලන් කැඳ
18. වීය. ඔවුන් ඔහු ලඟට ආකල
ඔහු ඔවුන්ට කියනුයේ, “ආසියාවට
19. මම ආ පලමුවෙනිදා පටන්, සිය
ළු සිත් යටත්කමෙන්ද, බොහෝ
කඳුළුවලින්ද, යුදෙව්වන්ගේ උපා
වල් නිසා පැමිනි පරීක්ෂාවලින්ද යුක්
තව, ස්වාමින්වහන්සේට වැඩකර
20. මින්, ප්‍රයෝජන වෙන්නාවූ කිසි
දෙයක් තුබලාට නොසඟවා, ප්‍රකාස
තැන්වලද ගෙයින් ගෙටද තුබලාට
21. දන්වා උගන්වමින්, යුදෙව්වරුන්
ටද ග්‍රීකයන්ටද දෙවියන්වහන්සේ
කෙරෙහි පසුතැවිල්ලද අපගේ ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි ඇදහිල්ලද ගැන සාක්ෂි දෙ
මින්, තුබලා සමග සියළු කල්ම සිටිය
22. හැටි තුබලා දනිති. දැන් ආත්ම
යෙන් බඳනාලද මම යෙරුසලමට
23. යෙමි. බැඳුම්ද දුක්ද මට ඇතැයි,
ශුද්ධාත්මයානන්වහන්සේ සියළු නුව
රෙහි සාක්ෂි දෙනසේක. ඒ හැර
එහිදී මට කුමක් වේදැයි නොදනිමි.
24. තුමුත් මාගේ දිවිමද, දෙවියන්
වහන්සේගේ කරුනාවෙහි සුභාරචි
යට සාක්ෂි දෙන්ට ස්වාමිවූ යේසුස්ව
හන්සේ කෙරෙන් මට ලැබුනු මෙ
හෙයද, සන්තෝසයෙන් තීන්දුක
රන්ට පුළුවන්නම්, මෙයින් කිසි
දෙයක් නොසලකමි; මාගේ ප්‍රාන
යද මට අගේය කියා නොසිතමි.
25. දැනුදු දෙවියන්වහන්සේගේ රා
ජ්‍යය ප්‍රකාසකරමින්, තුබලා අත
රෙහි ඇවිදින්නාවූ මාගේ මුහුන
මෙතැන් පටන් තුබලා සියල්ලෝ
26. නොදකිතියි දනිමි. එහෙයින්
මම දෙවියන්වහන්සේගේ සියළු නි
යෝගය නොසඟවා තුබලාට දන්වූ
27. බැවින්, සියල්ලන්ගේ ලෙයින්
නිදොස්වෙමියි, අදම තුබලාට සාක්ෂි
28. දෙමි. එහෙයින් දෙවියන්වහන්
සේ විසින් තමන් රුධිර මිලයෙන්
ගත් තමන්වහන්සේගේ සභාව පෝ
ෂනයකරන්ට, යම් රැලෙක්හි සුද්ධාත්
මයානන්වහන්සේ තුබලා නායක
යන්කොට නියමකලසේක්ද, ඒ සිය
ලුලන් ගැනත් තමන් ගැනත් ප්‍රවේ
29. සම්වෙයල්ලාය. මක්නිසාද, මම
ගිය පසු, සමූහය කෙරෙහි අනු
කම්පා නොකරන්නාවූ පීඩාකරන්
නාවූ වෘකයෝ තුබලා අතරෙහි
30. ඇතුල්වෙන බව දනිමි. තුබලා
අතරෙන්ම මනුෂ්‍යයෝ නැගිට, ත
මන් පස්සේ යන්නට ගෝලයන්
හරවන පිනිස, විරුඩ දේ කථාකර
31. නවා ඇත. එබැවින් රෑ දවල්
දෙකේ කඳුළුවලින් මම තුන්අවුරුද්
දක් මුළුල්ලෙහි සියල්ලන්ට නිතර
දැනිමිතිකම් දුන් බව සිහිකොට,
32. පිබිද සිටපල්ලාය. දැන් සහෝ
දරයෙනි, දෙවියන්වහන්සේටත්, තු
බලා ස්ථිරකරන්ටද පිරිසිදුකරනලද
සියල්ලන් අතරෙහි තුබලාට උරුම
යක් දෙන්ටද සමර්ථවූ උන්වහන්
සේගේ කරුනාවෙහි වචනයටත්,
33. තුබලා පාවාදෙමි. කිසිවෙකුගේ
රිදියටවත් රනටවත් වස්ත්‍රයටවත්
34. ලෝභ නොවීමි. මටත් මා සමග
සිටියන්ටත් උවමනාවූ දේවලට මේ
අත්වලින් වැඩකෙලෙමියි, තුබලාම
35. දනිති. මෙසේ උත්සාහකරමින්
දුබලයන් රක්ෂාකටයුතු බවද, ‘ගැනි
මට වඩා දීම යහපතැයි’ ස්වාමිවූ

ජේසුස්වහන්සේ කී වචනය සිහිකට
යුතු බවද, යන සියල්ල නුබලාට
36. දක්වීමියි" කීයේය. ඔහු මෙසේ
කීයා, දනින් හිඳ ඔවුන් සියල්ලන්
37. සමග යාඥාකළේය. ඔවුන් සියල්
ලෝද "මෙතැන් පටන් මාගේ මුහු
ණ නොදකිතියි" කී වචනය ගැන
බොහෝ සෙයින් ශෝකවෙමින්
38. හඬා, පාවුල්ගේ බෙල්ල වැලඳ
ගෙන සිඹගත්තෝය. ඉත්පසු ඔවුන්
ඔහු සමග නැව ලඟට පසු ගමන්
ගියෝය.

21. පරිච්ඡෙ. අපි ඔවුන්ගෙන්
වෙන්ව, නැව දියත්කර කෙළින්ම
දුව ගොස්, කෝස් දිවයිනටද, පසු
වදා රෝද දිවයිනටද, එයින් පතාර
2. යටද ආවෙමුව; එහිදී ෆෙනීකයට
යන්නාවූ නැවක් දැක, එහි නැඟී
3. ගියෙමුව. අපි කුපරය දැක ඒක
වමට හැර, සිරියාවට දුව ගොස්,
තීර් නුවරදී බඩු ගොඩබාන්නට
නියම බැවින් එහි ගොඩබැස, ගෝ
ලයන් සම්භව, එහි සත් දවසක්
4. සිටියෙමුව. ඔවුන්ද, "යෙරුසල
මට යන්ට එපායයි" ආත්මයෙන්
5. පාවුල්ට කීවෝය. අපි ඒ දවස්
පසුකොට, පිටත්ව ගියෙමුව. ඔවුන්
සියල්ලෝ අඹුදරුවන් සමග පිට
නුවර දක්වා පසු ගමන් ආවෝය.
එවිට අපි වෙරළෙහි දනින් හිඳ යා
6. ඥාකොළෙමුව. අපි ඔවුනොවුන්ට
ආචාරකොට, නැවට නැඟුනෙමුව.
ඔවුන් තම තමන්ගේ ගෙවලට නැ
7. වත ගියෝය. අපි තීර් නුවරින්
පිටත්ව, තොලෙමයිස්ට ඊමෙන් නැ
වෙන් යන ගමන තීන්දුකෙලෙමුව.
සහෝදරයන්ට ආචාරකොට, ඔවුන්
ලඟ එක දවසක් සිටියෙමුව.

8. පසුවදා පාවුල් සහ ඔහුගේ
සමාගම්කාරවූ අපි පිටත්ව, කායිසා
රියට ඇවිත්, සත්දෙනාගෙන් එ
කෙක්වූ සුභාරංචිය ප්‍රකාශකරනනාවූ
පිලිප්ගේ ගෙට ඇතුල්ව, ඔහු ලඟ
9. වාසය කෙලෙමුව. අනාගත වා
ක්‍යය කියන්නාවූ කන්‍යාභගනාවූ දූව
රු සතරදෙනෙක් ඔහුට සිටියෝය.
10. බොහෝ දවස් අපි එහි සිටි
කල්හි, ආගබස්නම් එක් අනාගත
වක්තෘ කෙනෙක් යුදයෙන් බැස,
11. අප වෙතට ඇවිත්, පාවුල්ගේ
කටි බැඳුම් අරගෙන තමාගේම අත
පය බැඳගෙන, "මේ කටි බැඳුම් ඇති
මනුෂ්‍යයා යෙරුසලමෙහිදී යුදෙව්
වරු මෙසේ බැඳ, අන්‍යජාතීන්ගේ
අත්වලට පාවාදෙනවා ඇතැයි
ශුද්ධාත්මයානන්වහන්සේ කියනසේ
12. කැයි" කීයේය. ඒ කාරනා අපි
ඇසූකල, අපිද එතැන්හි සිටියෝද
යෙරුසලමට නොයන ලෙස ඔහුට
13. කීයෙමුව. එවිට පාවුල් උත්තර
දෙමින්, "නුබලා හඬා මාගේ හ්‍රදය
පලන්නේ මක්නිසාද? මම යෙරුස
ලමෙහිදී ස්වාමිවූ ජේසුස්වහන්සේ
ගේ නාමය නිසා බඳිනු ලබන්ට පම
නක් නොව, නසින්ටත් සැදී සිටින්
14. නෙමියි" කීයේය. ඔහු අප කීවා
අසන්ට නොකමැතිවූ කල්හි, අපි
"ස්වාමින්වහන්සේගේ කැමැත්ත
වේවයි" කියමින්, නැවතී සිටියෙමුව.
15. ඒ දවස්වලට පසු, අපි මාගෝප
කරන ගෙන යෙරුසලමට ගියෙමුව.
16. කායිසාරියෙහි සිටින ගෝලයන්
ගෙන් සමහරෙක්ද අප සමග ගොස්,
කුපරවාසිවූ මිනාසොන්නම් වයසේ
ගෝලයෙකු, ඔහුගේ ගෙයි අපගේ
විසීම පිනිස, තමන් සමග ගෙනා
17. වෝය. අපි යෙරුසලමට ආකල,
සහෝදරයෝ සන්තෝසයෙන් අප
පිලිගත්තෝය.

18. පසුවදා පාවුල් අප සමග යා
කොබ් ලඟට පැමුනුනේය; සියළු
වැඩිමහල්ලෝද එහි සිටියෝය.
19. ඔහු ඔවුන්ට ආචාරකොට, තමා
ලවා දෙවියන්වහන්සේ අන්‍යජාතීන්
අතරෙහි කෙරෙව්වාවූ කාරනාවල්

20. මෙන් වසයෙන් කීයේය. ඔවුන්
ඒ අසා ස්වාමිනවහන්සේට ස්තුතිකර
මින්, ඔහුට කථාකොට, "සහෝදර
ය, අදහන්නාවූ යුදෙව්වරුන් කී දහ
සක්දැයි නුඹ දක්නේය. ඒ සියල්ලෝ
ව්‍යවස්ථාව ගැන ජ්වලිතව සිටිති.
21. නුඹ පුත්‍රයන් චර්මඡේදනය කරන්
මෙද සිරිත් පවත්වන්ටද නුසුදුසුයයි
කියා, මෝසෙස් අත්අරින්ට අන්‍ය
ජාතීන් අතරෙහි සිටින්නාවූ යුදෙව්
වරුන්ට උගන්වන්නේයයි, ඔවුන්ට
22. ආරංචිවූනේය. එහෙයින් කුමක්
කටයුතුද? නුඹ ආ බව ආරංචිවූකල,
සමූහය ඒකාන්තයෙන් එකතුව එන
23. වා ඇත. ඒ ගැන අපි මේ කියන
හැටි කරපන්න. අප අතරේ දෙවි
යන්වහන්සේට ගිවිසුමක් ඉෂ්ටකරන්
ට බැඳුනාවූ මනුෂ්‍යයෝ සතරදෙ
24. නෙක් ඇත. ඔවුන් කැඳවාගෙන
ඔවුන් සමග නුඹද පවිත්‍රව, ඔවුන්
ගේ හිස් මුඩුකරන්නට නිසි වියදම
ඔවුන්ට දීපන්න. එවිට සියල්ලෝ
නුඹ ගැන තමන්ට ආරංචිවූ කාරනා
වලින් එකක්වත් සැබෑ නැති බවත්,
නුඹම ව්‍යවස්ථාව රක්ෂාකරමින් හැසි
රෙන බවත් දැනගන්නවා ඇත.
25. තවද රූපවලට පුදනලද දෙ
සින්ද, ලෙයිනුද, ලේ නැර මැරුවන්
ගෙන්ද, වෛශ්‍යකමින්ද වැලකිය
යුතු බව මිස, මෙබඳු දේවලින් කිසි
දෙයක් පවත්වන්නට එපායයි කියා,
අදහන්නාවූ අන්‍යජාතීන්ට නියම
26. කොට ලිව්වමුයයි" කීවෝය. එවිට
පාවුල් ඒ මනුෂ්‍යයන් කැඳවාගෙන,
පසුවදා ඔවුන් සමග පවිත්‍රව, දේව
මාලිගාවට ඇතුල්ව ඔවුන් එක එකා
නිසා පූජාවක් පිදීම ගැනද, පවිත්‍රවී
මෙහි දවස්වල සම්පූර්ණවීම ගැනද
27. දැන්වීය. ඒ සත්දවස පසුවෙන්ට
ලංවූ කල, ආසියාවෙහි යුදෙව්වරු
දේවමාලිගාවේදී ඔහු දැක, සියළු
සමූහයා කැරලිගස්වා, ඔහු අල්වා,
28. "ඊශ්‍රායෙල් මනුෂ්‍යයෙනි, උප
කාර වෙයල්ලාය; සෙනගටද ව්‍යව
ස්ථාවටද මේ ස්ථානයටද විරුඬව,
සියළු තැන්වල සියල්ලන්ට උගන්
වන්නාවූ තැනැත්තේ මොහුමය. එ
පමනකුත් නොව, ග්‍රීකයන්ද දේව
මාලිගාවට කැඳවාගෙන, මේ පිරි
සිදු ස්ථානය කිළුටුකළේයයි" මුර
29. ගසා කීවෝය. ඔවුන් ත්‍රොපිමස්
නම් එපීසයෙහි වැසියෙක් ඔහු සමග
නුවර සිටි බව දුටු බැවින්, පාවුල්
ඔහු මාලිගාවට කැඳෙව්වේයයි සිතා,
30. එසේ කීවෝය. එවිට නුවර සිය
ල්ල කැලඹී, සමූහයෝ එක්ව දුව
මින් ඇවිත්, පාවුල් අල්වාගෙන
මාලිගාවෙන් පිටත ඇද්දෝය; එ
වලේම දොරවල් වසනලද්දේය.
31. ඔහු මරන්නට සෙවූකල, "යෙ
රුසලම මුළුල්ල කැරලිගැසුනේයයි"
32. සේනාධිපතියාට ආරංචිවූනේය. එ
වලේම ඔහු භේවායින්ද සියේට මූලා
දෑනින්ද කැඳවාගෙන, ඔවුන් ලඟට
වහාම ගියේය. ඔවුන් සේනාධිපති
යාද භේවායින්ද දැක, පාවුල්ට පහර
33. දීමෙන් නැවතුනෝය. එවිට
සේනාධිපතියා ලඟට ඇවිත් ඔහු
අල්වා, "දම්වැල් දෙකකින් බැඳප
ල්ලායයි" අණකොට, "මොහු කවුද?
මොහු මක්කලේදැයි" ඇසුයේය.
34. එවිට සමූහයා අතරෙහි එකෙක්
එකක්ද, අනිකෙක් අනිකක්ද මුර
ගසා කීවෝය. ඒ කෝලාහලය නිසා
සේනාධිපතියා සැබෑව දැනගන්නට
බැරිව, ඔහු කොටුවට ගෙනයන්ට
35. අනකළේය. ඔහු පඩි පෙල පිටට
පැමිනිකල, සමූහයාගේ බලාත්කා
රය නිසා භේවායෝ ඔහු ඔසවාගෙ
36. න ගියෝය. සමූහයෝ, "ඔහු
මරාපන්නැයි" හඬගසමින්, පස්සේ
37. ගියෝය. පාවුල් කොටුවට ගෙන
යන කල, "නුඹ සමග මට කථාක
රන්ට අවසර ඇද්දැයි" සේනාධිපති
යාට කීයේය. එවිට ඔහු, "නුඹට
38. ග්‍රීක් භාෂාව පුළුවන්ද? මේ දවස්

වලට පලමුවෙන් කෝලාහලයක් කොට හාරදහසක් මිනී මරන්නන් වනාන්තරයට ගෙන ගියාවූ මිසරයා 39. නුඹ නොවේදැයි” කීයේය. පාවුල්ද, “මම කිලිකියෙහි ප්‍රසිඞ නුවරක්වූ තාර්සස්හි වැසි යුදෙව්වෙක. සෙනග එක්ක කථාකරන්නට මට 40. අවසර දුනමැනවයි” කීයේය. ඔහු අවසර දුන් කල, පාවුල් පඩි පෙල මත්තේ සිට, සෙනගට අතින් සංඥාකලේය.

22. පරිච්ඡේ. බොහෝ නිශ්ශබ්දයක්වූකල, ඔහු හෙබ්‍රෙව් භාෂාවෙන් කථාකරමින් කියනුයේ, “සහෝදරයෙනි, පියවරුනි, මාගේ නිදොස්විම පිණිස මා කියන්නක් අසාපල්ලා 2. යයි” කීයේය. ඔහු හෙබ්‍රෙව් භාෂාවෙන් කථාකරන බව ඔවුන් අසා, 3. වඩා නිශ්ශබ්දව සිටියෝය. ඔහුද, “මම කිලිකියෙහිවූ තාර්සස්හි උපන් යුදෙව් මනුෂ්‍යයෙක්ය. එසේ නුමුත් මේ නුවර වැඩී, ගමාලියෙල්ගේ පාද මූලයෙහිදී පියවරුන්ගේ ව්‍යවස්ථාව හොඳට ඉගනගෙන, නුඹලා සියල්ලෝ අද සිටින්නාක්මෙන් දෙවියන්වහන්සේ කෙරෙහි ජ්වලිත සිත් 4. ඇතිව සිටියෙමි. පුරුෂයන්ද ස්ත්‍රීන්ද බැඳ හිරගෙවල්වලට බාරදෙමින්, මරණය දක්වා මේ මාර්ගයෙහි හැසි 5. රෙන්නන්ට පීඩාකෙලෙමි. උත්තම පූජකයාද, වැඩිමහල්ලන්ගේ මුළු සභාවද, මට මේ ගැන සාක්ෂි දෙති; ඔවුන්ගෙන් ලිවුම් පත්‍ර සහෝදරයන් ලඟට ගෙනගොස්, දමස්කයෙහි සිටියන් බැඳ අඬවූකරන පිනිස යෙරුසලමට ගෙනෙන් 6. නට, එහි ගියෙමි. යන්නාවූ මම දමස්කය ලඟට පැමිනිකල, ඉරමුදුන් වේලෙහි, අහසෙන් මහත් එලියක් වහාම ඇවිත්, මා වටකර බැබළු 7. යේය. එවිට බිම වැටුනු මම, 'සාවුල්, මට පීඩාකරන්නේ මක්නිසාදැයි' කියන්නාවූ ශබ්දයක් ඇසීමි. 8. එවිට මම උත්තර දෙමින්, 'ස්වාමිනි, ඔබ කවුදැයි' කීමි; උන්වහන්සේද 'නුඹ පීඩාකරනනාවූ නාසරුන් 9. යේසුස්යයි' මට කීසේක. මා සමග සිටියෝ ඒ එලිය දැක භයවූවෝය; එහෙත් මා සමග කථාකරන්නාගේ වචන ඔවුන්ට ඇසුනේ නැත. 10. 'ස්වාමිනි, මම කුමක් කරම්දැයි' කීමි. එවිට, 'නැගිට, දමස්කයට පලයන්න; නුඹට කරන්ට නියම කල සියල්ල එහිදී නුඹට කියනු ලැබේයයි' ස්වාමින්වහන්සේ මට 11. කීසේක. ඒ එලියේ තේජස නිසා මාගේ ඇස් නොපෙනී ගිය කල, මා සමග සිටියන් විසින් අත් අල්ලා ගෙනයනු ලැබ, දමස්කයට පැමිනි 12. යෙමි. එවිට ව්‍යවස්ථාව ලෙස භක්ති ඇත්තාවූ, එහි වසන සියළු යුදෙව්වරුන් විසින් 'යහපතැයි' කියනලද්දාවූ අනනියස්නම් මනුෂ්‍ය 13. යෙක් මා ලඟට ඇවිත් සිට, 'සහෝදරවූ සාවුල්නි, පෙනීම ලැබ ගන්නැයි' මට කීයේය; එවලේම 14. ඔහු දෙස බැලීමි. එවිට ඔහු, 'අපගේ පියවරුන්ගේ දෙවියන්වහන්සේ, තමන්වහන්සේගේ අදහස දැනගන්නා පිනිසද, ඒ ධර්මිෂ්ඨයා දැක උන්වහන්සේගේ කටහඬ අසන 15. පිනිසද, නුඹ නියමකලසේක. නුඹ ඇසූ දුටු දේ ගැන, සියළු මනුෂ්‍යයන්ට උන්වහන්සේගේ සාක්ෂිකාර 16. යෙක් වෙහි. දැන් නුඹ ප්‍රමාද වෙන්නේ මක්නිසාද? නැගිට, ස්වාමින්වහන්සේගේ නාමයෙන් යාඥාකොට බව්තීස්ම ලැබ, පව් දුරුවිම 17. පිනිස නාපනනැයි' කීයේය. මම යෙරුසලමට නැවත ඇවිත්, දේව මාලිගාවේ යාඥාකරමින් සිටිද්දී, 18. දර්ශනයකින් ස්වාමින්වහන්සේ මට පෙනී, 'යුහුව යෙරුසලමෙන් පිටත්ව පලයන්න; මා ගැන නුඹේ සාක්ෂිය ඔවුන් පිළිනොගනිතියි'

19. මට කීසේක. එකල මම, 'ස්වාමී
නි, ඔබවහන්සේ කෙරෙහි ඇදහූ
වන් මම හිරගේවල දමා සියළු සින
ගෝගවලදී ඔවුන්ට පහර දුන් බව
20. ඔවුන් දනිති. තවද ඔබවහන්
සේගේ සාක්ෂිකාරවූ ස්තෙඵාන්ගේ
ලේ වගුළකල, මමද ළඟ සිටගෙන,
ඔහුගේ මරණයට කැමතිව, ඔහු මර
න්නන්ගේ වස්ත්‍ර ප්‍රවේසම් කෙළෙ
21. මියි' කීමි. එවිට උන්වහන්සේ,
'මම තුබ දුරු රටවලට අන්‍යජාතීන්
වෙතට යවමියි' කීසේකැයි" කීයේය.

22. ඔවුන් මේ වචනය දක්වා ඔහු
ගේ බස් අසා සිට, මූරගසමින්, "මේ
බඳු මිනිහා පොලොවෙන් දුරුකර
පන්න; මොහු ජීවත්වෙන්ට වටින්
23. නේ නැතැයි" කීවෝය. ඔවුන්
මූරගසමින් තමන් වස්ත්‍ර අහක දම
මින් දූලි අහසට දමමින් සිටිකල,
24. සේනාධිපතියා ඔහු කොටුවට
ගෙනයන්ට ආඥාකොට, ඔහුට විරු
ඩව මොන කාරනාවකට මෙසේ මූර
ගසද්දැයි දැනගන්නා පිණිස, කසෙන්
තලා ඔහුගෙන් අසන්ට කීයේය.
25. ඔවුන් වරපටින් ඔහු බඳිනකල,
පාවුල් "රෝමයෙකුට විචාර නො
කොට කසෙන් තලන්නට සෑහේ
දැයි" ළඟ සිටිනාවූ සියේකට නායක
26. යාට කීයේය. ඔහු ඒ අසා සේනා
ධිපතියා ළඟට ගොස්, "මොහු රෝ
මයෙක; මොහුට තුබ කරන දේ
ප්‍රවේසමෙන් කරපන්නැයි" කීයේය.
27. එවිට සේනාධිපතියා ඇවිත්,
"තුබ රෝමයෙක්දැයි, මට කියාපන්
නැයි" ඔහුට කීයේය. ඔහු, "එසේ
28. යයි" කීයේය. සේනාධිපතියා
උත්තර දෙමින්, "මම බොහෝ මිල
දී, රෝමයන්ගේ ගනනට පැමිනියෙ
29. මියි" කීයේය. පාවුල්, "මම එබ
දු තැනැත්තෙක්ව උපන්නෙමියි"
කීයේය. එවලේම ඔහු තැලීමෙන්
විචාරන්නට සිටියෝ ඔහු ළඟින්
අහක්ව ගියෝය. සේනාධිපතියා
ඔහු රෝමයෙකැයි දැනගත් පසු,
30. ඔහු බැන්ද බැවින් භයවිය. පසු
වදා යුදෙව්වරු මොන කාරනාවක්
ගැන ඔහුට වැරදි තැබුවෝදැයි හරි
ලෙස දැනගන්නට කැමතිව, ඔහු
බැඳුම්වලින් මුදා, නායක පූජක
යන්ට සහ මුළු සභාවට එනනට ආඥා
කොට, පාවුල් ගෙනැවිත් ඔවුන්
ඉදිරියෙහි සිටෙව්වේය.

23. පරිච්ඡේ. එවිට පාවුල් සභාව
දෙස බලමින්, "සහෝදරවූ මනුෂ්‍ය
යෙනි, මම අද දක්වා දෙවියන්වහන්
සේගේ ඉදිරියෙහි සියළු යහපත්
2. සිතින් හැසුරුනෙමියි" කීයේය. එ
විට අනනියස්නම් නායකපූජකයා,
"මොහුගේ කටට ගසාපල්ලායයි"
3. ළඟ සිටියන්ට ආඥාකෙළේය. පා
වුල්ද, "හුදුකරපු බිත්තියක් බඳුවූ
තුබට දෙවියන්වහන්සේ ගසනසේක;
ව්‍යවස්ථාවේ හැටියට මා විචාරන්ට
හිඳිනාවූ තුබ, ව්‍යවස්ථාවට විරුඩව
මට ගසන්ට, අන දෙන්නේදැයි"
4. කීයේය. එවිට ළඟ සිටියෝ, "දෙ
වියන්වහන්සේගේ නායක පූජකයාට
5. නින්දාකරන්නේදැයි" කීවෝය. එ
විට පාවුල්, "සහෝදරයෙනි, මොහු
නායක පූජකයයි නොදනිමි. 'තා
ගේ සෙනගගේ මූලාදෑනියාගේ අගු
ණ නොකියවයි' ලියාතිබෙන්නේ
6. යයි" කීයේය. එහෙත් පාවුල් සද්
දුසීන්ගෙන් කොටසක්ද ඵරිසීන්
ගෙන් කොටසක්ද සිටින බව දැන,
"සහෝදරවූ මනුෂ්‍යයෙනි, මම ඵරිසි
යෙකුගේ පුත්‍රවූ ඵරිසියෙක් වෙමි.
මලවුන්ගේ නැගිටීම වන්නේයයි
යන බලාපොරොත්තුව ගැන, විචා
රනු ලබමියි" සභාවේදී ශබ්ද පවත්
7. වමින් කීයේය. ඔහු මෙසේ කීක
ල, ඵරිසීන් අතරෙහිද සද්දුසීන් අත
රෙහිද භේදයක් හටගත්තේය. සමූ
8. හයාද භේදවූයේය. මක්නිසාද,
"මලවුන්ගෙන් නැගිටීමක් නැත,

දේවදූතයෙක්වත් ආත්මයෙක්වත්
නැතැයි" සද්දුසිවරු කියති; ඵරිසීහු
"දෙකම ඇතැයි" කියති. එවිට
මහත් කෝලාහලයක් හටගත්තේය.
9. ඵරිසීන්ගේ පක්ෂයේ ලියන්නෝද
නැඟිට වාදකරමින්, "මේ මනුෂ්‍යයා
අත කිසි වරදක් නොදකිමුව. ඉදින්
ආත්මයෙක්වත් දූතයෙක්වත් මොහු
සමග කථාකෙළේනම්, දෙවියන්ව
හන්සේට විරුද්ධව යුද්ධ නොකරමු
10. යයි" කීවෝය. මහත් කෝලාහල
යක් හටගත්කල, සේනාධිපතියා
පාවුල් ඔවුන් විසින් ඉරාදමනු ලබන්
නේයයි භයව, සේවායින්ට කථා
කොට, ඔවුන් අතරෙන් ඔහු උදුරා
ගෙන, කොටුවට ගෙනයන්ට අණ
11. කෙළේය. පසුවද රාත්‍රියෙහි ස්වා
මින්වහන්සේ ඔහු ලඟ සිට, "එම්බා
පාවුල්, ස්ථිරසිතින් සිටපන්න; නුඹ
විසින් මා ගැන යෙරුසලමෙහිදී සා
ක්ෂි දුන් සේම, රෝමෙහිදීත් සාක්ෂි
දිය යුතුයයි" කීසේක.

12. පහන්වූකල යුදෙව්වන්ගෙන්
සමහරෙක් සමාගම්ව, දිවිරිල්ලකින්
තමන් බැඳගෙන, "අපි පාවුල් මර
නතුරු, කන්නේවත් බොනෙන්වත්
13. නැතැයි" ගිවිසගත්තෝය. මේ
දිවිරිල්ල කලාවූ අයවල් සතලිස්
14. දෙනෙකුට වැඩිවූවෝය. ඔවුන්
නායක පූජකයන්ද වැඩිමහල්ලන්ද
ලඟට ගොස්, "අපි පාවුල් මරනතුරු,
කිසි කෑමක් නොකන්ට, මහත් දිවි
රිල්ලෙන් ඔවුනොවුන් බැඳගතිමුව.
15. එහෙයින් ඔහු ගැන වඩා පවිත්‍ර
හැටියට විභාගකරන්ට කැමැත්තාහු
මෙන්, සෙට නුඹලා ලඟට ඔහු කැඳ
වාගෙන එන්ට, සභාව සමග සේනා
ධිපතියාට කියා යවාපල්ලාය. ඔහු
සභාව ලඟට එන්ට පලමුවෙන්, අපි
ද ඔහු මරන්නට සැදී සිටිමුයයි"
16. කීවෝය. පාවුල්ගේ සහෝදරීගේ
පුත්‍රයා මේ ප්‍රයෝගය අසා, ඇවිත්
කොටුවට ඇතුල්ව, පාවුල්ට දැන්වීය.
17. එවිට පාවුල් සියේකට නායකයා
ගෙන් එකකු ලඟට කැඳවා, "මේ
තරුනයා සේනාධිපතියා ලඟට ගෙ
නියාපන්න; ඔහුට කියන්නට නිස්
18. සක් තිබෙන්නේයයි" කීයේය. එ
විට ඔහු සේනාධිපතියා ලඟට ඒ ත
රුනයා කැඳවාගෙන ගොස්, "සිර
කාරවූ පාවුල් තමන් ලඟට මා කැඳ
වා, නුඹට කියන්නට නිස්සක් ඇත්
තාවූ මේ තරුනයා නුඹ ලඟට ගෙන
එන්ට මගෙන් ඉල්ලුයේයයි" කීයේය.
19. එකල සේනාධිපතියා ඔහුගේ
අත අල්වා පැත්තකට ගෙනගොස්,
"නුඹ මට කුමක් දන්වන්ට කැමැත්
20. තේදැයි" ඇසුයේය. ඔහු, "යු
දෙව්වරු පාවුල් ගැන වඩා පවිත්‍ර
හැටියට විභාගකරන්නට කැමැත්
තාහු මෙන්, සෙට දවස සභාවට ඔහු
ගෙනයන්ට නුඹෙන් ඉල්වන ලෙස
21. නියමකරගත්තෝය. නුඹුත් ඔ
වුන්ගේ කැමැත්ත නොකලමැනව;
මක්නිසාද ඔවුන්ගෙන් සතලිසකට
වැඩියක්, ඔහු මරනතුරු කන්නේ
වත් බොන්නේවත් නැතැයි දිවිරිල්
ලකින් තමන් බැඳගෙන, ඔහුට
ප්‍රයෝග යොදා, දැන් නුඹේ අණව
බලමින් සැදී සිටිතියි" කීයේය.
22. එවිට සේනාධිපතියා, "මේ කාර
නා මට දැන්වූ බව, කාටවත් කියන්
නට එපායයි" අනකොට, තරුනයා
හැරියේය.

23. එවිට ඔහු සියේකට නායක
යන් දෙන්නෙකු තමන් ලඟට කැඳ
වා, "කායිසාරියට යන්ට, දෙසීයයක්
සේවායන්ද, සැත්තෑවක් අසරුවන්ද,
දෙසීයයක් සෙල්ල ධරන්නවුන්ද,
රාත්‍රියෙහි තුන්වෙනි පැයේදී සාදා,
24. පාවුල් නන්වාගෙන යන පිනිස
වාහනයන් සපයා, පිලික්ස්නම් උත්
මානන්වහන්සේ ලඟට සුවසේ ඔහු
25. ගෙනියාපල්ලායයි" කියා, මෙ
සේ ලිවුමක් ලිව්ය. "මංසාධිපතිවූ
පිලික්ස්නම් උත්තමයානන්වහන්

26. න්ට කෞලෞදියස් ලිසියස් යන
වා විසින් සුභයක් වෙන ලෙස ලියා
27. එවනවගනම්; යුදෙව්වන් විසින්
අල්වා මරන්ට සැදුවාවූ මේ මනුෂ්‍ය
යා රෝමයෙකැයි දැනගත් මම සේ
නාව සමග ගොස් ගලවාගතිමි.
28. ඔහුට පැමිණෙව්වේ මොන දෝෂ
දැයි දැනගන්ට කැමතිව, ඔවුන්ගේ
29. සභාවට ඔහු ගෙනගොස්, ඔවුන්
ගේ ව්‍යවස්ථාවෙහි වාද ගැන ඔහුට
වැරදි තබනලද බව මිස, මැරිය
යුතුවූවත් බැන්ද යුතුවූවත් කිසි
දෝෂයක් ඔහු අත නැතැයි දැනග
30. තිමි. ඒ මනුෂ්‍යයාට යුදෙව්වෝ
ප්‍රයෝගයක් යෙදුවෝයයි මම දැන,
වහාම ඔබ ලඟට ඔහු එවා, ඔහුගේ
වැරදි තබන්නන්ට ඔහුට විරුඬව
යමක් කියන්නට ඇත්නම්, ඒක
ඔබ ඉදිරියෙහි කියන්ට ආඥාකලෙමි.
සුවසේ සිටියමැනව.”

31. එවිට සේවායෝ තමන්ට දුන්
ආඥාවේ හැටියට, පාවුල් අරගෙන
රාත්‍රියෙහි අන්තිපත්‍රිස්නම් නුවරට
32. ඇවිත්, පසුවද අසරුවන් ඔහු
සමග යන්ට හැර, කොටුවට හැරී
33. ආවෝය. අසරුවෝ කායිසාරියට
ඇතුල්ව, අධිපතියාට ලියමන දී,
පාවුල් ඔහු ඉදිරියෙහි සිටෙව්වෝය.
34. අධිපතියා ඒ ලියමන කියවා,
“ඔහු මොන ජනපදයෙක්හිදැයි”
අසා, “කිලිකියෙහියයි” කීකල,
35. “නුඹට වැරදි තබන්නෝ ආකල
නුඹ විචාරමියි” කියා, හෙරොද්ගේ
සාලාවේ ඔහු ප්‍රවේසම්කරන්ට ආඥා
කෙලේය.

24. පරිච්ඡේ. පස්දවසකට පසු,
අනනියස්නම් නායක පූජකයාද වැ
ඩිමහල්ලෝද තර්තුලස්නම් ව්‍යක්ත
කෙනෙක්ද අධිපතියා ලඟට ගොස්,
පාවුල්ට විරුඬව පැමිණිලි කලෝය.
2. ඔහු කැඳෙව්කල තර්තුලස් ඔහුට
වරද තබන්නට පටන්ගෙන කියනු
යේ, “උතුම්වූ පීලික්ස්නි, අපි ඔබව
හන්සේගෙන් මහත් සමාදානය ලබා
ගත් හෙයින්ද, ඔබගේ ප්‍රඥාවෙන්
ප්‍රසංසා කටයුතුවූ ක්‍රියා මේ වර්ගයාට
3. කල හෙයින්ද, අපි සියළු වේලෙ
හිම් සියළු තැන්හි සියළු සතුතියෙන්
4. හොඳට පිලිගනිමුව. තවද මම
බොහෝ කීමෙන් ඔබට වෙහෙස
නොවෙන පිනිස, එහුඹුවසයෙන්
අපි කියන දේ ඔබගේ කරුනාවෙන්
5. අසන්ට ඉල්ලමි. මේ මනුෂ්‍යයා
දුර්ජනයෙක් බවද, ලෝකයෙහි
සිටිනනාවූ සියළු යුදෙව්වන් අතරෙහි
පෙරලි උපදවන්නෙක් බවද, නස
රේනුන්ගේ ලබ්ධියෙහි ප්‍රධානයෙක්
6. බවද දුටිමුව. මොහු දේවමාලිගා
ව අපවිත්‍රකරනනට පටන්ගත්තේය.
මොහු අල්වා අපගේ ව්‍යවස්ථාව ලෙ
ස විනිශ්චය කරන්ට පටන්ගන්නා
7. කල, ලිසියස්නම් සේනාධිපතියා
අප කරා ඇවිත්, මහත්වූ බලාත්කා
රයෙන් අප අතින් මොහු උදුරාගෙන,
8. මොහුට වරද තබන්නන්ට ඔබ
ලඟට එන්ට අනකෙලේය. යම් දෙ
යක් ගැන අපි මොහුට වරද තැබු
මුද, ඒ සියල්ල මොහුගෙන් විචාරා
ඔබට දැනගන්නට පුළුවනැයි” කී
9. යේය. යුදෙව්වරු “ඒ කාරනා
එසේමයයි” කීවෝය.

10. පාවුල්ට කථාකරන්නට අධිප
තියා සඥාකල කල්හි, ඔහු උත්තර
දෙමින් කියනුයේ, “ඔබ බොහෝ
අවුරුදු ගනනක් මේ වර්ගයාට නඩු
අහන මූලාදෑනියෙක්වූ බව දන්න
නිසා, මම ඉතා සතුටු සිතින් මාගේ
11. කාරනාව ගැන උත්තර දෙමි. න
මස්කාර කරන පිනිස, මම යෙරුසල
මට ගොස් දොලොස් දවසකට වඩා
නැතැයි ඔබට දැනගන්ට පුළුවන.
12. දේවමාලිගාවෙහි කිසි කෙනෙක්
සමග මම වාදකරන බවවත්, සින
ගෝගවලදී නොහොත් නුවරදී මනු
ෂ්‍යයන් කැරලිගස්වන බවවත්,

13. ඔවුන් දුටුවේ නැත. ඔවුන් දැන්
මා කෙරෙහි තබන වරද ඔප්පුදෙන්
14. ට බැරිවෙයි. නුමුත් ඔවුන් දුර්ලබ්
ධියයි කියන්නාවූ මාර්ගයේ හැටියට,
මම ව්‍යවස්ථාවේ අනාගත වාක්‍යව
ලත් ලියනලද සියල්ල අදහමින්,
මාගේ පියවරුන්ගේ දෙවියන්වහන්
15. සේට නමස්කාරකරමින්, මලාවූ
ධර්මිෂ්ඨයන්ගේද අධර්මිෂ්ඨයන්ගේද
නැගිටීම වන්නේයයි, මොවුන්ම
බලාසිටිනාක්මෙන්, දෙවියන්වහන්
සේ කෙරෙහි විශ්වාස කෙරෙමියි,
16. ඔබට ප්‍රකාසයෙන් කියමි. දෙවි
යන්වහන්සේ කෙරෙහිද මනුෂ්‍යයන්
කෙරෙහිද නිදෙස් සිතින් හැසිරෙන්
17. ට, නිතර උත්සාහ කෙරෙමි. බො
හෝ අවුරුදු පසුවූකල, මාගේ වර්ග
යාට දනවල්ද පූජාවල්ද දෙන්ට
18. ආයෙමි. එකල ආසියායෙහි සම
හර යුදෙව්වරු සමූහයක්වත් පෙරලි
යක්වත් නැතුව දේවස්ථානයෙහි
පවිත්‍රකරනුලද්දාවූ මා දුටුවෝය.
19. මට විරුඬව ඔවුන්ගේ කිසි පැමි
නිල්ලක් ඇත්නම්, ඔවුන් විසින්
මෙහි ඔබ ඉදිරියට ඇවිත් වරද
20. නැඟිය යුතුය. නොහොත් මම
මොවුන් අතරෙහි සිට, 'මලවුන්ගේ
නැගිටීම ගැන අද නුඹලා විසින්
විචාරකරනු ලබමියි' කියා මුරගැසූ
21. වා මිස, සභාවෙහිදී මා අත කිසි
දෝසයක් මොවුන් දුටුනම් කියත්
වයි" කීයේය.

22. මේ කාරනා ඇසූ පිලික්ස් ඒ
මාර්ගය හොඳකාර දැන, ඔවුන්
වලක්වමින්, "ලිසියස්නම් සේනාධි
පතියා ආකල නුඹලාගේ නඩුව විචා
23. රමියි" කියා, පාවුල් බැඳුම් නැ
තුව රක්ෂාකරන්ටද, ඔහුට වැඩකිරී
මෙන්වත් ඔහු ළඟට ඊමෙන්වත්
ඔහුගේ පිරිවරගෙන් කිසිවෙකුත්
නොවලක්වන්ටද, සියේනාව නායක
යාට ආඥාකෙලේය.

24. කීප දවසකට පසු, පිලික්ස්
යුදෙව්ජාතියෙහි දෘසිල්ලානම් තමා
ගේ භාර්යාව සමග ඇවිත්, පාවුල්
හඬගස්වා, ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි ඇදහිල්ල ගැන ඔහුගේ බස්
25. ඇසුයේය. ධර්මිෂ්ඨකමද පමන
දැනීමද පැමිනෙන්නාවූ විනිශ්චයද
ගැන ඔහු කථාකලවිට, පිලික්ස්
භයපත්ව, "දැන් යන්නට පුළුවන;
මට අවකාස ඇති කල්හි නුඹ කැඳ
2.6 වමියි" කීය. තවද පාවුල් තමා
ගේ මිදීම පිනිස මිල දෙන්නේයයි
පිලික්ස් සිතාගෙන, නැවත නැවත
ඔහු කැඳවා, ඔහු සමග කථාකෙ
27. ලේය. නුමුත් දෑවුරුද්දකට පසු,
පිලික්ස්ගේ නිලේට පොර්කියුස්
ෆෙස්තුස් පත්වූනේය. එකල පි
ලික්ස් යුදෙව්වන් සතුටුකරනු කැම
තිව, පාවුල් සිරෙන් නුමුදා ගියේය.

25. පරිචෙඡ. ෆෙස්තුස් ජනපද
යට පැමින, තුන්දවසකට පසු කායි
සාරියෙන් යෙරුසලමට ගියේය.
2. එකල නායක පූජකයාද යුදෙව්
වන්ගේ ප්‍රධානීද මාර්ගයේදී පාවුල්
3. මරන්නට උපදෙස් යොදා, පාවුල්
ට විරුඬව ෆෙස්තුස්ට දන්වා, ඔහු
යෙරුසලමට ගෙන්වන ලෙස පිහිට
4. ඉල්ලුවෝය. එහෙත් ෆෙස්තුස්
උත්තර දෙමින්, "පාවුල් කායිසාරි
යේ රක්ෂාකටයුතුය. මමත් ස්වල්ප
5. දවසකින් පසු එහි එමි. එහෙයින්
නුඹලා අතරෙහි පුළුවන්වූ අයවල්
මා සමග ගොස්, ඒ මනුෂ්‍යයා අත
යම් වරදක් ඇත්නම්, ඔහුට වරද න
6. ඟත්වයි" කීයේය. ඔහු ඔවුන් අත
රෙහි දස දවසකට වැඩියසිට, කායි
සාරියට බැස, පසුවදා විනිශ්චාසනය
පිට හිඳ, පාවුල් ගෙනෙන්ට ආඥා
7. කෙලේය. ඔහු ආකල, යෙරුසල
මෙන් බැස ආවාවූ යුදෙව්වරු වට
කර සිට, පාවුල්ට විරුඬව බොහෝ
බරපතල වරදවල් නැඟුවෝය;

තුමුත් ඒවා. සැබෑකරන්ට බැරිවිය.
8. ඔහු උත්තර දෙමින්, "යුදෙව්
වන්ගේ ව්‍යවස්ථාවටවත් දේවමාලි
ගාවටවත් කායිසර්ටවත් විරුඬව
කිසි වරදක් නොකලෙමියි" කීය.
9. නුමුත් ඵෙස්තුස් යුදෙව්වන් සතු
ටුකරනු කැමතිව පාවුල්ට උත්තර
දෙමින්, "නුබ යෙරුසලමට ගොස්,
එහිදී මේ කාරනා ගැන මා විසින්
විනිශ්චයකරනුලබන්ට කැමතිදැයි"
10. ඇසුයේය. එවිට පාවුල් කියනු
යේ, "කායිසර්ගේ නඩු ඇසනය ඉදි
රියෙහි සිටිමි; එහිදී මා විනිශ්චය
කරන්ට සුදුසුය. යුදෙව්වන්ට මම
කිසි අයුත්තක් නොකල බව නුබට
11. හොඳට පෙනෙයි. මම අයුත්
තක්වත් මරනයට සුදුසු කිසිවක්
වත් කෙලෙම්නම්, මරනු ලබන්ට
අකමැති නොවෙමි. නුමුත් මොවුන්
මා ගැන කියාපු ද්වේසවලින් එකක්
වත් සැබෑ නැත්නම්, මා ඔවුන්ට
පාවාදෙන්නට කාටවත් බැරිය; කා
යිසර්ගේ විනිශ්චය ඉල්වමියි" කී
12. යේය. එවිට ඵෙස්තුස් සභාව
සමග කථාකොට, "කායිසර්ගේ වි
නිශ්චය ඉල්ළු නිසා, කායිසර් ලඟට
යනවා ඇතැයි" කීයේය.

13. කීප දවසකට පසු, අග්‍රිපානම්
රජද බර්නීකිද ඵෙස්තුස් දකිනනට
14. කායිසාරියට ආවෝය. ඔවුන්
බොහෝ දවස් එහි සිටිකල, ඵෙස්
තුස් පාවුල්ගේ කාරනාව ඒ රජහට
දන්වමින් කියනුයේ, "ෆිලික්ස්
හිරෙන් නුමුදා ගිය එක් මනුෂ්‍ය
15. යෙක් ඇත. මම යෙරුසලමෙහි
සිටිද්දී, ඔහු ගැන නායක පූජක
යෝද යුදෙව්වන්ගේ වැඩිමහල්ලෝ
ද මටදන්වමින්, ඔහුට අච්චුකරනලෙ
16. ස ඉල්ළුවෝය. මම ඔවුන්ට උත්
තර දෙමින්, 'වරද තබනලද තැ
නැත්තා ඉදිරියට වරද තබන්නන්
ගෙන්වා, ඔහුට තබනලද වැරදි
ගැන උත්තර දෙන පිනිස අවකාස
දීමට පලමුවෙන්, කිසි මනුෂ්‍යයෙකු
මරනට පාවාදෙන්ට රෝමයන් අත
රේ කිසි සිරිතක් නැතැයි' කීමි.
17. එහෙයින් ඔවුන් මෙහි ආකල,
මම ප්‍රමාදයක් නොකොට, දෙවෙනි
දවස්හි නඩු ආසනයෙහි හිඳ ඒ මනු
ෂ්‍යයා ගෙනෙන්ට ආඥාකෙලෙමි.
18. ඔහුගේ වරද තබන්නෝ නැගි
ට, මම සිතූ වරදවලින් කිසිවකුත්
19. ඔහු කෙරෙහි නොතබා, තමන්
ගේ ආගම ගැනද, ජීවත්වෙනේයයි
පාවුල් විසින් කියනලද මලාවූ යේ
සුස් නම කෙනෙක් ගැනද, ඔහුට
20 විරුඬව ඔවුන්ට වාද ඇත. මම
මෙයාකාර වාදයන් ගැන සැකකල
බැවින්, 'නුබ යෙරුසලමට යන්වද,
එහිදී මේ දේ ගැන විනිශ්චයවරනු
ලබන්ටද කැමතිදැයි' ඔහුගෙන්
21. ඇසිමි. එවිට 'සෙබස්තස්ගෙන්
විනිශ්චය ඉල්ලමියි' පාවුල් කීකල,
මම ඔහු කායිසර් ලඟට යවනතුරු
ප්‍රවේසම්කරනනට ආඥාකෙලෙමියි"
කීයේය.

22. එවිට අග්‍රිපා, "මමද ඒ මනුෂ්‍ය
යා විචාරන්ට කැමැතෙතමියි" ඵෙස්
තුස්ට කීය. ඔහුද, "සෙට දවස ඔහු
ගේ බස් අසන්නේයයි" කීයේය.
23. පසුවද, අග්‍රිපාද බර්නීකිද මහත්
රාජෛශ්වර්යයෙන් ඇවිත්, සේනාධි
පතීන් සහ නුවර ප්‍රධානීන්ද සමග
නඩුසාලාවට පැමිනිකල, ඵෙස්තුස්
ගේ ආඥාවෙන් පාවුල් ගෙන්වනලද්
24. දේය. එවිට ඵෙස්තුස් කියනුයේ,
"අග්‍රිපා රජ්ජුරුවනි, මෙහි අප ඉදිරි
යෙහි සිටින සියළු මනුෂ්‍යයෙනි,
යුදෙව්වන්ගේ සියළු සමූහයා 'මෙ
සින් මතු මොහු ජීවත්වෙන්ට නො
වටනේයයි' ශබ්ද පවත්වමින්, ය
මෙක් ගැන යෙරුසලමේදී සහ මෙ
හිදීත් මට කියා සිටියේද, ඒ මනුෂ්‍ය
25. යා නුබලා දකිති. මරනට සුදුසුවූ
කිසි දෙයක් ඔහු නොකල බවද
'සෙබස්තස්ගේ විනිශ්චය ඉල්ලමියි

මොහු කී බවද දැන, මොහු යවන්ට
26. නියමකෙලෙමි. ඔහු ගැන මාගේ
ස්වාමිදරුවන්ට ලිවිය යුතු කිසි නිය
මවූ කාරනාවක් මට නැත. එබැවින්
විනිශ්චයකල කල්හි ලිවිය යුතුවූ
කිසිවක් මට සම්භවේද කියා බලන
පිනිස, නුබලා ඉදිරියටද, ප්‍රධාන
කොට අග්‍රිපා රජ්ජුරුවනි, ඔබගේ
27. ඉදිරියටද මොහු ගෙන්වීමි. මක්
නිසාද, හිරකාරයාගේ වරද නොදන්
වා ඔහු පිටත්කර යැවීම අයුතුයයි
සිතුනේයයි" කීයේය.

26. පරිච්ඡෙ. එවිට අග්‍රිපා, "නුබ
ගැන උත්තර දෙන්ට නුබට අවසර
ඇතැයි" පාවුල්ට කීයේය. එකල
පාවුල් අත දිගුකොට තමා ගැන
2. උත්තර දෙමින් කියනුයේ, "අග්‍රි
පා රජ්ජුරුවෙනි, යුදෙව්වරු මට විරු
ඩව කියනලද සියල්ල ගැන අද නුබ
වහන්සේ ඉදිරියෙහි උත්තර දෙන්ට
3. ලැබුනු බැවින්ද, ප්‍රධානකොට
නුබ යුදෙව්වරුන්ගේ සියළු ව්‍යවහා
රවල්ද වාදවල්ද විශේෂයෙන් දන්
නාසේකැයි මම දැනගත් බැවින්ද,
මම වාසනාවන්තයෙකැයි සිතමි.
එහෙයින් සමාදානයෙන් මාගේ බස්
4. අසන ලෙස ඉල්ලමි. යෙරුසලමෙ
හිදී මාගේ ජාතීන් අතරෙහි බාලා
වස්ථාවෙහි පටන්, මාගේ හැසිරීම
5. සියළු යුදෙව්වරු දනිති. ඔවුන්
සාක්ෂිදෙනු කැමතිනම්, අපගේ ආග
මෙහි ඉතා භක්ති ඇත්තාවූ ලබ්ධියේ
හැටියට මම ඵරිසියෙක්ව ජීවත්වූ
6. බව, ආදියෙහි පටන් දනිති. දැන්
දෙවියන්වහන්සේ විසින් අපගේ පි
යවරුන්ට දෙනලද පොරොන්දුව
බලා සිටීම ගැන, මම විනිශ්චයකරනු
7. ලබමින් සිටිමි. ඒ පොරොන්දුව
ලබන පිනිස, අපගේ දොලොස් ගෝ
ත්‍රයෝ රෑදවල් නිතරම සේවයකර
මින් බලාසිටිති. අග්‍රිපා රජ්ජුරුවෙනි,
මේ බලාපොරොත්තුව නිසා, යුදෙව්
8. වන් විසින් වරද තබනු ලැබීමි. කී
මෙක්ද, දෙවියන්වහන්සේ මලවුන්
නැගුටුවන බව අදහන්නට බැරි කා
9. රනාවකැයි සිතන්නෝද? නාස
රෑත් ජේසුස්වහන්සේගේ නාමයට
විරුඩව, නොයෙක් කාරනා මා විසින්
කටයුතුයයි, ඒකාන්තයෙන් සිතා
10. ගන සිටියෙමි. යෙරුසලමෙහිදීත්
එසේමකොට, නායක පූජකයන්
ගෙන් බලය ලැබ, පිරිසිදුවන්ගෙන්
බොහෝදෙන හිරගෙවල්හි ඈයෙමි.
ඔවුන් මරනු ලබන කල, 'එසේ යුතු
11. යයි' කීමි. තවද සියළු සිනාගෝ
ගවලදී නැවත නැවත ඔවුන්ට දඬු
වම් කරමින්, ස්වාමින්වහන්සේට අප
හාස කරන්ට බලාත්කාර කෙලෙමි.
මම ඔවුන්ට විරුඩව බොහෝසෙයින්
උමතුව, අන් නුවරවල් දක්වා ඔවුන්
12. ට පීඩාකෙලෙමි. රජ්ජුරුවෙනි,
මෙසේ කරන්නාවූ මම නායක පූජ
කයන්ගෙන් බලයද ආඥාවද ලැබ,
13. දමස්කයට යන්ට යන අතර, ඉර
මුදුන් වේලෙහි මාද මා සමග යන්
නාවුන්ද වටකර බබලන්නාවූ, අහ
සින් ප්‍රකාශවූ, සූර්‍ය්‍ය තේජසට වැඩිවූ
14. එලියක් මාර්ගයෙහිදී දුටිමි. අපි
සියළු දෙන බිම වැටුනු කල, 'සාවුල්
සාවුල්, මට පීඩාකරන්නේ මක්නිසා
ද? උල්වලට පයින් ගහන්ට නුබට
අමාරුයයි' හෙබ්‍රෙව් භාෂාවෙන් මා
සමග කථාකරන්නාවූ ශබ්දයක් ඇ
15. සීමි. මමද 'ස්වාමිනි, ඔබ කවු
දැයි' කීමි. එවිට උන්වහන්සේ, 'නුබ
16. පීඩාකරන ජේසුස් වෙමි; නැගිට,
පයින් සිටපන්න. මක්නිසාද, නුබ
දුටු කාරනාවලටද මම නුබට පෙන්
වන කාරනාවලටද නුබ සේවක
යෙක් සහ සාක්ෂිකාරයෙකුත් කරන
17. පිනිස, නුබට පෙනුනෙමි. සෙන
ගගෙන් සහ අන්‍යජාතීන්ගෙන් නුබ
18. ආරක්ෂාකරමින්, ඔවුන්ගේ ඇස්
අරින පිනිසත්, අන්ධකාරයෙන් ආ
ලෝකයටද සාතන්ගේ බලයෙන්

දෙවියන්වහන්සේ වෙතටද ඔවුන්
හරවන්නූ ලැබ, මා කෙරෙහි ඇදහිල්
ලෙන් පාපයෙන් මිදීමද පිරිසිදුවූ
වන් අතරෙහි උරුම කොටසද ලබන
පිනිසත්, තුඹ ඔවුන් ලඟට දූත් යව
19. මියි' කීසේක. එහෙයින් අග්‍රිපා
රජ්ජුරුවෙනි, මම ස්වර්ගීය දර්ශනයට
20. අකීකරු නොව, පලමුකොට
දමස්කයෙහිද යෙරුසලමෙහිද යුද
යේ සියළු තැන්හිද වසන්නන්ටත්,
පසුව අන්‍යජාතීන්ටත්, ඔවුන් විසින්
පසුතැවිලිව, දෙවියන්වහන්සේ කෙ
රෙහි හැරී පසුතැවිල්ලට සුදුසු ක්‍රියා
21. කටයුතුයයි ප්‍රකාශකෙලෙමි. මේ
කාරනා නිසා යුදෙව්වරු දේවමාලි
ගාවෙහිදී මා අල්වා, මරන්නට වෑ
22. යම්කලෝය. නුමුත් දෙවියන්ව
හන්සේගෙන් උපකාර ලැබ, මම
අද දක්වා සිට, ලොකු කුඩා තැනැ
23. ත්තන්ට සාක්ෂි දෙමින්, ක්‍රිස්තුස්
වහන්සේ වේදනා විඳ, මලවුන් කෙ
රෙන් නැගිටින්නවුන් අතරෙන් පල
මුවෙනි කෙනෙක්ව, සෙනගටද
අන්‍යජාතීන්ටද එළිය දක්වනසේ
කැයි, යන අනාගතවක්තෘන් විසින්ද
මෝසෙස් විසින්ද මතු සිද්ධවෙන්නේ
යයි කියනලද දේ හැර, අන් කිසි
වක් නොකියමියි" කීයේය.

24. ඔහු මෙසේ තමන් ගැන උත්
තර දුන් කල, ෆෙස්තුස් මහත් ශබ්ද
පවත්වමින්, "පාවුල්, තුඹට ඔල්මා
දය; බොහෝ ඉගනගැන්මෙන් තුඹ
උමතු බවට පැමිනේයයි" කීයේය.
25. නුමුත් ඔහු කියනුයේ, "උතුම්වූ
ෆෙස්තුස්, මම උමතු නොවෙමි;
සැබෑකමෙහිද සිහි ඇතිකමෙහිද
26. වචනවල් කියමි. මේ දේ රජ්ජුරු
වන්වහන්සේ දන්නාසේක; එහෙ
යින් උන්වහන්සේ ඉදිරියෙහි භයක්
නැතුව කියමි. මේ දේ මුල්ලකදී
නොකල බැවින්, එයින් කිසි දෙයක්
වත් උන්වහන්සේට නොදනී නැතැයි
27. සිතමි. අග්‍රිපා රජ්ජුරුවෙනි, තුඹ
වහන්සේ අනාගතවක්තෘන් අදහන
සේක්ද? තුඹවහන්සේ අදහන බව
28. දනිමියි' කීයේය. එවිට අග්‍රිපා
රජ, "ක්‍රිස්තියානිකාරයෙක් වෙන්ට,
බොහෝසෙයින් තුඹ මා කැමතිකර
වාගන්නේයයි" පාවුල්ට කීයේය.
29. එවිට පාවුල්, "තුඹ පමනක්
නොව, අද මාගේ වචන අහන්නාවූ
සියල්ලෝද, බොහෝ සෙයින් නොව
මේ බැඳුම් හැර අනිකුත් දෙයින්
සම්පූර්ණයෙන්ම, මා වාගේ වෙන්
ට දෙවියන්වහන්සේට යාඥාවෙමියි"
කීයේය.

30. ඔහු මෙසේ කීකල, රජ්ජුරු
වෝද අධිපතියාද බර්නීකිද ඔවුන්
31. සමග උන්නෝද නැගිට අහක්ව
ගොස්, "මේ මනුෂ්‍යයා මරනයටවත්
බැඳුම්වලටවත් සුදුසු කිසි දෙයක්
කලේ නැතැයි" තම තමන් අතරෙ
32. හි කථාකරගත්තෝය. එකල
අග්‍රිපා, "මේ මනුෂ්‍යයා කායිසර්ගේ
විනිශ්චය නොයිල්ලුවේනම් ඔහු මුදා
හරින්ට පුළුවන්ව තිබුනේයයි"
ෆෙස්තුස්ට කීයේය.

27. පරිච්ඡේ. තවද ඉතාලියට
නැව් නැගී යන්ට අපට නියමකල
විට, පාවුල් හා අන් සමහර හිරකාර
යෝ සෙබස්තස්ගේ සේනාවගෙන්
ජූලියස්නම් සියේට නායකයාට පා
2. වාදෙනලද්දෝය. එවිට ආද්‍රමුත්
තීය නැවකට නැගී, ආසියායෙහි
අද්දරින් යන්ට සිතා පිටත්වූනෙමුව.
මකිදෝනියෙහිවූ තෙසලොනීක නු
වර වැසිවූ අරිස්තාකීස් අප සමග
3. සිටියේය. පසුවදා සිදොන්ට පැමි
නිවිට, ජූලියස් පාවුල්ට කරුනා
කොට, ඔහුගේ මිත්‍රයන් ලඟට යන්
ටද පහසු ගන්ටද ඔහුට අවසර දුන්
4. නේය. එයින් පිටත්ව, හුළඟ ඉස්
සරට ගැසූ බැවින් කුප්‍රස් අද්දරින්
5. ගියෙමුව. කිලිකියෙහිද පම්පිලි

යෙහිද මූහුදෙන් ගොස්, ලිකියෙහිවූ
මූරනම් නුවරට පැමිණියෙමුව.

6. එහිදී සියේට නායකයා ඉතාලි
යට යන්නාවූ අලෙක්ෂන්ද්‍රයේ නැ
7. වක් දැක, අප එහි නැංගෙව්ය. හුළ
ග අප වැලැකූ බැවින් කීප දවසක්ම
හෙමින් ගොස්, කනිදස් ඉදිරියට
8. අමාරුවෙන් පැමිණ, ක්‍රීත ලඟින්
සල්මොන් ඉදිරියට පැමිණ, අමාරු
වෙන් ඒක පසුකොට, ලසේය නුව
රට ලඟ හොඳ වරායනම් ස්ථානයට
පැමිණියෙමුව.

9. බොහෝ කල් පසුවූකල, නිරා
හාරව ඉන්නා දවස් පසුවූ බැවින්
නැවෙන් යන්ට උපද්‍රවූකල, පාවුල්
10. ඔවුන්ට දැනිමිතිකම් දෙමින්, "ම
නුෂ්‍යයෙනි, මේ ගමනෙන් බඩුවලට
සහ නැවට පමනක්නොව, අපගේ
ප්‍රාණවලටත් ආන්ත්‍රා සහ බොහෝ
විනාසයද පැමිණෙන බව දක්නෙ
11. මියි" කීය. එසේ නුමුත් සියේට
නායකයා පාවුල් විසින් කියනලද
දේවලට වඩා, නැව්කාරයාගේද
නැව් ස්වාමියාගේද කීම විස්වාස
12. කෙලේය. තවද සීතල කාලයෙ
හි සිටින්ට ඒ වරාය නරක බැවින්,
නිරිතටත් වයඹටත් ඉදිරියේ තිබෙ
නනාවූ, ක්‍රීතයේ වරායක්වූ පෙනීක
යේ සීතල කාලයෙහි සිටින්නට යෙ
දුනොත් හොඳයි කියා, පිටත්ව
යන්ට බොහෝදෙන දැනිමිතිකම්
13. දුන්නෝය. දකුනු හුළඟ මඳව
ගැහුකල, තමන්ගේ කැමැත්ත සිඩ
වුනේයයි සිතා, එහින් පිටත්ව ක්‍රීතය
අද්දරින් ගියෝය.

14. නුමුත් නොබෝ කලකට උසු
එව්රොක්ළිදන්නම් තද කුනාටුවක්
15. නැව ඉදිරියට ගැහුවේය. එහින්
ඒක හැරී හුළඟ ඉදිරියට යන්ට
බැරිව, හුළඟේ කැමැත්තටම අත්
16. හැර, කෙලෞදනම් දිවයින අද්
දරින් දුව යන්නාවූ අපි අමාරුවෙන්
17. නැවේ ඔරුව ආරක්ෂාකරගන, උ
පකාර පිනිස යවින් බැඳ, සොර
වැල්ලේ වැටෙනවා ඇතැයි භයව
රුවල් බහා, මෙසේ ගෙනයන ලද්
18. දෙමුව. තවද අපි තද කුනාටු
වෙන් ඉතා ඇලලී ගියකල, පසුවද
බඩුවලින් පංගුවක් මූහුදේ දමා,
19. තුන්වෙනිද අපේම අතින් නැ
20. වෙහි අවයව වීසිකෙලෙමුව. බො
හෝ දවසක් ඉරවත් තාරකාවත්
නොපෙනුන කල්හිද, සැර හුළඟ
අප වටකර පැවති කල්හිද, අපි
ගැලවෙමුයයි යන සියළු සිතිවිලි
දුරුව ගියේය.

21. නුමුත් අපි බොහෝ කල් කෑම
නොකා උන්කල, පාවුල් ඔවුන් මැද
සිට කියනුයේ, "මනුෂ්‍යයෙනි, මේ
ආන්ත්‍රාවත් විනාසයත් නොපැමි
ණෙන පිනිස, එද මාගේ වචන අසා
ක්‍රීතයෙන් පිටත්ව නාවෙමුනම් යහ
22. පත. දැනටත් නැව මිස නුබලා
ගෙන් කවුරුවත් විනාස නොවෙන
බැවින්, සිත් ස්ථිරකරගන්ට දැනිමිති
23. කම් දෙමි. මක්නිසාද, මා එකී
වූ මම සේවයකරන්නාවූ දෙවියන්
වහන්සේගේ දූතයා මෙම රාත්‍රියෙහි
24. මා ලඟ සිට, 'පාවුල්, භයනො
වෙන්න; කායිසර්ගේ ඉදිරියට නුබ
ගෙනයනු ලැබිය යුතුය. නුබ සමග
නැවෙන් යන්නාවූ සියල්ලන් දෙවි
යන්වහන්සේ නුබට දුන්සේකැයි'
25. කීයේය. එබැවින් මනුෂ්‍යයෙනි,
දෙවියන්වහන්සේගේ කීම සිඩවේ
යයි මම උන්වහන්සේ කෙරෙහි විස්
වාසකරන බැවින්, ස්ථිර සිතින් සිට
26. පල්ලාය. එසේ නුමුත් අපි එක්
ද්වීපයක වැටෙනවා ඇතැයි" කීයේය.

27. දස සතරවෙනි රාත්‍රිය පැමිනි
කල, අපි ආද්‍රියා මූහුදේ ඔබ මොබ
ගෙනයනු ලබනකල, මධ්‍යම රාත්‍රි
යේදී නැව්කාරයෝ දේසයකට ලං
28. වෙමුයයි සිතා, ගැඹුර බලා විසි
බඹයකැයි දුටුවෝය. එහින් ටිකක්
ඈතට ගොස්, නැවතත් ගැඹුර බලා

පසලොස් බඹයකැයි දුටුවෝය.
29. එකල ගල් ඉඩම්වල වැටේයයි
යන භයින්, අවරේ පැත්තෙන් නැං
ගුරම් සතරක් දමා, කොයිවේලේ
පහන්වේද්දැයි කියා බලා සිටියෝය.
30. නැව්කාරයෝ නැවෙන් පලා
යන්ට සොයමින්, නැව ඇනියෙන්
නැංගුරම් දමන්නාවුන් මෙන් ඔරුව
31. මුහුදට බැස්සවූකල, පාවුල්
"මොවුන් නැවෙහි සිටියොත් මිස,
තුබලාට ගැලවෙන්ට බැරියයි" සි
යේට නායකයාටද සේවායන්ටද
32. කීයේය; එකල සේවායෝ ඔරු
වේ යොත් කපා, ඒක වැටෙන්ට ඉඩ
33. ඇරියෝය. අරුනු නැගෙන කල්
හි, පාවුල් ඔවුන් සියල්ලන්ට කෑම
කන්නට දුනිමිතිකම් දී, "තුබලා
කෑම නොකා නිරාහාරව සිට, අදට
34. දස සතර දවසක. එබැවින් තුබ
ලාගේ සැප පිනිස කෑම කන්ට අව
වාදකරමි. තුබලාගෙන් කිසි කෙ
නෙකුගේ හිසින් කේසයක්වත් නො
35. වැටෙන්නේයයි" කීයේය. මෙ
සේ කියා, රොටි අරගන සියල්ලන්
ගේ ඉදිරියෙහි දෙවියන්වහන්සේට
සතුතිකොට කඩා, කන්නට පටන්
36. ගත්තේය. එවිට සියල්ලෝ සිර
37. සිතින් සිට, කෑම කෑවෝය. නැ
වේ සිටියාවූ සියල්ලෝම දෙසිය සැ
38. ත්තෑ සදෙනෙක. කෑමෙන් ඔ
වුන් තෘප්තියට පැමිණ, ගෝධුම
මුහුදට දමා නැව සැහැල්ලුකලෝය.
39. පහන්වූකල ඔවුන් ඒ දේසය
දැනගත්තේ නැත. තුමුත් වැලිතලා
වක් ඇත්තාවූ එක් තොටක් දැක,
පුළුවන්නම් එහි නැව පමුනුවනු කැ
40. මතිව, නැංගුරම් ඔසවා නැව
යන්ට හැර, සුක්කානමෙහි බැඳුම්
මුදා, මහ රුවල හුළඟ ඉදිරියට නගා,
41. වැලිතලාව බලා ගොස්, දෙපැ
ත්තෙන්ම රළ ගැසෙන තැනකට පැමි
න, නැව තලාවක වැද්දෙව්වෝය.
එවිට ඇනිය බොහෝසෙසින් එරී
නිශ්චලව සිටියේය; අවරේ, රළව
42. ලින් බිඳීගියේය. එවිට සිරකාර
යන්ගෙන් කවුරුවත් පීනා සැඟවී
නොයන පිනිස, ඔවුන් මරන්ට, සේ
43. වායෝ කථාකලෝය. තුමුත්
සියේකට නායකයා පාවුල් රක්‍ෂාක
රනු කැමතිව ඔවුන්ගේ කථාව වල
ක්වා, පීනන්ට පුළුවන්වූවන් පලමු
කොට මුහුදට පැන ගොඩයන්ටද,
44. සෙස්සෝ සමහරු ලෑලිවලින්ද
සමහරු නැව්කඩවලින්ද ගොඩට
යන්ටද අණකෙලේය. මෙසේ සියල්
ලෝ ගැලවී, සුවසේ ගොඩට පැමුනු
නෝය.

28. පරිචෙඡ. ගැලවූනාවූ ඔවුන්
ඒ විපය මෙලිත නමැයි දැනගත්
2. තෝය. එකල ඒ තුගත් මනුෂ්‍ය
යෝ අපට බොහෝ කරුනාකොට,
පවතින්නාවූ වර්‍ෂාව නිසාද සීතල
නිසාද ගිනි පත්තුකොට, අප සියල්
ලන්ට ආගන්තුක සත්කාර කලෝය.
3. පාවුල් දර රසියක් එක්කොට
ගින්නෙහි ලූකල, ගිනි උෂ්ණය
නිසා නපුරු සර්පයෙක් පිටතුව ඇවිත්
4. ඔහුගේ අත වෙලාගත්තේය. ඒ
තුගත් මනුෂ්‍යයෝ ඔහුගේ අතෙහි
එල්ලෙන්නාවූ සර්පයා දැක, "මේ
මනුෂ්‍යයා ඒකාන්තයෙන් මිනීමරන්
නෙක; ඔහු දඬුවම් ලබන්ට යුතු
නිසා, මුහුදෙන් ගැලවූන තුමුත්
ජීවත් නොවේයයි" ඔවුනොවුන්
5. කථාකරගත්තෝය. ඔහු කිසි හිං
සාවකට නොපැමිණ, ඒ සර්පයා ගින්
6. නට ගසාදැමීය. ඔවුන්, ඔහු ඉදී
මෙන්නේය, නොහොත් වහාම මැරී
වැටෙන්නේයයි, බොහෝ වේලා
බලා සිට, ඔහුට කිසි උපද්‍රවක් නො
පැමිනුන බව දැක, වෙනස්වූ සිත්
ඇතිව, "ඔහු දෙවිකෙනෙකැයි"
කීවෝය.
7. ඒ විපයට ප්‍රධානවූ පුබ්ලියස්
හට අයිතිවූ බිම් ඒ ලඟ තිබුනේය.

ඔහු අප පිළිගෙන, තුන්දවසක් ප්‍රීති
යෙන් ආගන්තුක සත්කාර කෙළේය.
8. පුබ්ලියස්ගේ පියා උන ලෙඩින්
සහ රක්තාතිසාරයෙනුත් පීඩිතව
උන්නේය. පාවුල් ඔහු ලඟට පැමිණ,
යාඥාකොට ඔහු පිට අත් තබා සුව
9. කෙළේය. මෙසේ කලවිට, ද්වීප
යෙහි වෙන රෝගීහුද ඔහු ලඟට
10. පැමිණ සුවකරනු ලැබුවෝය. ඔ
වුන් අපට බොහෝ මාන්නයෙන්
ගෞරව කොට, අපි යනකල අපට
උවමනාවූ දේ නැවේ පැටෙව්වෝය.

11. තුන්මසකට පසු, සීතල කාල
යෙහි ද්වීපයෙහි තිබුනාවූ දියොස්කු
රොයිස් නම් ලකුන ඇති අලෙක්‍ෂන්
12. ද්‍රිය නැවට නැගී, සිරාකූසට පැ
මිණ එහි තුන්දවසක් සිටියෙමුව.
13. එසින් පිටත්ව, අවට හැසිර රෙ
ගියන්නම් පටුනට පැමිණ, එක දව
සකට පසු දකුනු හුළඟ ගසනකල
පසුවදා පොතියොලට පැමිණියෙමුව.
14. එහිදී සහෝදරයන් දැක, ඔවුන්
ගේ ඉල්ලීමට සත් දවසක් සිට, රෝ
15. මයට ගියෙමුව. අපගේ ප්‍රවෘත්ති
ය ඇසූ සහෝදරයෝ එසින් ආපිය
ෆොරම්ද තානායම් තුනද දක්වා,
අප පෙරමගට ආවෝය. පාවුල් ඔ
වුන් දැක, දෙවියන්වහන්සේට ස්තුති
කොට, සිත් ස්ථිරකරගත්තේය.
16. අපි රෝමයට ආකල, සියේකට
නායකයා සිරකාරයන් සේනාධිපති
යාට පාවාදුන්නේය. එහෙත් පාවුල්
ට ඔහු ප්‍රවේසම්කරන සේවායා සම
ග, තනියම සිටින්නට අවසර ලැබු
නේය.

17. තුන්දවසකට පසු, පාවුල් යු
දෙව්වන්ගේ ප්‍රධානීන් කැඳවා, ඔ
වුන් රැස්වූකල ඔවුන්ට කියනුයේ,
"සහෝදරවූ මනුෂ්‍යයෙනි, සෙනගට
වත් අපේ පියවරුන්ගේ ව්‍යවස්ථාව
ලටවත් විරුඩවූ කිසි දෙයක් නොක
ළ නුමුත්, මම සිරකාරයෙක්ව යෙරු
සලමෙන් රෝමයන්ගේ අත්වලට
18. පාවාදෙනු ලැබීමි. ඔවුන් මං වි
චාරා, මරනයට සුදුසුවූ කිසි දෙයක්
මා අත නැති බැවින්, මා මුදන්ට
19. කැමතිවූවෝය. නුමුත් එයට විරු
ඩව යුදෙව්වරු කථාකලකල්හි, මා
විසින් කායිසර්ගේ විනිශ්චය ඉල්
වන්ට යුතුවිය. එසේ නුමුත් මාගේ
ජාතියට කිසි දෝසයක් තබන පිනිස
20. නොවේය. දැන් මේ කාරනයෙන්
නුබලා දකින්ටද, නුබලා සමග ක
ථාකරන්ටද නුබලා කැඳවීමි. මක්නි
සාද ඊශ්‍රායෙල්ගේ බලාපොරොත්තු
වීම පිනිස, මම මේ හැකිල්ලෙන්
21. බඳිනු ලැබීමියි" කීයේය. ඔවුහු,
"අපි යුදයෙන් නුබ ගැන ලිවූම් පත්‍ර
නොලැබීමුව; ආවාවූ සහෝදරයන්
ගෙන් කවුරුවත් නුබ ගැන කිසි
22. දෝසයක් දැන්නුවේත් නැත. මේ
ලබ්ධිය ගැන, සියළු තැන්හි විරුඩව
කථාකරන බව අපි දනිමුව; එබැ
වින් නුබ සිතන හැටි නුබෙන් අහ
නනට කැමැත්තෙමුයයි" කීවෝය.
23. ඔවුන් ඔහුට දවසක් නියමකො
ට, බොහෝ දෙන ඔහුගේ නවාතැ
නට ආවෝය. ඔහු උදය පටන් සවස
දක්වා, මෝසෙස්ගේ ව්‍යවස්ථාවෙන්ද
අනාගත වාක්‍යවලින්ද යේසුස්ව
හන්සේ ගැන කාරනා ඔවුන්ට පිළි
ගන්වන පිනිස උත්සාහ කරමින්,
දෙවියන්වහන්සේගේ රාජ්‍යය පෙන්
වාදෙමින්, තෝරා, සාක්ෂිදුන්නේය.
24. කියනලද දේ සමහරෙක් අදහ
ගත්තෝය; සමහරෙක් අදහගත්
25. තේ නැත. ඔවුනොවුන් එකඟ
නොව, එක බසක් පාවුල් කී කල්හි
26. පිටත්ව ගියෝය. ඒ බසනම්; "මේ
සෙනග කරා ගොස්, තොපි කනින්
අසති, නුමුත් තේරුම් නොගනිති;
ඇසින් දකිති, නුමුත් දැනනොගනි
27. තියි කියව. මක්නිසාද ඔවුන්
ඇසින් නොදකින පිනිසත්, කනින්
නොඅසන පිනිසත්, සිතෙන් තේ
රුම් නොගන්නා පිනිසත්, නොහැ

හරනා පිනිසත්, මා විසින් සුවකරනු
නොලබන පිනිසත්, මේ ජනයන්
ගේ හෘදය දැඩිව, කන් හොඳට නෑසී,
තමන්ගේ ඇස් පියාගත්තෝයයි
ශුද්ධාත්මයානන්වහන්සේ යෙසායියා
අනාගතවක්තෘ ලවා, අපේ පියව
රුන්ට මනාකොට කීයවූසේක.
28. එහෙයින් අන්‍යජාතීන්ට දෙවි
යන්වහන්සේගේ ගැලවීම යවනලද
බැයි, නුබලාට දැනේවා. ඔවුන් ඒක
29. අදහගනිතියි" කීයේය. ඔහු
මෙසේ කීකල, යුදෙව්වරු ඔවුනො
වුන් අතරෙහි මහත්වූ වාදයක් කො
ට අහක්ව ගියෝය.

30. පාවුල් ගෙයක් කුලියට ගෙ
න, දෑවුරුද්දක් මුළුල්ලෙහි ඒ ගෙහි
වැස, තමන් ළඟට එන්නාවූ සියල්
31. ලන් පිළිගෙන, කිසි භයක් නැ
තුව, කිසි කෙනෙකුගෙන් වලකනු
නොලැබ, දෙවියන්වහන්සේගේ රා
ජ්‍යය ප්‍රකාසකරමින්, ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ ගැන ඉගැන්නු
වේය.

# ප්‍රේරිතවූ පාවුල් විසින්

# රෝමවාසීන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ මෙහෙකරුවූ, ප්‍රේරිත
යෙක් කොට කැඳවනු ලැබූවාවූ,
2. දෙවියන්වහන්සේ විසින් උන්ව
හන්සේගේ පුත්‍රවූ අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ ගැන
3. අනාගතවක්තෘන් ලවා සුබ ලිය
විලිවල පූර්වයෙහි පොරොන්දුකරව
නලද උන්වහන්සේගේ සුභාරංචියට
වෙන්කරනු ලැබූවාවූ පාවුල් යන
4. මම, දෙවියන්වහන්සේට ප්‍රියවූ,
සුබවන්තව සිටින්නට කැඳවනලද්
දැවූ, රෝමයෙහි සිටින සියල්ලන්
වෙත ලියා එවමි. අපගේ පියවූ දෙවි
යන්වහන්සේගෙන්ද, ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගෙන්ද, කරුනා
වත් සමාදානයත් නුබලාට වේවා.
5. ඒ යේසුස්වහන්සේ මාංශාකාර
යෙන් දාවිත්ගේ ගෝත්‍රයෙන් හට
ගෙන, සුබකමෙහි ආත්මාකාරයෙන්
දෙවියන්වහන්සේගේ පුත්‍රයයි මල
වුන්ගෙන් නැගිටීම කරනකොට
ගෙන බලවත් ලෙස ප්‍රකාසකරනු
6. ලැබූසේක. උන්වහන්සේගේ නා
මයෙන්, සියළු ජාතීන් අතරේ ඇද
හිල්ලට කීකරුකරවීම පිනිස, උන්ව
හන්සේගෙන් කරුනාවත් ප්‍රේරිත
7. තනතුරත් අපි ලැබිමුව. ඔවුන්
අතරේ නුබලාද යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ විසින් කැඳවනලද්දෝය.

8. පලමුකොට නුබලාගේ ඇදහි
ල්ල මුළු ලෝකයෙහි ප්‍රසිද්ධව තිබෙ
න නිසා, නුබලා සියල්ලන් ගැන,
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කරන
කොටගෙන, මම මාගේ දෙවියන්ව
9. හන්සේට ස්තුතිකරමි. මාගේ යා
ඥාවල්හි කඩනැතුව නුබලා සිහිකර
10. මින්, දැන්වත් දෙවියන්වහන්
සේගේ කැමැත්තෙන් නුබලා වෙත
ට එන්නට සඵල ගමනක් ලැබෙන
ලෙස ඉල්ලන බවට, තමන් පුත්‍රයා
නන්වහන්සේගේ සුභාරංචියෙහි මා
ගේ ආත්මයෙන් වැඩකරන්නාවූ දෙ
වියන්වහන්සේ මට සාක්ෂිකාරයෙක්
11. ය. මක්නිසාද නුබලා ස්ථිරකරනු
ලබන පිනිස, නුබලාට යම් කිසි ආත්

මික දනයක් දෙන්නට බොහෝසෙ
හීන් තුබලා දක්නා කැමැත්තෙමි.
12. මම මෙසේ කියන්නේ, තුබලා
ගෙත් මගෙත් එකමුතුවූ ඇදහිල්ල
කරනකොටගෙන අපි ඔවුනොවුන්
ට සැනසිල්ල ලැබෙන පිනිසය.
13. සහෝදරයෙනි, ඉතිරි අන්‍යජා
තීන් අතරෙහි මෙන් තුබලා අතරෙ
හිද මට කිසියම් ඵලයක් ලැබෙන
පිනිස, මම තුබලා වෙතට එන්ට
බොහෝ වර සිතූ බවත්, මේ වන
තෙක්ම වලකනු ලැබූ බවත්, තුබ
ලා නොදන සිටිනවාට මම කැමති
14. නැත. මම ග්‍රීකවරුන්වත් වන
චරයන්වත්, ඥානවන්තයන්ටත් අ
ඥානයන්ටත්, නයකාරයෙක් වෙමි.
15. ඒ නිසා රෝමයෙහි සිටින්නාවූ
තුබලාටත්, මාගේ පුළුවන්කමේ
හැටියට සුභාරංචිය ප්‍රකාසකරන්නට
16. සැදී සිටිමි. ක්‍රිස්තුස්වහන්සේගේ
සුභාරංචියට මම ලැජ්ජා නොවෙමි;
මක්නිසාද එක අදහාගන්නාවූ සියලු
ලුන්ටම, එනම් පලමුකොට යුදෙව්
වන්ටද දෙවනුව ග්‍රීක්වරුන්ටද, ගැ
ලවීම පිනිස දෙවියන්වහන්සේගේ
17. බලය වන්නේය. කුමක්හෙයින්ද,
"ධර්මිෂ්ඨයා ඇදහිල්ලෙන් ජීවත්වේ
යයි" ලියවී තිබෙන ලෙස, ඇදහිල්
ලෙන් ඇදහිල්ලට දෙවියන්වහන්
සේගේ ධර්මිෂ්ඨකම එහි එළිදරව්ක
රනලද්දේය.

18. තවද සැබෑකම අධර්මිෂ්ඨක
මින් වලක්වන්නාවූ මනුෂ්‍යයන්ගේ
සියළු අභක්තියටද අධර්මිෂ්ඨකමටද
විරුඬව, දෙවියන්වහන්සේගේ උඩ
හස ස්වර්ගයෙන් එළිදරව්කරනලද්
19. දේය. මක්නිසාද දෙවියන්වහන්
සේ ගැන දනගන්නට පුළුවන් දේ
උන්වහන්සේ ඔවුන්ට පෙන්වාදුන්
නිසා, ඒ දේ ඔවුන් අතරේ පෙනෙන්
20. නේය. තවද උන්වහන්සේගේ
සදාකාලිකවූ බලය සහ දෙව්කමද
යන උන්වහන්සේගේ අදෘශ්‍යමාන
දේ, ලෝකය මැවූ තැන් පටන් මව
නලද දේවලින් තේරුම්ගනනාලදුව,
පැහැදිලි ලෙස පෙනී යන්නේය.
එබැවින් ඔවුන් උත්තරයක් නැතිව
21. සිටිති. මක්නිසාද ඔවුන් දෙවි
යන්වහන්සේ ඇඳිනගෙන, උන්ව
හන්සේ දෙවියන්වහන්සේය කියා
ගෞරවවත් සතුතිවත් නොකොට,
තමන්ගේ කල්පනා කරනකොට
ගෙන නිරර්ථක බවට පැමුනුනෝය;
ඔවුන්ගේ අඥානවූ සිත් අඳුරුවීය.
22. තමන් ප්‍රඥාවන්තයෝයයි කිය
23. නනාවූ ඔවුන් අඥානව, ජරාවට
නොපැමිනෙන්නාවූ දෙවියන්වහන්
සේගේ තේජස ජරාවට පැමිනෙන්
නාවූ මනුෂ්‍ය පක්ෂි සිව්පා බඩගාන
ජාතීන්ගේ රූපවලට සමානකොට,
24. වෙනස්කලෝය. එබැවින් දෙවි
යන්වහන්සේගේ සැබෑකම බොරු
වට පෙරලා, සදාකල්හිම ප්‍රසංසනීය
වූ මැවුන්කාරයානන්වහන්සේට වඩා
මැව්ලිවලට වැඳ නමස්කාරකරමින්
25. මෙහෙකලාවූ ඔවුන්, තමතමන්
ගේ සිත්වල ආසාව කරනකොට
ගෙන තම තමන්ගේ ශරීරවලට අව
මාන්න කරගන්නා ලෙස, දෙවියන්
වහන්සේ ඔවුන් අපවිත්‍රකමට හැරි
යසේක.

26. මේ නිසා දෙවියන්වහන්සේ
ඔවුන් නීචවූ කාමතෘෂ්ණාවලට හැරි
යසේක. ඔවුන්ගේ ස්ත්‍රීහුද ස්වභා
ව්‍යවහාරය අස්වභා ව්‍යවහාරයට වෙ
27. නස්කලෝය. එසේම පුරුෂයෝ
ස්ත්‍රී සංසර්ගය හැර, ඔවුනොවුන්
කෙරෙහි රාගයෙන් මත්ව, පුරුෂයෝ
පිරුෂයන් සමග දූෂ්‍ය ක්‍රියා කරමින්,
තමන්ගේ වරදවලට සුදුසුවූ ඵල
28. තමන්ම ලැබුවෝය. තවද ඔවුන්
ගේ සිත්වල දෙවියන්වහන්සේ දරා
සිටින්ට ඔවුන් අකමැතිවූ නිසා, ජඩ
සිත් ඇතුව සිටින්ටත්, දුශ්චරිත
යෙන් හැසිරෙන්ටත්, දෙවියන්වහන්
සේ ඔවුන්ට අවකාශ හැරියසේක.

29. ඒ කෙසේද, ඔවුන් සියළු අධර්ම
ශ්ඨකමින්ද කාමමිථ්‍යාචාරයෙන්ද දුෂ්ට
කමින්ද ලෝභයෙන්ද වෛරයෙන්ද
සම්පූර්ණව, කුඹුකේවුකමෙන්ද මි
නීමැරීමෙන්ද විරුඩකමෙන්ද වංචා
කමෙන්ද නපුරුකමින්ද පිරී සිටියෝ
30. ය. ඔවුන් කනට කොඳුරන්නෝ
ව, කේලාම් කියන්නෝව, දෙවියන්
වහන්සේට වෛරවෙන්නෝව, හිං
සාකරන්නෝව, ආඩම්බරකාරයෝව,
පාරට්ටුකරගන්නෝව, නපුරු ක්‍රියා
උපදවන්නෝව, මවුපියන්ට අකීක
31. රුවෝව, අඥානයෝව, පොරො
න්දු කඩකරන්නෝව, ස්වභාව ස්නේහ
නැත්තෝව, සමගිවීමට අකමැත්
තෝව, දයා නැත්තෝව සිටිති.
32. මෙබඳුවූ දේ කරන්නෝ මරණ
යට සුදුස්සෝය යන දෙවියන්වහන්
සේගේ තීන්දුව ඔවුන් දැනගත්
නුමුත්, ඔවුන් ඒ දේ කරති; එපම
ණක්නොව ඒ දේ කරන්නන් කෙ
රෙහි සතුටුද වෙති.

2. පරිච්ඡේ. එබැවින් විනිශ්චයක
රන මනුෂ්‍යය, නුඹ කවරෙක් නුමුත්
උත්තර නැතිව සිටින්නේය. මක්නි
සාද නුඹ යමක් ගැන අනිකෙක්
විනිශ්චය කෙරේද, විනිශ්චය කරන්
නාවූ නුඹ එම දේ කරන නිසා, නුඹ
ටම දෝෂාරෝපනය කරගන්නේය.
2. නුමුත් මෙබඳු දේ කරන්නන්ට
විරුඩව දෙවියනවහන්සේගේ විනිශ්
චය සැබෑවේ ප්‍රකාරයම පවත්නා
3. බව අපි දනිමුව. මෙබඳු දේ කර
න්නාවුන් විනිශ්චය කරමින් එම දේම
කරන්නාවූ මනුෂ්‍යය, නුඹ දෙවියන්
වහන්සේගේ විනිශ්චයෙන් ගැල
4. වෙන්නේයයි සිතන්නේද? නො
හොත් නුඹ පසුතැවිල්ලට පමුනුවන
පිනිස දෙවියන්වහන්සේගේ හොඳ
කම පවත්නා බව නොසලකා, නුඹ
උන්වහන්සේගේ බොහෝවූ හොඳ
කමටත් ක්ෂාන්තියටත් බොහෝකල්
5. ඉවසීමටත් නින්දාකොට, නුඹේ
පසුතැවිලිනුවූ දැඩි සිතින් දෙවියන්
වහන්සේගේ උදහසත් ධර්මිෂ්ඨවූ
විනිශ්චයත් ප්‍රකාසකරන දවසට
6. උදහස රැස්කරන්නේද? උන්ව
හන්සේ සියළු මනුෂ්‍යයන්ට තමත
මන්ගේ ක්‍රියාවලට සුදුසු විපාක
7. දෙනසේක. නොකඩව යහපත්
කම් කරමින් මහිමයද ගෞරවයද
අමරණභාවයද සොයන්නන්ට සදා
8. කාලජීවත්වීම දෙනසේක. නුමුත්
සැබෑකමට අකීකරුවූ අධර්මිෂ්ඨක
මට කීකරුවූ විරුඩකාරයන්ට ක්‍රෝධ
යත් උදහසත් පැමිනෙන්නේය.
9. නපුරුකම් කරන්නාවූ සියළු මනු
ෂ්‍ය ප්‍රාණීන්ට, ඒනම් පලමුකොට
ජුදෙව්වන්ටත් දෙවනුව ග්‍රීකයන්
ටත්, දුකත් කනගාටුවත් පැමිනෙන්
10. නේය. නුමුත් යහපත්කම් කරන්
නාවූ සියළු මනුෂ්‍යයන්ට, ඒනම් පල
මුකොට ජුදෙව්වන්ටත් දෙවනුව
ග්‍රීකයන්ටත්, මහිමයත් ගෞරව
යත් සමාදානයත් පැමිනෙන්නේය.
11. මක්නිසාද දෙවියන්වහන්සේ ම
නුෂ්‍යයන්ගේ තරාතිරම් නොසලක
12. නසේක. ව්‍යවස්ථාව නැතුව පව්
කලාවූ සියල්ලෝ ව්‍යවස්ථාව නැතුව
විනාසවෙනවා ඇත. ව්‍යවස්ථාව ඇ
තුව පව්කලාවූ සියල්ලෝ ව්‍යවස්ථා
වෙහි ප්‍රකාරයට විනිශ්චයකරනු ලබ
13. නවා ඇත. තවද ව්‍යවස්ථාව
අසන්නෝ දෙවියනවහන්සේගේ ඉදි
රියෙහි ධර්මිෂ්ඨයෝ නොවෙති; ඒ
හෙත් ව්‍යවස්ථාව පවත්වන්නෝ
ධර්මිෂ්ඨකොට ගණන්ගනු ලබනවා
14. ඇත. මක්නිසාද, ව්‍යවස්ථාව
නොලැබූවාවූ අන්‍යජාතීනු ස්වභා
වෙන්ම ව්‍යවස්ථාවෙහි නියමකාර්
තිබෙන් දේ කරනකල්, ව්‍යවස්ථාව
නොලැබූවාවූ ඔවුන් තමන්ටම ව්‍යව
15. ස්ථාවක්ව සිටිති. ඔවුන්ගේ හෘද
ය සාක්ෂිදීමෙන්ද, ඔවුන්ගේ සිතිවිලි
ඔවුනොවුන්ට දෝෂාරෝපණය කිරී

මෙන්ද, නිදොෂකිරීමෙන්ද, ඔවුන්
ගේ සිත්වල ව්‍යවස්ථාවෙහි තත්වය
තිබෙන බව දක්වන ලද්දේය.
16. මා විසින් ප්‍රකාශකල සුභාරංචි
යේ ප්‍රකාරයට, දෙවියන්වහන්සේ
ක්‍රිස්තුස්වහන්සේ ලවා මනුෂ්‍යයන්
ගේ රහස් විනිශ්චයකරන දවසේදී,
මේ කාරනා සිඞවන්නේය.

17. නුඹ යුදෙව්වෙකැයි කියනලද්දුව,
ව්‍යවස්ථාවෙහි විශ්වාසකොට,
දෙවියන්වහන්සේ ගැන අහංකාර
වන්නේය; ව්‍යවස්ථාවෙන් උගන්වන
18. ලදුව, උන්වහන්සේගේ කැමත්
ත දැන, වඩා උතුම් කාරනා පිළි
19. ගන්නේය. නුඹ ව්‍යවස්ථාවේ
පවත්නාවූ දැනගැනීමේද සැබෑක
මේද ආකාරය ඇතුව, අන්ධයන්ට
මග පෙන්වන්නෙක්ව, අඳුරෙහි සි
20. ටින්නන්ට එළියක්ව, අඥාන
යන්ට ගුරුකෙනෙක්ව, බාලයන්ට
ඉගැන්නුම්කාරයෙක්ව සිටිනෙන්යයි,
21. නිසැකව සිතන්නේය. එසේ
හෙයින් අනුන්ට උගන්වන්නාවූ නුඹ
නුඹටම උගන්වා නොගන්ද? සොර
කම් නොකරන්නැයි ප්‍රකාශකරන්
නාවූ නුඹ සොරකම්කරන්නේද?
22. පරදාර නොකරන්නැයි කියන්
නාවූ නුඹ පරදාර කරන්නේද? දේව
රූපවලට පිළිකුල් කරන්නාවූ නුඹ
දේව සන්තක දේ හොරකම් කරන්
23. නේද? ව්‍යවස්ථාව ගැන පාරට්ටු
කරගන්නාවූ නුඹ ව්‍යවස්ථාව කඩකි
රීමෙන් දෙවියන්වහන්සේට අගෞ
24. රව කරන්නේද? මක්නිසාද
ලියා තිබෙන ප්‍රකාරයට, නුඹලා කර
නකොටගෙන අන්‍යජාතීන් අතරෙහි
දෙවියන්වහන්සේගේ නාමය අප
25. හාස කරනලද්දේය. නුඹ ව්‍යව
ස්ථාව රක්‍ෂාකරන්නේනම්, චර්මඡෙ
දනයෙන් නුඹට ප්‍රයෝජන ඇත;
නුමුත් නුඹ ව්‍යවස්ථාව කඩකරනෙන්
නම්, නුඹේ චර්මඡෙදනය අචර්මඡෙදන
26. යක් වෙයි. එබැවින් චර්මඡෙදනය
නොවූ තැනැත්තේ ව්‍යවස්ථාවේහි
නියෝගවල් පවත්වන්නේනම්, ඔහු
ගේ අචර්මඡෙදනය චර්මඡෙදනය වශ
යෙන් ගනන්ගනු නොලබන්නේද?
27. ස්වභාවෙන් අචර්මඡෙදනවූ තැ
නැත්තේ ව්‍යවස්ථාව රක්‍ෂාකරන්
නේනම්, ව්‍යවස්ථාවේ ලියවිල්ලේ
ප්‍රකාරයට චර්මඡෙදනයව සිටින නු
මුත්, ව්‍යවස්ථාව කඩකරන්නාවූ නුඹ
28. වරදට පත්නොකරනෙන්ද? මක්
නිසාද පෙනීමට උඩනක් යුදෙව්
වෙක්ව සිටින්නා යුදෙව්වෙක් නො
වේය; මාංශයේ පෙනෙන්නාවූ චර්ම
ඡෙදනය චර්මඡෙදනය නොවේය.
29. සිතින් යුදෙව්වෙක්ව සිටින්නා
යුදෙව්වෙක්ම වේ. චර්මඡෙදනයනම්
ආත්මික ලෙස සිතින් වෙන්නාවූ
චර්මඡෙදනයම මිස, ව්‍යවස්ථාවේ ලිය
විල්ලේ ප්‍රකාරයට පවතින චර්මඡෙ
දනය නොවේය. එහි ප්‍රසංසාව මනුෂ්‍ය
යන්ගෙන් නොව, දෙවියන්වහන්
සේගෙන් වේ.

3. පරිච්ඡෙ. එසේවීනම් යුදෙව්
වන්ට ඇති උතුම්කම මොකද?
චර්මඡෙදනයෙන් ඇති ප්‍රයෝජන
2. කිමෙක්ද? සියළු ආකාරයෙන්
බොහෝය; ප්‍රධානකොට දෙවියන්
වහන්සේගේ නියෝගවල් ඔවුන්ට
3. බාරදුන් බැවින. කිමෙක්ද? ඔවුන්
ගෙන් සමහර කෙනෙක් නොඇදහූ
නම්, ඔවුන්ගේ නොඇදහිලිකම
නිසා දෙවියන්වහන්සේගේ විශ්වාස
4. කම නැතිවේද? එසේ නොවේවා.
"ඔබවහන්සේගේ වාක්‍යවලින් නි
දොසවෙන පිනිසත්, විනිශ්චයකර
නකල ජයගන්නා පිනිසත්යයි"
ලියා තිබෙන ලෙස, සියළු මනුෂ්‍ය
යෝ බොරුකාරයෝ වූනත්, දෙවි
යන්වහන්සේ සැබෑ කෙනෙක් බව
5. පෙනේවා. නුමුත් අපේ අධර්මිෂ්ට
කමෙන් දෙවියන්වහන්සේගේ ධර්මි
ෂ්ටකම ප්‍රසිඞකරනු ලැබේනම්, අපි

මක්කියමුද? මම මනුෂ්‍යයෙක් ලෙස
කථාකරමි. පලිගන්නාවූ දෙවියන්ව
හන්සේ අධර්මිෂ්ඨ කෙනෙක්ද?
6. එසේ නොවේවා. එසේ වූවොත්,
දෙවියන්වහන්සේ ලෝකය විනිශ්
7. චයකරන්නේ කොහොමද? තව
ද, දෙවියන්වහන්සේගේ මහිමය
පිනිස උන්වහන්සේගේ සැබෑකම
මාගේ බොරුවෙන් වැඩිවූයේනම්,
මම පව්කාරයෙක් කොට විනිශ්චය
8. කරනු ලබන්නේ මක්නිසාද? ත
වද, "හොඳ සිද්ධවීම පිනිස නරක
කරමුයයි" නොකියන්නේ මක්නි
සාද? "එසේ කියනවාය" කියා,
සමහරු අපට නින්ද පිනිස කියති.
මෙසේ කියන්නාවූන් දඬුවමට පැමි
9. ණිම යුතුය. එසේවීනම් අපි ඔවුන්
ට වඩා උතුම්ද? මුළුමනෙම්ම නැත.
මක්නිසාද යුදෙව්වරුද ග්‍රීක්වරුද
යන සියල්ලෝ පාපයට යටත්ව සිටි
න බව, අපි පලමු පෙන්වා දුන්නෙ
10. මුව. මෙසේම ලියා තිබෙන්නේ
ය; එනම්, "ධර්මිෂ්ඨ කෙනෙක් නැත;
11. එකෙක්වත් නැත; තේරුම් ගන්
නාවූ එකෙක්වත් නැත; දෙවියන්
වහන්සේ සොයන්නාවූ එකෙක්වත්
12. නැත. ඔවුන් සියල්ලෝම මංමු
ලාව ගියෝය; ඔවුන් ඒකාකාරම
නිෂ්ප්‍රයෝජන වූවෝය; යහපත්කම්
කරන්නෙක් නැත, එකෙක්වත්
13. නැත. ඔවුන්ගේ උගුර විවරවූ
සොහොන් ගෙයක; ඔවුන් තමන්
ගේ දිව්වලින් රැවටිලි කථාකලෝය;
ඔවුන්ගේ තොල් යට සර්ප විස ඇත්
14. තේය; ඔවුන්ගේ කටවල් සාප
කිරීමෙන්ද පරුෂ වචනයෙන්ද පිරී
15. තිබෙන්නේය; ඔවුන්ගේ පාද
16. ලේ වැගිරීමට යුහුවෙති; ඔවුන්
ගේ මාර්ගවල නාස්තියද කාලකන්
17. නිකමද තිබෙන්නේය. සමාදාන
යෙහි මාර්ගවල් ඔවුන් දන්නෝනැත;
18. ඔවුන්ගේ ඇස් ඉදිරියෙහි දෙවි
යන්වහන්සේ කෙරෙහි භයක් නැ
19. නැති" යනුය. තවද සියල්ලන්
ගේ කටවල් පියවෙන පිනිසද, මුළු
ලෝකයා දෙවියන්වහන්සේ ඉදිරි
යෙහි දඬුවමට යෝග්‍යවෙන පිණි
සද, ව්‍යවස්ථාවෙහි කියනලද සියල්
ලම වැවස්ථාවට ඇතුලත්වූවන්ට
කියනලද්දේයයි දනිමුව.

20. තවද ව්‍යවස්ථාව කරනකොට
ගෙන පව් ඇඳිනගැන්ම වන බැවින්,
කවර මනුෂ්‍යයෙක්වත් ව්‍යවස්ථාවේ
ක්‍රියාවලින් දෙවියන්වහන්සේගේ ඉදි
රියෙහි ධර්මිෂ්ඨකොට ගනන්ගනු
21. නොලබන්නේය. දැන් ව්‍යවස්ථා
ව නැතුව දෙවියන්වහන්සේගේ ධර්මි
ෂ්ඨකම, ව්‍යවස්ථාව සහ අනාගතවා
ක්‍යවලින්ද සාක්ෂි ලැබ, ප්‍රකාශකර
22. නලද්දේය. එනම්, යේසුස් ක්‍රිස්
තුස්වහන්සේ කෙරෙහි ඇදහිල්ල
කරනකොටගෙන, අදහගන්නාවූ
සියල්ලන්ටද සියල්ලන් කෙරෙහිද
ප්‍රභේදයක් නැතුව, පවත්නාවූ දෙ
වියන්වහන්සේගේ ධර්මිෂ්ඨකමය.
23. සියල්ලෝම පව්කොට දෙවියන්
වහන්සේගෙන් ලත් තේජස් හීනව
24. සිටින හෙයින්, යේසුස් ක්‍රිස්තුස්
වහන්සේ කෙරෙහි පවතින්නාවූ
මිදීම කරනකොටගෙන, දෙවියන්
වහන්සේගේ කරුනාවෙන්ම ඔවුන්
නිකමට ධර්මිෂ්ඨකොට ගනන් ගන්
25. නාලද්දෝ වෙති. දෙවියන්ව
හන්සේ, තමන්වහන්සේගේ ඉවසී
මෙන් පසුගියාවූ පව් ක්ෂමාකිරීම
ගැන තමන්වහන්සේගේ ධර්මිෂ්ඨ
කම දක්වන්ට, ක්‍රිස්තුස්වහන්සේගේ
ලේය කෙරෙහි ඇදහිල්ල කරන
කොටගෙන, උන්වහන්සේ පව් නාස
න පූජාවක් කොට පෙන්වා සිටියේය.
26. දෙවියන්වහන්සේ මෙසේ කලේ,
උන්වහන්සේ ධර්මිෂ්ඨකෙනෙක් හා
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
අදහන තැනැත්තා ධර්මිෂ්ඨකොට
ගනන් ගන්නා කෙනෙක්ද වන්න
පිනිස, මේ කාලයේදී තමන්වහන්

ලේගේ ධර්මිෂ්ඨකම ප්‍රකාශකරන
27. පිනිසය. එසේවීනම්, පාරට්ටුකර
ගැන්ම කොයිද? එය බැහැර කරන
ලද්දේය. මොන ව්‍යවස්ථාවෙන්ද?
ක්‍රියාවල ව්‍යවස්ථාවෙන්ද? නැත;
28. ඇදහිල්ලේ ව්‍යවස්ථාවෙන්ය. ඒ
හෙයින්, මනුෂ්‍යයෙක් ව්‍යවස්ථාවෙහි
ක්‍රියාවලින් වෙන්ව, ඇදහිල්ලෙන්
ධර්මිෂ්ඨකොට ගනන් ගන්නාලද්දේ
29. යයි අප තීන්දුකොට කියමුව. දෙ
වියන්වහන්සේ යුදෙව්වන්ගේ පම
ණක් දෙවියන්වහන්සේද? අන්‍යජා
තීන්ගේත් දෙවියන්වහන්සේ නො
වේද? එසේය; අන්‍යජාතීන්ගේත්
30. දෙවියන්වහන්සේය. මක්නිසාද
චර්මඡේදනවූවන් ඇදහිල්ල නිසාද,
චර්මඡේදන නුවූවන් ඇදහිල්ල කර
ණකොටගෙනද, ධර්මිෂ්ඨකොට ග
නන් ගන්නේ, එකම දෙවියන්වහන්
31. සේය. එසේවීනම්, ඇදහිල්ලෙන්
අපි ව්‍යවස්ථාව අවලංගු කරමුද?
එසේ නොවේවා; අප ව්‍යවස්ථාව
ස්ථිරකරමුව.

4. පරිච්ඡේ. එසේවීනම්, අපේ පි
යවූ ආබ්‍රහම් මාංශ ප්‍රකාරයෙන් කු
2. මක් ලැබුයේදැයි කියමුද? ආබ්‍රහම්
ක්‍රියාවලින් ධර්මිෂ්ඨකොට ගනන්
ගන්නාලද්දේනම්, තමා පාරට්ටුකර
ගැන්මට කාරනා ඔහුට ඇත්තේය.
නුමුත් දෙවියන්වහන්සේගේ ඉදිරි
3. යෙහි නොවේය. ඒ ගැන සුබලිය
විල්ල කුමක් කියන්නේද? "ආබ්‍ර
හම් දෙවියන්වහන්සේ කෙරෙහි ඇද
හුයේය; ඒ ඇදහිල්ල ඔහු කෙරෙහි
ධර්මිෂ්ඨකම වෙනුවට ගනන් ගන්නා
4. ලද්දේය." වැඩකරන්නාගේ කුලී
නයක් වශයෙන් මිස, කරුනාවක්
වශයෙන් ගනන්ගන්නා නොලැබේ.
5. එහෙත් වැඩ නොකරන්නාවූ,
අභක්තීන් ධර්මිෂ්ඨකොට ගනන්
ගන්නා තැනන්වහන්සේ කෙරෙහි
අදහන්නාවූ තැනැත්තාගේ ඇද
හිල්ල, ධර්මිෂ්ඨකම වෙනුවට ගනන්
6. ගන්නා ලැබේ. එලෙසම යමෙක්
කෙරේ වැඩනැතුව දෙවියන්වහන්
සේ ධර්මිෂ්ඨකම ගනන් ගන්නා
සේද්ද, ඔහුගේ වාසනාවන්තකම
7. දාවිත් දක්වමින්, "යම් කෙනෙකු
ගේ අපරාධ ක්ෂමාකරනු ලැබේද්ද,
යම් කෙනෙකුගේ පාපවල් වසනු
ලැබේද්ද, ඔවුන් වාසනාවන්තයෝ
8. ය. ස්වාමින්වහන්සේ යමෙකුගේ
පව් ගනන් නොගන්නාසේද්ද, ඒ
මනුෂ්‍යයා වාසනාවන්තයෙකැයි"
කීයේය.

9. තවද මේ වාසනාවන්තකම
චර්මඡේදනවූවන් කෙරෙහි පමනක්ද,
නොහොත් චර්මඡේදන නුවූවන් කෙ
රෙහිත් පැමිනෙන්නේද? "ආබ්‍රහම්
ගේ ඇදහිල්ල ධර්මිෂ්ඨකම වෙනුවට
ගනන් ගන්නාලදැයි" අපි කියමුව.
10. එසේවීනම් කොසේ ගනන් ගන්
නාලදද? ඔහු චර්මඡේදනයෙහි, නො
හොත් අචර්මඡේදනයෙහි සිටි කල්
හිද? චර්මඡේදනයෙහි නොව, අචර්ම
11. ඡේදනයෙහි සිටිය කල්හිමය. ඔහු
අචර්මඡේදිතව සිටිද්දී, ඔහුට ඇතුව
තිබුනාවූ ඇදහිල්ලේ ධර්මිෂ්ඨකමේ
මුද්‍රයක් කොට චර්මඡේදන ලකුන
ලැබුයේය. අචර්මඡේදිතව අදහන්
නාවූ සියල්ලන් කෙරෙහි ධර්මිෂ්ඨ
කම ගනන්ගනු ලබන පිනිසද,
12. ඔවුන්ගේ පියා වෙන්ටත්, චර්ම
ඡේදිතව පමනක් නොව අචර්මඡේ
දිතවූ අපේ පියවූ ආබ්‍රහම්ගේ ඇද
හිල්ලේ අඩි පාරේ යන්නාවූ චර්ම
ඡේදනවූවන්ගේ පියා වෙන්ටත්, ඔහු
13. ඒ ලකුන ලැබුයේය. මක්නිසාද,
ආබ්‍රහම් ලෝකයෙහි උරුමක්කාර
වන්නේයයි යන පොරොන්දුව, ඔහු
ටවත් ඔහුගෙන් පැවත එන්නන්ට
වත් ව්‍යවස්ථාවෙන් නොව, ඇදහිල්
14. ලේ ධර්මිෂ්ඨකමෙන් වූයේය. ව්‍ය
වස්ථාවෙහි පිහිටා සිටින්නෝ උරු
මක්කාරයෝනම්, ඇදහිල්ල හිස්ව

ඛිලේය, පොරොන්දුවද නිෂ්ප්‍රයෝ
15. ජන වූයේය. තවද ව්‍යවස්ථාව
උදහස උපදවන්නීය; මක්නිසාද
ව්‍යවස්ථාව නැති තැන අපරාධයක්
16. නැත. ඒ නිසා ආබ්‍රහම්ගෙන්
පැවත එන්නාවූ සියල්ලන්ට ඒනම්
ව්‍යවස්ථාවෙහි පිහිටා සිටින්නන්ට
පමනක් නොව, ඔහුගේ ඇදහිල්ලේ
පිහිටා සිටින්නන්ටත් පොරොන්දුව
ස්ථිරවෙන ලෙස, පොරොන්දුවූනාවූ
දේ කරුනාව කරනකොටගෙන වෙ
න පිනිස, ඒ පොරොන්දුවේ ඉෂ්ටවීම
17. ඇදහිල්ලෙන් වේ. තවද "මම
නුඹ බොහෝ ජාතීන්ට පියෙක් කෙ
ළෙමියි" ලියා තිබෙන ලෙස, ආබ්‍ර
හම් තමන් ඇදහූවාවූ, මලවුන් ජීවත්
කරන්නාවූ, නූපන් දේත් උපන් දේ
මෙන් සඳහන්කරන්නාවූ දෙවියන්
වහන්සේ ඉදිරියෙහි අප සියල්ලන්
18. ගේ පියාණෝය. "නුඹෙන් පැව
ත එන්නෝ මෙසේ වෙනවා ඇතැයි"
කියනලද ලෙස, ආබ්‍රහම් බොහෝ
ජාතීන්ගේ පියා වෙන පිනිස, බලා
පොරොත්තුවෙන්ට බැරි දේ ගැන
බලාපොරොත්තුවෙමින් ඇදහූයේය.
19. ඔහු ඇදහිල්ලෙන් දුර්වලනොව,
අවුරුදු සියයක් පමන වයස්ගතව
සිටිද්දී තමාගේ ශරීරය මල බවවත්,
සාරාගේ කුසේ මල බවවත් නොසැ
20. ලකූයේය. ඔහු ඇදහිල්ල නැති
කමෙන් දෙවියන්වහන්සේගේ පො
රොන්දුව ගැන සැක නොකොට,
ඇදහිල්ලෙන් බලවත්ව දෙවියන්ව
21. හන්සේට ගෞරව කරමින්, පො
රොන්දුවූනාවූ දේ ඉෂ්ටකරන්නට
උන්වහන්සේට පුළුවන කියා නිසැ
22. කව විශ්වාසකලේය. ඒ නිසා
ඒක ධර්මිෂ්ඨකම වෙනුවට ඔහු කෙ
23. රෙහි ගනන් ගනනාලද්දේය. ත
වද ඔහු කෙරෙහි එය ගනන් ගන්
නාලදැයි, ඔහු නිසා පමනක් නොව,
24. අප නිසාත් ලියනලද්දේය. මක්
නිසාද, අපේ පාපවල් නිසා පාවා
දෙනලද්දාවූ, අප ධර්මිෂ්ඨකොට ග
නන්ගනු ලබන පිනිස නැඟුටුවන
ලද්දාවූ, අපේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්
25. තුස්වහන්සේ මලවුන්ගෙන් නැ
ගිටෙව් තැනන්වහන්සේ කෙරෙහි
අදහන්නාවූ අපටත්, එය ගනන්ගනු
ලබන්නේය.

5. පරිච්ඡේ. එබැවින් ඇදහිල්
ලෙන් ධර්මිෂ්ඨකොට ගනන් ගනනා
ලද්දාවූ අපට, අපේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ කරනකොටගෙ
න, දෙවියන්වහන්සේ හා සමාදානය
2. ඇත්තේය. අපි යම් කරුනාවක්හි
පවතිමුද, ඇදහිල්ලෙන් උන්වහන්
සේ කරනකොටගෙන ඒ කරුනාව
ට පැමිනීම ලැබ, දෙවියන්වහන්සේ
ගේ තේජස බලාපොරොත්තුවීමෙන්
3. සන්තෝසවෙමුව. එපමනකුත්
නොව, පීඩා විඳීමෙන් ඉවසිල්ලද,
4. ඉවසිල්ලෙන් අත්දැකීමද, අත්දැ
කීමෙන් බලාපොරොත්තුවීමද උප
දින බව දැන, පීඩා විඳීමෙහිද අපි
5. සන්තෝස වෙමුව. අපට දෙනලද
ශුද්ධාත්මයානන්වහන්සේ විසින් දෙ
වියන්වහන්සේගේ ප්‍රේමය අපේ හෘද
වල වගුරුවනලද බැවින්, බලාපො
රොත්තුවීම ලැජ්ජාව උපදවන්නේ
6. නැත. තවද අපි දුර්වලව සිටිද්දීම,
නියම කාලයෙහි ක්‍රිස්තුස්වහන්සේ
භක්ති නැත්තාවුන් වෙනුවට මල
7. සේක. ධර්මිෂ්ඨයෙක් උදෙසා මැ
රෙන්ට යමෙකුගේ කැමතිවීම අමා
රුවක්ය; සමහරවිට සත්පුරුෂයෙක්
උදෙසා නසින්ට යමෙකුට ධෛර්‍ය
8. වෙන්නට පුළුවන. නුමුත් අපි
පව්කාරව සිටිද්දීම අප වෙනුවට
ක්‍රිස්තුස්වහන්සේගේ නැසීමෙන්,
දෙවියන්වහන්සේ අප කෙරෙහි පව
තින්නාවූ තමන්වහන්සේගේ ප්‍රේමය
9. ප්‍රකාශකරනසේක. දැනුදු ක්‍රිස්තුස්
වහන්සේගේ ලේ නිසා ධර්මිෂ්ඨකො
ට ගනන්ගනු ලැබූ අපි ඉතා වැඩි

වසයෙන්, උන්වහන්සේ කරනකො
ටගෙන, උදහසෙන්ද ගලවනු ලබ
10. නවා ඇත. මක්නිසාද අපි සතු
රුව සිටිද්දීම දෙවියන්වහන්සේගේ
පුත්‍රයාගේ මරනයෙන් උන්වහන්සේ
සමග මිත්‍රවීමුනම්, මිත්‍රවූනාවූ අපි
ඉතා වැඩි වසයෙන් උන්වහන්සේ
ගේ ජීවත්වීමෙන් ගලවනු ලබනවා
11. ඇත. එපමනක්නොව, මිත්‍රභා
වය අපට ලබාදුන්නාවූ අපගේ ස්වා
මිවූ ජේසුස් ක්‍රිස්තුස්වහන්සේ කරන
කොටගෙන, දෙවියන්වහන්සේ කෙ
රෙහිද සන්තෝසවෙමුව.

12. තවද එක් මනුෂ්‍යයෙක් නිසා
පාපයත්, පාපය නිසා මරනයත්,
ලෝකයට ඇතුල්වූනේය. සියළු මනු
ෂ්‍යයන් පව්කල බැවින්, සියල්ලන්
කෙරෙහි මරනයත් පැමුනුනේය.
13. ව්‍යවස්ථාව දෙන කාලය දක්වාත්
පාපය ලෝකයෙහි තිබුනේය; නු
මුත් ව්‍යවස්ථාවක් නැති කල්හි පාපය
14. ගනන් නොගන්නා ලැබේ. එ
සේවි නුමුත්, ආදම් පටන් මෝසෙස්
දක්වා, ආදම්ගේ අපරාධාකාරයෙන්
පව් නොකලවුන් කෙරෙහි පවා,
මරනය රජකම් කලේය. ඒ ආදම්
එන්නාවූ තැනන්වහන්සේගේ ආදි
15. සයක්ය. එහෙත් අපරාධය යම්
සේද, කරුනා තෑග්ග එසේ නොවේ.
මක්නිසාද එක් මනුෂ්‍යයාගේ අපරා
ධයෙන් බොහෝ දෙන මලාහුනම්,
දෙවියන්වහන්සේගේ කරුනාව සහ
එක මනුෂ්‍යයාවූ ජේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ කරනකොටගෙන ඇත්තා
වූ කරුනාවෙහි තෑග්ගත්, බොහෝ
දෙනා කෙරෙහි ඉතා අධිකවසයෙන්
16. වැඩිව ගියේය. ඇරත් ඒ තෑග්ග
පව්කලාවූ එක්කෙනෙක් කරන
කොටගෙනවූ විපාක මෙන් නොවේ.
මක්නිසාද එක් අපරාධයක් නිසා
තීන්දුවනම්, දඬුවමට පත්කිරීමය.
නුමුත් කරුනාවේ තෑග්ගනම් බො
හෝ අපරාධවලින් නිදොස් බවට
17. පැමිනවීමය. එක්කෙනාගේ අ
පරාධයෙන්, එක්කෙනා කරනකො
ටගෙන, මරනය රජකම් කලේවීනම්,
බොහෝ කරුනාවද ධර්මිෂ්ඨකම
නැමති තෑග්ගද ලැබූවෝ, එක්කෙ
නාවූ ජේසුස් ක්‍රිස්තුස්වහන්සේ කර
නකොටගෙන, කොපමන වැඩිත
රම්ව ජීවනයෙන් රජකම් නොක
18. රද්ද? එබැවින් එක්කෙනෙකු
ගේ අපරාධයෙන් සියළු මනුෂ්‍යයෝ
දඬුවමට පත්වූනාසේම, එක්කෙනෙ
කුගේ ධර්මිෂ්ඨකමෙන් සියළු මනුෂ්‍ය
යෝ ජීවත්වීමෙහි ධර්මිෂ්ඨකමට පැ
19. මුනුනෝය. තවද එක මනුෂ්‍ය
යාගේ අකීකරුකමෙන් බොහෝ
දෙන පව්කාරයෝ වූනාසේම, එක්
කෙනාගේ කීකරුකමෙන් බොහෝ
දෙන ධර්මිෂ්ඨයෝ වෙනවා ඇත.
20. ව්‍යවස්ථාව පැමුනුනේ, අපරාධය
21. බොහෝ වෙන පිනිසය. නුමුත්
මරනය සිඩකරන ලෙස පාපය අධි
පතිකම් කලාසේම, සදාකාල ජීවන
ය සිඩකරනලෙස, අපගේ ස්වාමිවූ
ජේසුස් ක්‍රිස්තුස්වහන්සේ කරන
කොටගෙන, කරුනාව ධර්මිෂ්ඨක
මින් අධිපතිකම් කරන පිනිස, පාපය
බොහෝවූ තැන කරුණාව ඊට වඩා
බොහෝ වූනේය.

6. පරිච්ඡේ. එසේවීනම් කුමක්
කියමුද? කරුනාව බොහෝ වෙන
2. පිනිස පාපයෙහි පවතිමුද? එසේ
නොවේවා. පාපය කෙරෙහි මලාවූ
අපි මෙහින් මතු එහි කෙසේ ජීවත්
3. වමුද? අප අතරෙන් යම් පමන
දෙන ජේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි බව්තීස්ම ලැබූවෝද, එපමන
දෙන උන්වහන්සේගේ මරනය කෙ
රෙහි බව්තීස්ම ලැබූ බව දන්නේ
4. නැද්ද? එබැවින් ක්‍රිස්තුස්වහන්
සේ පියානන්වහන්සේගේ ආනුභා
වෙන් මලවූන්ගෙන් නැගුටුවනු ලැ
බූවාසේම, අපි අළුත් ජීවනයකින්

හැසිරෙන පිනිස බව්තීස්මයෙන්
උන්වහන්සේ සමග මරනයෙහි
5. තැන්පත්කරනු ලැබමුව. මක්නි
සාද අපි උන්වහන්සේගේ මරණකා
රයෙහි සිටුවනු ලැබුනම්, උන්වහන්
සේගේ නැගිටීමේ ආකාරයෙහිද
6. සිටුවනු ලබනවා ඇත. මින් මතු
අපි පාපයට වැඩනොකරන ලෙස
පාප ශරීරය බල නැතිකරන පිනිස,
අපේ පුරාන මනුෂ්‍යයා උන්වහන්සේ
සමග කුරුසියෙහි ඇනගසනලද
7. බව දනිමුව. මක්නිසාද මැරුනාවූ
තැනැත්තේ පාපයෙන් මිදී සිටින්
8. නේය. අපි ක්‍රිස්තුස්වහන්සේ එක්ක
නැසුනෙමුනම්, උන්වහන්සේ එක්ව
ජීවත්වන්නෙමුයයි අදහගනිමුව.
9. ඇරත් මලවුන්ගෙන් නැගිටුනාවූ
ක්‍රිස්තුස්වහන්සේ තවත් නොමැරෙ
න බවත්, මරනය උන්වහන්සේ
කෙරෙහි බලය නොපවත්වන බවත්
10. දනිමුව. මෙසේ උන්වහන්සේ
මැරීමෙන් පාපයට එක් වරක් මල
සේක. එහෙත් ජීවත්වීමෙන් දෙවි
යන්වහන්සේ කෙරෙහි ජීවත්වන
11. සේක. එලෙසම් නුබලා පාපයට
මැරී ඉන්න බවත්, අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කරනකො
ටගෙන දෙවියන්වහන්සේ කෙරෙ
ජීවත්ව සිටින බවත්, සිතට ගනිල්
12. ලාය. ඒ නිසා නුබලා නුබලාගේ
නශින්නාවූ ශරීරවල අභිලාසයන්ට
කීකරුවෙන ලෙස, ඒ ශරීරය කෙ
රෙහි පාපය අතිපතිකම් නොකෙ
13. රේවා. නුබලාගේ අවයවයන්
අධර්ම්මිෂ්ඨකමෙහි ආයුධකොට පාප
යට පාවා නොදී, මලවුන්ගෙන් ජීව
ත්ව සිටින්නාවුන් මෙන් නුබලාම
දෙවියන්වහන්සේට පාවාදී, නුබලා
ගේ අවයවයන්ද ධර්ම්මිෂ්ඨකමේ ආයු
ධකොට, උන්වහන්සේට පාවා දීපල්
14. ලාය. මක්නිසාද නුබලා ව්‍යව
ස්ථාවට යටත්නොව කරුනාවට යට
ත්ව සිටින නිසා, පාපය නුබලා කෙ
රෙහි අතිපතිකම් නොකරන්නේය.
15. එසේවීනම් කිමෙක්ද? අපි ව්‍ය
වස්ථාවට නොව කරුනාවට යටත්ව
සිටින නිසා, පව් කරමුද? එසේ නො
16. වේවා. නුබලා යමකට කීකරු
වෙන පිනිස වැඩකාරයන්කොට නු
බලාම පාවාදෙන්නෝද? එය මරන
යට පමුනුවන්නාවූ පාපයවූයේවී
නුමුත්, ධර්ම්මිෂ්ඨකමට පමුනුවන්නාවූ
කීකරුකම වූයේවී නුමුත්, නුබලා
යමකට කීකරුවෙද්ද, එයට වැඩකා
17. රයන් බව දන්නේ නැද්ද? එ
හෙත් පෙර නුබලා පාපයාගේ වැඩ
කාරයෝව සිටියේවී නුමුත්, නුබලා
යම් ඉගැන්වීම් ක්‍රමයකට බාරදෙන
ලදද, එයට සිතින්ම කීකරුවූන
බැවින් දෙවියන්වහන්සේට ස්තුති
18. වේවා. මෙසේ නුබලා පාපයෙන්
මුදනලදුව, ධර්ම්මිෂ්ඨකමෙහි වැඩකා
19. රයෝ වූවෝය. නුබලාගේ මාංශ
යේ දුර්වලකම නිසා මනුෂ්‍ය ව්‍යවහාර
යෙන් කථාකරමි. නුබලා නුබලාගේ
අවයවයන් අපිරිසිදුකමටද අධර්ම්මිෂ්ඨ
කමෙන් අධර්ම්මිෂ්ඨකමටද වැඩකාර
යන්කොට පාවාදුන්සේම, දැනට
නුබලාගේ අවයවයන් ධර්ම්මිෂ්ඨකම
ටද සුබවන්තකමටද වැඩකාරයන්
20. කොට පාවා දීපල්ලාය. නුබලා
පාපයාගේ වැඩකාරයෝව සිටිද්දී
නුබලා ධර්ම්මිෂ්ඨකමින් මිදී සිටියෝය.
21. නුබලා දැන් යම් දෙයකට ලැජ්
ජාව සිටිද්ද, ඒ දෙයින් කුමන එල
යක් ලැබුවෝද? මක්නිසාද ඒ දේවල
22. කෙලවර මරනයය. නුමුත් දැන්
නුබලා පාපයෙන් මුදනලදුව, දෙවි
යන්වහන්සේගේ මෙහෙකරුවෝව,
සුබවන්තව සිටින පිනිස එල දරන්
නෝය; එහි කෙලවර සදාකාල ජීව
23. නය වෙයි. මක්නිසාද පාපයෙහි
කුලීනම්, මරනයය. දෙවියන්වහන්
සේගේ කරුනාවේ තෑග්ගනම්, අපේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ ක
රනකොටගෙන සදාකාල ජීවනයය.

7. පරිච්ඡේ. සහෝදරයෙනි, මම
ව්‍යවස්ථාව දන්නවුන්ට කථාකරමි.
මනුෂ්‍යයා ජීවත්ව සිටිනාතුරු ව්‍යව
ස්ථාව ඔහු කෙරේ බලය පවත්නා
2. බව, නුබලා දන්නේ නැද්ද? පුරු
ෂයෙක් ඇති ස්ත්‍රිය, පුරුෂයා ජීවත්ව
සිටිනතුරු, ව්‍යවස්ථාවෙන් ඔහුට බැඳී
සිටින්නීය. නුමුත් පුරුෂයා නැසුනේ
වීනම්, ඒ ව්‍යවස්ථාවෙන් ඈ මිදුනාය.
3. මෙසේම ඈගේ පුරුෂයා ජීවත්ව
සිටිද්දී ඈ අන් පුරුෂයෙකුට භාර්‍ය්‍යා
වුවානම්, වෙශ්‍යාවයයි කියනු ලැබේ.
නුමුත් ඈගේ පුරුෂයා මැරුනේවී
නම්, ඈ ඒ ව්‍යවස්ථාවෙන් නිදහස්ය.
ඈ අන් පුරුෂයෙකුට භාර්‍ය්‍යාවවූ
නුමුත්, ඈ වෙශ්‍යාවක් නොවන්නීය.
4. එලෙසම සහෝදරයෙනි, නුබලා
මලවුන්ගෙන් නැගුටුනාවූ අන් කෙ
නෙකුට විවාහ වෙන පිනිසත්, දෙවි
යන්වහන්සේ නිසා එල බරන පිනි
සත්, ක්‍රිස්තුස්වහන්සේගේ ශරීර
යෙන් ව්‍යවස්ථාවට නැසුනෝය.
5. මක්නිසාද අපි මාංසිකව සිටිද්දී,
ව්‍යවස්ථාවෙන්වූ පාපාභිලාසවල්, මර
නයට කාරනාවූ එල උපදවන පිනිස,
අපේ අවයව තුලේ ක්‍රියාකලෝය.
6. නුමුත් අප බැඳගන සිටිය ව්‍යව
ස්ථාව නැසුන හෙයින් අපි එයින්
මුදනලදුව, පුරන ලියවිල්ලේ ආකා
රයෙන් නොව, අළුත් ආත්මාකාර
7. යෙන් මෙහෙකරමුව. එසේවීනම්
කුමක් කියමුද? ව්‍යවස්ථාව පාපයද?
එසේ නොවේවා. ව්‍යවස්ථාවෙන් මිස
පාපය නොදත්තෙමි. මක්නිසාද
"ලෝභ නොකරවයි" ව්‍යවස්ථාවෙහි
ලියා නොතිබුනානම් ලෝභවීම පා
8. පය බව නොදත්තෙමි. එහෙත්
පාපය ආඥාවෙන් අවකාස ලැබ, මා
තුලේ සියළු ආකාර තෘෂ්ණාවල් ඉපද
වීය. මක්නිසාද ව්‍යවස්ථාව නැතුව
9. පාපය නැසී තිබුනේය. ව්‍යවස්ථා
ව නැතුව මම වරක් ජීවත්වීමි, නු
මුත් අනාඥාව පැමිනිකල පාපය පනා

10. ලැබුයේය, මමද මැරුනෙමි. ජී
වත්වීම පිනිස තිබුනු ආඥාව මරනය
පිනිස තිබෙන බව, මට දැනුනේය.
11. මක්නිසාද පාපය ව්‍යවස්ථාවෙන්
අවකාස ලැබ මා රවටා, එයින් මා
12. මැරුයේය. එබැවින් ව්‍යවස්ථාව
පිරිසිදුය; ආඥාවද පිරිසිදුය, ධර්මිෂ්ඨ
13. ය, යහපත්ය. එසේවීනම් ඒ යහ
පත් දේ මට මරනය වූයේද? එසේ
නොවේවා. එහෙත් පාපය පාප වස
යෙන් පෙනෙන පිනිසද, ආඥාව කර
නකොටගෙන පාපය අතික ලෙස
පාපිෂ්ටවූ දෙයක් බව පෙනී යන පි
නිසද, පාපය ඒ යහපත්වූ දෙයින්
14. මට මරනය සැලැස්සුවේය. ව්‍යව
ස්ථාව ආත්මික බව අපි දනිමුව;
නුමුත් මම මාංසිකව, පාපයට විකුන
15. නු ලද්දෙමි. මක්නිසාද මා විසින්
කරන දේට මම කැමති නැත; මම
කැමති දේ නොකොට, අකමැති
16. දේ කෙරෙමි. මම අකමැති දේ
කෙරෙම්නම්, ව්‍යවස්ථාව යහපත්ය
17. කියා මම පිලිගනිමි. එහෙයින්
එය කරන්නේ, මා තුලේ වාසයකර
18. න පාපය මිස, මම නොවේය. මා
තුලේ, ඒනම් මාගේ මාංශයේ, කිසි
යහපතක් වාසයකරන්නේ නැතැයි
දනිමි. මක්නිසාද යහපතක් කරන්ට
මට කැමැත්ත ඇත්තේය; නුමුත් ඒ
19. යහපත කරන්ට නොලබමි. මෙ
සේම මම කැමති යහපත නොකො
ට, කැමති නැති අයහපත කෙරෙමි.
20. ඉදින් මම අකමැති දේ කෙරෙම්
නම්, එසේ කරන්නේ, මා තුලේ වා
සය කරන පාපය මිස, මම නොවේය.
21. මම යහපත කරන්නට කැමත්
කල, අයහපත කරන්නට මා සලස්
වන්නාවූ ව්‍යවස්ථාවක් තිබෙන බව,
22. මට දැනෙනෙන්ය. මාගේ ආබ්‍යන්ත
මික මනුෂ්‍යයාගේ ප්‍රකාරයට, මම
දෙවියන්වහන්සේගේ ව්‍යවස්ථාවට
23. සතුටුවෙමි. නුමුත් මාගේ සිතේ
ව්‍යවස්ථාවට විරුබව යුධකරන්නාවූ,

මාගේ අවයව තුලේ වසන්නාවූ අන්‍ය
ව්‍යවස්ථාවක් දක්නෙමි; ඒක මාගේ
අවයව තුලේ ඇත්තාවූ පාපයාගේ
ව්‍යවස්ථාවට මා වාල්කර දෙනෙන්ය.
24. අනේ මම කාලකන්නි මනුෂ්‍ය
යෙක. මේ මල ශරීරයෙන් මා ගල
25. වන්නේ කවුද? අපේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කරන
කොටගෙන මා ගලවන දෙවියන්ව
හන්සේට ස්තුතිකරමි. එහෙයින් මම
මාගේ සිතින් දෙවියන්වහන්සේගේ
ව්‍යවස්ථාවටද, මාගේ මාංශයෙන්
පාපයාගේ ව්‍යවස්ථාවටද, වැඩකෙ
රෙමි.

8. පරිච්ඡ. එසේහෙයින් මාංසික
ලෙස නොව ආත්මික ලෙස හැසිරෙ
න්නාවූ, ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
කෙරේ පවත්නාවූ අයවලට, දඬුවම්
2. නියෝගකිරීමක් දැන් නැත. මක්
නිසාද යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
කෙරේ පවත්නාවූ ජීවනදායක ආත්
මයානන්වහන්සේගේ ව්‍යවස්ථාව,
පාපය හා මරනයාගේ ව්‍යවස්ථාවෙන්
3. මා නිදහස්කලාය. දෙවියන්වහන්
සේ තමන්වහන්සේගේම පුත්‍රයා
පාප මාංශාකාරයෙන් එවා, පාප
නාසන පූජාවකින් මාංශයෙහි පාපය
දඬුවමට නියෝගකරමින්, මාංශය
නිසා දුර්වලවූ ව්‍යවස්ථාව විසින් කල
4. නොහැකි දේ ඉෂ්ටකලසේක. එ
සේ කලේ, මාංශ ලෙස නොව ආත්
මික ලෙස හැසිරෙන්නාවූ අප කෙ
රේ ව්‍යවස්ථාවේ ධර්මිෂ්ඨකම සම්පූ
ර්ණවෙන පිනිසය.

5. තවද මාංශාකාරයෙන් සිටින්
නෝ මාංසික දේට ඇළුම්වෙති;
ආත්මාකාරයෙන් සිටින්නෝ ආත්
6. මික දේට ඇළුම්වෙති. මාංසික
ඇල්මනම්, මරනය වෙයි; නුමුත්
ආත්මික ඇල්මනම්, ජීවනය හා සමා
7. දානය වෙයි. එසේම මාංසික ඇල්
ම දෙවියන්වහන්සේට විරුද්ධවූ සතු
රුකමය. මක්නිසාද එය දෙවියන්ව
හන්සේගේ ව්‍යවස්ථාවට යටත් නැත;
එයට යටත් වෙන්නටත් බැරිය.
8. මාංසික ලෙස සිටින්නන්ට දෙවි
යන්වහන්සේ සතුටුකරන්නට බැරිය.
9. නුමුත් නුඹලා තුලේ දෙවියන්ව
හන්සේගේ ආත්මය වාසයකරන
හෙයින්, නුඹලා මාංසික නොව ආත්
මිකව සිටිති. ක්‍රිස්තුස්වහන්සේගේ
ආත්මය යම් කෙනෙකුට නැත්නම්,
ඔහු උන්වහන්සේට අයිති නැත.
10. නුඹලා තුලේ ක්‍රිස්තුස්වහන්සේ
සිටිනසේක්නම්, පාපය නිසා ශරීර
ය මැරී තිබෙන්නේය, නුමුත් ධර්මි
ෂ්ඨකම නිසා ආත්මය ජීවත්ව සිටින්
11. නේය. ඉදින් යේසුස්වහන්සේ
මලවුන්ගෙන් නැගිටවූ තැනන්ව
හන්සේගේ ආත්මය නුඹලා තුලෙහි
වසන්නේනම්, ක්‍රිස්තුස්වහන්සේ ම
ලවුන්ගෙන් නැගිටවූ තැනන්වහන්
සේ, නුඹලා තුලෙහි වසන තමන්ව
හන්සේගේ ආත්මය ලවා, නුඹලා
ගේ නශින ශරීරවල්ද ජීවත්කරවන
12. සේක. එබැවින් සහෝදරයෙනි,
අපි මාංසික ලෙස හැසිරෙන්ට, මාං
ශයට නයකාරයෝ නොවෙමුව.
13. මක්නිසාද නුඹලා මාංසික ලෙස
හැසිරෙනවානම්, මැරෙනවා ඇත;
නුමුත් ආත්මය කරනකොටගෙන
ශරීරයේ ක්‍රියාවල් නසනවානම්,
14. ජීවත්වෙනවා ඇත. තවද දෙවි
යන්වහන්සේගේ ආත්මයෙන් ගෙන
යනු ලබන්නාවූ යම් පමන දෙනා
ඇද්ද, එපමන දෙනා දෙවියන්වහන්
15. සේගේ පුත්‍රයෝව සිටිති. මක්නි
සාද නුඹලා භය උපදවන වාල්ක
මේ ආත්මය නැවත නොලබා, දරු
කමට ඇතිකරගැනීමේ ආත්මය
ලබාගත්තෝය. එයින් අපි "පියා
නෙනි, පියානෙනි" කියා හඬගස
16. මුව. අපි දෙවියන්වහන්සේගේ
දරුවෝ බවට, ඒ ආත්මයානන්වහන්
සේ අපේ ආත්මයට සාක්ෂි දෙනසේ

17. ත. අපි දරුවෝනම්, උරුමක්කා
රයෝය. ඒනම් දෙවියන්වහන්සේගේ
උරුමක්කාරයෝද, ක්‍රිස්තුස්වහන්
සේ හා සමග හවුල් උරුමක්කාර
යෝද වෙමුව. අපි උන්වහන්සේ
සමග දුක් විඳිමුනම්, උන්වහන්සේ
සමග මහත්තත්වයටද පැමිණෙමුව.
18. තවද මේ පවත්නාවූ කාල
යේදී අපි විඳින්නාවූ දුක්, අප කෙ
රෙහි එළිදරවූකරනු ලබන්නාවූ තේ
ජසට සමානකරනු ලබන්ට නොවටී
19. යයි සිතමි. මක්නිසාද මැවිල්ල
අතික ආසාවෙන් දෙවියන්වහන්සේ
ගේ පුත්‍රයන්ගේ එළිදරවූවීම දක්න
20. ට බලා සිටින්නේය. ඇරත් මැවි
ල්ල නිස්ඵලභාවයට කැමැත්තෙන්
ම යටත්කරනු නොලැබ, බලාපො
රොත්තුවක් ඇතුව සිටින ලෙස ඒක
යටත්කල තැනන්වහන්සේ හේතු
කොටගෙන, යටත්කරනු ලැබුනේ
21. ය. මක්නිසාද ඒ මැවිල්ල ජරාව
නැමති වහල්කමින් මිදී, දෙවියන්
වහන්සේගේ දරුවන්ගේ තේජවන්
තවූ නිදහස්කමට පැමිණෙන්නේය.
22. තවද සියළු මැවිල්ල අද දක්වා
කෙඳිරිගාමින් ගාවිනා විඳින්නේයයි
23. දනිමුව. එපමනක්නොව, ආත්
මයානන්වහන්සේගේ ප්‍රථම ඵල ලැබූ
අපිද අපගේ ශරීරයේ මිදීම නැමති
දරුකම බලා සිටිමින්, අප තුලේ
24. කෙඳිරිගාමුව. මක්නිසාද බලා
පොරොත්තුවෙන් අපි ගලවනු ලැබ
මුව. දුටුවාවූ දෙයක් ගැන බලාපො
රොත්තුවක් ඇත්තේ නැත; මක්නි
සාද මනුෂ්‍යයෙක් දුටුවාවූ දෙයක්
ගැන බලාපොරොත්තුවෙනොත් කෙ
25. ලෙසද? නුමුත් අපි නුදුටු යම
කට බලාපොරොත්තු වෙමුනම්, ඉව
සිල්ලෙන් ඒ ගැන බලාපොරොත්තු
26. වෙමුව. එලෙසම ආත්මයානන්
වහන්සේ අපගේ දුර්වලකම්වලට
උපකාර කරනසේක; අප විසින් ඉල්
ලන්නට සුතු දේ කුමක්දැයි නො
දන්නාවූ අප උදෙසා, ආත්මයානන්
වහන්සේ කියන්නට බැරි ආකාර
කෙඳිරිගැම්වලින් යාඥාකරනසේක.
27. ඒ ආත්මයානන්වහන්සේ දෙවි
යන්වහන්සේගේ කැමැත්තේ ප්‍රකා
රයට, සුබවන්තයන් උදෙසා යාඥා
කරන බැවින්, සිත සෝදිසිකරන්
නාවූ තැනන්වහන්සේ ආත්මයාන
න්වහන්සේගේ අභිප්‍රාව කුමක්දැයි
28. දන්නාසේක. දෙවියන්වහන්සේ
කෙරේ ප්‍රේමකරන්නවුන්ට, ඒනම්
උන්වහන්සේගේ අභිප්‍රාවේ ප්‍රකාර
යට කැඳවනලද්දවුන්ට, යහපත පි
නිස සියළු දේම පිහිටාධාරව පවත්
29. නා බව දනිමුව. උන්වහන්සේ
පූර්වයෙහි ඇඳිනගත්තවුන්, තමන්ව
හන්සේගේ පුත්‍රයා බොහෝ සහෝ
දරයන් අතරේ කුළුඳුලාව සිටින පි
නිස, ඒ පුත්‍රයානන්වහන්සේගේ ස්ව
රූපයට සමානවෙන්ට පූර්වයෙහි
30. නියෝගකලසේක. තවද පූර්
වයෙහි නියෝගකරනු ලැබූවන්ට අඩ
ගැසූසේක. හඬගසනු ලැබූවන් ධර්මි
ෂ්ඨකොට ගනන්ගත්සේක. ධර්මිෂ්ඨ
කොට ගනන්ගනු ලැබූවන් මහත්
31. තත්වයට පැමිනවූසේක. එසේ
වීනම් මේ කාරනාවලට කුමක් කිය
මුද? දෙවියන්වහන්සේ අපේ පක්‍ෂ
යට සිටිනසේක්නම්, අපට කවරෙක්
32. විරුඬවේද? තමන්වහන්සේගේම
පුත්‍රයා ඉතුරුකර නොගෙන, අප
සියල්ලන් උදෙසා පාවාදුන්නාවූ
තැනන්වහන්සේ, පුත්‍රයා ඇතුළුව
අනිකුත් සියල්ල අපට නොදෙන
33. සේක්ද? දෙවියන්වහන්සේ තෝ
රාගත්තවුන්ට කවරෙක් වරද තබන්
නේද? ඔවුන් නිදොස්කරන්නාවූ
34. දෙවියන්වහන්සේද? දඬුවමට
නියෝගකරන්නේ කවුද? මලාවූ
නැවත නැගිට, දෙවියන්වහන්සේ
ගේ දකුනෙහි සිට, අප නිසා
යාඥාකරන්නාවූ ක්‍රිස්තුස්වහන්සේද?
35. ක්‍රිස්තුස්වහන්සේගේ ප්‍රේමයෙන්

කවරෙක් අප වෙන්කරනෙන්ද? දුක, ශෝකය, පීඩාව, දුර්භික්ෂය, නිර්වස්ත්‍රකම, උපද්‍රව, කඩුව, යන මේවා අප 36. වෙන්කරන්නේද? "ඔබවහන්සේ නිසා නිතරම අපි මරනු ලබමුව; අපි මරනයට නියමවූ බැටළුවන් මෙන්, ගනන් ගන්නා ලබමුයයි" මේ ගැන ලියා තිබෙන්නේය. 37. අපට ප්‍රේමකලාවූ තැනන්වහන්සේ කරනකොටගෙන, මේ සියල් 38. ලෙන් අතිසයින්ම ජයගනිමුව. මරනයවත්, ජීවිතයවත්, දූතයෝවත්, රාජ්‍යවල්වත්, අධිපතිකමවත්, දැන් පවත්නා දේවත්, මතු පැමිනෙන 39. දේවත්, උසස්කමවත්, පහත්කමවත්, අන් කිසි දෙයක්වත්, අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි ඇත්තාවූ දෙවියන්වහන්සේගේ ප්‍රේමයෙන් අප වෙන්කරන්ට නොහැකිවන්නෝයයි, ඒකාන්තයෙන්ම දනිමි.

9. පරිච්ඡේ. මට බලවත් ශෝකයද නිරන්තර හෘදවේදනාවද ඇතුව තිබෙන බව, මම ක්‍රිස්තුස්වහන්සේ ඉදිරියෙහි බොරුවක් නැතුව සැබ 2. වින්ම කියමි. ඒ බවට සුද්ධාත්මයානන්වහන්සේ ඉදිරියෙහි මාගේ සිත 3. සාක්ෂි දෙන්නේය. මාංශාකාරයෙන් මාගේ නෑවූ මාගේ සහෝදරයන් වෙනුවට, ක්‍රිස්තුස්වහන්සේගෙන් සාපලද්දෙක් වෙන ලෙස, කැමතිවෙන්නටත් මට පුළුවන. 4. ඔවුන් ඊශ්‍රායෙල්වරුය; දරුකමට ඇතිකරගැනිමත්, මහත්තත්වයත්, ගිවිසුමුත්, දුන් ව්‍යවස්ථාවත්, දේවමෙහෙයත්, පොරොන්දුවළුත් ඔවුන්ට 5. අයිතිය. පියවරුද ඔවුන්ගේය; මාංශාකාරයෙන් ක්‍රිස්තුස්වහන්සේ උපන්නෙත් ඔවුන්ගෙන්ය; උන්වහන්සේ සියල්ලන්ට උතුම්වූ සදාකල් ආශිර්වාදලද්දවූ දෙවියන්වහන්සේමය. ආමෙන්.

6. දෙවියන්වහන්සේගේ වචනය සම්පූර්ණනොවුනේ නැත. මක්නිසාද ඊශ්‍රායෙල්ගෙන්වූ සියල්ලෝම ඊශ්‍රා 7. යෙල්වරු නොවෙති. ඔවුන් ආබ්‍රහම්ගේ වංශ ඇත්තන් නිසා, ඔවුන් සියල්ලෝම දරුවෝ වෙන්නෙත් නැත. එහෙත් "ඊසාක් කෙරෙහි නුඹේ වංශය කියනුලැබේයයි" 8. කියාතිබෙන්නේය. එයි අර්ථය නම්, මාංශ බලයෙන් ලැබූ දරුවෝ දෙවියන්වහන්සේගේ දරුවෝ නොවෙති; එහෙත් පොරොන්දු බලයෙන් ලැබූ දරුවෝ වංශයට ගනන්ගනු 9. ලබති. මක්නිසාද පොරොන්දු වචනයනම්, "මේ කාලයෙහි මම එමි; සාරාටද පුතෙක් ලැබෙන්නේ 10. යයි" යන මේය. මෙපමනක් නොවේය; එහෙත් එක්කෙනෙක් නිසා එනම් අපේ පියවූ ඊසාක් නිසා 11. රෙබෙකා ගර්භිනිවූ කල, "වැඩිමහල්ලා බාලයාට වැඩකරන්නේ 12. යයි" ඈට කියනලද්දේය. එසේ කියනලද්දේ, ඒතාක් නූපන්නාවූ දරුවන් විසින් යහපතවත් නපුරවත් නොකල හෙයින්, ක්‍රියා නිසා නොව කැඳවන තැනන්වහන්සේ නිසා, තෝරාගැනීමේ ප්‍රකාරයට දෙවියන්වහන්සේගේ නියමය ස්ථිරවීම 13. පිනිසය. එසේම "යාකොබ්ට මම ප්‍රියව, ඒසව්ට අප්‍රියවූයෙමියි" ලියනලද්දේය.

14. එසේවීනම් කුමක් කියමුද? දෙවියන්වහන්සේ කෙරේ අධර්මිෂ්ඨ 15. කම ඇද්ද? එසේ නොවේවා. මක්නිසාද, "මම දයා කරන්නට කැමති තැනැත්තාට දයා කරන්නෙමි; මම අනුකම්පා කරන්නට කැමති තැනැත්තාට අනුකම්පා කරන්නෙමියි" උන්වහන්සේ මෝසෙස්ට කීසේක. 16. ඒ නිසා ඒ කාරනාව කැමතිවෙන තැනැත්තා නිසාවත්, දුවන තැනැත්තා නිසාවත් නොව, අනුකම්පා කරන්නාවූ දෙවියන්වහන්සේ

17. නිසාමය. මෙසේම, "තා කරන
කොටගෙන මාගේ බලය පෙන්වන
පිනිසද, මාගේ නාමය මුළු පොලො
වේ ප්‍රකාසවෙන පිනිසද, තා පිහි
ටෙවූයෙමියි" ඵාරවෝහට ශුද්ධ ලිය
18. විල්ල කියන්නේය. ඒ නිසා උන්
වහන්සේ කැමති කෙනෙකුට අනු
කම්පා කරනසේක; කැමති කෙ
නෙකුගේ හිත දැඩිකරනසේක.
19. එසේවීනම් උන්වහන්සේ තවම
දෝසාරෝපනය කරන්නේ මක්නි
සාද? උන්වහන්සේගේ කැමැත්ත
කවරෙක් වැලැක්කුවේදැයි නුඹ මට
20. කියන්නේය. අනේ මනුෂ්‍යය,
දෙවියන්වහන්සේට විරුද්ධව කථාක
රන නුඹ කවුද? සාදනලද දේ තමන්
සෑදූ තැනැත්තාට නුඹ මා මෙයාකා
ර සෑදුවේ මක්නිසාදැයි කියනෙන්ද?
21. එම මැටි පිඩෙන්ම, එක් භාජන
යක් ගෞරවය පිනිසත් අනිකක්
අගෞරවය පිනිසත් සාදන්නට, ව
ලන් සාදන්නාට මැටියෙහි බලය
22. නැද්ද? දෙවියන්වහන්සේ තමන්
ගේ උදහස පෙන්වන්ටත් තමන්ගේ
බලය ප්‍රකාසකරන්නටත් කැමතිව,
විනාසයට සරහනලද උදහස් භාජ
න ගැන බොහෝ ක්ෂාන්තියෙන්
23. ඉවසා, මහිමය පිනිස පූර්වයෙහි
තමන්වහන්සේ විසින් සරහනලද
24. අනුකම්පා භාජනවූ, යුදෙව්වන්
ගෙන් පමනක් නොව අන්‍යජාතීන්
ගෙන්ද කැඳවනලද අප කෙරෙහි,
තමන්වහන්සේගේ මහිමයේ සම්
පත් ප්‍රකාසකරන්නට කැමතිසේක්
නම් කිමෙක්ද?

25. එසේම උන්වහන්සේ හොසි
යාගේ පොතෙහි කියනසේක්, "මා
ගේ සෙනගව නොසිටියවුන්ට මාගේ
සෙනගයයි කියාද, අප්‍රිය තැනැත්
තිට ප්‍රිය තැනැත්තියයි කියාද කිය
26. මි; 'තොපි මාගේ සෙනග නො
වෙතියි' ඔවුන්ට කියා තිබෙන තැ
න, 'ජීවමාන දෙවියන්වහන්සේගේ
පුත්‍රයෝයයි' ඔවුන් කියනුලබතියි"
27. කීසේක. තවද, "ඊශ්‍රායෙල් දරු
වන්ගේ ගනන මුහුදේ වැලි සමානවූ
නුමුත්, ඔවුන්ගෙන් ඉතිරි තැනැත්
28. තෝම ගැලවෙනවා ඇත; ස්වා
මින්වහන්සේ දේසයේදී කාරනා
ලුහුඬුකරන හෙයින්, උන්වහන්සේ
ඒ කාරනා ධර්මිෂ්ඨකමින් ලුහුඬුකො
ට තීන්දුකරනසේකැයි" යෙසයියාද
ඊශ්‍රායෙල් ගැන ශබ්ද නගා කීයේය.
29. තවද යෙසයියා පලමුවෙන්
කියා තිබෙන ප්‍රකාරයට, "සේනා
වන්ගේ ස්වාමින්වහන්සේ අපට බීජ
යක් ඉතුරුකර නොතිබුසේක්නම්,
අපි සෝදෝම් සහ ගොමෝරා මෙන්
වූයෙමුයයි" කීයේය.

30. එසේවීනම් කුමක් කියමුද?
ධර්මිෂ්ඨකම නොසෙව්වාවූ අන්‍යජා
තීහු ධර්මිෂ්ඨකමට, ඒනම් ඇදහිල්
ලෙන්වූ ධර්මිෂ්ඨකමට, පැමිනියෝය.
31. නුමුත් ධර්මිෂ්ඨකමේ ව්‍යවස්ථාව
අනුව ගියාවූ ඊශ්‍රායෙල්වරු ධර්මිෂ්ඨ
කමේ ව්‍යවස්ථාවට නොපැමිනියෝය.
32. මක්නිසාද? ඔවුන් එය ඇදහිල්
ලෙන් නොව, ව්‍යවස්ථාවෙහි ක්‍රියා
වලින් සෙව් බැවින්ය. මෙසේ ඔවුන්
පැකිලෙන ගලෙහි වැදී පැකුළු
33. නෝය. ඒ හැටියට, "පැකිලෙන
ගලක්ද බාධා පර්වතයක්ද සියොන්හි
තබමි; උන්වහන්සේ කෙරෙහි අද
හන තැනැත්තේ ලැජ්ජාවට පැමි
නෙන්නේ නැතැයි" ලියනලද්දේය.

10. පරිච්ඡේ. සහෝදරයෙනි, ඊශ්‍රා
යෙල් ගැලවෙන පිනිස ඔවුන් උදෙ
සා මාගේ සිතේ ආසාවද, දෙවියන්
වහන්සේට කරන යාඥාවද වේ.
2. මක්නිසාද ඔවුන් දෙවියන්වහන්
සේ ගැන ජ්වලිතකමක් ඇතුව සිටි
නෝයයි සාක්ෂි දෙමි; නුමුත්
මේ ජ්වලිතය ඥානවන්තාකාරයකින්
3. නොවේය. මක්නිසාද ඔවුන් දෙවි
යන්වහන්සේගේ ධර්මිෂ්ඨකම නො

දැන, තමන්ගේ ධර්මිෂ්ඨකම පිහිටු
වන්ට සොයමින්, දෙවියන්වහන්සේ
ගේ ධර්මිෂ්ඨකමට යටත්වූයේ නැත.
4. අදහන්නාවූ සියල්ලන්ටම, ධර්මි
ෂ්ඨකම පිනිස ව්‍යවස්ථාවේ සම්පූ
ර්ණත්වයනම්, ක්‍රිස්තුස්වහන්සේය.
5. මෝසෙස් ව්‍යවස්ථාවෙන්වූ ධර්මි
ෂ්ඨකම පෙන්වා දෙමින්, "මේ දේවල්
කරන්නාවූ තැනැත්තේ එයින් ජීවත්
6. වන්නේයයි" කීයේය. නුමුත්
ඇදහිල්ලෙන්වූ ධර්මිෂ්ඨකම මෙසේ
කියන්නේය; කෙසේද? ක්‍රිස්තුස්ව
හන්සේ බස්සවාගන්නා පිනිස, 'ස්ව
ර්ගයට නගින්නේ කවුද' කියාවත්,
7 ක්‍රිස්තුස්වහන්සේ මලවුන්ගෙන්
නැඟුටුවාගන්නා පිනිස, 'පාතාල
යට බසින්නේ කවුද' කියාවත්,
8. සිතින් නොසිතන්නැයි කීය. න
වත් කුමක් කියන්නේද? "වචනය
නුඹ ළඟය; නුඹේ කටේද නුඹේ සි
තේද තිබෙන්නේයයි" කියන්නේය.
9. එනම්, ස්වාමිවූ යේසුස්වහන්සේ
ඇත්තේයයි නුඹේ කටින් කියාදෙ
මින්, දෙවියන්වහන්සේ විසින් උන්
වහන්සේ මලවුන්ගෙන් නැඟුටුවන
ලද්දේයයි නුඹේ සිතින් අදහන්නේ
නම්, නුඹ ගලවනු ලබන්නේයයි
අපි ප්‍රකාසකරන ඇදහිල්ලේ වචන
10. යය. මක්නිසාද මනුෂ්‍යයා ධර්මි
ෂ්ඨකම පිනිස සිතින් අදහන්නේය;
ගැලවීම පිනිස කටින් කියාදෙන්
11. නේය. "උන්වහන්සේ කෙරෙහි
අදහන්නාවූ කිසිවෙක් ලැජ්ජාවට
නොපැමිණෙන්නේයයි" ශුද්ධ ලිය
12. විල්ල කියන්නේය. තවද යුදෙව්
වාද ග්‍රීකයාද අතරේ කිසි වෙනසක්
ඇත්තේ නැත; මක්නිසාද සියල්
ලන්ට එකම ස්වාමිවූ උන්වහන්සේ,
තමන්වහන්සේට යාඥාකරන්නාවූ
සියල්ලන් කෙරේ පොහොසත්ව සිටි
13. නසේක. කුමක්හෙයින්ද, "ස්වා
මින්වහන්සේගේ නාමයට යාඥාක
රන්නාවූ සියල්ලෝ ගලවනු ලබති"

14. එසේවීනම්, ඔවුන් තමන් විසින්
අදහනොගන්නාලද උන්වහන්සේට
යාඥාකරන්නේ කොහොමද? තමන්
නොඇසුවාවූ උන්වහන්සේ කෙරේ
අදහන්නේ කොහොමද? ප්‍රකාසක
රන්නෙක් නැතුව, අහන්නේ කො
15. හොමද? ඔවුන් යවනු නොලද්
දේනම්, ප්‍රකාසකරන්නේ කොහො
මද? මේ ගැන, "සමාදානයේ සුභා
රංචිය ප්‍රකාසකරන්නාවූ, යහපත්
දේවල් ගැන සුභ පවත් ගෙන එන්
නාවූ, තැනැත්තන්ගේ පාදයෝ
කොපමන ලක්ෂනදැයි" ලියනලද්
16. දේය. එහෙත් ඔවුන් සියල්ලෝම
සුභාරංචියට කීකරුව නොසිටියෝය;
මක්නිසාද "ස්වාමිනි, අපේ කීම කව
රෙක් ඇදහුයේදැයි" යෙසයියා කිය
නේය.

17. මෙසේ ඇසීමෙන් ඇදහිල්ලද,
දේව වචනයෙන් ඇසීමද පැමිණෙන්
18. නේය. නුමුත් ඔවුන් ඇසුවේ
නැද්ද කියා මම අසමි; සැබවින්ම
ඔවුන් ඇසුවෝය. "ඒ දේවල ශබ්දය
පොලොවේ සෑම තැන්වලටද එහි
වචනවල් ලෝක සීමා දක්වාද
19. ගියේය." නුමුත් ඊශ්‍රායෙල් දැන
ගත්තේ නැද්දැයි මම අසමි. පළමු
කොට මෝසෙස් කියන්නේ, "ගෝ
ත්‍රයක් නොවන්නවුන් ලවා, මම
නුඹලාට ඊර්ෂ්‍යාකරවමි; අඥාන වර්ග
යක් ලවා, මම නුඹලා උදහස් කරවි
20. මියි" කීය. ඇරත් යෙසයියා ඉතා
නිර්භීතව කථාකරමින්, "මා නො
සෙව්වන්ට සම්භවූනෙමි; මා ගැන
නොවිමසූ තැනැත්තන්ට ප්‍රකාස
21. වූනෙමියි" කියන්නේය. නුමුත්,
"අකීකරුවූ විරුද්ධවාදිවූ සෙනඟකට,
දවස මුළුල්ලේම මාගේ අත් දිගුකෙ
ලෙමියි" ඊශ්‍රායෙල්ට ඔහු කියන්
නේය.

11. පරිච්ඡේ. එසේවීනම් දෙවිය
න්වහන්සේ තමන්ගේ සෙනඟ අත්

හැරදැමූසේක්දැයි මම අසමි; එසේ
නොවේවා. මක්නිසාද මමද ආබ්‍රා
හම්ගෙන් පැවතෙන්නාවූ, බෙන්ජ
මින්ගේ ගෝත්‍රයෙහිවූ, ඊශ්‍රායෙල්
2. මනුෂ්‍යයෙක් වෙමි. දෙවියන්ව
හන්සේ පූර්වයෙන් ඇඳිනගත් තමන්
ගේ සෙනග අත්හැරනොදැමූසේක.
එලියස් ගැන ලියවිල්ල කුමක් කිය
නෙන්ද කියා නොදනිවුද? ඔහු ඊශ්‍රා
යෙල්ට විරුඬව දෙවියන්වහන්සේට
3. කාරනා කියමින්, "ස්වාමිනි, ඔ
වුන් ඔබවහන්සේගේ අනාගතවක්
තෘන් මරා, ඔබවහන්සේගේ පූජාසන
බිඳ හෙළුවෝය; මම තනිව සිටිමි;
ඔවුන් මගේ ප්‍රානයද සොයතියි"
4. කීයේය. නුමුත් දෙවියන්වහන්සේ
ගේ උත්තරය ඔහුට කුමක් කියන්
නේද? "බාල්ට දන නොනැමූ සත්
දහසක් මනුෂ්‍යයන් මම රක්ෂාකරග
5. තිමියි" කියන්නේය. මෙසේම
මේ කාලයෙහි පවා, කරුනාවේ
තෝරාගැනීමේ ප්‍රකාරයට ඉතුරුවූ
6. ගනනක් සිටින්නේය. ඉදින් කරු
නාවෙන්නම්, තවත් ක්‍රියාවලින්
නොවේය; එසේ නොවේනම්, කරු
නාව තවත් කරුනාව නොවේය.
ඉදින් ක්‍රියාවලින්නම්, තවත් කරු
නාවෙන් නොවේය; එසේ නොවේ
නම් ක්‍රියාව තවත් ක්‍රියාව නොවේය.
7. එසේවීනම් කිමෙක්ද? ඊශ්‍රායෙල්
සොයන දේ නොලැබූයේය; තෝරා
ගනු ලැබූවෝ ඒක ලද්දෝය; සෙස්
8. සෝ අද දක්වා අන්ධව සිටිති. එ
සේම, "දෙවියන්වහන්සේ ඔවුන්ට
නිඳන ස්වභාවද, නොපෙනෙන
ඇස්ද, නොඇසෙන කන්ද දුන්සේ
9. යැයි" ලියනලද්දේය. තවද දා
වීත්ද, "ඔවුන්ගේ කෑම මේසය ඔ
වුන්ට මලපතක්ද උගුලක්ද බාධා
10. වක්ද පලිගැනීමක්ද වේවා; ඔ
වුන්ගේ ඇස් නොපෙනෙන පිනිස
අන්ධකාරනු ලැබෙත්වා; නිතර ඔ
වුන්ගේ පිට නැමුවමැනවයි" කියන්
නේය.

11. එසේවීනම්, ඔවුන් නාස්තිවෙ
න ලෙස පැකුළුනෝදැයි මම අසමි;
එසේ නොවේවා. එහෙත් ඔවුන්ගේ
වැටීමෙන් ඔවුන්ට ජ්වලිතය උපද
වන පිනිස, අන්‍යජාතීන් කෙරේ
12. ගැලවීම පැමිනියේය. ඉදින්
ඔවුන්ගේ වැටීම ලෝකයට සම්පත්
ද, ඔවුන්ගේ පිරිහීම අන්‍යජාතීන්ට
සම්පත්ද වේනම්, ඔවුන්ගේ සම්පූ
ර්ණත්වය කොපමන වැඩිනොවේ
13. ද? මක්නිසාද, යම්හෙයකින්
මාගේ මාංශවූවන්ට මම ජ්වලිතය
උපදවා ඔවුන් අතරෙන් සමහරෙක්
ගලවන්නට පුළුවන්වේදෝ කියා
බලන පිනිස, අන්‍යජාතිවූ නුඹලාට
14. මම කථාකරමි. මම අන්‍යජාතීන්
ගේ ප්‍රේරිතයා බැවින්, මාගේ තන
15. තුරට ප්‍රසංසාකරමි. තවද ඔවුන්
අත්හැරදැමීම ලෝකයා සමාදානකර
ගැනීම වේනම්, ඔවුන් පිළිගැනීම
කුමක් වන්නේද? මලවූන් කෙ
රෙන් ජීවනය නොවන්නේද?

16. තවද අගස් එල පිරිසිදුනම්,
පිඩද පිරිසිදුය; මූල පිරිසිදුනම්, අතුද
17. එසේමය. ඉදින් සමහර අතු කඩ
නලද්දේනම්, වල් ඔලීව ගසක්වූ
නුඹ, ඒවා අතරේ අලවනලදුව, ඔලී
ව ගසේ මූලටද රසවත්කමටද හවුල්
18. වේනම්, අතුවලට විරුඬව උඩඟු
නොවෙන්න. ඉදින් නුඹ උඩඟුවේ
නම්, නුඹ මූල නොදරන්නෙහිය;
මූල තෙමේ නුඹ දරන්නේයයි සිහි
19. කරපන්න. එසේවීනම්, මා අල
වනු ලබන පිනිස අතු කඩනලද්දේ
20. යයි නුඹ කියන්නේය. සැබෑය;
ඇදහිලි නැතිකම නිසා, ඒවා කඩනු
ලැබූවෝය; නුඹද ඇදහිල්ලෙන්
කෙළින් සිටින්නේය; උඩඟු සිත්
ඇතුව නොසිට, භයවෙයන්න.
21. දෙවියන්වහන්සේ ස්වභා අතුවී
ලට අනුකම්පා නොකලසේක්නම්,

උන්වහන්සේ තුබටත් අනුකම්පා
නොකරනසේක්වේදෝ උඩඟු සිත් නැ
22. තුව භයවෙයන්න. එබැවින්,
දෙවියන්වහන්සේගේ යහපත්කමත්
තදකමත් බලාපත්න. වැටුනවුන්
කෙරෙහි තදකමය; තුමුත් තුබ
උන්වහන්සේගේ යහපත්කමෙහි පි
හිටා සිටින්නේනම්, තුබ කෙරේ
යහපත්කමය; නැත්නම්, තුබද ක
23. පාදමනු ලබන්නේය. ඔවුන්
නැවතත් අලවන්ට දෙවියන්වහන්
සේ සමර්ථහෙයින්, ඔවුන්ද ඇදහිලි
නැතිකමේම නොසිටින්නම්, අලවනු
24. ලබනවා ඇත. මක්නිසාද තුබ
ස්වභාවෙන්ම වල්වූ ඔලීව ගසින්
කපනු ලැබ, ස්වභාවට විරුඩව යහ
පත් ඔලීව ගසකට අලවනලද්දේවී
නම්, ස්වභා අනුවූ මොවුන් ස්වකීය
ඔලීව ගසට කොපමන වැඩිතරම්
25. අලවනු නොලබද්ද? තවද ස
හෝදරයෙනි, තුබලා අහංකාර සිත්
ඇත්තෝව නොසිටින පිනිස, අන්‍ය
ජාතීන්ගේ සම්පූර්ණකම පැමිනෙ
නතුරු අන්ධකාරය ඊශ්‍රායෙල්වරුන්
ගෙන් කොටසයකට වසයෙන් පැමි
නියේයයි යන රහස ගැන, තුබලා
ගේ නොදූන සිටීමට මම නොකමැ
26. තතමි. එසේම සියළු ඊශ්‍රායෙල්
ගලවනු ලබනවා ඇත. ඒ ගැන, "සි
යොන්හි සිට ගැලවුන්කාරයානන්ව
හන්සේ ඇවිත්, යාකොබ්ගෙන් අ
27. භක්තිය දුරුකරනසේක; මම
ඔවුන්ගේ පාපවල් දුරලනකල ඔ
වුන් සමග මාගේ ගිවිසුම මෙයයි"
28. ලියනලද්දේය. සුභාරංචිය ගැන
ඔවුන් තුබලා නිසා සතුරෝය; තුමුත්
තෝරගැනීම ගැන ඔවුන් පියවරුන්
29. නිසා ප්‍රේමලද්දෝය. මක්නිසාද
දෙවියන්වහන්සේගේ දීමද කැඳවී
මද ගැන පසුතැවිලිනොවනසේක.
30. පලමු දෙවියන්වහන්සේ නො
ඇදහූවාවූ තුබලා දැන් ඔවුන්ගේ
ඇදගිලි නැතිකමෙන් දයාව ලැබූ
31. සේම, තුබලාගේ දයාවෙන්
නොඇදහූවාවූ ඔවුන් දයාව ලබන
32. වා ඇත. මක්නිසාද දෙවියන්ව
හන්සේ සියල්ලන්ටම දයාවෙන
පිනිස, උන්වහන්සේ ඔවුන් සියල්
ලන්ම ඇදගිලිනැතිකමෙහි බැන්ද
සේක.

33. අනේ, දෙවියන්වහන්සේගේ
ප්‍රඥාව සහ දැනගැන්ම නැමති වස්
තුව කොපමන ගැඹුරුද? උන්වහන්
සේගේ විනිශ්චයන් තේරුම්ගන්න
මද, උන්වහන්සේගේ මාර්ගවල්
සොයාගන්නටද, කොපමන අමා
34. රුද? ස්වාමින්වහන්සේගේ සිත
ඇඳිනාගනෙත් කවුද? උන්වහන්සේට
35. මන්ත්‍රී වූනේ කවුද? නොහොත්
පලමුවෙන් උන්වහන්සේට දුන්නේ
කවුද? දුන්නේනම් ඔහුට ප්‍රතිදානය
36. දෙනු ලැබේ. මක්නිසාද උන්ව
හන්සේගෙන්ද, උන්වහන්සේ කාර
නාකොටගෙනද, උන්වහන්සේ උදෙ
සාද, සියල්ල ඇත්තේය; උන්වහන්
සේට සදාකල්ම මහත්තත්වය වේවා.
ඇමෙන්.

12. පරිච්ඡේ. එබැවින් සහෝදර
යෙනි, තුබලාගේ ශරීරවල්, ජීවමා
නවූ පිරිසිදුවූ දෙවියන්වහන්සේ
විසින් පිලිගත යුතුවූ යාගයක්කොට,
පූජාකරන හැටියට දෙවියන්වහන්
සේගේ දයාව නිසා තුබලාගෙන්
ඉල්ලමි; එසේ කිරීම තුබලා විසින්
2. කටයුතු මෙහෙයය. තුබලා මේ
ලෝකයාට සමානනොව, දෙවියන්
වහන්සේගේ යහපත්වූ පිලිගත
යුතුවූ සම්පූර්ණවූ කැමැත්ත කු
මක්ද කියා දැනගන්නා පිනිස, සිත්
අළුත්කරගනිමින්, අන්‍යාකාර ඇත්
තෝ වෙයල්ලාය.

3. තුබලා සුදුසු තරමට වඩා තම
තමන් ගැන නොසිතා, දෙවියන්ව
හන්සේ එකිනෙකාට බෙදාදුන් ඇද
හිල්ලේ ප්‍රමානය ලෙස නුවනින්

ඥක්තළු සිතන හැටියට, මට දෙන
ලද කරුනාවෙන් තුබලා අතරෙහි
4. සියල්ලන්ටම කියමි. මක්නිසාද
අපට එක ශරීරයෙහි බොහෝ අව
යව ඇති තුමුත්, සියළුම අවයව එකම
ක්‍රියාවක් නොකරන ලෙසින්ම,
5. බොහෝවූ අපි ක්‍රිස්තුස්වහන්සේ
කෙරෙහි එක ශරීරයක්ද, සැම දෙ
නාම ඔවුනොවුන්ගේ අවයවද වෙ
6. මුව. එහෙයින් අපට දෙනලද
කරුනාවේ හැටියට, නොයෙක් ආ
කාර දීමනාවල් ඇත්තාවූ අපි දේස
නාකිරීම ලදිමුනම්, ඇදහිල්ලේ
ප්‍රමාණයේ හැටියට දේසනාකරමුව;
7. සේවයනම්, සේවයකරමුව; උග
8. නවන්නා උගන්වාවා; දූනමුතුකම්
දෙන්නා දූනුමුතුකම් දේවා; දෙන
තැනැත්තා ඒකාන්ත සිතින් දේවා;
අධිපතිකම් කරන තැනැත්තා උත්
සාහයෙන් අධිපතිකම් කෙරේවා;
කරුනාවන්ත තැනැත්තා සතුටු
සිතින් කරුනා කෙරේවා.

9. ප්‍රේමය අවංක ලෙස වේවා.
නපුරුකමට පිළිකුල්කොට, යහපත්
10. කමට ඇළුම්වෙයල්ලාය. සහෝ
දර සෙන්හයෙන් ඔවුනොවුන්ට
සෙන්හ වෙයල්ලාය; එකිනෙකා තම
තමාට වඩා අනිකාට ගෞරව කර
11. පල්ලාය. උත්සාහයට මැලිනො
ව, ජ්වලිත සිත් ඇතුව, සවාමින්වහන්
12. සේට මෙහෙකරපල්ලාය. බලා
පොරොත්තුවෙහි සතුටුවෙයල්ලාය;
දුක් පැමිනි කල ඉවසාපල්ලාය;
13. නොකඩව යාඥකරපල්ලාය. පි
රිසිදුවූවන්ගේ හිගකම් පිරිමසාපල්
ලාය; ආගන්තුක සත්කාරයට ඉතා
14. කැමතිවෙයල්ලාය. තුබලාට පී
ඩ කරන්නාවූන්ට ආශිර්වාද කරපල්
ලාය; සාප නොකොට ආශිර්වාදම
15. කරපල්ලාය. සතුටුවෙන්නාවූන්
සමග සතුටුවෙයල්ලාය; අඩන්න
16. වුන් සමග අඩාපල්ලාය. ඔවු
නොවුන් සමග එක්සිත්වෙයල්ලාය.
උසස් කාරනා නොසිතා, යටහතුන්
සමග හැසිරියල්ලාය; තුබලාම ඥාන
17. වන්තයයි නොසිතල්ලාය. කාට
වත් නපුරට නපුර නොකරල්ලාය.
සියළු මනුෂ්‍යයන්ගේ ඉදිරියෙහි සුදුසු
18. දේ යෝජනාකරගනිල්ලාය. පු
ළුවන්නම්, තුබලාගේ පුළුවන්කමේ
හැටියට, සියළු මනුෂ්‍යයන් සමග
19. සමාදානයෙන් සිටපල්ලාය. ප්‍රේ
මවන්තයෙනි, එකට එක නොකො
ට, උදහසට ඉඩහැරපල්ලාය. මක්නි
සාද, "පලිගැනීම මාගේ ක්‍රියාවක;
මම එකට එක කරමියි සවාමින්වහන්
සේ කියනසේකැයි" ලියා තිබෙණ
20. නේය. එබැවින් තුබේ සතුරාට
බඩගිනි වූවොත්, ඔහුට කෑම දීපන්
න; පිපාස වූවොත්, බොන්නට දිප
නන; එසේ කිරීමෙන් ඔහුගේ හිස
මතුයෙහි දිලිහෙන අඟුරු එකතුක
21. රන්නේය. නපුරුකමෙන් පරා
ජය නොවී, යහපත්කමෙන් නපුරු
කම පරාජයකරපල්ලාය.

13. පරිචෙජ. ආඥකරන මූලාදෑ
නීන්ට සියල්ලෝම යටත්වූනාවෙත්
මක්නිසාද දෙවියන්වහන්සේගෙන්
මිස, කිසි මූලාදෑනිකමක් ඇත්තේ
නැත; ඇත්තාවූ මූලාදෑනිකම් දෙවි
යන්වහන්සේ විසින් නියෝගකරන
2. ලද්දේය. එබැවින් මූලාදෑනිකමට
විරුඩව සිටින්නාවූ අය දෙවියන්ව
හන්සේගේ නියෝගයට විරුඩව සිටි
නෙන්ය; විරුඩකාරයෝ තමන්ටම
3. දඬුවම් ලබනවා ඇත. මූලාදෑනි
නපුරු ක්‍රියාකාරයන්ට මිස, හොද
ක්‍රියාකාරයන්ට භය උපදවන්නෝ
නොවෙති. එසේවීනම්, තුබ මූලාදෑ
නීන්ට භයක් නැතුව සිටින්ට කැමැ
නෙත්ද? යහපත් දේ කරපන්න;
එවිට මූලාදෑනියාගෙන් තුබට ප්‍රසං
4. සා ලැබෙන්නේය; මක්නිසාද තු
බට හොද පිනිස ඔහු දෙවියන්වහන්
සේගේ සේවකයෙක. එහෙත් තුබ

නපුරුකම් කරන්නේනම්, භයවෙ
යන්න; මක්නිසාද ඔහු නිරර්ථකයේ
කඩුව නොදරන්නේය. ඔහු දෙවිය
න්වහන්සේගේ සේවකයෙක; නපුරු
කම් කරන්නා කෙරෙහි දඬුවම පමු
නුවන පිනිස, පළිගන්නා කෙනෙක.
5. එබැවින් දඬුවම නිසා පමනක්
නොව, හෘද සාක්ෂිය නිසාද නුඹලා
6. යටහත්වෙන්නට ඕනෑය. එහෙ
යින් ඔවුන් නිරන්තරයෙන්ම වැඩ
කරනනාවූ දේව සේවකයන් සිටිනා
බැවින්, නුඹලා ආදායම් දීපල්ලාය.
7. එබැවින් සියල්ලන්ට දෙන්ට යුතු
දේ දීපල්ලාය; ආදායම් දෙන්නට
නිස්සාට ආදායම් දීපල්ලාය; පඩුරු
දෙන්නට නිස්සාට පඩුරු දීපල්ලාය;
භයවෙන්නට නිස්සාට භයවෙයල්
ලාය; ගෞරව කරන්නට නිස්සාට
ගෞරව කරපල්ලාය.

8. ඔවුනොවුන් කෙරෙහි ප්‍රේම
නැමති නය මිස, කිසිවෙකුට නය
කාර නොවෙල්ලාය. යමෙක් අනි
කෙකුට ප්‍රේම කෙරේද, ඔහු ව්‍යව
9. ස්ථාව සම්පූර්ණකෙලේය. මක්
නිසාද, පරදාර නොකරව, මිනී නො
මරව, සොරකම් නොකරව, බොරු
සාක්ෂි නොකියව, ලෝභ නොවෙව
යන අනාඥද, වෙනත් යම් අනාඥ
වක් ඇත්නම්, ඒ "තමාට මෙන්
නාගේ අසල්වාසියාට ප්‍රේමකරවයි"
යන කීමෙහි එහුබෙන් අඩංගුව ති
10. බෙන්නේය. ප්‍රේමය අසල්වාසි
යාට යම් නපුරක් නොඋපදවන්නේ
ය; එබැවින් ප්‍රේමයනම් ව්‍යවස්ථාව
සම්පූර්ණකිරීමය.

11. අපි "අදහගත් කාලයට වඩා
අපේ ගැලවීම දැන් සමීප බැවින්,
දැන් නින්දෙන් පුබුදින්ට සුදුසු වේ
12. ලාවයයි දැනගන්නට ඕනෑය. රා
ත්‍රිය බොහෝසෙයින් ඉකුත්ව ගියේ
ය; දිනය ආසන්නය; එබැවින් අන්ධ
කාරයේ ක්‍රියාවල් අත්හැර දමා, ආ
ලෝකයෙහි සන්නාහය පැලදගනි
13. මුව. ක්‍රීඩා මංගල්‍යයෙන්වත්,
බීමත්කමෙන්වත්, ලොල්ලකමෙන්
වත්, අනාචාරයෙන්වත්, දබරවලින්
වත්, කුඩුකෝඩුකමෙන්වත් නොහැ
සිර, දවල්මෙන් ඔබිනාලෙස හැසි
14. රෙමුව. ඇරත් මාංශයෙහි තෘෂ්
නාවල් පූර්ණකරන පිනිස සිතිවිලි
නොසිතා, ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්
වහන්සේ පැලදගනිල්ලාය.

14. පරිච්ඡේ. ඇදහිල්ලෙන් දුර්ව
ලවූ අය පිළිගනිල්ලාය; නුඹුත් ඔහු
හා සමග සැකවූ වාද නොකරල්ලාය.
2. මක්නිසාද එක්කෙනෙක් සියල්ල
කන්ට යුතුයයි අදහනේය; දුර්වලවූ
අනිකෙක් එළවළු පමනක් කන්
3. නේය. කන තැනැත්තේ නොක
න තැනැත්තාට නින්ද නොකෙ
රේවා; නොකන තැනැත්තේ කන
තැනැත්තා විනිශ්චය නොකෙරේ
වා; මක්නිසාද දෙවියන්වහන්සේ
4. ඔහු පිළිගත්සේක. අනිකෙකුගේ
වැඩකාරයා විනිශ්චය කරන්නාවූ
නුඹ කවුද? ඔහු තමාගේ ස්වාමියා
කෙරෙහි කෙලින් සිටින්නේය, නො
හොත් වැටෙන්නේය. නුඹුත් දෙවි
යන්වහන්සේට ඔහු ස්ථිර කරන්ට
පුළුවන් බැවින්, ඔහු ස්ථිර කරනු
5. ලබන්නේය. එක්කෙනෙක් එක
දවසකට අන් දවසක් උතුම්යයි සිත
නේය; අනික් කෙනෙක් සියළු
දවස් ඒකාකාරයයි සිතන්නේය. ඒ
දේ ගැන සියල්ලෝ තම තමන්ගේ
6. සිත්හි නිසැකව සිටිත්වා. දවස
සලකන්නා ස්වාමින්වහන්සේ කෙ
රෙහි සලකන්නේය; දවස නොසල
කන්නා ස්වාමින්වහන්සේ කෙරෙහි
ඒක නොසලකන්නේය. කන තැ
නැත්තේ, දෙවියන්වහන්සේට ස්තුති
කරන බැවින්, ස්වාමින්වහන්සේ කෙ
රෙහි කන්නේය; නොකන තැනැත්
තේ ස්වාමින්වහන්සේ කෙරෙහි
නොකා, දෙවියන්වහන්සේම ස්තුති

7. කරන්නේය. අප අතරෙන් කිසි
කෙනෙක් තමාම නිසා ජීවත්වෙන්
නේ නැත; තමාම නිසා නසින්
8. නෙත් නැත. ඉදින් ජීවත්වමු
නම්, ස්වාමින්වහන්සේ නිසා ජීවත්
වෙමුව; මියමුනම්, ස්වාමින්වහන්සේ
නිසා මියමුව. එබැවින් ජීවත්වෙන
තුමුත් මියන තුමුත් අපි ස්වාමින්ව
9. හන්සේගේය. තවද ක්‍රිස්තුස්ව
හන්සේ මලවූන් කෙරෙහිද ජීව
තුන් කෙරෙහිද ස්වාමි වෙන පිනිස,
නැසී මලවූන්ගෙන් නැගිට ජීවත්
10. වනසේක. එහෙත් තුබේ සහෝ
දරයා කුමක් පිනිස විනිශ්චය කරන
නේද? නොහොත් තුබේ සහෝදර
යාට කුමක් පිනිස අවනම්බු කරන්
නේද? මක්නිසාද අපි සියල්ලෝ
ක්‍රිස්තුස්වහන්සේගේ නඩු ආසනය
11. ඉදිරියෙහි සිටිනවා ඇත. ඒ ගැන
"සියළු දනහිස් මට නමන්නේය;
සියළු දිවවල් දෙවියන්වහන්සේ ව
ර්ණනාකරන්නේයයි, මාගේ ජීවි
තය ගැන දිවුරමියි ස්වාමින්වහන්
සේ කියනසේකැයි" ලියනලද්දේය.
12. එසේහෙයින් අප අතරෙහි සියල්
ලෝ තම තමන් ගැන දෙවියන්වහන්
13. සේට ගනන් දෙනවා ඇත. එබැ
වින් මතු ඔවුනොවුන් විනිශ්චය
නොකරමුව; සහෝදරයාගේ ඉදිරි
පිට පැකිලවන කඳක්වත් බාධාවක්
වත් නොතබන්ට නියමකරගනිල්
14. ලාය. ස්වභාවෙන් කිසි දෙයක්
අපවිත්‍ර නැතැයි, ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ කරනකොටගෙ
න, නිසැකව දනිමි. තුමුත් යමෙක්
යම් දෙයක් අපවිත්‍රයයි සිතන්නේ
15. නම්, ඔහුට ඒ දේ අපවිත්‍රය. තු
මුත් කෑම නිසා තුබේ සහෝදරයා
දුකට පැමිනියේනම්, තුබ ප්‍රේමවන්
ත ලෙස නොහැසිරෙන්නේය. යමෙ
කු නිසා ක්‍රිස්තුස්වහන්සේ මලසේක්
ද, ඔහු තුබේ කෑමෙන් නාස්ති
16. නොකරන්න. එහෙයින් තුබලා
ගේ යහපත්කම නින්දවට නොපැ
17. මිනේවා. මක්නිසාද දෙවියන්ව
හන්සේගේ රාජ්‍යය, ධර්මිෂ්ඨකමද
සමගිකමද ශුද්ධාත්මයෙහි සන්තෝ
ෂයද මිස, කෑමද බීමද නොවේය.
18. තවද ඒ කාරනාවලින් ක්‍රිස්තුස්
වහන්සේට වැඩකරන්නාවූ අය දෙ
වියන්වහන්සේට ප්‍රසන්නවූ කෙනෙ
ක; මනුෂ්‍යයන්ගෙන් ප්‍රසංසාද ලබ
19. නෙනක. එබැවින් සමගිකම
උපදවන කාරනාද, ඔවුනොවුන්
ස්ථිරකරන කාරනාද, උත්සාහයෙන්
20. සොයමුව. කෑම නිසා දෙවියන්
වහන්සේගේ ක්‍රියාව නාස්තිනොක
රන්න. සියළු දේ පවිත්‍රමය; තුමුත්
යම් මනුෂ්‍යයෙක් බාධා උපදවන
ලෙස කෑවොත්, ඔහුට ඒ දේ නපුරු
21. මය. මස් කෑමෙන්වත්, මිදි රස
බීමෙන්වත්, වෙන යමකින්වත්, තුබේ
සහෝදරයා පැකිලීමට හෝ බාධා
වට හෝ දුර්වලකමට හෝ පැමිනේද,
22. එයින් වැලකීම යහපත. තුබට
මේ ගැන ඇදහිල්ල ඇත්නම්, එය
දෙවියන්වහන්සේගේ ඉදිරියෙහි තුබ
කෙරෙහිම පවත්වාගනින්න. තමා
විසින් කටයුතුයයි සිතන කාරන
යෙහි තමහට වරද තබා නොගත්
23. නාවූ අය වාසනාවන්තයෙක. සැ
ක කරමින් කන අය, ඇදහිල්ලෙන්
නොකන බැවින්, අවචූවට නිස්සාය.
මක්නිසාද යම් ක්‍රියාවක් ඇදහිල්
ලෙන් නොවීනම්, ඒ දේ කිරීම පාප
ය වෙයි.

15. පරිච්ඡ. එහෙයින් බලවත්වූ
අප විසින් අපේ කැමැත්ත නො
කොට, බල නැත්තන්ගේ දුර්වලකම්
2. උසුලන්ට යුතුය. තවද අප අත
රෙහි සියල්ලෝ, අසල්වාසියාට සුභ
පිනිසද ස්ථිරවීම පිනිසද, ඔහු සතුටු
3. කෙරෙත්වා. මක්නිසාද, "ඔබට
නින්දා කරන්නවුන්ගේ නින්දා මා
කෙරෙහි පැමිනුනේයයි" ලියා ත්

බෙන හැවීයට, ක්‍රිස්තුස්වහන්සේ
පවා තමන්ම සතුටුකර නොගත්
4. සේක. සුබලියවිලිවලින් හටගත්
ඉවසීමෙන්ද සැනසිල්ලෙන්ද අපි
බලාපොරොත්තු ඇතුව සිටින පිනි
ස, පූර්වයෙහි ලියනලද සියල්ල අප
ගේ ඉගැන්වීම පිණිස ලියාතිබෙන්
5. නේය. ඉවසීම සහ සැනසිලි දය
කවූ දෙවියන්වහන්සේ, නුබලා එක
සිතින්ද එක කටින්ද අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ පියවූ
දෙවියන්වහන්සේට ගෞරව කරන
6. පිනිස, ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
ගේ කැමැත්ත ලෙස ඔවුනොවුන්
කෙරෙහි එක්සිත්වෙන්ට සලස්වන
7. සේක්වා. එහෙයින් ක්‍රිස්තුස්ව
හන්සේ විසින් දෙවියන්වහන්සේගේ
ගෞරවවීම පිනිස අප පිලිගත් ලෙ
සම, නුබලාත් ඔවුනොවුන් පිලිග
8. නිල්ලාය. පියවරුන්ට දුන් පො
රොන්දුවල් ස්ථිරකරන්ටද, අන්‍යජා
තීනු දෙවියන්වහන්සේට උන්වහන්
සේගේ කරුනාව ගැන සතුතිකරන්
ටද, යේසුස් ක්‍රිස්තුස්වහන්සේ දෙවි
යන්වහන්සේගේ සැබෑකම පිනිස,
චර්මඡේදනයාගේ සේවකයෙක්ව සිටි
9. සේකැයි කියමි. "මේ කාරනාව
ගැන, ඔබවහන්සේ අන්‍යජාතීන්
අතරෙහි ප්‍රකාසකොට, ඔබවහන්
සේගේ නාමයට ගීතිකා කියමියි"
10. ලියාතිබෙන්නේය. නැවතද,
"අන්‍යජාතීනි, උන්වහන්සේගේ සෙ
නග සමග සතුටුවෙයල්ලායයි"
11. කියා තිබෙන්නේය. නැවතද,
"සියළු අන්‍යජාතීනි, ස්වාමින්වහන්
සේට සතුතිකරපල්ලාය; සියළු සෙ
නගෙනි, උන්වහන්සේට ප්‍රසංසා
කරපල්ලායයි" කියා තිබෙන්නේය.
12. නැවතද, "අන්‍යජාතීන් කෙරේ
රජකම් කරන පිනිස, නැගිටින්නාවූ
යෙස්සේගේ මූලවූ තැනැත්තා එන
වා ඇත; උන්වහන්සේ කෙරෙහි
අන්‍ය ජාතීනු බලාපොරොත්තුවෙ
නවා ඇතැයි" යෙසයියා කියන්නේ
13. ය. සුබාත්මයානන්වහන්සේගේ
බලයෙන් නුබලාගේ බලාපොරොත්
තුවීම බොහෝ වෙන පිනිස, බලා
පොරොත්තුවීමේ දෙවියන්වහන්සේ,
ඇදහිල්ල කරනකොටගෙන, සියළු
සන්තෝසයෙන්ද සමගිකමෙන්ද නුබ
ලා සම්පූර්ණකරනසේක්වා.

14. මාගේ සහෝදරයෙනි, නුබලා
යහපත්කමින් යුක්තව, සියළු ඥාන
යෙන් සම්පූර්ණව, ඔවුනොවුන්ට
දූනිමිතිකම් දෙන්ට සමර්ථව සිටිති
15. යි, නිසැකව දනිමි. එසේවිනු
මුත් සහෝදරයෙනි, අන්‍යජාතීන්
නැමති පූජාව සුබාත්මයෙන් පිරිසිදු
කරනලදුව පිලිගතයුතු පූජාවක්
වෙන පිනිස, දෙවියන්වහන්සේ
ගේ සුභාරංචියෙහි සේවයකරන්නාවූ
16. මම අන්‍යජාතීන් කෙරෙහි යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගේ සේවකා
යෙක් වෙන්ට, දෙවියන්වහන්සේ
විසින් මට දෙනලද කරුනාවෙන්,
නුබලාට මදක් සිහිකරවන්නාක්
17. මෙන් භයක් නැතුව ලිව්මි. එ
හෙයින් දෙවියන්වහන්සේට අයිති
කාරනාවල් ගැන, යේසුස් ක්‍රිස්තුස්
වහන්සේ කරනකොටගෙන, වර්ණ
නාකරගැනීමට කාරනා මට ඇත.
18. නුමුත් අන්‍යජාතීන් කීකරුකරන
පිනිස, ක්‍රිස්තුස්වහන්සේ මා ලවා
වචනයෙන්ද ක්‍රියාවෙන්ද මහත්
ලකුනුවලින් හා පුදුමවලින්ද දෙවි
යන්වහන්සේගේ ආත්මබලයෙන්ද
කරවනලද දේ මිස, අන් කිසිවක්
19. කියන්ට කැමති නොවෙමි. එ
සේම යෙරුසලම පටන් ඉල්ලිරිකය
දක්වා වටකර තිබෙන රටවල,
ක්‍රිස්තුස්වහන්සේගේ සුභාරංචිය සම්
20. පූර්ණකොට ප්‍රකාසකෙලෙමි. එ
ලෙස මම වෙන කෙනෙකුගේ අත්
තිවාරම පිට ගොඩනොනගන පිනි
ස, ක්‍රිස්තුස්වහන්සේගේ නාමය සඳ
හන් නොකල තැන්වල සුභාරංචිය

ප්‍රකාශ කරන්ට උත්සාහ කෙළෙමි.
21. එසේම, "උන්වහන්සේගේ ප්‍රවෘ
ත්තිය යම් කෙනෙකුන්ට ප්‍රකාශ
නොකරනලදද, ඔවුන් දකිති;
යම් කෙනෙක් නෑසුවෝද, ඔවුන්
තේරුම් ගනිතියි" ලියනලද්දේය.
22. ඒ කාරනාවල් නිසා, තුබලා
ළඟට මාගේ ඊම කීප වරක් වැලකු
23. නේය. නුමුත් දැන් මේ රටවල
මට තවත් අවකාශ නැති බැවින්ද,
බොහෝ කලක පටන් තුබලා ළඟට
එන්ට මහත් ආසාවක් මට තිබුනු
24. බැවින්ද, ඉස්පාණියට මම යන
කල තුබලා ළඟට එමි. මක්නිසාද
ගමනේදී තුබලා දැක තුබලා එක්ක
සමාගම්වීමෙන් සෑනසිල්ල ලැබ,
තුබලා මා සමග පසු ගමන් එන
25. හැකියටද කැමතිවෙමි. දැනට
මම පිරිසිදුවූවන්ට උපස්ථාන කරන
26. පිනිස යෙරුසලමට යෙමි. මක්
නිසාද මකිදෝනියෙහි හා අඛායෙහි
වැසියෝ යෙරුසලමෙහි සිටින්නාවූ
දිළිඳු පිරිසිදුවූවන් උදෙසා සම්මාද
27. මක් කරන්ට කැමතිවූවෝය. මෙ
සේ කැමතිව සිටියාවූ ඔවුන් ඔවුන්ට
නයකාරයෝය. මක්නිසාද අන්‍යජා
තීහු ඔවුන්ගේ ආත්මික දේවල පං
ගුකාරයෝ වූනෝනම්, ලෞකික
දේවලින් ඔවුන් විසින් ඔවුන්ට උප
28. ස්ථාන කටයුතුය. එහෙයින් මම
මේ දේ සම්පූර්ණකොට, මේ ඵලය
ඔවුන්ට බාරදී, තුබලා ළඟින් ඉස්පා
29. නියට යමි. තුබලා ළඟට මම
එනකල, ක්‍රිස්තුස්වහන්සේගේ සුභා
රංචියෙහි ආශීර්වාද සම්පූර්ණක
30. මෙන් එමියි දනිමි. සහෝදර
යෙනි, යූදයෙහි සිටින ඇදහිල්ල
නැත්තවුන්ගෙන් මම ගලවනු ල
බන්ටද, යෙරුසලමේදී මම කරන
උපස්ථානය පිරිසිදුවූවන් විසින් පිළි
31. ගනු ලබන්ටද, දෙවියන්වහන්
සේගේ කැමැත්තෙන් මම සතුටින්
තුබලා ළඟට ඇවිත් තුබලා සමග
32. නිවාඩු ගන්ටද, තුබලා දෙවි
යන්වහන්සේට මා නිසා කරන්නාවූ
යාඥාවලදී මා සමග උත්සාහ කරන
හැකියට, ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ නිසාද, ආත්මයානන්වහන්
සේගේ ප්‍රේමය නිසාද, තුබලාගෙන්
33. ඉල්ලමි. සමාදානයෙහි දෙවියන්
වහන්සේ තුබලා සියල්ලන් සමග
සිටිනසේක්වා. ආමෙන්.

16. පරිච්ඡේ. කෙංක්‍රය නුවර සභා
වෙහි උපස්ථායිකාවූ ජේබිනම් අප
ගේ සහෝදරී තුබලාට භාරදෙමි;
2. ඈ බොහෝ දෙනාටත් මටත් උප
කාර කලාය. ඈට තුබලාගෙන් ඕනෑ
උපකාරයක් කරපල්ලාය; පිරිසිදුවූ
වන් විසින් පිළිගත යුතු ලෙස ස්වා
මින්වහන්සේ කෙරෙහි ඈ පිළිගනි
3. ල්ලාය. ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
කෙරෙහි මා සමග වැඩකලාවූ,
4. මාගේ ප්‍රානය වෙනුවට තමන්
ගේ බෙල්ල දුන්නාවූ, ප්‍රස්කිලාටද
අකිලාටද ආචාරකරපල්ලාය; ඔවුන්
ට මම පමනක් නොව, අන්‍යජාතීන්
ගේ සියළු සභාවද සතුති කෙරෙති;
5. ඔවුන්ගේ ගෙහි සිටින සභාවටද
ආචාර කරපල්ලාය. ක්‍රිස්තුස්වහන්
සේ කෙරෙහි අඛායෙහි ප්‍රථම ඵලවූ,
මාගේ ප්‍රියවූ එපිනතස්ට ආචාරකර
6. පල්ලාය. අප නිසා බොහෝ වෙ
හෙස ගත්තාවූ මරියාට ආචාර කර
7. පල්ලාය. ප්‍රේරිතයන් අතරෙහි
ප්‍රසිඬවූ, මට පලමුවෙන් ක්‍රිස්තුස්ව
හන්සේ කෙරෙහි ඇදහුවාවූ, මාගේ
නෑවූ, මා සමග හිරගෙහි බැඳී සිටි
යාවූ අන්ද්‍රොනීකස් හා යූනියාටද
8. ආචාරකරපල්ලාය. ස්වාමින්වහන්
සේ කෙරෙහි මාගේ ප්‍රියවූ අම්පිළි
9. යස්ට ආචාරකරපල්ලාය. ක්‍රිස්තු
ස්වහන්සේ කෙරෙහි අප සමග වැඩ
කරන්නාවූ උර්බානස්ටද, මාගේ ප්‍රිය
වූ ස්තාකිස්ටද, ආචාර කරපල්ලාය.
10. ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි යහ

පතැයි කියනලද්දවූ අපෙල්ලැස්ටද
ආචාර කරපල්ලාය. අරිස්තොබූළුස්
ගේ ගෙයි සිටින්නන්ට ආචාර කරප
11. ල්ලාය. මාගේ නෑයාවූ හෙරොදි
යොන්ට ආචාර කරපල්ලාය. නාර්කි
සස්ගේ ගෙයි සිටින්නන් අතරෙන්
ස්වාමින්වහන්සේ කෙරෙහි සිටින්
12. නන්ට ආචාර කරපල්ලාය. ස්වා
මින්වහන්සේ කෙරෙහි වෙහෙස
ගන්නාවූ ත්‍රුඵේනාටද, ත්‍රුඵෝසාටද,
ආචාර කරපල්ලාය. ස්වාමින්වහන්
සේ කෙරෙහි බොහෝ සෙයින් වෑ
යම් කලාවූ ප්‍රියවූ පැර්සිස්ට ආචාර
13. කරපල්ලාය. ස්වාමින්වහන්සේ
කෙරෙහි තෝරාගත්තාවූ රූඵස්ටද,
ඔහුගේ හා මාගේ මෑනියන්ටද,
14. ආචාර කරපල්ලාය. සිංක්‍රිතස්ටද,
ඵ්ලෙගොන්ටද, හර්මස්ටද, පත්‍රොබස්
ටද, හර්මිස්ටද, ඔවුන් සමග සිටින්
නාවූ සහෝදරයන්ටද, ආචාර කර
15. පල්ලාය. පිලොලොගස්ටද, ජූලි
යාටද, නේරියස්ටද, ඔහුගේ සහෝ
දරීටද, ඔළිම්පස්ටද, ඔවුන් සමග
සිටින්නාවූ සියළු පිරිසිදුවූවන්ටද,
16. ආචාර කරපල්ලාය. පවිත්‍රවූ සිඹී
මකින් ඔවුනොවුන්ට ආචාර කරපල්
ලාය. ක්‍රිස්තුස්වහන්සේගේ සභා
නුඹලාට ආචාර කෙරෙති.

17. සහෝදරයෙනි, නුඹලා උගත්
ඉගැන්මට විරුඬව භේදයන්ද බාධා
වන්ද උපදවන්නවුන් බලාගන්ට
18. නුඹලාට අවවාද කරමි. එබඳු අය
වල් තමතමන්ගේ බඩට මිස, අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේට සේවය නොකොට, ප්‍රිය වචන
වලින්ද මිහිරිකථාවලින්ද ප්‍රයෝග නො
දන්නවුන්ගේ හෘදයන් මුලාකරවන
හෙයින්, ඔවුන්ගෙන් අහක්ව සිටප
19. ල්ලාය. නුඹලාගේ කීකරුකම
සියල්ලන්ට ප්‍රකාසවූ බැවින්, නුඹලා
නිසා සතුටුවෙමි. එසේ නුමුත් නුඹලා
යහපත ගැන ප්‍රඥාවන්තව, අයහප
තින් වෙන්ව සිටින ලෙස කැමැත්
20. තෙමි. සමගිතාවෙහි දෙවියන්ව
හන්සේ නොබෝ කලකින් සාතාන්
නුඹලාගේ පතින් පොඩිකරවන
සේක. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගේ කරුනාව නුඹලා
සමග වේවා. ආමෙන්.

21. මා සමග වැඩකරන්නාවූ
තිමෝතියස්ද, ලූකියස්ද, මාගේ
නෑවූ යාසොන්ද සොසිපාතර්ද, නුඹ
22. ලාට ආචාර කරති. මේ ලියමන
ලිවූ තර්තියෙස්නම්වූ මම ස්වාමින්
වහන්සේ කෙරෙහි නුඹලාට ආචාර
23. කරමි. මටද සියළු සභාවටද
ආගන්තුක සත්කාර කරන්නාවූ
ගායස් නුඹලාට ආචාර කරන්නේය.
නුවර ගබඩා නිලමේවූ එරස්තස්ද,
සහෝදරවූ ක්වර්තස්ද, නුඹලාට ආචාර
24. කරති. අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ කරුනාව නුඹ
ලා සියල්ලන් සමග වේවා. ආමෙන්.

25. ලෝකය පටන්ගැන්මෙහි සිට
සැඟවී තිබුනාවූ, දැන් අනාගතවක්
තෘන්ගේ ලියවිලිවලින් සදාකාල දෙ
වියන්වහන්සේගේ අන හැටියට
26. ප්‍රකාසවූනාවූ, ඇදහිල්ලෙහි කී
කරුවීම පිනිස සියළු දේසීන් කෙරෙ
හි දන්වනලද්දවූ රහස එළිදරවූකි
රීමේ හැටියටද, මාගේ සුභාරංචියෙහි
සහ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
ප්‍රකාසකිරීමෙහිත් හැටියටද, නුඹලා
27. ස්ථිරකරන්ට සමර්ථවූ එකම ඥාන
වන්තවූ දෙවියන්වහන්සේට ක්‍රිස්තුස්
වහන්සේ කරනකොටගෙන සදා
කල්ම තේජස වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්

# කොරින්තිස්වරුන්ට ලියනලද 1. පත්‍රය.

## 1. පරිච්ඡේදය.

1. පරිච්ඡේදය. දෙවියන්වහන්
සේගේ කැමැත්තෙන් යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගේ ප්‍රේරිතයෙක්වෙන්
ට කැඳවනු ලැබුවාවූ පාවුල්ද, සහෝ
දරවූ සොසෙස්තනේද, යන අප විසින්,
2. ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙ
රෙහි පිරිසිදු කරනලද්දාවූ, සුබ
චන්තව සිටින්ට කැඳවනලද්දාවූ,
කොරින්තියෙහි සිටින දෙවියන්ව
හන්සේගේ සභාවටද, ඔවුන්ගේත්
අපගේත් ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ නාමයෙන් සියළු තැන්
වල යාඥාකරන්නාවූ සියල්ලන්ටද,
3. අපගේ පියවූ දෙවියන්වහන්සේ
ගෙන්ද, ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගෙන්ද, කරුනාව සහ සමා
දානය වෙන ලෙස, ලියා එවන වග
නම්.

4. නුබලා සියළු දෙයින්ද සියළු
වචනයෙන්ද සියළු ඥානයෙන්ද ක්‍රිස්
තුස්වහන්සේ කෙරෙහි ධනවන්තව
සිටින ලෙස, උන්වහන්සේ කරන
5. කොටගෙන නුබලාට දුන් දෙවි
යන්වහන්සේගේ කරුනාව ගැන,
මාගේ දෙවියන්වහන්සේට නිතර
6. ස්තුති කරමි. අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ එළිද
රව්වීම බලා සිටින නුබලාට එක් වර
7. යක්වත් අඩුනොවෙන ලෙස, ක්‍රිස්
තුස්වහන්සේ ගැන සාක්කිය නුබලා
8. කෙරෙහි ස්ථිර කරනලද්දේය. අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ දවසෙහිදී නුබලා නිදෝස
වෙන පිනිස, උන්වහන්සේ අන්තිම
9. දක්වා නුබලා ස්ථිරකරනසේක. ත
මන්වහන්සේගේ පුත්‍රවූ අපගේ ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ සමග
පංගුකාරකමට නුබලා කැඳවූ දෙවි
යන්වහන්සේ විස්වාස කෙනෙක.

10. සහෝදරයෙනි, නුබලා සියල්
ලෝ එක කාරනාවක්ම කථාකරන
හැටියටද, නුබලා අතරෙහි භේද
නැතුව එක සිතින් හා එක අභිප්‍රා
යෙන් යෙදී සිටින හැටියටද, අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ නාමයෙන් නුබලාගෙන් ඉල්ලා
11. සිටිමි. මක්නිසාද මාගේ සහෝ
දරයෙනි, නුබලා අතරෙහි විවාදවල්
ඇති බව, ක්ලෝයිගේ පවුලේ අය
12. වල් මට දන්නුවෝය. නුබලා
අතරෙන් සමහරෙක්, "මම පාවුල්
ගේය;" සමහරෙක්, "මම අපොල්
ලොස්ගේය;" සමහරෙක්, "මම කේ
ඵස්ගේය;" සමහරෙක්, "මම ක්‍රිස්
තුස්වහන්සේගේයයි" කියන බව,
13. මම කියමි. ක්‍රිස්තුස්වහන්සේ
බෙදී සිටිනසේක්ද? පාවුල් නුබලා
නිසා, කුරුසියෙහි ඇනගසනු ලැබු
යේද? නොහොත් පාවුල්ගේ නාම
යෙන් නුබලා බව්තීස්ම ලැබුවෝද?
14. ක්‍රිස්පස්ද ගායස්ද හැර, නුබලා
ගෙන් කිසි කෙනෙක් මා විසින් බව්
15. තීස්ම කලේ නැත. ඔහු තමාගේ
නාමයෙන් බව්තීස්ම කෙලේයයි,
කිසි කෙනෙකු විසින් මා ගැන
කියන්ට බැරි බැවින්, දෙවියන්වහන්
16. සේට ස්තුති කෙරෙමි. ස්තෙප
නස්ගේ ගෙයි වැසියනුත් බව්තීස්ම
කෙලෙමි. ඒ හැර අන් කිසිවෙක්
බව්තීස්ම කෙලෙම්ද, නැද්දයි, නො
17. දනිමි. මක්නිසාද සුභාරංචිය
ප්‍රකාසකරන්නට මිස, බව්තීස්ම කර
නනට ක්‍රිස්තුස්වහන්සේ මා නොඑවූ
සේක. නුමුත් ක්‍රිස්තුස්වහන්සේගේ

කුරුසිය නිෂ්ඵල නොවෙන පිනිස,
දක්ෂ බසින් ප්‍රකාසකරන්ට නොවේ
18. ය. කුරුසිය ගැන දේසනාකිරීම
විනාසවෙන්නවුන්ට අඥානකමය;
නුමුත් ගැලවෙන්නාවූ අපට දෙවි
19. යන්වහන්සේගේ බලයය. ඒ හැටි
යට, "මම ඥානවන්තයින්ගේ ඥානය
විනාසකොට, නුවණ ඇත්තන්ගේ
නුවන නිෂ්ඵල කෙරෙමියි" ලියා
20. තිබෙන්නේය. ඥානවන්තයා
කොතනද? ව්‍යවස්ථාව උගන්වන්නා
කොතනද? මේ ලෝකයෙහි වාදක
රන්නා කොතනද? මේ ලෝකයෙහි
ඥානය දෙවියන්වහන්සේ අඥාන
21. නොකලසේක්ද? තවද, දෙවි
යන්වහන්සේගේ ඥානයේ හැටියට
ලෝකයා ඥානයෙන් දෙවියන්වහන්
සේ ඇඳින නොගත් බැවින්, දේස
නාවෙහි අඥානකමින් අදහනනාවුන්
ගලවන්ට දෙවියන්වහන්සේ සතුටුවූ
22. සේක. යුදෙව්වරු ලකුනක් ඉල්
වති; ග්‍රීකයෝද ඥානය සොයති.
23. නුමුත් අපි යුදෙව්වරුන්ට බාධා
24. වක්ද ග්‍රීකයන්ට අඥානකමද, කැ
දවනු ලැබූවාවූ යුදෙව්වරුන්ටත්
ග්‍රීකයන්ටත් දෙවියන්වහන්සේගේ
බලය සහ දෙවියන්වහන්සේගේ ඥාන
යදවූ, කුරුසියෙහි ඇනගසනු ලැබූ
වාවූ ක්‍රිස්තුස්වහන්සේම ප්‍රකාසකර
25. මුව. දෙවියන්වහන්සේගේ අඥා
නකම මනුෂ්‍යයන්ට වඩා ඥානතරය;
දෙවියන්වහන්සේගේ බෙලහීනකම
26. මනුෂ්‍යයන්ට වඩා බලතරය. ස
හෝදරයෙනි, නුබලා අඬගසනු ලැබූ
හැටි නුබලාට පෙනෙන්නේය. ශරී
රාකාරයෙන් බොහෝ ඥානවන්ත
යෝවත්, බොහෝ බලවන්තයෝ
වත්, බොහෝ කුලවන්තයෝවත්,
27. කැඳවනු ලැබූවෝ නොවෙති. නු
මුත් දෙවියන්වහන්සේ තමන් ඉදිරි
යේ කිසිවෙක් විසින් ගරුකම් නොක
රන පිනිස, ඥානවන්තයන් ලැජ්ජා
කරන්නට ලෝකයේ අඥානයන්
තෝරාගත්සේක; බලවන්තයන් ලැ
ජ්ජාකරන්නට ලෝකයේ බල නැති
28. තන් තෝරාගත්සේක. තවද
දෙවියන්වහන්සේ ඇත්තාවූ දේ
නැතිකරන්ට, ලෝකයේ නීචයන්ද
නින්දිතයන්ද නැමති නැත්තාවූ
29. දේ තෝරාගත්සේක. එහෙත්
දෙවියන්වහන්සේ කරනකොටගෙන
නුබලා යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
30. ඇතුලෙහි සිටිති; උන්වහන්සේ,
දෙවියන්වහන්සේ කරනකොටගෙ
න, අපට ඥානයද, ධර්මිෂ්ඨකමද, පිරි
31. සිදුකමද, මිදීමද වූසේක. එහෙ
යින් ලියා තිබෙන ලෙස, "ගරුකම්
කරන්නා ස්වාමීන්වහන්සේ කෙරෙහි
ගරුකම් කරගනීවා."

2. පරිච්ඡේ. සහෝදරයෙනි, මම
නුබලා ලඟට ආකල්හි, යේසුස් ක්‍රිස්
තුස්වහන්සේත් උන්වහන්සේගේ
කුරුසියෙහි ඇනගැසීමත් මිස, නුබ
ලා අතරෙහි අන් කිසිවක් දැනනො
2. ගන්ට නියමකරගත් බැවින්, දෙ
වියන්වහන්සේගේ සාක්ෂිය නුබලාට
දන්වමින්, දක්ෂ කථාවේවත් ඥාන
යේවත් උතුම්කමෙන් නෑයෙමි.
3. නුමුත් මම දුර්වලකමින්ද භයින්ද
බොහෝ වෙව්ලීමෙන්ද නුබලා ලඟ
4. සිටියෙමි. නුබලාගේ ඇදහිල්ල
දෙවියන්වහන්සේගේ බලයෙන් මිස,
මනුෂ්‍යයන්ගේ ඥානයෙන් නොපිහි
5. ටන පිනිස, මාගේ ඉගැන්වීමත්
මාගේ දේසනාකිරීමත් මනුෂ්‍ය ඥාන
යෙහි සිත් කැමතිකරවන්නාවූ වච
නවලින් නොව, ආත්මයානන්වහන්
සේගේ බලය දැක්වීමෙන් විය.

6. එසේවී නුමුත් සම්පූර්ණ තැ
නැත්තන් අතරෙහි ඥානය කථාකර
මුව. එහෙත් මේ ලෝකයෙහි ඥානය
වත්, මේ ලෝකයෙහි නැතිවී යන
අධිපතීන්ගේ ඥානයවත් නොව,
7. අපගේ ගෞරවය පිනිස ලෝකය
මැවීමට පලමුවෙන් දෙවියන්වහන්

සේ විසින් නියමකරනලද්දාවූ, සඟ
වනලද්දාවූ, දෙවියන්වහන්සේගේ
8. රහස්වූ ඥානය කථාකරමුව. ඒ
ඥානය මේ ලෝකයෙහි ප්‍රධානීන්
ගෙන් කිසිවෙකුත් දැනගත්තේ නැ
ත; ඔවුන් දැනගන සිටියෝනම්,
මහත්තත්වයෙහි ස්වාමින්වහන්සේ
9. කුරුසියෙහි නොමරති. ඒ ගැන,
"දෙවියන්වහන්සේ තමන්ට ප්‍රේම
කලවුන් උදෙසා පිලියෙලකල දේ
ඇසින් දුටුවේවත්, කනින් ඇසුවේ
වත්, මනුෂ්‍යයාගේ හිතට හැඟුනේ
වත් නැතැයි" ලියාතිබෙන්නේය.
10. දෙවියන්වහන්සේ තමන්ගේ
ආත්මය ලවා අපට ඒ දේ එලිදරවු
කෙරෙවුසේක. මක්නිසාද ආත්මයා
නන්වහන්සේ දෙවියන්වහන්සේගේ
ගැඹුරු දේ ඇතුළුව සියල්ල සොය
11. නසේක. මනුෂ්‍යයාගේ කාරනා,
මනුෂ්‍යයා ඇතුලෙහි තිබෙන්නාවූ
ආත්මයට මිස, වෙන කාට දැනේද?
එසේම දෙවියන්වහන්සේගේ කාර
නා, දෙවියන්වහන්සේගේ ආත්මයට
මිස, වෙන කාටවත් දැනෙන්නේ
12. නැත. දෙවියන්වහන්සේ විසින්
අපට කරුනාවෙන් දෙනලද දේ
දැනගන්නා පිනිස, දෙවියන්වහන්
සේ කෙරෙන් පැමිනියාවූ ආත්මය
මිස, ලෝකයාගේ ආත්මය නොලැබී
13. මුව. ඒ දේ අපි මනුෂ්‍යයන්ගේ
ඥානයෙන් උගන්වනලද වචනවලින්
නොව, ආත්මික දේවල් ආත්මික දේ
සමග සමානකර බලමින්, ශුද්ධාත්ම
යානන්වහන්සේ විසින් උගන්වන
14. ලද වචනවලින් කථාකරමුව. නු
මුත් ලෞකික මනුෂ්‍යයාට දෙවියන්
වහන්සේගේ ආත්මයෙහි කාරනා
වල් මෝඩකමක්කොට පෙනෙන
බැවින්, ඔහු ඒ දේ පිලිගන්නේ
නැත. ඒවා ආත්මික ලෙස සොයා
දැනගතයුතු බැවින්, ඒ දේ දැනගන්
15. ට ඔහුට නුපුළුවන. ආත්මික තැ
නැත්තේ සියල්ල විචාරන්නේය;
නුමුත් කිසිවෙකු විසින් විචාරය නො
16. කරනු ලැබේ. තවද ස්වාමින්ව
හන්සේට උගන්වනතරම්, උන්වහන්
සේගේ සිත කවුරු දැනගත්තෝද?
එහෙත් අපි ක්‍රිස්තුස්වහන්සේගේ
සිත ධරමුව.

3. පරිච්. සහෝදරයෙනි, ආත්
මිකයන්ට මෙන් නුබලාට කථාක
රන්ට නොහැකිව, මාංසිකයන්ටත්
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි බාල
යන්ටත් මෙන්, නුබලාට කථාකෙ
2. ලෙමි. නුබලාට දුඩි අහර කන්
නට බැරිහෙයින්, ඒවා නුබලාට
නොකවා කිරි පෙවීමි; නුබලා දැන්
දක්වාද දුඩි අහර කන්ට නොහැකි
3. වෙති. මක්නිසාද නුබලා තවම
මාංසිකව සිටිති; නුබලා අතරෙහි
ඊර්ෂ්‍යාවත් විවාදයත් භේදයත් ඇති
බැවින්, නුබලා මාංසිකයෝද, මනු
ෂ්‍ය ගතියෙන් හැසිරෙන්නෝද නො
4. වෙද්ද? එකෙක්, "මම පාවුල්ගේ
ය;" අනිකෙක් "මම අපොල්ලොස්
ගේයයි" කියනකල, නුබලා මාංසි
කයෝ නොවෙද්ද?

5. එසේවීනම් පාවුල් කවුද? අපො
ල්ලොස් කවුද? ස්වාමින්වහන්සේ
එක එකාට දුන් ලෙස, නුබලා ඇද
හිමට පමුනුවන්නාවූ සේවකයෝ
6. පමනක් නොවෙද්ද? මම හිටෙව්
වෙමි; අපොල්ලොස් වතුර වක්කෙ
ලේය; නුමුත් දෙවියන්වහන්සේ වැඩී
7. කය කලසේක. එබැවින් වැඩීම
කරන දෙවියන්වහන්සේ මිස, හිට
වන තැනැත්තේ කිසිත් නැත; වතුර
වක්කරන තැනැත්තේත් කිසිත්
8. නැත. හිටවන තැනැත්තේද,
වතුර වක්කරන තැනැත්තේද එකා
කාරය. එකින් එකා තම තමාගේ
වැඩේ හැටියට කුලී ලබනවා ඇත.
9. අපි දෙවියන්වහන්සේගේ යටතේ
හවුල් වැඩකරන්නෝය. නුබලා දෙවි
යන්වහන්සේගේ කෙතද, දෙවියන්

10. එහෙත්සෙ සෑදූ ගෙයද වෙති. මට
දෙනලද දෙවියන්වහන්සේගේ කරු
ණාවේ හැටියට, නුවණ ඇති ගෙවල්
හදන්නෙක් මෙන් අත්තිවාරම මෙ
ලිමි; වෙන කෙනෙක් එයි ගොඩන
ගන්නේය; එහෙත් එකෙක් එකෙක්
ගොඩනගන්නේ කෙසේදැයි බලාග
11. නිවා. තෙලාතිබෙන්නාවූ අත්
තිවාරම මිස, වෙන අත්තිවාරමක්
තෙලන්ට කාටවත් බැරිය; ඒ අත්ති
වාරමනම්, යේසුස් ක්‍රිස්තුස්වහන්
12. සේය. ඉදින් කිසිවෙක් ඒ අත්ති
වාරම පිට, රන් රිදී මැනික් ලී තණ
පිදුරු ගොඩනගන්නේනම්, එක
එකාගේ කර්මාන්තය ප්‍රකාශකරනු
13. ලැබේ. මක්නිසාද ගින්නෙන්
එළිදරව්කරන දවසේදී, එක එකා
ගේ කර්මාන්තය කොයි ආකාරදැයි,
ගින්නෙන් පරීක්ෂාකරනු ලැබ ප්‍රකා
14. සවේ. එයි ගොඩනැගුවාවූ යම්
කෙනෙකුගේ කර්මාන්තය පවතී
නම්, ඔහු විපාකය ලබන්නේය.
15. යම් කෙනෙකුගේ කර්මාන්තය
දෑ ගියේනම්, ඔහුට අලාභවෙනේය.
නුමුත් ගින්නෙන් ඇදලා ගත්තාක්
මෙන් ඔහුම ගැලවෙයි.

16. නුබලා දෙවියන්වහන්සේගේ
මාලිගාව බවද, දේවාත්මයානන්ව
හන්සේ නුබලා තුලෙහි වාසයකරන
17. බවද නොදනිද්ද? යමෙක් දෙවි
යන්වහන්සේගේ මාලිගාව නාස්ති
කරන්නේනම්, දෙවියන්වහන්සේ ඔ
හු නාස්තිකරනසේක; මක්නිසාද
දෙවියන්වහන්සේගේ මාලිගාව පිරි
18. සිදුය; ඒ මාලිගාව නුබලාමය. කි
සිවෙක් තමාම රවටා නොගනිවා.
නුබලා අතරෙහි යමෙක් මෙලොව
ගැන තමාම ඥානවන්තයෙකැයි
කල්පනාකරන්නේනම්, ඔහු ඥාන
වන්තයෙක් වෙන පිනිස අඥාන
19. යෙක් වේවා. මක්නිසාද, මේ
ලෝකයෙහි ඥානය දෙවියන්වහන්
සේට මෝඩකමක්කොට පෙනෙන්
නේය. එලෙසම, "ඥානවන්තයන්
ඔවුන්ගේම ප්‍රයෝගයෙන් උන්ව
හන්සේ අල්ලාගන්නාසේකැයි" ලි
20. යාතිබෙනේය. නැවතද, "ස්වා
මින්වහන්සේ ඥානවන්තයන්ගේ සිතු
විලි නිෂ්ඵලව තිබෙන බව දන්නා
සේකැයි" ලියා තිබෙන්නේය.

21. එහෙයින් කවරෙක්වත් මනු
ෂ්‍යයන් ගැන ගරුකම් කථානොකෙ
22. රේවා. මක්නිසාද සියල්ල නුබ
ලාගේය; පාවුල් හෝ, අපොලෝස්
හෝ, කේඵස් හෝ, ලෝකය හෝ,
ජීවනය හෝ, මරනය හෝ, දැන්
පවතින දේ හෝ, මතු පැමිනෙන
23. දේ හෝ, සියල්ල නුබලාගේය. නු
බලාද ක්‍රිස්තුස්වහන්සේගේය; ක්‍රිස්
තුස්වහන්සේද දෙවියන්වහන්සේ
ගේය.

4. පරිච්ජ. මනුෂ්‍යයෝ අප ක්‍රිස්
තුස්වහන්සේගේ සේවකයන් වශ
යෙන්ද, දෙවියන්වහන්සේගේ රහස්
වල ගබඩාකාරයන් වශයෙන්ද සිත
2. න්වා. තවද ගබඩාකාරයන් විසින්
3. විශ්වාසව සිටිය යුතුය. එහෙත්
මම නුබලා විසින්වත් මනුෂ්‍ය විනිශ්
චයෙන්වත් විනිශ්චයකරනු ලබම්
නම්, ඒ මට වැදගත් දෙයක් නො
වේ; මමම මා විනිශ්චය නොකරෙමි.
4. මා අත කිසි දෝෂයක් ඇති බව
නොදනිමි; එසේ නුමුත් එසේ නො
දැන්මෙන් මම නිර්දෝෂ නොවෙමි.
මා විනිශ්චයකරන තැනැත්තේනම්,
5. ස්වාමින්වහන්සේය. එහෙයින්
ස්වාමින්වහන්සේ එනතුරු, කාලයට
පලමුවෙන්, කිසිවක් විනිශ්චය නො
කරල්ලාය. උන්වහන්සේ අන්ධකා
රයේ සැඟවුනු දේ ප්‍රකාශකොට,
හදෙ සිතිවිලි ප්‍රසිද්ධකරනසේක. එවිට
දෙවියන්වහන්සේ කෙරෙන් එක
6. එකා ප්‍රසංසා ලබන්නේය. සහෝ
දරයෙනි, ලියා තිබෙන තරමට වඩා
යමෙක් ගැන නොසිතන පිනිස,

තුඹලා අප කෙරෙන් ඉගනගන්ටද,
තුඹලාගෙන් කිසිවෙක් එකෙකු
නිසා අනිකෙකුට විරුඬව උඩඟු
නොවෙන්ටද, තුඹලා උදෙසා මා හා
අපොලෙලාස්ද උපමාකොට මේ
7. කාරනා කීමි. මක්නිසාද තුඹලා
වෙනස්කරන්නේ කවරෙක්ද? නො
හොත් තුඹට තිබෙන දෙයින් අනි
කෙකුගෙන් නොලැබුවේ කිමෙක්ද?
ඉදින් ලැබුයේනම්, නොලැබූ කෙ
නෙක් මෙන් ගරුකම් කරගන්නේ
මක්නිසාද?

8. දැන් තුඹලා සම්පූර්ණව සිටිති;
දැන් තුඹලා වස්තුකාරයෝ වෙති;
අප නැතුව තුඹලා රජකම්කලෝය.
නුමුත් තුඹලා සමග අප විසිනුත්
රජකම් කරන පිනිස, තුඹලා රජ
9. කම් කරත්නම් යහපත. නුමුත්
අපි ලෝකයට හෙවත් දේවදූතයන්
ටද මනුෂ්‍යයන්ටද ක්‍රීඩාවක්ව වූනෙ
මුව. එබැවින් දෙවියන්වහන්සේ
ප්‍රේරිතවූ අප, මරනයට නියෝගකල
වුන්මෙන්, අන්තිමව දැක්වූසේකැයි
10. සිතමි. ක්‍රිස්තුස්වහන්සේ නිසා
අපි මෝඩයෝය; නුමුත් තුඹලා
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි නුවනැ
ත්තෝය. අපි දුර්වලයෝය; නුමුත්
තුඹලා බලවන්තයෝය. තුඹලා නම්බු
කාරයෝය; නුමුත් අපි නින්දිතයෝ
11. ය. මේ දක්වාම බඩගිනිද පිපා
සද විඳ, හීන වස්ත්‍ර ඇඳ, පහර ලැබ,
නියම වාසස්ථාන නැතුව සිටිමුව.
12. අපේම අතින් කර්මාන්තකොට,
වෙහෙස ගනිමුව. නින්ද ලබනකල,
ආශීර්වාදකරමුව. පීඩා ලබනකල, ඉව
13. සමුව. හෙලාදැකීම ලබනකල,
එසේ නොකරනලෙස ඉල්ලමුව. අද
දක්වා ලෝකයෙහි කුනුමෙන්ද සිය
ල්ලෙහි කසලමෙන්ද කරනු ලබමුව.

14. මේ දේ තුඹලා ලැජ්ජාකරන
පිනිස නොව, මාගේ ප්‍රිය පුත්‍රයන්ට
මෙන් තුඹලාට දැනමුතුකම් දෙන
15. පිනිස ලියමි. මක්නිසාද සුභා
රචිය කරනකොටගෙන ක්‍රිස්තුස්
යේසුස්වහන්සේ කෙරෙහි මම තුඹ
ලා උත්පාදකල බැවින්, ක්‍රිස්තුස්ව
හන්සේ කෙරෙහි දස දහසක් උගන්
වන්නෝ ඇති නමුත්, බොහෝ පිය
16. වරු තුඹලාට නැත්තෝය. එහෙ
සින් මගේ අභිප්‍රායේ එනමෙන් තුඹ
17. ලාගෙන් ඉල්ලමි. මේ කාරනාව
නිසා, ස්වාමින්වහන්සේ කෙරෙහි
විස්වාසවූ මාගේ ප්‍රිය පුත්‍රවූ තිමෝ
තියස් තුඹලා ලඟට එවීමි. මම සියළු
තැන්වල සියළු සභාවලදී උගන්වන
ලෙස, ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
ඇත්තාවූ මාගේ මාර්ගවල් ඔහු
18. තුඹලාට සිහිකරවන්නේය. සම
හරු මම තුඹලා වෙතට එන්නේ
19. නැත කියා අහංකාරවෙති. නු
මුත් ස්වාමින්වහන්සේ කැමතිසේක්
නම්, මම තුඹලා ලඟට වහාම ඇවිත්,
අහංකාරවූවන්ගේ වචන පමනක්
20. නොව බලයද දැනගනිමි. මක්
නිසාද දෙවියන්වහන්සේගේ රාජ්‍යය
බලයෙන්මිස, වචනයෙන් නොවේය.
21. තුඹලා කුමක් කැමතිද? තුඹලා
ලඟට වේවැල අරන් එම්ද? නො
හොත් ප්‍රේමයෙනුත් මෘදු සිතිනුත්
එම්ද?

5. පරිච්ඡ. තුඹලා අතරෙහි මිථ්‍යා
චාරය ඇතැයි හරියටම ආරංචිය;
ඒනම් යමෙක් තමාගේ පියාගේ
භාර්යාව තබාගන්නේයයි, අන්‍ය
ජාතීන් අතරෙහි පවා නැත්තාවූ
2. මිථ්‍යාචාරයෙක. මේ ක්‍රියාව කල
තැනැත්තාගැන තුඹලාගෙන් වෙන්
කරන්ට ඕනෑව තිබෙද්දී, තුඹලා
3. අහංකාරවූවෝය. මම ශරීරයෙන්
දුරුව සිටින නුමුත් ආත්මයෙන් ලඟව
සිට, මේ ක්‍රියාව කල තැනැත්තා
ගැන ලඟ සිටියාක්මෙන්ම, මෙසේ
4. නියම කොලෙමි. එනම්, අපේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
නාමයෙන් තුඹලාද මාගේ ආත්මයද

5. රැස්වූකල, මෙබඳුවූ තැනැත්තාගේ ආත්මය ස්වාමිවූ යේසුස්වහන්සේගේ දවසේදී ගැලවෙන පිනිස, අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ බලයෙන් ඔහුගේ ශරීරය විනාසවීමට ඔහු සාතන්ට පාවාදෙන්ට නියමකෙලෙමි.

6. තුබලාගේ ගරුකම් කරගැනීම හොඳ නැත. මුහුන් ටිකෙන් මුළු පිඩ 7. පිපෙන බව නොදනිද්ද? එබැවින් මුහුන් නැත්නාවූ තුබලා අළුත් පිඩක් වෙන පිනිස, පරන මුහුන් පහකරපල්ලාය. ක්‍රිස්තුස්නම් අපගේ පාස්කුමංගල්‍ය බැටළුපැටියා අප 8. නිසා යාග කරනලද්දේය. එබැවින් පරන මුහුනවලින්වත් නපුරු අදහසද දුෂ්ටකමද නැමති මුහුනවලින්වත් මංගල්‍යය නොපවත්වා, සාධාරනකම සහ සැබෑකමද නැමති මුහුන් නුමුසු රොටියෙන් මංගල්‍යය පවත්වමුව.

9. මිථ්‍යාචාරිකයන් සමග සමාගම් නොවෙන්ට, මා විසින් එවී ලියමන 10. ක ලියා ඇත. එසේවීනමුත් මේ ලෝකයෙහි මිථ්‍යාචාරිකයන්වත්, ලෝභයින්වත්, කොල්ලකාරයින්වත්, රූපවලට පුදන්නන්වත් සමග සියළු ආකාරයෙන් සමාගම් නොවෙන්ට නොලිව්වෙමි; එසේ කලොත් තුබලා ලෝකයෙන් අහක්ව යන්ට ඕනෑය. 11. තුමුත් සහෝදරයෙකැයි කියනලද අය මිථ්‍යාචාරිකයෙක්වත්, ලෝභයෙක්වත්, රූපවලට පුදන්නෙක්වත්, නින්දාකරන්නෙක්වත්, බේබද්දෙක්වත්, කොල්ලකාරයෙක්වත් වේනම්, එයාකාර තැනැත්තා සමග සමාගම් නොවෙන්ටද, කෑමවත් 12. නොකන්ටද තුබලාට ලිවීමි. පිටත සිටින්නාවුන් විනිශ්චයකරන්ට මට කම මොකද? ඇතුලෙහි සිටින්නන් තුබලා විනිශ්චය නොකරන් 13. නෝද? පිටත සිටින්නන් දෙවියන්වහන්සේ විනිශ්චය කරනසේක. එබැවින් ඒ දුර්ජනයා තුබලා අතරෙන් පහකරපල්ලාය.

6. පරිච්ඡේ. තුබලා අතරෙහි යමෙකුට අනිකෙකු සමග යුක්තියක් ඇත්නම්, ඔහු සුබවන්තයන් වෙතට නොගොස් අධර්මිෂ්ඨයන් ඉදිරියෙහි 2. නඩු කියන්ට සිතාද? සුබවන්තයෝ ලෝකයා විනිශ්චය කරතියි නොදනිද්ද? ඉදින් ලෝකයා තුබලාගෙන් විනිශ්චය කරනු ලබන්නේනම්, ඉතා සුළු කාරනා විනිශ්චයක 3. රන්ට තුබලාට යුතු නැද්ද? අපි දූතයන් විනිශ්චය කරමුයයි තුබලා නොදනිද්ද? මේ ලෝකයට අයිති දේ විනිශ්චය කරන්ට කොපමන 4. වඩා සමර්ථ නොවෙමුද? එසේවීනම් මේ ලෝකයට අයිති දේ ගැන තුබලාට යුක්ති ඇත්නම්, ඒවා විනිශ්චය කරන්ට සභාවෙහි තුඩා 5. ඇත්තන් නියමකරපල්ලාය. තුබලාට ලැජ්ජා උපදවන පිනිස මෙසේ කියමි. කිමෙක්ද? තමන්ගේ සහෝදරයන් අතරේ විනිශ්චය කරන්ට සමර්ථවූ එක් නුවන ඇත්තෙක් 6. තුබලා අතරෙහි නැද්ද? සහෝදරයා සමග සහෝදරයා යුක්ති කියන්නේය; ඒත් ඇදහිල්ල නැත් 7. තන් ඉදිරියෙහිය. එහෙයින් ඔවුනොවුන් සමග තුබලාගේ නඩු කීම 8. තුබලා අතරෙහි වරදක්මය. එසේ නොකොට, අවනඩු සහ අලාභය නොඉවසන්නේ මන්ද? තුමුත් තුබලා අවනඩුන් අලාභයන් කරති; 9. ඒත් සහෝදරයන්ටය. අධර්මිෂ්ඨයෝ දෙවියන්වහන්සේගේ රාජ්‍යය හිමිනොවෙන බව තුබලා නොදනිද්ද? මුලානොවෙල්ලාය; වේශ්‍යාක්‍රියා කාරයොත්, රූප අදහන්නොත්, පරදාරිකයොත්, ස්ත්‍රීන් ලෙස හැසිරෙන්නොත්, පුරුෂයන් සමග 10. අනාචාර කරන්නොත්, සොරුත්, ලෝභයොත්, කීමත්කාර

යොත්, නින්දකරන්නොත්, කොල්ලකන්නොත් දෙවියන්වහන්සේගේ රාජ්‍යය හිමිනොවෙති.

11. නුබලා අතරෙහි සමහරු එයාකාර තැනැත්තෝව සිටියෝය; නුමුත් දූත් ස්වාමිවූ යේසුස්වහන්සේගේ නාමයෙන්ද, අපගේ දෙවියන්වහන්සේගේ ආත්මයෙන්ද, නුබලා සෝදනු ලැබුවෝය, පිරිසිදුකරනු ලැබුවෝය, නිදෝෂකරනු ලැබුවෝ
12. ය. සියළු ආකාර කෑම මට කැපය; නුමුත් සියළු කෑම ඔබින්නේ නැත. සියළු ආකාර කෑම මට කැපය; නුමුත් මම කිසිවකට වසඟනොවෙමි.
13. බඩට කෑමද, කෑමට බඩද ඔබින්නේය; නුමුත් දෙවියන්වහන්සේ ඒ දෙකම නැතිකරනසේක. ශරීරය ස්වාමින්වහන්සේ පිනිස මිස, වෛශ්‍යකම පිනිස නොවේය; ස්වාමින්වහන්සේද ශරීරය පිනිස සිටිනසේ
14. ක. දෙවියන්වහන්සේ ස්වාමින්වහන්සේ නැඟිටෙව්වසේක; අපද තමන්වහන්සේගේම බලයෙන් නැඟු
15. වූවනසේක. නුබලාගේ ශරීරය ක්‍රිස්තුස්වහන්සේගේ අවයවයයි නොදනිද්ද? එසේවීනම්, ක්‍රිස්තුස්වහන්සේගේ අවයව අරගෙන, වෛශ්‍යාවකගේ අවයව කෙරෙම්ද? එසේ
16. නොවේවා. මක්නිසාද, "දෙදෙනම එක ශරීර වෙතියි" උන්වහන්සේ කී බැවින්, වෛශ්‍යාවකට එක්වූ තැනැත්තේ එකම ශරීරයයි නොද
17. නිද්ද? නුමුත් ස්වාමින්වහන්සේට එක්වූ තැනැත්තේ එකම ආත්මය
18. වේ. වෛශ්‍යකමින් පහවෙයල්ලාය. මනුෂ්‍යයා කරන්නාවූ සියළු පාපය ශරීරයෙන් පිටතය; නුමුත් වෛශ්‍යකම් කරන තැනැත්තේ තමාගේම ශරීරයට එදිරිව පව්කරන්
19. නේය. කිමෙක්ද? නුබලාගේ ශරීරය දෙවියන්වහන්සේගෙන් ලැබූවාවූ නුබලා ඇතුලෙහි ඇත්තාවූ ශුද්ධාත්මයානන්වහන්සේගේ මාලි
20. ගාව බවද, නුබලා මිලේට ගත් නිසා නුබලා නුබලාටම අයිති නැති බවද නොදනිද්ද? එබැවින්, දෙවියන්වහන්සේට අයිතිවූ නුබලාගේ ශරීරයෙන්ද නුබලාගේ ආත්මයෙන්ද දෙවියන්වහන්සේට ගෞරව කරපල්ලාය.

7. පරිච්ඡෙ. නුබලා විසින් මට ලියනලද කාරනා ගැනය.. ස්ත්‍රී සංසර්ග නොකිරීම මනුෂ්‍යයාට යහපත;
2. එසේවී නුමුත් වෛශ්‍යකමෙන් වැලකෙන පිනිස, එක එක පුරුෂයාට තම තමාගේම භාර්‍ය්‍යාවද, එක එක ස්ත්‍රියට තම තමාගේම පුරුෂයාද
3. වේවා. පුරුෂයා භාර්‍ය්‍යාවට සුදුසුවූ ප්‍රීතිය පවත්වාවා; භාර්‍ය්‍යාවත් පුරු
4. ෂයාට එසේමය. පුරුෂයා මිස, භාර්‍ය්‍යාවට තමාගේ ශරීරය කෙරෙහි බලය ඇත්තේ නැත; එසේම භාර්‍ය්‍යාව මිස, පුරුෂයාට තමාගේ ශරීරය කෙ
5. රෙහි බලය ඇත්තේ නැත. දෙදෙනාගේ කැමැත්තෙන් මද කලක් නිරාහාරයෙන් සිටීමටද යාඥාවටද අවකාස ලැබෙන පිනිස මිස, වෙන්නොසිටිල්ලාය. නුබලාට කාමයෙන් වැලකී සිටින්ට නුපුළුවන් හෙයින්, සාතන් විසින් නුබලා පරීක්ෂාකරනු නොලබන පිනිස, නැවත එක්වෙ
6. යල්ලාය. නුමුත් මේ කීම මම ආඥාවක්කොට නොව, අවසරයක්කොට
7. කියමි. සියළු මනුෂ්‍යයෝ මා ලෙස වූවොත්, කැමැත්තෙමි. නුමුත් එකෙක් මේ ප්‍රකාරයටද, අනිකෙක් ඒ ප්‍රකාරයටද, එක එක මනුෂ්‍යයාට දෙවියන්වහන්සේගෙන් නියම වරය
8. ඇත්තේය. එහෙයින් අවිවාහකයෝද වැන්දඹුවෝද මා ලෙස සිටිත් නම්, ඔවුන්ට යහපතැයි කියමි.
9. නුමුත් කාමදාහයට වඩා විවාහය හොඳ නිසා, ඔවුන්ට වැලකී සිටින්ට
10. බැරිනම්, විවාහ කෙරෙත්වා. විවාහ කලවුන්ට ආඥාකරමි; නුමුත්

මම නොව, ස්වාමීන්වහන්සේ ආඥා කරනසේක. කෙසේද, භාය‍්‍යාව පුරුෂයා කෙරෙන් අහක්ව නොයේවා. 11. නුමුත් ඈ අහක්ව ගියානම්, විවාහ නොකොට සිටීවා; නොහොත් ඈගේ පුරුෂයා සමග නැවත එක්වේවා. පුරුෂයාද තමන් භාය‍්‍යාව අත් නොහරීවා.

12. සෙස්සන්ට ස්වාමීන්වහන්සේ නොව, මම කියමි. යම් සහෝදරයෙකුට ඇදහිලි නැත්තාවූ භාය‍්‍යාවක් ඇත්නම්, ඈ ඔහු සමග සිටින්ට කැ 13. මතිනම්, ඔහු ඈ නොහරීවා. යම් ස්ත්‍රියකට ඇදහිලි නැත්තාවූ පුරුෂයෙක් ඇත්නම්, ඔහු ඈ හා සමග සිටින්ට කැමතිනම්, ඈ ඔහු නොහ 14. රීවා. මක්නිසාද, ඇදහිලි නැත්තාවූ පුරුෂයා, භාය‍්‍යාව කරනකොටගෙන, පිරිසිදු කරනලද්දේය; ඇදහිලි නැත්තාවූ භාය‍්‍යාවද, පුරුෂයා කරනකොටගෙන, පිරිසිදුකරනලද්දීය. එසේ නුවූවොත්, නුබලාගේ දරුවෝ අපිරිසිදුය; නුමුත් දැන් 15. ඔවුන් පිරිසිදුය. ඇදහිලි නැති තැනැත්තේ අහක යේනම්, අහක යේවා. මෙබඳුවූ කාරනාවලදී, සහෝදරියෙක්වත් සහෝදරයෙකුවත් බැඳී සිටින්නේ නැත. එසේ නුමුත් දෙවියන්වහන්සේ සමගිතාවට අප කැඳ 16. වූසේක. මක්නිසාද එම්බා භාය‍්‍යාව, නුබේ පුරුෂයා නුබ විසින් ගලවනු ලබන්නේයයි දන්නේ කොහොමද? නොහොත් පුරුෂය, නුබ විසින් නුබේ භාය‍්‍යාව ගලවනු ලබන්නීයයි දන්නේ කොහොමද?

17. නුමුත් දෙවියන්වහන්සේ එක එකාට බෙදා දුන් ප්‍රකාරයටද, ස්වාමීන්වහන්සේ එක එකා කැඳවූ ප්‍රකාරයටද හැසිරේවා; මෙලෙසම සියළු 18. සභාවලදී නියමකරමි. යමෙක් චර්මඡෙදීව කැඳවනලද්දේද, ඔහු අචර්මඡෙදී නොවේවා; යමෙක් අචර්මඡෙදීව කැඳවනලද්දේද, ඔහු 19. චර්මඡෙදී නොවේවා. දෙවියන්වහන්සේගේ ආඥාවන් රක්‍ෂාකිරීම මිස, චර්මඡෙදනයවත් අචර්මඡෙදනය 20. වත් කිසිත් නැත. එකෙක් එකෙක් තම තමන් කැඳවනු ලැබූ 21. ලෙස සිටීවා. නුබ වාලෙක්ව කැඳවනු ලැබූයේද, ඊට කනගාටු නොවෙන්න; නුමුත් නිදහස්වෙන්ට පුළුවන්නම් එයට කැමති වෙයනන. 22. මක්නිසාද, වාලෙක්ව ස්වාමීන්වහන්සේ කෙරෙහි කැඳවනු ලැබූ තැනැත්තේ ස්වාමීන්වහන්සේගේ නිදහස්වූ තැනැත්තෙක්ය. එසේම නිදහස්ව කැඳවනු ලැබූ තැනැත්තේ ක්‍රිස්තුස්වහන්සේගේ වාලෙක් 23. ය. නුබලා මිලේට ගන්නාලද්දේය; මනුෂ්‍යයන්ගේ වාල්ලු නො 24. වෙල්ලාය. සහෝදරයෙනි, එකෙක් එකෙක් යම් ස්වභාවකින් කැඳවනලදද, ඒ ස්වභාවෙන් දෙවියන්වහන්සේ ඉදිරියෙහි සිටීවා.

25. විවාහ නොකලවුන් ගැන ස්වාමින්වහන්සේගෙන් ආඥාවක් මට නැත. එසේ නුමුත්, විශ්වාසයෙක්ව සිටින්ට ස්වාමින්වහන්සේගෙන් කරුනාව ලද්දෙකු මෙන්, මාගේ අභිප්‍රා 26. ය කියමි. දැන් තිබෙන විපත්ති නිසා, මෙසේම සිටීම මනුෂ්‍යයාට 27. යහපතැයි සිතමි. භාය‍්‍යාවකට නුබ බැඳී සිටින්නේනම්, මිදෙන්ට නොසොයන්න. භාය‍්‍යාවකට බැඳී නොසිටින්නේනම්, භාය‍්‍යාවක් නො 28. සොයන්න. විවාහ කරන්නේනම්, එයින් නුබට පාපයක් නැත; කන්‍යාවක් විවාහ කරන්නීනම්, එයින් ඈට පාපයක් නැත. එසේවී නුමුත් එයාකාර අයවලට ශරීරික දුක් වන්නේය; නුමුත් මම නුබලාට 29. අනුකම්පා කෙරෙමි. සහෝදරයෙනි, කාලය එහුබුය. මේ ලෝකයේ කාරනා පසුවෙවි යන බැවින්, භාය‍්‍යාවන් ඇත්තෝ භාය‍්‍යාවන් නැත් 30. තන් මෙන්ද, අඩන්නෝ නාඩන්

නන් මෙන්ද, සතුටුවෙන්නෝ නො
සතුටුවෙන්නන් මෙන්ද, මිලේට ගන්
31. නෝ අයිති නැත්තන්මෙන්ද, මේ
ලෝකය බුක්තිවිඳින්නෝ අයුතුලෙ
ස බුක්තිනොවිඳින්නන්මෙන්ද, සිටිය
32. යුතුයයි කියමි. එහෙත් නුබලා
කනගාටු නොවෙනවාට කැමැත්
තෙමි. විවාහ නොකල තැනැත්තෙන්,
ස්වාමින්වහන්සේ කෙසේ සතුටුක
රම්දැයි, ස්වාමින්වහන්සේගේ කාර
33. නාවල් සලකන්නේය. විවාහ
කල තැනැත්තේ, භාර්යාව කෙසේ
සතුටුකරම්දැයි, ලෝකයෙහි කාර
34. නාවල් සලකන්නේය. එසේම
විවාහකල ස්ත්‍රිය සහ කන්‍යාව අත
රෙහිද වෙනසක් ඇත. විවාහ නො
කල ස්ත්‍රිය, ශරීරයෙන්ද ආත්මයෙන්ද
පිරිසිදුව සිටින පිණිස, ස්වාමින්වහන්
සේගේ කාරනාවල් සලකන්නීය.
විවාහ කල තැනැත්තී, පුරුෂයා කෙ
සේ සතුටුකරම්දැයි, ලෝකයේ කාර
35. නාවල් සලකන්නීය. මේවා මම
නුබලාට මලපතක් එලන පිණිස
නොව, නුබලාගේ ඔබින හැසිරීම
පිණිසද, නුබලා විසුරුල් නොවී ස්වා
මින්වහන්සේට ඉස්වාසකරන පිණිසද,
යන නුබලාගේ ප්‍රයෝජනය පිණිස
කියමි.

36. තවද යමෙක් තමාගේ කන්‍යා
දූවගේ යෞවන කාලය ඉකුත්වූ
බැවින්, අවිවාහකව සිටින්ට නුසුදුසු
යයි ඈ සිතන්නේනම්, විවාහ කරන්
ට යුතුවේනම්, ඔහු තමාගේ කැමැ
ත්ත ලෙස කෙරේවා; ඔහුට එයින්
පාපයක් නැත; ඔවුන් විවාහ කෙ
37. රේත්වා. එසේවිනමුත් ස්ථිර
සිත් ඇත්තාවූ, විවාහකර දෙන්ට
ඕනෑකමක් නැත්තාවූ, තමාගේ
කැමැත්ත ලෙස කරන්ට බලේ ඇත්
තාවූ අය තමාගේ කන්‍යා දූව රක්ෂා
කරන්නට තමන්ගේ හෘදයෙන් නිය
මකරගත්තේ විනම්, ඔහු යහපතක්
38. කරන්නේය. එහෙයින් විවාහ
කර දෙන තැනැත්තේ යහපතක්
කරන්නේය; විවාහකර නොදෙන
තැනැත්තේ වඩා යහපතක් කරන්
නේය.

39. භාර්යාව තමාගේ පුරුෂයා ජීවි
තව සිටිනතෙක්, ව්‍යවස්ථාවෙන් බැඳී
සිටින්නීය. නුමුත් ඈගේ පුරුෂයා
මලොත්, ඈ තමන් කැමති තැනැ
ත්තෙකු සමග විවාහ කරන්ට නිද
හස්ව සිටින්නීය; නුමුත් ස්වාමින්ව
40. හන්සේ කෙරෙහි පමනක්ය. ඈ
විවාහ නොකොට සිටින්නීනම්,
මාගේ අභිප්‍රාව ලෙස, ඉතා සැප
ඇත්තීය. තවද දෙවියන්වහන්සේ
ගේ ආත්මය මට ඇතැයි සිතමි.

8. පරිච්ඡේ. දේවතාවන්ට පුදන
ලද දේ ගැන අප සියල්ලන්ට දැනීම
ඇතැයි දනිමුව. දැනගැන්මෙන්
උඩඟුකම උපදින්නේය; නුමුත්
2. ප්‍රේමයෙන් සුභසිද්ධවන්නේය. ය
මෙක් තමන් කිසිවක් දන්නේයයි
සිතන්නේනම්, ඔහු දැනගන්ට යුතුවූ
ලෙස ඒතාක්කල් කිසිවක් දන්නේ
3. නැත. යමෙක් දෙවියන්වහන්සේට
ප්‍රේමකරන්නේනම්, ඔහු උන්වහන්
4. සේ විසින් දන්නාලද්දේය. එහෙ
යින් දේවතාවන්ට යාගකල කෑම
ගැන, දේවතාවෙක් ලෝකයෙහි
කිසිත් නැති බවද, එක්කෙනෙක්ම
හැර වෙන දෙවිකෙනෙක් නැති
5. බවද දනිමුව. ස්වර්ගයෙහිත්
පොලොවෙහිත් දෙවිවරු ඇතැයි
කියනලද්දේය; එබඳුවූ බොහෝ දෙ
විවරු සහ බොහෝ ස්වාමිවරුද
6. ඇතැයි කියන නුමුත්, අපට ඇත්
තේ, එකම පියානන්වූ දෙවියන්ව
හන්සේය; සියල්ල උන්වහන්සේ
ගෙන්ය, අපිද උන්වහන්සේ උදෙ
සාය. යේසුස් ක්‍රිස්තුස්නම් එකම
ස්වාමින්වහන්සේද අපට ඇත; සිය
ල්ල උන්වහන්සේ කරනකොටගෙ
නය, අපිත් උන්වහන්සේ කරන

7. කොටගෙනය. එසේවී නුඹුත් සිය
ලුන්ට මේ දැනුම නැත. දැන් දක්වා
සමහරු, දේවතාවා කෙනෙකැයි
යන අදහසින්, දේවතාවෙකුට යාග
කලාවූ දේ කති; ඔවුන්ගේ දුර්වලවූ
සිත් කිළුටුවේ.

8. දෙවියන්වහන්සේ අප ඒත්තු
ගන්නේ, අපි කන කෑම නිසා නො
වේය. කෑවාට උතුම් නොවෙමුව;
9. නොකෑවාට අධම නොවෙමුව. නු
ඹුත් නුඹලාගේ මේ බලය දුර්වලයන්
ට බාධාවක් නොවන ලෙස බලාග
10. නිල්ලාය. දැනුම ඇත්තාවූ නුඹ
දේවාලයේ කන්ට හිඳින බව දුර්වලවූ
යමෙක් දුටුවොත්, ඔහුගේ සිත දේව
තාවන්ට යාගකලාවූ දේ කන්ට කැම
11. තිවෙන්නේ නැද්ද? යම් දුර්වලවූ
සහෝදරයකු නිසා ක්‍රිස්තුස්වහන්සේ
මලසේක්ද, ඔහු නුඹේ දැනීමෙන්
විනාසයට පැමිණෙන්නේ නැද්ද?
12. නුඹුත් සහෝදරයන්ට විරුද්ධව
එසේ පව් කරමින්, ඔවුන්ගේ දුර්වලවූ
සිතට පහර දෙන්නාවූ නුඹලා ක්‍රිස්
තුස්වහන්සේට විරුද්ධව පව්කරති.
13. එබැවින් මාංස කෑමෙන් මාගේ
සහෝදරයාට බාධාවේනම්, මම මා
ගේ සහෝදරයාට බාධා නොකරණ
පිනිස, කිසි කලක මාංස නොකමි.

9. පරිච්ඡේ. මම ප්‍රේරිතයෙක්
නොවෙම්ද? මම නිදහස්වූ තැනැත්
තෙක් නොවෙම්ද? මම අපගේ ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ නුදු
ටිම්ද? ස්වාමින්වහන්සේ කෙරෙහි
නුඹලා මාගේ කර්මාන්තය නොවේ
2. ද? මම අනුන්ට ප්‍රේරිතයෙක්
නොවෙන නුඹුත්, ඒකාන්තයෙන්
නුඹලාට ප්‍රේරිතයෙක් වෙමි; ස්වාමි
න්වහන්සේ කෙරෙහි නුඹලා මාගේ
3. ප්‍රේරිතකමෙහි මුද්‍රය වෙති. මා
විචාරන්නවුන්ට මාගේ උත්තරය
4. නම්, කනනටද බොනනටද අපට
5. බලය නැද්ද? අනිත් ප්‍රේරිතයෝද
ස්වාමින්වහන්සේගේ සහෝදරයෝද
කේඵස්ද කරන්නාක්මෙන්, සහෝ
දරියක් ඒනම් භාර්‍ය්‍යාවක් කැඳවා
ගන හැසිරෙන්ට අපට බලය නැද්ද?
6. නොහොත් වැඩනොකර සිටින්ට,
මටද බාර්ණබස්ටද පමනක් බැරි
7. ද? තමාගේ වියදමෙන් යම් කලෙ
කත් යුධකරන්නේ කවුද? මිදිවත්
තක් වවා, එහි ඵලයෙන් නොකන්
නේ කවුද? නොහොත් ගවරැල
කෑම කවා, උන්ගේ කිරි නොකන්
8. නේ කවුද? මනුෂ්‍යයෝ කියන
හැටියට මම මේ කාරනා කියම්ද,
නොහොත් ව්‍යවස්ථා පොතෙහිත්
9. එසේම ලියවී නැද්ද? මක්නිසාද
"ගොයම් පාගන ගොනාගේ කට
නොබඳුවයි" මෝසෙස්ගේ ව්‍යවස්ථා
වෙහි ලියා තිබෙන්නේය. දෙවියන්
වහන්සේ ගොන් සලකා එසේ කී
10. සේක්ද? නොහොත් අප නිසාම
කීසේක්ද? නිසැකව අප නිසා ලිය
නලද්දේය. හානනා තමන් බලාපො
රොත්තුවූ දේ ලබන්ට බලාපො
රොත්තුවීමෙන් හාන පිනිසද, පාග
නනා එම බලාපොරොත්තුවීමෙන්
පාගන පිනිසද, එසේ ලියනලද්දේය.
11. අපි නුඹලාට ආත්මික දේ වපු
ලෙමුනම්, නුඹලාගේ ලෞකික දේ
12. කැපීම මහත් දෙයක්ද? අනුන්
නුඹලා කෙරෙහි මේ බලය පවත්ව
තොත්, ඊට වඩා අපට යුතු නැද්ද?
එසේ නුඹුත් අපි ක්‍රිස්තුස්වහන්සේ
ගේ සුභාරංචියට කිසි බාධාවක් නො
කරන පිනිස, මේ බලය නොපවත්
13. වා සියල්ල ඉවසමුව. දේව මාලි
ගාවෙහි සේවයකරන්නෝ දේව මා
ලිගාව සන්තක දෙයින් කන බවද,
පූජාසනය ලඟ සේවයකරන්නෝ
පූජාසනය සමග පංගුකාරයෝ වෙන
14. බවද දන්නේ නැද්ද? එසේම
සුභාරංචිය දේසනාකරන්නෝ සුභා
රංචියෙන් ජීවිකාව ලබන්ට, ස්වාමින්
15. හන්සේ නියෝගකලසේක. මම

මෙයින් කිසි දෙයක් ලබාගන්නේ
නැත. තවද මම එසේ කරවාගන්නා
පිනිස, මේ කාරණ ලියන්නේ නැත.
යමෙක් මාගේ පාරම්පූකරගැන්ම
හිස්කෙරේනම්, ඊට වඩා මරණය
16. මට යහපත. මම සුභාරංචිය ප්‍රකා
සකරන්ට බැඳී සිටිමි; ඒක ප්‍රකාශ
නොකරතොත් මට දුක්වෙයි. ඉත්
න්සා මම සුභාරංචිය ප්‍රකාසකරන
නුමුත්, එයින් මට පාරම්පූකරගන්ට
17. කාරණවක් නැත. මේක මම
කැමැත්තෙන් කරන්නෙම්නම්, මට
විපාකය ඇත. අකමැත්තෙන් කර
නෙනම් නමුත්, සුභාරංචිය ප්‍රකාසකි
රීමෙහි තනතුර මට තිබෙන්නේය.
18. එවිට මට ඵලය කිමෙක්ද? ඒ
ඵලයනම්, සුභාරංචිය ප්‍රකාසකරණ
කල එහි මට දීලා තිබෙන බලය
සුසුදුසු ලෙස නොපවත්වා, ක්‍රිස්
තුස්වහන්සේගේ සුභාරංචිය වියදම්
නැතුව පිහිටුවීමය.

19. ඒ හැවියට මම සියල්ලන්ගෙන්
නිදහස්ව සිටියෙම් නමුත්, වැඩි දෙ
නෙක් ලබන පිනිස සියල්ලන්ට මා
20. දාසකෙලෙමි. යුදෙව්වන් ලබන
පිනිස ඔවුන් අතරෙහි යුදෙව්වෙකු
මෙන්ද, ව්‍යවස්ථාවට යටත්වූ අයවල්
ලබන පිනිස ඔවුන් අතරෙහි ව්‍යව
ස්ථාවට යටත්වූ කෙනෙක් මෙන්ද
21. වූයෙමි. දෙවියන්වහන්සේ කෙ
රෙහි ව්‍යවස්ථාව නැත්තාවූ තැනැත්
තෙක් නොව, ක්‍රිස්තුස්වහන්සේ
කෙරෙහි ව්‍යවස්ථාවට ඇතුලත්වූ
මම, ව්‍යවස්ථාව නැත්තවුන් ලබන
පිනිස, ඔවුන් අතරෙහි ව්‍යවස්ථාව
නැත්තාවූ තැනැත්තෙකු මෙන්
22. වූයෙමි. දුර්වලයන් ලබන පිනිස,
දුර්වලයන් අතරෙහි දුර්වලයෙක් මෙන්
වූයෙමි. මම සියළු ආකාරයෙන්ම සම
හරෙක් ගලවාගන්නා පිනිස, සියල්
23. ලන් අතරේ සියල්ල වූයෙමි. මම
සුභාරංචිය නිසාද, එහි පංගුකාර
යෙක් වෙන පිනිසද, මෙසේ කර
මින් සිටිමි.

24. දුවන ස්ථානයෙහි දුවන්නාවූ
සියල්ලෝ දුවති; නුමුත් එකෙක්ම
තෑග්ග ලබන බව දන්නේ නැද්ද?
නුබලා තෑග්ග ලබන ලෙස දුවපල්
25. ලාය. දිනන පිනිස වෑයම්කරන්
නාවූ සියල්ලෝ සියල්ලෙහි පමන
දූන හැසිරෙති. ඔවුන් දිරන්නාවූ
ඔටුන්නක්ද, අපි නොදිරන්නාවූ
ඔටුන්නක්ද ලබන පිනිස, එසේ
26. කරමුව. එහෙයින් මම සැක
ඇත්තෙකු මෙන් නුදුවමි; ආකාස
යට පහර දෙන්නෙකුමෙන් යුධ
27. නොකරමි. එහෙත් අනුන්ට දේ
සනාකරන්නාවූ මම්ම අභකදමන
ලද්දෙක් නොවෙන පිනිස, මාගේ
ශරීරය යටහත්කොට මැඩපවත්වා
ගනිමි.

10. පරිච්ඡේ. සහෝදරයෙනි, අප
ගේ පියවරු සියල්ලෝ වලාකුලෙන්
යට සිටියෝය; සියල්ලෝම මුහුද මැ
2. දින් ගියෝය; සියල්ලෝම වලා
කුලෙන්ද මුහුදෙනු මෝසෙස් කෙ
3. රෙහි බව්තීස්මය ලැබුවෝය; සිය
ල්ලෝම එම ආත්මික කෑම කෑවෝ
4. ය; සියල්ලෝම තමන් එක්ව ගියාවූ
ආත්මික පර්වතයෙන් බී නිසා එම
ආත්මික පානය බීවෝය; ඒ පර්වතය
5. නම් ක්‍රිස්තුස්වහන්සේය. එසේ
නුමුත් ඔවුන්ගෙන් වැඩි දෙනෙකුට
දෙවියන්වහන්සේ සතුටුනුවූසේක.
එහෙයින් ඔවුන් වනාන්තරයෙහි මෙ
ළනුලැබුවෝයයි යන කාරණ, නුබ
ලා නොදූන සිටිනවාට නොකැමැත්
6. තෙමි. ඔවුන් ලෝභවූනාක්මෙන්
අපිත් නපුරු දේට ලෝභ නොවෙන
පිනිස, ඒ කාරණ අපට ආදර්ශයක්
7. වීය. "සෙනග කන්ටද බොන්ටද
හිඳ, ක්‍රීඩා කරන්ටද නැගුටුනෝයයි"
ලියා තිබෙන ලෙස, ඔවුන්ගෙන්
සමහරෙක් දේවතාවන්ට පූදන්

නෝව සිටියෝය; නුබලා එසේ නො
8. වෙල්ලාය. ඔවුන්ගෙන් සමහ
රෙක් වෛශ්‍යාවන් සේවනයකොට,
ඒක දවසෙහි විසිතුන් දහසක් දෙන
වලෝය; එසේ අපිද වෛශ්‍යාවන්
9. සේවනය නොකරමුව. ඔවුන්
ගෙන් සමහරෙක් ක්‍රිස්තුස්වහන්සේ
පරීක්ෂාකොට, සර්පයන්ගෙන් විනාශ
වූනෝය; එසේම අපිත් උන්වහන්සේ
10. පරීක්ෂා නොකරමුව. ඔවුන්
ගෙන් සමහරෙක් කෝලාහලකොට,
විනාශකයා විසින් විනාශකරනු ලැබූ
වෝය; එසේම නුබලා කෝලාහල
11. නොකරල්ලාය. ඒ සියල්ල ආදර්ශ
යක් පිණිස, ඔවුන්ට සිදුවූනේය;
අන්තිම කාලයේ සිටින අපට අව
වාද පිණිස, ඒවා ලියා තිබෙනේය.
12. එහෙයින් කෙලින් සිටින්නේ
යයි සිතන තැනැත්තේ නොවැ
13. ටෙන්ට බලාගනීවා. සාමාන්‍ය
යෙන් මනුෂ්‍යයාට පැමිණෙන පරී
ක්ෂා හැර, වෙන පරීක්ෂාවක් නුබලාට
පැමිනුනේ නැත. නුමුත් දෙවියන්ව
හන්සේ විශ්වාස කෙනෙක; උන්ව
හන්සේ නුබලාගේ බලයට වඩා
නුබලා පරීක්ෂාකරනු ලබන්ට නැර,
නුබලාට පරීක්ෂාව පැමිණෙන කල
ඒක ඉවසන්ට පුළුවන්වෙන පිණිස,
පරීක්ෂාව සමග ගැලවෙන උපායද
14. කරනසේක. එහෙයින් මාගේ
ප්‍රියවූ තැනැත්තෙනි, දේවතාවන්ට
පුදීමෙන් පහවෙයල්ලාය.

15. නුබලා නුවන ඇත්තෝයයි
සිතා, නුබලාට කථාකෙරෙමි; මම
කියන කාරණ විනිශ්චයකරපල්ලා
16. ය. අපි ස්තුතිකරණ ස්තුති කුස
ලාන ක්‍රිස්තුස්වහන්සේගේ ලේවල
පංගුකාරකම නොවේද? අපි කඩන
රොටිය ක්‍රිස්තුස්වහන්සේගේ ශරීර
17. යේ පංගුකාරකම නොවේද? එක
රොටියක් බැවින් බොහෝ දෙනාවූ
අප එකම ශරීරයක් වමුව. මක්නි
සාද අපි සියල්ලෝම ඒ එකම රොටි
18. යට පංගුකාරයෝව සිටිමුව. ශරී
රික ඊශ්‍රායෙල් බලාපල්ලාය; පූජක
රණලද දෙයින් කන අයවල් පූජාස
නයට පංගුකාරයෝ නොවෙද්ද?
19. එසේවීනම් තුමක් කියම්ද?
දේවතාවෙක් ඇති කෙනෙකැයි
කියම්ද? නොහොත් දේවතාවන්ට
පූජාකල දේ කමක් ඇති දෙයකැයි
20. කියම්ද? අන්‍යජාතීහු පූජාකරණ
දේ යක්ෂයන්ට මිස, දෙවියන්වහන්
සේට පූජා නොකරතියි කියමි. එබැ
වින් නුබලා යක්ෂයන් සමග පංගුකා
රයෝව සිටිනවාට නොකැමැත්තෙ
21. මි. නුබලාට ස්වාමීන්වහන්සේගේ
කුසලානෙත්ද යක්ෂයන්ගේ කුසලා
නෙත්ද බොන්නට බැරිය; ස්වාමින්
වහන්සේගේ මේසයටද යක්ෂයාගේ
මේසයටද පංගුකාරයෝව සිටිනට
22. බැරිය. අපි ස්වාමින්වහන්සේ
උදහස්කරමුද? අපි උන්වහන්සේට
වඩා බලවත්තයෝද?

23. සියළු කැම මට කැපය; නුමුත්
සියල්ල ඔබින්නේ නැත. සියළු කැම
මට කැපය; නුමුත් සියල්ලෙන් අනුන්
24. ට ප්‍රයෝජන නැත. කිසිවෙක්
තමාගේ ලාභම නොසොයා, එක
එකා අනුන්ගේ ලාභද සොයාවා.
25. සිතේ නිදෝෂය පිණිස කිසිවක්
නොවිචාර, කඩේ විකුනන කොයි
දෙයක් නුමුත් අරන් කාපල්ලාය.
26. මක්නිසාද, "පොලොවද එහි
සම්පූර්ණකමද ස්වාමින්වහන්සේ
27. ගේය." ඇදහිලි නැත්තන්ගෙන්
යමෙක් නුබලාට කෑමට හඬගැසූ
වොත්, නුබලා යන්ට කැමතිනම්,
හෘදසාක්ෂිය නුබලාට විරුද්ධ නොවෙ
න පිණිස, කිසිවක් නොවිචාර නුබ
ලා ඉදිරියෙහි තැබූ දෙයින් කාපල්
28. ලාය. කිසිවෙක් මේක දේවතා
වන්ට පූජාකල දේකැයි නුබලාට
කියන්නේනම්, දැන්වූ ඔහු නිසාද,
හෘදසාක්ෂිය නිසාද, කන්නාට එපාය.
මක්නිසාද, "පොලොවත් එහි සම්

පූර්ණකමත් ස්වාමින්වහන්සේගේ
29. ය." තුඹේම හෘදසාක්ෂිය ගැන
නොව, අනුන්ගේ හෘදසාක්ෂිය ගැන
කියමි. අන් කෙනෙකුගේ හෘදසාක්ෂිය
කාරණකොටගෙන, මාගේ නිදහස්
කම විනිශ්චයකරනු ලබන්නේ මක්
30. නිසාද? මම කරුණාව කාරණ
කොටගෙන ලැබ, ස්තුති පැවැත්වී
මෙන් යුක්තව කන්නාවූ දේ නිසා,
31. මොකට නින්දා ලබම්ද? එහෙ
යින් තුඹලා කනත් බොනත් කොයි
දෙයක් කරනත්, ඒ සියල්ලෙන්ම
දෙවියන්වහන්සේට ගෞරව පැමි
32. ණෙන ලෙස කරපල්ලාය. යම්
සේ මම මාගේම ප්‍රයෝජන නො
සොයා, බොහෝ දෙන ගැලවෙන
පිනිස ඔවුන්ගේ ප්‍රයෝජන සොයා,
සියළු දෙයෙහි සියල්ලන් සතුටුකෙ
33. රෙම්ද, එසේම තුඹලාත් යුදෙව්
වන්ටවත්, ග්‍රීකයන්ටවත්, දෙවියන්
වහන්සේගේ සභාවටවත් බාධා
නොකරල්ලාය.

11. පරිච්ඡේ. මම ක්‍රිස්තුස්වහන්
සේගේ අඩිපාරේ යනලෙස, තුඹලා
2. මාගේ අඩිපාරේ වරෙල්ලාය. ස
හෝදරයෙනි, මම තුඹලාට කී සියල්
ල තුඹලා සිහිකොට මම දුන් පනත්
රක්ෂාකරණ නිසා, තුඹලාට ප්‍රසංසා
3. කරමි. තවද එක එක පුරුෂයාගේ
හිසනම් ක්‍රිස්තුස්වහන්සේය; එක
එක ස්ත්‍රියගේ හිසනම් පුරුෂයාය;
ක්‍රිස්තුස්වහන්සේගේ හිසනම් දෙවි
යන්වහන්සේය; මේ බව තුඹලා දැන
4. ගන්නවාට කැමැත්තෙමි. හිස
වසාගෙන යාඥාකරන්නාවූ නො
හොත් දේසනාකරන්නාවූ හැනැත්
තේ තමාගේ හිසට අගෞරවකරන්
5. නේය. තුමුත් හිස නොවසා යාඥා
කරන්නාවූ නොහොත් දේසනාක
රන්නාවූ ස්ත්‍රියක්, මුඩුකල හිස් ඇති
හැනැත්තියකුට සමානව සිටින නි
සා, තමාගේ හිසට අගෞරව කරන්
6. නීය. ස්ත්‍රිය හිස වසා නොගනි
නොත්, කැපූ හිසකේ ඇත්තී වේවා;
තුමුත් ස්ත්‍රියකුට ඉසකේ කැපීමවත්
මුඩුකිරීමවත් ලැජ්ජාවක් වන්නේ
නම්, ඈ වසනලද හිස් ඇත්ති
7. වේවා. පුරුෂයා දෙවියන්වහන්සේ
ගේ රූපයද ගෞරවයද බැවින්, හිස
8. වසන්ට ඔහුට නොවටියි. තුමුත්
පුරුෂයා ස්ත්‍රියගෙන් නොව ස්ත්‍රී පුරු
9. ෂයාගෙන් වූන බැවින්ද, පුරුෂයා
ස්ත්‍රිය නිසා නොව ස්ත්‍රිය පුරුෂයා
නිසා මවනලද බැවින්ද, ස්ත්‍රී පුරුෂයා
10. ගේ ගෞරවය වන්නීය. එහෙ
යින් දූතයන් නිසා ස්ත්‍රීන් විසින් හිස
11. වැස්මක් දැරිය යුතුය. එසේවී
තුමුත් ස්වාමින්වහන්සේ කෙරෙහි
ස්ත්‍රිය නැතුව පුරුෂයා පමණක් සිටින්
නේවත්, පුරුෂයා නැතුව ස්ත්‍රිය පම
12. ණක් සිටින්නේවත් නැත. මක්
නිසාද ස්ත්‍රී පුරුෂයාගෙන් වූනාලෙසම්,
පුරුෂයාත් ස්ත්‍රී කාරණකොටගෙන සි
ටින්නේය. තුමුත් සියල්ල දෙවියන්
වහන්සේගෙන්ය.

13. හිස නොවසා දෙවියන්වහන්
සේට යාඥාකරන්ට ස්ත්‍රියකට සුදුසු
14. දැයි, කල්පනාකරපල්ලාය. පුරු
ෂයෙකුට දික්වූ ඉසකේ ඇත්නම් ඔහු
ට අගෞරවයක් බව, ස්වභාවෙන්ම
15. තුඹලා දන්නේ නැද්ද? ස්ත්‍රිය
කට ඉසකේ වැස්මක්කොට දී තිබෙ
න බැවින්, ස්ත්‍රියකට දික්වූ ඉසකේ
16. ඇත්නම් ඈට ගෞරවයක. එ
හෙත් කිසිවෙක් වාදකරන්ට සිතත්
තේනම්, අපටවත් දෙවියන්වහන්
සේගේ සභාවටවත් එයාකාර ව්‍යව
හාරයක් නැත.

17. තුඹලා අයහපතට මිස යහප
තට රැස්නොවෙතියි, මම දන්වන්
නාවූ කාරණයෙහි තුඹලාට ප්‍රසංසා
18. නොකරමි. මක්නිසාද පලමු
කොට තුඹලා සභාවෙහි රැස්වෙන
කල, තුඹලා අතරෙහි භේද ඇති
බව අසමි; එයින් කිසිවක් අදහමි.

19. එක්නිසාද තුබලා අතරෙහි
තෝරාගනු ලැබූවන් පෙනෙන පිනි
ස, තුබලා අතරෙහි භේදවෙත්ව
20. ඕනෑය. තුබලා එක තැනකට
රැස්වන කල්හි, ඒක ස්වාමින්වහන්
සේගේ රාත්‍රි භෝජනය කන පිනිස
21. නොවේය. කුමක්හෙයින්ද, ඒ
කෑම කනකොට, එකිනෙකා තම
තමන්ගේ කෑම ඉස්සරව කති. මෙ
ලෙසින් එකෙක් බඩගිනිව ඉන්දදී,
වෙන කෙනෙක් තෘප්තියට පැමි
22. ණෙන්නේය. කිමෙක්ද? කන්න
ටත් බොන්නටත් තුබලාට ගෙදර
වල් නැද්ද? නොහොත් දෙවියන්ව
හන්සේගේ සභාව සුළුකොට, දිළි
ඳුන් ලැජ්ජාවට පමුනුවද්ද? තුබලාට
කුමක් කියම්ද? මේ ගැන තුබලාට
ප්‍රශංසා කෙරෙම්ද? ප්‍රශංසා නොක
23. රමි. මේ ගැන මම තුබලාට කියා
දුන් දේ ස්වාමින්වහන්සේගෙන් ලැබී
මි. ඒනම්, ස්වාමිවූ යේසුස්වහන්සේ
පාවාදෙනුලැබූ රාත්‍රියේම, උන්වහන්
24. සේ රොටි අරගන සතුතිකොට
කඩා, "මේක අරන් කාපල්ලාය;
තුබලා නිසා කඩන මාගේ ශරීරය
මේය. මා සිහිවීම පිනිස මේක කර
25. පල්ලායයි" කීසේක. එසේම
කෑවායින් පසු උන්වහන්සේ කුස
ලාන ගෙන, "මේ කුසලාන මාගේ
ලෙයෙහි අළුත් ගිවිසුමය; යම් පමන
වර මෙයින් බොන්නෝද, එපමන
වර මා සිහිවීම පිනිස මේක කරපල්
26. ලායයි" කීසේක. එලෙසම තුබ
ලා යම් පමන වර මේ රොටි කන්
නෝද, මේ කුසලානෙන් බොන්
නෝද, එපමන වර ස්වාමින්වහන්
සේගේ මරණය උන්වහන්සේ එන
27. තුරු ප්‍රකාසකරති. එසේහෙයින්
යමෙක් නුසුදුසු ලෙස මේ රොටි
කන්නේද, ස්වාමින්වහන්සේගේ කු
සලානෙන් බොන්නේද, ඔහු ස්වා
මින්වහන්සේගේ ශරීරය ගැනත් ලේ
28. ගැනත් වැරදිකාරයෙක්වේ. නු
මුත් මනුෂ්‍යයා තමා පරීක්ෂාකොට,
ඒ රොටි කා ඒ කුසලානෙන් බීවා
29. වේ. නුසුදුසු ලෙස කන බොන
තැනැත්තේ, ස්වාමින්වහන්සේගේ
ශරීරය නොවිමසා, තමා කෙරෙහිම
දඬුවම කන්නේය, බොන්නේය.
30. එහෙයින් තුබලා අතරෙහි බො
හෝ දෙන දුර්වලයෝද ලෙඩ්ඩුද
වෙති; බොහෝ දෙනාද නැසුණෝය.
31. අපි අපම විනිශ්චයකරගතිමු
නම්, විනිශ්චයකරනු නොලබමුව.
32. නුමුත් අපි විනිශ්චයකරනු ලැබ
මුනම්, ලෝකයා සමග අච්චු නොල
බන පිනිස ස්වාමින්වහන්සේගෙන්
33. දූන් තරවටුකරනු ලබමුව. එබැ
වින් මාගේ සහෝදරයෙනි, කනනට
තුබලා රැස්වනකල, ඔවුනොවුන්
34. එනකල් ප්‍රමාදවෙයල්ලාය. ය
මෙකුට බඩගිනි ඇත්නම්, තුබලා
දඬුවම් ලබන ලෙස එක්නොවෙන
පිනිස, ඔහු ගෙදරදී කෑවාවේ; ඉතිරි
කාරනාවල් මම ආකල පිලිවෙලට
තබමි.

12. පරිච්ඡේ. සහෝදරයෙනි, ආත්
මික දේ ගැන තුබලා නොදැන සිටී
2. නවාට මම නොකැමැත්තෙමි. අ
න්‍යජාතීවූ තුබලා යම් ආකාරයකින්
හික්මුනෝද, ඒ ආකාරයෙන් ගොළු
රූපවල් ලඟට ගෙනයනු ලැබූ බව
3. තුබලා දනිති. එබැවින් දෙවියන්
වහන්සේගේ ආත්මය කරණකොට
ගෙන කථාකරන්නාවූ කිසිවෙක්
යේසුස්වහන්සේ සාපලත් කෙනෙ
කැයි නොකියන බවත්, සුද්ධාත්මයා
නන්වහන්සේ කරනකොටගෙන මිස
යේසුස්වහන්සේ ස්වාමින්වහන්සේ
යයි කියනට බැරි බවත්, තුබලාට
4. දන්වමි. තවද ආත්මයානන්ව
හන්සේ එක්කෙනෙක්වම සිටින
නුමුත්, නොයෙක් ප්‍රකාර දීමනාවල්
5. ඇත. එසේම ස්වාමින්වහන්සේ
එක්කෙනෙක්වම සිටින නුමුත්,

නොයෙක් ප්‍රකාර මෙහෙයවල් ඇත.
6. සියළු දේ සියල්ලන් කෙරෙහි
කරන තැනන්වහන්සේ එකම දෙවි
යන්වහන්සේ නුමුත්, නොයෙක්
7. ප්‍රකාර ක්‍රියා කෙරීම්වල් ඇත. නු
මුත් ආත්මයානන්වහන්සේගේ ප්‍රකා
ශය වැඩ පිනිස එක එකාට දෙන
8. ලද්දේය. කෙසේදයත්, ආත්මයා
නන්වහන්සේ කරනකොටගෙන එ
කෙකුට ඥානයෙහි වචනයද, එකෙ
කුට එම ආත්මයානන්වහන්සේ කර
නකොටගෙන දැනීමෙහි වචනයද,
9. එකෙකුට එම ආත්මයානන්වහන්
සේ කරනකොටගෙන ඇදහිල්ලද,
එකෙකුට එම ආත්මයානන්වහන්සේ
කරනකොටගෙන සුවකරන්ට සම
10. ර්ථකමද, එකෙකුට ආශ්චර්යක
රන්ට සමර්ථකමද, එකෙකුට අනා
ගත වචනයද, එකෙකුට ආත්මයන්
ගේ ප්‍රභේද දැනගැනීමද, එකෙකුට
නොයෙක් ආකාර භාෂාද, එකෙකුට
භාෂාවල් තේරුම්කර කීමද දෙන
11. ලද්දේය. නුමුත් ඒ එකමවූ ආත්
මයානන්වහන්සේ, කැමති ලෙස එක
එකාට ඒ ඒ සමර්ථකම් බෙදා දී, මේ
සියල්ල සිදුකරනසේක.

12. තවද ශරීරය එකක; එහි
නොයෙක් අවයවයන් ඇත; ඒ එක
මවූ ශරීරයාගේ සියළු අවයව බො
හෝ නුමුත්, එක ශරීරයක. ක්‍රිස්තුස්
13. වහන්සේත් එසේමය. මක්නිසා
ද යුදෙව්වෝ හෝ ග්‍රීකයෝ හෝ,
දාසයෝ හෝ නිදහසයෝ හෝ, යන
අපි සියල්ලෝ, එකම ආත්මයානන්
වහන්සේ කරනකොටගෙන, එකම
ශරීරයේ බව්තීස්ම ලැබ, සියල්ලෝද
එකම ආත්මයෙන් පොවනු ලැබ්මුව.
14. එසේම ශරීරය එක අවයවයක්
නොව, නොයෙක් අවයව දරන්නේ
15. ය. එහෙයින් කකුල, මම අත
නොවන බැවින් ශරීරයට අයිති
නොවෙමියි කීවොත්, ශරීරයට අයිති
16. නැද්ද? යන, මම ඇස නොවන
බැවින් ශරීරයට අයිති නොවෙමියි
කීවොත්, ශරීරයට අයිති නැද්ද?
17. මුළු ශරීරය ඇසනම්, ඇසීම කො
හිද? මුළු ශරීරය ඇසීමනම්, ගඳ
18. දැනීම කොහිද? දෙවියන්වහන්
සේ තමන්ගේ කැමැත්ත ලෙස ඒ
සියළු අවයව ශරීරයේ තැබූසේක.
19. ඒ සියල්ල එකම අවයවයක්
20. වීනම්, ශරීරය කොහිද? දැනුත්
නොයෙක් අවයවයන් ඇති නුමුත්
21. ශරීරය එකක. ඇස, නුඹෙන්
මට ප්‍රයෝජන නැතැයි, අතට කියන්
ටවත්, හිස, නුඹෙන් මට ප්‍රයෝජන
නැතැයි, පයට කියන්ටවත්, නොහැ
22. කිවෙති. ශරීරයේ අවයවයන්
ගෙන් දුර්වලව පෙනෙන්නාවූ අවයව
23. ඕනෑමය. ශරීරයාගේ අවයව
යන්ගෙන් වඩා අවනම්බු සහිතයයි
අපි සිතන්නාවූ අවයවවලට බො
හෝ නම්බු දෙමුව. අපගේ අශෝභන
වූ අවයවයෝ බොහෝසෙයින් ශෝ
24. භනකරනු ලබති. අපගේ ශෝ
භනවූ අවයවයන්ට ශෝභනකිරී
25. මෙන් කමක් නැත. නුමුත් ශරීර
යෙහි කිසි භේදයක් නොව, අවයව
යන් ඔවුනොවුන් ඒකාකාර ප්‍රවේ
සම්කරගන්නා පිනිස, දෙවියන්වහන්
සේ නම්බුව නැත්තාවූ අවයවවලට
බොහෝ නම්බු දී ශරීරය සෑදූසේක.
26. එක අවයවයකට වේදනාවක්
ඇත්නම්, ඒ හා සමග සියළු අවයව
යෝ වේදනා විඳිති. එක අවයවය
කට නම්බු ලැබෙනම්, ඒ සමග සියළු
27. අවයවයෝ සතුටුවෙති. නුඹලා
ක්‍රිස්තුස්වහන්සේගේ ශරීරයද වෙන්
වෙන්, වසයෙන් අවයවයෝද වෙති.
28. මෙසේ දෙවියන්වහන්සේ, පළ
මුකොට ප්‍රේරිතයන්ද, දෙවෙනිව
දේශනා කරන්නන්ද, තුන්වෙනිව
ගුරුවරුන්ද, පසුව ආශ්චර්ය කරන්
නන්ද, පසුව සුවකිරීමට බල ඇත්
තන්ද, උපකාරකරන්නන්, ආඬුකා
රයෝද, නොයෙක් භාෂා කථාකරන්

නත්ද, සභාවෙහි පිහිටෙව්වූසේක.
29. සියල්ලෝම ප්‍රේරිතයෝද? සියල්
ලෝම දේසනාකරන්නෝද? සියල්
ලෝම ගුරුවරුද? සියල්ලෝම ආශ්
30. චර්ය්‍ය කරන්නෝද? සියල්ලෝම
සුවකරන්ට බල ඇත්තෝද? සියල්
ලෝම අන් භාෂාවලින් කථාකරන්
නෝද? සියල්ලෝම අර්ථ කියන්
31. නෝද? තුබලා උතුම් සමර්ථකම්
අතිසයින් සොයති; එසේ නුමුත්
එයට වඩා උතුම් මාර්ගයක් තුබලා
ට දක්වමි.

13. පරිච්ඡේ. මම මනුෂ්‍යයන්ගේද
දේවදූතයන්ගේද භාෂාවලින් කථා
කෙරෙම් නුමුත්, ප්‍රේමය නොදරන්
නෙම්නම්, හඬ නගන පිත්තලට
වත් ශබ්ද පවත්වන අත්තලටවත්
2. සමානවෙමි. මම අනාගත වචන
කියන්නෙම් නමුත්, සියළු රහස්ද
සියළු ඥානයද දන්නෙම් නමුත්,
පර්වත සොලවනතරම් සියළු ඇදහි
ල්ල ඇතිව සිටින්නෙම් නමුත්, ප්‍රේ
මය නොදරන්නෙම්නම් සිස්වෙමි.
3. මා සන්තක සියළු දේ දිළිඳුන්
පෝෂ්‍යකරන පිනිස දෙන්නෙම් න
මුත්, මාගේ ශරීරය දැවෙන්ට දෙන්
නෙම්නමුත්, ප්‍රේමය නොදරන්නෙම්
නම් එයින් මට කිසි ප්‍රයෝජනයක්
නැත.

4. ප්‍රේමය බොහෝකල් ඉවසීමෙනු
දයාවෙන්ද යුක්තය. ප්‍රේමය ඊර්ෂ්‍යා
කරන්නේ නැත. ප්‍රේමය තමන්ම
පාරට්ටුකරගන්නේ නැත; උඩඟු
5. වෙන්නේ නැත; අසෝභන දේ
කරන්නේ නැත; තමන්ගේම ප්‍රයෝ
ජන සොයන්නේ නැත; කිපෙන්
නේ නැත; නපුරු සිතිවිලි සිතන්
6. නේ නැත; අයුත්තට නොව සැ
7. බෑකමට සතුටුවන්නේය; සියල්ල
මුවාකරන්නේය; සියල්ල අදහන්
නේය; සියල්ල බලාපොරොත්තුව
සිටින්නේය; සියල්ල ඉවසන්නේය.
8. ප්‍රේමය කිසි කලෙක නැතිවෙන්
නේ නැත. අනාගත වචනය නැති
වෙන්නේය; භාෂාවල් විලක්වනු
ලබන්නේය; දැනගැන්ම නැතිවන්
9. නේය. මක්නිසාද අපි මදක් දනි
මුව, මදක් අනාගත වචන කියමුව.
10. සම්පූර්ණකම පැමිනෙනකල,
මදක්ව තිබෙන දේ නැතිවන්නේය
11. මම ලමයෙක්ව සිටියකල ලම
යෙකුමෙන් කථාකෙලෙමි, ලමයෙකු
මෙන් තේරුම්ගතිමි, ලමයෙකුමෙන්
කල්පනාකෙලෙමි; එහෙත් මම පුරු
ෂයෙක්වූකල, ලමයෙකුගේ දේ අත්
12. හැරියෙමි. එලෙසම දැන් කැඩ
පතකින් අඳුරුවසයෙන් බලමුව;
නුමුත් මතු මූනට මූන ලා බලමුව.
දැන් මදක් දනිමි; එකල මම ඇඳින
ගනු ලබන ලෙසම ඇඳිනගනිමි.
13. දැන් ඇදහිල්ලද බලාපොරොත්
තුවද ප්‍රේමයද යන මේ තුන පවතී
නෙන්ය; නුමුත් එයින් ප්‍රේමය උ
තුම්ය.

14. පරිච්ඡේ. ප්‍රේමය පාරේ පල
යල්ලාය; ආත්මික දේට කැමතිවෙය
ල්ලාය, නුමුත් ප්‍රධානකොට දේසනා
2. කරන්ට කැමතිවෙයල්ලාය. අන්
භාෂාවකින් කථාකරන්නා ආත්ම
යෙන් රහස් කථාකරන නුමුත්, කාට
වත් වැටහෙන්නේ නැති නිසා, දෙ
වියන්වහන්සේට මිස මනුෂ්‍යයන්ට
3. කථාකරන්නේ නැත; දේසනා
කරන තැනැත්තේ වැඩසිඩකිරීම
පිනිසද, දැනිමුතුකම් දීම පිනිසද,
සැනසිල්ල පිනිසද, මනුෂ්‍යයන්ට
4. කථාකරන්නේය. අන් භාෂාව
කින් කථාකරන්නා තමන්ටම වැඩ
සිඩකරගන්නේය; දේසනාකරනනා
සභාවට වැඩසිඩකර දෙන්නේය.
5. තුබලා සියල්ලෝ අන් භාෂාව
ලින් කථාකරනවානම් මම කැමති
වෙමී; නුමුත් තුබලා දේසනාකරන
වාට ඊට වඩා කැමැත්තෙමි. මක්නි

සාද, අන් භාෂාවලින් කථාකරනනා
සභාවට වැඩසිඩකිරීම පිනිස තේරු
ම්කර නොකියන්නේනම්, ඔහුට
6. වඩා දේසනාකරන්නා උතුම්ය. දූ
නුත් සහෝදරයෙනි, නුබලා ලඟට
ඇවිත් රහස් එළිදරවූකිරීමෙන්වත්
දැනගැන්මෙන්වත් දේසනාකිරීමෙන්
වත් ගුරුකම් දීමෙන්වත් කථානො
කොට අන් භාෂාවලින් කථාකෙරෙ
නනම්, නුබලාට මොන ප්‍රයෝජන
7. යක් ඇද්ද? එසේ පන නැතතාවූ
ශබ්ද පවත්වන්නාවූ නලාවෙන්වත්
වීනාවෙන්වත් වෙනස් ආකාරයෙන්
ශබ්ද නොනගිතොත්, පිඹී මො
කක්ද ගායනාකෙලේ මොකක්දැයි
8. දැනගන්නේ කොහොමද? තවද
හොරනෑව අනුමාන ශබ්දයක් පැ
වැත්තුවොත්, කවුරු යුඩයට සැර
9. හෙද්ද? එසේම නුබලා තේරුම්
ගන්ට පුළුවන්වූ වචනවල් දිවෙන්
කථානොකලොත්, කීවේ මොනවාද
කියා දැනගන්නේ කොහොමද? නු
බලා ආකාසයට කථාකරන්නාක්
10. මෙන් වෙති. යම් පමන වෙනස්වූ
භාෂා ලෝකයේ ඇද්ද, එසින්
එකක්වත් අර්ථ නැතුව ඇත්තේ
11. නැත. මම වචන අර්ථ නොදන්
නෙම්නම්, කථාකරන්නාට පරදේසි
යෙක්වෙමි, කථාකරන්නා මට පර
12. දේසියෙක් වේ. එසේම, ආත්මි
කවූ සමර්ථකම්වලට කැමැත්තාවූ
නුබලාත්, සභාවෙහි වැඩසිඩවීම
පිනිස, එසින් උතුම්වෙන්නට උත්
13. සාහකරපල්ලාය. එබැවින් අන්
භාෂාවෙන් යාඥාකරන්නා තේරුම්
කරදෙන්නට පුළුවනවන ලෙස යාඥා
14. කෙරේවා. මම අනුන්ට නොතේ
රෙන භාෂාවෙන් යාඥාකරතොත්,
මාගේ සිතින් යාඥාකෙරෙමී, නුමුත්
15. මාගේ දැනීමෙන් වැඩනැත. එ
සේවීනම් කුමක් කටයුතුද? සිතෙන්
යාඥාකොරෙමි, තේරුම් දෙන ලෙසද
යාඥාකෙරෙමි. සිතෙන් ගීතිකා
කෙරෙමි, තේරුම් දෙන ලෙසද ගීති
16. කා කෙරෙමි. නැතහොත්, නුබ
ආත්මයෙන් සතුතිකරනකල, නුගත්
අය නුබ කියන්නේ මොකදැයි නො
දන්නා බැවින්, නුබ සතුතිකලවිට
ආමෙන්යයි කියන්නේ කොහොමද?
17. නුබ හොඳකාරයෙන් සතුතික
රන්නේය; නුමුත් අනිත් තැනැත්
18. තාට වැඩසිඩවන්නේ නැත. නු
බලා සියල්ලන්ට වඩා මම අන් භා
ෂාවලින් කථාකරනවාට, මාගේ දෙ
19. වියන්වහන්සේට සතුතිකරමි. එ
සේ නුමුත් මම සභාවේදී අනුන්ට
නොතේරෙන භාෂාවකින් දසදහ
සක් වචන කථාකරනවාට වඩා,
අනුන්ට උගන්වන පිනිස තේරුම්
ඇතුව වචන පහක් කථාකරන්ට
20. කැමැත්තෙමි. සහෝදරයෙනි,
නුබලා නුවනින් නොව දූණ්ට කල්ප
නාවෙන් බාලයෝද, නුවනින් පූරු
21. ෂයෝද, වෙයල්ලාය. "අන් භා
ෂාවලින්ද අන්‍ය වචනවලින්ද මේ
සෙනග සමග කථාකරන නුමුත්,
ඔවුන් මාගේ වචන නාසතියි ස්වා
මින්වහන්සේ කියනසේකැයි" ව්‍යව
22. ස්ථාවෙහි ලියනලද්දේය. එහෙ
සින් අන් භාෂා අදහන්නවුන්ට
නොව නොඅදහනනාවුන්ට ලකුනක්
පිනිස වේ; දේසනාකිරීම නොඅදහ
නනාවුන්ට නොව අදහන්නවුන්ට
23. ලකුනක් පිනිස වේ. සියළු සභා
ව එකට රැස්ව සියල්ලෝම අන් භා
ෂාවලින් කථාකරත්නම්, නුගත් අය
වල්වත් ඇදහිලි නැති අයවල්වත්
එහි පැමිනුනොත්, නුබලා ඔල්මාද
24. යෙන්යයි කියන්නේ නැද්ද? සි
යල්ලෝ දේසනාකරත්නම්, නුගත්
කෙනෙක්වත් ඇදහිලි නැති කෙ
නෙක්වත් පැමිනුනොත්, ඔහු සියල්
ලන් විසින් තමාගේ වරද හඟවාදෙ
නලදුව, සියල්ලන් විසින් විනිශ්චය
25. කරනු ලැබේ; එසේම ඔහුගේ
සිතේ රහස්ද එළිදරව්වන්නේය;

ඔහුද මුහුනින් වැටී, දෙවියන්වහන්
සේට නමස්කාරකොට, දෙවියන්ව
හන්සේ ඒකාන්තයෙන් නුඹලා කෙ
රෙහි ඇතැයි ප්‍රසිද්ධකරන්නේය.

26. එසේවීනම් සහෝදරයෙනි,
කිමෙක්ද? නුඹලා රැස්ව ඉන්නා
කල, නුඹලාගෙන් එක එකාට ගීති
කාවක්ද ගුරුකමක්ද අන් භාෂා
වක්ද එළිදරව්කිරීමක්ද තෝරාදී
මක්ද ඇත. සියල්ල දියුණුවීම පිනිස
27. කරනු ලැබෙත්වා. යමෙක් අන්
භාෂාවකින් කථාකෙරේනම්, දෙදෙ
නෙකු හෝ තුන්දෙනෙකු හෝ පිළි
වෙළින් කියාවා; එකෙක් තේරුම්
28. කෙරේවා. තේරුම්කරන්නෙක්
නැත්නම්, ඔහු සභාවේදී කථානො
කොට, තමාටද දෙවියන්වහන්සේ
29. ටද කථාකෙරේවා. දේශනාකාර
යෝ දෙදෙනෙක් හෝ තුන්දෙ
නෙක් හෝ කථාකෙරෙත්වා; අන්‍ය
30. යෝ විචාරකෙරෙත්වා. ළඟ හිඳි
න තැනැත්තෙකුට කිසිවක් එළිද
රව්කරනු ලැබේනම්, පළමු කථා
කල තැනැත්තේ නිශ්ශබ්ද වේවා.
31. සියල්ලෝම ඉගනගෙන සැනසි
ලි ලබන පිනිස, නුඹලා සියල්ලන්
ටම එක එකා වශයෙන් දේශනාක
32. රන්නට පුළුවන. දේශනාකාර
යන්ගේ ආත්මික දීමනාව දේශනා
කාරයන්ට යටත්ව තිබෙන්නේය.
33. මක්නිසාද දෙවියන්වහන්සේ
විවාදයෙහි නොව, සමගිතාවෙහි
දෙවියන්වහන්සේව සිටිනසේක. පිරි
සිදුවූවන්ගේ සියළු සභාවල්හිද එසේ
ම වන්නේය.

34. නුඹලාගේ ස්ත්‍රීහු සභාවලදී
නිශ්ශබ්ද වෙත්වා; මක්නිසාද ව්‍යව
ස්ථා පොත්හි ලියා තිබෙන ලෙස
යටත්වෙන්ට ඔවුන්ට සුදුසුය. ඒ නිසා
සභාවේ කථාකරන්ට ඔවුන්ට අවසර
35. නැත. යමක් ඉගනගන්ට ඔවුන්
කැමතිනම්, සභාවේදී කථාකරන්ට
ස්ත්‍රීන්ට නොහොබනා බැවින්, ගෙ
දරදී තමන් පුරුෂයන්ගෙන් විචා
36. රත්වා. කිමෙක්ද? දෙවියන්ව
හන්සේගේ වචන නුඹලා කෙරෙන්
පිටත්වූනේද? නොහොත් නුඹලා
37. ළඟට පමණක් ආයේද? යමෙක්
තමන් දේශනාකාරයෙක කියාවත්,
ආත්මික දීමනාව ලැබූ කෙනෙක
කියාවත් සිතතොත්, ඔහු මා විසින්
නුඹලාට ලියන කාරනා ස්වාමින්ව
හන්සේගේ ආඥාවල් වෙතියි දැනග
38. නීවා. යමෙක් මේක නොදන්
නේනම්, ඔහු නොදැනුවත්වම සිටීවා.
39. එබැවින් සහෝදරයෙනි, දේශ
නාකරන්ට ඉතා කැමතිවෙයල්ලාය;
අන් භාෂාවලින් කථාකිරීම වලක්
40. වන්ට එපාය. සියල්ල හොබිනා
ලෙසද පිළිවෙළිනුද කරනු ලැබෙත්වා.

15. පරිච්ඡ. තවද සහෝදරයෙ
නි, මම නුඹලාට ප්‍රකාසකලාවූ, නුඹ
ලා පිළිගත්තාවූ, නුඹලා පිහිටා සිටි
නාවූ සුභාරංචි නුඹලාට දන්වමි.
2. නුඹලා නිෂ්ප්‍රයෝජනයේ නොඅ
දහා මම නුඹලාට ප්‍රකාශකල කාර
නා හිතේ තබාගනිත්නම්, එයින්
3. ගලවනු ලබති. මක්නිසාද ලිය
විලිවල හැටියට අපේ පව් නිසා
ක්‍රිස්තුස්වහන්සේ මරණට පැමින
4. තැන්පත්කරනලදුව, ලියවිලි හැ
5. ටියට තුන්වෙනිදා නැගිට, කේ
ඵස්ටද නැවත දෙලොස්දෙනාටද
පෙනුනසේකැයි, යන මට බාරකර
නලද මේ කාරණ නුඹලාට පළමු
6. කොට බාරදුනිමි. එසේ පෙනුනු
පසු, උන්වහන්සේ එකවිටම පන්සි
යේකට වඩා සහෝදරයන්ට පෙනුනු
සේක. ඔවුන්ගෙන් වැඩි දෙනෙක්
අද දක්වා ජීවත්ව සිටිති, සමහරු
7. සැතපුනෝය. ඉන් පසු උන්වහන්
සේ යාකොබ්ටද, එයින් පසු සියළු
8. ප්‍රේරිතයන්ටද පෙනුනුසේක. සි
යල්ලන්ට පසු, අකලට උපන් තැ
නැත්තෙක් වැනිවූ මටද පෙනුනු

9. සේක. මම ප්‍රේරිතයන්ගෙන් ඉතා
කුඩා තැනැත්තෙක් වෙමි; මම දෙවි
යන්වහන්සේගේ සභාවට පීඩාකල
බැවින්, ප්‍රේරිතයෙකැයි කියනු ල
10. බන්ට නොවටිමි. මම කොයි
කෙනෙක්ව සිටින නුමුත්, එසේවී
සිටින්නේ, දෙවියන්වහන්සේගේ ක
රුණාවෙන්ය. උන්වහන්සේ මට දුන්
කරුණාව සිස්වූනේ නැත; මම ඔවුන්
සියල්ලන්ට වඩා උත්සාහකෙලෙමි;
නුමුත් මා කෙරෙහි තිබුනාවූ දෙවි
යන්වහන්සේගේ කරුණාව මිස, මම
11. නොවෙමි. නුමුත් මම වූනත්,
ඔවුන් වූනත්, එසේ අපි ප්‍රකාසකර
මුව, එසේම නුබලා අදහගත්තෝය.
12. තවද ක්‍රිස්තුස්වහන්සේ මල
වූන්ගෙන් නැගුට්ටු බව ප්‍රකාසකර
නු ලැබේනම්, මලවූන්ගෙන් නැගිටී
මක් නැතැයි, නුබලා අතරෙහි සම
13. හරු කියන්නේ කොහොමද? ම
ලවූන්ගෙන් නැගිටීමක් නැත්නම්,
ක්‍රිස්තුස්වහන්සේත් නොනැගුටුනු
14. සේක; ක්‍රිස්තුස්වහන්සේ නො
නැගුටුනුසේක්නම්, අපගේ ප්‍රකාස
කිරීමත් හිස්ය, නුබලාගේ ඇදහි
15. මත් හිස්ය. මලාහු නොනැගි
ටිත්නම්, දෙවියන්වහන්සේ විසින්
නොනැගිටෙව්වාවූ ක්‍රිස්තුස්වහන්
සේ උන්වහන්සේ නැගුටුවූසේකැයි
උන්වහන්සේ ගැන සාක්ෂිදුන් බැ
වින්, අපිත් දෙවියන්වහන්සේ ගැන
බොරු සාක්කිකාරයෝව පෙනෙමු
16. ව. මලාහු නොනැගිට්ටිත්නම්,
ක්‍රිස්තුස්වහන්සේත් නොනැගුටුනු
17. සේක. ක්‍රිස්තුස්වහන්සේ නො
නැගුටුනු සේක්නම්, නුබලාගේ ඇද
හීම නිස්ඵලය, දැන් දක්වා නුබලා
18. තමන්ගේ පාපවල සිටිති; එපම
නක් නොව, ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි සැතපුනාවූ අයවල් විනාසයට
19. පැමිනියෝය. මේ ජීවිතයෙහි
පමනක් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
බලාපොරොත්තුවීම් අපට ඇත්නම්,
සියළු මනුෂ්‍යයන්ට වඩා අපි කාල
20. කන්නියෝය. නුමුත් ක්‍රිස්තුස්ව
හන්සේ මලවූන්ගෙන් නැගිට, සැත
පෙනවූන්ට ප්‍රථම ඵලය වූසේක.
21. මක්නිසාද මනුෂ්‍යයෙකු කරන
කොටගෙන මරනය වූවාක්මෙන්,
මනුෂ්‍යයෙකු කරනකොටගෙන මල
22. වූන්ගෙන් නැගිටීමත් වූයේය. ත
වද ආදම් කරනකොටගෙන සියල්
ලෝ මරනට පැමිනෙන්නාක්මෙන්,
ක්‍රිස්තුස්වහන්සේ කරනකොටගෙන
සියල්ලෝ ජීවත්වනු ලබනවා ඇත.
23. නුමුත් එක එකා තම තමන්ගේ
ක්‍රමයෙන්මය; ප්‍රථම ඵලවූ ක්‍රිස්තුස්
වහන්සේය; එසින් පසු ක්‍රිස්තුස්ව
හන්සේගේ ඊමේදී උන්වහන්සේගේ
24. තැනැත්තෝය. උන්වහන්සේ
සියළු ආඥුවද මූලාදෑනිකමද බලයද
යටත්කල කල්හිද, රාජ්‍යය පියවූ
දෙවියන්වහන්සේට පාවාදුන් කල්
25. හිද කෙලවරවේ. මක්නිසාද,
"උන්වහන්සේ සියළු සතුරන් තමන්
වහන්සේගේ පාද යට දමනතුරු,"
උන්වහන්සේ විසින් රජකම් කටයු
26. තුය. සියල්ල උන්වහන්සේගේ
පාද යට දැමූ බැවින්, මරණයනම්වූ
අන්තිම සතුරා විනාසකරනු ලැබේ.
27. එහෙත් "සියල්ල උන්වහන්සේට
යටත්කරනලදැයි" යන කීමෙන්, සි
යල්ල උන්වහන්සේට යටත්කල
පියානන්වහන්සේ හැරය කියා පෙ
28. නෙන්නේය. තවද සියල්ල උන්
වහන්සේට යටත්කරනු ලබනකල,
දෙවියන්වහන්සේ සියල්ලන් කෙරෙ
හි සියළු ආකාරයෙන් උතුම්වෙන
පිනිස, පුත්‍රයානන්වහන්සේද තමාට
සියල්ල යටත්කර දුන් තැනන්වහන්
සේට යටත්වෙනවා ඇත.
29. මලාහු මුළුමනින්ම නොනැගි
ටිත්නම්, මලවූන් ගැන බව්තීස්ම
ලබන්නන්ට මක්වේද? මලවූන්
ගැන මක්නිසා බව්තීස්ම ලබද්ද?
30. අපිත් නරන්තරයෙන්ම උපද්‍ර

31. මේ කියන්නේ මන්ද? දවස්පතා
මියමියි, අපගේ ස්වාමිවූ ජේසුස් ක්‍රිස්
තුස්වහන්සේ කරනකොටගෙන තුඹ
ලා කෙරෙහි මට ඇත්තාවූ ගරුක
32. මෙන්, සැබෑවටම කියමි. තවද
මලාහු නොනැගිටින්නම්, එපීසයෙහිදී
මනුෂ්‍යාකාරයෙන් තිරිසනුන් සමග
මාගේ පොරඇල්ලීමෙන් මට ප්‍රයෝ
ජන කිමෙක්ද? "හෙට මියන නිසා,
33. අද කමුව බොමුව." මුලානො
වෙල්ලාය; නපුරු සමාගම් පැවැත්
මෙන් හොඳ චාරිත්‍ර නරක්කරනු
34. ලැබේ. තුඹලා පව් නොකොට,
ධර්මිෂ්ඨකම් කිරීමට පිබිදියල්ලාය;
මක්නිසාද සමහරු දෙවියන්වහන්සේ
නාඳුනති. තුඹලාට ලැජ්ජා පිනිස
මේක කියමි.

35. එහෙත් මලාහු නැගිටින්නේ
කොහොමද? කොයි ආකාර ශරීර
යෙන් ඔවුන් එද්දැයි, සමහරෙක්
36. අසති. අඥානය, තුඹ වපුරන
දේ නොමලොත්, ඒක පැලවෙන්
37. නේ නැත. තුඹ වපුරන කල,
තනිකම් වී ඇටයක්වත් වෙන ඇට
ජාතියක්වත් මිස, මතු අටගන්නාවූ
38. කඳ වපුරන්නේ නැත. නුමුත්
දෙවියන්වහන්සේ තමන්ට කැමති
හැටියට පැලකොට, එක එක බීජ
වටයට ඒවායේ නියම කඳ අටගන්
39. වනසේක. සියළු මාංස ඒකාකාර
නොවේය; මනුෂ්‍යයන්ගේ මාංස
ඒකාකාරයෙක; සිවුපාවුන්ගේ මාං
සය වෙන ආකාරයෙක; මසුන්ගේ
මාංසය වෙන ආකාරයෙක; පක්ෂීන්
ගේ මාංසය වෙන ආකාරයෙක.
40. තවද ස්වර්ගීය ශරීරද භූමික
ශරීරද ඇත; නුමුත් ස්වර්ගිකයන්
ගේ තේජස ඒකාකාරයෙක; භූමික
යන්ගේ තේජස වෙන ආකාරයෙක.
41. සූර්යයාගේ තේජස ඒකාකාරයෙ
ක; චන්ද්‍රයාගේ තේජස වෙන ආකා
රයෙක; තාරකාවන්ගේ තේජස
වෙන ආකාරයෙක. තවද තේජසින්
තාරකාවකට තාරකාවක් වෙනස
42. ඇත. මලවුන්ගේ නැගිටීම එසේ
මය. කුණුවෙන ආකාරයෙන් වපුරනු
ලැබේ; කුණුනොවෙන ආකාරයෙන්
43. නැගුටුවනු ලැබේ. අගෞරව
යෙන් වපුරනු ලැබේ; තේජස ඇතු
ව නැගුටුවනු ලැබේ. දුර්වලකමෙන්
වපුරනු ලැබේ; බලයෙන් නැගුටුව
44. නු ලැබේ. ප්‍රාණික ශරීරයක්ව
වපුරනු ලැබේ; ආත්මික ශරීරයක්ව
නැගුටුවනු ලැබේ. ප්‍රාණික ශරීර
යක්ද ආත්මික ශරීරයක්ද ඇත.
45. එසේම, "පලමුවෙනි මනුෂ්‍යයා
වූ ආදම් ජීවමාන ප්‍රාණයක්ව මවනු
ලැබුයේයයි" ලියනලද්දේය; නුමුත්
අන්තිම ආදම් ජීවන දායකවූ ආත්ම
46. යෙක. එසේ නුමුත් ආත්මික
එක නොව, ප්‍රාණික එක පලමුවෙනි
එකය; ඉන්පසු ආත්මික එක වූයේය.
47. භූමියෙන්වූ පලමුවෙනි මනුෂ්‍ය
යා ධූලිමය වූනේය; දෙවෙනි මනුෂ්‍ය
යා ස්වර්ගයෙන්වූ ස්වාමින්වහන්සේ
48. ය. ඒ ධූලිමය තැනැත්තා සේම,
ධූලිමය තැනැත්තොත් වෙති; ස්ව
ර්ගීක තැනැත්තාසේම, ස්වර්ගීක
49. යෝද වෙති. අපි ධූලිමය තැනැ
ත්තාගේ රූපය දැරුවාසේම, ස්වර්ගී
ක තැනැත්තාගේ රූපයද දරන්
50. නෙමුව. සහෝදරයෙනි, ලේමස්
වලට දෙවියන්වහන්සේගේ රාජ්‍යය
උරුමවෙන්ට බැරි බවත්, කුණුවෙන
එක කුණුනොවීම උරුම නොවෙන
51. බවත් කියමි. තුඹලාට රහසක්
කියමි; අපි සියල්ලෝ නොසැතපෙ
52. න්නෙමුව; අන්තිම හොරනෑ
ශබ්දය පවත්වනකල, ඇසිපිය හෙ
ළන කෙණෙහිම අපි සියල්ලෝම
අන් වෙසක් වෙමුව. මක්නිසාද
හොරනෑ ශබ්ද පවත්වන්නේය;
එකල මලාහු කුණුනොවී මේ ආකාර
යෙන් නැගුටුවනු ලබනවා ඇත;
53. අපිද අන් වෙසක් වෙමුව. මක්
නිසාද කුණුවෙන්නාවූ මේක කුණු

නොවීමද, මරනීයවූ මේක අමරනයද
54. පැලඳගන්ට ඕනෑය. කුනුවෙන්
නාවූ මේක කුනුනොවීමත් මරනීයවූ
මේක අමරනයත් පැලඳගත් කල්හි,
"මරනය සදාකාලේටම ගිලිනාලද්
දේයයි" ලියා තිබෙන වචනය සම්
55. පූර්ණවෙයි. මරනය, තාගේ
කටුව කොතනද? මිනීවල, තාගේ
56. ජය කොතනද? මරනයේ කටුව
නම් පාපයය; පාපයේ බලයනම්
57. ආඥා පනතය. නුමුත්, අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
කරනකොටගෙන, අපට ජය දෙන්
නාවූ දෙවියන්වහන්සේට ස්තුතිවේ
58. වා. එසේහෙයින් මාගේ ප්‍රියවූ
සහෝදරයෙනි, ස්වාමින්වහන්සේ
කෙරෙහි නුබලාගේ මෙහෙය සිස්
නොවේයයි නුබලා දන්නා බැවින්,
ස්ථිරව, නිශ්චලව, ස්වාමින්වහන්සේ
ගේ මෙහෙයෙහි වැඩි වැඩිව පැවති
යල්ලාය.

16. පරිච්ඡේ. තවද පිරිසිදුවූවන්
උදෙසා සමාදන්කිරීම ගැන, ගලාති
යේ සභාවලට මා නියමකලලෙසම,
2. නුබලාත් සමාදන්කරපල්ලාය. ම
ම ආකල සමාදන්කිරීමක් නොවෙන
පිනිස, සතියේ පලමුවෙනිදා නුබලා
ගෙන් එක එකා තම තමන්ගේ පො
හොසත්කමේ හැටියට එකතුකොට,
තම තමන් ලඟම තිබාගනිල්ලාය.
3. මම ආකල, නුබලා හොඳයි කියා
මට ඔප්පුදෙන්නාවුන්, මාගෙන් ලි
යුම් ඇතුව නුබලාගේ දානය සමග,
4. යෙරුසලමට යවමි. මමත් යන්ට
ඕනෑනම්, ඔවුන් මා සමග යනවා
5. ඇත. මම මකිදෝනිය මැදින්
යන්නෙමි; මම මකිදෝනිය පසුකො
6. ට නුබලා ලඟට එන්නෙමි. මම
කොතනට යතත්, නුබලා මා සමග
පසුගමන් යන පිනිස නුබලා සමග
කලක් සිටිමී; සමහරවිට සීත කාල
7. යේ නුබලා සමග වාසයකරමි. මක්
නිසාද මගදී නුබලා දකින්ට නො
කැමැත්තෙමි; ස්වාමින්වහන්සේ අව
සර දෙනසේක්නම්, නුබලා සමග
8. ස්වල්ප කලක් සිටින්ට සිතමි. නු
මුත් මහත්වූ සඵලවූ දොරක් මට
9. ඇරලා තිබෙන බැවින්ද, එදිරිකාර
යන් බොහෝ දෙනෙක් සිටින බැ
වින්ද, පෙන්තිකොස්තය දක්වා එපීස
10. යේ සිටිමි. තිමෝතියස් ආයේ
නම්, ඔහු මා සේම ස්වාමින්වහන්සේ
ගේ වැඩකරනහෙයින්, ඔහු භයක්
නැතුව නුබලා ලඟ සිටින පිනිස
11. බලාගනිල්ලාය. කවුරුවත් ඔහු
සුළුකොට නොසිතත්වා. සහෝදර
යන් සමග ඔහු එන්නේයයි මම
බලාසිටිමි; එබැවින් ඔහු මා ලඟට
එන පිනිස, සමාදානයෙන් ඔහු සමග
12. පසුගමන් වරෙල්ලාය. සහෝදර
යන් සමග නුබලා ලඟට යන්ට ස
හෝදරවූ අපොල්ලස්ට බොහෝ
කොට කීමි; නුමුත් දැන් යන්ට ඔහු
කොහෙත්ම කැමති නැත; පහසු
ලැබුනු ප්‍රස්ථාවකදී ඔහු එන්නේය.
13. අවදිව ඉඳිල්ලාය; ඇදහිල්ලේ
ස්ථිරවෙයල්ලාය; පුරුෂයන් මෙන්
සිටපල්ලාය; බලසම්පන්න වෙයල්
14. ලාය; නුබලා කරන සියල්ල ප්‍රේ
15. මයෙන් කරපල්ලාය. සහෝදර
යෙනි, ස්තෙඵනස්ගේ ගෙයි වැසි
යන් අඛායෙහි ප්‍රථම ඵලවූ බවද,
ඔවුන් පිරිසිදුවූවන්ගේ සේවයේ
යෙදී සිටින බවද, නුබලා දනිති.
16. එබැවින් එබඳුවූවන්ටද, සහාය
කාරිවූ මෙහෙකරන්නාවූ සියල්ලන්
ටද, නුබලා යටත්වෙන ලෙස අවවා
17. දකරමි. ස්තෙඵනාස්ද පොර්තූ
නාතුස්ද අඛායිකාස්ද ආ බවට සතුටු
වෙමි. ඔවුන් නුබලාගෙන් අඩුළුහු
ඩුව තිබූනු දේ සම්පූර්ණකොට,
18. නුබලාගේත් මාගේත් හිත් සැන
සුවෝය; එහෙයින් එබඳුවූවන්ට නමු
19. දීපල්ලාය. ආසියායෙහි සභාවල්
නුබලාට ආචාර කරති. අකිලාද,

ප්‍රස්කිලාද, තමන්ගේ ගෙයි ඇත්
තාවූ සභාව සමග, ස්වාමින්වහන්සේ
කෙරෙහි තුබලාට බොහෝසෙයින්
20. ආචාරකරති. සියළු සහෝදර
යෝ තුබලාට ආචාරකරති. පිරිසිදුවූ
සිඹීමකින් තම තමුන් ආචාරකරගෙ
21. නිල්ලාය. පාවුල්නම්වූ මම මා
අතින් මාගේ ආචාරකිරීම ලියමි.
22. කිසිවෙක් ස්වාමිවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේට ප්‍රේම නොකරනෙත්
නම්, ඔහු නපුරු සාපලද්දෙක් වේ
වා; ස්වාමින්වහන්සේ එනසේක.
23. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ කරුනාව තුබලා සමග
24. වේවා. ක්‍රිසතුස් යේසුස්වහන්සේ
කෙරෙහි ඇත්තාවූ මාගේ ප්‍රේමය
තුබලා සියල්ලන් සමග වේවා.
ආමෙන්.

---

# ප්‍රේරිතවූ පාවුල් විසින්

## කොරින්තිස්වරුන්ට ලියනලද 2. පත්‍රය.

---

1. පරිච්ඡෙදය. දෙවියන්වහන්සේ
ගේ කැමැත්තෙන් යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ ප්‍රේරිතයෙක්වූ පාවුල්
නම් මමද, සහෝදරවූ තිමෝතියස්
ද, කොරින්තියෙහි සිටින දෙවියන්
වහන්සේගේ සභාවටද, අඛායිය
මුළුල්ලෙහි සිටින සියළු පිරිසිදුවූ
2. වන්ටද, අපේ පියානන්වූ දෙවි
යන්වහන්සේගෙන්ද, ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද, කරු
නාවද සමාදානයද වෙනලෙස, ලියා
3. එවන වගනම්. දෙවියන්වහන්සේ
ගෙන් අපට ලැබුනාවූ සැනසිල්ල
කරනකොටගෙන දුකක් විඳින්න
වුන් සනසන්ට අපට පුළුවන්වෙන
4. පිනිස අපේ සියළු දුක්වලදී අප
සනසන්නාවූ, කරුනාවේ පියවූ, සිය
ළු සැනසිල්ලේ දෙවිවූ, අපගේ ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
පියවූ දෙවියන්වහන්සේට සතුතවේ
5. වා. අපි ක්‍රිස්තුස්වහන්සේ නිසා
විඳින දුක් වේදනා වැඩිවෙන ලෙස
ම, උන්වහන්සේ නිසා අපේ සැන
6. සිල්ලද වැඩිවේ. තවද අපි විඳින්
නාවූ වේදනාවල් තුබලාත් විඳින
කල එයින් තුබලාගේ සැනසීමද
ගැලවීමද සිඩවෙන නිසා, අපි දුක්
විඳිමුනම් ඒක තුබලාගේ සැනසීමද
ගැලවීමද පිනිස විඳිමුව. අපි සැන
සීම ලබමුනම්, ඒක තුබලාගේ සැන
7. සීමද ගැලවීමද පිනිස ලබමුව. තු
බලා වේදනාවට පංගුකාරව සිටින
ලෙස සැනසීමටද පංගුකාර වන
බව අපි දැනගත් බැවින්, තුබලා
ගැන අපේ බලාපොරොත්තුව ස්ථිර
8. ව පවත්නේය. තවද සහෝදර
යෙනි, ආසියාවේදී අපට පැමිනි දුක්
ගැන තුබලා නොදැන සිටිනවාට
අපි නොකමැත්තෙමුව. ඒ දුකනම්,
අපි ජීවත් නොවෙමුයයි සිතන ත
රම් උසුලන්ට බැරි පමන අප්‍රමාන
9. ලෙස පීඩිතව සිටිමය. තුමූන් මල
වුන් නැගුටුවන්නාවූ දෙවියන්වහන්
සේ කෙරෙහි මිස, අප කෙරෙහි අපි
විස්වාස නොකරන පිනිස, මරණයට
පැමින්මේ තීන්දුව අප තුලේම තිබූ
10. නේය. උන්වහන්සේ මෙයාකාර
මහත් මරණයකින් අප ගැලවූසේක.
11. අප උදෙසා තුබලාගේ යාඥාවී
මේ උපකාරයෙන්, මෙයින් මතුද
උන්වහන්සේ අප ගලවනසේකැයි
විස්වාසකරමුව. මෙසේ බොහෝ
දෙනා කරනකොටගෙන අපට දෙ

නලද පිහිට නිසා, බොහෝ දෙනා
අප ගැන සතුති පවත්වනවාද ඇත.
12. තවද අපේ අහංකාරයනම්,
අපි ලෝකයා කෙරෙහිද ප්‍රධානකො
ට තුබලා කෙරෙහිද අවංකකමින්ද,
දිව්‍යවූ ඇදනැතිකමින්ද, ලෞකික
ඥානයෙන් නොව දෙවියන්වහන්
සේගේ කරුනාවෙන් හැසුරුනෙමු
13. යයි, යන අපේ හෘදසාක්ෂියය. ඇ
රත් තුබලා කියවන්නාවූද දැනගත්
නාවූද කාරණයන් හැර, වෙන කාර
14. ණයන් තුබලාට නොලියමුව. ස්වා
මිවූ යේසුස්වහන්සේගේ දවසෙහි
තුබලා අපේ අහංකාරය වෙනලෙස,
අපිත් තුබලාගේ අහංකාරය වෙමු
යයි තුබලාගෙන් සමහර දෙනෙක්
අප දැනගත් ලෙස, කෙලවර දක්වා
ම දැනගන්නවා ඇතැයි විශ්වාස කෙ
15. රෙමි. මේ විශ්වාසයෙන් තුබලා
ට දෙවනුත් පිහිටක් ලැබෙන පිනි
ස, පලමුකොට තුබලා ලඟට එන්
16. ටද, තුබලා ලඟින් මකිදෝනි
යට යන්ටද, නැවත මකිදෝනියෙන්
තුබලා වෙතට එන්ටද, මම තුබලා
විසින් යුදයට පසුගමන් යනු ලබන්
17. ටද සිතුයෙමි. මෙසේ සිතූ මම
පෙරලෙන සිත් ඇත්තෙක් වෙම්ද?
නොහොත්, එසේය එසේයයි කියාද,
නැත නැතැයි කියාද කල්පනාකර,
මම සිතන කාරණාවල් ලෞකික
18. ආකාරයෙන් සිතම්ද? දෙවියන්
වහන්සේ සත්‍ය කෙනෙක්ව සිටිනා
සේම, අපි එසේය කියාත් නැත
19. කියාත් කීවේ නැත. මක්නිසාද,
මමද සිල්වානස්ද තිමෝතියස්ද
යන අප විසින් තුබලා අතරෙහි ප්‍රකා
සකරනලද දෙවියන්වහන්සේගේ
පුත්‍රවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
එසේයයි කියාද, නැතැයි කියාද
නොවූසේක; එහෙත් ඒ ප්‍රකාසවීම
උන්වහන්සේ කෙරෙහි එසේයයි
20. කියාම වූසේය. තවද අප කර
නකොටගෙන දෙවියන්වහන්සේට
ගෞරව පැමිනෙන පිනිස, උන්වි
හන්සේගේ සියළු පොරොන්දුවල්
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි එසේය
21. කියාද ආමෙන් කියාද වෙත්. තු
බලා සමග අප ක්‍රිස්තුස්වහන්සේ
කෙරෙහි ස්ථිර කරන්නෙත්, ආලේප
22. කලෙත්, දෙවියන්වහන්සේය. උ
න්වහන්සේ අප මුද්‍රකොට, අපේ හිත්
වලට ආත්මයානන්වහන්සේ නැම
23. ති අත්තිකාරම දුන්සේක. මමද
තුබලා කෙරෙහි කරුනාවෙන් මෙ
තෙක්කල් කොරින්තියට නායෙ
මිසි, මාගේ ප්‍රානයට විරුඛව දෙවි
යන්වහන්සේ සාක්කිකාරයෙක්කො
24. ට ගනිමි. තුබලාගේ ඇදහිල්
ලට අපි බලය නොපවත්වා, තුබලා
ගේ ප්‍රීතියට පංගුකාරයෝව සිටිමුව.
මක්නිසාද තුබලා ඇදහිල්ලෙන්
සිටිති.

2. පරිච්ඡේ. තවද සෝක කරවන
ලෙස තුබලා ලඟට නැවත නො
එන්ට, මාගේ සිතින් නියමකරගති
2. මි. මක්නිසාද මම තුබලා සෝක
යට පත්කෙරෙම්නම්, මා විසින්
සෝකයට පත්කරනලද තැනැත්
තාම මිස, මා සතුටුකරන්නේ කවුද?
3. මාගේ ප්‍රීතියනම්, තුබලා සියල්
ලන්ගේ ප්‍රීතියයයි, තුබලා සියල්
ලන් ගැන විශ්වාස ඇත්තෙමි. ඉන්
නිසා, මම ආකල මා ප්‍රීතිකලවිය
යුතු තැනැත්තන්ගෙන් සෝකය
මට නොපැමිනෙන පිනිස, මේ කාර
4. ණවල් ලිවීමි. තුබලා සෝකයට
පැමිනෙන පිනිස නොව, තුබලා
කෙරෙහි මට ඇත්තාවූ මහත් ප්‍රේම
ය තුබලා දැනගන්නා පිනිස, බො
හෝ දුකිනුත් හිත් වියවුලෙනුත්
බොහෝ කඳුළු වගුරුවමින් තුබලාට
5. ලිවීමි. තුමුත් මා විසින් තුබලා
සියල්ලන් පිට බර නොතබන පිනි
ස, යමෙක් සෝක ඉපදවූයේනම්,
ඔහු මදක් මා සෝකයට පැමිනවූ

6. යය. බොහෝ දෙනා විසින් පමු
නුවනලද මේ දඬුවම එබඳු තැනැත්
7. තාට සෑහේය. ඔහු ඉතා සෝක
නැමති මුහුදේ නොගිලෙන පිනිස,
ඔහුට කමාවෙන්ටද ඔහු සනසන්
8. ටද තුබලාට ඉතා සුදුසුය. එබැ
වින් ඔහු කෙරෙහි තුබලාගේ ආද
9. රය ස්ථිරකරන්ට ඉල්ලමි. සියල්
ලෙහි තුබලා කීකරුව සිටිද්දෝ
විමසා දැනගන්නා පිනිස, පලමුකො
10. ට ලියා එවීමි. තුබලා යමෙකුට
යමක් කමාවෙත්නම්, ඔහුට මමද
කමාවෙමි. මමත් යමෙකුට යමක්
11. කමාවින්නම්, සාතන්ගෙන් අපි
පරද නොවෙන පිනිස, ක්‍රිස්තුස්ව
හන්සේ ඉදිරියෙහි තුබලා නිසා ක
මාවීමි. මක්නිසාද සාතන්ගේ උපා
යවල් අපි නොදැන නොසිටිමුව.

12. ක්‍රිස්තුස්වහන්සේගේ සුභාර
ංචිය ප්‍රකාසකරන්ට ත්‍රොවායට ආවාවූ
මට ස්වාමින්වහන්සේ විසින් දොරක්
ඇරීයකල, මගේ සහෝදරවූ තීතස්
13. නුපුටු බැවින්, මගේ හිතට කිසි
සැපයක් නොලැබ, මම ඔවුන්
ගෙන් අවසර ගෙන එයින් මකිදෝ
14. නියට ගියෙමි. තවද සැම වේ
ලේම ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
අප දිනවන්නාවූ, සියළු තැන්වල
අප ලවා උන්වහන්සේ ඇඳිනගැන්ම
නැමති සුවඳ පතුරුවන්නාවූ දෙවි
15. යන්වහන්සේට සතුති වේවා. මක්
නිසාද අපි ගැලවෙන්නාවූන් කෙරෙ
හිද, විනාසවෙන්නාවූන් කෙරෙහිද,
දෙවියන්වහන්සේට ක්‍රිස්තුස්වහන්
16. සේගේ සුවඳ වෙමුව. විනාස
වෙනනාන්ට මරනය පිනිස මරන සුව
ඳද, ගැලවෙනනාන්ට ජීවනය පිනිස
ජීවන සුවඳද වෙමුව. මේ කාරණ
17. වලට සමර්ථ කවුද? තුමුත් අපි
දෙවියන්වහන්සේගේ වචනය නරක්
කරන බොහෝ අයවල් මෙන් නො
ව, දෙවියන්වහන්සේගේ ඉදිරියෙහි
ක්‍රිස්තුස්වහන්සේ ගැන අවංකක
මෙන්ද, දෙවියන්වහන්සේ කෙරෙන්ද
කථාකරමුව.

3. පරිච්ඡෙ. අපි දෙවනු අපේම
ගුණ කියාගන්ට පටන්ගනිමුද? නො
හොත් සමහර අයවල්ට මෙන්, තුබ
ලා වෙතටවත් තුබලාගෙන්වත් අප
2. ටත් ගුණ කීමේ ලියුම් ඕනෑද? අ
පේ හෘදවල ලියනලද්දාවූ, සියළු මනු
ෂ්‍යයන් විසින් කියවනලද්දාවූ, අප
3. ගේ ලිවුම තුබලාමය. මක්නිසාද
අප විසින් දැනගන ලියවනලද්දාවූ,
තීන්තවලින් නොව ජීවමාන දෙවි
යන්වහන්සේගේ ආත්මය කරනකො
ටගෙන ගල්ලෑලිවල නොව හිතේ
මාංස නැමති ලෑලිවල ලියනලද්දාවූ,
ක්‍රිස්තුස්වහන්සේගේ ලිවුමනම් තුබ
ලායයි, ප්‍රකාශකර තිබෙන්නේය.
4. මෙබඳු විස්වාසය ක්‍රිස්තුස්වහන්
සේ කරනකොටගෙන දෙවියන්ව
5. හන්සේ කෙරෙහි අපට ඇත. අප
විසින්ම කිසිවක් සිතන්ට අපි සමර්
නොවමුව. තුමුත් අපගේ සමර්ථකම
6. දෙවියන්වහන්සේගෙන්මය. ලිය
විල්ලේ අකුරෙන් මරනයත් ආත්ම
යෙන් ජීවිතයත් පැමිනෙන බැවින්,
උන්වහන්සේ අප අකුරෙන් නොව
ආත්මයෙන්වූ අළුත් ගිවිසුමෙහි සේ
වක වෙන්නට සමර්ථකලසේක.
7. තවද ඊස්‍රායෙල්ගේ පුත්‍රයන්ට
මෝසෙස්ගේ මුහුනේ නැතිවියන්
නාවූ තේජස නිසා ඔහුගේ මුහුන
බලන්ට බැරි තරමට, ගල්ලෑලිවල
කොටනලද මරණයාගේ සේවය
8. තේජවන්ත වූයේනම්, ආත්මයා
නන්වහන්සේගේ සේවය ඊට වඩා
කොපමන තේජවන්ත නොවින්
9. නේද? තවද අචවූවේ සේවයකී
ඊම තේජවන්තනම්, ධර්මිෂ්ඨකමේ
සේවය ඊට වඩා තේජසින් උතුම්
10. වේ. මේ උතුම්වූ තේජස නිසා,
තේජස ඇතුව නියමකරනලද්දාවූ
11. ඒ සේවයට තේජස නැත. නැති

වෙන්නාවූ එක තේජවත්තනම්, පව
තින්නාවූ එක ඊට වඩා බොහෝ
12. තේජවන්ත වේ. එබඳුවූ සැක
නැතිකම ඇතිව, අපි කිසිවක් නො
13. සඟවා කථාකරමුව. නැතිවෙන
දෙයෙහි කෙලවර ඊශ්‍රායෙල් පුත්‍ර
යන් විසින් නොබලන හැටියට, මෝ
සෙස් තමන් මුහුණේ වැස්මක් තිබූ
14. ලෙස, අපි නොතබමුව. නුමුත්
ඔවුන්ගේ සිත් අඳුරුවූනේය; අද
දක්වා පරණ ගිවිසුම කියවනකල,
ක්‍රිස්තුස්වහන්සේ කරනකොටගෙන
පහකරනලද්දවූ එම වැස්ම ඔවුන්
ගෙන් පහනොකරනලදුව පවත්
15. නේය. තවද අද දක්වාම මෝ
සෙස්ගේ ලියවිලි කියවනකල, ඒ
වැස්ම ඔවුන්ගේ සිතේ තබා තිබෙ
16. නේය. එසේ නුමුත් ඔවුන්ගේ
සිත ස්වාමින්වහන්සේට හැරෙන
කල, ඒ වැස්ම පහකරනු ලැබේ.
17. ඒ ස්වාමින්වහන්සේනම්, ආත්ම
යානන්වහන්සේය; ස්වාමින්වහන්
සේගේ ආත්මය ඇති තැන නිදහස්
18. කම තිබේ. අපි සියල්ලෝම මුන
වැස්මක් නැතුව ස්වාමින්වහන්සේ
ගේ තේජස කැඩපතකින් මෙන්
දැක, ස්වාමිවූ ආත්මයානන්වහන්සේ
විසින් තේජසින් තේජසට එම රූප
යට වෙනස්කරනු ලබමුව.

4. පරිච්ඡෙ. එහෙයින් මේ සේවය
ලැබූවාවූ අපි කරුනාවත් ලැබූහෙ
2. යින්, කලාන්ත නොවී, නොහොබි
න රහස් ක්‍රියා අත්හැරදමා, වංචාක
මේ නොහැසිර, දෙවියන්වහන්සේ
ගේ වචනය රැවට්ල්ලෙන් ව්‍යවහාර
නොකොට, සැබෑව දක්විමෙන් දෙ
වියන්වහන්සේ ඉදිරියෙහි සියළු මනු
ෂ්‍යයින්ගේ හෘදසාක්ෂියට එකඟවෙ
නසේ අපේ ගුණ ප්‍රකාසකරමුව.
3. තවද අපේ සුභාරංචිය සැඟවී
තිබෙන්නේනම්, විනාසවූවන්ට ඒක
4. සැඟවී තිබෙන්නේය. දෙවියන
වහන්සේගේ රූපයවූ ක්‍රිස්තුස්වහන්
සේගේ තේජවන්තවූ සුභාරංචියෙහි
ආලෝකය ඔවුන් කෙරෙහි නොදිලි
සෙන පිනිස, මේ ලෝකයාගේ දෙ
වියා ඇදහිලි නැත්තවුන්ගේ සිත්
5. අඳුරුකෙළේය. අපි අප ගැනම
ප්‍රකාස නොකොට, ක්‍රිස්තුස් යේසුස්
වහන්සේ ස්වාමින්වහන්සේයයි කි
යාද, අපි යේසුස්වහන්සේ වෙනුවට
නුබලාගේ වැඩකාරයෝයයි කියාද,
6. ප්‍රකාස කරමුව. මක්නිසාද අන්ධ
කාරයෙන් ආලෝකය දිලිසෙන්ට
අණකලාවූ දෙවියන්වහන්සේ, යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගේ මුහුනේ
ඇත්තාවූ තමන්වහන්සේගේ තේජ
සේ දැනීමේ ආලෝකය දෙන්ට, අපේ
7. හෘදවල බැබළුසේක. නුමුත් බල
යෙහි උතුම්කම අපේ නොව දෙවි
යන්වහන්සේගේ වෙන පිනිස, මේ
වස්තුව මැටි භාජනවල දරමුව.
8. සැම අතින් පීඩා ලැබෙතත්, පෙ
ලනු නොලබමුව; කැලඹීමට පැමිනු
නත්, ජයිට නැතුව නොසිටිමුව;
9. හිංසා ලබන නුමුත්, අසරනව
නොසිටිමුව; බිම හෙලනු ලැබූ නු
10. මුත්, විනාස නොලබමුව. යේසු
ස්වහන්සේගේ ජීවනයද අපේ ශරීර
යෙහි ප්‍රකාසවෙන්ට, ස්වාමිවූ යේසුස්
වහන්සේගේ මරනය නිතරම අපේ
ශරීරයෙහි දරාගෙන හැසිරෙමුව.
11. ඇරත් අපේ නසින්නාවූ ශරීර
යෙහි යේසුස්වහන්සේගේ ජීවනයද
ප්‍රකාසවෙන පිනිස, ජීවත්වන්නාවූ
අපි යේසුස්වහන්සේ උදෙසා නිත
රම මරනයට පාවාදෙනු ලබමුව.
12. මෙසේ මරනය අප කෙරෙහිද,
ජීවනය නුබලා කෙරෙහිද බලවත
13. පවත්නේය. "මම අදහාගතිමි, ඒ
නිසා කථාකෙලෙමියි" ලියා තිබෙන
ලෙස, එම ඇදහිල්ලේ ආත්මය ඇති
14. අපිත් අදහාගෙන කථාකරමුව. ත
වද ස්වාමිවූ යේසුස්වහන්සේ නැගිට
වූ තැනැත්වහන්සේ යේසුස්වහන්සේ

කරනකොටගෙන අපද නැගුටුවා,
තුබලා සමග ඉදිරියෙහි සිටුවනසේ
15. කැයි දනිමුව. මක්නිසාද බො
හෝවූ කරුනාව කරනකොටගෙන
බොහෝ දෙනාගේ ස්තුති කිරීමෙන්
දෙවියන්වහන්සේගේ මහිමතාව වැ
ඩිවෙන පිනිස, ඒ සියල්ල තුබලා
16. උදෙසා වේ. එහෙයින් අපි
කලාන්ත නොවෙමුව; අපේ පිටත
මනුෂ්‍යයා ක්ෂයවෙන නුමුත්, අපේ
ඇතුල් මනුෂ්‍යයා දවසින් දවස අළුත්
17. කරනු ලබන්නේය. ක්ෂනයක්
පමන පවතින අපේ සැහැල්ලුවූ දුක
තොම, පෙනෙන දේ නොව නොපෙ
නෙන දේ බලාසිටින්නාවූ අපට,
අපමන උතුම්වූ නිරන්තරවූ තේජස්
18. භාරයක් සාද, දෙන්නේය. මක්
නිසාද පෙනෙන දේ කලකටද, නො
පෙනෙන දේ සදාකාලේටමද පවත්
නේය.

5. පරිච්ඡෙ. කුඩාරම වැනි භූමික
වූ අපේ ගෙය විනාසවුනොත්, දෙවි
යන්වහන්සේ විසින් සාදනලද, අතින්
නොකලාවූ, සදාකාලවූ ගෙයක් ස්ව
2. ර්ගවල අපට ඇතැයි දනිමුව. අපි
පලඳිනලද්දේව සිට, නග්නවූ නැ
3. නැත්තන් නොවෙන නිසා, ස්ව
ර්ගීයවූ අපේ ගෙයින් පලඳිනු ලබන්
ට ආසාවෙමින්, මෙහි සුසුම්ලමුව.
4. මක්නිසාද මේ කුඩාරමේ සිටින්
නාවූ අපි බර උසුලමින් සුසුම්ලමුව.
පැලඳීම ඉවත දමූ නැනැත්තෝ
වෙන්ට නොකමැතිව, මරන ගතිය
ජීවනයෙන් ගිලිනු ලබන හැටියට,
පලඳිනු ලබන්ට කැමතිවෙමුව.
5. මේ කාරනාවට අප යෙදූ තැනන්
වහන්සේ දෙවියන්වහන්සේය. උන්
වහන්සේ ආත්මයානන්වහන්සේ නැ
මති අත්තිකාරම අපට දුන්සේක.
6. පෙනීමෙන් නොව ඇදහිල්ලෙන්
හැසිරෙන්නාවූ අපි ශරීරයෙහි සිටින
7. විට ස්වාමින්වහන්සේගෙන් පහව
සිටිමුයයි දැන, නිතරම භය නැතුව
8. සිටිමුව. තවද ශරීරයෙන් පහව
ස්වාමින්වහන්සේ ලඟ සිටින්ට, ඉතා
9. කැමතිව භය නැතුව සිටිමුව. එ
හෙයින් අපි ලඟ සිටින නුමුත්, පහව
සිටින නුමුත්, උන්වහන්සේ විසින්
පිලිගන්නාලද නැනැත්තන් වෙන්
10. ට උත්සාහ කරමුව. මක්නිසාද,
එක එකා තම තමාගේ ශරීරයෙන්
කලාවූ යහපතටවත් නපුරටවත් සු
දුසු දේ ලබන පිනිස, අපි සියල්ලෝ
ක්‍රිස්තුස්වහන්සේගේ නඩු ඇසනය
ඉදිරියෙහි පෙනෙන්නට ඕනැය.
11. එහෙයින් ස්වාමින්වහන්සේගේ
භයානකකම දැන, මනුෂ්‍යයන්ට අව
වාද කරමුව. අපි දෙවියන්වහන්සේට
ප්‍රකාශකරනු ලබමුව; ඇරත් තුබලා
ගේ සිත්වලටද ප්‍රකාශකරනු ලබමු
12. යයි සිතමි. එසේ නුමුත් අපේම
ගුණ නොකියා, නැවත තුබලාට
හිතෙන් නොව පෙනීමට පමනක්
පාරට්ටුකරගන්නන්ට උත්තර දෙන්
ට තුබලාට පුළුවන්වෙන පිනිස, අප
ගැන පාරට්ටුකරන්ට තුබලාට අව
13. කාස දෙමුව. දපි පිස්සෝනම්,
ඒ දෙවියන්වහන්සේ උදෙසාය; සිහි
ඇත්තෝනම්, ඒත් තුබලා උදෙසාය.
14. ක්‍රිස්තුස්වහන්සේගේ ප්‍රේමය අප
කෙරෙහි බලපවත්වන්නේය. මක්නි
සාද සියල්ලන් වෙනුවට එක්කෙ
නෙක් මලසේක්නම්, සියල්ලෝම
15. මල බවත්, ජීවත්වන්නෝ මතු
තමන් උදෙසා ජීවත්නොවී, ඔවුන්
වෙනුවට නැසී නැගුටුනාවූ උන්ව
හන්සේ උදෙසා ජීවත්වෙන පිනිස,
සියල්ලන් වෙනුවට උන්වහන්සේ
16. මල බවත්, දැනගතිමුව. එහෙ
යින් අපි මෙතැන්පටන් කිසිවෙක්
මාංසාකාරයෙන් ඇඳිනනොගනිමුව;
මාංසාකාරයෙන් ක්‍රිස්තුස්වහන්සේ
ඇඳිනගත් නුමුත්, මෙතැන් පටන්
17. එසේ ඇඳිනනොගිනිමුව. ඉත්
නිසා යමෙක් ක්‍රිස්තුස්වහන්සේ කෙ

පරශ වේනම, ඔහු අළුත් මැවිල්ලක, පරණ දේ නැතිවූයේය, සියළු 18. දේ අළුත්වූයේය. තවද, යේසුස් ක්‍රිස්තුන්වහන්සේ කරනකොටගෙන තමන්වහන්සේට අපි සමගිකොට සමගිකිරීමේ සේවය අපට දුන්නාවූ දෙවියන්වහන්සේගෙන් සියල්ල වේ. 19. කෙසේදයත්, දෙවියන්වහන්සේ ක්‍රිස්තුන්වහන්සේ කරනකොටගෙන ලෝමැස්සන්ගේ වරදවල් ඔවුන්ගේ ගණනට නොතබා, ලෝකය තමන්වහන්සේට සමගිකොට, සමගිකිරීමේ වචනය අපට බාරදුන්සේක. 20. ඒ නිසා දෙවියන්වහන්සේ අප ලවා තුඹලාගෙන් ඉල්වන්නාක් මෙන්, අපි ක්‍රිස්තුන්වහන්සේගේ දූතයෝව, දෙවියන්වහන්සේ හා සමගිවෙල්ලාගනි, ක්‍රිස්තුන්වහන්සේ වෙනුවෙන් තුඹලාගෙන් ඉල්ලමුව. 21. මක්නිසාද අපි උන්වහන්සේ කරනකොටගෙන දෙවියන්වහන්සේගේ ධර්මිෂ්ඨකම වෙන පිනිස, දෙවියන්වහන්සේ පව් නොකලාවූ උන්වහන්සේ අප නිසා පාපයක් * කලසේක.

6. පරිච්ඡේ. තවද තුඹලා දෙවියන්වහන්සේගේ කරුණාව නිෂ්ප්‍රයෝජනයේ නොලබන ලෙස, එක්ව වැඩකරන්නෝවූ අපි තුඹලාගෙන් 2. ඉල්ලමුව. මක්නිසාද, "පිළිගතයුතුවූ කාලයෙහි තුඹේ වචන අසා, ගැලවීමේ දවසෙහි තුඹට උපකාර කෙලෙමියි" දෙවියන්වහන්සේ කියාසාසේක. බලව, දැන් පිළිගතයුතු කාලය වේ, දැන් ගැලවීමේ දවස වේ. 3. සේවයට දෝෂ නොපැමිණෙන පිනිස, කිසිවකින් බාධාවක් නො 4. කොට, බොහෝ ඉවසීමෙන්ද, පීඩාවලින්ද, දිලිඳුකම්වලින්ද, දුක් 5. වලින්ද, පහරවලින්ද, සිරගෙදුම්වලින්ද, කෝලාහලවලින්ද, වෙහෙසවලින්ද, නොනිද සිටීමෙන්ද, 6. නෑම නැතුව සිටීමෙන්ද, පිරිසිදුකමින්ද, දැනීමෙන්ද, බොහෝ කල් ඉවසීමෙන්ද, කරුනාවෙන්ද, ශුද්ධාත්මයෙන්ද, වංචා නැති ප්‍රේමයෙන්ද, 7. සැබෑකමේ වචනයෙන්ද, දෙවියන්වහන්සේගේ බලයෙන්ද, දකුණෙහිද වමෙහිද ධර්මිෂ්ඨකමේ සන් 8. නාහයෙන්ද, ගෞරවයෙන්ද, අගෞරවයෙන්ද, අපකීර්තියෙන්ද, කීර්තියෙන්ද, වංචාකාරයන්මෙන් පෙනෙන තුඹූත් සැබෑ නෑනැත්තෝව සිටී 9. මෙන්ද, නාඳුනන්නු ලබන්නන්මෙන් පෙනෙන තුඹූත් හොඳට අඳුනන්නු ලැබීමෙන්ද, මැරෙනවුන්මෙන් පෙනෙන තුඹූත් ජීවත්ව සිටීමෙන්ද, අවවාදයට පත්කරනු ලබන්නන්මෙන් පෙනෙන තුඹූත් මරණට පත් 10. කරනු නොලැබීමෙන්ද, දුක් විඳින්නවුන්මෙන් පෙනෙන තුඹූත් නිතර සතුටුවීමෙන්ද, දිලිඳුන්මෙන් පෙනෙන තුඹූත් බොහෝ දෙනා ධනවත්කිරීමෙන්ද, කිසිවක් නැතිනවුන්මෙන් පෙනෙන තුඹූත් සියල්ල ඇත්තාවුන්ව සිටීමෙන්ද, යන මේ සියල්ලෙන් අපි දෙවියන්වහන්සේගේ සේවකව සිටින බව ප්‍රකාශ 11. කරමුව. කොරින්තිවරුනි, තුඹලා සමග කථාකරන්ට අපේ කට ඇරී තිබේ, අපේ සිත විශාලවේ. 12. තුඹලාගේ සිත හැකිළී තිබෙන්නේ, තුඹලා නිසා මිස අප නිසා 13. නොවේ. මම මාගේ දරුවන්ට මෙන් කථාකරමි; කෙලෙස ගුණය සැලකීමෙන් තුඹලාගේ සිත් විශාල කරගනිල්ලාය.

14. ඇදහිලි නැත්තන් සමග බැඳීම අසම බැවින්, නොබැඳෙල්ලාය; ධර්මිෂ්ඨකම සමග අධර්මිෂ්ඨකමේ පංගුකාරකම මොකද? අන්ධ

* ගෙවත් පව් නසන පූජාවක්.

කාරය සමග ආලෝකයේ එකතුකම
15. මොකද? බෙලියල් සමග ක්‍රිස්
තුස්වහන්සේගේ එකඟකම මොක
ද? නොහොත් ඇදහිලි නැත්තා
සමග ඇදහිලි ඇත්තාගේ කොටස
16. මොකද? දේවරූපයන් සමග
දෙවියන්වහන්සේගේ මාලිගාවේ එක
ගවීම මොකද? මක්නිසාද, "මම
ඔවුන් කෙරෙහි වාසයකොට හැසි
රෙමි; ඔවුන්ගේ දෙවියන්වහන්සේද
වෙමි; ඔවුන්ද මාගේ සෙනග වෙති
යි" දෙවියන්වහන්සේ කී ලෙස, තුඹ
ලා ජීවමාන දෙවියන්වහන්සේගේ
17. මාලිගාවය. එහෙයින්, "තුඹලා
ඔවුන්ගෙන් පිටත්ව, වෙන්ව සිට,
අපවිත්‍ර දෙයට නොහැපෙල්ලායයි"
18. ස්වාමීන්වහන්සේ කියනසේක. "එ
විට මම තුඹලා පිලිගෙන, තුඹලාට
පියාණෝ වෙමි; තුඹලාත් මාගේ
පුත්‍රයෝද දූවරුද වෙතියි" සර්වපරා
ක්‍රමවූ ස්වාමින්වහන්සේ කියනසේක.

7. පරිච්ඡේ. එහෙයින් ප්‍රේමවන්ත
යෙනි, මෙයාකාර පොරොන්දුවල්
ඇත්තාවූ අපි දෙවියන්වහන්සේ
කෙරෙහි භයින් ශුද්ධකමේ සම්පූ
ර්ණවෙමින්, මාංසයෙහිද ආත්ම
යෙහිද සියළු කිළුටෙන් අපම පවිත්‍ර
කරගනිමුව.

2. අප පිලිගනිල්ලාය; අපි කාට
වත් අයුත්තක් නොකලෙමුව; කවු
රුවත් නරක්නොකලෙමුව; කාටවත්
3. වංචා නොකලෙමුව. තුඹලා එක්ව
මියන්ටද එක්ව ජීවත්වෙන්ටද කැ
මැත්තෙන් අපි සිටිමුයයි, පලමු
වෙන්ම මම කී බැවින්, තුඹලාට
දෝෂ පමුනුවන පිනිස මේ කාරනා
4. වල් නොකියමි. තුඹලා කෙරෙහි
බොහෝ විශ්වාස ඇතුව කථාකරමි;
තුඹලා ගැන මම බොහෝකොට
පාරට්ටුකරමි. සැනසිල්ලෙන් සම්පූ
ර්ණව සිටිමි; අපේ සියළු දුක්වලදී
5. බොහෝසෙයින් සතුටුවෙමි. ඇ
රත් අපි මකිදෝනියට ඇකල, අපේ
ශරීරයට කිසි පහසුවක් නැතුව සිය
ළු ආකාරයෙන්ම දුක් වින්දෙමුව;
පිටත විරුඩකම්ද ඇතුලේ භයද
6. තිබුනේය. එසේ නුමුත් දුකාම
පත්වූවන් සනසන්නාවූ දෙවියන්ව
හන්සේ තීතස්ගේ ඊමෙන් අප සැන
7. සූසේක. ඔහුගේ ඊමෙන් පම
ණක් නොව, තුඹලාගෙන් ඔහු ලැබූ
සැනසිල්ලෙන්ද, අපට සැනසීම ලැබු
ණේය. මක්නිසාද තුඹලාගේ තද
ආසාවද, තුඹලාගේ වැලපීමද, මා
උදෙසා තුඹලාගේ අධික සෙන්හයද,
ඔහු අපට කීකල, මම ඉතාමත් සතු
8. ටුවෙමි. ලියමනෙන් මම තුඹලා
සෝකයට පැමිණෙව් නිසා, කැමතු
නුමුත් දැන් නොතැවෙමි; ඒ ලියමන
කලකට තුඹලා සෝකයට පැමි
9. ණෙව් බව මට පෙණෙන්නේය. තු
ඹලා සෝකයට පැමිණෙව් බැවින්
නොව, පසුතැවිලිවීමට තුඹලා සෝ
කවූ බැවින්, දැන් මම සතුටුවෙමි.
තුඹලා අප නිසා කිසි අලාභයක්
නොවිඳිනලෙස, දෙවියන්වහන්සේ
කෙරෙහිවූ සෝකයට පැමුණුනෝය.
10. මක්නිසාද දෙවියන්වහන්සේ
කෙරෙහිවූ සෝකයෙන්, පශ්චාත්
තාප නොවියයුතුවූ ගැලවීමට අනු
තැවිලිවීම උපදින්නේය. නුමුත්
ලෞකික සෝකයෙන් මරනය උප
11. දින්නේය. ඇරත් තුඹලා දෙවි
යන්වහන්සේ කෙරෙහිවූ සෝකයම
පැමිනීමෙන්, කොපමණ ප්‍රවේසමක්,
කොපමන උත්තර දීමක්; කොපම
න කෝපයක්, කොපමන භයක්
කොපමන බලවත් ආසාවක්, කොප
මන ජ්වලිතයක්, කොපමන පුණි
දඬුවමක්, තුඹලා කෙරෙහි උපණ
ණේද? මේ කාරනාව ගැන තුඹලා
පවිත්‍රයෝයයි, සියළු ආකාරයෙන්ම
12. තුඹලා පෙන්වාදුන්නෝය. දෙ
වියන්වහන්සේගේ ඉදිරියෙහි තුඹලා
ගැන අපේ ප්‍රවේසම ප්‍රකාශවීම

පිනිස ලිව්වා මිස, අශුතුකම් කල නැනැත්තා නිසාවත්, අශුතුකම් වින්ද නැනැත්තා නිසාවත්, ලිව්වා
13. නොවේය. එහෙයින් තුබලාගේ සැනසීමෙන් අපිත් සැනසීම ලැබමු ව. තවද තීතස්ගේ සිත තුබලා සියලුන් විසින් සැනහු බැවින්, ඔහුගේ සන්තෝෂය නිසා අපිත් ඉතා
14. සතුටුවූනෙමුව. තුබලා ගැන ඔහුට ගරුකමින් කිසිවක් කීවත් ලැජ්ජානොවෙමි. අපි තුබලාට සැබෑ ලෙස සියල්ල කී හැටියටම, තීතස් ඉදිරිපිට තුබලා ගැන අපි පැවැත්වූ ගරුකම සැබෑයයි දන්නාලද්දේය.
15. තවද ඔහු තුබලා සියල්ලන්ගේ කීකරුකමද භයින්ද වෙව්ලීමෙන්ද තමන් පිලිගත් බවද සිහිකරනකල, ඔහුගේ දයාබරකම තුබලා කෙරෙහි
16. ඉතා වැඩිව පවතින්නේය. එබැවින් සියලු කාරනාවල් ගැන, මම තුබලා විස්වාසකරන නිසා සතුටුවෙමි.

8. පරිච්ඡෙ. තවද සහෝදරයෙනි, මකිදෝනියෙහි සභාවලට දුන් දෙවියන්වහන්සේගේ කරුනාව තුබලාට
2. දන්වමුව. කෙසේද, බොහෝ දුක් පැමිනීමෙන්වූ පරීක්‍ෂාවේදී බොහෝ සන්තෝසයද, ඔවුන්ගේ ඉතා දිලිඳුකමේදී ඔවුන්ගේ නැගිවන්න
3. කමද, බෝවූනේය. කුමක්හෙයින්ද, ඔවුන්ගේ පුළුවන්කමේ ප්‍රකාරයටත්, ඊට වැඩිවසයෙනුත්, දෙන්නට ඔවුන් කැමතිව සිටියෝයයි, සා
4. ක්‍ෂිදෙමි. ඔවුන්ගේ නැගි අප බාරගෙන ඒවා පිරිසිදුවූවන්ට බෙද දෙනලෙස, හවුල්කාරයෝ වෙන හැටියට අපෙන් බොහෝසේ ඉල්ලූ
5. වෝය. ඇරත් අපි සිතූලෙස නොකොට, පලමුවෙන් ඔවුන් ස්වාමින්වහන්සේටද, දෙවනුව දෙවියන්වහන්සේගේ කැමැත්තෙන් අපටද,
6. තමන්ම බාරදුන්නෝය. එහෙයින් තීතස් මෙම සමාදන්කිරීම තුබලා අතරේ පටන්ගත් ලෙසම, තීන්දුකරන්ටද අවවාද කලෙමුව.
7. එබැවින් තුබලා සියලු දෙයින්, ඒනම්, ඇදහිල්ලෙන්ද, කීමේ දක්‍ෂකමින්ද, දැනීමෙන්ද, සියලු උත්සාහයෙන්ද, අප කෙරෙහි ප්‍රේමයෙන්ද වැඩිවෙන සේ, මෙම කරුනාවෙන්ද
8. වැඩිවෙයල්ලාය. මම මේ කාරනාව අනක්මෙන් නොකියා, වෙන අයවලුන්ගේ උත්සාහය නිසාද තුබලාගේ ප්‍රේමයෙහි අවංකකම විමසන
9. පිනිසද කියමි. අපේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ කරුනාව තුබලා දනිති; උන්වහන්සේ වස්තුකාරයෙක්ව සිටිය නුමුත්, උන්වහන්සේගේ දිලිඳුවීමෙන් තුබලා වස්තුකාරයෝ වෙන පිනිස, තුබලා උදෙ
10. සා දිලිඳුවූසේක. මේ නැග්ග ගැන තුබලාට අවවාද දෙමි. මක්නිසාද ඔවුන්ට පලමුවෙන් ඒක කරන්ට පමනක් නොව, අවුරුද්දක සිට ඊට කැමතිවෙන්ටත් පටන්ගත්
11. තුබලාට එය සුදුසුය. තුබලා කැමතිව සිටිය ලෙස, තුබලා සන්තක දෙයින් ඉෂ්ටවෙන පිනිස, දැන් ඒ කාරනාව සම්පූර්ණකරපල්ලාය.
12. කැමති සිත මුල්වූනොත්, යමෙකුම නැති දේ ප්‍රකාරයට නොව, ඇති දේ ප්‍රකාරයට ඔහු පිලිගනු
13. ලැබේ. අනුන්ට සැහැල්ලුවත් තුබලාට බරත් පැමිනෙන පිනිස නොව, සමානත්වය පිනිස කියමි.
14. "බොහොම එකතුකල නැනැත්තාට කිසිවක් වැඩිවූනේ නැත; ස්වල්පයක් එකතුකල නැනැත්තාට කිසිවක් අඩුවූනේ නැතැයි" ලියා
15. තිබෙන හැටියට, සමානත්වය වෙන පිනිසද, මේ ප්‍රස්ථාවේදී තුබලාගේ සම්පූර්ණකම ඔවුන්ගේ අඩුකමටද වෙන ප්‍රස්ථාවකදී ඔවුන්ගේ සම්පූර්ණකම තුබලාගේ අඩුකමටද උපකාර වෙන පිනිසද,

16. කියමි. තුබලා ගැන තීතස්ගේ
හිතට මෙම සැලකීම ගෙනදුන්නාවූ
දෙවියන්වහන්සේට සතුති වේවා.
17. ඔහු මාගේ ඉල්ලීම පිළිගෙන,
තුබලා ගැන ඉතා සැලකීමෙන් තමා
ගේම කැමැත්තෙන් තුබලා ළඟට
18. ආයේය. තවද සියළු සභාවල්හි
සුභාරංචිය නිසා සතුති ලැබූවාවූ
19. සහෝදරයා ඔහු සමග යැව්මුව. එ
පමණක් නොව, එම ස්වාමින්වහන්
සේගේ ගෞරවය පිනිසත්, තුබලා
ගේ සිත් කැමති බව ප්‍රකාසවීම පිනි
සත්, අප විසින් බෙදාදෙන්ට ගත්
මේ තෑගි අරගෙන, අප එක්ව යන්ට
ඔහු සභාවල් විසින් තෝරාගන්නා
20. ලද්දේය. අප විසින් බෙදාදෙන්ට
තිබෙන මේ බොහෝවූ දානය නිසා
කවරෙක්වත් අපට වරද නොතබන
21. පිනිස ප්‍රවේසම් වෙමින්, ස්වාමින්
වහන්සේගේ ඉදිරියෙහි පමණක්
නොව, මනුෂ්‍යයන්ගේ ඉදිරියෙහි
සෝභමාන දේ සලකාගනිමුව.
22. තවද නොයෙක් විට නොයෙක්
කාරනාවලදී උත්සාහ ඇත්තෙකැයි
අප විසින් පරීක්ෂාකොට දන්නාලද්
දැවූ, දැන් තුබලා කෙරෙහි ඇති
මහත් විශ්වාසය කරනකොටගෙන
ඉතා උත්සාහ ඇත්තෙක්වූ, අපේ
සහෝදරයා ඔවුන් සමග යැව්මුව.
23. තීතස් ගැන කිසිවෙක් ඇසු
වොත්, ඔහු මාගේ පංගුකාරයාද
තුබලා ගැන මාගේ හවුල් වැඩකාර
යාද වන්නේය. නොහොත් අපේ
සහෝදරයන් ගැන කිසිවෙක් ඇසු
වොත්, ඔවුන් සභාවන්ගේ ප්‍රේරිත
යෝද ක්‍රිස්තුස්වහන්සේගේ ගෞරව
24. යද වෙති. එහෙයින්, තුබලා
ගේ ප්‍රේමයෙහිද තුබලා ගැන අපේ
ගරුකමෙහිද ඔප්පුව ඔවුන්ට සභා
වන් ඉදිරියේදී පෙන්වා දීපල්ලාය.

9. පරිච්ඡේ. පිරිසිදුවූවන්ට උපස්
ථාන කිරීම ගැන, තුබලාට මගේ
2. ලිවීමෙන් ප්‍රයෝජන නැත. මක්
නිසාද අඛාය අවුරුද්දක පටන් සැදී
සිටියායයි මකිදෝනියෙහි වැසියන්ට
කියා, තුබලා ගැන පාරම්බූකරන්
නාවූ මම තුබලාගේ සිතේ කැමතී
කම දනිමි. තුබලාගේ මහත් වීයසී
යෙන් බොහෝදෙනාට වීයසී ඉපදු
3. නේය. එසේ තුමුත් මේ කාරනා
වේදී තුබලා ගැන අපේ පාරම්බූව
සිස්නොවෙන පිනිසද, මම කී හැටි
යට තුබලා සැදී සිටින පිනිසද, ස
4. හෝදරයන් යැවිමි. මම මෙසේ
කලේ, මකිදෝනි වැසියෝ මා සමග
අවුත් තුබලා සැදී නොසිටින බව
දකින්නම්, මේ තද පාරම්බූව නිසා
තුබලාම නොව අපිත් ලැජ්ජාවට
5. නොපැමිනෙන පිනිසය. එබැවින්
සහෝදරයෝ පලමුකොට තුබලා
ළඟට යන පිනිසද, ඉස්සර හිට දන්
වනලද්දාවූ තුබලාගේ දානය ලෝභ
සිතින් නොව දානය මෙන් කලින්
සැදී තිබෙන පිනිසද, ඔවුන්ට අව
6. වාද කරන්ට යුතුයයි සිතිමි. තු
මූත් මම මේක කියමි; ටිකක් වපු
රන්නාට ටිකක් ලැබෙන්නේය,
බොහොම වපුරන්නාට බොහොම
7. ලැබෙන්නේය. එබැවින් කනගා
ටුවෙන්වත් බලාත්කාරය නිසාවත්
නොදී, එක එකා තම තමන්ගේ
සිතින් නියමකරගත් ලෙස දේවා.
8. මක්නිසාද සතුටු සිතින් දෙන්
නාට දෙවියන්වහන්සේ ප්‍රේමවන
සේක. තවද තුබලා සියළු දෙයෙහි
නිතරම සියළු සෑහීමට පැමින, සියළු
යහපත් ක්‍රියාවෙහි වඩිනවෙන පිනි
ස, දෙවියන්වහන්සේ තුබලාට සියළු
කරුනාව වැඩිකරන්ට සමර්ථසේක.
9. එසේම, "ඔහු විසිරවූයේය; දිලි
ඳුන්ට දුන්නේය; ඔහුගේ ධර්මිෂ්ඨ
කම සදාකල් පවතීයයි" ලියනලද්
10. දේය. අප කරනකොටගෙන
දෙවියන්වහන්සේට සතුති උපදවන්
නාවූ සියළු තෑගිවන්තකමෙ සියළු

ආකාරයෙන් තුබලා පොහොසත්
වෙන පිණිස, වපුරන්නාට බිජුවටද
කෑම පිණිස රොටිද දෙන්නාවූ උන්
වහන්සේ තුබලාගේ වපුළාවූ බිජු
වට වැඩිකොට, තුබලාගේ ධර්මිෂ්ඨ
කමෙහි ඵලද සඵලකරනසේක්වා.
12. මක්නිසාද මේ බෙදාදීමේ වැ
ඩෙන් පිරිසිදුවූවන්ගේ හිඟකම පිරි
මසිනවා පමනක් නොව, එයින් දෙ
වියන්වහන්සේට බොහෝ සතුති
13. උපදින්නේය. ඔවුන් මේ බෙදා
දීමේ ඔප්පුව කරනකොටගෙන, ක්‍රි
ස්තුස්වහන්සේගේ සුභාරංචියට තුබ
ලාගේ ප්‍රකාශ කීකරුකම ගැනද,
තමන් සහ සියළු මනුෂ්‍යයන් කෙ
රේද තුබලාගේ තෑගිවන්තකම ගැ
නද දෙවියන්වහන්සේට සතුතිකො
14. ට, තුබලා උදෙසා යාඥාකරමින්,
තුබලා කෙරෙහි ඇත්තාවූ දෙවියන්
වහන්සේගේ ඉතා මහත් කරුනාව
නිසා තුබලා කෙරෙහි ඉතා ඇළුම්
15. වෙති. දෙවියන්වහන්සේගේ
කියා නිමකරන්ට නුපුළුවන්වූ දීම
ගැන, උන්වහන්සේට සතුති වේවා.

10. පරිච්ඡේ. තුබලා ඉදිරියෙහි
සිටිනකල යටහත්වූ, අහක්ව සිටින
කල තුබලා කෙරෙහි නිර්භීතවූ පා
වුල්නම් මම, ක්‍රිස්තුස්වහන්සේගේ
ක්ෂාන්තියද මුදුකමද නිසා, තුබලා
2. ගෙන් ඉල්ලමි. කෙසේද, අපි මාංස
ප්‍රකාරයෙන් හැසිරෙන තැනැත්
තෝයයි අප ගැන සිතන්නාවූ සමහ
රුන්ට විරුඬව නිර්භීතව සිටින්ට
සිතමි; තුබලා ඉදිරියෙහි සිටිනවිට
එයාකාරයෙන් නොවෙන පිණිස,
3. තුබලාගෙන් ඉල්ලමි. අපි මාංස
යෙන් යුක්තව හැසිරෙන්නෝ නු
මුත්, මාංසප්‍රකාරයෙන් යුඬ නොකර
4. මුව. අපේ යුඬායුඬ මාංසික නො
ව, බල කොටු බිඳහෙලීමට දෙවියන්
වහන්සේ නිසා බලසම්පන්නය.
5. එයින් අපි විවාදවල්ද දෙවියන්
වහන්සේ ගැන දැනගැනීමට විරුඬව
උසස්වන්නාවූ සියළු උසස් දෙයද
බිඳහෙලා, සියළු සිතිවිලි ක්‍රිස්තුස්ව
හන්සේට කීකරුවෙන පිණිස යටත්
6. කොට, තුබලාගේ කීකරුකම
සම්පූර්ණවූකල සියළු අකීකරුක
7. මට අවවූ දෙන්ට සැදී සිටිමුව. පි
ටතින් පෙනෙන ලෙස කාරනාවල්
තුබලා සලකද්ද? යමෙක් තමා ක්‍රිස්
තුස්වහන්සේට අයිතියයි අදහන්
නේනම්, තමන් ක්‍රිස්තුස්වහන්සේට
අයිති ලෙස අපිත් ක්‍රිස්තුස්වහන්
8. සේට අයිතියයි සිතාවා. ඇරත්
තුබලාගේ විනාසය පිණිස නොව
වැඩසිඬවීම පිණිස ස්වාමින්වහන්සේ
විසින් අපට දෙනලද බලය ගැන,
මම තව මදක් පාරම්බාකරනත් ලැ
9. ජ්ජා නොවෙමි. මම එසේ නොක
රන්නේ, ලියුම්වලින් තුබලා භය
ගන්වන්නෙක් මෙන් නොපෙනෙන
10. පිණිසය. මක්නිසාද, ඔහුගේ
ලියුම් තදය, බලවත්නය; ශරීරික
රූපය දුර්වලය, කථාවද නින්දිතය
11. යයි මා ගැන කියති. අපි ලඟ
නොසිටිනකල ලියුම්වල වාසගමින්
යම්සේ පෙනෙමුද, එසේම අපි ලඟ
සිටිනකල ක්‍රියාවලිනුත් පෙනෙමු
යයි, එබඳු තැනැත්තෝ සිතාවා.
12. මක්නිසාද තමන්ම වර්ණනා
කරන සමහරුන්ට අපම සමානක
රන්ටවත්, එම පක්ෂයට වෙන්ටවත්,
භයවෙමුව. තමන්ගේ මිම්මෙන්
තමන් මැනගන්නාවූ, තමන් අන
රෙහි තමන් සමකර බලන්නාවූ
ඔවුන් නුවන ඇත්තෝ නොවෙති.
13. අපි පමනට වඩා පාරම්බාකර
නොගනිමුව; තුබලා ලඟට අපගේ
පැමිනීම පිණිස දෙවියන්වහන්සේ
විසින් මැන අපට බෙදාදුන් මිම්මේ
14. හැටියට, පාරම්බාකරමුව. අපි
ක්‍රිස්තුස්වහන්සේගේ සුභාරංචිය ප්‍රකා
සකරමින්, තුබලා ලඟට ආවෙමුව.
එයාකාරයෙන් තුබලා ලඟට පැමි

කෙනන්නේ, අපේ සීමාවෙන් ඈත
15. යන්නාක්මෙන් නොවේය. පම
ණට වඩා එනම් අනුන්ගේ වැඩ
ගැන පාරට්ටුකර නොගනිමුව. නු
ඹුත් නුබලාගේ ඇදහිල්ල වැඩිවුන
විට අපේ සීමාව වඩා ලොකුවන්නේ
16. යස් බලාසිටිමුව. වෙන කෙනෙ
කුගේ සීමාවක සාදනලද දේ ගැන
පාරට්ටුකරගන්ට නොව, නුබලාට
දුරුවූ දේසවලදී සුභාරංචිය ප්‍රකාශ
17. කරන්ට බලා සිටිමුව. නුමුත්
තමාම වර්ණනාකරන තැනැත්තා
නොව, ස්වාමින්වහන්සේ විසින් ව
ර්ණනාකරන තැනැත්තා පිළිගනු
18. ලබන බැවින්, පාරට්ටුකරගන්
නා ස්වාමින්වහන්සේ කෙරෙහි පා
රට්ටුකරගනිවා.

11. පරිච්ඡෙ. මාගේ අඥානකම
ගැන ස්වල්ප වේලාවකට නුබලාට
ඉවසන්ට හැකිනම්, යහපත. තවද
2. මා කෙරෙහි ඉවසාපල්ලාය. කුල
ය රකින කන්‍යා ස්ත්‍රියකුමෙන් නුබ
ලා එකම පුරුෂයෙකුට එනම් ක්‍රිස්
තුස්වහන්සේට නුබලා පාවාදෙන
ලෙස, මා විසින් විවාහබස් දුන් බැ
වින්, දිව්‍යවූ ජ්වලිතකමෙන් නුබලා
3. කෙරෙහි ජ්වලිතවෙමි. එහෙත්
සර්පයා තමාගේ රැවටිල්ලෙන් ඒව
රැවටුවාක්මෙන්, ක්‍රිස්තුස්වහන්සේ
කෙරෙහි පවතින ඈදහැතිකමෙන්
වෙන්ව, යම් ආකාරයකින් නුබලා
ගේ සිත් නරක්වේදෝ කියා භය
4. වෙමි. එන අය අපි ප්‍රකාශනො
කල වෙන යේසුස් කෙනෙක් ගැන
ප්‍රකාශකරතොත්, නොහොත් නුබ
ලා නොලැබූ වෙන ආත්මයක්වත්
නුබලා පිළිනොගත් වෙන සුභාරංචි
යක්වත් නුබලා ඔහුගෙන් ලැබූ
වොත්, නුබලා විසින් ඔහුගේ කීම
5. ඉවසිය යුතුය. නුමුත් මම ඉතා
වත් උතුම්වූ ප්‍රේරිතයන්ට වඩා ටික
6. කුත් අඩු නැතැයි සිතමි. මම
කථාකිරීමට නිවට නුමුත් නුවනට
නිවට නැත. අපි සෑම දෙයින්ම සිය
ළු ආකාරයෙන් නුබලාට ප්‍රකාශ
7. වූනෙමුව. නුබලා උසස්වෙන ලෙ
ස මම්ම මා යටත්කරගෙන, වියදම්
නොලැබ දෙවියන්වහන්සේගේ සුභා
රංචිය නුබලාට ප්‍රකාශකිරීමෙන්, වර
8. දක් කෙලෙම්ද? නුබලාට මෙහෙ
කිරීම පිනිස, හොරකම්කරන්නාක්
මෙන් වෙන සභාවලින් කුලී ගතිමි.
9. තවද මම නුබලා ලඟ සිටිද්දී නි
ගවූකල කිසිවෙකුට කනගාටු නො
කලෙමි. මකිදෝනියෙන් ආවාවූ ස
හෝදරයෝ මාගේ හිඟකම පිරිමැසු
වෝය. නුබලාට වෙහෙස නොකො
ට සියළු කාරනාවලදී ප්‍රවේසම් වීමි;
10. මතුද ප්‍රවේසම් වෙමි. ක්‍රිස්තුස්ව
හන්සේගේ සත්‍යකම මා කෙරෙහි
පවත්නේනම්, කිසිවෙකුට අඛායේ
දේසවලදී මාගේ මේ පාරට්ටු කථාව
11. වලක්වන්ට ඉඩනාරින්නෙමි. ඒ
මක්නිසාද? මම නුබලාට ප්‍රේම නො
කරන නිසාද? ඒක දෙවියන්වහන්
12. සේ දනනාසේක. නුමුත් ප්‍රස්ථාව
සොයන්නන්ගෙන් ප්‍රස්ථාව සිඳදමන
පිනිසත්, ඔවුන් පාරට්ටුකරගන්නාවූ
කාරණාව ගැන ඔවුන් අප වාගේ
පෙනෙන පිනිසත්, මම දැන් කරන
හැටියටම මත්තටත් කරන්නෙමි.
13. එබඳුවූ අයවල් බොරු ප්‍රේරිත
යෝය; ක්‍රිස්තුස්වහන්සේගේ ප්‍රේරිත
යන්ගේ වෙස් ගත් රැවටිලිකාර මෙ
14. හෙකරුවෝය. ඒක පුදුමයක්
නොවේය; මක්නිසාද සාතන් පවා
දිලිහෙන දූතයෙකුගේ වෙස් ගත්
15. තේය. එහෙයින් සාතන්ගේ
සේවකයෝ ධර්මිෂ්ටකමෙහි සේවක
යන්ගේ වෙස් ගනිත්නම්, මහත් පුදු
මයක් නොවේය. ඔවුන්ගේ කෙල
වර ඔවුන්ගේ ක්‍රියාව ලෙස වන්නේ
16. ය. නැවත මම කියමි, කිසිවෙක්
වත් මා අඥානයෙකැයි නොසිතාවා.
නැතහොත්, මම මදක් පාරට්ටුක

රන පිනිස, අඥානයකු ලෙසත් මා
17. ඒත්තුගනිල්ලාය. මම දැන් කථා
කරන දේ ස්වාමින්වහන්සේගේ අඥා
වෙන් නොකියමි; නුමුත් තදලෙස
පාරට්ටුකරන අඥානයෙක් මෙන්
18. කියමි. ශරීරය ලෙස බොහෝ
දෙන පාරට්ටුකරගන්නා බැවින්,
19. මමද පාරට්ටුකරගනිමි. නුබලා
ඥානවන්තව සිටින බැවින්, අඥාන
20. යන් ගැන ගුණෙන් ඉවසති. කි
සිවෙක් නුබලා වාල්කමට පමුනු
වන්නේ නුමුත්, කිසිවෙක් නුබලා
ගෙන් කොල්ලකන්නේ නුමුත්,
කිසිවෙක් නුබලාගෙන් ගන්නේ
නුමුත්, කිසිවෙක් තමන්ම උසස්කර
ගන්නේ නුමුත්, කිසිවෙක් නුබලා
ගේ මුහුනට පහර දෙන්නේ නුමුත්,
21. ඒ සියල්ල නුබලා ඉවසති. අපි
දුර්වලවූවාක්මෙන් අපට අවනම්බු කිරී
ම ගැන කථාකරමි; එසේ නුමුත්
කොයි කාරනාවකටවත් යමෙක්
භය නැත්නම්, මමත් භය නැත්තෙ
22. මියි, අඥාන ලෙසින් කියමි. ඔ
වුන් හෙබ්‍රෙව්වරුද? මමත් එසේමය.
ඔවුන් ඊශ්‍රායෙල්වරුද? මමත් එසේ
මය. ඔවුන් ආබ්‍රහම්ගෙන් පැවත
23. එන්නෝද? මමත් එසේමය. ඔ
වුන් ක්‍රිස්තුස්වහන්සේගේ සේවක
යෝද? එහිදී මම ඔවුන්ට උතුම.
මම අඥානයෙක්මෙන් කියමි. මම වැ
ඩිව වෙහෙසීමෙනුත්, අපමන පාරකෑ
මෙනුත්, වැඩි වාරවල හිරගෙවල් ව
ල හිඳීමෙනුත්, බොහෝ වාරවල මර
24. න උපද්‍රවෙනුත්, පසුවූනෙමි. යු
දෙව්වරුන්ගෙන් පස්වරක් එකක් අ
25. ඩු සතලිසක් පාර කෑවෙමි; තුන්
වරක් වේවැල්වලින් තැළුම් කෑවෙමි;
එක්වරක් ගල්ගසනු ලැබ්මි; තුන්ව
රක් නැව්බිඳීමෙන් උපද්‍රවට පැමිනු
නෙමි; රැයකුත් දවාලකුත් ගැඹුරේ
26. සිටියෙමි. බොහෝවර ගමන්වල
වද, ගංගා උපද්‍රවලටද, සොර උප
ද්‍රවලටද, මගේ ජාතීන්ගෙන් පැමින්

උපද්‍රවලටද, අන්‍ය ජාතීන්ගෙන් පැ
මිනි උපද්‍රවලටද, නුවරෙහි උපද්‍රව
ලටද, වනාන්තරයේ උපද්‍රවලටද, මු
දේඋපද්‍රවලටද, බොරුසහෝදරයන්
27. ගෙන් පැමිනි උපද්‍රවලටද, වෙ
හෙසයටද, අමාරුවලටද, බොහෝ ව
ර නිදිමැරීමටද, සාපිපාසයටද, බො
හෝවර කෑමහිඟකමටද, සීතලයටද,
28. නිර්වස්ත්‍රභාවයටද පැමිනියෙමි. බා
හිර දේ හැර සියළු සභාවල් ප්‍රවේ
සම්කිරීමද දවස්පතා මට පැමිනෙ
29. නේය. යමෙක් දුර්වලනම්, මමත්
දුර්වල නොවෙම්ද? යමෙක් පැකිලේ
30. නම්, මම නොදැවෙම්ද? මා විසින්
පාරට්ටුකරගන්ට යුතුනම්, මාගේ
දුර්වලකම් ගැන පාරට්ටුකරගනිමි.
31. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ පියවූ, සදාකල්ම ප්‍රසං
සනීයවූ දෙවියන්වහන්සේ මම බොරු
32. නොකියන බව දන්නාසේක. ද
මස්කයේදී අරෙතාස් රජුගේ සේනා
පතියා මා අල්වනු කැමතිව, දමස්ක
වැසියන්ගේ නුවර සේනාව සිටුවා
33. ආරක්ෂාකලවිට, කවුළු දෙරකින්
කූඩයක ලා බිත්තියෙන් බස්වනු
ලැබ, මම ඔහුගේ අතින් ගැලවූ
නෙමි.

12. පරිච්ඡෙ. සත්තකටම මා වි
සින් පාරට්ටුකරගන්ට ඔහින්නේ
නැත. නුමුත් ස්වාමින්වහන්සේ දැක්වූ
දර්ශනවල්ද එළිදරව්කිරීම්ද කියමි.
2. ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි පව
තින එක මනුෂ්‍යයෙක් දනිමි. ඔහු
දසහතර අවුරුද්දකට ඉස්සර, තුන්
වෙනි ස්වර්ගයට ඇදගනු ලද්දේය.
ඔහු ඇදගනු ලැබුවේ, ශරීරය ඇතු
වද ශරීරය නැතුවද නොදනිමි, දෙ
3. වියන්වහන්සේ දන්නාසේක. ඇ
රත් ඔහු පරදීසයට ඇදගනු ලැබ,
කියන්ට බැරිවූ මනුෂ්‍යයෙක් විසින්
නොකිය යුතුවූ වචන ඇහුයේයයි
4. මම දනිමි. ශරීරය ඇතුවද ශරීරය

නැතුවද නොදනිමි; දෙවියන්වහන්
5. සේම දන්නාසේක. එබඳු තැනැ
ත්තෙක් ගැන පාරට්ටුකරමි; නුමුත්
මාගේ දුර්වලකම් ගැන මිස මා ගැන
6. ම පාරට්ටු නොකරමි. මම සැබෑ
වම කියන බැවින්, පාරට්ටුකරගන්ට
කැමතිවෙතත් අඥානයෙක් නො
වෙමි. එසේ නුමුත්, කිසිවෙක් මා
කෙරෙහි දකින්නාවූ මාගෙන් අසන්
නාවූ ගුණයට වඩා මම උතුමැයි
නොසිතන පිනිස, එසින් වලකිමි.
7. තවද මම එළිදරව්කිරීම්වල උ
තුම්කමෙන් පමනට වඩා උසස් නො
වෙන පිනිස, මට පහරදීමට සාතන්
ගේ දූතයෙක්වූ නිවූ ශරීරයේ උලක්
මට දෙනලද්දේය. ඒ උල මට පම
නට වඩා උසස් නොවෙන්ට දෙන
8. ලද්දේය. ඒක මාගෙන් දුරුවෙන
පිනිස, තුන්වරක් ස්වාමින්වහන්සේට
9. යාඥාවීමි. උන්වහන්සේද, "මාගේ
කරුනාව නුබට සෑහේය; දුර්වලකම
කරනකොටගෙන මගේ බලය සම්
පූර්ණව පෙනෙන්නේයයි" කීසේ
ක. එබැවින් ක්‍රිස්තුස්වහන්සේගේ
බලය මා කෙරෙහි පිහිටන පිනිස,
මගේ දුර්වලකම් ගැන ඉතා සතුටින්
10. පාරට්ටුකර ගනිමි. එහෙයින්
ක්‍රිස්තුස්වහන්සේ උදෙසා පැමිනෙ
න දුර්වලකම්වලටත්, අවමාන්නවල
ටත්, අිලිඳුකම්වලටත්, පීඩාවලටත්,
දුක්වලටත් සතුටුවෙමි. මක්නිසාද
මම දුර්වලව සිටිනකල, බලවත්වෙමි.

11. පාරට්ටුකිරීමෙන් මම අඥාන
යෙක් වීමි; එයට නුබලා මට බලාත්
කාරකලෝය. නුබලාගෙන් ප්‍රසංසා
ලැබිය යුතුවූ මම කිසිත් නොවෙන
නුමුත්, ප්‍රධානවූ ප්‍රේරිතයන්ට කිසිව
12. කින්වත් අඩුනොවෙමි. සැබවින්
ම ප්‍රේරිතයෙකුගේ ලකුනු, සියළු ඉව
සීමෙන්ද ලකුනුවලින්ද පුදුමවලින්ද
ආශ්චර්‍ය්‍යවලින්ද, නුබලා අතරෙහි
13. ප්‍රකාශවූනේය. මම නුබලාට බ
රක්ව නොසිටිය කාරනාව හැර, වෙ
න මොන කාරනයකින් අන් සභාව
ලට නුබලා අඩුවූනෝද? ඒ වැරැද්
14. දට මට කමාවෙයල්ලාය. තුන්
වෙනි වතාවෙත් නුබලා ලඟට එන්
ට සැදී සිටිමි. නුබලා මිස නුබලා
සන්තක දේ නොසොයන නිසා,
නුබලාට බර නොවෙමි. මෙසේ කී
වේ, දෙමව්පියන් දරුවන්ට එකතු
කර තිබනවා මිස, දරුවන් දෙමව්
පියන්ට එකතුකර තිබන්ට නිස්
15. සක් නැතිනිසාය. මම නුබලා
කෙරෙහි ඉතා ප්‍රේමකරනකල, නුබ
ලාගෙන් ඉතාම ස්වල්පයක් ප්‍රේමය
ලබන නුමුත්, නුබලාගේ ප්‍රාන උදෙ
සා ඉතා සතුටින් සන්තක දේ පම
16. නක්නොව ජීවිතයත් ගෙවමි. ඔ
හු නුබලාට බර නොවූ නුමුත් උපා
යෙහි දක්ෂයෙක්ව, වංචාවෙන් නුබ
ලා ඇල්ලුවේයයි, මා ගැන කියති.
17. මම නුබලා ලඟට එවූවන් අත
රෙන් කවුරු ලවා නුබලාගෙන් ලාබ
18. ගතිම්ද? මම තීතස්ගෙන් යන
ලෙස ඉල්ලමින්, ඔහු සමග සහෝද
රයෙක් යැවීමි. තීතස් නුබලාගෙන්
යම් ලාබයක් ගත්තේද? අපි එකා
කාර සිතිවිලිවලින්ද එකාකාර ක්‍රියා
වලින්ද යුක්තව හැසුරුනේ නැද්ද?
19. නැවත අප ගැන නුබලා ඉදිරි
යේ උත්තර දෙමුයයි සිතද්ද? දෙවි
යන්වහන්සේ ඉදිරිපිට ක්‍රිස්තුස්වහන්
සේ කරනකොටගෙන කථාකරමුව.
නුමුත් ප්‍රියවූ තැනැත්තෙනි, මේ
සියල්ල නුබලාට වැඩසිඩවීම පිනිස
20. කරමුව. මම ආකල නුබලා මගේ
සිත ලෙස සම්භනොවෙතියි කියාත්,
නුබලාගේ සිත ලෙස නුබලාට මම
සම්භනොවෙමියි කියාත්, ඒවාද
ඊර්ෂ්‍යා ක්‍රෝධ භේද කේලාම් කනට
කෙඳිරීම් උඩඟු කථා කෝලාහල
21. පවතිනවා ඇතැයි කියාත්, මම
නැවත නුබලා ලඟට ආකල මාගේ
දෙවියන්වහන්සේ නුබලා අතරෙහි
මා ලැජ්ජාවට පත්කරනසේකැයි කි

යාත්, මීට ඉස්සරින් පව්කොට තවම
තමන් විසින් කරනලද අපිරිසිදුක
මද අවශ්‍යකමද කාමරාගයද ගැන
පසුතැවිලි නොවූ බොහෝ දෙනා
උදෙසා මම වැලපෙම්දෝ කියාත්,
සැකව භයවෙමි.

13. පරිච්ඡේ. මේ තුන්වෙනි වරට
නුඹලා ලඟට එමි; සාක්කිකාර දෙ
දෙනෙකුගේවත් තුන්දෙනෙකුගේ
වත් කටින් සියළු වචන ස්ථිරකරනු
2. ලැබේ. මම නැවත ආයෙම්නම්,
නුඹලාට අවවූ නොකර නාරිමියි,
පව්කලවුන්ටද අනිකුත් සියල්ලන්
ටද පලමුව කීමි. ඒ හැටියටම මම ඔ
වුන් ඉදිරියෙහි නැතී නුමුත්, දෙවෙ
නි වාරයෙහිද, ඉදිරිපිට සිටින්නාක්
3. මෙන්, කලින් මේක කියමි. මක්
නිසාද, නුඹලා කෙරෙහි දුර්වල
නොව නුඹලා කෙරෙහි බලවත්වූ
ක්‍රිස්තුස්වහන්සේ මා ලවා කථාකර
න බවට, නුඹලා සාක්කි සොයති.
4. උන්වහන්සේ දුර්වලකමින් කුරුසි
යෙහි ඇනගසනු ලැබූ නුමුත්, දෙවි
යන්වහන්සේගේ බලයෙන් ජීවත්
වෙනසේක. එසේම අපිත් උන්වහන්
සේ කෙරෙහි දුර්වලව සිටිමෝනමුත්,
උන්වහන්සේ සමග දෙවියන්වහන්
සේගේ බලයෙන් නුඹලා අතරෙහි
5. ජීවත්වන්නෙමුව. නුඹලා ඇද
හිල්ලේ සිටිද්දෝ කියා, තමන්ම පරී
ක්ෂාකොට විමසාපල්ලාය. නුඹලා
නොපිළිගතයුතුවූ තැනැත්තෝ
නොවෙත්නම්, යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ නුඹලා කෙරෙහි ඇතැයි,
6. නුඹලාම නොදනිද්ද? අපි නොපි
ළිගත යුතුවූ තැනැත්තෝ නොවමු
යයි නුඹලා දනිතියි, විශ්වාස කෙරෙ
7. මි. නුමුත් අපි පිළිගත යුතුවූ තැ
නැත්තෝයයි ප්‍රකාශවෙන පිනිස
නොව, අපි නොපිළිගත යුතුවූ තැ
නැත්තෝ මෙන් ප්‍රකාශවමෝ නමුත්
නුඹලා විසින් කිසි අයහපතක් නො
කොට යුතු දේම කරන පිනිස, දෙවි
8. යන්වහන්සේට යාඥාවෙමි. මක්
නිසාද සැබෑකම උදෙසා මිස, සැබෑ
කමට විරුද්ධව කිසිවක් කරන්ට අපට
9. බැරිය. අපි දුර්වලවද නුඹලා බල
වත්වද සිටිනකල, අපි සතුටුවමුව.
තවද නුඹලා සම්බන්ධවනලෙස අපි
10. යාඥා පවත්වමුව. විනාසය පිනිස
නොව වැඩසිද්ධවීම පිනිස ස්වාමීන්ව
හන්සේ විසින් මට දෙනලද බලය
ලෙස, නුඹලා ඉදිරියේදී තදකම්
නොපවත්වන්ට, ඉදිරිපිට නොසිට
11. මේ කාරනා ලියමි. ඉතින් සහෝ
දරයෙනි, සුවසේ සිටපල්ලාය; එක
ගව සිටපල්ලාය; සැනසී සිටපල්ලා
ය; එක්සිත්ව සිටපල්ලාය; සමගිතා
වෙන් සිටපල්ලාය; එකල ප්‍රේමයේ
සහ සමගිතාවේ දෙවියන්වහන්සේ
12. නුඹලා සමග සිටිනසේක. පිරිසි
දුවූ සිඹීමකින් ඔවුනොවුන්ට ආචාර
13. කරණනිල්ලාය. සියළු සුද්ධවන්ත
14. යෝ නුඹලාට ආචාරකරති. ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
කරුනාවද, දෙවියන්වහන්සේගේ
ප්‍රේමයද, සුද්ධාත්මයානන්වහන්සේ
ගේ පංගුකාරකමද, නුඹලා සියල්
ලන් සමග වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්

# ගලාතිවරුන්ට ලියනලද පත්‍රය.



1. පරිච්ඡේදය. මනුෂ්‍යයන්ගෙන්
වත් මනුෂ්‍යයා කරනකොටගෙන
වත් නොව, යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ සහ උන්වහන්සේ මලවුන්ගෙන්
නැඟිටෙව්ව පියවූ දෙවියන්වහන්සේ
කාරනකොටගෙන, ප්‍රේරිතයෙක්වූ
2 පාවුල්නම් මා විසින්ද, මා ලඟ
සිටින සියළු සහෝදරයන් විසින්ද,
ගලාතියෙහි සභාවලට ලියා එවන
3. වගනම්. පියවූ දෙවියන්වහන්සේ
ගෙන්ද, අපගේ පියවූ දෙවියන්වහන්
4. සේගේ කැමැත්තෙන්, දැන් පව
තින දුෂ්ට ලෝකයාගෙන් අප ගල
වන පිනිස අපේ පව් නිසා තමන්ම
පාවාදුන්නාවූ, අපගේ ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද, නුඹ
ලාට කරුනාවද සමාදානයද වේවා.
5. උන්වහන්සේට සදාකාලයටම
ගෞරව වේවා. ආමෙන්.

6. ක්‍රිස්තුස්වහන්සේගේ කරුනා
වට නුඹලා කැඳවූ තැනැත්තාගෙන්
නුඹලා මෙපමන ඉක්මනින් වෙන්ව,
අන්‍යවූ සුභාරංචියකට ඇතුලත්වූ
7. බවට පුදුමවෙමි. ඒත් වෙන සුභා
රංචියක් නොවේය; නුමුත් නුඹලා
වියවුල්කොට ක්‍රිස්තුස්වහන්සේගේ
සුභාරංචිය පෙරලන්ට කැමතිවූ සම
8. හරෙක් සිටිති. එහෙත් අපිවත්,
ස්වර්ගයෙන් දූතයෙකුවත්, අප විසින්
නුඹලාට ප්‍රකාශකල සුභාරංචිය හැර
වෙන සුභාරංචියක් නුඹලාම ප්‍රකාශ
කරතොත්, ඔහු සාපලද්දෙක් වේවා.
9. යමෙක් නුඹලා පිලිගත් සුභාරංචි
ය හැර වෙන සුභාරංචියක් නුඹලාට
ප්‍රකාශකරතොත්, ඔහු සාපලද්දෙක්
වේවයි, අපි වරක් කී හැටියටම මම
10. නැවතත් කියමි. මම දැන් මනු
ෂ්‍යයන් කැමතිකරවාගනිම්ද, නො
හොත් දෙවියන්වහන්සේ කැමතික
රවාගනිම්ද? මනුෂ්‍යයන් සතුටුක
රන්ට උත්සාහ කරම්ද? ඉදින් මම
තවම මනුෂ්‍යයන් සතුටුකෙරෙව්නම්,
ක්‍රිස්තුස්වහන්සේගේ සේවකයෙක්
11. නොවෙමි. සහෝදරයෙනි, මම
ප්‍රකාශකලාවූ සුභාරංචිය මනුසික
12. නොවේයයි, නුඹලාට දන්වමි. මක්
නිසාද යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
එලිදරව්කිරීමෙන් මම ඒක ලැබුවා
මිස, මනුෂ්‍යයාගෙන් ලැබුවේවත්
13. ඉගනගත්තේවත් නැත. තවද
මම බොහෝසෙයින් දෙවියන්වහන්
සේගේ සභාවට පීඩාකොට, එය
14. විනාශකරමින්, මගේම වර්ගය
අතරෙහි මා තරමේ නොයෙක් දෙ
නාට වඩා යුදෙව්වන්ගේ ආගමෙහි
උගතෙක්ව, මගේ පියවරුන්ගේ
ඉගැන්වීම් ගැන ඉතා ජ්වලිතව, යු
දෙව්වන්ගේ ආගමෙහි පලමු හැසු
රුනු ආකාරය නුඹලා ඇසුවෝය.
15. නුමුත් තමන්වහන්සේගේ පුත්‍රයා
අන්‍යජාතීන් අතරෙහි ප්‍රකාශකරන්
ට මගේ මව්කුස පටන් මා වෙන්
කොට, තමන්වහන්සේගේ කරුණා
වෙන් මා කැඳවූ දෙවියන්වහන්සේ
16. තමන්ගේ පුත්‍රයානන්වහන්සේ
මට එලිදරව්කරනු කැමතිවූ කල්හිම,
මාංසය හා රුධිරය සමග කථානො
17. කොට, මට පලමුවෙන් ප්‍රේරිතව
සිටියවුන් ලඟට යෙරුසලමට නො
ගොස්, අරාබියට පිටත්ව ගොස්,
දෙවනුව දමස්කසට හැරී ආයෙමි.
18. ඉන්පසු තුන්අවුරුද්දක් ගියක
ල, පේත්‍රුස් දකින පිනිස මම යෙරු
සලමට ගොස්, ඔහු ලඟ පහලොස්
19. දවසක් සිටියෙමි. නුමුත් ඔහු
සහ ස්වාමින්වහන්සේගේ සහෝදර

යාවන යාකොබ් හැර, ප්‍රේරිතයන්
ගෙන් වෙන කවුරුවත් නුදුටිමි.
20. මම නුබලාට ලියන මේ කාරණ
වල් බොරු නොවෙන බව දෙවියන්
21. වහන්සේ දන්නාසේක. ඉන්පසු
සිරියාද කිලිකියාද යන රටවලට
22. ආයෙමි. ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි පවතින යුදෙව්වරුන්ගේ සභා
වන් විසින් දක අඳුනනලද්දෙක්
23. නූනෙමි. නුමුත්, ඉස්සර අපට
පීඩාකල තැනැත්තා තමා පලමු
කොට විනාසකලාවූ ආගම දැන් ප්‍රකා
ශකරන්නේයයි යන පමන අසා,
24. මා ගැන දෙවියන්වහන්සේට
සතුතිකලෝය.

2. පරිච්ඡේ. නැවත දාහතර අවු
රුද්දකට පසු, තීතස් මා එක්ක
රගෙන බාර්ණබස් සමග යෙරුස
2. ලමට දෙවනුව ගියෙමි. ඇරත්
දෙවියන්වහන්සේ විසින් එළිදරව්
කල නියෝගයෙන් ගොස්, අන්‍ය
ජාතීන් අතරෙහි ප්‍රකාශකරන සුභා
රචිය ඔවුන්ට දන්වා දුනිමි; නුමුත්
මාගේ දිවූ දිවීමත් දුවන දිවීමත්
නිස්ඵල නොවෙන පිනිස, ප්‍රධාන
තැනැත්තන්ට රහසින් දන්වීමි.
3. නුමුත් මා සමග සිටියාවූ ග්‍රීක
යෙක්වූ තීතස්ටවත් චර්මඡේදනය
ලබන්ට බලාත්කාරකලේ නැත.
4. මෙසේ උනේ, අප දාස බවට පමු
නුවන පිනිස, ක්‍රිස්තුස් යේසුස්වහන්
සේ කරනකොටගෙන අපට ඇත්
තාවූ නිදහස්කම පරීක්ෂාකරන්ට,
අප්‍රසිද්ධ ලෙස හොරෙන් ඇතුලත්
වූනු බොරු සහෝදරයන් නිසාය.
5. සුභාරචියෙහි සැබෑකම නුබලා
අතරේ පවතින පිනිස, අපි පැයකට
වත් යටත්වීමෙන් ඔවුන්ට අවකාස
6. නුදුනිමුව. ප්‍රධාන තැනැත්තෝ
යයි පෙනෙන්නන් කොහොම අය
වල් නුමුත්, මට කම් නැත්තේය.
දෙවියන්වහන්සේ කවරෙකුගේවත්
තරාතිරම් නොබලනසේක. ප්‍රධාන
තැනැත්තන් වැනිවූ ඔවුන් මා සමග
කලාවූ කථාවලදී කිසිවක් මට නුදු
7. න්නා, චර්මඡේදනයෙහි සුභාරචිය
පේත්‍රුස්ට පාවා දෙනලද ලෙස අචර්
මඡේදනයෙහි සුභාරචිය මට පාවා
8. දෙන ලද්දේයයි දුටුවෝය. මක්
නිසාද, චර්මඡේදනයෙහි ප්‍රේරිතකම
ට පේත්‍රුස් තුලෙහි බලවත් ලෙස
ක්‍රියාකලාවූ උන්වහන්සේම අන්‍ය
ජාතීන්ගේ ප්‍රේරිතකමට මා තුලෙහි
9. බලවත් ලෙස ක්‍රියාකලසේක. එ
විට කනු මෙන් සිටියාවූ යාකොබ්ද
කේඵස්ද යොහන්ද මට දෙනලද
කරුණාව දැන, මටද බාර්ණබස්ටද
පංගුකාරකමේ දකුනත දුන්නෝය.
එසේ කලේ, අපි අන්‍ය ජාතීන් ලඟ
ටද ඔවුන් චර්මඡේදනයන් ලඟටද
10. යන පිනිසය. නුමුත් දිළිඳුන් සිහි
කරන්ට අපට කීවෝය; ඒක කරන්
ට මම ඉතා කැමතිවූයෙමි.

11. තවද පේත්‍රුස් අන්තියෝකි
යට ආකල, ඔහුට දොස් නැගිය යුතු
බැවින්, ඔහු ඉදිරිපිට ඔහුට විරුද්ධව
12. සිටියෙමි. මක්නිසාද යාකොබ්
ලඟින් සමහරු එන්ට පලමුවෙන්,
ඔහු අන්‍යජාතීන් සමග කෑයේය.
නුමුත් ඔවුන් ආකල, චර්මඡේදනවූ
වන්ට භයව අහක්ව ගොස්, වෙන්ව
13. සිටියේය. අනිත් යුදෙව්වරුද
ඔහු සේම වංචාකම් කලෝය; තවද
බාර්ණබස් පවා වංචාකම් කිරීමට
14. අදිනු ලැබුයේය. ඔවුන් සුභාරචි
යෙහි සැබෑකමට යුතුවූ ඇදනැති
කමින් නොහැසුරුනු බව මම දැක,
සියල්ලන් ඉදිරියේදී පේත්‍රුස්ට කථා
කරමින්, "නුබ යුදෙව්වෙක්ව සිට
යුදෙව්වන්ලෙස නොව අන්‍යජාතීන්
ලෙස හැසිරෙතොත්, අන්‍යජාතීන්
යුදෙව්වන් මෙන් හසුරුවනෙත් මක්
15. නිසාදැයි" කීමි. තවද අන්‍යජා
තීන් කෙරෙන් පව්කාරයෝ නොවූ.
16. ස්වභාවෙන් යුදෙව්වරුවූ අපි,යේ

සුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි ඇත්
තාවූ ඇදහිල්ලෙන් මිස ව්‍යවස්ථාවේ
ක්‍රියාවලින් මනුෂ්‍යයෙක් ධර්මිෂ්ට
කොට ගනන්ගනු නොලබන්නේ
යයි දැන, ව්‍යවස්ථාවේ ක්‍රියාවලින්
නොව ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
ඇත්තාවූ ඇදහිල්ලෙන් ධර්මිෂ්ට
කොට ගනන්ගනු ලබන පිනිස,
අපිත් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
කෙරෙහි අදහගනිමුව. මක්නිසාද
ව්‍යවස්ථාවේ ක්‍රියාවලින් කවර මනු
ෂ්‍යයෙක්වත් ධර්මිෂ්ටකොට ගනන්
17. ගනු ලබන්නේ නැත. තවද,
ක්‍රිස්තුස්වහන්සේ කරනකොටගෙන
ධර්මිෂ්ටකොට ගනන්ගනු ලබන්ට
සොයන්නාවූ අපිම පව්කාරයෝව
පෙනෙමුනම්, එසින් ක්‍රිස්තුස්වහන්
සේ පාපයෙහි සේවකයෙක් වන
18. සේක්ද? එසේ නොවේවා. නු
මුත් මා විසින් විනාසකලාවූ දේ නැ
වත පිහිටුවන්නෙම්නම්, මම මා වර
19. දකාරයෙක් කරගනිමි. ඇරත්
මම දෙවියන්වහන්සේ කෙරෙහි ජී
වත්වෙන පිනිස, ව්‍යවස්ථාව කරන
කොටගෙන ව්‍යවස්ථාවට මලෙමි.
20. මම ක්‍රිස්තුස්වහන්සේ සමග කුරු
සියෙහි ඇනගසනු ලැබීම්; නුමුත්
ජීවත්වෙමි. එසේ නුමුත් මම නො
වෙමිය, ක්‍රිස්තුස්වහන්සේ මා කෙරෙහි
ජීවත්වෙනසේක. තවද ශරීරයෙහි
මට දැන් ඇති ජීවත්වීම, මට ප්‍රේම
කලාවූ, මා උදෙසා තමන්ම පාවා
දුන්නාවූ, දෙවියන්වහන්සේගේ පුත්‍ර
යානන්වහන්සේ කෙරෙහි පවති
න ඇදහිල්ලෙන්, මට ඇත්තේය.
21. දෙවියන්වහන්සේගේ කරුනාව
ගිස්නොකරමි; ව්‍යවස්ථාවෙන් ධර්මි
ෂ්ටකම පැමිනේනම්, ක්‍රිස්තුස්වහන්
සේගේ මරනය ගිස්වේ.

3. පරිච්ඡේ. අඥානවූ ගලාතිවරු
නි, කුරුසියෙහි ඇනගසනලද යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ නුබලා ඉදිරි
යෙහි පැහැදිලි ලෙස ප්‍රකාශවූන
නුමුත්, නුබලා සැබෑවට කීකරුනො
වෙන ලෙස නුබලා මුලාකෙරෙව්වේ
2. කවුද? නුබලාගෙන් එක් කාරණ
යක් පමනක් දැනගන්ට කැමැත්
තෙමි; නුබලා කුමකින් ආත්මයා
නන්වහන්සේ ලැබුවෝද? ව්‍යවස්ථා
වෙහි ක්‍රියාවලින්ද, නොහොත් ඇද
3. හිල්ලේ ඇසීමෙනුද? නුබලා එබඳු
අඥානයෝ වෙද්ද? ආත්මයෙහි ප
ටන්ගත් නුබලා දැන් මාංසයෙහි
4. සම්පූර්ණවෙද්ද? නිස්ඵල ලෙස
නම්, මෙපමන දේ නුබලා නිස්ඵල
5. ලෙස ඉවසුවෝද? එසේනම්, ආත්
මයානන්වහන්සේ නුබලාට දෙන්
නාවූ, නුබලා අතරෙහි ආශ්චර්යයන්
කරන්නාවූ තැනැත්තා ඒ දේ කරන්
නේ, ව්‍යවස්ථාව පැවැත්වීමෙන්ද,
නොහොත් ඇදහිල්ලේ ඇසීමෙනුද?
6. මෙසේ, "ආබ්‍රහම් දෙවියන්වහන්
සේ අදහගත්තේය; ඒක ඔහුට ධර්මි
ෂ්ටකමකොට ගනන්ගන්නාලද්දේ
7. ය." එහෙයින් ඇදහිලිවන්තයෝ
ආබ්‍රහම්ගේ පුත්‍රයෝයයි දැනගනිල්
8. ලාය. තවද දෙවියන්වහන්සේ
ඇදහිල්ලෙන් අන්‍යජාතීන් ධර්මිෂ්ට
කොට ගනන් ගන්නාසේකැයි ලිය
විල්ල පලමුවෙන් දැක, "තා කෙරෙ
හි සියළු ජාතීහු ආශිර්වාද ලබන්නෝ
යයි" සුභාරංචිය පලමුකොට ආබ්‍ර
9. හම්ට ප්‍රකාශකෙලේය. එබැවින්
ඇදහිලිවන්තයෝ ඇදහිලිවන්තවූ
10. ආබ්‍රහම් සමග ආශිර්වාද ලබති. ඇ
රත්, "ව්‍යවස්ථා පොතෙහි ලියනලද්
දැවූ සියළු කාරනාවල් කරන්ට එහි
නොපිහිටන්නාවූ සියල්ලෝ සාප
ලද්දෝයයි" ලියාතිබෙන නිසා, යම්
පමන දෙන ව්‍යවස්ථාවේ ක්‍රියාවල
පිහිටා සිටිද්ද, එපමන දෙන සාපයට
11. යටත්ව සිටිති. තවද ව්‍යවස්ථා
වෙන කවුරුවත් දෙවියන්වහන්සේ
ඉදිරිපිට ධර්මිෂ්ටකොට ගනන්ගනු
නොලබන බව, පැහැදිලි ලෙස

පෙනෙන්නේය. මක්නිසාද, "ඇද
හිල්ලෙන් ධර්මිෂ්ඨයා ජීවත්වන්නේ
12. ය." ව්‍යවස්ථාව ඇදහිල්ලෙන්
නොවේය; නුමුත් "ඒ දේ කරන
මිනුෂ්‍යයා එයින් ජීවත්වන්නේය."
13. "ගහේ එල්වනලද සියල්ලෝ
සාපලත්තෝයයි" ලියා තිබෙන
බැවින්, ක්‍රිස්තුස්වහන්සේ අප වෙනු
වට සාප ලැබ, ව්‍යවස්ථාවෙහි සාප
14. යෙන් අප මිදුවේක; යේසුස්
ක්‍රිස්තුස්වහන්සේ කරනකොටගෙන
ආබ්‍රහම්ගේ ආශීර්වාදය අන්‍යජාතීන්ට
පැමිණෙන පිනිසත්, ඇදහිල්ලෙන්
අපි සුධාත්ම පොරොන්දුව ලබාගන්
නා පිනිසත්ය.

15. සහෝදරයෙනි, මනුෂ්‍ය ව්‍යව
හාරයෙන් කථාකරමි. මනුෂ්‍යයෙකු
ගේ ගිවිසුමක් නුමුත් ඒක ස්ථිරකරනු
ලැබූයේනම්, කවුරුවත් ඒක අවලං
ගුකරන්නේ නැත; ඒකට කිසිවක්
16. යොදන්නේ නැත. ආබ්‍රහම්ටද
ඔහුගෙන් පැවත එන්නාටද පො
රොන්දුව දෙනලද්දේය. "පැවත
එන්නන්ටයයි" බොහෝ දෙනා
ගැන උන්වහන්සේ නොකියා, "පැ
වත එන්නාටයයි" කියමින්, එක්
කෙනෙක් ගැන කීසේක; ඒ ක්‍රිස්
17. තුස්වහන්සේමය. තවද දෙවි
යන්වහන්සේ විසින් ක්‍රිස්තුස්වහන්
සේ ගැන පලමු කරනලද යම් ගිවි
සුමක් ස්ථිරකරනලද්දේද; එහි පො
රොන්දුව නිෂ්ඵලවෙන ලෙස ඒ ගිවි
සුම අවලංගුකරන්ට, හාරසිය තිස්
අවුරුද්දකට පසු කරනලද ව්‍යවස්ථා
18. වට නුපුළුවනැයි කියමි. ඇරත්
උරුමය ව්‍යවස්ථාවෙන් වේනම්, පො
රොන්දුවෙන් නොවේය. නුමුත් දෙ
වියන්වහන්සේ පොරොන්දුවෙන්
19. ආබ්‍රහම්ට ඒක දුන්සේක. එසේ
වීනම් ව්‍යවස්ථාව කුමටද? පොරොන්
දුවේ හිමියාවූ ඒ පැවතඑන්නා පැමි
ණෙනතුරු, අපරාධයන් නිසා ඒක
වැඩිකොට දෙනලදුව, දේවදූතයන්
ලවා මැදහත්කාරයෙකුගේ අතින්
20. පිහිටුවනලද්දේය. තවද මැද
හත් තැනැත්තා එක්කෙනෙකුගේ
නොවේය; නුමුත් දෙවියන්වහන්සේ
21. එක්කෙනෙක්මය. එසේනම් ව්‍ය
වස්ථාව දෙවියන්වහන්සේගේ පො
රොන්දුවලට විරුඬවද? එසේ නො
වේවා. ජීවන දෙන්ට පුළුවන්වූ ව්‍ය
වස්ථාවක් දෙනලද්දේනම්, ධර්මිෂ්ඨ
කම ඒකාන්තයෙන් ව්‍යවස්ථාවෙන්
22. වන්නේය. යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ කෙරෙහි පවතින්නාවූ ඇද
හිල්ලෙන් අදහනනාවුන්ට පොරොන්
දුව දෙනුලබන පිනිස, සුබලියවිල්ල
සියල්ලන් පාපයට යටත්කොට බැන්
23. දේය. නුමුත් ඇදහිල්ල පැමි
ණෙන්ට පලමුවෙන්, අපි එළිදරව්
වෙන්ට තිබෙන ඇදහිල්ල පැමි
ණෙනතුරු, ව්‍යවස්ථාවට යටත්ව හිර
24. කරනුලදුව සිටියෙමුව. එසේ
හින් අපි ඇදහිල්ලෙන් ධර්මිෂ්ඨකො
ට ගනන්ගනු ලබන පිනිස, ව්‍යවස්ථා
ව අප ක්‍රිස්තුස්වහන්සේ ලඟට ගෙ
25. නායන්නෙක් වූයේය. නුමුත්
ඇදහිල්ල පැමිනිකල්හි, එතැන් ප
ටන් ගෙනායන්නා යටතේ නොසිටි
26. මුව. ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
කෙරෙහි ඇදහිල්ලෙන් නුබලා සිය
ල්ලෝ දෙවියන්වහන්සේගේ පුත්‍රයෝ
27. වෙති. එපමනකුත්නොව, නුබ
ලාගෙන් ක්‍රිස්තුස්වහන්සේ තුලෙහි
බව්තිස්ම ලැබූවාවූ එපමන දෙන
ක්‍රිස්තුස්වහන්සේ පැලඳගත්තෝය.
28. නුබලා සියල්ලෝ ක්‍රිස්තුස් යේ
සුස්වහන්සේ තුලෙහි එක්කෙනෙ
කු සිටින නිසා, යුදෙව්වෙක්වත්
ග්‍රීකයෙක්මින් නැත්තේය, දාසයෙ
කුත් නිදහසයෙක්වත් නැත්තේය,
පුරුෂයෙක්වත් ස්ත්‍රීයෙක්වත් නැත්
29. තේය. නුබලා ක්‍රිස්තුස්වහන්සේ
ගේ තැනැත්තෝනම්, නුබලා ආබ්‍ර
හම්ගේ වංශයද, පොරොන්දුවේ හැටි
යට උරුමක්කාරයෝද වෙති.

4. පරිච්ඡේ. උරුමක්කාරයා සිය
ල්ලට ස්වාමියා නුමුත්, ඔහු බාලව
සිටිනතුරු වැඩකාරයෙකුට කිසි වෙ
2. නසක් නැතුව, පියා විසින් නියම
කල කාලය දක්වා ඔහු ගුරුවරයන්
ගේද ප්‍රවේසම්කාරයන්ගේද යටතේ
3. සිටින්නේයයි මම කියමි. එසේම
අපිත් බාලව සිටිකල ලෞකිකවූ
ඉගැන්වීමවලට යටත්ව, දාසයෝව
4. සිටියෙමුව. නුමුත් අපි ඇතිකිරී
මේ පුත්‍රකම ලබන පිනිසද, ව්‍යවස්ථා
වට යටත්ව සිටියවුන්ගේ මිදීම පිනි
5. සද, දෙවියන්වහන්සේ සම්පූර්ණ
කාලය පැමිනිකල්හි, ස්ත්‍රියෙකුගෙන්
උපන්නාවූ, ව්‍යවස්ථාවට යටත්වූ, ත
මන් පුත්‍රයානන්වහන්සේ එවූසේක.
6. තවද නුබලා පුත්‍රයෝ බැවින්,
පියානනි පියානනි කියා හඬගසන්
නාවූ, තමන් පුත්‍රයානන්වහන්සේගේ
ආත්මය නුබලාගේ හෘදවලට එවූ
7. සේක. එබැවින් නුබ මතු දාස
යෙක් නොව, පුත්‍රයෙක් වේ; ඉදින්
පුත්‍රයෙක්නම්, ක්‍රිස්තුස්වහන්සේ ක
රනකොටගෙන දෙවියන්වහන්සේ
8. ගේ උරුමක්කාරයෙක් වේ. එසේ
වී නුමුත් නුබලා ඒ කාලයේදී දෙවි
යන්වහන්සේ නැඳින, ස්වභාවෙන්
දෙවිනොවෙන්නාවූන්ට දාසයෝව
9. සිටියෝය. දැන් නුබලා දෙවියන්
වහන්සේ හැඳින, නොහොත් දෙවි
යන්වහන්සේ විසින් හඳුනනු ලදුව,
දුර්වලවූ නිස්ප්‍රයෝජනවූ ඉගැන්වීම්ව
ලට නැවත දාසවෙන්ට කැමතිව,
ඒවාට මක්නිසා දෙවනු හැරෙන්
10. නෝද? නුබලා දවස්ද, මාසද,
11. කාලවල්ද, අවුරුදුද සලකති. නු
බලා අතරෙහි කලාවූ මාගේ වෑයම
නිස්ඵලවේදෝ කියා, භය ඇත්තෙ
12. මි. සහෝදරයෙනි, මම නුබලා
මෙන් සිටිනහෙයින්, නුබලාත් මා
ලෙසම සිටින හැටියට ඉල්ලමි. නුබ
ලා මට කිසිම අයුත්තක් කෙලේ
13. නැත. ශරීරයේ දුර්වලකමෙන්
සිට මම පලමුකොට නුබලාට සුභා
රංචිය ප්‍රකාශකල හැටි නුබලා දනිති.
14. මගේ ශරීරික පරීක්ෂාවේදී නුබ
ලා මට නින්දා නොකොට, මා අත්
නැර, දෙවියන්වහන්සේගේ දූතයෙ
කුමෙන්ද, ක්‍රිස්තුස් ජේසුස්වහන්සේ
15. මෙන්ද, මා පිලිගත්තෝය. එ
සේනම් නුබලා විසින් කියනලද නුබ
ලාගේ වාසනාව කොයිද? නුබලාට
පුළුවන්නම්, නුබලාගේ ඇස් උගුලා
මට දෙන්ට කැමතිවූවෝයයි, නුබලා
16. ගැන සාක්ෂි දෙමි. මම නුබලාට
සැබෑව කියන බැවින්, නුබලාට සතු
17. රෙක් වෙම්ද? ඔවුන් නුබලා
කෙරෙහි ජ්වලිතවෙති; නුමුත් යුතු
ලෙස නොවේය. නුබලා ඔවුන් කෙ
රෙහි ජ්වලිතවෙන පිනිස, අප අහක්
18. කරන්ට කැමතිවෙති. එහෙත්
මම නුබලා ලඟ සිටිනකල පමනක්
නොව, නිතරම යහපත් දෙයෙක්හි
19. ජ්වලිතවීම යුතුය. මගේ ලදරු
වෙනි, ක්‍රිස්තුස්වහන්සේ නුබලා තු
ලෙහි පිහිටනතුරු, නුබලා නිසා නැ
20. වත වදන වේදනා විඳිමි. මම
නුබලා ගැන සැකව සිටිනහෙයින්,
දැන් නුබලා ලඟ සිටින්ටද, වෙන
ආකාරයකින් කථාකරන්ටද කැමති
වෙමි.

21. ව්‍යවස්ථාවට යටත්ව සිටින්ට
කැමතිවූ නුබලා ව්‍යවස්ථාව අහන්
නේ නැද්දැයි, මට කියාපල්ලාය.
22. ආබ්‍රහම්ට පුත්‍රයෝ දෙදෙනෙක්
සිටියෝය; දාසියගෙන් එකෙක;
23. නිදීසියගෙන් එකෙක. නුමුත්
දාසියගෙන් උපන් තැනැත්තේ මාං
සිකලෙසද, නිදීසියගෙන් උපන්
තැනැත්තේ පොරොන්දුව ලෙසද
උපන්නේයයි, ලියා තිබෙන්නේය.
24. මේ දේ උපමාවක; මේ ස්ත්‍රීහු
නම් ගිවිසුම් දෙකය; සීනා පර්වත
යෙන් දුන් ගිවිසුම දාස බව උපද
25. වන්නේය, ඒ හාගර්නම් වේ. ඒ
හාගර්නම් අරාබියෙහි සීනා පර්වත

යය; ඒ දූන් පවතින්නාවූ, තමන්
දූතුයන් සමඟ දාසකමෙහි සිටින්නා
26. වූ යෙරුසලමට උපමා වේ. නු
මුත් අප සියල්ලන්ගේ මව්වූ, ඉහළ
තිබෙන්නාවූ යෙරුසලම නිදහස්ය.
27. මක්නිසාද, "සස්වාමික තැනැත්
තියටවඩා අස්වාමික තැනැත්තියට ද
රුවන්වැඩිවෙනනිසා, නොවදන වඳ
ස්ත්‍රිය සතුටුවෙව; වදනවේදනා නො
විඳින්නාවූ තී ප්‍රීති වචනයෙන් ශබ්ද
28. පවත්වයි" ලියා තිබෙනේය. ස
හෝදරයෙනි, ඊසාක්මෙන් අපි පො
29. රොන්දුවෙහි දරුවෝය. නුමුත් මාං
සිකලෙස උපන්තැනැත්තේ එකල්හි
ආත්මිකලෙස උපන් තැනැත්තාට
පීඩාකලාසේම, දැනුත් වන්නේය.
30. ඒ නුමුත් ලියවිල්ල මක්කියන්
නේද? "දාසියගේ පුතා නිදහසියගේ
පුතා සමඟ උරුමක්කාර නොවන
හෙයින්, දාසියද ඇගේ පුතාද අහක්
31. කරපන්නැයි" කියන්නේය. එ
හෙයින් සහෝදරයෙනි, අපි දාසිය
ගේ පුත්‍රයෝ නොවෙමුව, නිදහසිය
ගේ පුත්‍රයෝ වෙමුව.

5. පරිච්ඡ. එහෙයින් ක්‍රිස්තුස්ව
හන්සේ අප නිදහස්කල නිදහසක
මෙහි පිහිටා සිට, දාසකිරීමේ වියග
2. ගේ දෙවනු නොබැඳෙල්ලාය. නු
බලා චර්මඡේදනයෝ වෙත්නම්, ක්‍රිස්
තුස්වහන්සේගෙන් නුබලාට කිසි
ප්‍රයෝජනයක් නැති බව, පාවුල්
3. නම් මම නුබලාට කියමි. චර්මඡේ
දිවූ සෑම මනුෂ්‍යයෝ මුළු ව්‍යවස්ථාව
පැවැත්වීමට බැඳී සිටිතිය, නැවත
4. සාක්ෂි දෙමි. නුබලා අතරෙන්
ව්‍යවස්ථාවෙන් ධර්මිෂ්ඨවෙන්නාවූ ක
වරෙක් නුමුත්, ක්‍රිස්තුස්වහන්සේ
ගෙන් වෙන්ව කරුනාවෙන් අහක්
5. වූනේය. අපි, ආත්මයානන්වහන්
සේ කරනකොටගෙන, ඇදහිල්
ලෙන් ධර්මිෂ්ඨකම ලැබෙන ලෙස
6. බලාපොරොත්තුව සිටිමුව. මක්
නිසාද, ප්‍රේමයෙන් යුක්තවූ ක්‍රියාක
රන්නාවූ ඇදහිල්ලෙන් මිස, චර්ම
ඡේදනයෙන්වත් අචර්මඡේදනයෙන්වත්
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
7. ප්‍රයෝජන නැත. නුබලා හොඳ
ලෙස දිව්වෝය; නුබලා සැබෑකමට
කීකරුනොවෙන්ට, නුබලා වැලැක්
8. කුවේ කව්ද? මේ කල්පනාව නු
බලා කැඳවාගත් තැනැත්තාගෙන්
9. නොවේය. මුහුන් ස්වල්පයෙන්
10. මුළු පිටි පිඩ පිපී එන්නේය. නුබ
ලා වෙන සිතකින් යුක්තව නොසිටි
තියි, ස්වාමින්වහන්සේ කරනකොට
ගෙන මම නුබලා ගැන විස්වාසකෙ
රෙමි. එහෙත් නුබලා වියවුල්කරන
කවරෙක් නුමුත්, අවවුව විඳින්නේ
11. ය. සහෝදරයෙනි, මම චර්මඡේ
දනය තවම ප්‍රකාශ කෙරෙම්නම්,
මක්නිසා දුක්විඳිම්ද? එසේවිනම්
කුරුසියෙහි බාධාව නැතිව තිබෙයි.
12. නුබලා වියවුල් කරන්නෝ නුබ
ලාගෙන් සිඳදමනු ලබත්නම්, යහ
13. පත. සහෝදරයෙනි, නුබලා නි
දහස්කමට කැඳවනු ලැබුවෝය;
නුමුත් මාංසයේ තෘෂ්ණාවලට අවකා
ස ලැබෙන ලෙස මේ නිදහස්කම ව්‍යැ
වහාර නොකොට, ප්‍රේමයෙන් ඔවු
14. නොවුන්ට වැඩකරපල්ලාය. මක්
නිසාද, "තාගේ අසල්වාසියාට තට
මෙන් ප්‍රේමකාරවයි" යන එක ආඥා
වෙන්ම මුළු ව්‍යවස්ථාව සම්පූර්ණ
15. වන්නය. නුමුත් නුබලා ඔවුනො
වුන් විකා කතොත්, නුබලා ඔවු
නොවුන්ගෙන් විනාසයට පැමිණෙ
නවා ඇත; ඒ ගැන බලාගනිල්ලාය.

16. එහෙයින් ආත්මයෙහි හැසිරි
යල්ලාය; එවිට මාංසයේ ආසාව
17. නොපවතියයි, කියමි. මක්නිසා
ද මාංසය ආත්මයට එදිරිවත්, ආත්
මය මාංසයට එදිරිවත්, ආසා කරන්
නේය, කැමති දේ නුබලා විසින්
නොකරනලෙස, මොවුන් ඔවුනො
18. වුන්ට එදිරිවෙති. නුමුත් නුබලා

ආත්මයෙන් ගෙනයනු ලබත්නම්,
19. ව්‍යවස්ථාවට යටත්නොවෙති. මාං
සයෙහි ක්‍රියාවල් ප්‍රකාශවේ; එනම්,
පරදාරකමය, වෛශ්‍යාකමය, අපිරිසි
20. දුකමය, කාමතෘෂ්ණාවය, දේව
තාවුන්ට පිදීමය, යන්ත්‍ර මන්ත්‍ර කිරී
මය, සතුරුකමය, විරුඬකමය, අති
මාන්නය, ක්‍රෝධය, විවාදය, භේදය,
21. වර්ග්ගභේදය, ඊර්ෂ්‍යාවය, මිනීමැරී
මය, බීමත්කමය, නපුරු සෙල්ලම්
කිරීමය, යනාදීවූ ක්‍රියාවල්ය. මෙබඳු
දේ කරන්නෝ දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යයේ උරුම නොලබන්නෝ
යයි, මම ඉස්සර නුඹලාට කී ලෙසම
22. දැනුත් කියමි. නුමුත් ආත්මයා
ගේ ඵලනම්, ප්‍රේමය, සන්තෝෂය,
සමාදානය, බොහෝ කල් ඉවසීමය,
මෘදුකමය, යහපත්කමය, විශ්වාසක
23. මය, සංසුංබවය, පමන දැනීමය;
මෙබඳු දේට එදිරිව අනාඥාවක්
24. නැත. තවද ක්‍රිස්තුස්වහන්සේ
ගේ තැනැත්තෝ තෘෂ්ණාවන් හා
ආසාවන් සහිතවූ මාංසය කුරුසියෙහි
25. ඇනගැසුවෝය. අපි ආත්මයෙහි
ජීවත්වෙමුනම්, ආත්මයෙහිද හැසි
26. රෙමුව. ඔවුනොවුන්ට කෝප
උපදවමින්, ඔවුනොවුන්ට ඊර්ෂ්‍යා කර
මින්, නිෂ්ඵලවූ ගරුකම් කීමට කැම
ති නොවමුව.

6. පරිච්ඡේ. සහෝදරයෙනි, මනු
ෂ්‍යයෙක් කිසි වරදකට අසුවූනොත්,
නුඹලා ගුණවන්තවූ ආත්මයෙන්
යුක්තව ඔහු හරවාගනිල්ලාය. නුඹ
පරීක්ෂාවට නොපැමිණෙන පිණිස,
2. තමාම බලාගනින්න. ඔවුනො
වුන්ගේ බර උසුලාපල්ලාය; එසේ
කිරීමෙන් ක්‍රිස්තුස්වහන්සේගේ ව්‍යව
3. ස්ථාව සම්පූර්ණකරපල්ලාය. උ
තුම්කමක් නැත්තාවූ කෙනෙක්
තමන් උත්තමයාය කියා සිතන්නේ
නම්, ඔහු තමාම රවටාගන්නේය.
4. නුමුත් එක එකා තම තමාගේ
ක්‍රියාව පරීක්ෂා කෙරේවා; එවිට ඔහු
අනිකකු කෙරෙහි නොව, තමන්
5. කෙරෙහිම ප්‍රීතියට පැමිණේ. මක්
නිසාද එක එකා තම තමාගේම බර
6. උසුලන්නේය. වචනය ඉගෙනගන්
නා උගන්වන්නාට සියළු සම්පතෙන්
7. දේවා. මුලානොවෙල්ලාය; දෙවි
යන්වහන්සේ සුළුකරන්ට කිසිවෙ
කුට ඉඩ නොදෙනසේක; මනුෂ්‍ය
යෙක් වපුල දෙයක්ම කපන්නේය.
8. ඒ හැවියට, තමාගේ මාංසයෙහි
වපුරන තැනැත්තේ මාංසයෙන්
කුණුවීම කපාගන්නේය; ආත්මයෙහි
වපුරන තැනැත්තේ ආත්මයෙන්
සදාකාල ජීවනය කපාගන්නේය.
9. තවද යහපත්කම් කිරීමට කලාන්
ත නොවෙමුව; මක්නිසාද අපි
කලාන්ත නොවෙමුනම්, සුදුසු කාල
10. යෙහි කපාගනිමුව. එසේහෙ
යින් අපට ප්‍රස්ථා ඇතිකල්හි, ඇදහි
ලිවන්ත පවුල ප්‍රධානකොට සියල්
ලන්ටම යහපත්කම් කරමුව.

11. මා අතින් කොපමන මහත්
ලිවුමක් නුඹලාට ලිව්වීද කියා බලා
12. පල්ලාය. මාංසයෙහි සෝභමා
නව පෙනෙන්ට කැමති සියල්ලෝ
ක්‍රිස්තුස්වහන්සේගේ කුරුසිය නිසා
පීඩා නොලබන්ට පමනක්, චර්ම්ම
ඡේදනය ලබන පිණිස නුඹලාට බ
13. ලාත්කාර කෙරෙති. චර්ම්මඡේදිවූ
ඔවුන්ම ව්‍යවස්ථාව රක්ෂා නොකෙ
රෙති; නුමුත් නුඹලාගේ මාංසය ගැ
න ඔවුන් පාරට්ටුකරන පිණිස, නුඹ
ලා චර්ම්මඡේදීන් කරවාගන්ට කැමති
14. වෙති. එහෙත් අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ කුරු
සිය ගැන මිස, වෙන කිසි දෙයක්
ගැන පාරට්ටුකරන්ට මට නොවේ
වා. එයින් ලෝකය මා කෙරෙහිද,
මම ලෝකය කෙරෙහිද, කුරුසියේ
15. ඇනගසනලද්දේය. මක්නිසාද
අළුත් මැවිල්ලෙන් මිස, චර්ම්මඡේද
යෙන්වත් අචර්ම්මඡේදයෙන්වත් ක්‍රිස්

තුස්වහන්සේ කෙරෙහි කිසි ප්‍රයෝ
16. ජනයක් නැත. තවද මේ ක්‍රමය
ලෙස හැසිරෙන්නවුන්ටද, දෙවියන්
වහන්සේගේ ඊශ්‍රායෙල්ටද, සමාදාන
17. යත් දයාවත් වේවා. මෙසින්
මතු කිසිවෙක් මා කනගාටු නො
කෙරේවා; මක්නිසාද ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගේ ලකුණු
18. මාගේ ශරීරයෙහි දරමි. සහෝද
රයෙනි, අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගේ කරුණාව තුබලා
ගේ ආත්මය සමග වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්
# එපිසවරුන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. දෙවියන්වහන්සේ
ගේ කැමැත්තෙන් යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ ප්‍රේරිතයෙක්වූ පාවුල්
නම් මම, එපිසයෙහි සිටින පිරිසිදුවූ
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි අදහන්
2. නාවූ තුබලාට, අපගේ පියවූ දෙ
වියන්වහන්සේගෙන්ද, ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද, කරු
ණාවත් සමාදානයත් වෙන ලෙස,
3. ලියා එවන වගනම්. ක්‍රිස්තුස්ව
හන්සේ කරනකොටගෙන ස්වර්ගීය
කාරණා ගැන සියළු ආත්මික ආශිර්වා
දවලින් අපට ආශිර්වාද කලාවූ, අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ පියවූ දෙවියන්වහන්සේට
4. ස්තුතිවේවා. මක්නිසාද, අපි තම
න්වහන්සේගේ ඉදිරිපිට ප්‍රේමයෙන්
පිරිසිදුව නිදොස්ව සිටින පිනිස,
ලෝකය මැවීමට පලමුවෙන් ක්‍රිස්
තුස්වහන්සේ කරණකොටගෙන
උන්වහන්සේ අප තෝරාගත්සේක.
5. තවද ප්‍රේමවන්ත තැනැත්වහන්
සේ කරණකොටගෙන අපට කරුණා
කලාවූ, තමන්ගේ තේජවන්තවූ
කරුණාවට ප්‍රසංසාවෙන පිනිස,
6. තමන්ගේ යහපත් අභිප්‍රාවේ හැ
ටියට යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කර
ණකොටගෙන තමන්වහන්සේ වි
සින් ඇතිකල පුත්‍ර බවට, පලමු
7. වෙන් අප නියමකලසේක. සියළු
ඥානයෙන්ද නුවනින්ද අප කෙරේ
වැඩිකලාවූ උන්වහන්සේගේ කරු
ණාව නැමති වස්තුවේ ප්‍රකාරයට,
8. ඒ ප්‍රේමවන්තවූ තැනැත්වහන්
සේගේ ලෙයින් පව් සමාවීම යන
මිදීම උන්වහන්සේ කරණකොට
9. ගෙන අපට ඇත. තවද සම්පූ
ර්ණ කාලවල පවතින නියමයේ
හැටියට, ස්වර්ගයෙහිත් භූමියෙහිත්
ඇත්තාවූ සියල්ල ක්‍රිස්තුස්වහන්සේ
10. වෙත එකට රැස්කරන්ට, තමන්
වහන්සේම නියමකල යහපත් කැ
මැත්තේ හැටියට, තමන්ගේ අභිප්‍රා
11. වේ රහස අපට දැන්වූසේක. ක්‍රිස්
තුස්වහන්සේ කෙරෙහි පලමුකොට
විස්වාසකලාවූ අපි උන්වහන්සේගේ
ගෞරවයේ ප්‍රසංසාව වෙන පිනිස,
12. තමන්ගේ කැමැත්තේ මන්ත්‍ර
නය ලෙස සියල්ල සිදුකරන්නාවූ
තැනැන්වහන්සේගේ නියමයෙන්
අපි ඉස්සර සිට නියමකරනලදුව, ඒ
ක්‍රිස්තුස්වහන්සේගෙන් උරුමයක්
13. ලැබ්මුව. තුබලාගේ ගැලවීමේ
සුභාරංචියනම්වූ සැබෑකමෙහි වචන
තුබලාත් අසා, උන්වහන්සේ කෙරෙ
14. හි ඇදහූවෝය. තවද අදහා,
උන්වහන්සේගේ ගෞරවයේ ප්‍රසං
සාව පිනිස, සපයාගත් වස්තුව වැ
නිවූ අපේ උරුමයෙහි අත්තිකාරම
ගලවාගන්නාකල්, පොරොන්දුවේ

ශුද්ධාත්මයෙන් නුඹලා උන්වහන්සේ
කෙරෙහි මුද්‍රකරනු ලැබුවෝය.
15. එබැවින් මමද ස්වාමිවූ යේසුස්
වහන්සේ කෙරෙහි ඇති නුඹලාගේ
ඇදහිල්ලත්, සියළු පිරිසිදුවූවන්ට
ඇති නුඹලාගේ ප්‍රේමයත් අසා,
16. මාගේ යාඥාවලදී නුඹලා සිහික
රමින්, නුඹලා වෙනුවට ස්තුතිකිරීම
17. අත්නැර, අපගේ ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගේ දෙවිවූ
මහිමතාවයෙහි පියානන්වහන්සේ
තමන්වහන්සේ ඇඳිනගන්නා ඥාන
යේද එළිදරව්කිරීමේද ආත්මය නුඹ
18. ලාට දෙන පිණිසද, උන්වහන්
සේගේ කැඳවීමේ බලාපොරොත්තු
ව කිමෙක්ද කියාත්, පිරිසිදුවූවන්ට
ඇත්තාවූ තමන්වහන්සේගේ උරුම
යෙහි තේජස් වස්තුව කිමෙක්ද
19. කියාත්, තමන්වහන්සේ විසින්
ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි දක්වූ
වාවූ උතුම්වූ බලයේ ප්‍රකාරයට අද
හන අප කෙරෙහි ඇත්තාවූ බලයේ
උතුම් මහිමතාවය කිමෙක්ද කියාත්
නුඹලා දැනගන්නා පිණිසද, උන්ව
හන්සේ විසින් නුඹලාගේ නුවන
නැමති ඇස් පහදන්ට යාඥාවෙමි.
20. ඒ උතුම් බලයෙන් උන්වහන්සේ
ක්‍රිස්තුස්වහන්සේ මලවුන්ගෙන් නැ
ගුටුවා, ස්වර්ගීය තැන්වල තමන්ව
හන්සේගේ දකුනු පැත්තේ හිඳුවා,
21. සියළු අධිපතිකමටත් බලයටත්
පරාක්‍රමයටත් ස්වාමිකමටත් මේලෝ
කයේ පමනක් නොව පරලෝක
යේත් කියවෙන සියළු නාම්වලටත්
22. වඩා උතුම්කොට තබා, සියල්ල
උන්වහන්සේගේ පාදවලට යටත්
කොට, උන්වහන්සේගේ සභාව
උදෙසා සියල්ලන්ට ප්‍රධානියා වෙන්
ට උන්වහන්සේ නියමකලසේක.
23. ඒ සභාව උන්වහන්සේගේ ශරී
රයත්, සියල්ලත් කෙරෙහි සියල්ල
සම්පූර්ණකරන්නාවූ උන්වහන්සේ
ගේ සම්පූර්ණකමත් වේ.

2. පරිච්ඡෙ. තවද අපරාධවලද
පාපවලද මලාවූ නුඹලා උන්වහන්
2. සේ ජීවත්කලසේක. එහි පසුගි
යාවූ කාලේදී, මේ ලෝක ව්‍යවහාර
යේ හැටියටත්, අකීකරුකමේ දරු
වන් තුලෙහි දැන් ක්‍රියාකරන්නාවූ
ආකාසයේ බල පවත්වන අධිපතිවූ
ආත්මයාගේ කැමැත්තේ හැටියටත්,
3. නුඹලා හැසුරුනෝය. ඔවුන් අත
රෙහි අපි සියල්ලෝද පසුවූනු කා
ලේදී අපේ ශරීර ආසාවල් ලෙස පැ
වත, ශරීරයටත් සිතටත් කැමති දේ
කරමින්, ස්වභාවෙන් අනුන් මෙන්
4. උදහසේ දරුවෝව සිටියෙමුව. එ
සෙත් ඉතා කරුණාවන්ත දෙවියන්
වහන්සේ, අප කෙරෙහි පවතින
තමන්වහන්සේගේ මහත් ප්‍රේම
5. යෙන්, පාපවල්හි මලාවූ අප ක්‍රිස්
තුස්වහන්සේ සමග ජීවත්කලසේ
ක. කරුණාවෙන් නුඹලා ගැලවී සිටි
6. ති. තවද ක්‍රිස්තුස්වහන්සේ කර
ණකොටගෙන අප කෙරේ පවත්
වනලද දයාවෙන්, තමන්ගේ කරු
ණාව නැමති මහත් වස්තුව එන
7. කාලවලදී පෙන්වන පිණිස, ක්‍රිස්
තුස්වහන්සේ සමග නැගුටුවා, ස්ව
8. ර්ගීය තැන්වල හිඳුවූසේක. ඇද
හිල්ල කරනකොටගෙන කරුනා
වෙන් නුඹලා ගැලවී සිටිති; ඒ නුඹ
ලා කරනකොටගෙන නොවේය; ඒ
දෙවියන්වහන්සේගේ දීමනාවය;
9. කිසිවෙක් ගරුකම් නොකියන
ලෙස, ඒක ක්‍රියාවන් කරනකොට
10. ගෙන නොවේය. එසේ නුමුත්,
දෙවියන්වහන්සේ පලමුකොට නිය
මකල ලෙස හොඳ ක්‍රියාවල් කරමින්
හැසිරෙන පිණිස, අපි ක්‍රිස්තුස්වහන්
සේ කරනකොටගෙන මවනු ලැබූ
වාවූ දෙවියන්වහන්සේගේ කර්මාන්
තය වෙමුව.

11. ඒ නිසා පලමුවෙන් වංශයෙන්
අන්‍යජාතියෝව සිටියාවූ, අතින් ශරී
රයෙහි කරනලද චර්මඡෙදන ඇත්

තන් විසින් අචර්මඡේදූයෝයයි කිය
12. නලද්දාවූ තුබලා, ඒ කාලයෙහි
ක්‍රිස්තුස්වහන්සේ නැතුව, ඊශ්‍රායෙල්
ගේ සමාගමෙන් වෙන්ව, පොරොන්
දුවෙහි ගිවිසුම්වලට පංගුකාරයෝ
නොවී, බලාපොරොත්තුවක් නැතු
ව, මේ ලෝකයෙහිදී දෙවියන්වහන්
සේත් නැතුව සිටිය බව, සිහිකරපල්
13. ලාය. පලමුවෙන් දුරුව සිටියාවූ
තුබලා දැන් ක්‍රිස්තුස් යේසුස්වහන්
සේ කරනකොටගෙන උන්වහන්සේ
14. ගේ ලෙයින් ලන්වී සිටිති. මක්
නිසාද උන්වහන්සේ අපේ සමාදාන
කාරයාව සිට, වෙන්කරන මැද බිත්
15. තිය බිඳදමා, දෙගොල්ල එක්
කොට සමාදානකරමින්, දෙගොල්
ලගෙන් තමන්වහන්සේ කෙරෙහි
ඒක අළුත් මනුෂ්‍යයෙකු සාදන පිනි
16. සත්, කුරුසියෙන් සතුරුකම න
සා එයින් එක ශරීරයෙහි දෙගොල්
ලම දෙවියන්වහන්සේ කෙරෙහි සම
ගිකරන පිනිසත්, නියෝගයන් ගැන
ආඥාකලාවූ ව්‍යවස්ථාවනම්වූ සතුරු
කම තමන්වහන්සේගේ ශරීරයෙන්
17. නසා, ඇවිත්, දුර සිටියාවූ තුබ
ලාටත් ලඟ සිටියවුන්ටත් සමාදානය
18. ප්‍රකාශකලසේක. එබැවින් උන්
වහන්සේ නිසා අප දෙගොල්ලට,
ඒක ආත්මයානන්වහන්සේ කරන
කොටගෙන, පියානන්වහන්සේ ලඟ
19. ට පැමිනෙන්නට පුළුවන. ඒ
නිසා තුබලා මෙතැන් පටන් විදේසි
යෝද පරදේසියෝද නොවෙති;
සුබවන්තයින් සමග එක නුවර වැසි
යෝද, දෙවියන්වහන්සේගේ පවුලේ
20. අයවල්ද වෙති. තවද, ප්‍රේරිත
යන්ගේත් අනාගතවක්තෘන්ගේත්
අත්තිවාරම පිට තුබලා ඉදිකරන
ලද්දේ වෙත්; එහි කොනේ ප්‍රධාන
ගලනම් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
21. මය. එයින් මුළු ඉදිකිරීම හොඳ
හැටියට එකතුකරනලදුව, ස්වාමින්
වහන්සේ උදෙසා සුබවූ මාලිගාවක්
කොට, ගොඩනගනු ලබන්නේය.
22. උන්වහන්සේ කෙරෙහි තුබලාත්,
ආත්මයෙන් දෙවියන්වහන්සේගේ
වාසස්ථානයක් වෙන පිනිස, ඉදිකර
නලද්දේ වෙති.

3. පරිච්ඡේ. පාවුල්නම්වූ මම,
අන්‍යජාතිවූ තුබලා උදෙසා, යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ සිරකාරයෙක්
2. වෙමි. සුබාත්මයානන්වහන්සේ
විසින් දෙවියන්වහන්සේගේ සුබවූ
ප්‍රේරිතයන්ටත් අනාගතවක්තෘන්
ටත් දැන් එළිදරව්කරන ලෙස, පලමු
කාලවලදී මනුෂ්‍යපුත්‍රයන්ට දන්වනු
නොලද්දාවූ රහස මට එළිදරව්කො
3. ට දන්වා දෙමින්, තුබලා උදෙසා
දෙවියන්වහන්සේ විසින් මට බාර
දෙනලද උන්වහන්සේගේ කරුනා
වෙහි නියෝගය කෙලෙසද කියා
4. තුබලා ඇසුවෝය. මම ඉස්සර
ළුහුබෙන් ඒ ගැන තුබලාට ලිව්මි.
5. ඒ ලිවූම් තුබලා කියවනකල,
ක්‍රිස්තුස්වහන්සේගේ රහස ගැන මට
ඇත්තාවූ දැනීම කොහොමදැයි, දැන
6. ගන්නට තුබලාට පුළුවන. ඒ රහ
සනම්, සුභාරංචිය කරනකොටගෙන
හවුල් උරුමක්කාරයෝද, එකම ශරී
රයේ අවයවයෝද, ක්‍රිස්තුස්වහන්සේ
කෙරෙහි පවතින දෙවියන්වහන්
සේගේ පොරොන්දුවීමේ පංගුකාර
යෝද වෙන්ට, අන්‍යජාතීන්ට අව
7. සර ඇති බවය. මා කෙරෙහි ක්‍රියා
කරන්නාවූ දෙවියන්වහන්සේගේ බ
ලයෙන් මට දුන් උන්වහන්සේගේ
කරුනාවේ දීමනාවේ හැටියට, ඒ සු
භාරංචියෙහි සේවකයෙක් කරනු
8. ලැබීමි. ක්‍රිස්තුස්වහන්සේගේ සො
යා බලා දැනගන්ට බැරිවූ වස්තුව අ
9. න්‍යජාතීන්ට ප්‍රකාශකරන්ටද, යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ ලවා සියල්ල
මැවෙව්වාවූ දෙවියන්වහන්සේ වෙත
ලෝකේ පටන්ගැන්මේ සිට සැඟවී
තිබුනාවූ ඒ රහසේ පංගුකාරකම

මොකද කියා සියල්ලන්ට දන්වන්ටද, සියළු කුඩා සුබචිත්තයන් අතරෙන් ඉතා කුඩාවූ මට මේ කරුනාව
10. දෙනලද්දේය. ඒ කුමක් පිනිසදයත්, අපගේ ස්වාමිවූ ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහි දෙවියනවහන්සේ විසින් නියමකලාවූ උන්වහන්සේගේ සදාකාල නියෝගයේ හැටි
11. යට, දූත් ස්වර්ගයෙහි සිටින ප්‍රධානීන්ටද, පරාක්‍රම ඇත්තන්ටද, සභාව කරනකොටගෙන දෙවියන්වහන්සේගේ නොයෙක් ආකාර ඥානය ප්‍රකාශකරනු ලබන්ට පුළු
12. වන්වෙන පිනිසය. එම ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි ඇදහිල්ලෙන් භය නැතිකමද, විස්වාසයෙන් දෙවියන්වහන්සේ ලඟට පැමිනිමද, උන්වහන්සේ කරනකොටගෙන අපට
13. ඇත්තේය. ඉත්නිසා නුබලාට ගෞරව ඇත්තාවූ, නුබලා ගැන මම විඳින්නාවූ දුක්වලට, කලාන්ත නො
14. වෙන පිනිස ඉල්වමි. මෙම කාරනාව නිසා, මම ස්වර්ගයෙහිද පොලොවෙහිද වසන මුළු පවුලට නම්
15. දුන්නාවූ, අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ පියානන්
16. වහන්සේට මාගේ දන නමා, උන්වහන්සේගේ ආත්මයෙන් නුබලාගේ ඇතුල් මනුෂ්‍යයා ඉතා ස්ථිරකර
17. නු ලබන හැටියටත්, ඇදහිල්ලෙන් ක්‍රිස්තුස්වහන්සේ නුබලාගේ හෘදවල වාසයකරන හැටියටත්, නුබලා ප්‍රේමයේ මුල් ඇද, සවිව සිට,
18. සියළු පිරිසිදුවූවන් සමග ක්‍රිස්තුස්වහන්සේගේ ප්‍රේමයේ දිග පලල උස ගැඹුර මොකදැයි දැනගන්නට
19. පුළුවන්වෙන හැටියටත්, ක්‍රිස්තුස්වහන්සේගේ නොසිතිය හැකිවූ ප්‍රේමය දැනගනිමින්, දෙවියන්වහන්සේගේ සියළු සම්පූර්ණකමෙන් සම්පූර්ණකරනු ලබනා හැටියටත්, තමන්වහන්සේගේ මහිමතාවෙහි ධනය ලෙස නුබලාට දෙන පිනිස
20. යාඥාවෙමි. තවද අප තුලෙහි ක්‍රියාකරන්නාවූ බලය ලෙස, අපි ඉල්ලන සිතන සැම දේට වඩා ඉතා වැඩිකොට කරන්ට සමර්ථවූ උන්ව
21. හන්සේට, සියළු පරම්පරාවන් දක්වා යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කරනකොටගෙන සභාවෙහිදී සදාකල්ම මහිමතාවය වේවා. ආමෙන්.

4. පරිච්. එබැවින්, නුබලා කැ
2. දවනලද කැඳවීමට සුදුසුවූ, සැම යටහත්කමෙනුත්, මොලොක් ගුණයෙනුත්, බොහෝ කල් ඉවසීමෙනුත් පැවත, ඔවුනොවුන් ගැන ප්‍රේම
3. යෙන් ඉවසා, සමාදාන බැම්මෙන් ආත්මයානන්වහන්සේගේ එකමුතුකම පවත්වන්ට උත්සාහ කරපල්ලායයි, ස්වාමින්වහන්සේ ගැන හිරකාරයෙක්වූ මම නුබලාගෙන් ඉල්ලමි.
4. කැඳවනලද නුබලා එක බලාපොරොත්තුවක් ඇතුව සිටීමට කැඳවනලද්දේ වෙති; එලෙසම එකම ශරීරයද, එකම ආත්මයානන්වහන්
5. සේද, එකම ස්වාමින්වහන්සේද, එකම ඇදහිල්ලද, එකම බව්තීස්ම
6. යද, සියල්ලන්ට උතුම්වූ, සියල්ලන් කෙරෙහි පවත්නාවූ, නුබලා සියල්ලන් තුල සිටින්නාවූ, සියල්ලන්ට එකම පියවූ දෙවියන්වහන්
7. සේද ඇත. නුමුත් අපගෙන් එක එකාට ක්‍රිස්තුස්වහන්සේගේ දීමෙහි ප්‍රමානයේ හැටියට, කරුනාව දෙන
8. ලද්දේය. එහෙයින්, "උන්වහන්සේ උසස් තැනට නැගී, අනුන් වාල්කමට ගත්තවුන් වාල්කමට ගෙන ගොස්, මනුෂ්‍යයන්ට තෑගි දුන්සේ
9. කැයි" කියා තිබෙන්නේය. උන්වහන්සේ පලමුකොට පොලොව යටට නොබැස්සසේක්නම්, නැඟුනුසේකැයි යන බව හැඟෙන්නේ කො
10. හොමද? බැස්සාවූ උන්වහන්සේම සියල්ල සම්පූර්ණකරන්ට සැම ස්වර්ගවලින් ඉහලට නැඟුනු

11. සේක. තවද අපි මින් මතු මනු
ෂ්‍යයන්ගේ වංචාවෙන්ද, රැවටීමට
12. යොදනලද ප්‍රයෝගවලින්ද, නො
යෙක් ආකාර ඉගැන්වීම් නැමති
හුළඟින්ද චංචලවන්නාවූ, ඈත මෑත
කම්පාකරනු ලබන්නාවූ ළදරුවන්
13. නොවී, ප්‍රේමය සහිතව, සැබෑක
මට ඇළුම්ව, ඉස නැමති ක්‍රිස්තුස්ව
හන්සේ කෙරෙහි සියළු ආකාරයෙන්
14. වැඩෙන පිනිස, ඇදහිල්ලේ හා
දෙවියන්වහන්සේගේ පුත්‍රයා ඇඳින
ගැන්මේ එකඟකමටත්, හරි පුරුෂ
කමට එනම් ක්‍රිස්තුස්වහන්සේගේ
සම්පූර්ණවූ උස මහතටත්, අපි
15. සියල්ලෝ පැමිණෙනතුරු, පිරිසි
දුවූවන් සම්පූර්ණකමට පමුනුවන්
ටත්, සේවකකමේ වැඩ කරන්ටත්,
ක්‍රිස්තුස්වහන්සේගේ ශරීරය ගොඩ
නගන්ටත්, සමහරුන් ප්‍රේරිතයන්ද,
සමහරුන් දේසනාකාරයන්ද, සමහ
රුන් සුභාරංචිය ප්‍රකාශකරන්නන්ද,
සමහරුන් ප්‍රවේසම්කරන්නන්ද, සම
හරුන් උගන්වන්නන්ද කොට නිය
16. මකලසේක. මුළු ශරීරයේ එක
එක අවයවයේ ප්‍රමානය ලෙස, උන්
වහන්සේ විසින් ක්‍රියා කිරීමෙන් සෑම
පුරුක්වලින් යහපත්කොට යොදා
සම්බන්ධකරනලදුව, තමන් ඉදිකිරීම
පිනිස ප්‍රේමයෙන් වර්ධනකරනු ලබ
නේය.

17. එබැවින්, සෙසු අන්‍යජාතීහු
තමන්ගේ සිතේ වැඩනැතිකමේ
ප්‍රකාරයට හැසිරෙන්නාක්මෙන්, නු
බලා මතු නොහැසිරෙල්ලායයි, ස්වා
මින්වහන්සේ කරනකොටගෙන අ
18. නාඥාවක්කොට කියමි. ඔවුන්
ගේ නුවන අඳුරුවී, තමන් තුළ ති
බෙන අඥානකමින් සහ සිත් දැඩික
මින් දෙවියන්වහන්සේ කෙරෙහි
19. ජීවනයෙන් වෙන්වී, සැලකිල්
ලක් නැතුව සියළු අපිරිසිදුකම් ආල
යෙන් කරන පිනිස, තමන්ව කාමවී
20. කාරයට බාරදුන්නෝය. නුමුත්
නුබලා ක්‍රිස්තුස්වහන්සේගෙන් මෙ
21. සේ ඉගෙනගත්තේ නැත; මක්නි
සාද යේසුස්වහන්සේ කෙරෙහි ඇත්
තාවූ සැබෑකමේ ප්‍රකාර, නුබලා උන්
වහන්සේගෙන් අසා ඉගෙනගත්තෝ
22. ය. ඒ හැවියට නුබලාගේ පලමු
කල්ක්‍රියාවේ වංචකවූ ආසාවලින්
කිළුටුවෙමින් සිටි පරන මනුෂ්‍යයා
23. නුබලා හැරදමා, නුබලාගේ
සිත්වල අභිප්‍රාවල් අළුත්කරනු ලැබ,
24. ධර්මිෂ්ඨකමෙනුත් සැබෑ පිරිසිදු
කමෙනුත් දෙවියන්වහන්සේට සමා
නව මවනලද්දාවූ අළුත් මනුෂ්‍යයා
25. පැලඳගනිල්ලාය. අපි ඔවුනො
වුන් අවයවයෝය; එහෙයින් බොරු
කීම හැරදමා, එක එකා තම තමා
ගේ අසල්වාසියා සමග සැබෑ වචන
කියාපල්ලාය. කෝපවූනත්, පව්
26. නොකරල්ලාය; ඉර බසිනකල්
නුබලාගේ කෝපය තිබෙන්ට නාරි
27. ල්ලාය. යක්ෂයාට ඉඩ නාරිල්ලා
28. ය. සොරකම් කලාවූ අය තවත්
සොරකම් නොකෙරේවා; දුප්පත්
අයට දෙන්ට පොහොසත්වෙන
පිනිස, තමන් අතින් යහපත් ක
ර්මාන්ත කොට උත්සාහ කෙරේවා.
29. නුබලාගේ කටින් නපුරු වචන
නොකියා, වැඩසිඩවීමට සුදුසුවූ, අහ
න අයට සතුටු උපදවන්නාවූ, යහ
30. පත් වචනම කියාපල්ලාය. මිදී
මෙහි දවස දක්වා නුබලා මුද්‍රකලාවූ
දෙවියන්වහන්සේගේ සුඩාත්මයට
31. දුක් නොදෙල්ලාය. සියළු කැතිස
කමත්, ක්‍රෝධයත්, තරහත්, දබර
යත්, අගුන කීමත්, සියළු වෛෂයත්
32. නුබලාගෙන් දුරුවේවා. තවද
ක්‍රිස්තුස්වහන්සේ නිසා දෙවියන්ව
හන්සේ නුබලාට කමාවූන ලෙසම,
නුබලාත් ඔවුනොවුන්ට කමාවෙ
මින්, ඔවුනොවුන්ට කරුණාවන්
සුත්තව ආදර සිත් ඇතුව සිටපල්
ලාය.

5. පරිච්ඡ. එහෙයින් තුබලා ප්‍රිය
දරුවන්මෙන්, දෙවියන්වහන්සේ
2. පස්සේ යන්නෝ වෙයල්ලාය. ත
වද ක්‍රිස්තුස්වහන්සේ අප වෙනුවට
මිහිරි සුවඳවූ යාගයක්ද පූජාවක්ද
වශයෙන්, තමන්වහන්සේම දෙවි
යන්වහන්සේට පූජාකරමින්, අපට
ප්‍රේමකලාක්මෙන්, තුබලා ප්‍රේම
3. යෙන් හැසිරියල්ලාය. තවද කාම
මිථ්‍යාචාරයත්, සෑම අපවිත්‍රකමුත්,
ලෝභකමුත්, තුබලා අතරෙහි ම
තක්කරවන්ටත් එපාය; ඒ මතක්කි
4. රීම පිරිසිදුවූවන්ට නුසුදුසුය. කිළි
ටුකම ප්‍රලාපකීම කැත කවටකම
යන මේ නුසුදුසු දේ අත්ඇර, දෙවි
යන්වහන්සේට ස්තුතිකිරීම තුබලා
5. අතරේ පවතීවා. කාමමිථ්‍යාචාරය
කරන්නෙක්වත්, අපවිත්‍ර තැනැත්
තෙක්වත්, දේවතාවන් ඇදහිලිකා
රයෙකුට සමානවූ ලෝභයෙක්වත්,
ක්‍රිස්තුස්වහන්සේගේද දෙවියන්ව
හන්සේගේද රාජ්‍යයෙහි උරුම නො
6. ලබන්නේයයි තුබලා දනිති. කිසි
වෙක් තුබලා නිරර්ථක වචනවලින්
නොරවටාවා; මේ දේ නිසා, දෙවි
යන්වහන්සේගේ උදහස අකීකරු
කමේ පුත්‍රයන් කෙරෙහි පැමිණෙන්
7. නේය; එහෙයින් ඔවුන්ට එකතු
8. නොවෙල්ලාය. පලමුවෙන් අඳු
රෙහි සිටියාවූ තුබලා දැන් ස්වාමින්
වහන්සේ නිසා එළිය ලැබුවෝය;
එළියෙහි දරුවන් මෙන් හැසිරියල්
9. ලාය. ආත්මයාගේ එලය සියළු
යහපත්කමෙහිද ධර්මිෂ්ටකමෙහිද
සැබෑකමෙහිද පවතීන බැවින්,
10. ස්වාමින්වහන්සේට කැමති දේ
මොනවාදැයි පරීක්ෂාකරපල්ලාය.
11. අඳුරෙහි වැඩනැති ක්‍රියාවලට
එකතුනොව, එහි දෝෂ කියාපල්ලා
12. ය; මක්නිසාද ඔවුන් විසින් රහ
සින් කරනලද දේ ගැන කථාකිරීම
13. වත් ලැජ්ජාවක. සියළු දේවල
දෝෂය එළියෙන් ප්‍රකාශකරනු ලැ
බේ; මක්නිසාද ප්‍රකාශකරන යමක්
14. ඇද්ද ඒක එළිය වේ. එහෙයින්,
"නිදන්නාවූ තුබ පිබිද, මලවුන්
ගෙන් නැගිටපන්න; එවිට ක්‍රිස්තුස්
වහන්සේ තුබට එළිය දෙනසේ
15. කැයි" කියනලද්දේය. ඒ නිසා
තුබලා අඥානයන් මෙන් නොව ඥාන
වන්තයන් මෙන්, ප්‍රවේසමෙන් හැසි
16. රෙන්ට බලාගෙන, දවස් අසුභ
බැවින් කාලය සඵලකරපල්ලාය.
17. තුබලා මෝඩයන් මෙන් නොවී,
ස්වාමින්වහන්සේගේ කැමැත්ත කි
18. මෙක්ද කියා දැනගනිල්ලාය. න
පුරු ක්‍රියා උපදවන්නාවූ සුරාපාන
යෙන් මත්නොව, ආත්මයෙන් සම්
19. පූර්ණවෙයල්ලාය. ගීතිකාව
ලින්ද ස්තුති ගීතිකාවලින්ද ආත්මික
කවිවලින්ද ඔවුනොවුන් කථාකොට,
තුබලාගේ සිත්වලින් ස්වාමින්වහන්
20. සේට ස්තුති ගීතිකා කියා, අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ නාමයෙන් සියළු දේ ගැන
පියවූ දෙවියන්වහන්සේට නිතරම
ස්තුතිකරපල්ලාය.

21. දෙවියන්වහන්සේට භය ඇතු
ව, ඔවුනොවුන්ට යටත්ව සිටපල්
22. ලාය. භාර්යාවරුනි, ස්වාමීන්ව
හන්සේට මෙන් තුබලාගේ පුරුෂ
23. යන්ට යටහත්ව සිටපල්ලාය. මක්
නිසාද ක්‍රිස්තුස්වහන්සේ සභාව නැ
මති ශරීරයට හිසව සිටින්නාසේම,
පුරුෂයාත් භාර්යාවට හිසව සිටින්
නේය. උන්වහන්සේද ශරීරයෙහි
24. ගැලවුම්කාරයාය. එබැවින් සභා
ව ක්‍රිස්තුස්වහන්සේට කීකරුව සිටි
නාසේම, සියළු දෙයෙහිම භාර්යා
වන් විසින් තම තමන්ගේ පුරුෂ
25. යින්ට කීකරුව සිටින්ට යුතුය. පු
රුෂයෙනි, ක්‍රිස්තුස්වහන්සේ සභා
වට ප්‍රේමකලාක්මෙන්, තුබලාගේ
භාර්යාවන්ටත් ප්‍රේමකරපල්ලාය.
26. උන්වහන්සේ සභාව පිරිසිදුක
රන්වද, වතුරෙන් සේදීමෙනුත් වච

27. නගෙනුත් සුබකරන්ටද, රැලි
කැලෑ ආදිවූ කිසිවක් නැතුව පිරිසි
දුවූ දෝෂ නැත්තාවූ තේජවත්තවූ
සභාවක් කොට ඒක තමන්වහන්
සේට දක්වන්ටද, ඒ සභාව නිසා
28. තමන්ම බාරදුන්සේක. පුරුෂ
යන් විසින් තමන්ගේ භාර්‍ය්‍යාවන්ට
තමන්ගේ ශරීරයට මෙන් ප්‍රේම කට
යුතුය. තමාගේ භාර්‍ය්‍යාවට ප්‍රේමක
රන තැනැත්තා තමාටම ප්‍රේමකර
29. නෙන්ය. තවද කිසිවෙක් කිසි
කලෙකත් තමන්ගේ ශරීරයට අප්‍රිය
නොකොට, ස්වාමින්වහන්සේ සභාව
පෝෂ්‍යකොට රක්ෂාකරනසේම ඒක
පෝෂ්‍යයකොට රක්ෂාකරන්නේය.
30. මක්නිසාද අපි උන්වහන්සේගේ
මාංස හා ඇට ඇතිව, උන්වහන්සේ
ගේ ශරීරයෙහි අවයවයෝද වෙමුව.
31. ඒ කාරනයෙන්, "මනුෂ්‍යයෙක්
තමාගේ මව්පියන් හැර, තමාගේ
භාර්‍ය්‍යාවට ඇළුම්ව, දෙදෙනම ඒක
32. ශරීරය වෙති." මේ මහත්වූ රහ
ස්‍ය; මම ක්‍රිස්තුස්වහන්සේද සභා
33. වද ගැන කථාකෙරෙමි. එසේ
නුමුත්, නුබලා ඒක ඒකා තම තමාට
මෙන් තමාගේ භාර්‍ය්‍යාවටත් ප්‍රේම
කෙරේවා; භාර්‍ය්‍යාවද පුරුෂයාට ගෞ
රව කරන්ට බලාගන්වා.

6. පරිච්ඡෙ. දරුවෙනි, නුබලාගේ
දෙමව්පියන්ට ස්වාමින්වහන්සේ කෙ
රෙහි කීකරුවෙයල්ලාය; මක්නිසාද
2. එසේ කරන්ට යුතුය. "නුබට වැ
ඩසිඩවෙන පිනිසද, ලෝකයේ බො
හෝ ආයු ලබන පිනිසද, නුබේ පියා
නන්ටත් මෑනියන්ටත් ගෞරව කර
3. පන්න" මේ පොරොන්දුවක් ඇති
4. පලමුවෙනි ආඥාවය. තවද පියව
රුනි, නුබලාගේ දරුවන්ට කෝප
නුපදවා, ස්වාමීන්වහන්සේගේ ගුරු
කමින් සහ දැනිමිතිකමින් ඔවුන්
5. ඇතිකරපල්ලාය. දාසයෙනි, නුබ
ලා ක්‍රිස්තුස්වහන්සේට මෙන් නුබ
ලාගේ හිතවල ඇදනැතිකමින්, ශරී
රකාරයෙන් නුබලාගේ ස්වාමිවරුන්
ට භයෙනුත් වෙව්ලමෙනුත් කීකරු
6. වී, මනුෂ්‍යයන් සතුටුකරන්නන්
මෙන් පෙනීමට වැඩ නොකොට,
ක්‍රිස්තුස්වහන්සේගේ දාසයන් මෙන්
7. හිතින් දෙවියන්වහන්සේගේ කැ
8. මැත්ත කරපල්ලාය. යමෙක් යහ
පත කරනවානම්, ඔහු දාසයා නුමුත්
නිදහසයා නුමුත්, ස්වාමින්වහන්සේ
ගෙන් ඔහුට එහි විපාක ලැබෙයයි
දැන, මනුෂ්‍යයන්ට නොව ස්වාමින්
වහන්සේට යහපත් සිතින් වැඩකර
9. පල්ලාය. තවද ස්වාමිවරුනි, නුබ
ලාටත් ස්වර්ගයෙහි ස්වාමින්වහන්සේ
ඇති බව සහ උන්වහන්සේ තරාති
රම් නොලබන බව දැන, සැරකිරී
මෙන් වැලකී, ඔවුන්ට එම යුතුකම්
කරපල්ලාය.

10. තවද මාගේ සහෝදරයෙනි,
ස්වාමින්වහන්සේ කෙරෙහිද, උන්ව
හන්සේගේ ආනුභාවේ පරාක්‍රමයෙ
හිද බලසම්පන්න වෙයල්ලාය.
11. නුබලා යක්ෂයාගේ උපාවලට
විරුඩව සිටින්ට පුළුවන්වෙන පිනිස,
දෙවියන්වහන්සේගේ සියළු ආයුධ
12. වලින් සැරසියල්ලාය. මක්නිසා
ද අපි මස් ලේ ඇත්තන්ට විරුඩ
නොව, අධිපතිකම්වලටද පරාක්‍රම
වලටද මේ ලෝකයේ අන්ධකාරයේ
ප්‍රධානීන්ටද ආකාසයෙහි දුෂ්ට ආත්
13. මයින්ටද විරුඩව යුඩකරමුව. ඒ
බැවින් නපුරු දවසේ නුබලා සතු
රන්ට විරුඩව සිටින්ටත්, සියල්ලන්
ගෙන් ජය ගෙන සිටින්ටත් පුළුවන්
වෙන පිනිස, දෙවියන්වහන්සේගේ
14. සියළු ආයුධ අරගනිල්ලාය. එහෙ
යින් සැබෑකම නැමති ඉඟපටියෙන්
බැදගෙන, ධර්මිෂ්ඨකම නැමති සන්
15. නාහයෙන් ලය වසා, සමගිකමේ
සුභාරංචියෙහි උත්සාහ නැමති ව
16. හන් පයලා සිටපල්ලාය. දුෂ්ටයා
ගේ සැම දිලිහෙන හෙල්ල නිවන්ට

පුළුවන්වූ ඇදහිල්ල නැමති පලිහ සියල්ලට ඉදිරිකොට ගනිල්ලාය. 17. ගැලවීම නැමති ආරක්ෂා තොප්පියද, දෙවියන්වහන්සේගේ වචනය නැමති ආත්මයානන්වහන්සේගේ 18. කඩුවද අරගනිල්ලාය. ආත්මයෙහි සියළු යාඥාවෙන්ද ඉල්ලීමෙන්ද නිතරම යාඥාකරපල්ලාය. තවද යම් සුභාරංචියක් නිසා මම බැඳුම් ලැබ ආනාපතියෙක් වෙම්ද, ඒ ගැන මා විසින් කියයුතු ලෙස භය නැතුව 19. කියන්ටත්, නිර්භීතව මාගේ මුඛය හැර සුභාරංචියෙහි රහස දන්වන පිනිස කීමෙහි දක්ෂකම මට 20. ලැබෙන්ටත්, මා නිසාද සියළු පිරිසිදුවූවන් නිසාද සියළු උත්සාහයෙන් හා ඉල්ලීමෙන්ද අවදිව සිට 21. පල්ලාය. මාගේ පැවැත්මත් ක්‍රියාවත් තුබලා විසින් දැනගන්නා පිනිස, ස්වාමින්වහන්සේගේ විශ්වාස වැඩකාරයාවූ තිඛිකස්නම් ප්‍රිය සහෝදරයා සියල්ල තුබලාට දන්වන 22. වා ඇත. තුබලාට අපේ පැවැත්ම දැනෙන පිනිසත්, තුබලාගේ හිත් සනසන පිණිසත්, ඔහු තුබලා වෙතට 23. එව්මි. පියවූ දෙවියන්වහන්සේගෙන්ද, ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද, සමාදානයද ඇදහිල්ලෙන් යුක්ත ප්‍රේමයද සහෝදර 24. යන්ට වේවා. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේට ඇද නැති සිතින් ප්‍රේමකරන සියල්ලන්ට කරුනාව වේවා.

# ප්‍රේරිතවූ පාවුල් විසින් පිලිප්පිවරුන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ මෙහෙකරුවූ පාවුල්ද තිමෝතියස්ද, පිලිප්පියෙහි වසන්නාවූ ක්‍රිස්තුස් යේසුස්වහන්සේගේ සියළු පිරිසිදුවූවන්ටද, නායකයන් 2. හා උපස්ථායකයන්ටද, අපගේ පියවූ දෙවියන්වහන්සේගෙන්ද, ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද, කරුණාවද සමාදානයද වෙනලෙස, 3. ලියා එවන වගනම්. මම තුබලා 4. සිහිකරන සියළු ප්‍රස්ථාවල, පලමුවෙනි දවසේ පටන් දැන් දක්වා සුභාරංචියෙහි තුබලාගේ පංගුකාරකම 5. ගැන, මාගේ දෙවියන්වහන්සේට 6. සතුතිකරමි. තුබලා කෙරෙහි යහපත් ක්‍රියාවක් පටන්ගත් උන්වහන්සේ, යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ දවස දක්වා, ඒක සම්පූර්ණකරනසේකැයි විශ්වාසකරමින්, තුබලා සියල්ලන් උදෙසා මාගේ සෑම යාඥාවලදී නිතරම සන්තෝසයෙන් යාඥා 7. කරමි. මෙසේම තුබලා සෑමදෙනා ගැන මා විසින් කල්පනා කටයුතුය. මාගේ බැඳුම්වලදීද, සුභාරංචිය ගැන උත්තර දීමෙහිද, ඒක ස්ථිරකිරීමෙහිද, තුබලා සියළු දෙන මට ලැබුන කරුනාවට පංගුකාරයෝයයි 8. මාගේ හිතේ දරමි. යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ දයාවන්තකමෙන් තුබලා සියල්ලන් කෙරෙහි බොහෝ ආසා ඇත්තෙමියි, දෙවියන්වහන්සේ 9. මට සාක්ෂිවනසේක. තවද තුබලාගේ ප්‍රේමය දැනීමෙන් හා සෑම සිහියෙන් වැඩි වැඩිව වඩිනවෙන 10. පිනිසද, තුබලා උතුම් දේවල් මොනවාදැයි සෝදිසිකර බලා ක්‍රිස්තුස්වහන්සේගේ දවස වෙනතුරු ඇද නැති සිතින් නිවරදිව සිටින

11. පිනිසද, යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ කරනකොටගෙන දෙවියන්ව
හන්සේට ගෞරවය හා ස්තුතිය පි
නිස පවතින්නාවූ ධර්මිෂ්ඨකමේ ඵල
වලින් තුබලා සම්පූර්ණවෙන පිනි
සද, යාඥාවෙමි.

12. සහෝදරයෙනි, මට සිදුවූන
කාරනා සුභාරචියෙහි දියුනුවීමට
සිදුවූනේයයි, තුබලා දැනගන්නවාට
13. කැමැත්තෙමි. මක්නිසාද ක්‍රිස්
තුස්වහන්සේ නිසා මාගේ බැඳුම්
ලැබීම්, රජගෙදර මුළුල්ලෙහිද, අනි
කුත් සියළු තැන්හිද, ප්‍රකාසව තිබෙ
14. නේය. තවද ස්වාමින්වහන්සේ
කෙරෙහිවූ සහෝදරයන්ගෙන් බො
හෝ දෙනෙක් මගේ බැඳුම් ලැබීම
නිසා ධෛර්ය ලැබ, වචනය කියන්
15. ට අතිසයින් භයනැතිවූවෝය. ස
මහරු ඊර්ෂ්‍යාවෙන්ද විවාදයෙන්ද,
සමහරු යහපත් සිතින්ද, ක්‍රිස්තුස්
16. වහන්සේ ප්‍රකාශකරති. එක
පක්ෂයක්, බැඳුම් ඇතුව සිටින්නාවූ
මට දුක් දෙන්ට සිතා, ඇදනැතික
මින් නොව විවාදයෙන් ක්‍රිස්තුස්ව
17. හන්සේ ප්‍රකාසකරති. තුමූත්
අනිත් පක්ෂය, සුභාරචිය ගැන උත්
තර කියන්ට නියමකරනලද්දෙමියි
දැන, ප්‍රේමයෙන් ක්‍රිස්තුස්වහන්සේ
18. ප්‍රකාශකරති. එසේවීනම් කි
මෙක්ද? වංචාවෙන්වත් සැබෑවෙන්
වත් කොයි ප්‍රකාරයකින්වත් ක්‍රිස්
තුස්වහන්සේ ප්‍රකාශකරනු ලැබේ;
ඊට දැනුත් සතුටුවෙමි, මතුත් සතුටු
19. වන්නෙමි. පසුහිය සෑම ප්‍රස්ථාව
ලදී යම්සේද, දැනුත් එසේම, මම කි
සිවකින් ලැජ්ජානොවී, සියළු භය නැ
තිකමින් ජීවත්වීමෙන්වත් මැරීමෙන්
වත් මාගේ ශරීරය කරනකොටගෙ
න ක්‍රිස්තුස්වහන්සේ මහිමතාවට පැ
20. මිනෙනසේකැයි, මාගේ තද
ආසාවද ප්‍රාර්ථනාවද ලෙස, තුබලා
ගේ යාඥාවෙන්ද, යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ ආත්මය ලැබීමෙන්ද,
මේ සියල්ල මාගේ ගැලවීම පිනිස
21. වන්නේයයි දනිමි. මක්නිසාද
මාගේ ජීවත්ව සිටීම, ක්‍රිස්තුස්වහන්
22. සේය; මරනයද මට ලාභයය. ශ
රීරයෙහි ජීවත්වෙම්නම්, එයින් මා
ගේ ක්‍රියාවට විපාක වන්නේය; කු
මක් තෝරාගනිම්දැයි නොදනිමි,
23. දෙකකින් මිරිකී සිටිමි. ශරීර
යෙන් වෙන්ව ගොස්, ක්‍රිස්තුස්ව
හන්සේ සමග සිටීම වඩා හොඳ නි
සා, ඊට බොහෝ ආසා ඇත්තෙමි.
24. තුමූත් ශරීරයේ මාගේ සිටීමෙන්
තුබලාට ඉතා ප්‍රයෝජන ඇත.
25. තුබලා ලඟට නැවත ඊමෙන්
මා නිසා තුබලාගේ සන්තෝසය
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
26. වැඩිවෙන පිනිසත්, තුබලාගේ
දියුනුවීම පිනිසත්, තුබලාගේ ඇද
හිල්ලේ සන්තෝසය පිනිසත්, මේ
විස්වාසය ඇත්තාවූ මම තුබලා සිය
ල්ලන් සමග සිටින්නෙමැයි දනිමි.
27. මම ඇවිත් තුබලා දකින්නෙම්
තුමූත්, ඉදිරිපිට නොසිටින්නෙම් තු
මූත්, තුබලා එකම අදහසෙන් ස්ථිර
ව, එක්සිත්ව, සුභාරචියෙහි ඇදහිල්
28. ල ගැන වෑයම්කරමින්, කොයි
කාරනාවක් ගැනවත් තුබලාගේ
එදිරිකාරයන්ට භයනොවී සිටිතියි,
තුබලාගේ පැවතීම් අසන පිනිස,
ක්‍රිස්තුස්වහන්සේගේ සුභාරචියටම
සුදුසු ලෙස හැසිරියල්ලාය. ඒක
ඔවුන්ට විනාසයටද, තුබලාට ගැල
වීල්ලටද ලකුනක් වෙයි; ඒත් දෙවි
29. යන්වහන්සේ කෙරෙන්මවේ. මක්
නිසාද ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
අදහන්ට පමනක් නොව, උන්වහන්
සේ නිසා දුක්විඳින්ටත්, කරුනා
30. වෙන් තුබලාට දෙනලද්දේය. ම
ට තිබූනායයි තුබලා දුටුවාවූ, දැන්
මට ඇතැයි අසන්නාවූ, එම සටනම
තුබලාටත් ඇත්තේය.

2. පරිච්ඡෙ. ඉදින් ක්‍රිස්තුස්වහන්
සේ කෙරෙන් යම් අස්වැසිල්ලක්
වත්, ප්‍රේමයෙන් යුක්තවූ යම් සැන
සිල්ලක්වත්, ආත්මයානන්වහන්සේ
කෙරෙහි යම් පංගුකාරකමක්වත්,
යම් දයාවක්වත්, අනුකම්පාවක්වත්
2. ඇත්නම්, තුබලා එක්සිත්ව, එකම
ප්‍රේම ඇතිව, එක් ස්වභාව හා එක
අභිප්‍රායෙන් යුක්තව, මාගේ ප්‍රීතිය
3. සම්පූර්ණකරපල්ලාය. විවාද
යෙන්වත් වැඩනැති ගරුකමෙන්
වත් කිසි දෙයක් නොකොට, ඔවු
නොවුන් ගැන හීන යටත්කමෙන්
අනිකෙක් තමන්ට උතුමැයි සිතා
4. පල්ලාය. එක එකා තම තමාගේ
කාරනාම නොබලා, අනුන්ගේ කාර
නාත් බලාපල්ලාය.

5. ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙ
රෙහි පැවති සිතම තුබලා කෙරෙ
6. හිද වේවා. දෙවීයන්වහන්සේගේ
වේසය දරන්නාවූ උන්වහන්සේ,
දෙවියන්වහන්සේට සමානවීම සො
7. රකමැයි, නොසිතුසේක. තුමූත්
උන්වහන්සේ එසින් පිරිහී, වැඩකා
රයෙකුගේ වෙස් ගෙන, මනුෂ්‍ය
8. සමානකමට පැමිනිසේක. මනුෂ්‍ය
වෙස් ඇතිවූ කෙනෙක් මෙන් දක්
නාලදුව, තමන්වහන්සේම යටහත්
කොට, මරනය එනම් කුරුසියෙහි
9. මරනයද දක්වා කීකරුවූසේක. එ
බැවින් දෙවියන්වහන්සේ උන්වහන්
10. සේ ඉතා උසස්කොට, ස්වර්ග
යෙහිද පොලොවෙහිද පොලො
වෙන් යටද සිටින්නාවූ සියල්ලන්
යේසුස් යන නාමයට දන නමන
පිනිසත්, යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
11. ස්වාමියයි, පියවූ දෙවියන්වහන්
සේගේ මහිමතාවය සඳහා, සියල්
ලන්ගේ කටින් ප්‍රකාශවෙන පිනි
සත්, සියළු නම්වලට උසස්වූ නමක්
12. උන්වහන්සේට දුන්සේක. ඒ නි
සා මගේ ප්‍රිය තැනැත්තෙනි, තුබලා
නිතරම කීකරුව සිටියලෙස, මගේ
ඉදිරිපිට පමනක් නොව දැන් මම
දුරුව සිටිනවිටද, ඉතා වැඩිවශයෙන්
කීකරුව, භයිනුත් වෙව්ළුමෙනුත්
තුබලාගේම ගැලවීම සිඹකරගනිල්
13. ලාය. මක්නිසාද, කැමතිවෙන්
ටත් ක්‍රියාකරන්ටත් තමන්වහන්සේ
ගේම කැමැත්ත හැටියට තුබලා
කෙරෙහි සිඹකරන්නාවූ තැනන්ව
14. හන්සේ දෙවියන්වහන්සේමය. ඈ
දවූ හිතුවක්කාර වර්ගයා අතරේ
නිවැරදිකාරයෝද, අහිංසකයෝද,
දෙවියන්වහන්සේගේ නිදෙස්වූ පුත්‍ර
15. යෝද වෙන පිනිස, දබරයත්
විවාදයත් නැතුව සියල්ල කරපල්
16. ලාය. මම නිශ්ඵලව නොදිවීමි,
නිශ්ඵලව වෙහෙස නොදුරුයෙමියි,
යන සන්තෝසය ක්‍රිස්තුස්වහන්සේ
ගේ දවසේදී මට තිබෙන පිනිස,
ජීවනදායක වචන දරමින්, ලෝක
යෙහි ආලෝකවල් මෙන් ඔවුන්
17. අතරෙහි බබලාපල්ලාය. තවද
තුබලාගේ ඇදහිල්ල නැමති යාග
යත් මෙහෙයත් පිට මම වගුරුවනු
ලබන නුමූත්, තුබලා සියල්ලන්
18. සමග ප්‍රීතිසන්තෝසවෙමි. තුබ
ලා මෙම කාරනාව ගැන මා සමග
19. ප්‍රීති සන්තෝසවෙයල්ලාය. ම
මත් තුබලාගේ පැවැත්ම දැන සැන
සිලි ලබන පිනිස, තුබලා ලඟට ති
මෝතියස් නොබෝ කලකින් එ
වන්ට, ස්වාමිවූ යේසුස්වහන්සේ කෙ
20. රෙහි විශ්වාසකරමි. සියල්ලෝ
ක්‍රිස්තුස්වහන්සේගේ කාරණ නො
තකා තමන්ගේ කාරණ තකත
21. බැවින්, ඔහු සේම තුබලාගේ
කාරණ හොඳින් සලකන ගුණ ඇත්
තාවූ වෙන කෙනෙක් මට නැත.
22. පියා සමග පුත්‍රයෙක් මෙන් ඔහු
මා සමග සුභාරංචියෙහි වැඩ කෙළේ
යයි, ඔහුගේ යහපත්කම තුබලා
23. දනිති. ඉන්නිසා මාගේ කාරනා
කොයි ආකාර වේද්දැයි කියා මම දුටු
වේලෙහිම, ඔහු එවන්ට කල්පනා

24. කරමි. මම්ම නොබෝ කලකින්
එමිසි, ස්වාමින්වහන්සේ කෙරෙහි
25. විශ්වාස ඇත්තෙමි. තවද මාගේ
සහෝදරවූ, සමග වැඩකරන්නාවූ,
සමගි සේවායෙක්වූ, මගේ හිගයේදී
උපස්ථානකලාවූ, තුබලාගේ පනිවි
ඩකාරයාවූ එපප්‍රොදිතස් තුබලා ල
26. ඟට යවිය යුතුයයි සිතිමි. ඔහු
ලෙඩින් උන් බව තුබලාට ආරංචිවූන
නිසා, ඔහු තුබලා සෑම දෙනාම
දකින්ට බොහෝ ආසාවක් ඇතිව
27. සානගාටුවූනේය. සත්තකටම
ඔහු මරණසන්න වෙනතරම් ලෙ
ඩින් සිටියේය; තුමුත් දෙවියන්වහන්
සේ ඔහුට අනුකම්පා කලසේක;
ඔහුට පමනක් නොව, දුක් පිට දුක්
නොපැමිනෙන පිනිස, මටත් කරු
28. ණකලසේක. එබැවින් තුබලා
ඔහු නැවත දැක ප්‍රීතියට පැමිනෙන්
ටත්, මාගේ සෝක අඩුවෙන්ටත්,
29. වහාම ඔහු යවිමි. මා ගැන තුබ
ලාගේ වැඩෙහි අඩුකම පිරිමසන්ට
ඔහු තමන්ගේ ජීවිතය නොසලකා,
ක්‍රිස්තුස්වහන්සේගේ මෙහෙය ගැන
30. මරනාසන්නවූ බැවින්, ස්වාමීන්
වහන්සේ කෙරෙහි සියළු සන්තෝස
යෙන් ඔහු පිලිගෙන, එබඳු තැනැ
ත්තන් ගෞරවයට සුදුස්සෝයයි සි
තාපල්ලාය.

3. පරිච්ඡ. තවද මාගේ සහෝද
රයෙනි, ස්වාමින්වහන්සේ කෙරෙහි
සතුටුවෙයල්ලාය. එම කාරනා තුබ
ලාට ලියා එවන්ට, මට කනගාටු
නැත; එයින් තුබලාට සුභසිඛවන්
2. නේය. බල්ලන්ගෙන් ප්‍රවේසම්
වෙයල්ලාය; නපුරු ක්‍රියා කරනනන්
ගෙන් ප්‍රවේසම්වෙයල්ලාය; ඡෙදන
කිරීමෙන් ප්‍රවේසම් වෙයල්ලාය.
3. මක්නිසාද මාංසයෙහි විස්වාස
නොකරන්නාවූ, ක්‍රිස්තුස් යේසුස්ව
හන්සේ කෙරෙහි සතුටුවෙන්නාවූ,
දෙවියන්වහන්සේට ආත්මයෙන් සේ
වය කරන්නාවූ අපිම චර්මඡෙදනයෝ
4. ව සිටිමුව. එසේ තුමුත් මාංසයේ
විස්වාසය කරන්ට මටත් පුළුවන.
වෙන කවුරුවත් මාංසයේ විශ්වාසය
කරන්ට පුළුවනැයි සිතතොත්, මට
5. ඊට වඩා පුළුවනැයි සිතමි. මම
උපන් අටවෙනිද, චර්මඡෙදිත වූයෙ
මි; ඊශ්‍රායෙල්ගේ පෙලපතෙන්,
බෙන්යමින්ගේ ගෝත්‍රයෙන්, හෙ
බ්‍රෙව්වන්ගෙන් හෙබ්‍රෙව්වෙක් වෙමි;
ව්‍යවස්ථාවේ හැටියට ඵරිසියෙක් වෙ
6. මි; තද භක්තියෙන් සභාවට
පීඩාකෙලෙමි. ව්‍යවස්ථාවෙහිවූ ධර්මි
ෂ්ඨකමේ හැටියට නිදොස්ව සිටියෙමි.
7. තුමුත් මට ලාභව තිබුනු දේ ක්‍රිස්
තුස්වහන්සේ උදෙසා අලාභයයි
8. සිතමි. එසේය, මාගේ ස්වාමිවූ
ක්‍රිස්තුස් යේසුස්වහන්සේ ඇඳිනග
න්නා දැනීමෙහි උතුම්කම නිසා,
සියළු දේ අලාභයයි, අනුමාන නැ
9. තුව සිතමි. මම ක්‍රිස්තුස්වහන්සේ
පිලිගන්නා පිනිසද, ව්‍යවස්ථාවෙන්වූ
මාගේ ධර්මිෂ්ඨකම නොදරා, ක්‍රිස්තු
ස්වහන්සේ කෙරෙහි පවතින ඇද
හිල්ලෙන්, එනම් ඇදහිල්ල කර
නකොටගෙන, දෙවියන්වහන්සේ
ගෙන් පැමිනෙන ධර්මිෂ්ඨකම දර
මින්, ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
10. දන්නා ලබන පිනිසද, උන්ව
හන්සේ ඇඳිනගෙන, මලවුන්ගෙන්
උන්වහන්සේගේ නැගිටීමේ බල
යත්, උන්වහන්සේගේ වේදනාවල
පංගුකාරකමත් දැනගන්නා පිනිසද,
11. මම උන්වහන්සේගේ මරනයට
සමානව කොයි ප්‍රකාරයකින්වත්
මලවුන්ගෙන් නැගිටීමට පැමිනෙන
පිනිසද, උන්වහන්සේ උදෙසා සියළු
දේ අලාභයයි සිතා හැරියෙමි; ඒ
දේ අසූචියයි සිතමි.

12. මම දැන් දිනුම ලැබූ කෙනෙක්
මෙන්වත් සම්පූර්ණවූ කෙනෙක්
මෙන්වත් නොසිට, යමකට ක්‍රිස්තුස්
වහන්සේ මා අල්ලාගත්සේක්ද,

මමත් ඒ දේ අල්වාගන්ට එලවාගන
13. යෙමි. සහෝදරයෙනි, මම ඒක
අල්වාගතිමියි නොසිතා, එකක් කර
මි; එනම්, පසුවූ දේ සිහිනොකොට,
ඉදිරිපිට තිබෙන දේ අල්ලන්ට උත්
14. සාහ කරමින්, ක්‍රිස්තුස් යේසුස්
වහන්සේ කරනකොටගෙන දෙවි
යන්වහන්සේගේ උතුම්වූ කැඳවීමේ
දිනුම පිණිස, දිනුම් ලකුනට ලං
15. වෙන්ට දුවමි. එබැවින් අපෙන්
යම් පමන දෙන සම්පූර්ණව සිටිද්
ද, එපමන දෙන මේ අභිප්‍රාව ගනි
මුව. ඇරත් නුබලා යම් කාරනාවක්
ගැන වෙන අභිප්‍රාවක් ගනින්නම්,
ඒකත් දෙවියන්වහන්සේ නුබලාට
16. එළිදරව්කරනසේක. එසේ නු
මුත් අපි යම් පමන දුරට පැමුනුනෙ
මුද, එම සටහනේ ප්‍රකාරයට හැසිර,
17. එම අභිප්‍රාව ගනිමුව. සහෝදර
යෙනි, මා පස්සේ වරෙල්ලාය; අපේ
ආදර්ශය ලෙස හැසිරෙන්නවුන් බලා
18. ගනිල්ලාය. බොහෝ දෙනාගේ
හැසිරීම ගැන, ඔවුන් ක්‍රිස්තුස්වහන්
සේගේ කුරුසියට සතුරෝයයි, නුබ
ලාට නොයෙක්වර කීමි; දැනුත් අඬ
19. අඬා කියමි. ඔවුන්ගේ කෙලවර
නම් විනාසයය; ඔවුන්ගේ දෙවියෝ
නම් බඩය; ඔවුන්ගේ ගරුකමනම්,
තමන්ම ලැජ්ජාවිය යුතු දේ ගැනය;
ඔවුන් ලෞකික දේ සලකති.
20. නුමුත් අපේ නියම රටනම්, ස්ව
ර්ගයය; එයින් ගැලවුම්කාර ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ එනවා අපි
21. බලාසිටිමුව. උන්වහන්සේ සියළු
දේම තමන්ට යටත්කරන්ට පුළුවන්
වූ බලය ලෙස, අපේ නීච ශරීරය
තමන්වහන්සේගේ තේජවන්ත ශරී
රයට සමානවෙන පිනිස, ඒක අන්
වෙසක් කරනසේක.

4. පරිච්ඡේ. ඉන්නිසා මාගේ ප්‍රියවූ,
ඉතා ස්නේහවන්තවූ, මාගේ සන්
තෝසයත් ඔටුනනත්වූ, මාගේ ප්‍රේම
වන්තවූ සහෝදරයෙනි, මෙසේ ස්වා
මින්වහන්සේ කෙරෙහි ස්ථිරවෙයල්
2. ලාය. ස්වාමින්වහන්සේ කෙරෙහි
එක්සිත් වෙන්ට, එවෝදියස්ගෙන්ද
3. සින්තිකිගෙන්ද ඉල්ලමි. තවද
මාගේ විශ්වාස හවුල්කාරවූ නුබ,
ක්ලෙමැන්ත් සහ අනිත් මාගේ උප
කාරකාරයින් සමගත් මා සමගත්
සුභාරංචියෙහි වැඩ කලාවූ, ජීවන
පොතේ නම් ලියා තිබෙන්නාවූ ඒ
ස්ත්‍රීන්ට, පිහිටවෙන හැටියට ඉල්ලමි.
4. ස්වාමින්වහන්සේ කෙරෙහි නිතර
සතුටුවෙයල්ලාය; සතුටුවෙයල්ලා
5. යයි නැවතත් කියමි. නුබලාගේ
ගුනවන්තකම සියළු මනුෂ්‍යයන්ට
දැනේවා; ස්වාමින්වහන්සේ ලන්ව
6. සිටිනසේක. නුබලා කිසි දෙය
කට කනගාටු නොසිතා, සියළු දේ
ගැන ස්තූති සහ යාඥාවෙනුත් ආය
ඩනාවෙනුත් නුබලාගේ ඉල්ලීම් දෙ
වියන්වහන්සේට දන්වාපල්ලාය.
7. එවිට කිසි නුවනකින් දැනගන්ට
බැරිවූ, දෙවියන්වහන්සේගේ සමා
දානය, ක්‍රිස්තුස් යේසුස්වහන්සේ ක
රනකොටගෙන, නුබලාගේ හෘදවල්
ද සිතිවිලිද රක්ෂාකරනවා ඇත.
8. තවද සහෝදරයෙනි, යම් පමන
දේ සැබෑද, යම් පමන දේ ශෝභමා
නද, යම් පමන දේ ධර්මිෂ්ඨද, යම්
පමන දේ පිරිසිදුද, යම් පමන දේ
ප්‍රිය උපදීද, යම් පමන දේ ප්‍රසංසනී
යද, යම් ගුනයක් යම් ප්‍රසංසා කට
යුතු දෙයක් ඇද්ද, ඒ ඒ දේම සිතේ
9. තබාගනිල්ලාය. නුබලා මගෙන්
උගත් පිලිගත් ඇසූ දුටු දේම කර
පල්ලාය. එවිට සමාදානය දෙනනාවූ
දෙවියන්වහන්සේ නුබලා සමග සිටි
නසේක.

10. මා ගැන නුබලාගේ කල්පනා
ව මෙපමන කලකට පසු දිවුනුකලා
ම, ස්වාමින්වහන්සේ කෙරෙහි ඉතා
සන්තෝසවීමි. ඒ ගැන නුබලා පලමු
කල්පනා කලෝය; නුමුත් අවකාස

11. නොලැබුවේය. මම යම් තර
මක සිටිමද, එයින් සතුටුවෙන්ට ඉග
නගත් නිසා, මාගේ හිඟකම ගැන
12. මේක නොකියමි. යටත්වෙන්
ටත් සම්පූර්ණවෙන්ටත් දනිමි;
තෘප්තියට පැමිනී සිටින්ටත්, බඩගි
නිවෙන්ටත්, පොහොසත්ව සිටින්
ටත්, දුප්පත්කම විඳින්ටත්, සියළු
තැන්වල සියළු කාරනාවලදී හරියට
13. ඉගනගතිමි. මට බලය දෙන්නා
වූ ක්‍රිස්තුස්වහන්සේගේ පිහිටෙන්,
සැම දේම කරන්ට හැකිවෙමි.
14. එසේ නුමුත් තුබලා මාගේ හිඟ
යට උපකාර කිරීමෙන් යහපතක්
15. කලෝය. පිලිප්පිවරුනි, සුභාර
ංචියෙහි පටන්ගැම්මෙහිදී මකිදෝනි
යෙන් මම ගියකල, තුබලා මිස වෙ
න සභාවක් ගනුදෙනු කිරීමේ කාර
නාවල් ගැන මට උපකාර නොකල
16. බව තුබලාත් දනිති. තෙසලෝ
නිකයේදී පවා මාගේ හිඟකම ගැන
වරක් දෙවරක් තුබලා මට දීලා එව්
17. වෝය. දෙන දේට ආසාවෙන්
මේක නොකියමි; එහෙත් තුබලා
ගේ ගනනට එලය වැඩිවීමට ආසා
18. ඇත්තෙමි. මට සියල්ලම ඇත;
ඔනෑවාටත් වඩා ඇත; මිහිරි සුව
ඳත්, දෙවියන්වහන්සේට ප්‍රියවූ පිලි
ගතයුතුවූ තුබලා විසින් එවනලද
දේ නැමති යාගයත්, එපප්‍රොදිතස්
19. ගෙන් ලැබ සම්පූර්ණව සිටිමි. එ
හෙත් මාගේ දෙවියන්වහන්සේ
තමන්ගේ තේජස් වස්තුව ලෙස,
තුබලාගේ සියළු හිඟකම් ක්‍රිස්තුස්
යේසුස්වහන්සේ කරනකොටගෙන
20. සම්පූර්ණකරනසේක. එබැවින්
අපේ පියවූ දෙවියන්වහන්සේට සද
කල් නිතරම මහිමතාවය වේවා.
ආමෙන්.

21. ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙ
රෙහිවූ සියළු පිරිසිදුවූවන්ට ආචාර
කරපල්ලාය. මා සමග සිටින සහෝ
දරයෝ තුබලාට ආචාර කරති.
22. කායිසර්ගේ පිරිවර ප්‍රධානකො
ට සියළු පිරිසිදුවූවෝ තුබලාට ආචා
23. රකරති. අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ කරුනාව තුබ
ලා සියල්ලත් කෙරෙහි වේවා.
ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්
# කොලොස්සිවරුන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. දෙවියන්වහන්සේ
ගේ කැමැත්තෙන් යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ ප්‍රේරිතයෙක්වූ පාවුල්
2. ද, සහෝදරවූ තිමෝතියස්ද, ක්‍රි
ස්තුස්වහන්සේ කෙරෙහි කොලොස්
සේ සිටින පිරිසිදුවූ ඇදහිලිවන්ත
සහෝදරවූ තුබලාට, අපගේ පියවූ
දෙවියන්වහන්සේගෙන්ද, ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද, ක
රුනාවත් සමාදානයත් වෙන ලෙස,
3. ලියා එවන වගනම්. සුභාරංචියෙහි
සැබෑවූ වචනයෙන් තුබලා පලමු
ඇසුවාවූ, ස්වර්ගයෙහි තුබලාට තබා
තිබෙන්නාවූ බලාපොරොත්තුව නි
4. සා, යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙ
රේ පවතින තුබලාගේ ඇදහිල්ල
ගැනත්, සියළු පිරිසිදුවූවන් කෙරේ
5. පවත්නා ප්‍රේමය ගැනත් අසා, අ
පගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ පියවූ දෙවියන්වහන්සේට
සතුතිකොට, තුබලා උදෙසා නිත
6. රම යාඥාකරමුව. ඒ සුභාරංචිය

මුළු ලොවට පැමිණ, ඵල දෙන්නා
සේම, තුබලා වෙතටත් පැමිණ, තු
බලා දෙවියන්වහන්සේගේ කරුනාව
අසා සැබෑ ලෙස දැනගත් දා පටන්
තුබලා අතරේත් ඵල දෙන්නේය.
7. එසේම තුබලා උදෙසා ක්‍රිස්තුස්
වහන්සේගේ විශ්වාස සේවකයෙක්
වූ, අපේ ප්‍රියවූ එක්ක වැඩකරන්නා
වූ එපාප්‍රස්ගෙන් තුබලාත් ඉගනගත්
8. තෝය. ඔහුම ආත්මයෙහි පවති
න තුබලාගේ ප්‍රේමය අපට දැන්වූ
9. යේය. එබැවින් අපිත් ඒ ඇසූ දා
පටන් තුබලා උදෙසා කඩනැතුව
යාඥාකරමින්, තුබලා සියළු ඥාන
යෙන්ද ආත්මිකවූ තේරුම්ගැනීමෙන්ද
යුක්තව, උන්වහන්සේගේ කැමැත්ත
දැනගෙන, එයින් සම්පූර්ණවෙන
10. පිනිසත්, සියළු හොඳ ක්‍රියාවලින්
සඵලව, දෙවියන්වහන්සේ ඇඳින
ගැනීමෙන් වඞීනව, ස්වාමින්වහන්
සේට සුදුසුව සියළු ආකාරයෙන්
සන්තෝස උපදවන ලෙස හැසිරෙ
11. න පිනිසත්, ප්‍රීතිසහිතව සියළු
ක්ෂාන්තියටද, බොහෝ කල් ඉවසී
මටද, උන්වහන්සේගේ තේජවන්
තවූ බලයෙන් සියළු ශක්තිමත්කම
12. ලැබ ස්ථිරවෙන පිනිසත්, ආලෝ
කයෙහි පවතින සුබවන්තයින්ගේ
උරුමයට පංගුකාරයන්ව සිටින්ට
අප සමර්ථ කලාවූ පියානන්වහන්
සේට සතුති කරමින්, තුබලා උදෙසා
13. යාඥාකොට ඉල්ලමුව. උන්වහන්
සේ අන්ධකාරයේ බලයෙන් අප
ගලවා, තමන් ප්‍රිය පුත්‍රයාගේ රාජ්‍ය
14. යට පැමිනවූසේක. ඒ පුත්‍රයා
නන්වහන්සේ කරනකොටගෙන,
උන්වහන්සේගේ ලේ නිසා, පව්
කමාවනාම්වූ මිදීම අපට ඇත.

15. උන්වහන්සේ නොපෙනෙන්
නාවූ දෙවියන්වහන්සේගේ ස්වරූප
යව, සියළු මැවිල්ලෙන් කුළුඳුල්වූ තැ
16. නන්වහන්සේව සිටිනසේක. උන්
වහන්සේ විසින්, සිංහාසනත්, ස්වාමි
කමුත්, අධිපතිකමුත්, පරාක්‍රමත්
ඇතුළුව, ස්වර්ගයේ සහ පොලොවේ
ඇති පෙනෙන නොපෙනෙන සියල්
ලත්, මවනලද්දේය. ඒ සියල්ල උන්
වහන්සේ කරනකොටගෙන සහ
උන්වහන්සේ උදෙසා මවනලද්දේය;
17. උන්වහන්සේ සියල්ලන්ටම පලමු
සිටියසේක; උන්වහන්සේ කරන
කොටගෙන සියල්ල පවතින්නේය.
18. උන්වහන්සේ සභාව නැමති
ශරීරයට හිසවනසේක. සියල්ලෙහි
උන්වහන්සේට ප්‍රධානකම තිබෙන
පිනිස, උන්වහන්සේම පටන්ගැන්ම
මද, මලවුන් කෙරෙන් කුළුඳුල් තැ
19. නන්වහන්සේද වනසේක. ඇරත්
උන්වහන්සේ කෙරෙහි සියළු සම්පූ
20. ර්ණකම පවතින්ටත්, උන්ව
හන්සේගේ කුරුසියේදී වගුල ලෙ
යින් සමාදානය උපදවා, උන්වහන්
සේ කරනකොටගෙන පොලවේත්
ස්වර්ගයේත් සියල්ල සමගිකරගන්
ටත්, පියානන්වහන්සේ සතුටුවූසේ
21. ක. තවද කලක් වෙන්වී සිටියාවූ,
නපුරු ක්‍රියාවල් නිසා සිතින් සතුරුවූ
22. තුබලා, පිරිසිදුවූ නිවරදිවූ නි
දොස්වූ තැනැත්තන්කොට, තමන්
වහන්සේගේ ඉදිරිපිට සිටුවන පිනි
ස, උන්වහන්සේ පුත්‍රයානන්වහන්
සේගේ මාංසිකවූ ශරීරයෙහි මරනය
කරනකොටගෙන සමගිකලසේක.
23. තුබලා විසින් ඇසුවාවූ, ස්වර්ග
යෙන් යට සියල්ලන්ට ප්‍රකාශකරන
ලද්දවූ සුභාරංචියෙහි බලාපොරොත්
තුවෙන් අහක්නොවී, ඇදහිල්ලෙහි
ස්ථිරව පිහිටනලදුව සිටින්නම්, එසේ
වන්නේය.

24. ඒ සුභාරංචියෙහි සේවකයෙක්
වූ පාවුල්නම් මම, තුබලා නිසා විඳි
න දුක් ගැන සතුටුව, ක්‍රිස්තුස්වහන්
සේගේ ශරීරයනම්වූ සභාව උදෙසා,
මාගේ ශරීරයෙහි උන්වහන්සේගේ
25. ඉතිරි දුක් සම්පූර්ණකරමි. ආදි
කාලේ පටන් පරම්පරාවෙන් පරමු

පරවට සඟවා තිබුනු දුන් දෙවියන්
වහන්සේගේ පිරිසිදුවූවන්ට ප්‍රකාශ
26. ව තිබෙන රහසනම්වූ, දෙවියන්
වහන්සේගේ වචනය සම්පූර්ණ
යෙන් කියා දෙන පිනිස, නුබලා
උදෙසා මට දී තිබෙන දෙවියන්ව
හන්සේගේ නියමය ලෙස, ඒ සභා
27. වේ සේවකයෙක් වෙමි. දෙවි
යන්වහන්සේ අන්‍ය ජාතීන් කෙරෙහි
මේ රහසෙහි තේජස් වස්තුව කිමෙක්
දැයි, පිරිසිදුවූවන්ට දන්වනු කැමති
වූසේක. ඒක තේජස ලැබීමට බලා
පොරොත්තුවනම්වූ, නුබලා තුල ව
28. සන්නාවූ ක්‍රිස්තුස්වහන්සේමය. අ
පි ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙ
හි සියළු මනුෂ්‍යයන් සම්පූර්ණකො
ට සිටුවන පිනිස, සියළු මනුෂ්‍යයන්ට
දැනිමිතිකම දෙමින්, සියළු මනුෂ්‍ය
යන්ට සියළු ඥානයෙන් උගන්වමින්,
උන්වහන්සේ ගැන ප්‍රකාශකරමුව.
29. මෙසේ කරන පිනිස, මමත් මා
තුල බලවත් ලෙස ක්‍රියා කරන උන්
වහන්සේගේ බලයේ හැටියට, වෙ
හෙස දරමින් වැයම්කරමි.

2. පරිච්ඡේ. තවද නුබලා නිසාත්,
ලවොදිකයෙහි සිටින්නන් නිසාත්,
ශරීරාකාරයෙන් මාගේ මූන නුදුටු
සියල්ලන් නිසාත්, කොපමන මහත්
සටනක් මට ඇත්තේදැයි, නුබලා
2. දැනගන්නවාට කැමැත්තෙමි. පි
යවූ දෙවියන්වහන්සේගේත් ක්‍රිස්
තුස්වහන්සේගේත් රහස දැනගැන්
මටද, නුවණේ සම්පූර්ණකම නැම
ති සියළු වස්තුවටද, ඔවුන්ගේ හෘද
ප්‍රේමයෙන් යොදනලදුව සැනසිල්ල
ලබන පිනිස, ඒ සටන මට ඇත්තේ
3. ය. ඒ ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
ඥානයෙහිත් දැනගැම්මෙහිත් සියළු
4. වස්තුව නිධානකරනලද්දේය. ත
වද සිත පොලඹන වචනවලින් කවු
රුවත් නුබලා නොරවටන පිනිස,
5. මේක කියමි. මක්නිසාද මම නුබ
ලා ලඟ ශරීරාකාරයෙන් නොසිටින
නුමුත්, සිතින් නුබලා ලඟ සිට, නුබ
ලාගේ හරි පැවැත්මත්, ක්‍රිස්තුස්ව
හන්සේ කෙරෙහි නුබලාගේ ඇද
හිල්ලේ ස්ථිරකමත්, සන්තෝසයෙන්
6. බල බලා ඉඳිමි. ඉන්නිසා නුබලා
ස්වාමිවූ ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
7. පිලිගත් සෙයින්, උන්වහන්සේ
කෙරෙහි මුල් ඇද උන්වහන්සේ පිට
ගොඩනගනලදුව, නුබලා උගත්
ලෙස ඇදහිල්ලෙන් ස්ථිරව, ස්තුති
කිරීමෙන් එහි අධිවූනුවෙමින්, උන්ව
හන්සේ කෙරෙහි හැසිරියල්ලාය.
8. ක්‍රිස්තුස්වහන්සේ කී ප්‍රකාර නො
ව මනුෂ්‍යයන්ගේ නියෝග ප්‍රකාර
වූද, ලෝක ඉගැන්වීමේ ප්‍රකාරවූද,
ලෞකික නුවනින්ද, නිෂ්ප්‍රයෝජන
රැවටිල්ලෙන්ද, කිසිවෙක් විසින්
නුබලා කොල්ලයක්මෙන් ගෙන
9. නොයන්ට බලාගනිල්ලාය. උන්
වහන්සේ තුල දේව ස්වභාවේ සැම
සම්පූර්ණකම ශරීරාකාරයෙන් වස
10. නේය. සියළු මූලාදෑනිකමේද
බලයේද හිසවූ උන්වහන්සේ තුල
11. නුබලා සම්පූර්ණව සිටිති. තවද
උන්වහන්සේ තුල නුබලා, මාංසයේ
පව් කඳ හැර දැමීම නැමති ක්‍රිස්තුස්
වහන්සේගේ චර්මඡේදනම්වූ අතින්
නොකල ඡේදනයෙන්, චර්මඡේදන ක
12. රනු ලැබුවෝය. නුබලා උන්ව
හන්සේ සමග බව්තීස්මයෙහි තැම්
පත්කරනලදුව, උන්වහන්සේ මර
නින් නැඟිටෙව්වාවූ දෙවියන්වහන්
සේගේ උතුම් බලයෙහි ඇදහිල්
ලෙන් උන්වහන්සේ සමග නැඟිට
13. සිටිති. පාපවලින්ද මාංසයේ
අචර්මඡේදනයෙන්ද මලාවූ නුබලා
උන්වහන්සේ සමග ජීවත්කොට,
14. සැම වරදවල් කමාකලසේක. අ
පට විරුඬවූ, අපට සතුරුව තිබූ නාවූ
පනත්වල ලියවිල්ල මකා, ඒක
අහක්කොට කුරුසියෙහි ඇනගැසූ
15. සේක. උන්වහන්සේ මූලාදෑනීනු

බලසම්පන්නයින්ද මැඩපවත්වා, ප්‍රසි
ද්ධයෙන් ඔවුන් පෙන්වා, ඔවුන්ගෙන්
ජයගත් බව එයින් ප්‍රකාශකලසේක.
16. එබැවින් කෑම ගැනවත්, බීම
ගැනවත්, මංගල්‍ය දවස් ගැනවත්,
අමාවක් ගැනවත්, සබත් දවස්
ගැනවත්, කිසිවෙක් විසින් නුබලා
17. විනිශ්චය කරනු නොලබත්වා. ඒ
දේ මතු පැමිණෙන කාරණවල ඡායා
වය; එහි ශරීරයනම්, ක්‍රිස්තුස්වහන්
18. සේය. නුදුටු දේ සොය සොයා
තමාගේ මාංසික සිතින් නිෂ්ඵලව
උඩඟුවී, පුරුක්වලින්ද නහරවලින්ද
19. ගොතා සාදනලද දෙවියන්ව
හන්සේගේ වර්ධනයෙන් සියළු ශරී
රය වඩන ඉස වැනිවූ ක්‍රිස්තුස්වහන්
සේ බැඳිනොසිටින කවරෙකුටවත්,
තමන්ගේ කැමැත්තෙන් නිහ්කාර
ණ යටත්වීමෙන්ද, දේවදූතයන්ට
පූජාකිරීමෙන්ද, නුබලාගේ විපාකය
නැතිකරන ලෙස, නුබලා රවටන්ට
20. ඉඩනාරිල්ලාය. ඇරත් නුබලා
ක්‍රිස්තුස්වහන්සේ සමග මැරී ලෝක
ඉගැන්වීම්වලින් වෙන්ව සිටින්නම්,
පාවිච්චි කිරීමෙන් විනාසවෙනනාවූ,
21. සියළු දේවලට අත නොගසල්
ලාය, රස නොබලල්ලාය, අතින්
අල්වා නොගනිල්ලායයි කියනනාවූ,
22. මනුෂ්‍යයන්ගේ ආඥාත් ගුරුක
මුත් ලෙසවූ නියෝගවලට, මේ ලෝ
කේම ජීවත්වෙන්නවුන් මෙන්, නු
බලා කීකරුවෙන්නේ මක්නිසාද?
23. තමන්ගේම අභිප්‍රාවේ හැටියට,
වැඳීමෙන්ද යටත්වීමෙන්ද ශරීරයට
හිංසාකරගැනීමෙන්ද යුක්තවූ ඒ දේ
නුවණ ලෙස පෙනෙන්නේය; නුමුත්
එහි කිසි අගයක් නැත; එයින් මාං
සය පෝෂ්‍යයවෙනවා පමනක.

3. පරිච්ඡෙ. ඉදින් නුබලා ක්‍රිස්තු
ස්වහන්සේ සමග නැගුටුවනලද්දෝ
නම්, ක්‍රිස්තුස්වහන්සේ දෙවියන්ව
හන්සේගේ දකුනු පැත්තේ වැඩ
හිඳින තැන ඇත්තාවූ උසස් තැන්හි
2. තිබෙන දේ සොයාපල්ලාය. ලෝ
කයෙහි තිබෙන දේ නොව, උසස්
තැන්හි දේ මෙනෙහිකරපල්ලාය.
3. මක්නිසාද නුබලා මලෝය; නුබ
ලාගේ ජීවිතය ක්‍රිස්තුස්වහන්සේ
සමග දෙවියන්වහන්සේ කෙරෙහි
4. සඟවා තිබෙන්නේය. අපේ ජීව
නයනම්වූ ක්‍රිස්තුස්වහන්සේ පෙනෙ
නකල, නුබලාත් උන්වහන්සේ සමග
5. තේජසින් පෙනෙනවා ඇත. ඒ
හෙයින් මේ ලෝකේ නුබලාගේ අව
යව වැනිවූ මිථ්‍යාචාරකමත්, අපිරිසිදු
කමත්, කාමරාගයත්, නපුරු තෘෂ්ණා
වත්, දේවතාවුන් වැඳීම වැනිවූ
6. ලෝභකමත් නසාපල්ලාය. මේ
දේ නිසා දෙවියන්වහන්සේගේ උද
හස අකීකරුකමේ දරුවන්ට පැමි
7. ණෙන්නේය. ඔවුන් සමග පලමු
කාලේ නුබලා ජීවත්ව සිටිද්දී, එම
දේවල් කරමින් හැසුරුනෝය.
8. දැන් නුබලා කිපීමත්, තරහත්,
වෛරයත්, අපහාසයත්, නුබලාගේ
කටින් සල්ලාල කථාවළුත් යන මේ
9. සියල්ල අත්ඇර දමාපල්ලාය. නු
බලා පරන මනුෂ්‍යයා ඔහුගේ ක්‍රියා
10. වල් සමග හැරදැමූ නිසාත්, ත
මන් මැවූ තැනන්වහන්සේගේ ස්වරූ
පය ලෙස දැනීමෙන් අළුත්කරනු
ලබන අළුත්වූ මනුෂ්‍යයා පැලඳගත්
නිසාත්, ඔවුනොවුන්ට බොරු නො
11. කියල්ලාය. එහි ග්‍රීකයෙක්වත්,
යුදෙව්වෙක්වත්, චර්මඡෙදනයවත්,
අචර්මඡෙදනයවත්, මෙලච්ඡයෙක්වත්,
සකිතියෙක්වත්, නොවාලෙක්වත්,
වාලෙක්වත් නැත. නුමුත් සියල්ලන්
කෙරෙහි සියල්ලම ක්‍රිස්තුස්වහන්සේ
12. වේ. එහෙයින් දෙවියන්වහන්සේ
ගේ තෝරාගත් පිරිසිදුවූ සෙත්ත
ඇත්තන් මෙන්, හිතේ අනුකම්පා
වත්, දයාවත්, හිතේ යටත්කමත්,
මුදුකමත්, බොහෝ කල් ඉවසීමත්
13. පැලඳගෙන, ඔවුනොවුන් කෙ

රේ ඉවසමින්, යමෙකුගෙන් යමෙ
කුට වැරැද්දක් ඇත්නම්, ක්‍රිස්තුස්
වහන්සේ තුබලාට කමාකලසේම,
තුබලාත් ඔවුනොවුන්ට කමාවෙයල්
14. ලාය. සම්පූර්ණකමේ පටිය
නම්වූ ප්‍රේමය මේ සියල්ලටම උඩින්
15. පැලඳගනිල්ලාය. දෙවියන්වහන්
සේගේ සමාදානය තුබලාගේ හෘද
වල අධිපතිකම් කෙරේවා; එයට
තුබලා එක ශරීරයෙහි කැඳවනලද්
දේය. තවද සතුතිවන්තව සිටපල්
16. ලාය. ක්‍රිස්තුස්වහන්සේගේ වච
නය සියළු ඥානයෙන් තුබලා කෙ
රෙහි සම්පූර්ණවසයෙන් වාසය
කෙරේවා. තුබලා ගීතිකාවලින්ද,
ආත්මික කවිවලින්ද, සතුති ගීතිකා
වලින්ද ඔවුනොවුන්ට උගන්වමින්,
දූනමිතිකම් දෙමින්, තුබලාගේ හෘද
වල ප්‍රීතියෙන් ස්වාමින්වහන්සේට
17. ගීතිකා කියාපල්ලාය. තුබලා
කියන කරන සියල්ල ස්වාමිවූ යේසු
ස්වහන්සේගේ නාමයෙන් කරමින්,
උන්වහන්සේ කරනකොටගෙන පි
යවූ දෙවියන්වහන්සේට සතුතිකර
පල්ලාය.

18. භාය්‍යාවෙනි, ස්වාමින්වහන්
සේට සුදුසු ලෙස තුබලාගේ පුරුෂ
19. යන්ට කීකරුවෙයල්ලාය. පුරුෂ
යෙනි, තුබලාගේ භාය්‍යාවන්ට ප්‍රේ
මකොට, ඔවුන්ට විරුඬව කකීශ
20. නොවෙල්ලාය. දරුවෙනි, සියළු
කාරණවලදී මව්පියන්ට කීකරුවෙ
යල්ලාය; ඒක ස්වාමින්වහන්සේට
21. ප්‍රියය. පියවරුනි, තුබලාගේ දරු
වන්ගේ සිත් ප්‍රමාදනොවෙන පිනිස,
ඔවුන්ට කෝප නොඋපදවාපලලාය.
22. වාළුනි, ශරීරකාරයෙන්වූ තුබ
ලාගේ ස්වාමිවරුන්ට සියල්ලෙහි
කීකරුවෙයල්ලාය. මනුෂ්‍යයන් සතු
ටුකරන්නන් මෙන් පෙනීමට වැඩ
නොකොට, හිතේ ඇදනැතිකමෙන්
දෙවියන්වහන්සේට භය ඇතිව වැඩ
23. කොට, තුබලා කරන සියළු දේම
මනුෂ්‍යයන්ට මෙන් නොව ස්වාමින්
වහන්සේට මෙන්, හොඳ සිතින් කර
24. පල්ලාය. තුබලා ස්වාමිවූ ක්‍රිස්තු
ස්වහන්සේට වැඩකරන නිසා, ස්වා
මින්වහන්සේගෙන් උරුම නැමති
25. විපාකය ලබතියි දනිති. දෙවිය
න්වහන්සේ තරාතිරම් නොබලන
නිසා, අයුතුකම් කරන්නා තමා කල
අයුතුකමේ ඵලය ලබන්නේය.

4. පරිච්. ස්වාමිවරුනි, ස්වර්ග
යෙහි තුබලාටත් ස්වාමි කෙනෙක්
ඇතැයි දැන, තුබලාගේ වාළුන්ට
2. ධර්මිෂ්ඨවූ සුදුසු දේ දීපල්ලාය. තු
බලා යාඥාවෙහි ප්‍රමාද නොවී, සතුති
කිරීමෙන් එහි අවදිව සිටපල්ලාය.
3. ක්‍රිස්තුස්වහන්සේගේ රහස උදෙ
සා විලංගුවලින් බඳනාලද්දාවූ මා
විසින් කියයුතු අන්දමෙන් ඒ රහස
4. ප්‍රකාශකරන පිණිසද, දෙවියන්ව
හන්සේ ඒක කියන්ට අපට වචන
දොර හරින පිණිසද, අප ගැනත්
5. යාඥාකරපල්ලාය. තුබලා කාලය
සඵලකරමින්, පිටත සිටින්නන් සම
6. ග ඥානයෙන් හැසිරියල්ලාය. කො
යි කෙනෙකුට තුමුත් උත්තර දෙන්
ට ඕනෑ හැටි තුබලා දැනගන්නා
පිනිස, තුබලාගේ කථාව ලුණෙන්
රස ඇතිව නිතරම කරුණාවෙන්
7. යුක්තවේවා. ප්‍රිය සහෝදරවූ, විශ්
වාස සේවකවූ, ස්වාමින්වහන්සේට
මා සමග වැඩකරන්නාවූ තිඛිකස්
මගේ සියළු පැවැත්ම තුබලාට දන්
8. වන්නේය. තුබලාගේ පැවැත්ම
දැන තුබලාගේ සිත් සනසන්ට,
9. තුබලාගෙන් එකෙක්වූ විශ්වාස
ප්‍රිය සහෝදරයෙක්වූ ඔනේසිමස්
සමග, ඔහු තුබලා ලඟට එව්වෙමි.
මෙහි තිබෙන සෑම පැවැත්ම ඔවුන්
10. තුබලාට දන්වනවා ඇත. මා සම
ග බැඳුම් ලැබූ අරිස්තාකීස්ද, බා
ර්ණබස්ගේ බෑනාවූ මාකීස්ද, තුබ
ලාට ආචාර කරති. මාකීස් ගැන

තුබලා ආඥා ලැබුවෝය; ඔහු තුබලා ලඟට ආවොත්, ඔහු පිළිගනිල්ලාය. 11. යුස්තස් නම්වූ යේසුස්ද තුබලාට ආචාරකරන්නේය. චර්මඡේදීන්ගෙන් මොවුන් පමනක්, දෙවියන්වහන්සේගේ රාජ්‍යය උදෙසා මා සමග සේවකයෙවෙමින්, මට සැනසිල් 12. ලක් වූනෝය. තුබලාගෙන් එකෙක්වූ, ක්‍රිස්තුස්වහන්සේගේ වැඩකාරවූ එපප්‍රස් තුබලාට ආචාර කරනෙන්ය. තුබලා දෙවියන්වහන්සේගේ සියළු කැමැත්තෙහි හරි ආකාර සම්පූර්ණව සිටින පිනිස, ඔහු යාඥාවලින් තුබලා ගැන නිතරම උත්සා 13. හ කරන්නේය. තුබලා උදෙසාත්, ලවොදිකයෙහිද හියරපොලියෙහිද සිටින්නන් උදෙසාත්, ඔහුට මහත් ආදරයක් ඇති බවට සාක්ෂි 14. වෙමි. ප්‍රියවූ ලූක්නම් වෙදද, දේමස්ද, තුබලාට ආචාරකරති. 15. ලවොදිකයෙහි සිටින සහෝදරයන්ටත්, නිම්ඵස්ටත්, ඔහුගේ ගෙදර සභාවටත්, ආචාරකරපල්ලාය. 16. මේ ලියමන තුබලා කියෙවූ පසු, ලවොදිකයන්ගේ සභාවෙහි කියවනු ලබන්ටද, ලවොදිකයෙන් එවන ලියමන තුබලාත් කියවන්ටද, බලා 17. ගනිල්ලාය. ස්වාමින්වහන්සේ තෙන් තුබ ලැබූ මෙහෙය සම්පූර්ණ කරන්ට බලාගනින්නැයි ආර්ඛිප් 18. පස්ට කියාපල්ලාය. පාවුල්නම්වූ මම මගේ අතින් ලියන ආචාරකිරීමයි. මම බැඳි සිටින බව සිහිකරපල්ලාය. කරුනාව තුබලා සමග වේවා. ආමෙන්.

## ප්‍රේ රි ත වූ පා වු ල් වි සි න්

## තෙසලෝනිකයන්ට ලියනලද පලමුවෙනි පත්‍රය.

1. පරිච්ඡේදය. පාවුල්ද, සිල්වානස්ද, තිමෝතියස්ද යන අප විසින්, පියවූ දෙවියන්වහන්සේ කෙරෙහිත් ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහිත් සිටින තෙසලෝනිකයන්ගේ සභාවට, අපගේ පියවූ දෙවියන්වහන්සේගෙන්ද, ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද, කරුනාවත් සමාදානයත් වෙන ලෙස, 2. ලියා එවන වගනම්. දෙවියන්වහන්සේට ප්‍රියවූ සහෝදරයෙනි, උන්වහන්සේ විසින් තුබලා තෝරාගත් බව දැන, අපේ යාඥාවලදී තුබ 3. ලා මතක්කොට, අපගේ පියවූ දෙවියන්වහන්සේ ඉදිරියෙහි තුබලාගේ ඇදහිල්ලේ ක්‍රියාවද, ප්‍රේමයෙහි වෑයම්ද, අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි තුබලාගේ බලාපොරොත්තුවෙන් යුක්තවූ 4. ඉවසීමද නිතර සිහිකරමින්, තුබලා සියල්ලන් උදෙසා දෙවියන්වහන් 5. සේට නොකඩව ස්තුතිකරමුව. අපේ සුභාරංචිය වචනයෙන් පමනක් නොව, බලයෙන්ද, ශුද්ධාත්මයෙන්ද, නිසැක විශ්වාසයෙන්ද, තුබලා වෙතට පැමිනුනේය. ඇරත් තුබලා නිසා අපි තුබලා අතරෙහි කොයි ආකාර තැනැත්තෝ වීමුදැයි, තුබලා 6. දනිති. තුබලා බොහෝ දුක් විඳිද්දී, ශුද්ධාත්මයානන්වහන්සේගේ සන්තෝෂයෙන් වචනය පිළිගෙන, අපගේද ස්වාමින්වහන්සේගේද පා 7. රේ යන්නෝ වූවෝය. එසේන් තුබලා මකිදෝනියෙහිද අඛායෙහිද සිටින සියළු ඇදහිලිවන්තයන්ට 8. ආදර්ශව සිටියෝය. තුබලාගෙන්

ස්වාමීන්වහන්සේගේ වචනය මකි
දෝනියෙහිද අඛායෙහිද ප්‍රකාශකර
නලද්දේය. එපමනක් නොව, අප
විසින් කිසි දෙයක් කියන්ට ඕනෑ
නොවෙන ලෙස, දෙවියන්වහන්සේ
කෙරෙහි ඇති තුබලාගේ ඇදහිලල
9. සියළු තැනම පතලවූනේය. මක්
නිසාද තුබලා ලඟට අපි ආවේ
කොයි ආකාරද කියාත්, ජීවමානවූ
සැබෑවූ දෙවියන්වහන්සේට වැඩක
10. රන පිනිසද, උන්වහන්සේ විසින්
මලවූන්ගෙන් නැගුටුවනලද්දවූ, ම
තු පැමිනෙන උදහසින් අප ගල
වන්නාවූ, තමන් පුත්‍රවූ යේසුස්ව
හන්සේ ස්වර්ගයෙන් එනවා බලා
සිටින පිනිසද, තුබලා දේවතාවන්
ඇදහිමෙන් වෙන්ව, දෙවියන්වහන්
සේ වෙතට හැරුනේ කොහොමද
කියාත්, ඔවුන් දන්වාදෙති.

2. පරිච්ඡ. සහෝදරයෙනි, තුබ
ලා වෙතට අපේ ඊම නිස්ඵලනූන
2. බව තුබලාම දනිති. තුබලා
දන්නා හැටියට, අපි පලමුවෙන්
පිලිප්පියෙහිදී දුක්ද නින්දාද වින්ද
මෝ නුමුත්, මහත් සටනෙන් දෙවි
යන්වහන්සේගේ සුභාරංචිය තුබලාට
කියාදෙන්ට, අපගේ දෙවියන්වහන්
සේ කරනකොටගෙන භය නැතුව
3. සිටියෙමුව. තවද අපේ දූනිමිති
කම් ප්‍රයෝගයෙන්වත්, අපිරිසිදුක
මින්වත්, රැවටිල්ලෙන්වත් තිබුනේ
4. නැත. තුමුත් සුභාරංචි අපට භාර
දෙන්ට දෙවියන්වහන්සේ අප තෝ
රාගත් හෙයින්, මනුෂ්‍යයන් නොව
අපේ සිත් විමසන දෙවියන්වහන්සේ
සතුටුකරන්නවුන් මෙන් කියමුව.
5. අපි කිසි කලකත් ඉච්චා වචන
නොකී බව තුබලා දනිති. ලෝභ
අදහසක් අපට නොතිබුනු බවට,
දෙවියන්වහන්සේ සාක්ෂිකාරයෙක.
6. අපි ක්‍රිස්තුස්වහන්සේගේ ප්‍රේරිත
යෝ බැවින්, බලය පවත්වන්ට පුලුව
තිබෙද්දී, තුබලාගෙන්වත් අනුන්
ගෙන්වත් මනුෂ්‍ය ගෞරවය නො
7. සොයා, කිරි මවක් ඇගේ දරු
වන් උනුහුම්කරගන්නාක්මෙන්, තු
බලා අතරෙහි මොලොක් ගුන ඇති
8. වූනෙමුව. මෙසේ අපි තුබලාට
බොහෝ ආදරේ ඇති බැවින්, දෙවි
යන්වහන්සේගේ සුභාරංචිය ප්‍රකාශ
කරන්ට පමනක් නොව, තුබලාට
ඇත්තාවූ අපේ ආදරය නිසා අපේ
ප්‍රානවල්ද තුබලා උදෙසා දෙන්ට
9. කැමතිවූනෙමුව. ඇරත් සහෝ
දරයෙනි, අපේ වැයමත් මාන්සියත්
තුබලාට සිහි ඇත. මක්නිසාද තුබ
ලාගෙන් කාටවත් අපි බර නොවෙ
න පිනිස, රෑ දවල් කර්මාන්ත කර
මින්, දෙවියන්වහන්සේගේ සුභාර
චිය තුබලාට ප්‍රකාශ කෙලෙමුව.
10. අදහන තුබලා අතරෙහි අපි
කොපමන පිරිසිදුව ධර්මිෂ්ටව නිදෝ
ෂව හැසුරුනෙමුදැයි, තුබලාත් දෙවි
11. යන්වහන්සේත් සාක්ෂිවෙති. ත
මන් දරුවන්ට පියෙක්මෙන්, තුබලා
එක එකාට අපි අවවාදකොට සන
12. සා, තමන්වහන්සේගේ රාජ්‍යය
ටත් තේජසටත් තුබලා කැඳවූ දෙවි
යන්වහන්සේට ඔබින ලෙස හැසිරි
යල්ලායයි කියා, තුබලාට අන දුන්
13. හැටි තුබලා දනිති. අපෙන්
තුබලා දෙවියන්වහන්සේගේ වච
නය අසා පිලිගත්කල්හි, ඒක සැබෑ
වටම දෙවියන්වහන්සේගේ වචනය
බැවින්, මනුෂ්‍යයන්ගේ වචන ලෙස
නොගෙන දෙවියන්වහන්සේගේ වච
නය ලෙස පිලිගත් බවට, අපි දෙවි
යන්වහන්සේට නිතරම ස්තුතිකර
මුව; අදහන්නාවූ තුබලා කෙරෙහි
ඒ වචනය සම්පූර්ණවසයෙන් ක්‍රියා
කරන්නේය.

14. තවද සහෝදරයෙනි, තුබලා
ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහි
ඇත්තාවූ යුදයෙහි සිටින දෙවියන්
වහන්සේගේ සභාවල ආදිශය පසුව

සන්තෝව, ඔවුන් යුදෙව්වන්ගෙන්
වින්ද හැටියට නුඹලාගේ රට වැසි
යන්ගෙන් නුඹලාත් වින්දෙහුය.
15. ඒ යුදෙව්වරු ස්වාමිවූ යේසුස්ව
හන්සේද, තමන්ගේම අනාගතවක්
තෘන්ද නැසුවෝය; අපටත් පීඩා
කළෝය. ඔවුන් දෙවියන්වහන්සේ
සතුටුනොකරති; සියළු මනුෂ්‍යයන්ට
16. විරුඩව සිටිති. අන්‍යජාතීහු ගැල
වීම ලබන ලෙස ඔවුන් සමග කථා
කිරීම වලක්වන්ට උත්සාහ කරමින්,
තමන්ගේ පාපවල් නිතරම සම්පූ
ර්ණකරති; දැන්ම උදහස ඔවුන්
කෙරෙහි සම්පූර්ණලෙස පැමිනෙ
17. නේය. සහෝදරයෙනි, අපි
හිතෙන් නොව ශරීරවසයෙන් නුඹ
ලාගෙන් ස්වල්ප කාලයකට අහක්වූ
බැවින්, නුඹලාගේ මූන බලන්ට
ඉතා කැමැත්තෙන් බොහෝ උත්
18. සාහ කෙලෙමුව. එබැවින් පාවුල්
නම්වූ මා ප්‍රධානකොට අපි එක්
වරක් දෙවරක් නුඹලා ලඟට එන්ට
කැමතිවූනෙමුව; නුමුත් සාතන් අප
19. වැලැක්කුවේය. අපගේ ආසා
වත්, සන්තෝසයත්, ප්‍රීතියේ ඔටුන්
නත් කිමෙක්ද? අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ ඊමෙ
හිදී, උන්වහන්සේගේ ඉදිරිපිටදී,
20. නුඹලාම නොවෙද්ද? අපේ
ගෞරවයත් සන්තෝසයත් නුඹලා
මය.

3. පරිච්ඡෙ. එහෙයින් අපි තවත්
ඉවසන්ට බැරිව, කැමැත්තෙන්ම
2. අතිනසයෙහි තනියම සිටගන, නු
ඹලාගෙන් කවුරුවත් පීඩාවලින්
චංචල නොවෙන ලෙස, අපේ සහෝ
දරවූද, දෙවියන්වහන්සේගේ සේව
කවූද, ක්‍රිස්තුස්වහන්සේගේ සුභාර
ංචියෙහි අප සමග වැඩකරන්නාවූද
තිමෝතියස් නුඹලා ස්ථිරකරන පිනි
සත්, ඇදහිල්ල ගැන නුඹලා සන
සන පිනිසත්, නුඹලා ලඟට යැව්මුව.
3. අපි මේ පීඩාවලට නියමව සිටිමු
4. යයි, නුඹලාම දනිති. අපි නුඹලා
ලඟ සිටිද්දී, අපි දුක් විඳින්ට ඕනෑ
බව, පලමුවෙන් නුඹලාට කීමුව.
එලෙසම සිඬවූන බව නුඹලා දනිති.
5. එබැවින් මම තවත් ඉවසන්ට
බැරිව, අපේ වෑයම නිෂ්ඵලවෙන
ලෙස පරීක්ෂකයා නුඹලා පරීක්ෂා
කලේද්‍ය කියා, නුඹලාගේ ඇදහිල්
ල දැනගන්නා පිනිස ඔහු යැව්මි.
6. දැන් සහෝදරයෙනි, තිමෝති
යස් නුඹලා ලඟින් අප වෙතට
ඇවිත්, නුඹලාගේ ඇදහිල්ලත්,
ප්‍රේමයත්, නුඹලා නිතරම අප යහ
පත් ලෙස සිහිකොට, නුඹලා දකින්
ට අපේ ආසාව සේම, අප දකින්ට
නුඹලාගේ ආසාත්, යන අපට දැන්වූ
7. හොඳ ආරංචි නිසා, අපේ සියළු
දුකෙහිත් සෝකයෙහිත් නුඹලාගේ
ඇදහිල්ල නිසා නුඹලා ගැන සැන
8. සිල්ල ලැබිමුව. ඉතින් නුඹලා
ස්වාමින්වහන්සේ කෙරෙහි ප්‍රතිටා
9. සිටින්නම්, අපි ජීවත්වෙමුව. නුඹ
ලාගේ මූන දකින ලෙසද, නුඹලාගේ
ඇදහිල්ලේ හිගකම සම්පූර්ණක
රන ලෙසද, රෑ දවල් බොහෝසෙ
10. හින් යාඥකරන්නාවූ අපි, අප
ගේ දෙවියන්වහන්සේ ඉදිරියේ නුඹ
ලා නිසා සතුටුවෙන සියළු සන්තෝ
සයට, නුඹලා ගැන දෙවියන්වහන්
සේට කොහොම සතුතිකරමුද?
11. අපගේ පියවූ දෙවියන්වහන්
සේත්, අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේත්, නුඹලා ලඟට අපේ
12. ගමන සිද්දකරනසේක්වා. අපි නුඹ
ලාට ප්‍රේමකරනසේම, ස්වාමින්වහන්
සේ නුඹලා ඔවුනොවුන්ටත්, සියල්
ලන්ටත්, ප්‍රේමයෙන් සම්පූර්ණවන
13. ලෙස වර්ධනකරනසේක්වා. අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේ තමන් පිරිසිදුවූවන් සමග එන
කල, නුඹලා අපගේ පියවූ දෙවියන්
වහන්සේ ඉදිරිපිට පිරිසිදුව නිදොස්ව

සිටින්ට, තුබලාගේ සිත් ස්ථිරකරන
සේක්වා.

4. පරිච්ඡේ. තවද සහෝදරයෙනි,
අපි ස්වාමිවූ ජේසුස්වහන්සේගේ
නමින් තුබලාට කෙබඳු අනාඥාවල්
දුනිමුදැයි තුබලා දන්නා බැවින්,
2. තුබලා විසින් දෙවියන්වහන්සේ
සතුටුකරණ පිනිස කෙසේ හැසිරිය
යුතුදැයි, අපෙන් දැනගත් ලෙසම,
තුබලා වැඩි වැඩිව වර්ධනවෙන්ට,
ස්වාමිවූ ජේසුස්වහන්සේගේ නමින්
තුබලාගෙන් ඉල්ලමින්, අවවාද කර
3. මුව. තවද තුබලා ගැන දෙවියන්
වහන්සේගේ කැමැත්තනම්, තුබලා
පිරිසිදුව සිට, මෛථුනකමින් වැලකී,
4. තුබලාගෙන් එක එකා තම තමා
5. ගේ ශරීර නැමති භාජන, දෙවි
යන්වහන්සේ නාඳුනන්නාවූ අන්‍ය
ජාතීන් මෙන් කාමරාගයෙහි නොව,
පිරිසිදුකමෙහිත් ගෞරවයෙහිත් ත
6. බාගැනීමය. මේ කාරණාව ගැන
කවුරුවත් තමන්ගේ සහෝදරයා
නොරවටා, වංචා නොකරල්ලාය.
මක්නිසාද පලමු අපි තුබලාට ප්‍රසිද්ධ
කොට කියාදුන් ලෙස, ඒ සියල්ලන්
ට ස්වාමින්වහන්සේ විපාකදෙනසේ
7. ක. දෙවියන්වහන්සේ ශුද්ධවන්ත
කමට මිස, අපිරිසිදුකමට අප කැ
8. දෙව්වේ නැත. එහෙයින් මේ
වචන නොසලකන තැනැත්තා,
මනුෂ්‍යයා නොව, අපට ශුද්ධාත්මය
දුන් දෙවියන්වහන්සේ නොසලකන්
9. නේය. ඔවුනොවුන්ට ප්‍රේමකරන්
ට තුබලාම දෙවියන්වහන්සේගෙන්
ඉගනගත් බැවින්, සහෝදර සෙන්
හය ගැන තුබලාට මාගේ ලිවුමෙන්
10. කමක් නැත. තුබලා මකිදෝනිය
මුළුල්ලෙහි සිටින සහෝදරයන්ට
සෙන්හකරති; එහෙත් සහෝදර
යෙනි එහි වඩ වඩා වර්ධනවෙන්ට
11. තුබලාගෙන් ඉල්ලමුව. තවද
අපි අන දුන් ලෙස, නිස්කලංකව
සිටන්ටත්, තමන්ගේම කාරණාවල්
12. සලකන්ටත්, පිටත සිටින්නන්
කෙරේ තුබලා හොඳින් හැසිරෙමින්,
කිසි හිඟයක් තුබලාට නොවෙන
පිනිස තමන්ගේ අතින් කර්මාන්ත
කරන්ටත්, උත්සාහ කරපල්ලාය.
13. තවද සහෝදරයෙනි, තුබලා
බලාපොරොත්තුව නැති අන් තැ
නැත්තන් මෙන් සෝක නොවෙන
පිනිස, සැතපෙන්නවුන් ගැන දැන
නොගෙන සිටිනවාට මම කැමති
14. නැත. මක්නිසාද ජේසුස්වහන්
සේ මැරී නැවත නැඟුටුනුසේකැයි
අපි අදහමුව; එසේම ජේසුස්වහන්
සේ කෙරෙහි සැතපෙන්නවුන් උන්
වහන්සේ සමග දෙවියන්වහන්සේ
15. ගෙනෙනසේක. ඇරත්, ස්වාමින්
වහන්සේ එනතුරු ජීවත්ව ඉතිරිව
සිටින අපි සැතපෙන්නවුන්ට ඉස්
සර නොවෙමුයයි, ස්වාමින්වහන්සේ
ගේ වචනයෙන් තුබලාට කියමුව.
16. මක්නිසාද ස්වාමින්වහන්සේම
ඝෝෂාවද ප්‍රධාන දූතයාගේ සැඩ
යද ඇතුව, ස්වර්ගයෙන් බස්නාසේ
ක; එවිට ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
මලාහු පලමුකොට නැඟිටිනවා.
17. ඇත. ඉන්පසු ජීවත්ව ඉතුරුව
සිටින අපි ඔවුන් සමග එකවිටම
අහසේදී ස්වාමින්වහන්සේගේ පෙර
මගට වලාකුලෙන් ගෙන යනු ලබ
මුව; මෙසේ නිතරම ස්වාමින්වහන්
18. සේ සමග සිටින්නෙමුව. එබැ
වින් මේ වචනවලින් ඔවුනොවුන්
සනසාගනිල්ලාය.

5. පරිච්ඡේ. සහෝදරයෙනි, කාල
යන්ද වේලාවන්ද ගැන, තුබලාට
2. ලියන්ට කමක් නැත. මක්නිසාද
රාත්‍රියෙහි සොරෙක් එන්නාක්මෙන්
ස්වාමින්වහන්සේගේ දවස පැමිණෙ
නෙන්යයි, තුබලාම හොඳහැටි දනි
3. ති. මිනිස්සු, "සමාදානයයි ආරක්ෂා
නැතැයි" කියනකල, ගර්භිනියට

වදන වේදනාව පැමිණෙන්නාක්
මෙන්, ඔවුන්ට ගැලවී යන්ට බැරි
ලෙස හදිස්සියෙන් විනාශය පැමි
4. ණෙන්නේය. නුමුත් සහෝදරයෙ
නි, ඒ දවස සොරෙක් මෙන් නුබලා
කෙරේ පැමිණෙන්ට, නුබලා අන්ධ
5. කාරේ සිටින්නෝ නොවෙති. නු
බලා සැමදෙන ආලෝකයෙහිද දවා
ලෙහිද දරුවෝ වෙති; අපි රාත්‍රිය
ගේවත් අන්ධකාරයගේවත් තැනැ
6. ත්තෝ නොවෙමුව. එබැවින්
වෙන තැනැත්තන් ලෙස අපි නිද
නොගෙන, අවදිව සිහි ඇතුව සිටි
7. මුව. නිදගන්නෝ රාත්‍රියෙහි නිද
ගනිති; බීමත්වෙන්නෝ රාත්‍රියෙහි
8. මත්වෙති. එහෙත් දවාලගේ
තැනැත්තෝවූ අපි සිහියෙන් යුක්
තව, ඇදහිල්ල සහ ප්‍රේමය නැමති
ලයවැස්මත්, ගැලවීමෙහි බලාපො
රොත්තුව නැමති ආරක්ෂා තොප්පි
9. යත් පැළඳගනිමුව. මක්නිසාද
දෙවියන්වහන්සේ, උදහසට නොව
අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ කරනකොටගෙන ගැලවීම
ලබාගන්ට, අප නියමකලසේක.
10. අපි නොනිදා හිඳිතත් නිදගනි
තත් උන්වහන්සේ සමග අපි ජීවත්
වෙන පිනිස, උන්වහන්සේ අප උදෙ
11. සා මලසේක. එබැවින් නුබලා
කරන්නාක්මෙන්, ඔවුනොවුන් සන
සා, ඔවුනොවුන්ට වැඩසිබකරපල්
12. ලාය. තවද සහෝදරයෙනි, නුබ
ලා අතරෙහි ස්වාමින්වහන්සේ කෙ
රෙහි නුබලාට ප්‍රධානිව සිට වෙහෙ
ස දරන්නාවූ අවවාද කරන්නාවූන්
සලකන්ටත්, ඔවුන්ගේ වැඩ නිසා
ප්‍රේමයෙන් ඔවුන් අගේකොට සිතන්
ටත්, නුබලාගෙන් ඉල්ලමුව. ඔවු
14. නොවුන් සමගිව සිටපල්ලාය. ස
හෝදරයෙනි, අනාචාර කරනනන්ට
අවවාද කරපල්ලාය, බෙලහින සිත්
ඇත්තන් සනසාපල්ලාය, දුර්වලයන්
ට පිහිටවෙයල්ලාය, සියල්ලන් කෙ
රේ බොහෝ කල් ඉවසාපල්ලායයි
15. නුබලාට දුනුමුතුකම් කියමුව. කි
සිවෙක් කාටවත් නපුරට නපුර නො
කොට, ඔවුනොවුන්ටත් සියල්ලන්
ටත් නිතරම යහපත්කම කරන
16. ලෙස බලාගනිල්ලාය. සැම දම
17. සන්තෝසවෙයල්ලාය; නොක
18. ඩව යාඥකරපල්ලාය; සියල්
ලෙහි සතුතිකරපල්ලාය; මක්නිසාද
ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කරන
කොටගෙන නුබලා ගැන දෙවියන්
වහන්සේගේ කැමැත්ත මේය.
19. ආත්මයානන්වහන්සේ නොනි
20. වල්ලාය; දේසනා පැවැත්වීම
21. සුළුකොට නොසිතල්ලාය; සිය
ල්ල පරීක්ෂාකොට, යහපත් දේ
22. තදින් අල්වාගනිල්ලාය; නපුරු
යයි පෙනෙන සියල්ලෙන්ම වැලකි
23. යල්ලාය. තවද සමාදානයේ දෙ
වියන්වහන්සේම සියළු ආකාරයෙන්
නුබලා පිරිසිදුකරනසේක්වා; නුබ
ලාගේ මුළු ආත්මයත්, ප්‍රානයත්,
ශරීරයත්, අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ ඊම දක්වා,
නිදෙස්ව රක්ෂාකරනු ලැබෙත්වා;
24. නුබලා කැදවන්නාවූ තැනන්
වහන්සේ විස්වාස කෙනෙක; උන්
වහන්සේ ඒක ඉෂ්ටකරදෙනසේක.
25. සහෝදරයෙනි, අප උදෙසා
26. යාඥකරපල්ලාය. සියළු සහෝ
දරයන්ට පිරිසිදුවූ සිඹීමකින් ආචාර
27. කරපල්ලාය. මේ ලිවුම පිරිසිදුවූ
සියළු සහෝදරයන් ඉදිරියේ කිය
වන්ට, ස්වාමින්වහන්සේගේ නාමීන්
28. නුබලාට ආඥකරමි. අපගේ ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
කරුනාව නුබලා සමග වේවා.
ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්

# තෙසලෝනිකයන්ට ලියනලද දෙවෙනි පත්‍රය.

1\. පරිච්ඡේදය. පාවුල්ද සිල්වා
නස්ද තිමෝතියස්ද යන අප විසින්,
අපගේ පියවූ දෙවියන්වහන්සේ
කෙරෙහිද, ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්
වහන්සේ කෙරෙහිද සිටින තෙස
2\. ලෝනිකයන්ගේ සභාවට, අප
ගේ පියවූ දෙවියන්වහන්සේගෙනුද,
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගෙන්ද, කරුනාවත් සමාදානයත්
වේවාලෙස, ලියා එවන වගනම්.
3\. සහෝදරයෙනි, අප විසින් තුබලා
උදෙසා දෙවියන්වහන්සේට නිතරම
ස්තුතිකරන්ට සුදුසුය; තුබලාගේ
ඇදහිල්ල බොහෝසෙයින් වැඩිවන
නිසාත්, ඔවුනොවුන් කෙරේ තුබලා
සියල්ලන්ගේ ප්‍රේමය බෝවන නි
4\. සාත්, එසේ කරන්ට යුතුය. එබැ
වින් තුබලා විඳින්නාවූ සියළු පීඩා
වලදීත් දුක්වලදීත් තුබලාගේ ඉව
සීමද ඇදහිල්ලද නිසා, අපිම තුබලා
ගැන දෙවියන්වහන්සේගේ සභා
5\. වලදී ගරුකම් කියමුව. තුබලා
දෙවියන්වහන්සේගේ රාජ්‍යය නිසා
දුක් විඳිති; ඒක තුබලා ඒ රාජ්‍යයට
පැමිනෙන්ට සුදුස්සෝයයි ගනන්
ගනු ලබන බවට, දෙවියන්වහන්සේ
ගේ ධර්මිෂ්ඨ විනිශ්චයේ ඔප්පුවක.
6\. ඇරත් ස්වාමිවූ යේසුස්වහන්සේ
තමන්ගේ බලවත්වූ දූතයන් සමග
7\. ස්වර්ගයෙන් පෙනී, දෙවියන්ව
හන්සේ නාඳුනනනාවූන්ටත්, අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ සුභාරංචියට අකීකරුවෙන්නන්
8\. ටත්, ඇවිලෙන ගින්නෙන් අච්චු
කරනකල්හි, දෙවියන්වහන්සේ තුබ
ලාට දුක් දෙන්නන්ට දුකත්, දුක්
විඳින තුබලාට අප සමග සැනසීමත්,
යන ප්‍රති ඵල දෙනසේක; ඒක දෙවි
යන්වහන්සේ ඉදිරියෙහි ධර්මිෂ්ඨවූ
9\. කාරනාවක්ය. ස්වාමින්වහන්සේ
ඒ දවසේදී තමන් පිරිසිදුවූවන් නිසා
ගෞරවයට පැමිනෙන්ටත්, අපේ
සාක්කිය අදහගත් තුබලා ඇතුළුව
ඇදහිලිවන්ත සියල්ලන් නිසා පුදු
මවූ කෙනෙකැයි කියනු ලබන්ටත්
10\. එනකල්හි, ඒ අකීකරු තැනැත්
තෝ උන්වහන්සේගේ ඉදිරියෙන්ද
තේජවන්ත බලයෙන්ද සදාකාල
විනාසයනම්වූ අච්චුවට පැමිනෙන
11\. වා ඇත. එබැවින් අපගේ දෙවි
යන්වහන්සේගේත් ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේත් කරුණාව
ලෙස, තුබලා කෙරෙහි අපගේ ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
නාමයද උන්වහන්සේ කෙරෙහි තුබ
ලාද ගෞරවයට පැමිනෙන පිනි
12\. සත්, අපගේ දෙවියන්වහන්සේ
ඒ ගෞරවය ලැබීමට තුබලා කැඳ
වනු ලබන්ට සුදුස්සෝයයි ගනන්
ගෙන, තමන්ගේ යහපත්කමේ සැම
හොඳ කැමැත්තද ඇදහිල්ලෙහි
ක්‍රියාවද පරාක්‍රමයෙන් සම්පූර්ණ
කරවන පිනිසත්, නිතරම තුබලා
උදෙසා යාඥාකරමුව.

2\. පරිච්ඡේ. සහෝදරයෙනි, අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ ඊමද උන්වහන්සේ වෙත
2\. අපේ රැස්වීමද ගැන, ක්‍රිස්තුස්ව
හන්සේගේ දවස ලංවියයි ආත්ම
යෙන්වත් වචනයෙන්වත් අපෙන්
ලැබුනායයි කියන ලියමනෙන්වත්
වහාම සිතින් චංචල නොවෙන හැටි
යටද, වියවුල් නොවෙන හැටියටද,

3. නුඹලාගෙන් ඉල්ලමුව. කවර
ප්‍රකාරයකින්වත් නුඹලා රවටන්ට
කිසිවෙකුට අවකාස නොදෙල්ලාය.
මක්නිසාද පලමුවෙන් පසුබටවීම
වෙලා විනාසයෙහි පුත්‍රවූ පාපයේ
මනුෂ්‍යයා ප්‍රකාශනොවූවොත්, ඒ
4. දවස නොපැමිනෙන්නේය. ඒ
පාපයේ මනුෂ්‍යයා දෙවියෝයයි කිය
නු ලබන්නාවූ නොහොත් නමස්
කාර ලබන්නාවූ සියල්ලට විරුඬව
සිට, සියල්ලන්ට වඩා තමන්ම උසස්
කොට දේවමාලිගාවෙහි දෙවියන්ව
හන්සේ මෙන් හිඳ, තෙමේම දෙවි
5. යන්වහන්සේයයි දක්වනෙන්ය. මම
නුඹලා සමග සිටිද්දීම මේ කාරණ
6. කී බව නුඹලාට සිහිනැද්ද? තවද
ඔහු තමාගේම කාලයෙහි ප්‍රකාශ
වෙන පිනිස, දැන් වලක්වන්නේ
7. කිමෙක්දැයි නුඹලා දනිති. අධර්මි
ෂ්ඨකමේ රහසනම්වූ එක දැන් ක්‍රියා
කරන්නේය. නුමුත් වලක්වන තැ
නැත්තේ අහක්කොට ගෙනයනු
8. ලබනතුරු වලක්වන්නේය; එක
ල ඒ පාපිෂ්ඨයා ප්‍රකාශවෙයි. ස්වාමින්
වහන්සේ තමන් මුඛයෙහි හුස්මෙන්
ඔහු නාස්තිකොට, තමන්වහන්සේ
ගේ ඊමෙහි තේජසින් විනාසකරන
9. සේක. ඒ පාපිෂ්ඨයාගේ ඊම සා
තන්ගේ ක්‍රියාව ලෙස, බොරුවූ සියළු
බලයෙන්ද, ලකුනුවලින්ද, ආශ්චර්
10. ය්‍යවලින්ද, විනාසවෙන සියල්
ලන් කෙරෙහි අධර්මිෂ්ඨකමේ සියළු
11. වංචාවෙන්ද, යුක්තවනෙන්ය. මක්
නිසාද ඒ විනාසවෙන්නෝ ගැලවීම
ලැබෙන පිනිස සැබෑකමේ ප්‍රේමය
12. පිලිනොගත්තෝය. මේ නිසා
සැබෑව නොඇදහුවාවූ අධර්මිෂ්ඨක
මේ සතුටුවූනාවූ සියල්ලෝම දඬුව
මට පත්වෙන පිනිස, බොරුවක්
අදහන හැටියට දෙවියන්වහන්සේ
ඔවුන්ට බලවත්වූ මායාවක් පමුනු
13. වනසේක. නුමුත් ස්වාමින්වහන්
සේ විසින් ප්‍රේමකලාවූ සහෝදර
යෙනි, දෙවියන්වහන්සේ මුලපටන්
ආත්මයානන්වහන්සේගේ පිරිසිදුකි
රීමෙන්ද, සැබෑකමෙහි ඇදහිල්ලෙ
න්ද, ගැලවීම ලැබෙන පිනිස නුඹලා
තෝරාගත් නිසා, නුඹලා ගැන අප
විසින් නිතරම දෙවියන්වහන්සේට
14. සතුති කටයුතුය. අපේ ස්වාමිවූ
ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ ගෞ
රවය නුඹලා ලබන පිනිස, අපේ
සුභාරංචියෙන් උන්වහන්සේ නුඹලා
15. ඒ ගැලවීමට කැඳවූසේක. එබැ
වින් සහෝදරයෙනි, නුඹලා ස්ථිරව
සිට, අපේ වචනයෙන්වත් ලියම
නෙන්වත් නුඹලා ඉගනගත් ගුරු
16. කම් තදින් අල්ලාගනිල්ලාය. ත
වද අපගේ ස්වාමිවූ ජේසුස් ක්‍රිස්තුස්
වහන්සේද, අපට ප්‍රේමකොට කරු
නාවෙන් සදාකාල සැනසිල්ලත් යහ
පත් බලාපොරොත්තුවත් අපට දුන්
අපගේ පියවූ දෙවියන්වහන්සේද,
17. නුඹලාගේ සිත් සනසා, සියළු
යහපත් වචනයෙහිත් ක්‍රියාවෙහිත්
නුඹලා පිහිටුවනසේක්වා.

3. පරිච්ඡෙ. තවද සහෝදරයෙනි,
නුඹලා අතරෙහි මෙන් අනුන් අත
රේත් ස්වාමින්වහන්සේගේ වචනය
වැලකීමක් නැතුව පතලවී ගෞරව
2. යට පැමිනෙන හැටියටද, නුවන
නැත්තාවූ දුෂ්ඨ මනුෂ්‍යයන්ගෙන්
අපි ගැලවෙන හැටියටද, අප උදෙ
සා යාඥාකරපල්ලාය. මක්නිසාද
සියළු මනුෂ්‍යයන්ට ඇදහිලි නැත්
3. තේය. එසේ නුමුත් ස්වාමින්වහන්
සේ විස්වාස කෙනෙක; උන්වහන්
සේ නුඹලා ස්ථිරකොට, නපුරෙන්
4. රක්ෂාකරනසේක. අපි නුඹලාට
ආඥාකරන දේ කෙරෙතියි කියාද,
මතුත් කරනවා ඇතැයි කියාද, නු
ඹලා ගැන ස්වාමින්වහන්සේ කෙ
5. රෙහි විස්වාස කරමුව. ස්වාමින්ව
හන්සේ නුඹලාගේ සිත් දෙවියන්ව
හන්සේගේ ප්‍රේමයටත්, ක්‍රිස්තුස්වී

හන්සේගේ ඉවසිල්ලටත් පමුනුවන
6. සේක්වා. තවද සහෝදරයෙනි,
අපෙන් ලබාගත් ගුරුකම්වල හැටි
යට නොහැසිර අවචාරිත්‍රයෙන් හැසි
රෙන්නාවූ සියළු සහෝදරයන්ගෙන්
වෙන්වෙන්ට, අපගේ ස්වාමිවූ ජේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගේ නාමයෙන්
7. තුබලාට ආඥකරමුව. අප පස්
සේ කෙසේ එන්ට යුතුදැයි තුබලා
දනිති මක්නිසාද තුබලා අතරෙහි
අපි අවචාරිත්‍රයෙන් නොහැසිර,
8. කාගෙන්වත් කෑම නිකමට නො
කා, තුබලාගෙන් කාටවත් බර නො
වෙන පිනිස වෙහෙස මාන්සිගෙන
9. රෑ දවල් වැඩකලෙමුව. බරවෙන්
ට අපට යුතුකම නැතිනිසා නො
වේය; නුමුත් තුබලා අප ලෙසම
හැසිරෙන්ට තුබලාට අප ආදර්ශයක්
කරන පිනිස, අපි මෙසේ කෙලෙ
10. මුව. ඉන්නිසා වැඩකරන්ට අක
මැති තැනැත්තාට කෑම දෙන්ට
යුතු නැතැයි, අපි තුබලා ලඟ සිටිද්
11. දීම තුබලාට ආඥකලෙමුව. තු
බලා අතරෙන් සමහරෙක් කිසි වැ
ඩක් නොකොට, අනුන්ගේ කාරණ
සොයමින්, අවචාරිත්‍රයෙන් හැසිරෙ
12. තිසි ඇසිමුව. එබඳුවූවෝ නිස්ක
ලංකයෙන් වැඩකරමින් තමන්ගේ
කෑම කන හැටියට, අපගේ ස්වාමිවූ
ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ නමින්
ඔවුන්ට ආඥකොට අවවාද කරමුව.
13. සහෝදරයෙනි, තුබලා හොඳ
කිරීමෙහි පසුබට නොවෙල්ලාය.
14. කවුරුවත් මේ ලියමනේ තිබෙ
න අපේ වචනයට කීකරු නොවෙ
තොත්, තුබලා ඔහු සලකුනක්කො
ට තබා, ඔහු ලැජ්ජාවෙන පිනිස සමා
15. ගමට නොගනිල්ලාය. නුමුත්
ඔහු ගැන සතුරෙක් මෙන් නොසි
තා, සහෝදරයෙකුට මෙන් අවවාද
16. කරපල්ලාය. සමාදානය දෙන
ස්වාමින්වහන්සේම තුබලාට නිතරම
සියළු ආකාරයෙන් සමාදානය දෙන
සේක්වා. ස්වාමින්වහන්සේ තුබලා
සියල්ලන් සමග සිටිනසේක්වා.
17. පාවුල්නම් මම සියළු ලිවුම්වලට
ලකුනක්කොට ලියන්නාක්මෙන්,
මේ ලියමනෙහිත් මාගේ ආචාරකිරී
18. ම මාගේ අතින් ලියමි. අපගේ
ස්වාමිවූ ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
කරුණාව තුබලා සියල්ලන් සමග
වේවා. ආමෙන්.

---

# ප්‍රේරිතවූ පාවුල් විසින්

# තිමෝතියස්ට ලියනලද පලමුවෙනි පත්‍රය.

---

1. පරිච්ඡෙදය. අපගේ ගැලවුන්
කාරවූ දෙවියන්වහන්සේගේද, අප
ගේ බලාපොරොත්තුවනාම්වූ ස්වාමිවූ
ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේද ආඥ
වෙන්, ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
2. ප්‍රේරිතවූ පාවුල්නම් මා විසින්, ඇ
දහිල්ලෙන් මාගේම පුත්‍රවූ තිමෝති
යස්ට, අපගේ පියවූ දෙවියන්වහන්
සේගෙන්ද, අපගේ ස්වාමිවූ ජේසුස්
ක්‍රිස්තුස්වහන්සේගෙන්ද, කරුණා
වත් දයාවත් සමාදානයත් වෙන
3. ලෙස, ලියා එවන වගනම්. වෙන
කිසි ගුරුකමක් ඉගනවන්ටත්, බොරු
කථාද, ඇදහිල්ලේ දිව්‍යවූ දිවුනුකිරී
මට වඩා විවාද උපදවන කෙලව
රක්නැති පරම්පරා කථාද, කල්පනා
4. වට නොගන්ටත්, තුබ විසින්
සමහරුන්ට ආඥකරන පිනිස, මම
මකිදෝනියට ගියකල තුබ එපිස
සෙහි සිටගන තුබට කීලෙසව, කර

5. පන්න. ආඥාවෙහි මුළු අභිප්‍රාව
නම්, පිරිසිදු හිත්නුත්, යහපත් හෘද
සාක්ෂියෙනුත්, වංචා නොවූ ඇදහිල්
ලෙනුත්, උපදින ප්‍රේමය වෙයි;
6. එයින් සමහරෙක් අහක්ව, වැඩ
7. නැති කථාවට හැරී, තමන් කිය
නෙන් කිමෙක්ද, සහතිකකරනෙන්
කිමෙක්දැයි නොදැන සිට, ව්‍යවස්ථාව
උගන්වන්නෝ වෙන්ට කැමතිවෙ
8. ති. යමෙක් ව්‍යවස්ථාව යුතු ලෙස
පවත්වන්නේනම්, ඒ ව්‍යවස්ථාව
9. යහපත් බව අපි දනිමුව. මක්නි
සාද ව්‍යවස්ථාව ධර්මිෂ්ඨයන් නිසා
නොව, ව්‍යවස්ථා නොසලකන්නන්ද,
අකීකරුවන්ද, අභක්තිකද, පව්කා
රයින්ද, අපිරිසිදුවූවන්ද, දුර්ජන
යන්ද, මව්පියන් මරන්නනද, මිනී
10. මරන්නන්ද, වෛශ්‍යකම් කරන්
නන්ද, පිරිමින් සමග දූෂ්‍ය ක්‍රියා
කරන්නන්ද, මිනිසුන් හොරකම්
කරන්නනද, බොරුකාරයන්ද, බොරු
11. දිවුරන්නන්ද නිසාත්, මට බාරව
තිබෙන වාසනාවන්ත දෙවියන්ව
හන්සේගේ තේජවත්තවූ සුභාරංචිය
ලෙස තිබෙන යහපත් ඉගැන්වීමට
විරුඬවූ වෙන කිසිවක් ඇද්ද, ඒ නි
සාත් පිහිටුවනලද්දේයයි දනිමුව.
12. මා විශ්වාසයෙකැයි සිතා සේව
කකමට පත්කොට සමර්ථකලාවූ,
අපගේ ස්වාමිවූ ක්‍රිස්තුස් යේසුස්ව
13. හන්සේට ස්තුතිකෙරෙමි. එසේ
නුමුත් පලමුවෙන් මම අපහාස කර
නෙනක්ද, පීඩා කරන්නෙක්ද, හිං
සා කරනෙනක්දවී සිටියෙමි; එහෙත්
මම කාරණ නොදැන ඇදහිලි නැති
කමින් එසේ කලබැවින්, අනුකම්
14. පාව ලැබුයෙමි. ක්‍රිස්තුස් යේසුස්
වහන්සේ කෙරෙහි පවතින ඇද
හිල්ලත් ප්‍රේමයත් සමග, අපගේ
ස්වාමින්වහන්සේගේ කරුණාව මා
15. කෙරෙහි ඉතා අතිකවිය. පව්කා
රයින් ගලවන්ට ක්‍රිස්තුස් යේසුස්ව
හන්සේ ලෝකයට ආසේකැයි යන
කීම, සැබෑවූ සියළු ආකාරයෙන් පිළි
ගන්ට යුතුවූ කීමක්ය. ඒ පව්කාර
යන් අතරේ මම ප්‍රධාන පව්කාර
16. යෙක. එසේ නුමුත් සදාකාල
ජීවනය ලබන පිනිස, යේසුස් ක්‍රිස්
තුස්වහන්සේ කෙරෙහි මතු අදහන්
නවුන්ට ආදර්ශයක්කොට, උන්වහන්
සේ ප්‍රධාන පව්කාරයාවූ මා කෙරෙහි
බොහෝ කල් මුළු ඉවසීම දක්වමින්
17. අනුකම්පාකලසේක. තවද සදා
කාල රජවූ, අමරනීයවූ, අදෘශ්‍යමාන
වූ, එකම ප්‍රඥාවන්තවූ දෙවියන්ව
හන්සේට සදාකල් නිතරම ගෞරව
යද තේජසද වේවා. ආමෙන්.

18. පුත්‍රවූ තිමෝතියෙනි, නුඹ ගැන
පලමුවෙන් පැවති අනාගත වචන
ලෙස, නුඹ ඇදහිල්ලත් යහපත්
හෘදසාක්ෂියත් දරමින්, යහපත්වූ යුඬ
කරපන්නැයි යන ආඥාව නුඹට
19. දෙමි. සමහරු ඒ හෘදසාක්ෂිය
අත්හැර දමා, ඇදහිල්ල නැමති
20. නැව බිඳගත්තෝය. හිමෙනි
යස්ද අලෙක්සන්දද එබඳු තැනැත්
තෝය; ඔවුන් මතු අපහාස නොක
රන්ට ඉගනගන්නා පිනිස, ඔවුන්
සාතන්ට බාරදුනිමි.

2. පරිච්ඡේ. තවද සියළු භක්ති
යෙන් සහ ඔබ්නාකමින් නිස්කලංක
ලෙසද සමාදාන ලෙසද අපේ කල්
යව්ම පිනිස, සියළු මනුෂ්‍යයන්ද
2. රජුන්ද ආඬුකාරයින්ද උදෙසා
කන්නලව්ද යාඥාවල්ද ඉල්ලීම්ද
ස්තුතිදීම්ද පවත්වන්ට, සියළු දේටම
3. පලමුවෙන් අවවාදකෙරෙමි. මක්
නිසාද සියළු මනුෂ්‍යයෝ ගලවනු
ලැබ සැබෑකමේ දැනගැන්මට පැමි
4. නෙනවාට කැමතිවූ, අපගේ ගැල
වුන්කාර දෙවියන්වහන්සේගේ ඉදි
රියෙහි, ඒක යහපතද පිලිගත යුතුද
5. වේ. එකම දෙවියන්වහන්සේද,
දෙවියන්වහන්සේටත් මනුෂ්‍යයන්
ටත් අතරෙහි ක්‍රිස්තුස් යේසුස්නම්

මනුෂ්‍යවූ එකම මැදහත්කාරයෙක්ද
6. ඇත. උන්වහන්සේ සියල්ලන්
උදෙසා නිදහස්කම උපදවන මිල
යක්කොට, තමන්වහන්සේම පාවා
දුන්සේක; ඒකේ සාක්ෂිය සුදුසු කාල
7. යෙහිදී දෙනු ලබන්නේය. එයට
මම ප්‍රකාශකරන්නෙක්ද, ප්‍රේරිත
යෙක්ද, අන්‍ය ජාතීන්ට ඇදහිල්ල
සහ සැබෑකම උගන්වන කෙනෙක්ද
කොට පත්කරනුලැබීමි; මම බොරු
නොකියා, ක්‍රිස්තුස්වහන්සේ කෙරෙ
8. හි සැබෑව කියමි. ඉන්නිසා පුරුෂ
යෝ සෑම තැනම කෝපයත් සැක
යත් නැතුව, පිරිසිදුවූ අත් ඔසවා,
9. යාඥාකරණවාට කැමතිවෙමි. එ
සේම ස්ත්‍රීහුද ලැජ්ජාවත් නුවනත්
ඇතුව ඔබින වස්ත්‍ර පැලඳ, ඉසකේ
ගෙතීමෙන්වත් රත්‍රනෙන්වත් මුතු
වලින්වත් අනර්ඝ වස්ත්‍රයෙන්වත්
10. නොව, දේවභක්ති ස්ත්‍රීන්ට
සුදුසු ලෙස යහපත් ක්‍රියාවලින් සැර
11. සෙනවාටද, කැමැත්තෙමි. ස්ත්‍රී
ය නිශ්ශබ්දව, සියළු යටහත්කමින්
12. ඉගනගනීවා. තවද ස්ත්‍රිය කරබා
ගන ඉන්නවා මිස, උගන්වන්නට
වත්, පුරුෂයා කෙරෙහි බල පවත්
13. වන්නටවත්, මම ඉඩනාරිමි. මක්
නිසාද පලමුකොට ආදම්ද, පසුව
14. ඒවද මවනුලැබුවාය. ආදම් රැව
ටුනේ නැත; නුමුත් ඒව රැවටී වැ
15. රැද්දට පැමුනුනාය. එසේ නුමුත්
ඔවුන් නුවණින්ද ඇදහිල්ලෙන්ද
ප්‍රේමයෙනද පිරිසිදු සිතින්ද යුක්තව
සිටින්නම්, දරුවන් වැදීමෙන් ගැල
වෙනවා ඇත.

3. පරිචෙඡ. කිසිවෙක් සභාවේ
නායක තනතුර කැමතිවේනම්,
ඔහු යහපත් මෙහෙයක් කැමතිවන්
2. නේයයි, යනු සැබෑ කීමක. එහෙ
සින් නායකයෙක් විසින් නිදොස්ව,
එක භාර්‍යාවට ස්වාමිව, ප්‍රවේසම්ව,
සංහිඳුන සිත් ඇතුව, යහපත් පැව
තුම් ඇතුව, ආගන්තුක සත්කාරයට
3. කැමතිව, උගන්වන්ට සමර්ථව, ම
ද්‍යපානයට ඇළුම්නොව, ගහගන්
නෙක් නොව, කිළුටු වස්තුවට ආසා
කාරයෙක් නොව, ඉවසිලි ඇත්තෙ
ක්, දබරකාරයෙක් නොව, ලෝභී
4. නොව, තමන්ගේ පවුල හොඳින්
ආඩුකරන්නෙක්ව, සම්පූර්ණ ගික්
මීමෙන් තමන් දරුවන් යටත්කර
ගන්නා තැනැත්තෙක්ව සිටිය යුතු
5. ය. යමෙක් තමන් පවුල ආඩුක
රන්ට නොදනීනම්, ඔහු දෙවියන්ව
හන්සේගේ සභාව ප්‍රවේසම් කරගන්
6. නේ කොහොමද? ඔහු උඩගුක
මෙන් ඉල්ප සාතන් වැටුනු වරදට
නොවැටෙන පිනිස, අළුත් ශෝල
7. යෙක් නොවිය යුතුය. නින්දාවෙ
හිද සාතන්ගේ මලපතෙහිද නො
වැටෙන පිනිස, ඔහු විසින් පිටත
සිටින්නන්ගෙන් යහපතෙක කීයනු
ලැබිය යුතුය.

8. එසේම උපස්ථායකයන් විසින්
සංසුංව, දෙබස් නැතුව, මද්‍යපාන
යට ඇළුම් නොව, කිළුටු වස්තු
9. ආසාකාරයන් නොව, ඇදහිල්ලේ
රහස පිරිසිදුවූ සිතින් දරිය යුතුය.
10. ඔවුන් පලමුවෙන් පරීක්ෂාකරනු
ලැබ, නිදොස්වූවෝනම් උපස්ථායක
11. නිලේ කරන්වා. එසේම ඔවුන්
ගේ භාර්‍යාවන් විසින් සංසුංව, කේ
ලාම් නොකියා, ප්‍රවේසම්ව, සියල්
12. ලෙහි විශ්වාසව සිටිය යුතුය. උප
ස්ථායකයෝ එක එක භාර්‍යාවට
ස්වාමියෝව, තමන් දරුවන්ද තමන්
ගේම ගෙදර වාසීන්ද හොඳ හැටි
13. ආඩුකරන්නෝව සිටීතුවා. හොඳ
ලෙස උපස්ථායක නිලේ කලාහු,
උතුම්කමද, ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි පවතින ඇදහිල්ලේ භයනැති
කමද, ලබති.

14. මම නොබෝ කලකින් නුඹ
15. ලඟට එන්නට බලාසිටිමි. නුමුත්
බොහෝ කල් ප්‍රමාදවූයෙම්නම්, ජීව

මානවූ දෙවියන්වහන්සේගේ සභා
වත් සැබෑකමෙහි කනුවත් අත්ති
වාරමත් වැනිවූ දෙවියන්වහන්සේ
ගේ ගෙහි, කෙසේ හැසිරිය යුතුදැයි
නුඹ දැනගන්නා පිණිස, මේ කාරණ
16. ලියමි. ඒකාන්තයෙන් දේවභක්
තියෙහි රහස උතුම්වූ කාරණවක;
ඒ කෙසේද, දෙවියන්වහන්සේ මාං
සයෙහි ප්‍රකාශවූසේක; ආත්මයා
නන්වහන්සේ කරනකොටගෙන ධ
ර්මිෂ්ඨයෙක් කොට පෙන්වනු ලැබූ
සේක; දූතයන් විසින් දක්නා ලැබූ
සේක; අන්‍ය ජාතීන් අතරේ ප්‍රකාශ
කරනු ලැබූසේක; ලෝකයේ අද
හනු ලැබූසේක; තේජසට ඔසවා
ගනු ලැබූසේක.

4. පරිච්ඡෙ. තවද අන්තිම කාල
වලදී සමහරු ඇදහිල්ලෙන් පහව
ගොස්, මුලාකරවන ආත්මයන්ටද
යක්ෂයන්ගේ ඉගැන්වීම්වලටද සිත්
යොමුකරන්නෝයයි, ශුද්ධාත්මයාන
න්වහන්සේ එළිදරව් ලෙස කියන
2. සේක. ඔවුන් එසේ කරන්නේ,
ගිනියම් යකඩයකින් දැවිවාක්වැනි
සිත් ඇතුව, බොරු කියන්නාවූ,
3. සරනපාවා නොගන්වද, සැබෑ
කම දැන අදහන තැනැත්තන් විසින්
සතුති දීමෙන් කන පිණිස දෙවියන්
වහන්සේ විසින් මවනලද කෑමව
ලින් වැලකී සිටින්වද, ආඥාකර
නනාවූ මිනිසුන්ගේ වංචාවෙන්ය.
4. නුමුත් දෙවියන්වහන්සේගේ සියළු
මැවිල්ල යහපත්ය; සතුතිකිරීම් සහි
තව ලබන්නාවූ කොයි දෙයක්වත්
5. එපාකරන්ට යුතු නැත; මක්නි
සාද ඒක දෙවියන්වහන්සේගේ වච
නයෙන්ද යාඥාවෙන්ද පිරිසිදුකරන
6. ලද්දේය. මේ දේ සහෝදරයන්ට
සිහිකරවන්නේනම්, නුඹ ඇදහිල්
ලේ වචනවලින්ද ඉගනගත් හොඳ
ගුරුකම්වලින්ද පුහුණුකරනලද්දාවූ,
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ යහ
7. පත් සේවකයෙක් වෙයි. නුමුත්
අපිරිසිදු කථාවන් හා මහළු ස්ත්‍රීන්
ගේ ප්‍රබන්ධයන්ද එපාකොට, උත්
සාහයේ දේවභක්තිය ව්‍යවහාර කර
8. පන්න. ශරීරික උත්සාහයෙන්
ප්‍රයෝජන ටිකය; දේවභක්තිය මෙ
ලොවටත් පරලොවටත් පොරොන්දු
ඇතුව, සැමදෙයින්ම ප්‍රයෝජන වේ.
9. මේක සැබෑවූ සියළු ආකාරයෙන්
10. ම පිළිගතයුතුවූ කීමක. මේ ගැ
න අපි වෙහෙස ගෙන නින්දා විඳි
මුව; එසේ විඳින්නේ, අදහන්නාවූන්
ප්‍රධානකොට සියළු මනුෂ්‍යයන්ගේ
ගැලවුම්කාරවූ, ජීවමානාවූ දෙවියන්
වහන්සේ කෙරෙහි බලාපොරොත්
11. තුව නිසාය. මේ දේ ආඥා
12. කොට උගන්වාපන්න. නුඹේ
යව්වනකමට කවුරුවත් නින්දා නො
කෙරේවා. නුමුත් කථාවෙනුත්, කල්
ක්‍රියාවෙනුත්, ප්‍රේමයෙනුත්, ආත්මික
ගුනයෙනුත්, ඇදහිල්ලෙනුත්, පිරිසි
දුකමෙනුත් අදහන්නාවූන්ට ආදර්ශ
13. යක් වෙයන්න. මම එනකල් කි
යවීමෙන්ද, අවවාද දීමෙනද, ඉගැන්
14. වීමෙන්ද යුක්තව සිටපන්න. වැ
ඩිමහල්ලන්ගේ අත් තැබීමෙන් අනා
ගත වචනය හැටියට නුඹට දුනානාවූ,
නුඹ කෙරෙහි පවතිනනාවූ ආත්මික
දීමනාව ව්‍යවහාරනොකොට සිටින්
15. ට එපාය. නුඹේ දියුනුවීම සියල්
ලන්ට පෙනෙන පිණිස, ඒ දේ අභ්‍යා
සකරපන්න; එහිම පැවතියන්න.
16. නුඹ ගැනද, නුඹේ ඉගැන්වීම
ගැනද, ප්‍රවේසම්ව ස්ථිරව සිටපනන;
එසේ කිරීමෙන් නුඹත් නුඹෙන් අහ
නෙනාත් ගලවනු ලබති.

5. පරිච්ඡෙ. මහළු කෙනෙකුට ත
රවටු නොකොට පියාට මෙන් ඔහු
ටත්, සහෝදරයන්ට මෙන් යෞවන
2. යන්ටත්, මැනියන්ට මෙන් මහළු
ස්ත්‍රීන්ටත්, සහෝදරීන්ට මෙන් සිය
ළු පිරිසිදුකමින් යෞවන ස්ත්‍රීන්ටත්,

3. අවවාද කරපනන. අසරනවූ වැන්
4. දඹුවන්ට ගෞරව කරපන්න. යම්
වැන්දඹුවකට දරු මුනුබුරෝ ඇත්
නම්, ඔවුන් පලමුකොට තමන් ගෙ
දර වාසීන්ට භක්තිය පෙන්වා, මව්
පියන්ට ප්‍රති උපකාර කරන්නට
ඉගනගනිත්වා; ඒක දෙවියන්වහන්
සේගේ ඉදිරියේ යහපත්වූ පිලිගත
5. යුතුවූ කාරණවක. කාත් නැත්
තාවූ අසරනවූ වැන්දඹුව දෙවියන්
වහන්සේ කෙරෙහි බලාපොරොත්
තුවෙමින්, රෑ දවල් කන්නලව් කිරීම්
වලද යාඥාවලද පිහිටා සිටින්නීය.
6. නුමුත් සෙල්ලම්කරන තැනැත්තී
ජීවත්ව සිටිද්දීම මැරී සිටින්නීය.
7. මොවුන් නිදෙස්වෙන පිනිස,
මෙකී දේ ගැන ආඥාකරපන්න.
8. කවරෙක්වත් තමාගේ අයවල්ද
ප්‍රධානකොට තමාගේ පවුලේ අය
වල්ද රක්‍ෂා නොකරතොත්, ඔහු
ඇදහිල්ල අත්ඇර, ඇදහිලි නැත්
9. තාට වඩා නරක කෙනෙක්ය. ව
යසින් හැට අවුරුද්දට අඩු නැතතාවූ,
එකම පුරුෂයකුට භාර්‍ය්‍යාවූ සිටියාවූ,
10. යහපත් ක්‍රියාවල් කලායයි ප්‍රසි
ඬවූ, දරුවන් ඇතිකලාවූ, ආගන්
තුක සත්කාර කලාවූ, පිරිසිදුවූවන්
ගේ පාද සේදුවාවූ, දුක් විඳිනවූන්ට
උපකාර කලාවූ, සියළු යහපත් ක්‍රියා
වල් කලාවූ වැන්දඹුව තෝරාගනු
11. ලබාවා. තරුන වැන්දඹුවන්
තෝරානොගනින්න. මක්නිසාද ක්‍රි
ස්තුස්වහන්සේට විරුඬව උඬගුව සර
12. නපාවාගෙන, තමන්ගේ පලමු
විස්වාසය අත්ඇර ද්වේසාරෝපනයට
13. පැමිනෙති. තවද ඔවුන් ගෙයින්
ගෙට ඇවිද, කම්මැලිවෙන්ට ඉගන
ගනිති. එපමනකුත් නොව, ඔවුන්
වාචාලියෝව, නුසුදුසු දේ කථාකර
මින්, අනුන්ගේ කාරනා සොයන්නි
14. යෝද වෙති. දූනටත් සමහර
තැනැත්තියෝ පසුබටව සාතන්
16. පස්සේ ගියෝය. එබැවින් යෞ
වන වැන්දඹුවෝ සරණපාවාගෙන,
දරුවන් වදනවාටත්, පවුල අඹුසාර
ණවාටත්, එදිරිකාරයින්ට නින්ද
කථාකරන්ට අවකාස නොදෙනවා
16. වත්, කැමතිවෙමි. ඇදහිලිවත්
තවූ පුරුෂයෙකුටවත් ස්ත්‍රියකටවත්
වැන්දඹුවන් ඇත්නම්, ඔවුන් ඒ
වැන්දඹුවන්ට උපකාර කරත්වා.
සභාව අසරන වැන්දඹුවන්ට උප
කාර කරන්ට පුළුවන්වන පිනිස, ඒ
බර සභාවට නොවේවා.

17. "ගොයම් මඩින ගොනාගේ
කට නොබඳින්නැයි" කියාද, "වැඩ
කරන්නාට තමාගේ කුලී ලැබෙන්ට
සුදුසුයැයි" කියාද, ලියවිල්ලේ ලියා
18. තිබෙන නිසා, යහපත් ලෙස
අනුශාසනා කරන වැඩිමහල්ලෝද,
ප්‍රධානකොට වචනයෙහිත් ඉගැන්
විමෙහිත් වෙහෙස ගත්තෝද, දෙ
පංගුවක් ගෞරව ලබන්ට යුතුයයි
19. සිතනු ලබත්වා. දෙතුන්දෙනෙ
කුගේ සාක්කිය පිට මිස, වැඩිමහල්
ලෙකුට විරුඬව දෙස් පැමිනීමක්
20. පිලිනොගන්න. අනුන් භයවෙ
න පිනිස, පව්කරන්නන්ට සියල්
ලන් ඉදිරියේ තරවටුකරපන්න.
21. යුතු විභාගයක් නැතුව, පක්‍ෂ
කමින් කිසි දෙයක් නොකර, මේ
සියල්ල පවත්වන්ට, දෙවිවූ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේද තෝ
රාගත් දේවදූතයන්ගේද ඉදිරියෙහි,
22. නුබට ආඥාකරමි. කිසිවෙක්
කෙරෙහි ඉක්මන්ව අත් නොතබන්
න. අනුන්ගේ පාපවලට පංගුකාර
නොවී, පිරිසිදුව තමන් රක්‍ෂාකරග
23. නින්න. මෙතැන් පටන් වතුර
පමනක්ම නොබී, නුබේ අජීර්ණ
ය නිසාද, නැවත නැවත පැමිනෙන
දුබලකම් නිසාද, මුද්‍රිකපානය ටිකක්
24. බීපන්න. සමහර මනුෂ්‍යයන්ගේ
පව් පරීක්‍ෂාකිරීමට පලමුවෙන් ප්‍රකා
ශවේ; සමහරුන්ගේ පව් පස්සේ
25. දූනගන්ට ලැබේ. එසේම සමහ

දුන්ගේ යහපත් ක්‍රියා පැහැදිලි
ලෙස ප්‍රකාශවේ; එලෙස නොවෙන
ඒවාත් සැඟවී තිබෙන්ට බැරිය.

6. පරිච්ඡේ. දෙවියන්වහන්සේගේ
නාමයටද ගුරුකමටද නින්දා නො
පැමිණෙන පිණිස, වියගහට යටත්වූ
යම් පමණ වාල්ළු ඇද්ද, ඔවුන්
තමන්ගේ ස්වාමිවරු සියළු ගෞරව
2. යට සුදුස්සෝයයි සිතත්වා. තවද
ඇදහිලිවන්තවූ ස්වාමිවරු ඇත්තෝ
ස්වාමිවරු සහෝදරයෝයයි සිතා,
ඔවුන් සුළුකොට නොසිතා, තමන්
ගෙන් ප්‍රයෝජන ලබන්නාවූ ඔවුන්
ඇදහිලිවන්තයෝද ප්‍රේම ලත් තැ
නැත්තෝද වන බැවින්, ඔවුන්ට
වඩා යටහත්ව වැඩකරත්වා. මේ
කාරණා උගන්වා අවවාද කරපන්න.
3. කවුරුවත් අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ සුභ වචනවල
ටද දේවභක්තිවූ ගුරුකමටද එකඟ
නොව ඊට විරුඬවසයෙන් උගන්
4. නොත්, ඔහු කිසිත් නොදැන,
ප්‍රශ්නවලින්ද විවාදවලිනුද සිත වීක
ලවූ අහංකාර ඇත්තෙක් වේ. ඊර්ෂ්‍යා
වද, එදිරිකමද, අගුන කීමද, නපුරු
5. සිතීම්ද, ලාබය දේවභක්තියයි
සිතන සැබෑකමෙන් දුරුව දූෂණවූ
සිත් ඇති මනුෂ්‍යයන්ගේ නපුරු
කරහ, එයින් උපදින්නේය; එබඳුවූ
6. වන්ගෙන් අහක්වෙයන්න. අපි
ලෝකයට කිසි දෙයක් ගෙනාවේ
නැත; සැබෑවටම එයින් කිසිදෙයක්
7. ගෙන යන්ටත් අපට බැරිය. එබැ
වින් ලත් පමණකින් සතුටුවීම සමග
දේවභක්තිය මහත් ප්‍රයෝජන වේ;
8. තවද කෑම ඇඳීම අපට ඇත්නම්
9. එයින් සතුටුව සිටින්ට යුතුය. නු
මුත් වස්තුකාරයෝ වෙන්ට ආ
සා ඇත්තෝ, පරීක්ෂාවේත්, මලප
යෙත්, මනුෂ්‍යයන් නාස්තියේ සහ
විනාසයේ ගිල්වන්නාවූ, අඥානවූ,
ආත්ත්‍රාකරන්නාවූ නොයෙක් තෘෂ්
10. ණාවලත්, වැටෙති. වස්තු තෘෂ්
ණාව සියළු නපුරේ මූලය; ඊට සම
හරු ලෝභකොට, ඇදහිල්ලෙන්
මුලාව, බොහෝ දුක් නැමති ආයුධ
වලින් තමන්ම ඇනගත්තෝය.
11. නුමුත් දෙවියන්වහන්සේගේ මනු
ෂ්‍යයාවූ නුඹ, මෙයින් දුරුව, ධර්මිෂ්ඨ
කමද, දේවභක්තියද, ඇදහිල්ලද,
ප්‍රේමයද, ඉවසීමද, මෘදුකමද, පවත්වා
12. පන්න. ඇදහිල්ලේ යහපත් යුඬ
යෙන් යුඬකොට, අනන්ත ජීවනය
අල්වාගනින්න; ඊට නුඹ කැඳවනු
ලැබ, නොයෙක් සාක්කිකාරයන්
ඉදිරියේ හොඳ කීම කියා දුන්නේය.
13. අපගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්
වහන්සේ පෙනෙනතුරු, නුඹ මේ
ආඥාව කැලලක්වත් වැරද්දක්වත්
14. නැතුව රක්ෂාකරනලෙස, සියල්
ල ජීවත්කරන්නාවූ දෙවියන්වහන්
සේගේ ඉදිරියෙහිත්, පොන්තියුස්
පිලාත්ගේ ඉදිරිපිට හොඳ කීම කියා
දුන්නාවූ ක්‍රිස්තුස් යේසුස්වහන්සේ
ගේ ඉදිරියෙහිත්, නුඹට ආඥා
15. කෙරෙමි. වාසනාවන්තවූ, එක
මවූ අධිපතියානන්වහන්සේ වන
රජුන්ගේ රජවූ, ස්වාමිවරුන්ගේ
16. ස්වාමිවූ, එකම අමරණීයවූ, කිසි
වෙකුට ලඟාවෙන්ට බැරි ආලෝක
යේ වසන්නාවූ, කිසි මනුෂ්‍යයෙකු
විසින් නුදුටුවාවූ, දකින්නට බැරිවූ
තැනන්වහන්සේ ඒ පෙනීම නියමි
කාලවලදී සලස්සනසේක; උන්ව
හන්සේට ගෞරවයත්, සදාකාල පරා
ක්‍රමයත් වේවා. ආමෙන්.

17. මේ ලෝකේ වස්තුකාරයෝ
උඩඟු සිත් ඇත්තෝ නොවී, අපට
සියල්ල භුක්තිවිඳින පිණිස බොහෝ
කොට දෙන්නාවූ, ජීවමානවූ දෙවි
යන්වහන්සේ කෙරෙහි මිස, ස්ථිර
නැති වස්තුව විශ්වාසනොකරන්ට,
18. ආඥාකරපන්න. තවද ඔවුන්
යහපත්කම් කරමින්, යහපත් ක්‍රියා
වලින් ධනවත්වෙන්ටත්, සහභිවත්

තව බෙදා දෙන්ට කැමතිවෙන්ටත්,
19. අනන්ත ජීවනය අල්වාගන්නා
පිනිස මතු පැමිණෙන කාලය බලා
තමන්ට යහපත් අත්තිවාරමක් තබා
ගන්ටත්, ඔවුන්ට අණකරපන්න.
20. තිමෝතියස්නි, නුබට බාරදෙන
ලද දේ රක්ෂාකොට, පිලිකුල්වූ නිස්
ඵල කථාවල්ද, බොරුවෙන් ශාස්ත්‍ර
යයි කියනලද විරුඬවූ ඉගැන්වීම්ද,
21. යන මෙකින් දුරුව සිටපතන. ශා
ස්ත්‍රය අපේයයි ඒ ගැන සමහරු කිය
මින්, ඇදහිල්ලෙන් මුලාවූනෝය.
කරුණාව නුබ සමග වේවා. ආමෙන්.

---

# ප්‍රේරිතවූ පාවුල් විසින්
# තිමෝතියස්ට ලියනලද දෙවෙනි පත්‍රය.

---

1. පරිච්ඡේදය. ක්‍රිස්තුස් ජේසුස්
වහන්සේ කෙරෙහි තිබෙන ජීවන
යෙහි පොරොන්දුවේ ප්‍රකාරයට,
දෙවියන්වහන්සේගේ කැමැත්තෙන්
ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ ප්‍රේරි
තයෙක්වූ පාවුල්නම්වූ මා විසින්,
2. ප්‍රිය පුත්‍රවූ තිමෝතියස්ට, පියවූ
දෙවියන්වහන්සේගෙන්ද, අපගේ
ස්වාමිවූ ජේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගෙන්ද, කරුණාවත් දයාවත් සමාද
නයත් වෙන ලෙස, ලියා එවන වග
නම්.

3. මම රෑ දවල් කඩනැතුව මාගේ
යාඥාවලදී නුබ සිහිකරමින්, මුතුන්
මුත්තන් පටන් පිරිසිදු සිතින් මම
සේවය කරන දෙවියන්වහන්සේට
4. ස්තුති කරමි. නුබේ කඳුළුද අවං
කවූ ඇදහිල්ලද සිහිකොට, සතුටින්
සම්පූර්ණවෙන ලෙස නුබ දකින්
5. නට ඉතා කැමැත්තෙමි. ඒ ඇද
හිල්ල පලමුකොට ලොයිස්නම්
නුබේ ආත්තා කෙරෙහිද, එවුනිකී
නම් නුබේ මෑණියන් කෙරෙහිද පැව
තුනාය; නුබ තුලේත් ඒක පවතින්
6. නේයයි, සැක නැතුව දනිමි. මා
ගේ අත් තැබීමෙන් නුබට ඇති දෙ
වියන්වහන්සේගේ දීමනාව දිවුනු
කරන හැටියට, නුබට සිහිකරවමි.
7. මක්නිසාද දෙවියන්වහන්සේ බල
යෙන්ද ප්‍රේමයෙන්ද නුවණින්ද යුක්
තවූ ආත්මයක් මිස, භයින් යුක්තවූ
8. ආත්මයක් අපට නුදුන්සේක. ඒ
බැවින් අපගේ ස්වාමිවහන්සේගේ
සාක්ෂිය ගැනවත්, උන්වහන්සේ
නිසා හිරකාරයා වන මා ගැනවත්
ලැජ්ජා නොවී, සුභාරංචියෙහි දුක්ව
ලම දෙවියන්වහන්සේගේ බලයෙන්
9. පංගුකාරයෙක් වෙයන්න. උන්ව
හන්සේ අපේ ක්‍රියාවල හැටියට
නොව, තමන්වහන්සේගේ නියමයේ
හැටියටද, ක්‍රිස්තුස් ජේසුස්වහන්සේ
කරනකොටගෙන ලෝකය පටන්
ගැනීමට පලමුවෙන් අපට දෙනලද
කරුණාවේ හැටියටද, අප ගලවා,
පිරිසිදුවූ කැඳවීමෙන් කැඳවූසේක.
10. මරනය නසා ජීවනයත් අමරනී
යභාවයත් සුභාරංචියෙන් ප්‍රකාශක
ලාවූ, අපගේ ගැලවුම්කාරවූ ජේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ පෙනීමෙන්,
දැන් ඒ කරුණාව එලිදරව්කරනලද්
11. දේය. ඒ සුභාරංචියට මම ප්‍රකාශ
කරන්නෙක්ද, ප්‍රේරිතයෙක්ද, අන්‍ය
ජාතීන්ට උගන්වන්නෙක්ද කොට,
12. නියමකරනු ලැබීමි. ඒ නිසා මේ
දේ ඉවසමි; එසේ නුමුත් මම අදහ
ගත් තැනැන්වහන්සේ කවර කෙ
නෙක්ද කියා මම දන්නා බැවින්ද,
මා විසින් උන්වහන්සේට බාර දෙන

ලද දේ ඒ දවස දක්වා රක්ෂාකරන්නට උන්වහන්සේ සමර්ථ කෙනෙකැයි නිසැකව දන්නා බැවින්ද, 13. ලැජ්ජා නොවෙමි. මගෙන් ඇසූ සුභ ඉගැන්වීම් ක්‍රමය, ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි පිහිටුවනලද ඇදහිල්ලෙන් සහ ප්‍රේමයෙන්, සිහියේ තිබා 14. ගනින්න. නුබට බාරදුන් යහපත් දෙය, අප තුලෙහි වසන සුධාත්මයාණන්වහන්සේගේ ආධාරයෙන්, රක්ෂා 15. කරපන්න. පිගෙල්ලස්ද හර්මොගෙනිස්ද ඇතුළුව, ආසියායෙහි සිටින සියල්ලෝ මගෙන් අහක්ව ගිය 16. බව, නුබ දන්නෙහිය. ඔනේසිපොරස් බොහෝ වර මා සැනසූ නිසාත්, මම විලංගුවේ ඉන්නවාට ලැජ්ජා නූන නිසාත්, ඔහුගේ පවුලට ස්වාමින්ව 17. හන්සේ කරුණාකරනසේක්වා. ඔහු රෝමයට ආකල බොහෝ උත්සාහයෙන් මා සොයාගෙන, මා ලඟට 18. ආයේය. විනිශ්චය දවසෙහිදී ස්වාමින්වහන්සේගෙන් කරුණාව ලැබෙනමෙන්, ස්වාමින්වහන්සේ ඔහුට කරුණාකරනසේක්වා. ඔහු එපිසයෙහිදී මට කොපමණ සත්කාර කලේදැයි, නුබ හොඳ හැටි දන්නේය.

2. පරිච්ඡේ. ඒ නිසා මාගේ පුත්‍රය, නුබ ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කරණකොටගෙන පවතින කරුණා 2. වෙන් බලවත්ව සිටපන්න. බොහෝ සාක්ෂිකාරයන් ඉදිරිපිටදී නුබ මාගෙන් ඇසූ දේම, අනුන්ට උගන්වන්ට සමර්ථවූ, විශ්වාසවූ මනුෂ්‍ය 3. යන්ට බාරදීපන්න. නුබ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ යහපත් සේවායෙක් මෙන්, දුක් ඉවසාපන්න. 4. සේවාකම් කරන්නාවූ කවුරුවත්, තමන් සේවාකමට තෝරාගත් අය සතුටුකරන පිනිස, මේ ජීවත්වීමේ කර්මාන්තවලට බැඳෙන්නේ නැත. 5. යමෙක් පොර අල්ලතත්, ඔහු සුදුසු ලෙස පොර නැල්ලුවොත්, 6. මිස ඔටුන්න පලඳිනු නොලැබේ. වෙහෙස ගන්න ගොවියා පලමුවෙන් 7. එල ලබන්ට සුදුසුය. මම කියන දේ කල්පනාකරපන්න; ස්වාමින්වහන්සේ සියල්ල ගැන නුබට තේ 8. රුම දෙනසේක්වා. මාගේ සුභාරංචියේ ප්‍රකාරයට, දාවිත්ගෙන් පැවැත්තාවූ, මලවුන්ගෙන් නැගුටුවනලද්දාවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ සිහි 9. කරපන්න. ඒ සුභාරංචිය නිසා, නපුරු ක්‍රියා කරන්නෙක් මෙන්, බඳිනූ ලැබ දුක් ඉවසමි; නුමුත් දෙවියන්වහන්සේගේ වචනය බඳිනූ නො 10 ලැබේ. එබැවින් තෝරාගත්තවුන්ට ක්‍රිස්තුස් යේසුස්වහන්සේ කෙරෙහි ඇත්තාවූ ගැලවීම අනන්ත ගෞරවය සමග ලැබෙන පිනිස, ඔවුන් නිසා මම සියල්ල ඉවසමි. 11. ඉදින් අපි උන්වහන්සේ සමග මැරෙමුනම්, උන්වහන්සේ සමග 12. ජීවත්වමුව; අපි උන්වහන්සේ සමග ඉවසමුනම්, උන්වහන්සේ සමග රජකම් කරමුව; උන්වහන්සේ එපා කරමුනම්, උන්වහන්සේත් අප එපා 13. කරනසේක; අපි අවිශ්වාසව සිටිනත්, උන්වහන්සේ විශ්වාසව සිටිනසේක; උන්වහන්සේ කී කාරණාව වරද්දන්නට උන්වහන්සේට බැරිය යන මේ කීම සැබෑවූ කීමය. 14. මේ කාරනා සිහිකරවාපන්න. අසන්නවුන්ගේ සිත් පෙරලෙනවා මිස, පලක් නැත්තාවූ තරඟ කථාවෙන් වැලකී සිටින්ට, ස්වාමින්වහන්සේ ඉදිරියේ ඔවුන්ට ආඥකරපනන. 15. සැබෑකමේ වචන හොඳ හැටි බෙදා දෙන්නාවූ, පිළිගන්ට සුදුසුවූ, ලැජ්ජානොවූ කර්මාන්තකාරයෙකු, දෙවියන්වහන්සේ ඉදිරියේ පෙනෙන් 16. ට උත්සහකරපන්න. නුමුත් පිලිකුල්වූ නිෂ්ඵලවූ වාචාලකමින් දුරුව සිටපන්න; එයින් දේවභක්ති 17. නැතිකම වෝවන්නේය. ඔවුන්ගේ වචන පිළිකාවක්මෙන් කාදැ

18. සත්‍යය. මොවුන් අතරෙන්
හිමෙනියස්ද, පිලෙතස්ද, මලවුන්
ගෙන් නැගිටීම දැන් පසුගියේයයි
කියමින්, සැබෑකමෙන් මුලාවී, සම
හරුන්ගේ ඇදහිල්ල පෙරලති.
19. නුමුත් "ස්වාමින්වහන්සේ තමන්
ගේ අයවල් දන්නාසේකැයි" යන
කීමත්, "යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ නාමය තමන් පිටට ගත් සියල්
ලෝ අධර්මිෂ්ඨකමෙන් දුරුවෙත්
වයි" යන කීමත්, මුද්‍රකොට ඇත්
තාවූ දෙවියන්වහන්සේගේ අත්ති
20. වාරම ස්ථිරව පවත්නේය. නුමුත්
ලොකු ගෙයක රන් රිදී භාජන පම
ණක් නොව, ලී මැටි භාජනත් ඇත;
එයින් සමහරකට ගෞරව ඇත; සම
21. හරකට අගෞරව ඇත. වුවනිසා
යමෙක් මේ දෙයින් තමාව සුබකර
ගනීනම්, ඔහු පිරිසිදුකරනලද්දාවූ,
තමාගේ ස්වාමියාට ප්‍රයෝජනවත්වූ,
සියළු යහපත් ක්‍රියාවට සූදානම්වූ,
ගෞරවයට නියමවූ භාජනය වේ.
22. යෞවන වයසේ ආසාවලින්
දුරුව, පිරිසිදු සිතින් ස්වාමින්වහන්
සේට යාඥාවෙන්නාවුන් සමග, ධර්මි
ෂ්ඨකමත් ඇදහිල්ලත් ප්‍රේමයත් සමා
23. දානයත් පවත්වාපන්න. නුමුත්
මෝඩවූ අඥානවූ ප්‍රශ්නවලින් දබර
උපදින්නේයයි දැන, ඒවා දුරලාපන්
24. න. ස්වාමින්වහන්සේගේ වැඩ
කාරයා දබර නොකරන්නාවූ, සියල්
ලන් කෙරෙහි ගුණවන්තවූ, උගන්
වන්ට සමර්ථවූ, ඉවසිලිවන්තවූ කෙ
25. නෙක්ව සිටගන, විරුඞව සිටින්
නන් විසින් සැබෑකම ඒත්තුගන්නා
පිනිසද, සාතන් විසින් තමාගේ
කැමැත්තෙන් අල්වනලද්දවුන් ඔහු
ගේ මලපතින් ගැලවෙන පිනිසද,
26. දෙවියන්වහන්සේ ඔවුන්ට පසු
තැවිල්ල දෙනසේක්දෝ බලමින්,
මොලොක්වූ ගුනයෙන් ඔවුන්ට උග
ඩන කෙනෙක්ද ගෙව්වා.

3. පරිච්ඡ. අන්තිම දවස්වලදී
උපද්‍රා ඇති කාලවල් පැමිනෙනවා
2. ඇතැයි දැනගනින්න. එවිට මනු
ෂ්‍යයෝ තමන්ට සෙන්හ කරන්
නෝද, වස්තු ලෝභීහූද, තමන්ම
වර්ණනා කරගන්නෝද, අහංකාරී
හූද, අපහාස කරන්නෝද, මව්පි
යන්ට කීකරුනොවන්නෝද, කෙ
ලෙහි ගුන නොදන්නෝද, අධර්මි
3. ෂ්ඨයෝද, ජම්ම සෙන්හය නැත්
තෝද, පොරොන්දු කඩකරන්නෝද,
කේලාම් කියන්නෝද, ත්‍රිෂ්නාව
මැඩපවත්වා නොගන්නෝද, කෲර
යෝද, සත්පුරුෂයන්ට අනාදර කර
4. නෙනෝද, ද්‍රෝහිකම් කරනෙනෝද,
හිතුවක්කාරයෝද, ආඩම්බරකාරයෝ
ද, දෙවියන්වහන්සේට වඩා සෙල්ල
5. මට ඇළුම්ව සිටින්නෝද, දේව
භක්තියේ ස්වරූපය දරන නුමුත්
එහි බලය නැතුව සිටිනෙනෝද වෙති;
6. එබඳුවන්ගෙන් දුරුවෙයන්න. ය
මද ගෙවල්වලට වැද, පාපවලින්
බරවූ, නොයෙක් ත්‍රිෂ්නාවලින් මුලා
7. කරනලද්දාවූ, නිතර ඉගනගනනා
නුමුත් කිසි කලෙකත් සැබෑකම
දැනගැන්මට පැමිනෙන්ට බැරිවූ,
අඥාන ස්ත්‍රීන්; වාල්කමට ගෙනයන්
නෝ මෙබඳු තැනැත්තන්ගෙන්වය.
8. යන්නෙස් සහ යම්බ්‍රෙස් මෝ
සෙස්ට විරුඞව සිටියාක්මෙන්, මේ
මනුෂ්‍යයෝ දුෂ්ට සිත් ඇතිව, ඇද
හිල්ල තේරුම්නොගෙන, සැබෑක
9. මට විරුඞව සිටිති. නුමුත් ඔවුන්
ගේ අඥානකම සියල්ලන්ට එලිදරව්
උනාසේම, මොවුන්ගේ අඥානක
මත් සියල්ලන්ට එලිදරව්වෙන
නිසා, මොවුන් තවත් දුර නොයති.
10. මාගේ ඉගැන්වීමද, හැසිරීමද,
අභිප්‍රාවද, ඇදහිල්ලද, ක්ෂාන්තියද,
11. ප්‍රේමයද, ඉවසිල්ලද, අන්තියෝ
ඛියෙහිදීත් ඉකොනියෙහිදීත් ලිස්ත්‍රා
යෙහිදීත් මට පැමුනුනු පීඩාවල්ද,
දුක්ද, නුඹ හොඳ හැටි දන්නේය.

මේ පීඩාවල් මම වින්දෙමි, නුමුත් ඒ
සියල්ලෙන්ම ස්වාමින්වහන්සේ මා
12. ගැලෙව්වේක. තවද ක්‍රිස්තුස්
යේසුස්වහන්සේ කෙරෙහි භක්තිය
ලෙස හැසිරෙන්ට කැමති සියල්ලෝ
13. ම පීඩා විඳිනවා ඇත. නුමුත්
දුෂ්ට මනුෂ්‍යයන් සහ රැවටිලිකාර
යෝ රවටමින්නුත් රැවටෙමින්නුත් වැඩි
14. වැඩිව, දුෂ්ටවෙනවා ඇත. ඒ
හෙත් නුඹ ඉගනගත්තාවූ, නිසැකව
දරන්නාවූ, කාරනා කාගෙන් ඉගන
15. ගත්තේදැයි කියාද, ක්‍රිස්තුස්
යේසුස්වහන්සේ කෙරෙහි ඇදහිල්
ලෙන් ගැලවීම පිනිස, නුඹ ඥාන
වන්ත කරන්ට පුළුවන්වූ ශුද්ධ ලිය
විලි බාල වයසේ පටන් නුඹ දැනග
නොත්‍යයි කියාද දැන, එහි පිහිටා
16. සිටපන්න. දෙවියන්වහන්සේ
ගේ මනුෂ්‍යයා සියළු යහපත් ක්‍රියාව
ලට හොඳ හැටි සැදී සම්පූර්ණ
17. වෙන පිනිස, දේවානුභාවයෙන්
දුන් සියළු ලියවිල්ල ඉගැන්වීමටද,
අවවාදයටද, හැසිරීම ශුද්ධකිරීමටද,
ධර්මිෂ්ඨකමෙහි ගුරුකම් දීමටද
ප්‍රයෝජන ඇත.

4. පරිච්ඡ. එහෙයින් කලටත්
අකලටත් උත්සාහකර, වචනය ප්‍රකා
ශකොට, සියළු ආකාරයෙන් ඉගැන්
වීමෙහි බොහෝ කල් ඉවසීමෙන්
තරවටුකොට අවවාදකොට දැනුමුතු
කම් දීපන්නැයි යන මේ ආඥාව,
2. දෙවියන්වහන්සේගේ ඉදිරියේදීද,
ජීවත්වෙන්නන්ට සහ මලවුන්ටත්
තමන්ගේ ප්‍රකාශවීමෙහිදීත් රාජ්‍ය
යෙහිදීත් විනිශ්චය කරනනාවූ, ස්වා
මිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
3. ඉදිරියේදීද, නුඹට දෙමි. මක්නි
සාද මනුෂ්‍යයෝ ශුභ ඉගැන්වීම
දරන්ට අකමැතිව, කසන කන් ඇ
තුව තමන්ගේම කැමැත්ත ලෙස
4. ගුරුවරුන් රැස්කොට, සැබෑක
මට කන්නොදී බොරු කථාන්තර
වලට සිත් එලඹවති; ඒ කාලය පැමි
5. ණෙන්නේය. එසේ නුමුත් නුඹ
සියළු කාරනාවලින් සිහි ඇතුව සිට,
දුක් ඉවසා, සුභාරංචිය ප්‍රකාශ කරන්
නෙකුගේ වැඩකොට, නුඹේ සේවය
6. සම්පූර්ණ කරපන්න. මම දැන්
යාග කරනු ලබන්ට සැදී සිටිමි;
මාගේ ඉකුත්වීමේ කාලය ලඟය.
7. මම යහපත් යුද්ධයෙන් යුද්ධ කෙ
ලෙමි; මාගේ දිවීම කෙලවර කෙ
ලෙමි; ඇදහිල්ල රක්ෂාකෙලෙමි.
8. මෙතැන් පටන් ධර්මිෂ්ඨකමේ
ඔටුන්න මට තබා තිබෙන්නේය; ඒ
දවසෙහි ධර්මිෂ්ඨ නඩුකාරවූ ස්වාමින්
වහන්සේ ඒ ඔටුන්න මටද, මට පම
නක් නොව උන්වහන්සේගේ ප්‍රකා
ශවීමට ප්‍රියවූ සියල්ලන්ටද, දෙන
9. සේක. මා ලඟට ඉක්මනින් එන්ට
10. වෑයම් කරපන්න; මක්නිසාද
දේමස් මේ ලෝකයට ආලයව, මා
හැර තෙසලෝනිකයට ගියේය.
ක්‍රෙස්කෙන්ස් ගලාතියටත්, තීතස්
11. දල්මාතියටත් ගියෝය. ලූක්
පමනක් මා සමග සිටින්නේය.
මාර්ක් මාගේ වැඩට ඉතා ප්‍රයෝජන
ඇත්තෙක් බැවින්, ඔහු නුඹ සමග
12. කැඳවාගන එවරන්න. තිකිකස්
13. එපිසයට යැවීමි. ත්‍රොවාසයෙහි
කාර්පස් වෙත මම තිබූ උතුරු සළු
වද, පොත්ද, ප්‍රධානකොට සම්
පොත්ද, නුඹ එනකොට අරගන
14. එවරන්න. අලෙක්සන්දර නම් ලෝ
කුරුවා මට බොහෝ නරක්කම්
කලේය; ස්වාමින්වහන්සේ ඔහුගේ
ක්‍රියාවට සුදුසු ඵල ඔහුට දෙනසේ
15. ක්වා. ඔහු අතිසයින් අපේ වචන
වලට විරුද්ධ සිටිය නිසා, ඔහුගෙන්
16. නුඹත් ප්‍රවේසම් වෙයන්න. මා
ගේ පලමු උත්තර දීමේදී, කවුරු
වත් මා සමග නොසිට, සියල්ලෝම
මා අත්ඇරියෝය; ඒ කාරනාව ඔ
වුන්ගේ ගනනට ගන්ට නොයේද්වා.
17. එසේ නුමුත් සියළු අන්‍ය ජාතීන්ම

අහන්ට පුළුවන්වෙන ලෙසත්, සුභා
රංචිය මා විසින් දේශනාකරනලදුව
හොඳ හැටි එළිදරව්වෙන ලෙසත්,
ස්වාමීන්වහන්සේ මා සමග සිට, මට
බලය දුන්සේක; මෙසේම මම සිංහ
18. යාගේ කටින් ගලවනු ලැබීමි. ත
වද ස්වාමීන්වහන්සේ සෑම දුෂ්ට
ක්‍රියාවලින් මා මුදා, තමන්ගේ ස්වර්ග
රාජ්‍යයට පැමිණෙනතෙක් මා රක්ෂා
කරනසේක. ගෞරවය සදාකල්ම
උන්වහන්සේට වේවා. ආමෙන්.

19. ප්‍රිස්කාටද, අකුලාටද, ඔනේ
සිෆොරස්ගේ ගෙදරවාසීන්ටද, ආචා
20. රකරපන්න. එරස්තස් කොරින්
තියෙහි සිටියේය. රෝගාතුරවූ ත්‍රො
ෆිමස් මිලේතයෙහි සිටින්ට හැරියෙ
21. මි. සීතකාලයට පලමුවෙන්
එන්ට වෑයම්කරපන්න. එවුබුලස්ද,
පුදෙනස්ද, ලිනස්ද, ක්ලෞදියස්ද,
සියළු සහෝදරයෝද, තුබට ආචාර
22. කරති. ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ තුබේආත්මයසමග වේවා; ක
රුනාව තුබලා සමග වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්

# තී ත ස් ට ලි ය න ල ද ප ත්‍ර ය.

1. පරිච්ඡේදය. බොරු කියන්ට
නුපුළුවන්වූ දෙවියන්වහන්සේ විසින්
ලෝකයේ පටන්ගැන්මට පලමුවෙන්
2. පොරොන්දුවූනාවූ, අපගේ ගැලවූම්
කාර දෙවියන්වහන්සේගේ ආඥාව
ලෙස මට බාරදෙනලද තමන්වහන්
සේගේ වචනය ප්‍රකාශකිරීමෙන්
සුදුසු කාලයෙහි එළිදරව්කරනලද්
දවූ, සදාකාල ජීවනයෙහි බලාපො
3. රොත්තුව ගැන, දෙවියන්වහන්සේ
ගේ තෝරාගත්තවුන්ගේ ඇදහිල්ල
ලෙසද, දේවභක්තිය උපදවනනාවූ
සැබෑකම දැනගැනීම ලෙසද, දෙවි
යන්වහන්සේගේ වැඩකාරවූ, යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ ප්‍රේරිතවූ, පා
4. වුල්නම්වූ මා විසින්, සාමාන්‍ය
ඇදහිල්ලේ හැටියට මාගේම පුත්‍රවූ
තීතස්ට, පියවූ දෙවියන්වහන්සේ
ගෙන්ද, අපගේ ගැලවූම්කාර ස්වාමි
වූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගෙන්ද,
කරුනාවත් දයාවත් සමාදානයත්
වෙනලෙස, ලියා එවන වගනම්.
5. ඉතිරි දේ පිළිවෙලට යොදන
පිනිසද, මා විසින් ආඥාකල ලෙස
නුවරක් නුවරක් පාසා වැඩිමහල්
ලන් පත්කරන පිනිසද, තුබ ක්‍රීත
6. යෙහි සිටින්ට ඇරියෙමි. නිදොස්වූ,
එක භාර්‍යාවට ස්වාමිපුරුෂයාවූ,
කෝලාහල සහ අකීකරුකම ගැන
දෝෂාරෝපනය නොලත් ඇදහිලි
වන්ත පුත්‍රයන් ඇත්තාවූ තැනැත්
තන්, වැඩිමහල්ලන්කොට පත්කල
7. යුතුය. මක්නිසාද සභාවේ නාය
කයෙක් විසින් දෙවියන්වහන්සේගේ
ගබඩා ඇමතියෙක් මෙන් නිදොස්වූ,
හිතුවක්කාර නොවූ, ඉක්මනට තරහ
නොවෙන්නාවූ, බීමත්කාර නොවූ,
බැට දෙනෙනක් නොවූ, කිළුටු වස්
8. තුවට ආසා නොකරන්නාවූ, ආ
ගන්තුක සත්කාර කරන්ට කැමතිවූ,
සත්පුරුෂයන්ට ප්‍රේම කරනෙනක්වූ,
යුතු චාරිත්‍ර ඇති ධර්මිෂ්ඨවූ, පිරිසිදුවූ,
පමන දන්නාවූ කෙනෙක්ව සිටිය
9. යුතුය; ඔහු යහපත් ඉගැන්වී
මෙන් විරුද්ධකාරයින්ට අවවාද කර
උත්තර නැතිකරන්ට පුළුවන් කෙ
නෙක් වෙන පිනිස, තමාට උගන්
වනු ලැබූ ලෙස සැබෑවූ වචනය

තදින් දරගන්නෙක්ව සිටිය යුතුය.
10. මක්නිසාද ප්‍රධානකොට චර්ම
ඡෙදිතයෝ ඇතුළුව සිතුවක්කාරවූ,
නිෂ්ඵල වචන කියන්නාවූ, රැවටිලි
කාරවූ බොහෝ දෙනෙක් සිටිති;
11. ඔවුන්ගේ කට පියවන්ට යුතුය.
ඔවුන් කිළුටු වස්තුවට ආසාවෙන්
නුසුදුසු දේ උගන්වමින්, මුළු පවුල්
12. පෙරලති. ඔවුන්ගෙන්ම එකෙක්
වූ අනාගතවක්තෘ කෙනෙක්, "ක්‍රීත
වැසියෝ නිතරම බොරුකාරයෝද,
දුෂ්ට මෘගයෝද, කෑදරයෝද, වෙති
13. යි" කීයේය. මේ සාක්ෂිය සැබෑ
ය; එබැවින් ඔවුන් යුදෙව්වන්ගේ
14. බොරු කථාන්තරවලටද, සැබෑක
මෙන් හැරී යන මනුෂ්‍යයන්ගේ ආඥා
වලටද, ඇහුම්කන් නොදෙන පිනි
සත්, ඇදහිල්ලේ ස්ථිරව සිටින පිනි
සත්, ඔවුන්ට තදින් තරවටුකර
15. පන්න. පවිත්‍රයන්ට සියළු දේම
පවිත්‍රවෙයි; එහෙත් කිළුටුවූ නො
අදහන්නාවූ තැනැත්තන්ට කිසිවක්
පවිත්‍රනැත; ඔවුන්ගේ සිහියත් හෘද
16. සාක්ෂියත් කිළුටුය. ඔවුන් දෙවි
යන්වහන්සේ අඳුනාමුයයි කියති;
නුමුත් ඔවුන් පිළිකුල්ව, අකීකරුව,
සියළුයහපත් ක්‍රියාවල් ගැන තේරුම්
නැති තැනැත්තෝව, තමන්ගේ ක්‍රි
යාවලින් උන්වහන්සේ එපාකරති.

2. පරිච්ඡේ. තුඹ යහපත් ඉගැන්
වීමට ගොබිනා දේ කියාපන්න.
2. මහළු පුරුෂයන් විසින් ප්‍රවේසම්ව,
සංසුංව, පමන දූනීමෙන් යුක්තව,
ඇදහිල්ලෙනුත් ප්‍රේමයෙනුත් ඉවසී
මෙනුත් ස්ථිරව සිටින්ට යුතුයයි
3. කියාපන්න. එසේම දෙවියන්ව
හන්සේගේ වචනයට නින්දා නො
4. පැමිණෙන පිනිස, තරුණ ස්ත්‍රීයෝ
තමන්ගේ ස්වාමි පුරුෂයන්ටත් දරු
වන්ටත් සෙන්හ ඇතුව, පමන දූනී
මෙන් යුක්තව, පිරිසිදුව, ගේ දොර
බලාගන්නියෝව, යහපත්ව, තමන්
ගේ පුරුෂයින්ට කීකරුව සිටින තැ
5. නැත්තියෝ වෙන පිනිස, ඔවුන්
ට උගන්වන ලෙස, මහළු ස්ත්‍රීන්
විසින් භක්තිවන්තයින්ට සුදුසු ආ
කාරයෙන් හැසිර, කේලාම් නොකි
යන්නියෝව, බීමත්කාරියෝ නොව,
යහපත් දේ උගන්වන්නියෝ වෙන්
6. මද යුතුයයි කියාපන්න. එසේම
තරුණයන්ට පමන දූනීමෙන් යුක්
තව සිටින්ට . අවවාදකරපන්න.
7. සියළු යහපත් දේ ගැන තුඹම
8. ආදර්ශයක්ව සිටපන්න. යම් විරුද්ධ
කාරයෙක් ඇත්නම්, තුඹලා ගැන
කිසි දෝෂයක් කියන්ට ඔහුට අව
කාශ නැර, ඔහු ලැජ්ජාවෙන ලෙස
තුඹේ ඉගැන්වීමෙන් පිරිසිදුකමත්,
සංසුංබවත්, ඇදනැතිකමත්, නිවර
දිවූ සාරවූ වචනත් පෙන්වාපන්න.
9. අපගේ ගැලවුම්කාරවූ දෙවියන්
වහන්සේගේ ආගම සියළු කාරණ
10. වලදී බබලවන පිනිස, එකට
එක නොකියා, සොරකම් නොකො
ට, සියළු හොඳ විශ්වාසකම පවත්වා,
තමතමන්ගේ ස්වාමිවරුන්ට යටහත්
වෙන්ටද, සියළු කාරණාවලින් ඔවුන්
සතුටුකරන්ටද, වැඩකාරයන්ට අව
11. වාදකරපන්න. මක්නිසාද ගැල
වීම දෙන්නාවූ දෙවියන්වහන්සේගේ
කරුණාව සියළු මනුෂ්‍යයන්ට ප්‍රකා
12. ශව තිබෙන්නේය. දේවභක්ති
නැතිකම සහ ලෞකික තෘෂ්ණා අත්
හරින්ටද, පමන දූනීමෙන් යුක්තව
ධර්මිෂ්ඨව ලෙසත් භක්තිවන්ත ලෙ
සත් මේ ලෝකයේ හැසිරෙන්ටද,
13. බලාපොරොත්තුවෙන වාසනා
වන්තකමද මහෝත්තමවූ දෙවිවූ
අපේ ගැලවුම්කාර යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ තේජවන්තවූ ප්‍රකාශ
වීමද බල බලා සිටින්ටද යුතුයයි,
14. අපට උගන්වන්නේය. උන්වහන්
සේ සියළු අධර්මිෂ්ඨකමෙන් අප මුදා
න පිනිසද, යහපත් ක්‍රියාවලට ලැදිවූ
උන්වහන්සේට අයිතිකරගත් සෙන

ගක්කොට පවිත්‍රකරගන්නා පිනිස
ද, අප උදෙසා තමන්ම පාවාදුන්
15. සේක. මේ දේ කියා, අවවාද
කොට, සියළු බලයෙන් තරවටුකර
පන්න. කිසිවෙකුට නුබ සුළුකොට
සිතන්ට අවකාස නොදෙන්න.

3. පරිච්ඡෙ. ප්‍රධානීන්ට සහ අධි
පතින්ට යටත්වෙන්ටද, නවුකාර
සින්ට කීකරුවෙන්ටද, සියළු යහ
2. පත් ක්‍රියාවට සැදී සිටින්ටද, කිසි
වෙකුගේ අගුන නොකියන්ටද, දබ
රකාරයෝ නොවෙන්ටද, ගුනවන්
තව සියළු මනුෂ්‍යයන්ට මොලොක්
ගුනෙන් පවතින්ටද, ඔවුන්ට සිහික
3. රවාපන්න. අපිත් පලමුවෙන්
අඥානව, අකීකරුව, මුලාව, නො
යෙක් ආකාර තෘෂ්ණාවන්ටත් කාම
යන්ටත් වාල්ව, දුෂ්ටකමින්ද ඊෂ්‍යා
වෙන්ද හැසිරෙමින්, වෛරකරනු
ලබමින්, අනුන්ට වෛර බඳිමින්
4. හැසුරුනෙමුව. නුමුත් අපගේ
ගැලවුම්කාරවූ දෙවියන්වහන්සේගේ
දයාවද, මනුෂ්‍යයන් කෙරෙහි පව
තින උන්වහන්සේගේ සෙන්හයද
5. ප්‍රකාශවූකල්හි, අප විසින් කල
ධර්මිෂ්ට ක්‍රියාවලින් නොව, තමන්ව
හන්සේගේ කරුණාව ලෙස, නැවත
ඉපදීම නැමති සේදීමෙන්ද, සුධාත්
මයානන්වහන්සේ විසින් අළුත්කිරී
මෙන්ද, උන්වහන්සේ අප ගැලවූ
6. සේක. උන්වහන්සේගේ කරුනා
වෙන් අපි නිදොස්කරනු ලැබ, සදා
කාල ජීවනය ගැන බලාපොරොත්
තුව ලෙස උරුමක්කාරයෝ වෙන
7. පිනිස, උන්වහන්සේ අපගේ ගැල
වුම්කාරවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
කරනකොටගෙන සුධාත්මයානන්
වහන්සේගේ සේදීම අප කෙරෙ
හි බොහෝසෙයින් වත්කලසේක.
8. මේක සැබෑවූ කීමක්ය. තවද
දෙවියන්වහන්සේ කෙරෙහි අදහ
ගන්නවුන් යහපත් ක්‍රියා කරන
ලෙස බලාගන්නා පිනිස, මේ කාර
නා නුබ විසින් ස්ථිරලෙස කථාකරන
වාට කැමැත්තෙමි; මේවා මනුෂ්‍ය
යන්ට යහපත්වූ ප්‍රයෝජන ඇත්තා
9. වූ දේවල්ය. නුමුත් අඥාන ප්‍රශ්
නද, කුලගෝත්‍ර ගැන කථාවල්ද,
විවාදවල්ද, ව්‍යවස්ථාව ගැන විරෝ
ධයද නිස්ඵලවූ නිරර්ථකවූ කාරනා
10. බැවින්, ඒවා අත්හැරපන්න. දුර්
ලබ්ධිගත් මනුෂ්‍යයා, මුලාවූ සිත්
ඇතිව තමාම ද්වේෂයට පැමින පව්
11. කරන්නේයයි නුබ දැන, පලමු
වෙනි දෙවෙනි අවවාද දීමෙන් පසු
12. අහක්කරපන්න. මම නිකපො
ලිස් නුවර සීතකාලයේ සිටින්ට නිය
මකරගත් නිසා, අර්තිමස්වත් තිඛි
කස්වත් නුබ ලගට එවූකල, එහි මා
වෙතට එන්ට ඉක්මන්කරපන්න.
13. ව්‍යවස්ථාවේ පණ්ඩිතවූ සේනාස්ටද,
අපොල්ලස්ටද, කිසි හිගයක් නො
වෙන ලෙස, ඔවුන්ට මාගෝපකාර
14. කරපන්න. තවද අපගේ මනුෂ්‍ය
යොත් නිස්ඵල නොවෙන පිනිස,
ප්‍රයෝජන ලැබෙන යහපත් ක්‍රියා
15. කරන්ට ඉගනගනිත්වා. මා සමග
සිටින සියල්ලෝ නුබට ආචාර කෙ
රෙති. ඇදහිල්ලේ පිහිටාසිට අපට
සෙන්හකරන්නන්ට ආචාර කරපන්
න. කරුනාව නුබලා සියල්ලන් සමග
වේවා. ආමෙන්.

~~~~~~~~~~~~~~~~~~~~~~~~~~~~
~~~~~~~~~~~~~~~~~~~~~~~~~~~~

# ප්‍රේරිතවූ පාවුල් විසින්
# පිලෙමොන්ට ලියනලද පත්‍රය.

ජේසුස් ක්‍රිස්තුස්වහන්සේ නිසා
සිරකාරයෙක්වූ පාවුල්ද සහෝදරවූ
තිමෝතියස්ද යන අප විසින්, අපේ
ඉතා ප්‍රියවූ එක්ක වැඩකරන්නාවූ
2. පිලෙමොන්ටද, ප්‍රියවූ ආපියා
ටද, අපේ සමගිසේවායෙක්වූ ආර්
කිප්පස්ටද, නුඹේ ගෙදර සභාවටද,
3. අපේ පියවූ දෙවියන්වහන්සේ
ගෙන්ද, ස්වාමිවූ ජේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගෙන්ද, කරුණාවද සමාදාන
යද වෙන ලෙස, ලියා එවන වගනම්.
4. ස්වාමිවූ ජේසුස්වහන්සේ කෙරෙ
හි නුඹේ ඇදහිල්ලත් සියළු පිරිසිදුවූ
වන් කෙරෙහි නුඹේ ප්‍රේමයත් ගැන
5. අසා, නුඹලා කෙරෙහි පවතින
සියළු යහපත් දේ ප්‍රකාශවීමෙන්,
නුඹේ හවුල්වූ ඇදහිල්ල ක්‍රිස්තුස්
ජේසුස්වහන්සේගේ ගෞරවයට සළ
6. ලවෙන පිනිස, මාගේ යාඥාවලදී
නුඹ නිතරම සිහිකරමින්, මාගේ දෙ
7. වියන්වහන්සේට ස්තුතිකරමි. ස
හෝදරය, නුඹ විසින් පිරිසිදුවූවන්
ගේ හෘදය සනසනු ලබන බැවින්,
නුඹේ ප්‍රේමය නිසා මහත් සන්තෝ
සයද සැනසිල්ලද අපට ඇත.
8. ඉන්නිසා සුදුසු දේ නුඹට ආඥාක
රන්ට ක්‍රිස්තුස්වහන්සේගෙන් මට
9. බලය ඇති නුමුත්, මහළුවූද දැන්
ජේසුස් ක්‍රිස්තුස්වහන්සේ උදෙසා
සිරකාරවූද පාවුල්නම් මම, ප්‍රේමය
10. නිසා, නුඹෙන් ඉල්ලා සිටිමි. මම
සිරකාරයෙක්ව සිටිද්දී මට ජාතක
වූනාවූ මාගේ පුත්‍රවූ ඔනේසිමුස්
11. ගැන ඉල්ලා සිටිමි. ඔහු පලමු
වෙන් නුඹට අලාභකල නුමුත්, දැන්
නුඹටත් මටත් ලාභ කරන්නාවූ තැ
12. නැත්තෙක. ඔහු නුඹ ලඟට
නැවත එවමි; ඉන්නිසා මාගේ ප්‍රාන
13. ය සමානවූ ඔහු පිලිගනින්න. සු
භාරංචිය නිසා බැඳී සිටින්නාවූ මට
නුඹ වෙනුවෙන් උපස්ථාන කරන
පිනිස, ඔහු මා ලඟ සිටුවාගන්ට කැ
14. මතිවීමි. නුමුත් නුඹේ උපකාර
බලයෙන් නොව කැමැත්තෙන්
වෙන පිනිස, නුඹේ අවසර නැතුව
මොකවත් කරන්ට මම කැමතිවූනේ
15. නැත. මෙතැන් පටන් ඔහු වා
ලෙක් මෙන් නොව, වාලෙකුටත්
වඩා මට සහ ප්‍රධානකොට ශරීරයෙ
හිත් ස්වාමින්වහන්සේ කෙරෙහිත්
නුඹට ප්‍රියවූ සහෝදරයකු මෙන්,
16. සදාකාලේටම ඔහු නුඹට ලැබෙ
න පිනිස, ඔහු නුඹ කෙරෙන් ස්වල්ප
කාලයකට අහක්ව ගියේයයි, සිතන්
17. නට පුළුවන. ඉතින් නුඹ මා සමා
ගම්කාරයෙක්කොට සිතන්නේනම්,
18. මා වාගේ ඔහු පිලිගනින්න. ඔහු
නුඹට අයුත්තක්කොට නුඹට නයක්
ඇත්නම්, ඒක මාගේ ගනනට තබා
19. පන්න. මම ගෙවමියි කියා, පා
වුල්නම් මම මාගේ අතින් ලියමි;
එසේ නුමුත් නුඹේ ආත්මය පවා
මට නය බව නුඹට නොකියමි.
20. සහෝදරය, ස්වාමින්වහන්සේ
කෙරෙහි නුඹෙන් මට ලාභ ලැබේ
වා; ස්වාමින්වහන්සේ කෙරෙහි මා
21. ගේ හෘදය සනසාපන්න. නුඹ
මාගේ ඉල්ලීමට වඩා කරන්නේයයි
දැන, නුඹේ කීකරුකමෙහි විශ්වාස
22. ඇතුව ලිව්මි. නුඹලාගේ යාඥා
වල් නිසා නුඹලා ලඟට එන්ට මට
ඉඩ ලැබේයයි, බලාපොරොත්තු වෙ
මි; එබැවින් මට නවාතැනක් සූදා
23. නම්කරපන්න. ක්‍රිස්තුස් ජේසුස්
වහන්සේ නිසා මා එක්ක බැඳුම්
24. ලැබූ ඒපප්‍රස්ද, මාගේ හවුල්
වැඩකාරවූ මාකීස්ද, අරිස්තාකීස්ද,
දේමස්ද, ලූකස්ද, නුඹට ආචාර
25. කෙරෙති. අපගේ ස්වාමිවූ ජේ
සුස් ක්‍රිස්තුස්වහන්සේගේ කරුණාව
නුඹලාගේ ආත්මය සමග වේවා.
ආමෙන්.

# ප්‍රේරිතවූ පාවුල් විසින්
# හෙබ්‍රවුවරුන්ට ලියනලද පත්‍රය.

1. පරිච්ඡේදය. ආදි කාලයෙහිදී
නොයෙක් වර නොයෙක් ආකාර
යෙන්, අනාගතවක්තෘන් ලවා අපේ
පියවරුන්ට කථාකෙරෙව්වාවූ දෙවි
2. යන්වහන්සේ, මේ අන්තිම දවස්
වලදී තමන්වහන්සේගේ පුත්‍රයා
ලවා, අපට කථාකෙරෙව්වසේක. උන්
වහන්සේ ඒ පුත්‍රයා සියල්ලට උරු
මක්කාරයෙක්කොට පිහිටෙවූසේක;
උන්වහන්සේකරනකොටගෙන ලෝ
3. කවල්ද මැවූසේක. උන්වහන්සේ
ගේ තේජසෙහි ප්‍රභාවද උන්වහන්
සේගේ ස්වභාවෙහි නියම රූපයදවූ
ඒ පුත්‍රයානන්වහන්සේ, තමන්ගේ
බලවත්වූ වචනයෙන්, සියල්ල ආර
ක්ෂාකරනසේක. උන්වහන්සේම අ
පේ පව්වලින් පිරිසිදුවීමක් සාද,
උසස්ථානයෙහි මහෝත්තමයානන්
වහන්සේගේ දකුනු පැත්තේ ඉඳ
4. ගෙන, දේවදූතයන්ගේ නාමයට
වඩා උතුම්වූ නාමයක් උරුමයෙන්
ලබාගෙන, ඔවුන්ට වඩා උතුම්ව
5. සිටිනසේක. එසේම, "නුඹ මාගේ
පුත්‍රයාය; මේ දවසේ නුඹ ඉපදවීමි"
කියාද, "ඔහුට මම පියෙක් වෙමි;
ඔහුද මට පුත්‍රයෙක් වන්නේයයි"
කියාද, දේවදූතයන්ගෙන් කවරෙ
කුට කොයි කලක දෙවියන්වහන්සේ
6. කීසේක්ද? ඇරත් උන්වහන්සේ
තමන්ගේ කුළුඳුල් පුත්‍රයා ලෝක
යට ගෙනෙනකල, "දෙවියන්වහන්
සේගේ සියළු දූතයෝ උන්වහන්
සේට නමස්කාර කෙරෙත්වයි" උන්
7. වහන්සේ කියනසේක. "උන්ව
හන්සේ තමන්වහන්සේගේ දූතයන්
පවන් මෙන්ද, තමන්වහන්සේගේ
සේවකයන් ගිනිදැලක් මෙන්ද කර
නසේකැයි" දේවදූතයන් ගැන කිය
8. නසේක. නුමුත් පුත්‍රයානන්වහන්
සේට කථාකරමින්, "දෙවියන්වහන්
ස, ඔබගේ සිංහාසනය සදාකල්ම
පවත්නේය; ඔබගේ රාජ්‍යයෙහි
ජයකොන්තය ධර්මිෂ්ඨකමෙහි ජය
9. කොන්තයක; ඔබවහන්සේ ධ
ර්මිෂ්ඨකමට ප්‍රේමව, අධර්මිෂ්ඨකමට
අප්‍රියවූසේක; එබැවින් දෙවියන්ව
හන්සේ, එනම් ඔබවහන්සේගේ
දෙවියන්වහන්සේම, ඔබවහන්සේ
ගේ සමාගම්කාරයින්ට වඩා ප්‍රීති
නැමති තෙලෙන් ඔබවහන්සේ
ආලේපකලසේකැයි" කියනසේක.
10. නැවතද, "ස්වාමිනි, පටන්ගැම
මේදී පොලොවෙහි අත්තිවාරම
ඔබවහන්සේ ඒසේක; ස්වර්ගයාවල්
ඔබවහන්සේගේ අතේ කර්මාන්ත
11. වේ; ඒවා විනාසවෙයි, නුමුත්
ඔබවහන්සේ පවතිනසේක; ඒ සිය
ල්ල වස්ත්‍රයක්මෙන් පරනවෙයි,
12. ඔබවහන්සේ ඒ දේවල් වස්ත්‍ර
යක් මෙන් අකුලනසේක, ඒවා මාරු
කරනු ලබන්නේය; නුමුත් ඔබව
හන්සේ වෙනස්නොවනසේක, ඔබ
වහන්සේගේ වයස කෙලවරට පැමි
නෙන්නේ නැතැයි" කියනසේක.
13. තවද, "නුඹේ සතුරන් නුඹේ
පාපුටුවක් කරනතුරු, මාගේ දකුනු
පැත්තේ ඉඳගනින්නැයි" දේවදූත
යන්ගෙන් කවරෙකුට කොයි කලක
14. කීසේක්ද? ඔවුන් සියල්ලෝ,
ගැලවීමෙහි උරුමක්කාරයින් උදෙ
සා සේවය කරන පිනිස, එවනලද
සේවක ආත්මයෝ නොවෙද්ද?

2. පරිච්ඡේ. එහෙයින් අප විසින්
ඇසූ කාරනා කවදාවත් මතකනැති
නොවෙන පිනිස, ඒවා බොහෝසෙ
2. යින් සිහියට ගන්ට යුතුය. මක්නි
සාද දේවදූතයන් විසින් කියනලද
වචනය ස්ථිරවීනම්, සියළු වරදවල
ටත් අකීකරුකම්වලටත් සුදුසු අව
3. වූව ලැබුනේනම්, පලමුවෙන්
ස්වාමින්වහන්සේ විසින් කියනලද්
දවූ, උන්වහන්සේගේ වචනය ඇසූ
වන් විසින් අපට ස්ථිරකරනලද්දවූ
මෙපමන මහත් ගැලවීම අපි නොස
ලකා සිටියොත්, කොහොම හැල

4. වෙමුද? මේ ගැන දෙවියන්වහන්
සේ ලකුනුවලින්ද, පුදුමවලින්ද,
නොයෙක් ආකාර ආශ්චර්‍යවලින්ද,
සුබාත්මයානන්වහන්සේගේ දීමව
ලින්ද, තමන්වහන්සේගේ කැමැත්
ත ලෙස ඔවුන් සමග සාක්ෂි දුන්සේ
5. ක. ඇරත් අපි යම් ලෝකයක්
ගැන කථාකරමුද, මතු වියයුතුවූ ඒ
ලෝකය දේවදූතයන්ට යටත්නො
6. කලසේක. නුමුත් එක්කෙනෙක්
එක් තැනක සාක්ෂි දෙමින්, "ඔබව
හන්සේ විසින් මනුෂ්‍යයා සිහිකරන
පිනිසද, මනුෂ්‍ය පුත්‍රයා දෙස බලන
7. පිනිසද, ඔහු මොකෙක්ද? ඔබව
හන්සේ ඔහු ටික කලකට දේවදූත
යන්ට වඩා අඩුතරමට පමුනුවා, තේ
ජසද ගෞරවයද නැමති ඔටුන්
නෙන් ඔහු පලඳවා, ඔබගේ සියළු
කර්මාන්තය ආඩුකිරීමට ඔහු පත්
8. කොට, සියල්ලම ඔහුගේ පාදව
ලට යටත්කලසේකැයි" කීය. උන්
වහන්සේ සැම දේම ඔහුට යටත්
කල බැවින්, යටත් නොකල කිසි
දෙයක් නැත. නුමුත් සැම දේම
ඔහුට යටත්කල බව තවම අපට
9. පෙනෙන්නේ නැත. නුමුත් දෙවි
යන්වහන්සේගේ කරුනාවෙන් සියළු
මනුෂ්‍යයන් උදෙසා මරන රසය විඳි
න පිනිස, ටික කලකට දේවදූත
යින්ට වඩා අඩුතරමට පමුනුවනලද
ජේසුස්වහන්සේ, මරනය ඉවසූ බැ
වින්, තේජසද ගෞරවයද නැමති
ඔටුන්නෙන් පලඳවනු ලැබූ බව දකි
10. මුව. යම් කෙනෙක් නිසාද යම්
කෙනෙක් කරනකොටගෙනද සියළු
දේ පවතීද, උන්වහන්සේ විසින්
නොයෙක් පුත්‍රයන් තේජසට ගෙන
යනකල, ඔවුන්ගේ ගැලවීමේ ප්‍රධා
නියා දුක් විඳීමෙන් සම්පූර්ණ සම
11. ර්‍යෙක් කලයුතුය. එබැවින්
පිරිසිදු කරන්නාද, පරිසිදු කරනු
ලබන්නෝද, එක ස්වභාවේය; ඒ
කාරනාව නිසා උන්වහන්සේ ඔවුන්ට
සහෝදරයෝයයි කියන්ට ලැජ්ජ
12. නැත. එලෙසම උන්වහන්සේ
කථාකරමින්, "මම මාගේ සහෝදර
යන්ට ඔබවහන්සේගේ නාමය දන්
වමි; සභාව මැද ඔබවහන්සේට
ස්තුති ගීතිකා කියමියි" කීසේක.
13. නැවතද, "මම උන්වහන්සේ
කෙරෙහි විශ්වාස කෙරෙමියි" කීසේ
ක. නැවතද, "මාත් දෙවියන්වහන්
සේ විසින් මට දෙනලද දරුවනුත්
14. බලාපල්ලායයි" කීසේක. එහෙ
යින් මරන බලය ඇත්තාවූ යක්ෂයා
මරනයෙන් විනාසකරන පිනිසද,
15. මුළු ජීවිතයෙහිම මරන භයට
වාල්ව සිටියවුන් ගලවන පිනිසද,
දරුවන් ලේ මස් ඇතිව සිටිසේම
උන්වහන්සේත් එම ආකාර ලේ මස්
16. ඇතිව සිටිසේක. උන්වහනසේ
සැබැවටම දේවදූතයන් අල්ලා නො
ගෙන, ආබ්‍රහම්ගෙන් පැවත එන්
17. නන් අල්ලාගත්සේක. එබැවින්
උන්වහන්සේ දෙවියන්වහන්සේට
අයිතිවූ කාරණ ගැන දයාවන්තවූ
විශ්වාසවූ නායක පූජකයෙක් වෙන
පිනිසද, මනුෂ්‍යයනගේ පව් දුරලන
සතුටුකරන යාගයක් වෙන පිනිසද,
සියළු දෙයින්ම තමන්ගේ සහෝදර
18. යන්ට සමානවෙන්ට යුතුය. ඇ
රත් උන්වහන්සේ පරීක්ෂාවට පැමින
දුක් වින්ද බැවින්, පරීක්ෂාවට පැමි
නෙන්නන්ට පිහිටවෙන්ට උන්වහන්
සේට පුළුවන.

3. පරිච්ඡේ. එහෙයින් ස්වර්ගීයවූ
කැඳවීමෙහි පංගුකාරවූ, පිරිසිදුවූ
සහෝදරයෙනි, අපේ ආගමේ ප්‍රේරි
තද නායක පූජකදවූ ක්‍රිස්තුස් යේ
2. සුස්වහන්සේ සිහිකරපල්ලාය. මෝ
සෙස් දෙවියන්වහන්සේගේ මුළු
පව්ලේ විශ්වාසව සිටිසේම, උන්ව
හන්සේද තමන් නියමකල දෙවියන්
වහන්සේට විශ්වාසව සිටිසේක.
3. පව්ලට වඩා පව්ල පිහිටෙව් කො

නෙක් උතුම්වන්නාක් මෙන්, ඕන්
වහන්සේ මෝසෙස්ට වඩා ගෞරවය
4. ලැබියයුතු කෙනෙක. මක්නිසාද
සියළු පවුල්ම කවරෙක් විසින් නුමුත්
පිහිටුවනලද්දේය; එහෙත් සියල්ලම
5. පිහිටුවෙව් දෙවියන්වහන්සේමය. සැ
බැවටම මෝසෙස් මතු කියන්නට
තිබුනු දේ ගැන සාක්ෂිදෙන පිනිස,
දෙවියන්වහන්සේගේ මුළු පවිලේ
සේවකයෙක්මෙන් විස්වාසව සිටි
6. යේය; නුමුත් ක්‍රිස්තුස්වහන්සේ
උන්වහන්සේගේ පවුලෙහි පුත්‍රයෙක්
මෙන් වනසේක. අපි අන්තිමය
දක්වා විස්වාසයද ප්‍රීතියෙන් යුක්ත
වූ බලාපොරොත්තුවද ස්ථිරකොට
දරමුනම්, උන්වහන්සේගේ පවුල
7. වෙමුව. එබැවින් සුධාත්මයානන්
වහන්සේ මෙසේ කියනසේක්, "අද
දවසේ නුබලා උන්වහන්සේගේ ශබ්
8. දය අසන්ට කැමතිනම්, වනාන්
තුරේදී උදහස් ඉපදවීමේද පරීක්ෂා
කිරීමේද දවසේ මෙන් නුබලාගේ
9. සිත් තදකර නොගනිල්ලාය; නු
බලාගේ පියවරු එහිදී මා පරීක්ෂා
කොට විමසා, හතලිස් අවුරුද්දක්
10. මාගේ ක්‍රියාවල් දුටුවෝය; ඒ කා
රනයෙන් මම ඒ වග්ගය කෙරෙහි
අප්‍රසන්නව, ඔවුන් මාගේ මාර්ග
යන් නොසලකමින් නිතරම හෘද
11. යෙන් මුලාවෙන බැවින්, ඔවුන්
මාගේ නිවාඩුවට නොපැමිනෙතියි
මාගේ උදහසෙන් දිව්ලෙමියි" කී
12. සේක. එබැවින් සහෝදරයෙනි,
ජීවමානවූ දෙවියන්වහන්සේ කෙ
රෙන් අහක්ව යන්නාවූ, ඇදහිලි
නැත්තාවූ නපුරු සිතක් නුබලා අත
රෙන් යමෙකුට නොතිබෙන පිනිස
13. බලාගනිල්ලාස. නුබලාගෙන්
යමෙක් පාපයෙහි රැවටිල්ලෙන් දැඩි
නොවෙන පිනිස, "අද දවසයයි"
කියනකල්හි, දවස් පතාම ඔවුනො
14. වුන්ට අවවාදකරපල්ලාය. මක්
නිසාද, "අද දවසේ නුබලා උන්ව
හන්සේගේ සැබදය අසන්ට කැමති
නම්, උදහස් ඉපදවීමේදී මෙන් නුබ
ලාගේ සිත් තදකර නොගනිල්ලා
15. යයි" කියාතිබෙන හැටියට, අ
පේ පටන්ගත් විස්වාසය අන්තිමය
දක්වා ස්ථිරකොට දරමුනම්, ක්‍රිස්
තුස්වහන්සේගේ පවුලේ පංගුකාර
16. යෝ වෙමුව. එහෙත් සමහරු
ඇහූකල්හි උදහස් ඉපදෙව්වෝය,
නුමුත් මෝසෙස් විසින් මිසරයෙන්
ගෙනයනලද සියල්ලෝම නොවෙ
17. ති. එහෙත් උන්වහන්සේ හත
ලිස් අවුරුද්දක් උදහස්ව සිටියේ
කා සමගද? පව්කලාවූ, වනාන්තු
යෙහි මලමිණී දමනලද්දාවූ ඔවුන්
18. සමග නොවේද? තවද "ඔවුන්
මාගේ නිවාඩුවට නොපැමිනෙතියි"
කා ගැන දිව්ලසේක්ද? ඇදහිලි
19. නැත්තන් ගැන නොවේද? මෙ
සේ ඇදහිලි නැතිකම නිසා, නිවාඩු
වට පැමිනෙන්ට ඔවුන්ට බැරිවූන
බව, මෙයින් අපට පෙනෙන්නේය.

4. පරිච්ඡෙ. එබැවින් උන්වහන්
සේගේ නිවාඩුවට පැමිනීම ගැන
පොරොන්දුවක් අපට තිබෙද්දී, නුබ
ලාගෙන් කවරෙක්වත් ඒ නිවාඩුවට
නොපැමිනේද්දැයි කියා භයවෙමුව.
2. ඔවුන්ට මෙන් අපටත් හොඳ ආර
ංචියක් ප්‍රකාශකරනලද්දේය. නුමුත්
ඔවුන් විසින් ඇසූ වචනය ඇදහිල්
ලෙන් යුක්තව නැසූහෙයින්, ඔවුන්
3. ට ප්‍රයෝජන ලැබුනේ නැත. නු
මුත් ඇදහිලි කලාවූ අපි උන්වහන්
සේගේ නිවාඩුවට පැමිනෙමුව.
තවද "ඔවුන් මාගේ නිවාඩුවට
නොපැමිනෙතියි, මාගේ උදහසින්
දිවුලෙමියි" උන්වහන්සේ විසින්
කියාතිබෙන්නේය, නුමුත් ලෝකය
මැවූකල උන්වහන්සේගේ කම්මාන්
4. තය තීන්දුකරනලද්දේය. මක්නි
සාද උන්වහන්සේ එක් තැනක
සත්වෙනි දවස ගැන කථාකරමින්,

“දෙවියන්වහන්සේ සත්වෙනි දව
සේදී තමන්වහන්සේගේ සියළු ක
ර්මාන්තවලින් නිවාඩු ගත්සේකැයි”
5. කීසේක. නැවතත් “මාගේ නිවා
ඩුවට ඔවුන් නොපැමිනෙතියි” මේ
ගීතිකාවෙහි කියා තිබෙන්නේය.
6. තවද ඒ නිවාඩුවට පැමිනෙන්ට
සමහරුන්ට ඉනෑව තිබෙන නුමුත්,
පලමුකොට හොඳුරච්ය යමෙකුට
ප්‍රකාශකරනලදද, ඔවුන් ඇදහිල්ල
නැතිකම නිසා එහි නොපැමිනු
7. නෝය. නැවතත් උන්වහන්සේ
බොහෝ කලකින් පසු, “අද දවස
යයි” කියමින් එක දවසක් නියම
කොට, “අද දවසේ නුබලා උන්ව
හන්සේගේ ශබ්දය අහන්නට කැම
තිනම්, නුබලාගේ සිත් දැඩිකර නො
ගනිල්ලායයි” දාවිත් ලවා කියවූ
8. සේක. යෝෂුවා ඔවුන්ට නිවාඩුව
දුන්නේනම්, ඉන්පසු උන්වහන්සේ
වෙන දවසක් ගැන කථාකරන්ට
9. නමක්නැත. එබැවින් දෙවියන්
වහන්සේගේ සෙනගට නිවාඩුවක්
10. ඉතුරුව ඇත. මක්නිසාද දෙවි
යන්වහන්සේ තමන්ගේ කර්මාන්ත
වලින් නැවතුනු ලෙස, නිවාඩුවට
නොපැමිනෙන තැනැත්තෝද ත
මන්ගේ කර්මාන්තවලින් නැවතු
11. නෝය. එබැවින් ඒ ඇදහිලි නැ
තිකමේ ආදර්ශය ලෙස කිසිවෙක්
නොවැටෙන පිනිස, ඒ නිවාඩුවට
පැමිනෙන්ට උත්සාහ කරමුව.
12. මක්නිසාද දෙවියන්වහන්සේගේ
වචනය ජීවමානය, බලසම්පන්නය,
දෙමුවහත් කඩුවකට වඩා සියුම් මුව
හත්ය; ප්‍රානය හා ආත්මයේද සන්ධි
හා නහරවලද විනිවිද ගොස්, වෙන්
වෙන් කරන්නේය; හිතේ සිතිවිලිද
කල්පනාවල්ද මනාකොට එලිදරව්
13. කරන්නේය. උන්වහන්සේගේ
ඉදිරිපිට ප්‍රකාශ නොවූ කිසි මැවිල්
ලක් නැත; එහෙත් අපෙන් ගනන්
ගන්නාවූ උන්වහන්සේගේ ඉදිරිපිට
වැස්මක් නැතුව සියළු දේම ඇරී
14. තිබෙන්නේය. එබැවින් ස්වර්ග
යට ගියාවූ, දෙවියන්වහන්සේගේ
පුත්‍රවූ, යේසුස් නම් මහෝත්තම
නායක පූජකයෙක් අපට සිටින
නිසා, අපේ ඇදහිල්ල තදින් අල්වා
15. ගනිමුව. මක්නිසාද අපේ දුර්වල
කම් ගැන අනුකම්පා කරන්නට
නුපුළුවන්වූ නායක පූජකයෙක්
අපට ඇත්තේ නැත; උන්වහන්
සේට කිසි පාපයක් නැති නුමුත්,
සියළු ආකාරයෙන් අපසේම පරීක්ෂා
16. කරනු ලැබූසේක. ඉන්නිසා අපි,
දයාබරකමද ඉනෑ කාලයේ සුදුසු
ජයිටවීමට කරුණාවද ලබන පිනිස,
භය නැතුව කරුණාසනයට ලංවෙ
මුව.

5. පරිච්. මනුෂ්‍යයන් අතරෙන්
ගන්නා සියළු නායක පූජකයෝ
දානවල්ද පව් නසන යාගවල්ද පූජා
කරන පිනිස, දෙවියන්වහන්සේට
අයිති කාරනාවල් ගැන මනුෂ්‍යයන්
2. උදෙසා නියමකරනු ලබති. ඔවුන්
දුර්වලකමින් යුක්තව සිටින බැවින්,
අඥානයන්ටත් මංමුලා වෙන්නන්
ටත් අනුකම්පාකරන්ට හැකිවෙති;
3. ඒ දුර්වලකම නිසා සෙනගගේ
සහ තමුන්ගේද පව් නසන පිනිස
4. ඔවුන් විසින් පූජා කටයුතුය. තවද
දෙවියන්වහන්සේ විසින් ආරොන්
මෙන් කැඳවනලද්දෙක් මිස, කවුරු
වත් ඒ ගෞරවය තමාටම නොගන්
5. නේය. එසේම ක්‍රිස්තුස්වහන්සේ
නායක පූජක වෙන පිනිස, තමන්
ටම ගෞරවය නොගත්සේක; නුමුත්
“නුබ මාගේ පුත්‍රයාය, මම අද නුබ
ඉපදවීමියි” කීවාවූ තැනන්වහන්සේ
6. ඒ ගෞරවය දුන්සේක. ඇරත්
වෙන තැනෙක, “මල්කිසදෙක්ගේ
පිලිවෙලින් සදාකල්ම නුබ පූජකයා
7. යයි” උන්වහන්සේ කීසේක. උන්
වහන්සේ මාංසයෙන් යුක්තව සිටි

දවස්වලදී, මරනයෙන් ගලවන්නට
පුළුවන්වූ තැනන්වහන්සේට මහත්
හඬිනුත් කඳුලෙනුත් යාඥාවිම් සහ
කන්නලව් කිම් නැමති පූජාවක්
8. පුද, අහය ලැබූසේක. උන්වහන්
සේ පුත්‍රවන නුමුත්, ඉවසූ දුකින්
9. කීකරුවෙන්ට ඉගනගෙන, සම්පූ
ර්ණකමට පැමින, උන්වහන්සේට
කීකරුවෙන්නාවූ සියල්ලන්ටම සදා
කාල ගැලවීමේ කාරකවූසේක.
10. ඇරත් "මල්කිසදෙක්ගේ පිළි
වෙලින් නායක පූජකයයි" දෙවියන්
වහන්සේ උන්වහන්සේට නම් තැබූ
11. සේක. මල්කිසදෙක් ගැන බො
හෝ දේ කියන්නට අපට ඇත; නු
මුත් තුබලා ඇසීමට අලස බැවින්,
12. ඒ දේ කියාදෙන්ට අමාරුය. මක්
නිසාද තුබලා ගුරුවරයෝ වෙන්ට
දැනට කල් හරිය; නුමුත් දෙවියන්ව
හන්සේගේ වචනයේ මුල් කාරනා
මොනවාදැයි, නැවතත් තුබලාට
උගන්වන්ට නිසිව තිබෙන්නේය.
තවද තුබලා තද කෑම කන්නෝ
නොව, කිරි බොන්නට ඕනැකම්
13. ඇති අයවල්ව සිටිති. කිරි බො
න සියල්ලෝම ලදරු බැවින්, ධර්මි
ෂ්ටකමේ වචනයෙහි අසමර්ථයෝය;
14. නුමුත්, යහපත අයහපත දැන
ගන්ට පුරුදුවූ සිත් ඇති වයස් සම්
පූර්ණවූවන්ට තද කෑම සුදුසුය.

6. පරිච්ඡ. ඉන්නිසා, මරනය උප
දවන ක්‍රියාවල් ගැන පසුතැවිලිවී
මද, දෙවියන්වහන්සේ කෙරෙහි ඇ
2. දහිල්ලද, බව්තීස්මය ගැනත්,
අත් තැබීම ගැනත්, මලවුන්ගේ
නැගිටීම ගැනත්, සදාකාල විනිශ්
චය ගැනත්, ඉගැන්වීමද නැමති
අත්තාලම නැවත නොතබා, ක්‍රිස්
තුස්වහන්සේගේ ආගමේ මුල් කාර
නා පසුකොට, සම්පූර්ණවීමට පැමි
3. නෙමුව; දෙවියන්වහන්සේ අව
සර දුන්සේකානම්, අපි මෙක කර
4. මුව. මක්නිසාද වරක් ආලෝකය
ලැබූවාවූ, ස්වර්ගීය දීමනාවේ රසය
වින්දවූ, ශුද්ධාත්මයානන්වහන්සේ
ගෙන් ලැබූ අනුහාවට පංගුකාර
5. වූනාවූ, දෙවියන්වහන්සේගේ
යහපත් වචනයේ සහ අනාගත
ලෝක බලයෙහි රස වින්දවූ තැනැ
6. ත්තෝ, එයින් වැටී පහව ගියෝ
නම්, ඔවුන් පසුතැවිල්ලට පමුනු
වන්ට නුපුළුවන. මක්නිසාද ඔවුන්
දෙවියන්වහන්සේගේ පුත්‍රයා තමන්
කෙරෙහි දෙවනුත් කුරුසියෙහි ඇන
ගසා, ප්‍රකාශයෙන් නින්දාකරති.
7. මෙසේ නොයෙක් වර වසින
වතුර උරමින්, වවන්නන්ට කැමට
සුදුසු හෝග අටගන්වන්නාවූ පො
ලොව දෙවියන්වහන්සේගෙන් ආශී
8. ර්වාද ලබන්නේය. නුමුත් කටු
ගස් සහ ගොකටුද අටගන්වන්නාවූ
පොලොව අත්අරිනු ලැබ, සාපයට
ලන්ව, කෙලවරදී දවනු ලැබේ.
9. ප්‍රේමවන්තයෙනි, අපි මෙසේ කි
යන නුමුත්, තුබලා ගැන යහපත්වූ
ගැලවීමට එකගවූ දේ සැක නැතුව
10. සිතමුව. තුබලා පිරිසිදුවූවන්ට
කලාවූද දැන් කරන්නාවූද සත්කාර
යෙන්, තුබලා විසින් දෙවියන්වහන්
සේගේ නාමයට පෙන්වන ප්‍රේමය
සහ වෙහෙසය නොසලකන්ට, දෙවි
යන්වහන්සේ අධර්මිෂ්ට නොවන
11. සේක. තවද බලාපොරොත්තු
වේ සම්පූර්ණවීමට පැමිනෙන පිනි
ස, තුබලා සියල්ලෝම කෙලවර
දක්වා එම උත්සාහය පෙන්වමින්,
12. කම්මැලි නොව, ඇදහිල්ලෙන
ඉවසිල්ලෙන්ද පොරොන්දුවල උරු
මක්කාරයන්ගේ පස්සේ යන්නෝව
සිටින්නම්, ඊට අපි කැමැත්තෙමුව.
13. තවද දෙවියන්වහන්සේ ආබ්‍ර
හම්ට පොරොන්දුව දුන් කල්හි, ත
මන්ට වඩා උතුම් කෙනෙක් ගැන
දිවුරන්ට නුපුළුවන් බැවින්, තමන්
14. ගැනම දිවුරමින්, "සැබෑවට

ආශිර්වාදයෙන් නුඹට ආශිර්වාද කෙ
රෙමි, වැඩිකිරීමෙන් නුඹ වැඩිකර
15. මියි" කීසේක. ආබ්‍රහම් ඉවසමින්
සිටිය පසු, පොරොන්දු ලබාගත්තේය.
16. සැබෑවට මනුෂ්‍යයෝ උතුම් කෙ
නෙක් ගැනම දිවුරති; ස්ථිරකරන
දිවුරුමෙන් සියළු විවාද තීන්දුවේ.
17. ඒ නිසා දෙවියන්වහන්සේ පො
රොන්දුවෙයි උරුමක්කාරයින්ට ත
මන්වහන්සේගේ අභිප්‍රායෙයි ස්ථිර
කම විස්තරලෙස පෙන්වන්ට කැම
තිව, දිවුරුමකින් ඒක ස්ථිරකලසේ
18. ක. වෙනස්වෙන්ට බැරිවූ යම්
කාරනා දෙකක් ගැන දෙවියන්ව
හන්සේ බොරු කියන්ට නොහැකි
වනසේක්ද, අප ඉදිරියේ තබනලද
බලාපොරොත්තුව අල්ලාගෙන ආර
ක්ෂාවෙන්ට දිව්වාවූ අපට, ඒ කාරනා
දෙකින් මහත් සැනසිල්ලක් ලැබෙ
න පිනිස, උන්වහන්සේ මෙසේ කල
19. සේක. ඒ බලාපොරොත්තුව,
ප්‍රාණයට නිශ්චලවූ, ස්ථිරවූ, තිරයේ
ඇතුලට ගෙනයනු ලැබූවාවූ නැංගු
20. රමක් මෙන්, අපට ඇත. අප
උදෙසා ඉස්සරව යන්නාවූ යේසුස්ව
හන්සේ, මෙල්කිසදෙක්ගේ පිළිවෙ
ළින් සදාකල්ම නායක පූජකයෙක්වී
ඒ තිරයේ ඇතුලට පැමිණුනුසේක.

7. පරිච්ඡේ. තවද සාලමෙයි රජ
වූ, මහෝත්තම දෙවියන්වහන්සේ
ගේ පූජකයෙක්වූ මෙකී මෙල්කිස
දෙක්, ආබ්‍රහම් රජුන් මැරීමෙන්
හැරී එනකල ඔහුගේ පෙරමගට
ගොස්, ඔහුට ආශිර්වාදකෙලේය.
2. ආබ්‍රහම්ද සියල්ලෙන් ඔහුට දස
යෙන් කොටසක් දුන්නේය. පලමු
වෙනුව ඔහුගේ නාමය අර්ථවස
යෙන් ධර්මිෂ්ඨකමේ රජය; දෙවෙනුව
ඔහු සමාදානයේ රජයයි අර්ථ ඇති
3. සාලමෙයි රජ්ජුරුවෝය. තවද
පියාවත්, මව්වත්, පෙලපතවත්,
දවස්වල පටන්ගැන්මක්වත්, ජීවිත
යෙයි කෙලවරක්වත් නැත්තාවූ
ඔහු දෙවියන්වහන්සේගේ පුත්‍රයා
සමානව, නිතරම පූජකයෙක්ව සිටි
4. නෙන්ය. එබැවින්, කොල්ලගත්
දේවලින් දසයෙන් කොටස කුල
ජේෂ්ඨවූ ආබ්‍රහම්ගෙන් පවා ලැබූ
මොහු කොපමන උතුම් කෙනෙක්
5. දැයි, කල්පනාකරපල්ලාය. ඇරත්
ලෙවීගේ පුත්‍රයන් අතරෙන් පූජක
තනතුර ලබනෙනා ව්‍යවස්ථාව ලෙස
සෙනගගෙන්, එනම් ආබ්‍රහම්ගෙන්
පැවතාවාවූ තමන්ගේ සහෝදරයන්
ගෙන්, දසයෙන් කොටසක් ගන්ට
6. ආඥාව ඇතුව සිටිති; නුමුත්
ඔවුන්ගෙන් පැවත නාවාවූ ඔහු,
පොරොන්දුවීම්වල් ඇත්තාවූ ආබ්‍ර
හම්ගෙන් දසයෙන් කොටසක් ලැබ,
7. ඔහුට ආශිර්වාද කෙලේය. ඇරත්
අඩුතරම් තැනැත්තාට වැඩිතරම්
තැනැත්තාගෙන් ආශිර්වාද ලැබෙන්
ට යුතුය; ඊට විරුඩ කථාවක් නැත.
8. තවද නසින මනුෂ්‍යයෝ මෙහිදී
දසයෙන් කොටස ගනිති; නුමුත්
ජීවත්වෙන බවට සාක්ෂි ලැබූ තැනැ
ත්තා එහිදී ඒ දේ ලබන්නේය.
9. මෙල්කිසදෙක් ආබ්‍රහම්ගේ පෙර
මගට ගියකල, ලෙවී තමන්ගේ මුත්
තාවන ආබ්‍රහම්ගේ තුනටියෙහි සිටි
10. යේය; ඒ නිසා දසයෙන් කොටස
ලබන්නාවූ ඔහු ආබ්‍රහම් ලවා දස
යෙන් කොටස දෙවූයේයයි, කියන්ට
පුළුවන.

11. ලෙවීගේ පූජකකමෙන් සෙන
ග ව්‍යවස්ථාව ලැබූ නිසා, එයින් සම්
පූර්ණකම ඇතොත්වීනම්, ආරොන්
ගේ පිළිවෙළින් නොව මෙල්කිස
දෙක්ගේ පිළිවෙළින්යයි කියන
වෙන පූජකයෙක් ඇතිවෙන්ට කම
12. මොකද? පූජක තනතුරු වෙ
නස්වූ බැවින්, ව්‍යවස්ථාවද වෙනස්
13. විය යුතුය. මක්නිසාද යමෙක්
ගැන මේ දේ කියනලද්දේද, ඒ තැ
නන්වහන්සේ වෙන ගෝත්‍රයකට

අයිතිවනසේක; ඒ ගෝත්‍රයෙන් කි
සිවෙක් පූජාසනය ලඟ සේවය නො
14. කලේය. තවද මෝසෙස් විසින්
පූජක තනතුර ගැන කිසිවක් නො
කියනලද යූදාගේ ගෝත්‍රයෙන්, අප
ගේ ස්වාමීන්වහන්සේ උපන් බව,
15. පැහැදිලිය. ඇරත් මල්කිසෙදෙක්
ගේ පිළිවෙල ලෙස අන් පූජකයෙක්
පහළවෙන බව, බොහෝසෙයින්
16. පැහැදිලිව පෙනෙන්නේය. ඒ
පූජකයා මාංසිකවූ පනත ලෙස
නොව, සදාකාල ජීවනයේ බලය
17. ලෙස නියමකරනලද්දේය. ඒ හැ
ඞියට උන්වහන්සේ, "නුඹ මල්කිස
දෙක්ගේ පිළිවෙළින් සදාකාලේටම
පූජකයෙකැයි" සාක්ෂිදෙනසේක.
18. පලමු තිබුනාවූ ව්‍යවස්ථාව බල
නැති බැවින්ද, නිෂ්ප්‍රයෝජන බැ
වින්ද, ඒක අවලංගුකරන ලද්දේය.
19. මක්නිසාද වැඩි හොඳ බලාපො
රොත්තුව පැමිනීමෙන් මිස, ව්‍යව
ස්ථාවෙන් කිසිවක් සම්පූර්ණ නො
කරනලද්දේය. ඒ බලාපොරොත්තු
වීමෙන්, අපි දෙවියන්වහන්සේ ලඟට
පැමිනෙමුව.

20. තවද අන් පූජකයෝ දිව්රු
මක් නැතුව, පූජක තනතුරට නියම
21. කරනු ලැබුවෝය. නුමුත්, "නුඹ
මල්කිසදෙක්ගේ පිළිවෙළින් සදා
කාලේටම පූජකයෙකැයි කියා, වෙ
නස් නොවෙන ලෙස ස්වාමීන්වහන්
සේ දිව්ලසේකැයි" කී තැනන්වහන්
සේ, දිව්රුමකුත් ඇතුව, මූන්වහන්
සේ පූජකයෙක්කොට නියමකල
22. සේක. එබැවින්, දිව්රුමක් ඇති
ව පූජක තනතුරට පත්කරනලද්දවූ
යේසුස්වහන්සේ පලමු ගිවිසුමට වඩා
යහපත් ගිවිසුමක මැදහත්කාර
යෙක් කරනු ලැබූසේක.

23. ඒ පූජකයන්ට මරනය නිසා
පවතින්නට නුපුළුවන් බැවින්, බො
24. හෝ පූජකයෝ සිටියෝය; නුමුත්
මූන්වහන්සේ සදාකාලේටම පවතින
හෙයින්, මාරු නොවෙන පූජක තන
25. තුරක් දරනසේක. එබැවින්
තමන්වහන්සේ කරනකොටගෙන
දෙවියන්වහන්සේට ළංවෙනනාවුන්
උදෙසා මැදහත්කම් කරන පිනිස,
උන්වහන්සේ සදාකාලේටම ජීවත්
වන හෙයින්, කෙලවර දක්වාම
ඔවුන් ගලවන්ට උන්වහන්සේට
පුළුවන.

26. සැබැවටම පිරිසිදුවූ, අහිංස
කවූ, නිදෝස්වූ, පව්කාරයින්ගෙන්
වෙන්වූ, ස්වර්ගයාවලට වඩා උසස්වූ
නායක පූජකයෙක් අපට ඕනැවූ
27. යේය. නායක පූජකයන්ට
මෙන්, පලමුකොට තමුන්ගේ පව්
නිසාත්, නැවත සෙනගගේ පව්
නිසාත්, දවස්පතා යාගපූජා කරන්ට
උන්වහන්සේට කමක්නැත; උන්ව
හන්සේ එකවිටම තමන්ම පූජාකිරී
මෙන්, සෙනගගේ පව් නිසා පූජාක
28. ලසේක. තවද ව්‍යවස්ථාව දුර්වල
මනුෂ්‍යයන් නායක පූජකයන් කොට
පත්කරන්නේය. නුමුත් ව්‍යවස්ථාවට
පසු පැවතුනාවූ දිව්රුමේ වචනය,
සදාකල්ම සම්පූර්ණව සිටින්නාවූ
පුත්‍රයානන්වහන්සේ, පූජක තනතු
රට පත්කරන්නේය.

8. පරිච්ඡේ. දැන් අපි කී කාරන
යන් අතරෙන් ප්‍රධාන කාරනාවනම්,
ස්වර්ගයාවල සිටින මහෝත්තමයා
නන්වහන්සේගේ සිංහාසනයෙහි දකු
නුපැත්තේ හිඳින්නාවූ, මනුෂ්‍යයන්
2. විසින් නොව ස්වාමීන්වහන්සේ
විසින් පිහිටුවනලද සැබෑවූ මඩප
යේද ශුද්ධ ස්ථානයේද සේවකයෙක්
වූ, නායක පූජකයෙක් අපට ඇති
3. වගය. සියළු නායක පූජකයෝ
දන හා යාග පූජාකරන පිනිස නිය
මකරනලද්දෝය; ඒ නිසා පූජාකරන
පිනිස මේ තැනැත්තාටත් යම් දෙ
4. යක් තිබෙන්ට ඕනැය. ව්‍යවස්ථාව
ලෙස පූජා පවත්වන පූජකයන් ඇති

හෙයින්, උන්වහන්සේ පොලොවේ
සිටිසේක්නම්, පූජක කෙනෙක්
වෙන්ට උන්වහන්සේට බැරිය.
5. මෝසෙස් මඩපය සාදන්ට හදන
කල, "කන්දේදී තට පෙන්වනලද
ආදිසය මෙන්, සියළු දේම කරන්ට
බලාගනුවයි" දෙවියන්වහන්සේ අ
ඥාකලහෙයින්, ඒ පූජකයෝ ස්වර්ගී
යවූ දේවල ආදිසයක්කොටද, ඡායා
වක්කොටද, පවතින දේ ගැන සේ
6. වය කෙරෙති. නුමුත් දැනට වඩා
යහපත් පොරොන්දුවලින් ස්ථිරකර
නලද්දවූ, වඩා උතුම්වූ ගිවිසුමක
මැදහත්කාර කෙනෙකු සිටින උන්
වහන්සේ වඩා උතුම්වූ සේවයක්
7. ලැබූසේක. පලමුවෙනි ගිවිසුම
නිදොස්වූයේනම්, දෙවෙනි එකට
8. ඉඩ නොසොයනු ලැබේ. ඒකේ
දොස් දැක උන්වහන්සේ කියන
සේක්, "ඊශ්‍රායෙල්ගේ වංශය සම
ගද, යූදාගේ වංශය සමගද, මා වි
සින් අළුත් ගිවිසුමක් කරන දවස්
පැමිණෙන්නේයයි, ස්වාමින්වහන්සේ
9. කියනසේක. ඔවුන් මාගේ ගිවි
සුම නොපැවැත්වූ බැවින්ද, මම ඔ
වුන් නොසැලකූ බැවින්ද, මිසරදේ
සයෙන් ඔවුන්ගේ පියවරුන් ගෙනෙ
න පිනිස මම ඔවුන්ගේ අත අල්ළූ
දවසේදී, ඔවුන් සමග කල ගිවිසුම
මෙන් මේ ගිවිසුම නොවන්නේයයි,
10. ස්වාමින්වහන්සේ කියනසේක. ඒ
දවස්වලින් පසු ඊශ්‍රායෙල්ගේ වංසය
සමග මා විසින් කරන ගිවිසුවනම්,
මාගේ පනත් ඔවුන්ගේ සිත්වල
පිහිටුවමින්, ඔවුන්ගේ හෘදවල ලිය
නෙනමි; මම ඔවුන්ට දෙවිවෙමි,
11. ඔවුන් මාගේ සෙනග වෙති. මක්
නිසාද කුඩා අය පටන් ලොකු අය
දක්වා සියල්ලෝම මා අඳිනගෙන,
එක එකා තම තමාගේ අසල්වාසියා
ටද සහෝදරයාටද, ස්වාමින්වහන්සේ
හැඳිනගනිල්ලායයි කියා, නුගනවති;
12. ඔවුන්ගේ අධර්මිෂ්ඨකම් ගැන
කරුණාකොට, ඔවුන්ගේ පාපවල්ද
අපරාධවල්ද කිසි කලෙකත් මතක්
නොකරමියි, ස්වාමින්වහන්සේ කිය
13. නසේකැයි" කීසේක. "අළුත්
ගිවිසුමයයි" කීමෙන්, පලමුවෙනි
ගිවිසුම පරනකලසේක. පරන ක්ෂය
වෙන්නාවූ යමක් ඇද්ද, ඒක නොප
නී යාමට ලංවේ.

9. පරිච්ඡ. පලමුවෙනි ගිවිසුමේ
දේව පූජාවෙහි චාරිත්‍රවල්ද, ලෞ
කික සුධ ස්ථානයද, තිබුනේය.
2. මක්නිසාද සාදනලද මඩපයෙහි
පලමු කොටසට පිරිසිදු ස්ථානයයි
කියනු ලැබේ; එහි පහන් රුකද,
මේසයද, පිදූ රොටිද, තිබුනේය.
3. තවද දෙවෙනි තිරයට ඇතුලෙ
හි, ඉතා පිරිසිදු ස්ථානයයි කියනලද
4. කොටසවූයේය; එහි රන් මය දුම්
භාජන සහ වටකරින් රනින් වැසූ
ගිවිසුම් පෙට්ටියද තිබුනේය; ඒ
පෙට්ටියේ මන්නා දැමූ රන් භාජන
යත්, ආරොන්ගේ දළු හටගත් සැර
යටියත්, ගිවිසුමෙහි ලැලිත්, තිබූ
5. නේය; එහි උඩ, තේජසෙහි කෙ
රුබිම් දෙදෙනා කරුනාසනය වසා
ගන සිටියෝය; දැන් මේවා ගැන
විස්තරයෙන් කියන්ට කමක් නැත.
6. මෙසේ මේ දේ පිහිටෙවූකල, පූජ
කයෝ දේව මෙහෙය කරන්ට නිත
රම මඩපයේ පලමුවෙනි කොටසට
7. ගියෝය; එහෙත් නායක පූජක
යා පමනක් මඩපයේ දෙවෙනි කො
ටසට අවුරුද්දකට වරක් ගියේය;
ලේ නොගෙන ගියේ නැත; ඒ ලේ
තමාගෙන් සෙනගගෙන් පව් උදෙසා
8. පූජාකලේය. ඒ පලමුවෙනි මඩප
ය පිහිටා තිබෙද්දී ඉතා පිරිසිදු ස්ථා
නයට පැමිණෙන මාර්ගය ප්‍රකාශ
නොකල බව, ශුද්ධාත්මයානන්වහන්
9. සේ මෙයින් පෙන්වූසේක. ඒ මඩ
පය දැන් පවතින කාලය ආදිසයක්
වේය. හරිගැස්සීමෙහි කාලය දක්වා

පිහිටුවනලද්දවූ, කෑම බීම පූජාව
ලින්ද නොයෙක් සේදීම්වලින්ද
මාංසික සිරිත්වලින්ද පමණක්ම යුක්ත
10. තවූ, පූජාකරන්නන්ගේ හෘදසා
ක්‍ෂිය නිදොස්කරන්ට බැරිවූ දීම
වල්ද යාගවල්ද ඒ කාලයේ පූජාකර
නලද්දේය.

11. නුමුත් ක්‍රිස්තුස්වහන්සේ මතු
පැමිණෙන්නාවූ යහපත් දේවල නා
යක පූජකයෙක්කොට පැමිණ, අ
තින් නොකරනලද්දවූ එනම් මෙ
ලොව එකක් නොවූ, ඊට වඩා
උතුම්වූ, ඉතායහපත්වූ, මණ්ඩපයෙහිද්,
12. එළුවන්ගේත් වස්සන්ගේත් ලෙ
යින් නොව, තමන්වහන්සේගේම
ලෙයින් එක් වරක් පිරිසිදු ස්ථාන
යට ඇතුල්ව, අප උදෙසා සදාකාලවූ
13. මිදීම ලබාගත්සේක. මක්නිසාද
ගොනුන්ගේත් එළුවන්ගේත් ලෙ
යිද, තරුන එලදෙනගේ අළුයෙන්
අපිරිසිදුවූවන්ට ඉසීමෙන්ද, ශරීරය
පවිත්‍රවීම පිනිස සුබකරන්නේනම්,
14. පලදුවක් නැතුව සදාකාලවූ
ආත්මයානන්වහන්සේ කරනකොට
ගෙන තමන්ම දෙවියන්වහන්සේට
පූජාකලාවූ ක්‍රිස්තුස්වහන්සේගේ ලෙ
යින්, ජීවමානවූ දෙවියන්වහන්සේට
සේවය කරන පිනිස, මරනය උපද
වන ක්‍රියාවලින් තුබලාගේ හෘදසා
ක්‍ෂිය කොපමන වඩා පිරිසිදුවෙන්
නේ නැද්ද?

15. මේ කාරණව නිසා, පරන ගිවි
සුම පැවතුනකල කරනලද අපරාධ
වලින් මිදීම පිනිස වින්දවූ උන්ව
හන්සේගේ මරනය කරනකොටගෙ
න, කැඳවනු ලැබූවන්ට සදාකා ල
උරුමය ගැන පොරොන්දුව ලැබෙන
ලෙස, උන්වහන්සේ අළුත් ගිවිසුමේ
16. මැදහත්කාරයා වූසේක. ගිවිසු
මක් තිබෙන තැන ගිවිසුම් සනාගේ
17. මරනයත් වියයුතුය; මක්නිසාද
ගිවිසුම සනා මැරුණාපින් පසු සවි
ඵනානේය; ගිවිසුම් සනා පනපිටින්
සිටිනතුරු ගිවිසුමට කිසි බලයක්
18. නැත. ඒ හේතුයට පලමුවෙනි
ගිවිසුමවත් ලේ නැතුව පිහිටුවනු
19. නොලද්දේය. මක්නිසාද මෝ
සෙස් ව්‍යවස්ථාව ලෙස සියලු සෙන
ගට සෑම ආඥාවල් කියා, පසුව වස්
සන්ගේත් එළුවන්ගේත් ලේ වතුර
20. සමග ගෙන, "දෙවියන්වහන්සේ
විසින් තුබලාට නියෝගකල ගිවිසු
මේ ලේමෙයයි" කියමින්, රතු බැටළු
ලොම් සහිත හිසොපින් පොතටත්
21. සියලු සෙනගටත් ඉස්සේය. එසේ
ම මණ්ඩපයටත් සියලු පූජා භාජනවල
22. ටත් ලේ ඉස්සේය. තවද ස්වල්ප
යක් හැර සියලු දේ ව්‍යවස්ථාවේ හැ
ටියට ලෙයින් පවිත්‍රකරන ලද්දේය;
ලේ වැගිරීම නැතුව කමාවක් නැත.

23. එබැවින් ස්වර්ගීය දේවල ආදි
සවල් මේ දෙයින් පවිත්‍රකරනු ලබන්
ට යුතුය; එහෙත් ස්වර්ගීය දේ මේ
දෙයට වඩා යහපත් යාගවලින් පවි
24. ත්‍රකරනු ලබන්ට යුතුය. ඉන්නි
සා ක්‍රිස්තුස්වහන්සේ සැබෑ පිරිසිදු
ඉඩම්වල ආදිසවූ, අත්වලින් සෑදූ,
පිරිසිදු ඉඩම්වලට ඇතුල් නොව,
අප උදෙසා දෙවියන්වහන්සේගේ
ඉදිරියෙහි දැන් පෙනෙන පිනිස,
25. ස්වර්ගයට ඇතුල්වූසේක. තවද
නායක පූජකයෝ අනුන්ගේ ලේ
අරගෙන අවුරුදුපතා සුබ ස්ථානයට
ඇතුල්වෙන්නාක්මෙන්, උන්වහන්
සේ කීප වරක් තමන්ම පූජාකරන්ට
26. නම් නැත්තේය. එසේ ඕනෑ
නම්, උන්වහන්සේ ලෝකය මැවීමෙ
පටන් කීප වරක් වදවිඳින්ට යුතුව
සිටීසේක. එහෙත් තමන්ම පූජාකිරී
මෙන් පාපය පහකරන පිනිස, ලෝ
කේ කෙලවරදී එක වරක් උන්වහන්
27. සේ පෙනුනුසේක. තවද එක්
වරක් මරනයත්, ඉන් පසු විනිශ්ච
යත්, මනුෂ්‍යයන්ට නියමව තිබෙන්
28. නාක්මෙන්, ක්‍රිස්තුස්වහන්සේත්
බොහෝ දෙනාගේ පව් උසුලන

පිනිස වරක් පූජාවී, උන්වහන්සේ
ගේ ඊම බලා සිටිනවුන්ගේ ගැලවීම
පිනිස, පව් නැතුව* දෙවෙනි වර
ඔවුන්ට පෙනෙනසේක.

10. පරිච්ඡේ. තවද ව්‍යවස්ථාව
මතු පැමිණෙන යහපත් දේවල සම්
පූර්ණවූ රූපය නොව, ඒ කාරනා
වල ඡායාවක්ව තිබෙන බැවින්,
අවුරුදුපතා නිතරම පූජාකල යාගව
ලින් යාගකරන්ට පැමිණෙන්නවුන්
සම්පූර්ණලෙස නිදොස්කරන්ට කි
2. සි කලෙකත් නොහැකිවේ. නැත්
නම්, පූජාකරන්නෝ වරක් පවිත්‍රක
රනලදුව, පව් ගැන දොස් ඇති හෘද
සාක්ෂිය තවත් නොදරන බැවින්, ඒ
3. යාගවල් නවතින්නේ නැද්ද? නු
මුත් ඒ යාගවලින් අවුරුදුපතා පව්
4. ගැන සිහිවීමක් ඇත. මක්නිසාද
ගොනුන්ගේත් එළුවන්ගේත් ලෙ
5. යින් පව් දුරුවෙන්ට බැරිය. ඒ නි
සා උන්වහන්සේ ලෝකයට එනකල
කියනසේක්, "ඔබවහන්සේ යාගය
ටත් පූජාවටත් කැමති නොව, මට
6. ශරීරයක් පිළියෙලකලසේක; දව
න පූජාවලටත්, පව් නසන පූජාවල
7. ටත්, සතුටු නුවූසේක. දෙවියන්
වහන්ස, පොත් කාඩයෙහි මා ගැ
න ලියවී තිබෙන ලෙස, ඔබගේ
කැමැත්ත කරන්ට එමියි මම කීමියි"
8. කීසේක. ඉහතදී, "ඔබවහන්සේ
ව්‍යවස්ථාව ලෙස කරන යාගවලටත්
පූජාවලටත්, දැවූ පූජාවලටත්, පව්
නසන පූජාවලටත්, කැමතිවෙනෙත්
වත් සතුටුවෙන්නේවත් නැතැයි"
9. කීකල, "දෙවියන්වහන්ස, ඔබ
ගේ කැමැත්ත කරන්ට මම එමියි"
උන්වහන්සේ කීසේක. උන්වහන්
සේ දෙවෙනි එක පිහිටුවන පිනිස,
පලමුවෙනි එක අහක්කලසේක.
10. මෙ කැමැත්තෙන්, ක්‍රිස්තුස්
වහන්සේගේ ශරීරය වරක් පූජාකිරී
11. ම නිසා, අපි පිරිසිදුවෙමුව. තවද
සැම පූජකයෝ කිසි කලෙකත් පව්
දුරුකරන්ට නොහැකිවූ ඒකාකාර
යාග නොයෙක්වර පූජාකොට, දවස්
12. පතා මෙහෙකරමින් සිටිති. එ
හෙත් මුන්වහන්සේ පව් නසන එක
යාගයක් පූජාකොට, දෙවියන්වහන්
සේගේ දකුනු පැත්තේ සදාකල්ම
13. වැඩහිඳිනසේක. එවක් පටන්
තමන්ගේ සතුරන් තමන් පාපුටුවක්
14. කරණතුරු බලාසිටිනසේක. මක්
නිසාද එකම පූජාකිරීමෙන්, පිරිසිදු
කරනු ලබන්නන් සදාකාලේටම සම්
15. පූර්ණකලසේක. ඇරත් පලමු
කියා තිබෙනලෙස, ශුද්ධාත්මයානන්
වහන්සේම අපට සාක්ෂි දෙනසේක්,
16. "ඒ දවස්වලින් පසු මම ඔවුන්
සමග කරන ගිවිසුමනම් මෙය; මා
ගේ පනත් ඔවුන්ගේ හිත්වල පිහි
17. ටුවා, ඔවුන්ගේ හෘදවල ලියමි; ඔ
වුන්ගේ පාපවල්ද වරදවල්ද තවත්
සිහිනොකරමියි, ස්වාමින්වහන්සේ
18. කියනසේකැයි" කීසේක. පාප
වලින් මිදීම තිබෙන තැන, පව් නස
න පූජාවක් තවත් නැත්තේය.

19. එබැවින් සහෝදරයෙනි, යේ
සුස්වහන්සේ තිරයෙන්, එනම් ත
මන්ගේ මාංසයෙන්, අප උදෙසා
කැපකලාවූ, අළුත්වූ, ජීවමානවූ මා
ර්ගයෙන්, උන්වහන්සේගේ ලේ කර
20. නකොටගෙන, ශුද්ධ ස්ථානයට
භයනැතුව ඇතුල්වෙන්ට අපට අව
21. සර තිබෙන බැවින්ද, දෙවියන්
වහන්සේගේ වාලිගාවේ නායක
පූජක කෙනෙක්ව සිටින බැවින්ද,
22. අපේ දුශ්ටවූ හෘදසාක්ෂිය දිය ඉසී
මෙන් පවිත්‍රකරනු ලැබ, අපේ ශරීර
වල් පවිත්‍ර වතුරෙන් සෝදනු ලැබ,

* හෙවත් පව් නසන පූජාවක් නැතුව.

ඇදහිල්ලේ සම්පූර්ණ විශ්වාසයෙ
නුත්, සැබෑ සිත්නුත්, ලඟට යමුව.
23 පොරොන්දුව දුන් තැනන්වහන්
සේ විශ්වාස කෙනෙක් බැවින්,
අපේ බලාපොරොත්තුවේ ප්‍රකාශ
කිරීම චංචල නොව ස්ථිරකොට කර
24. මුව. ප්‍රේමයද යහපත් ක්‍රියාවල්ද
උපදවන්ට අපි ඔවුනොවුන් බලාග
25. නිමුව. සමහරුන්සේ අපේ රැස්
වීම අත්නැර, ඒ දවස ලංවෙන බව
නුබලා දකිනහෙයින්, ඔවුනොවුන්ට
වැඩි වැඩිව අවවාද කරගනිමුව.

26. මක්නිසාද සැබෑකමේ දැනීම
ලැබුවායින් පසු අපි කැමැත්තෙන්ම
27. පව් කරන්නෙමුනම්, විනිශ්චය
මත් සතුරන් විනාසකරන උදහස්
ගින්නටත් භයානකවූ බලාසිටීමක්
මිස, පව් නාසන තවත් පූජාවක් අපට
28. නැත්තේය. මෝසෙස්ගේ ව්‍යව
ස්ථාවට නින්දාකල තැනැත්තේ,
දෙන්නෙකුගේවත් තුන්දෙනෙකු
ගේවත් සාක්කිය පිට, කරුනා නැ
29. තුව මරනට පත්වූයේය. එහෙ
සින් දෙවියන්වහන්සේගේ පුත්‍රයා
නන්වහන්සේ පාගාදමා, තමන් පිරි
සිදුකල ගිවිසුමෙයි ලේ අපිරිසිදු
දෙයක් කොට සිතා, කරුනාවන්ත
ආත්මයට නින්දාකලාවූ තැනැත්තා,
කොපමන මහත් රවුද්‍ර දඬුවමට
සුදුස්සෙක් නොවේදැයි, කල්පනා
30. කරපල්ලාය. ඇරත්, "ප්‍රතිඵල
දීම මාගේ ක්‍රියාවක, මම විපාක
දෙමියි" ස්වාමින්වහන්සේ කියන
සේකැයි කියාද, "ස්වාමීන්වහන්සේ
තමන්ගේ සෙනග විනිශ්චය කරන
සේකැයි" කියාද කී තැනන්වහන්
31. සේ අපි දනිමුව. ජීවමානවූ දෙ
වියන්වහන්සේගේ අත්වලට අසුවීම
භයානක කාරනාවක.

32. තවද නුබලාගේ සිත්වලට
ආලෝකය පහලවූනායින් පසු, නින්
දාවලින් හා පීඩාවලින් ක්‍රීඩා රූප
යක්කොට කරනු ලැබූ කල්හිද,
33. එසේ කරනු ලැබූවන්ට පංගුකා
රවූ කල්හිද, පීඩා නැමති මහත්වූ
සටනක් ඉවසූ දුස්සර දවස් සිහියට
34. ගනිල්ලාය. මක්නිසාද නුබලා,
මා බඳිනු ලැබූකල නුබලා ඒ ගැන
මා සමග දුක්වෙමින්, වඩා යහපත්වූ
නොපිරිහෙන්නාවූ වස්තුව ස්වර්ග
යෙහිදී නුබලාට ඇති බව දැන, නුබ
ලාගේ වස්තුව පැහැරගැනීම ප්‍රීති
35. යෙන් ඉවසුවෝය. එබැවින් ම
හත් විපාක ඇත්තාවූ නුබලාගේ
ඒකාන්ත බලාපොරොත්තුව පහ
36. නොකරල්ලාය. එන්නාවූ තැන
න්වහන්සේ ප්‍රමාදනොවී, තව ස්වල්ප
37. කාලයකින් එන නිසා, නුබලා
දෙවියන්වහන්සේගේ කැමැත්ත
කොට, පොරොන්දුවූ දේ ලබන පි
38. නිස, ඉවසීමෙන් සිටිය යුතුය. "ධ
ර්මිෂ්ඨයා ඇදහිල්ලෙන් ජීවත්වේ;
නුමුත් ඔහු පසුබටවූයේනම්, ඔහු
කෙරෙහි මාගේ ආත්මය සතුටුනො
39. වන්නේයයි" ලියා තිබේ. එසේ
නුමුත් අපි විනාසයට පමුනුවනනාවූ
පසුබටවෙන්නාවුන්ගෙන් නොව, ප්‍රා
න ගැලවීමට අදහන්නාවුන්ගෙන්
වෙමුව.

11. පරිච්ඡෙ. තවද ඇදහිල්ල
නම්, ප්‍රාර්ථනාකල දේවල සැකනැ
තිකමද, නුදුටු දේවල ඔප්පුවද වේ.
2. ආදි කාලයේ සිටියාවූ මනුෂ්‍යයෝ
එයින්ම යහපත් සාක්ෂිය ලැබුවෝය.
3. දකිනු ලබන්ට පූළුවන් දෙයින්
පෙනෙන දේ මවන්ට නොයෙදෙන
ලෙස, දෙවියන්වහන්සේගේ වචන
යෙන් ලෝකවල් මවනලද්දේයයි,
4. ඇදහිල්ලෙන් තේරුම්ගනිමුව. ආ
බෙල් කායින්ට වඩා උතුම් යාගයක්
ඇදහිල්ලෙන් දෙවියන්වහන්සේට
පූජාකෙලේය; එයින් ඔහුගේ පූජා
වල් ගැන දෙවියන්වහන්සේ සාක්කි
දුන් නිසා, ඔහු ධර්මිෂ්ඨයෙකැයි
සාක්ෂි ලැබුයේය. තවද ඔහු මලා

නුමුත්, ඒ ඇදහිල්ලෙන් තවම කථා 5. කරන්නේය. එනොක් ඇදහිල්ලෙන් මරණය නොවිඳ, ගෙනයනු ලැබුයේය; දෙවියන්වහන්සේ ඔහු ගෙනගියහෙයින්, ඔහු දකිනු නොලැබුයේය. ඔහුගේ ගෙනයාමට ඉස්සර ඔහු දෙවියන්වහන්සේ සතුටුකල 6. බවට ඔප්පු ලැබුයේය. එහෙත් ඇදහිල්ල නැතුව දෙවියන්වහන්සේ සතුටුකරන්ට බැරිය; මක්නිසාද දෙවියන්වහන්සේ ලඟට පැමිණෙනනා විසින්, දෙවියන්වහන්සේ සිටිනසේකැයි කියාද, උන්වහන්සේ සොයනනන්ට විපාක දෙනසේකැයි 7. කියාද, ඇදහිය යුතුය. ඇදහිල්ලෙන් නෝවඃ පෙර නුදුටු දේ ගැන දෙවියන්වහන්සේ විසින් දන්වනු ලැබ, භයවෙමින්, තමාගේ පවුල රක්‍ෂාකරගන්නා පිණිස නැවක් සෑදුයේය; එයින් ඔහු ලෝකයා වරදට පත්කරවා, ඇදහිල්ලෙන්වූ ධර්මිෂ්ඨකමට උරුමක්කාරයෙක් වූයේය.

8. ඇදහිල්ලෙන් ආබ්‍රහම්, පසුව උරුමයක් ලැබෙන තැනට යන්ට කැඳවනු ලැබූකල, කීකරුව, කොතනට යනවාදැයි නොදැන, පිටත්ව 9. ගියේය. ඇදහිල්ලෙන් ඔහු දෙවියන්වහන්සේ විසින් අභිප්‍රායකොට ගොඩනගන්නාවූ අත්තිවාරම ඇති 10. නුවරක් බලා සිට, විදේශියෙකු මෙන් පොරොන්දුවූ රටේ, තමන් සමඟ එම පොරොන්දුවට උරුමක්කාරවූ ඊසාක්ද යාකොබ්ද සමඟ, 11. කුඩාරම්වල වාසයකෙළේය. ඇදහිල්ලෙන් සාරාද පොරොන්දුවූනු තැනන්වහන්සේ විශ්වාස කෙනෙකැයි සිතා, තිසි වයස පසුවූකල ගර්භිනිවෙන්ට බලය ලැබ, පුතු 12. යෙකු වැදුවාය. එහෙයින් අහසේ තරු මෙන් බොහෝවූ, මුහුදු වෙරල වැලිමෙන් ගනන්කරන්ට බැරිවූ මනුෂ්‍යයෝ, මල එකෙක් වැනි තැනැත්තාගෙන්ම, පැවත ආවෝය.

13. ඇදහිල්ලෙන් මේ සියල්ලෝම පොරොන්දුවූ දේ දුරදී දැක, සැක නොකොට, ඒවා වැලඳගෙන, පොළොවෙහි තමන් විදේශීන් බවත්, ගමන් යන්නන් බවත් ප්‍රකාශකොට කියාදී, ඒ දේ නොලැබ මලෝය. 14. මේ දේ කියන තැනැත්තෝ සියරට සොයන බව හොඳහැටි පෙ 15. න්වා දෙති. තවද ඔවුන් නික්ම ආවාවූ රට සිහිකලෝවිනම්, නැවත එයි යන්ට ඔවුන්ට ප්‍රස්ථා තිබුනේය; 16. නුමුත් ඔවුන් ඊට වඩා යහපත්වූ ස්වර්ගීය රටට කැමති ඇත්තෝය. එබැවින් දෙවියන්වහන්සේ ඔවුන්ගේ දෙවියන්වහන්සේයයි කියනු ලබන්ට ලැජ්ජා නොවනසේක; මක්නිසාද උන්වහන්සේ ඔවුන්ට නුව 17. රක් සෑදුසේක. ආබ්‍රහම් පරීක්‍ෂා කරනු ලැබූකල, ඇදහිල්ලෙන් 18. ඊසාක් පූජාකළේය; "ඊසාක්ගෙන් නුබේ වංශය කියනු ලැබේයයි" නමෙකුට කියනලද්දේද, පොරොන්දු ලැබූ ඔහු තමන්ගේ ඒකජාත පුත්‍රයා 19. පූජාකෙළේය. ඔහු මලවුන්ගෙන් නැගුටුවන්ට දෙවියන්වහන්සේ සමර්ථසේකැයි සිතා, ආදෘශ වශයෙන් ඔහු මරනින් නැවත ලබාගත්තේය.

20. ඇදහිල්ලෙන් ඊසාක් මතු පැමිනෙන දේ ගැන, යාකොබ් සහ 21. ඒසව්හටද ආශිර්වාදකෙළේය. යාකොබ් නසින ප්‍රස්ථාවේදී, ඇදහිල්ලෙන් යෝසැප්ගේ පුතුන් දෙන්නාට ආශිර්වාදකොට, තමාගේ සැරමිටිය පිට හාන්සිව, නමස්කාරකෙ 22. ළේය. යෝසැප් නසිනකල ඊශ්‍රායෙල් පුත්‍රයන්ගේ පිටත්ව සාම ගැන ඇදහිල්ලෙන් කථාකොට, තමන් ඇට ගැන අණ දුන්නේය.

23. මෝසෙස් උපන්කල, ඔහුගේ මව්පියෝ ලක්‍ෂණ පුත්‍රයෙකු බව දැක, රජහුගේ අණුවට භයනොව, ඇදහිල්ලෙන් ඔහු තුන්මාසක්ම

24. සැඟවුවෝය. මෝසෙස් වැඩිවිය
පැමිනිකල, ඵරාවෝගේ දුවගේ පුත්‍ර
යයි කියනුලබන්ට ඇදහිල්ලෙන්
25. නොකැමතිව, ස්වල්ප කාලය
කට පාපයෙහි සැප විඳිනවාට වඩා
දෙවියන්වහන්සේගේ සෙනග සමග
26. දුක් විඳිම තෝරාගෙන, ඵල විපා
කය සැලකීමෙන්, මිසරයෙහි වස්තු
වට වඩා ක්‍රිස්තුස්වහන්සේ නිසා
ඇත්තාවූ නින්දාව මහත් වස්තුව
27. කැයි සිතුයේය. අදෘශ්‍යමාන තැ
නන්වහන්සේ දුටුවාක්මෙන්, නිශ්
චල සිතින් රජහුගේ කෝපයට භය
නොවී, ඇදහිල්ලෙන් මිසරය අත්
28. හැර ගියේය. කුළුදුලන් විනාශ
කල තැනැත්තේ ඔවුන්ට නොග
සන පිනිස, පාස්කුමංගල්‍යයද ලේ
ඉසීමද ඇදහිල්ලෙන් පැවැත්වූයේය.
29. ඔවුන් ඇදහිල්ලෙන් රතු මුද
මැදින් ගොඩ බිමින් මෙන් ගියෝය;
මිසර වැසියෝ එසේ කරන්ට උත්සා
30. හකොට, ගිලී මලෝය. ඔවුන්
සත් දවසක් යෙරිකෝව වටකර ඇ
විද්දකල, ඇදහිල්ලෙන් එහි පවුරු
31. වැටුනේය. රාඛබනම් වෛශ්‍යා
ස්ත්‍රිය ඔත්තුකාරයන් මිත්‍රකමෙන්
පිලිගත්කල, නොඅදහන්නන් සම
ග ඇදහිල්ලෙන් විනාශ නුවූවාය.

32. තව මක් කියම්ද? ගෙදෙ
යොන්ද, බාරක්ද, සම්සොන්ද, යෙප්
තාද, දාවිත්ද, සාමුවෙල්ද, අනාගත
වක්තෘන්ද ගැන, මට කථාකරන්ට
33. කල් මදිය. ඔවුන් ඇදහිල්ලෙන්
රාජ්‍යවල් ජයගත්තෝය; ධර්මිෂ්ඨකම්
කලෝය; පොරොන්දුවල් ලබාගත්
තෝය; සිංහයන්ගේ මුඛ බැන්දෙවි
34. වෝය; ගිනි උෂ්ණය නිවිවෝ
ය; කඩු මුවහතින් ගැලවුනෝය;
දුර්වලව, බල ලැබුවෝය; යුධයෙහි
දක්ෂයෝව, සතුරු සේනාවන් එලෙව්
35. වෝය. ස්ත්‍රීන්ගේ මලවුන් ජීවත්
කරනලදුව, නැවත ඔවුන් ලැබුවෝ
ය. වෙන ඇත්තෝ, මීට වඩා හොඳ
නැගිටීමක් ලබන පිනිස, මිදීම පිලි
නොගෙන, වේදනාවට පමුනුවනු
36. ලැබුවෝය. අන්‍යයෝ නින්දාව
ලින්ද, පහරවලින්ද, බැඳුම්වලින්ද,
හිරගෙයි ලීම්වලින්ද පරීක්ෂාකරනු
37. ලැබුවෝය. ඔවුන් ගල්ගසනු
ලැබුවෝය; කියතෙන් ඉරනු ලැබු
වෝය; පරීක්ෂාකරනු ලැබුවෝය;
කඩුවෙන් මරනු ලැබුවෝය; දිලිඳුක
මට පැමිණ, දුක්ද වේදනාද විඳිමින්,
බැටළුවන්ගේත් එළුවන්ගේත් සම්
38. ඇඳ, වනාන්තරවලද කඳුවලද
ගුහාවලද පොලොවේ වලවල්හිද
ඇවිද්දෝය. ඔවුන්ගේ විසීමට ලෝ
39. කය නොවටන්නේය. ඒ සියල්
ලෝම ඇදහිල්ල කරණකොටගෙන
යහපත් සාක්ෂිය ලැබත්, පොරොන්
40. දුව නොලැබුවෝය. ඔවුන් අ
පෙන් වෙන්ව සම්පූර්ණ නොවෙන
පිනිස, දෙවියන්වහන්සේ ඊට වඩා
යහපත් දෙයක් අපට සැදූසේක.

12. පරිච්ඡෙ. එබැවින් මෙපමන
මහත් සාක්ෂිකාර සමූහයකින් වටව
සිටින්නාවූ අපි, සියළු බරත් ලේසි
යෙන් අප අසුකරන පාපයත් අහක
2. තබා, ඇදහිල්ලේ මුල්කාරවූද
සම්පූර්ණකරන්නාවූද යේසුස්ව
හන්සේ දෙස බලමින්, අපට නියම
කල දිවීම වීර්‍ය්‍යයෙන් දුවමුව. උන්ව
හන්සේ තමන්වහන්සේගේ ඉදිරි
යෙහි තිබෙන ප්‍රීතිය බලා, ලැජ්ජාව
නොසලකා, කුරුසියෙහි වධවිඳ, දෙ
වියන්වහන්සේගේ සිංහාසනයෙහි
දකුනු පැත්තේ වැඩහිඳගත්සේක.
3. ඒ නිසා තුබලාගේ සිත් වෙහෙ
සව කලාන්ත නොවෙන පිනිස, ත
මන්ට එදිරිවූ පව්කාරයින්ගේ මහත්
විරුඩ කථාව ඉවසූ තැනන්වහන්සේ
4. කල්පනාකරපල්ලාය. පාපයට
විරුඩව යුධකරන තුබලා ලේ වැගි
5. රෙනතුරු සටන් නොකලෝය. ඇ
රත්, "මාගේ පුත්‍රය, ස්වාමින්වහන්

සේගේ දඬුවම් කිරීම සුළුනොකරන්
6. න; උන්වහන්සේගෙන් දඬුවම්
කිරීම් ලබනකල, ක්ලාන්ත නො
වෙන්න; මක්නිසාද ස්වාමීන්වහන්
සේ ප්‍රේමකරන්නාවූ තැනැත්තාට
දඬුවම්කරනසේක; උන්වහන්සේ
පිළිගන්නාවූ සියළුම පුත්‍රයින්ට තල
නසේකැයි," දරුවන්ට මෙන් තුඹ
ලාට කියන දූනිමිතිකම සිහිනැති
7. කලෝද? තුඹලා දඬුවම ඉවසා
තොත්, දෙවියන්වහන්සේ පුත්‍රයින්ට
කරන්නාක්මෙන් තුඹලාටත් කරන
සේක. පියාණෝ දඬුවම් නොකරණ
8. පුත්‍රයා කවරේක්ද? සියළු පුත්‍ර
යෝ ලබන දඬුවම තුඹලා නොලබා
සිටිතොත්, තුඹලා පුත්‍රයෝ නොව,
9. අවජාතකයෝ වෙති. තවද අපේ
මාංසයේ පියවරු අපට දඬුවම් ක
ලෝය, අපි ඔවුන්ට ගෞරව කෙලෙ
මුව; එබැවින් අපි ජීවනය ලබන
ලෙස, ආත්මවල පියාණන්වහන්සේට
කොපමන වැඩිතරව යටත් නොවෙ
10. මුද? ඔවුන් තමන්ගේ කැමැත්
ත ලෙස ස්වල්ප දවසකට දඬුවම්ක
ලෝය. එහෙත් උන්වහන්සේ තමන්
ගේ පිරිසිදුකමට අපි පංගුකාරයෝ
වෙන පිනිස, අපේ ප්‍රයෝජනයට
11. දඬුවම්කරනසේක. කිසි දඬුව
මක් විඳිනකල සතුටුවීමට නොව,
දුක්වීමට කාරනයක් මෙන් පෙනෙ
නෙන්ය; තුමුත් ඉන්පසු ඒ දඬුවම
විඳින්නන්ට ධර්මිෂ්ටකමේ සමාදාන
ඵල උපදවන්නේය.

12. එබැවින් හෙළන අත්ද සවි
නැති දනඉස්ද සවිකරගනිල්ලාය;
13. ඇරත් කොර කකුල් සුවවෙන
පිනිස මිස, උළුක්කු නොවෙන පිනි
ස, තුඹලාගේ පාදවලට සමතලා
14. මාර්ගවල් සාදාගනිල්ලාය. සියල්
ලන් සමග සමාදානයෙන්ද පිරිසිදුක
මින්ද සිටින්ට වෑයම්කරපල්ලාය;
මක්නිසාද පිරිසිදුකම නැතුව කාට
වත් ස්වාමීන්වහන්සේ දකින්ට බැරිය.
15. දෙවියන්වහන්සේගේ කරුණා
වෙන් කවුරුවත් අහක්ව නොසිටින
පිනිසද, තිත්ත මූලක් අටගෙන
තුඹලා නොකලඹන පිනිසද, එයින්
බොහෝ දෙන පිළිකුල් නොවෙන
16. පිනිසද, වේශ්‍යාකම් කරන්
නෙක්වත්, කෑම වේලකට තමාගේ
කුළුඳුල්කම වික්කාවූ ඒසව් මෙන්
අභක්තියෙක්වත් නොවෙන පිනි
සද, ප්‍රවේසමින් බලාගනිල්ලාය.
17. ඔහු කුළුඳුල්කම වික්කායින්
පසු, ආශීර්වාදය හිමිකරගන්ට කැමැ
තිවූකල, ඔහු එපාකරනලදුව, අඬ
අඬා පසුතැවිළිකරවන්ට සෙවූ නු
මුත්, එය ඉෂ්ටකරන්ට නුපුළුවන්වූ
බව තුඹලා දනිති.

18. තවද අතගසන්ට පුළුවන්වූ
පර්වතයටත්, දිළිහෙන ගින්නටත්,
දුමාරයටත්, අන්ධකාරයටත්, කුනාටු
19. වටත්, හොරණෑ ශබ්දයටත්, යම්
හඬක් ඇසුවාහු තවත් ඔවුන්ට කිය
නු නොලබන්ට යාඥාවූනෝද ඒ වච
නේ අඬටත්, තුඹලා නොපැමිනි
20. යෝය. ඔවුන්ට ආඥාකල දේ
දරන්ට නොහැකිවූවෝය; "තිරිස
නෙක් තුමුත් පර්වතයේ හැපුනොත්,
ඌට ගල් ගසාවත්, ඊයකින් විදලා
21. වත්, මැරිය යුතුය." "මම අතිශ
යින් භයවෙමි, වෙව්ලමියි" මෝ
සෙස් කියන තරම්, ඒ පෙනීම ඉතා
22. භයංකාරවිය. එහෙත් තුඹලා,
සියොන් පර්වතයටත්, ජීවමාන දෙ
වියන්වහන්සේගේ නුවරටත්, ස්ව
ර්ගීය යෙරුසලමටත්, ගනන් නැති
දේවදූතයන්ගේ පොදුවූ රැස්වීම
23. ටත්, ස්වර්ගයෙහි ලියනලද
කුළුඳුලන්ගේ සභාවටත්, සියල්ලන්
ගේ විනිශ්චයකාරවූ දෙවියන්වහන්
සේ ලඟටත්, සම්පූර්ණලෙස පිරිසි
දුකරනලද ධර්මිෂ්ඨයන්ගේ ආත්ම
24. යන් ලඟටත්, අළුත් ගිවිසුමේ
මැදහත්කාරවූ ජේසුස්වහන්සේ ලඟ
ටත්, ආබෙල්ගේ ලේවලට වඩා යහ

පත් දේ කියන ඉසීමෙහි ලේ ලඟ
25. මත්, පැමින සිටින්නෝය. පො
ලොවේදී කථාකලාවූ උන්වහන්සේ
එපාකලාවූ තැනැත්තෝ ගැලවුනේ
නැත්නම්, ස්වර්ගයෙන් කථාකරන
උන්වහන්සේගෙන් අපි අහක්ව ගි
යොත් කොහෙත්ම ගැලවීම ලබන්ට
බැරිහෙයින්, කථාකරන උන්වහන්
සේ එපා නොකරන්ට බලාගනිල්
26. ලාය. උන්වහන්සේගේ සැබ්ද
යෙන් ඒ කාලයේදී පොලොව කම්
පාවුනේය. දැන් උන්වහන්සේ, "පො
ලොව පමනක්නොව, ස්වර්ගයත්
තව වරක් කම්පාකෙරෙමියි" පො
27. රොන්දුවූහුසේක. තව වරක් කී
ච්චනේ තේරුමනම්, සෙල්වෙන්ට
බැරිවූ දේවල් පවතින පිනිස, සෙල
වෙන දේවල් සාදනලද දේවල්
28. මෙන් මාරුකිරීමය. එහෙයින්
නොසෙලවෙන රාජ්‍යයක් ලබන්
නාවූ අපි, ගෞරවයෙන්ද දේව භයි
න්ද දෙවියන්වහන්සේ ප්‍රසන්නවන
ලෙස, මෙහෙකරන පිනිස කරුණාව
29. බරමුව. මක්නිසාද අපගේ දෙවි
යන්වහන්සේනම් විනාසකරන ගින්
නක.

13. පරිච්ඡේ. සහෝදරවූ සෙන්හය
2. පවතීවා. සමහරු නොදැනම දේව
දූතයන්ට සත්කාර කල නිසා, ආගන්
තුක සත්කාර කිරීම සිහිනැති නො
3. කරල්ලාය. හිරේ බැද් සිටින්න
වුන් සමග බැදී සිටින්නාක්මෙන්ද,
තුබලාත් ශරීරයෙහි සිටින බැවින්,
පීඩා විඳින්නන්ද සිහිකරපල්ලාය.
4. විවාහය සියල්ලන්ට නම්බුවක්
වේවා; යහන පවිත්‍රවේවා; හුම්බුත්
වෛශ්‍යාකම් කරන්නන්ද පරදාර
කරන්නන්ද දෙවියන්වහන්සේ වි
5. නිශ්චයකරනසේක. ලෝභ නැ
තුව තුබලාට ඇති දෙයින් සන්තෝ
සවෙයල්ලාය. මක්නිසාද, "කිසි ක
ලෙකත් මම තුබ නාරිම්, එපා නො
කරෙමියි" උන්වහන්සේ කීසේක.
6. එබැවින්, "ස්වාමින්වහන්සේ මට
පිහිටව සිටිනසේක; මනුෂ්‍යයා මට
කරන දේට භය නොවෙමියි" සැක
නැතුව අපට කියන්ට පුළුවන.
7. දෙවියන්වහන්සේගේ වචනය
තුබලාම දැන්වූ, තුබලාට අනුශාසනා
කරන්නන් සිහිකරපල්ලාය. ඔවුන්
ගේ හැසිරීමේ කෙලවර කල්පනා
කර, ඔවුන්ගේ ඇදහිල්ල ආද්‍රිසයක්
8. කොට ගනිල්ලාය. තවද ඊයෙත්
අදත් සදාකාලයටත් යේසුස් ක්‍රිස්
තුස්වහන්සේ ඒකාකාරව සිටින
9. සේක. නොයෙක් අන්‍යාකාර
ඉගැන්වීම්වලින් මුලා නොවෙල්ලා
ය; මක්නියාද කැවුන්ට ප්‍රයෝජන
නුවූ කෑම්වලින් නොව, කරුණාවෙන්
10. සිත සවිකරනු ලැබීම යහපත. පූ
ජාසනයක් අපට ඇත; මඩපයේ
සේවය කරන්නන්ට එයින් කන්ට
11. අවසර නැත. නායක පූජකයා
විසින් පව් නසන පිනිස යම් මෘගයෙ
කුගේ ලේ සුඛ ස්ථානයට ගෙනයනු
ලැබේද, ඒ මෘගයන්ගේ මලකඳන්
12. කඳවුරෙන් පිටත ලා දවති; එ
සේහෙයින් යේසුස්වහන්සේ තමන්
ලෙයින් සෙනග පිරිසිදුකරන පිනිස,
වාසල් දොරින් පිටදී වදවින්දසේක.
13. ඉන්නිසා මෙහි පවතින නුවරක්
නැත්තාවූ, මතු පැමිනෙන නුවරක්
14. සොයන්නාවූ අපි, උන්වහන්සේ
ගේ නින්දාව දරාගෙන, කඳවුරෙන්
පිටත උන්වහන්සේ ලඟට යමුව.
15. එබැවින්, උන්වහන්සේ කරන
කොටගෙන දෙවියන්වහන්සේගේ
නාමයට සතුතිකරන අපේ තොල්
වල ඵලවූ සතුති යාගය, නිතරම උන්
16. වහන්සේට පූජාකරමුව. තවද
යහපත්කම් කරන්නටත්, අනුන්ට
උපකාර කරන්ටත්, සිහිනැති නො
කරල්ලාය; එයාකාර යාගවලට දෙවි
17. යන්වහන්සේ සතුටුවනසේක. තු
බලාට අනුශාසනා කරන්නෝ,

ගණන් දෙන්නන් මෙන්, නුඹලාගේ
ප්‍රාණ රැකවල්කර ඉඳිති; ඔවුන් ඒ
ගණන් දුකින් දුන්නොත්, නුඹලාට
අලාභ බැවින්, ඒ ගණන් දුකින්
නොව ප්‍රීතියෙන් දෙන්ට ඔවුන්ට
පුළුවන්වෙන පිනිස, ඔවුන්ට කීකරු
18. වෙමින් යටත්වෙයල්ලාය. සියල්
ලෙහි හොඳකාර ජීවත්වෙන්ට කැම
තිවෙමින් යහපත් හෘදසාක්ෂියක් අප
ට තිබෙන බව අපි විශ්වාසකරන
නිසා, අප උදෙසා යාඥාවෙයල්ලාය.
19. මම නුඹලා වෙතට ඉක්මනින්
නැවත එන පිනිස, එසේ යාඥාක
රන්ට නුඹලාගෙන් බොහෝසෙයින්
20. ඉල්ලමි. සදාකාල ගිවිසුමේ ලේ
නිසා, උතුම් බැටළුපාලවූ අපගේ
ස්වාමිවූ යේසුස්වහන්සේ මලවුන්
ගෙන් නැවත ගෙනාවාවූ, සමාදාන
21. යේ දෙවියන්වහන්සේ තමන්
සතුටු දේ, යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
කරණකොටගෙන, නුඹලා තුලෙහි
උපදවමින්, තමන් කැමැත්ත ලෙස
සියළු හොඳ ක්‍රියාවල් කරන්ට, නුඹ
ලාට සම්පූර්ණලෙස පුළුවන්කරන
සේක්වා. යේසුස් ක්‍රිස්තුස්වහන්සේට
සදාකාලේටම මහිමතාවය වේවා.
ආමෙන්.

22. තවද සහෝදරයෙනි, ස්වල්ප
වචනවලින් ලිව්වමක් නුඹලාට මම
ලිව්නිසා, මේ අවවාදයෙහි වචනය
පිළිගන්නා හැටියට නුඹලාගෙන්
23. ඉල්වමි. අපේ සහෝදරවූ තිමෝ
තියස් මුදා හැරිය බව දැනගනිල්ලා
ය; ඔහු වහාම ආවොත්, ඔහු සමග
24. නුඹලා බලන්ට එමි. නුඹලාගේ
සියළු ප්‍රධානීන්ටත්, සියළු පිරිසිදුවූ
වන්ටත්, ආචාර කරපල්ලාය. ඉතා
ලියෙහි ඇත්තෝ නුඹලාට ආචාර
25. කෙරෙති. කරුණාව නුඹලා සිය
ලලන් සමග වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ යාකොබ් විසින්
# ලියනලද සාමාන්‍ය පත්‍රය.

1. පරිච්ඡේදය. දෙවියන්වහන්සේ
ගේත් යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේත් මෙහෙකරුවූ යාකොබ් විසින්,
විසිර ගියාවූ දොලොස් ගෝත්‍රවලට
සුභසිද්ධවෙන පිනිස, ලියා එවන වග
2. නම. මාගේ සහෝදරයෙනි, නුඹ
ලාගේ ඇදහිල්ලේ පරීක්ෂාවීම කර
ණකොටගෙන ඉවසීම උපදින්නේ
3. යයි දැන, නොයෙක් පරීක්ෂාවලට
පැමිනිකල සියළු ආකාරයෙන් සතුටු
වීමට කාරනයකැයි සිතාපල්ලාය.
4. නුඹලා කිසි අඩුකමක් නැතුව
සියල්ලෙන් සම්පූර්ණව සිටින පිනි
ස, ඉවසිල්ලේ ක්‍රියා සම්පූර්ණකරනු
5. ලැබේවා. නුඹලාගෙන් කිසිවකුට
වත් ඥානය අඩුනම්, දෝෂ ගෙනහැර
නොදක්වන්නාවූ, සියල්ලන්ට බො
හෝකොට දෙන්නාවූ දෙවියන්ව
හන්සේගෙන් ඉල්ලාවා; එවිට ඔහුට
6. දෙනුලැබේ. නුමුත් සැක නැතුව
ඇදහිල්ලෙන් ඉල්ලාවා; මක්නිසාද
සැක සිතන්නා සුලඟින් ගෙනයන
සෙල්වෙන්නාවූ මුදේ රැලක් මෙන්
7. වන්නේය. එබඳු මනුෂ්‍යයාට ස්වා
මින්වහන්සේගෙන් කිසිවක් ලැබේ
8. යයි නොසිතාවා. දෙසිත් ඇති
මනුෂ්‍යයා තමාගේ සියළු මාර්ගවලදී
සවි නොවේ.

9. දිළිඳු සහෝදරයා තමාගේ
10. උසස්වීමට සතුටුවේවා; එසේම
වස්තුකාරයා තමාගේ යටත්වීමට
සතුටුවේවා; මක්නිසාද ඔහු තණ ම

11. ලක්මෙන් වන්නේය. තද ග්‍රීෂ්ම
ඇතුව ඉර පායනකල ඉක්මනින්
තනකොල වේලී, එහි මල්ද වැටී,
ලක්‍ෂනද විනාසවේ; එසේම වස්තු
කාරයා තමාගේ මාර්‍ගවලදී මලානි
කවේ.

12. පරීක්‍ෂාව ඉවසන මනුෂ්‍යයා
වාසනාවන්තයෙක; මක්නිසාද ඔහු
පරීක්‍ෂාකරනු ලැබූකල, ස්වාමීන්ව
හන්සේ විසින් තමන්ට ප්‍රේමවෙන්
නවුන්ට පොරොන්දුවූනාවූ, ජීවන
13. යෙහි ඔටුන්න ලබන්නේය. දෙ
වියන්වහන්සේ නපුරෙන් පරීක්‍ෂා
නොවෙන නිසාත්, කිසිවකු පරීක්‍ෂා
නොකරන නිසාත්, කිසිවෙක් පරී
ක්‍ෂාවට පැමිනිවිට, දෙවියන්වහන්සේ
විසින් පරීක්‍ෂාකරනු ලබමියි නොකි
14. යාවා. එහෙත් සියළු මනුෂ්‍යයෝ
තමන්ගේ තෘෂ්ණාවෙන් අදිනු ලැබ
පොලඹනකල, පරීක්‍ෂාවට පැමිනෙ
15. ති. තෘෂ්ණාව පිලිසිඳගත් කල,
පාපය වදන්නීය; පාපයද සම්පූර්‍ණ
වූකල, මරනය උපදවන්නේය.

16. මාගේ ප්‍රිය සහෝදරයෙනි,
17. මුලා නොවෙල්ලාය. සියළු යහ
පත් සම්පූර්‍ණ දීම ඉහලින් පැමින,
කිසි පෙරලීමක්වත් හැරීමේ ඡායා
වක්වත් නැත්තාවූ, ආලෝකයෙහි
පියානන්වහන්සේගෙන් බසීනෙන්ය.
18. අපි උන්වහන්සේගේ මැවිලිවල
නාබුල් ඵල වෙන පිනිස, තමන්වහන්
සේගේ කැමැත්ත ලෙස සැබෑකමේ
19. වචනයෙන් අප ඉපදෙව්වෝක. එ
හෙයින් මාගේ ප්‍රිය සහෝදරයෙනි,
මනුෂ්‍යයන්ගේ කෝපයෙන් දෙවි
යන්වහන්සේගේ ධර්මිෂ්ඨකම සිදු
නොවෙන බැවින්, නුඹලා සියල්
ලෝම ඇසීමෙහි පමානොව, කථාව
වත් කෝපවීමටත් පමාවෙත්වා.
20. එහෙයින් සියළු අපිරිසිදුකමද
නපුරු ක්‍රියා රැසියද පහකොට,
21. නුඹලාගේ ප්‍රාන ගලවාගන්ට
හැකිවූ පිහිටුවනලද වචනය මුදුහා
22. වයෙන් පිලිගනිල්ලාය. නුඹලා
තමන්ම මුලාකරගනිමින් වචනය
අසන්නෝ පමනක් නොව, ඒක
23. පවත්වන්නෝ වෙයල්ලාය. මක්
නිසාද කිසිවෙක් වචනය අසාත් ඒ
වචන නොපවත්වන්නේනම්, ඔහු
කැඩපතින් මුනේ හැඩි බලන පුරුෂ
24. යෙකුට සමානය; ඔහු තමාම
බලාගනිමින් සිට, අහක්ව ගියකල
තමා කෙබඳු මනුෂ්‍යයෙක්දැයි වහාම
25. සිහිනැතිවෙයි. නුමුත් යමෙක්
නිදහස්කමේ සම්පූර්‍ණවූ ව්‍යවස්ථා
ව බලා, සිහි නැතුව අසන්නෙක්
නොව, ක්‍රියාව කරන්නෙක්ව එහි
පිහිටා සිටින මනුෂ්‍යයා තමාගේ ක්‍රි
26. යාවට ආශිර්වාද ලබයි. තවද නුඹ
ලා අතරෙහි භක්තිවන්තයෙක්
ලෙස පෙනෙන කෙනෙක්, තමාගේ
දිව වලක්වා නොගෙන තමාගේ
සිත මුලාකරගනීනම්, ඒ මනුෂ්‍යයා
27. ගේ භක්තිය නිෂ්ඵලය. පියවූ
දෙවියන්වහන්සේගේ ඉදිරියේ පිරි
සිදුවූ සුඹවූ භක්තියනම්, දුක් විඳින්
නාවූ මව්පියන් නැති දරුවන්ටද
වැන්දඹු ස්ත්‍රීන්ටද උපස්ථාන කිරී
මත්, ලෝකයා කෙරෙන් නොකිළු
ටුව තමා රක්‍ෂාකරගැනීමත් වේ.

2. පරිච්ඡේ. මාගේ සහෝදරයෙ
නි, අපගේ තේජවන්ත ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි ඇද
හිල්ල මනුෂ්‍යයන්ගේ තරාතිරම් සැ
2. ලකීමෙන් නොදරල්ලාය. අතේ
රන් මුදු ලා යහපත් ඇඳුම් ඇඳි මනු
ෂ්‍යයෙකුත්, කිළුටුවූ ඇඳුම් ඇඳි මනු
ෂ්‍යයෙකුත්, නුඹලාගේ සභාවට
3. ආවොත්, නුඹලා අලංකාර වස්ත්‍ර
ඇඳි පුරුෂයාට ගෞරවකොට, මෙහි
උතුම් ආසනේ ඉඳගනින්නැයි කියා
ද, දුප්පත් පුරුෂයාට, එහිවත් මෙහි
මාගේ පාපුටුව යටවත් ඉඳගනින්
4. නැයි කියාද කියන්නම්, නුඹලා
පක්‍ෂපාතවූවෝ නොවෙද්ද? දුෂ්ඨ

කල්පනාවලින් යුක්ත විනිශ්චයකා
5. රයෝ නොවෙද්ද? මාගේ ප්‍රිය
සහෝදරයෙනි, අසාපල්ලාය; දෙවි
යන්වහන්සේ තමන්ට ප්‍රේමකරනන
වුන්ට පොරොන්දුවූ රාජ්‍යයෙහි උරු
මක්කාරයෝ වෙන පිනිසත්, ඇද
හිල්ලෙන් පොහොසත් වෙන පිනි
සත්, මේ ලෝකයෙහි දිළිඳුවූ තැනැ
6. ත්තන් තෝරානොගත්සේක්ද? නු
මුත් නුබලා දිළිඳුන්ට නින්දාකලෝ
ය. පොහොසත්හු නුබලාට පීඩාකො
ට, නඩුසාලාවලට ඇදගෙන යන්
7. නෝ නොවෙද්ද? නුබලා දරන
උතුම් නාමයට ඔවුන් අපහාසකරන්
8. නෝ නොවෙද්ද? "නුබලා තමා
ට මෙන් තමාගේ අසල්වාසියාට ප්‍රේ
මකරවියයි" යන ලියවිල්ල ලෙස
උතුම්වූ ව්‍යවස්ථාව පවත්වනවානම්,
නුබලා යහපතක් කරන්නෝ වෙති.
9. නුමුත් තරාතිරම් බලනවානම්,
නුබලා පව්කොට, ව්‍යවස්ථාවෙන්
10. වරදට පත්වෙති. යමෙක් එක
ආඥාවක් කඩකොට, ඉතිරි සියළු
ව්‍යවස්ථාව රක්‍ෂාකරන නුමුත්, ඔහු
සියළු ව්‍යවස්ථාවෙහිම වරදකාරයෙ
11. ක. මක්නිසාද "පරදාර නොකර
වයි" කී තැනන්වහන්සේම, "මිනී
නොමරවයි" කීසේක. ඉදින් නුබ
පරදාර නොකොට මිනී මරතොත්,
12. ව්‍යවස්ථාවෙහි වරදකාරයෙක. නි
දහස්කමෙහි ව්‍යවස්ථාවෙන් විනිශ්
චයකරනු ලැබිය යුතු තැනැත්තන්
මෙන්, කථාවත් ක්‍රියාවත් කරපල්
13. ලාය. මක්නිසාද කරුණා නොපෑ
වැත්වූ තැනැත්තා කරුනාව නැති
විනිශ්චයක් ලබන්නේය. නුමුත් ක
රුනාව විනිශ්චය පරදවා සතුටුවේ.

14. මාගේ සහෝදරයෙනි, යමෙක්
ඇදහිල්ල ඇතැයි කියන නුමුත්,
ක්‍රියාවල් නොපවත්වන්නේනම්, ඔහු
ට ප්‍රයෝජන කිමෙක්ද? ඒ ඇදහිල්
ලෙන් ඔහුට ගැලවෙන්ට පුළුවන්ද?
15. සහෝදරයෙක්වත් සහෝදරි
යෙක්වත් ඇඳුම් නැතුව දවස්පතා
16. කෑම නැතුව සිටිනම්, නුබලා
ගෙන් කිසිවෙක්, සමගිතාවෙන්
ගොස් වස්ත්‍ර ඇඳගෙන සෑහෙන පම
න කාපල්ලායයි, ඔවුන්ට කියා ශරී
රයට ඕනෑ දේවල් නොදෙතොත්,
17. ඔවුන්ට ප්‍රයෝජන කිමෙක්ද? එ
සේම ඇදහිල්ල ක්‍රියාවල් නූපදවා
18. තනිවූනොත්, මලානම් වේ. නුබ
ට ඇදහිල්ල ඇත්තේය, මට ක්‍රියා
ඇත්තේය. ක්‍රියාවල් නැතුව නුබේ
ඇදහිල්ල මට පෙන්වාපන්න; මම
මාගේ ක්‍රියාවලින් මාගේ ඇදහිල්ල
පෙන්වමියි යමෙකුට කියන්ට පුළු
19. වන. එකම දෙවිකෙනෙක් ඇ
තැයි නුබ අදහන්නේය; එක හරිය;
නුමුත් යක්‍ෂයෝ පවා විස්වාසකොට
20. වෙව්ලති. සිස්වූ මනුෂ්‍යය, ක්‍රියා
නැත්තාවූ ඇදහිල්ල මල බව දැන
21. ගන්ට කැමතිද? අපේ පියවූ
ආබ්‍රහම්, තමන් පුත්‍රවූ ඊසාක් පූජාස
නය පිට පිදූකල, ක්‍රියාවෙන් ධර්මිෂ්ඨ
කොට ගනන්ගනු ලැබුවේ නො
22. වේද? ඇදහිල්ල ඔහුගේ ක්‍රියා
වල් සමග ක්‍රියාකල හැටිද, ක්‍රියාවල්
නිසා ඇදහිල්ල සම්පූර්ණවූන හැ
23. ටිද, පේනවා නොවේද? "ආබ්‍ර
හම් දෙවියන්වහන්සේ කෙරෙහි
ඇදහූයේය; ඒක ඔහුට ධර්මිෂ්ඨකම
වෙනුවට ගනන්ගන්ට යෙදුනේය"
කියාද, "දෙවියන්වහන්සේගේ මිත්‍ර
යයි කියනුලැබූයේයයි" කියාද, ලියා
තිබූන ලියවිල්ල සම්පූර්ණවූනේය.
24. මෙයින් මනුෂ්‍යයෙක් ඇදහිල්ල
පමනකින් නොව, ක්‍රියාවලිනුත්
ධර්මිෂ්ඨකොට ගනන්ගනු ලබන්
නේයයි, නුබලාට පෙනෙන්නේය.
25. එසේම රාහාබ්නම් වෙශ්‍යාව පනි
විඩකාරයන් පිළිගෙන අන් මගකින්
ඔවුන් යන්ට ඇරියකල, ක්‍රියාවල්
වලින් ධර්මිෂ්ඨකොට ගනන්ගනු
26. ලැබුවා නොවේද? ආත්මය නැත්

තාවූ ශරීරය මලාක්මෙන්, ක්‍රියා
නැති ඇදගිල්ල මලානම් වේ.

3. පරිච්ඡේ. මාගේ සහෝදරයෙ
නි, බොහෝ ගුරුවරයෝ වෙන්ට
එපාය. එසේ වුවොත්, එයින් බල
වත් අවිචුව අපට ලැබෙන්ට පුළුවන්
2. බව දනිමුව. මක්නිසාද බොහෝ
දේ ගැන අපි සියල්ලෝම පැකිලෙ
මුව. යමෙක් වචනයෙන් නොපැකි
ලේනම්, ඔහු සම්පූර්ණ ලෙස යහ
පත් මනුෂ්‍යයෙක්ව, සියළු ශරීරය
යටත්කරගන්නට ඔහුට පුළුවන.
3. අස්වයන් අපට කීකරුකරගන්
නා පිනිස, කටකලියා ඔවුන්ගේ
කටේ දමා, එයින් ඔවුන්ගේ සියළු
4. ශරීරය හරවාගනිමුව. නැවු මහත්
නමුත්, තද හුළඟින් ගෙනයනකල,
ඉතා කුඩාවූ සුක්කානමෙන්, නැවි
යාට කැමති ලෙස, හරවනු ලබති.
5. එලෙසම දිව කුඩා අවයවයක්
නමුත්, මහත්ලෙස ගරුකම් කථාක
රන්නේය. කුඩා ගින්න කොපමන
6. මහත් දේ දවනෙන්ද? දිව ගින්
නක්ද, අධර්මිෂ්ඨකමේ ලෝකයක්ද
වෙයි. එසේම අපේ අවයව අතරෙහි
තිබෙන දිව සියළු ශරීරය කිළුටු
කොට, සියළු ශරීර ධාතු දවනෙන්ය;
ඒකත් නිරය ගින්නෙන් දැවෙන්නේය.
7. සියළු ආකාර මෘගයෝද, පක්ෂීහුද,
සර්පයෝද, මුහුදෙහි සත්තුද, මනුෂ්‍ය
යන් විසින් දැන් දමනයකරනු ලබ
ති, ඉස්සරත් දමනයකරනු ලැබුවෝ
8 ය. එහෙත් දිව වලක්වන්ට කාට
වත් බැරිය; ඒක දමනයකරන්ට
බැරිවූ, මරණ පමුනුවන විසයෙන්
9. පිරුන නපුරු දෙයක. එයින් පියවූ
දෙවියන්වහන්සේට අපි ස්තුතිකර
මුව; එයිනුත් දෙවියන්වහන්සේගේ
ස්වරූපය ලෙස මවනලද මනුෂ්‍ය
10. යන්ට අපි සාපකරමුව. ස්තුති
යද, සාපයද, එම කටින් පිටත්වෙයි;
මාගේ සහෝදරයෙනි, මේ කාරණ
11. මෙසේ වෙන්ට යුතු නැත. මිහිරි
දියද, කරදියද, එකම උල්පතින්
12. පිටත්වේද? මාගේ සහෝදර
යෙනි, දිඹුල් ගසෙහි ඔලිව් ඵලද,
මිදිවැලෙහි දිඹුල් ඵලද, අටගන්ට
පුළුවන්ද? එලෙස කිසි උල්පතකින්
මිහිරි දියද කරදියද උනන්ට බැරිය.
13. දැනගැම්ම ඇත්තාවූ ඥානවන්
තයෙක් තුබලා අතරෙහි ඇත්නම්,
ඔහු යහපත්වූ හැසිරීමෙන්, ඥාන
යෙහි මොලොක්කම ඇතුව ඔහුගේ
14. ක්‍රියාවල් ප්‍රකාශකෙරේවා. එ
හෙත් තුබලාගේ හිත්වල අතිශ
ඊර්ෂ්‍යාවද විවාදයද තිබෙනම්, පාරම්
බු නොකරල්ලාය, සැබෑවට විරුද්ධව
15. බොරු නොකියල්ලාය. මේ ඥා
නය ලෞකිකවූ, මාංසිකවූ, යක්ෂාකා
රවූ ඥානය මිස, ඉහළින් බසින ඥාන
16. ය නොවෙයි. ඊර්ෂ්‍යාවත් විවාද
යත් ඇති තැන, දබරයත් සියළු
17. නපුරු ක්‍රියාවළුත් ඇත. නුමුත්
ඉහළින් පැමිණෙන ඥානය පලමු
කොට පිරිසිදුය, දෙවනුව සමාදානවූ,
මුදුවූ, ගුනවන්තවූ, යහපත් ඵලවලි
නුත් අනුකම්පාවෙනුත් පූර්ණවූ,
පක්ෂ නුවූ, වංචා නැත්තාවූ ඥානයක්
18. ය. ඇරත් සමාදාන කරන්නන්
විසින් ධර්මිෂ්ඨකමේ ඵල සමාදාන
කමින් වපුරනලද්දේය.

4. පරිච්ඡේ. තුබලා අතරෙහි යුද්ධ
යත් පොරත් කොහින්ද? තුබලාගේ
අවයවයන් කෙරෙහි යුද්ධකරන තුබ
ලාගේ තෘෂ්ණාවලින් නොවේද?
2. තුබලා ආසාවෙති, නුමුත් නොල
බති; තුබලා මරවති, ජ්වලිතවෙති,
නුමුත් ලබන්ට නොහැක්වෙති; තු
බලා පොරද යුද්ධයද කෙරෙති,
නුමුත් නොඉල්වන බැවින්, නොල
3. බති. තුබලා ඉල්වති, නුමුත් තුබ
ලාගේ තෘෂ්ණාවලට වියදම්කිරීම පිනි
ස නපුරු ලෙස ඉල්වන බැවින්, නො
4. ලබති. පරදාරික ස්ත්‍රී පුරුෂයෙනි,

ලෝකයෙහි මිත්‍රකම දෙවියන්වහන්
සේට සතුරුකමැයි නොදනිද්ද?
යමෙක් ලෝකයට මිත්‍රවෙන්ට කැම
තිනම්, ඔහු දෙවියන්වහන්සේට සතු
5. රෙක. ලියවිල්ල නිරර්ථකලෙස
කියන්නේයයි කියාවත්, අප තුලෙහි
වසන ආත්මය ඊර්ෂ්‍යාවට ආසාවන්
6. නේයයි කියාවත්, සිතද්ද? එහෙත්
උන්වහන්සේ වැඩිය කරුණාව දෙන
සේක. ඉන්නිසා, "දෙවියන්වහන්සේ
උඩගුවූවන්ට එදිරිව සිට, යටහත්තු
ට කරුණාව දෙනසේකැයි" කියන
7. සේක. එහෙයින් දෙවියන්වහන්
සේට යටහත් වෙයල්ලාය. යක්ෂයාට
එදිරිව සිටපල්ලාය; එවිට ඔහු නුඹ
8. ලා වෙතින් පලා යනෙන්ය. දෙවි
යන්වහන්සේට ලංවෙයල්ලාය; එවිට
උන්වහන්සේ නුඹලාට ලංවනසේක.
පව්කාරයෙනි, නුඹලාගේ අත් පවිත්‍ර
කරගනිල්ලාය. දෙසිත් ඇත්තෙනි,
නුඹලාගේ හෘදයන් ශුද්ධකරගනිල්ලා
9. ය, දුක් වෙමින් ශෝකවෙමින්
හඬාපල්ලාය. නුඹලාගේ සිනාසීම
හැඬීමටත්, ප්‍රීතිය ශෝකයටත්, පෙර
10. ලනු ලබත්වා. ස්වාමින්වහන්සේ
ඉදිරිපිට යටත්වෙයල්ලාය; එවිට
උන්වහන්සේ නුඹලා උසස්කරන
11. සේක. සහෝදරයෙනි, ඔවුනො
වුන්ට එදිරිව කථානොකරල්ලාය.
තමාගේ සහෝදරයාට එදිරිව කථා
කරන්නාවූ, තමාගේ සහෝදරයා
විනිශ්චයකරන්නාවූ තැනැත්තේ,
ව්‍යවස්ථාවට විරුද්ධව කථාකොට,
ව්‍යවස්ථාව විනිශ්චයකරන්නේය. නු
ඹ ව්‍යවස්ථාව විනිශ්චයකරතොත්,
නුඹ ව්‍යවස්ථාව පවත්වන්නෙක්
නොව, විනිශ්චය කරන්නෙක් වේ.
12. ගලවන්ටත් විනාසකරන්ටත්
සමර්ථවූ, ව්‍යවස්ථා දායකවූ, එකම
කෙනෙක් සිටිනසේක; අනුන් විනිශ්
චයකරන නුඹ කවුද?

13. අදවත් හෙටවත් යම් නුවර
කට ගොස්, වෙළඳාම්කොට, ලාභ
උපදවමින්, අවුරුද්දක් එහි සිටිමු
යයි, කියන්නාවූ නුඹලා අහපල්ලාය.
14. හෙට මක් වේදැයි නුඹලා නොද
නිති. නුඹලාගේ ජීවිතය කිමෙක්ද?
ඒක ස්වල්ප කාලයක් පෙනී එවලේම
15. මැකීයන මීදුමක් වැනිය. ඉන්නි
සා, ස්වාමින්වහන්සේ කැමතිනම්
අපි ජීවත්ව මේකවත් ඒකවත් කර
මුයයි, නුඹලා විසින් කියයුතුය.
16. දැන් නුඹලාගේ අහංකාරයෙන්
පාරට්ටුකරගනිති; එබඳුවූ සියළු පා
17. රට්ටුකිරීම් නපුරුය. එහෙයින්
යමෙක් යහපත්කම් කරන්ට දැන
නොකරනොත්නම්, ඔහුට පාපය වේ.

5. පරිච්ඡ. වස්තුකාරයෙනි, අඬා
පල්ලාය; නුඹලාට පැමිණෙන විපත්
2. ති නිසා අඬා වැලපියල්ලාය. නුඹ
ලාගේ වස්තුව දිරාගියේය; නුඹලා
3. ගේ ඇඳුම් කාවෝ කෑවෝය. නුඹ
ලාගේ රන් රිදී මලකඩ උනේය; ඒ
මලකඩ නුඹලාට එදිරිවූ සාක්ෂියක්ව,
ගින්නක්මෙන් නුඹලාගේ මාංසය
දවන්නේය. කෙලවර දවස්වලට
නුඹලා වස්තුව රැස්කොට තැබුවෝ
4. ය. නුඹලාගේ ගොයම් කැපූ වැඩ
කාරයින්ට නුදුන් කුලී මූරගසන්
නේය; ගොයම් කැපූවන්ගේ මූරගෑ
සීම සේනාවන්ගේ ස්වාමින්වහන්
5. සේගේ කන්වලට ඇසුනේය. නු
ඹලා පොළොවේදී සැප සන්තෝස
යෙන් ජීවත්ව සෙල්ලම්කලෝය.
මංගල්‍ය පිනිස සතුන් මරන දවසේදී
මෙන්, නුඹලාගේ සිත් පෝෂ්‍යකර
6. ගත්තෝය. නුඹලා ධර්මිෂ්ඨයා
අවචූවට පත්කොට මැරුවෝය;
ඔහු නුඹලාට විරුද්ධව සිටින්නේ නැ
7. ත. එබැවින් සහෝදරයෙනි, ස්වා
මින්වහන්සේ එනතුරු ඉවසාපල්ලාය.
ගොවියා පොළොවෙහි අනර්ඝ ඵල
උදෙසා බොහෝසේ බලාසිටිමින්,
පලමුවෙනි දෙවෙනි වරුෂා කාලය
8. පැමිණෙනතුරු ඉවසන්නේය. නු

බලාත් ඉවසීම ඇතුව සිටපල්ලාය.
ස්වාමීන්වහන්සේගේ ඊම කිට්ටු නිසා,
තුබලාගේ සිත් ස්ථිරකරගනිල්ලාය.
9. සහෝදරයෙනි, තුබලා අච්චූවට
නොපැමිණෙන පිනිස, ඔවුනොවුන්
ට එදිරිව නොකොඳුරල්ලාය. විනිශ්
චයකාරයානන්වහන්සේ දොරකඩ
10. සිටිනසේක. මාගේ සහෝදර
යෙනි, ස්වාමීන්වහන්සේගේ නමින්
කථාකල අනාගතවක්තෘන්, පීඩා
විද්මත් ඉවසීමත් ගැන, ආද්‍රිසයක්
11. කොට ගනිල්ලාය. ඉවසන්න
වූන් වාසනාවන්තයන් කොට අපි
කල්පනාකරමුව. යෝබ්ගේ ඉවසීම
ගැන තුබලා ඇසුවෝය; ස්වාමීන්ව
හන්සේ විසින් කල තීන්දුව දැනගෙන,
උන්වහන්සේ අතිසයින් අනුකම්පා
ඇති දයාවන්ත කෙනෙක් බව, තුබ
ලා දුටුවෝය.

12. එහෙත් මාගේ සහෝදරයෙනි,
සියළු දෙයට වඩා කියමි, ස්වර්ගය
ගැනවත්, භූමිය ගැනවත්, අන් කිසි
දෙයක් ගැනවත් නොදිවුරා, අච්චූ
වට නොපැමිණෙන පිනිස, තුබලා
එසේය කීකල, එසේම වේවා; නැත
කීකල, නැත්තම වේවා.

13. තුබලා අතරෙහි දුක් විඳින්
නෙක් ඇත්නම්, ඔහු යාඥාකෙරේ
වා; සන්තෝසවෙන කෙනෙක් ඇත්
14. නම්, ගීතිකා කියාවා. තුබලා
අතරෙහි කිසි රෝගාතුරයෙක් ඇත්
නම්, ඔහු සභාවෙහි වැඩිමහල්ලන්
ට අඬගසාවා; ඔවුන් ස්වාමීන්වහන්
සේගේ නමින් ඔහුට තෙල් ආලේප
කොට, ඔහු උදෙසා යාඥාකෙරෙත්
15. වා. ඇදහිල්ලෙන් කරණ යාඥා
වෙන් රෝගාතුරයාට සුවවන්නේය;
ස්වාමීන්වහන්සේ ඔහුට ක්ෂමාකරනු
ලැබේ; ඔහු නිරෝගීකරනසේක;
ඔහු පව් කෙලේනම්, ඒවා ඔහුට
16. ක්ෂමාකරනු ලැබේ. තුබලාගේ
වරද ඔවුනොවුන්ට කියාදී, සුවවෙ
න පිනිස ඔවුනොවුන් උදෙසා යාඥා
කරපල්ලාය. ධර්මිෂ්ඨ මනුෂ්‍යයාගේ
භක්තිවන්ත යාඥාව බලසම්පන්න
17. වෙයි. එලියස් අප සමාන සැප
දුක් විඳින මනුෂ්‍යයෙක; ඔහු වරුෂා
ව නොවසින පිනිස ඕනෑකමෙන්
යාඥාකෙලේය; එවිට තුන් අවුරුදු
සමයක් මුළුල්ලෙහි, රටට වැසි නො
18. වැස්සේය. නැවත ඔහු යාඥා
කෙලේය; එවිට අහසින් වැසි වැස,
19. බිමේ භෝග හටගත්තේය. ස
හෝදරයෙනි, තුබලා අතරෙහි සැබෑ
කමෙන් මුලාවූ මනුෂ්‍යයෙක් යමෙක්
20. විසින් හරවාගත්තොත්, පව්කා
රයෙක් මුලාවූ මාර්ගයෙන් හරවා
ගත් තැනැත්තා ආත්මයක් මරනින්
ගලවාගන, පව් රාසියක් වසන්නේ
යයි ඔහු දැනගනීවා.

# ප්‍රේරිතවූ පේත්‍රුස් විසින් ලියනලද

## පලමුවෙනි සාමාන්‍ය පත්‍රය.

1. පරිච්ඡේදය. යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ ප්‍රේරිතවූ පේත්‍රුස් නම්
ලත් මා විසින්, පොන්තස්හිද, ගලා
තියෙහිද, කප්පදෙකියෙහිද, ආසි
යායෙහිද, බිතිනියායෙහිද විසිර
ගොස් සිටිනවුන්ට, ලියා එවන වග
2. නම්. ආත්මයානන්වහන්සේ විසින්
පිරිසිදුකරනු ලැබීමෙන් කීකරුවීම
ටත්, යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
ලේ ඉසිනුලැබීමටත්, පියවූ දෙවියන්
වහන්සේගේ පෙර දැනගැනීමේ
ප්‍රකාරයට තෝරාගත් තුබලාට, කරු

2. ඔබවත් සමාදානයත් වැඩිවේවා. අ
පගේ ස්වාමිවූ ජේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ පියවූ දෙවියන්වහන්සේට
ස්තුතිවේවා. උන්වහන්සේ අන්තිම
කාලයෙහි එළිදරව්වෙන්ට සැදී
තිබෙන ගැලවීමට, තමන්වහන්සේ
ගේ බලයෙන් ඇදහිල්ල කරනකො
ටගෙන, ආරක්ෂාකරනලද්දාවූ අප
4. උදෙසා, ස්වර්ගයෙහි ප්‍රවේසම්ක
ළාවූ, නොදිරන්නාවූ, නොකිළුටුවූ,
වලානික නොවෙන්නාවූ උරුම
යෙහි ජීවමානවූ බලාපොරොත්තු
5. වට, ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
මලවූන්ගෙන් නැගිටීමෙන්, තමන්
ගේ මහත් දයාව ලෙස, අප දෙව
6. නුව උත්පාදකලසේක. ඕනෑ
ප්‍රමානයට ස්වල්ප කාලයක් බො
හෝ පරීක්ෂාවලින් තුබලා දුක් විඳින
නුමුත්, ඒ ගැලවීම බලා තුබලා ඉතා
7. ප්‍රීතියට පැමිනෙති. එසේ දුක්
විඳින්නේ, ගින්නෙන් පිරිසිදුකල
නුමුත්, නාස්තිවී යන රත්‍රනට වඩා
අගේවූ, තුබලාගේ ඇදහිල්ලෙහි
පරීක්ෂාකිරීම, ජේසුස් ක්‍රිස්තුස්වහන්
සේ එළිදරව්වෙන කාලයේ, ප්‍රසංසා
වටත් ගෞරවයටත් තේජසටත් පැ
8. මිනෙන පිනිසය. තුබලා උන්ව
හන්සේ නුදුටුවෝ නමුත්, උන්වහන්
සේට ප්‍රේමකරති. තුබලාගේ ඇද
හිල්ලේ විපාකයවූ, තුබලාගේ ප්‍රාන
9. වල ගැලවීම ලබමින්, උන්වහන්
සේ නුදුටු නුමුත්, උන්වහන්සේ කෙ
රෙහි විස්වාසකොට, සම්පූර්ණ
ලෙස උතුම්වූ, ප්‍රකාශකරන්ට නුපුළු
වන්වූ සන්තෝසයකින්, තුබලා ප්‍රීති
10. වෙති. තුබලාට පැමිනිය යුතු
කරුනාව ගැන මතු වන කාරනා කී
අනාගතවක්තෘවරු, ඒ ගැලවීම ගැන
උත්සාහයෙන් විභාගකොට, සෙව්
11. වෝය. ඔවුන් තුලෙහි විසූ ක්‍රිස්
තුස්වහන්සේගේ ආත්මය, ක්‍රිස්තුස්
වහන්සේගේ වධවිඳීම්ද, ඒ ලඟට
පැමිනෙන තේජසද, පලමුවෙන්
සාක්ෂි දුන්විට, ඒවා කවර කාරන
යක් ගැන කොයි කාලයක් ගැන
ප්‍රකාශවේදැයි කියා, ඔවුන් සෙව්
12. වෝය. තවද ස්වර්ගයෙන් එවන
ලද්දාවූ ශුද්ධාත්මයානන්වහන්සේගේ
පිහිටෙන් සුභාරංචිය තුබලාට ප්‍රකාශ
කලවූන් විසින් කියනලද කාරනා
ගැන, ඒ අනාගතවක්තෘවරු තමන්
ටම නොව අපට මෙහෙකල බව,
ඔවුන්ට එළිදරව්කරනලද්දේය; ඒ
කාරනා බලන්නට දේවදූතයෝ
පවා ඉතා කැමතිව සිටිති.

13. එබැවින් ජේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ එළිදරව්වීමේදී තුබලා
වෙතට පැමිනෙන කරුණාව උදෙසා,
තුබලාගේ සිත් නැමති තුනටි බැඳ,
සිහි ඇතුව කෙලවරදක්වා බලා සිට
14. පල්ලාය. තුබලාගේ අඥානකමේ
පලමු තෘෂ්ණා ලෙස නොහැසිර, කීක
15. රු දරුවන් මෙන්, තුබලා කැඳවූ
තැනන්වහන්සේ ශුද්ධව සිටින්නාක්
මෙන් තුබලාත් සියළු පැවැත්මෙන්
16. ශුද්ධවෙයල්ලාය. මක්නිසාද, “මම
ශුද්ධව සිටින බැවින්, තුබලාත් ශුද්ධ
වෙයල්ලායයි” ලියා තිබෙන්නේය.
17. තවද මනුෂ්‍යයන්ගේ තරම නො
බලා එක එකාගේ ක්‍රියා ලෙස විනිශ්
චයකරන තැනැන්වහන්සේට, පියා
නන්ට මෙන්, තුබලා යාඥාකරන
හෙයින්, මේ ලෝකයේදී තුබලා
විදේශීව සිටින කාලය භයින් යුක්
18. තව පසුකරපල්ලාය. කුමක්හෙ
යින්ද, තුබලාගේ පියවරුන්ගෙන් ලැ
බූ නිෂ්ප්‍රයෝජන හැසිරීම්වලින්, රන් රි
19. දී යනාදී දිරන දෙයින්නොව වැ
කරැළිවත් කැලල්වත් නැති බැටළු
පැටවෙක් වැනිවූ ක්‍රිස්තුස්වහන්
සේගේ අනඝවූ ලෙයින්, මිදීම තුබ
20. ලා ලැබූ බව දනිති. උන්වහන්
සේ මලවූන්ගෙන් නැගුටුවා මහත්
තත්වය දුන්නාවූ දෙවියන්වහන්සේ
කෙරෙහි, උන්වහන්සේ කරනකොට
ගෙන, විස්වාසකරන තුබලාගේ ඇදැ

හිල්ලත් බලාපොරොත්තුවත් දෙවියන්වහන්සේ කෙරෙහි පවතින පිනි 21. ස, ලෝකය මැවීමට පලමුවෙන් නියෝගකරනලද උන්වහන්සේ මේ අන්තිම දවස්වලදී තුබලා උදෙසා ප්‍රකාශවූනසේක.

22. වංචා නැතුව සහෝදරයන්ට සෙන්හවෙන ලෙස, ආත්මයානන්වහන්සේගේ පිහිටෙන් සැබෑකමට කීකරුවෙමින්, තුබලාගේ සිත් පිරිසිදුකලහෙයින්, ඒ පිරිසිදු සිතින් ඔවුනොවුන්ට ඉතාමත් ප්‍රේමකරපල් 23. ලාය. මක්නිසාද තුබලා කුනුවෙන්නාවූ බීජවලින් නොව, ජීවමානවූ, සදාකල් පවතින්නාවූ, දෙවියන්වහන්සේගේ වචනය නැමති කුනුනොවෙන්නාවූ බීජවලින්, දෙ 24. වනු උපන්නෝය. තවද සියළු මනුෂ්‍යයෝ තනකොල මෙන්ද, මනුෂ්‍යයන්ගේ සියළු ඓශ්වර්‍ය්‍ය තනමල් මෙන්ද වෙති. තනකොල මලානික 25. වෙයි; එහි මල්ද වැටියයි; නුමුත් ස්වාමින්වහන්සේගේ වචනය සදාකාලේටම පවතින්නේය. සුභාරංචියෙන් තුබලාට ප්‍රකාශකරනලද වචනය මේය.

2. පරිච්ඡේ. එහෙයින් සියළු දුෂ්ටකමත්, සියළු වංචාවත්, කපටකමත්, ඊර්ෂ්‍යාවත්, සියළු අගුණ කීමත් හැර 2. දමා, ස්වාමින්වහන්සේ ගුණවන්ත 3. කෙනෙකැයි දැනගත්හෙයින්, වචනය නැමති අමිශ්‍රවූ කිරෙන් තුබලා වර්ධනවෙන පිනිස, අළුත උපන් දරුවන් මෙන්, එයට ආසාවෙයල්ලා 4. ය. යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කරනාකොටගෙන, දෙවියන්වහන්සේ විසින් පිලිගත යුතුවූ, ආත්මිකවූ යාගවල් පූජාකරන පිනිස, ශුද්ධවූ පූජක සමූහයක් කොට නියමකරනලද්දාවූ 5. තුබලා, මනුෂ්‍යයන් විසින් එපාකල නුමුත් දෙවියන්වහන්සේ විසින් තෝරාගන්නාලද්දාවූ, අනර්ඝවූ, ජීවමානවූ ගලක් වැනිවූ උන්වහන්සේ වෙතට පැමින, ජීවමාන ගල් වශයෙන්, ආත්මික දේවමාලිගාවක් 6. කොට ඉදිකරනලද්දෝය. ඒ හැවියට ලියවිල්ලේ ලියා තිබෙන්නේය; කෙසේද, "මම සියොන්හි තෝරාගත්, අනර්ඝවූ, කොනේ ප්‍රධාන ගලක් තබමි; උන්වහන්සේ කෙරෙහි විශ්වාසකරන්නා ලැජ්ජාවට නොපැමි 7. නෙන්නේය." එහෙයින් විශ්වාසකරන තුබලාට උන්වහන්සේ අනර්ඝය; නුමුත්, "ගෙවල් සාදන්නන් විසින් එපාකල ගල කොනේ ප්‍රධාන 8. ගලක් කරනලදුව," "පැකිලීමේ ගලක් හා බාධාවේ පර්වතයක් කොට," අකීකරුවූවන්ට කරනු ලැබේ. ඔවුන් වචනයට අකීකරුව, පැකිලෙති; එයට ඔවුන් නියමකරනලද් 9. දෝය. නුමුත් අන්ධකාරයෙන් තමන්ගේ තේජවන්ත ආලෝකයට තුබලා කැඳවාගත් තැනන්වහන්සේගේ ගුණවන්තකම් ප්‍රකාශකරන පිනිස, තුබලා තෝරාගත් වංශයක්ද, රාජනීය පූජක සමූහයක්ද, පිරිසිදුවූ ජාතියක්ද, දෙවියන්වහන්සේ සන්තක සෙනඟක්ද වෙති. 10. පලමු කාලයේ තුබලා සෙනඟක සිටියේ නැත; නුමුත් දැන් දෙවියන්වහන්සේගේ සෙනඟක්ව සිටිති. දයාව ලැබුවේ නැත; නුමුත් දැන් දයාව ලැබුවෝය.

11. ප්‍රිය තැනැත්තෙනි, විදේසීන් මෙන්ද, වන්දනාකාරයන් මෙන්ද ආත්මයට විරුද්ධව යුද්ධකරන මාංසිකවූ තිෂ්ණාවලින් වැලකී සිටින 12. ලෙස, තුබලාගෙන් ඉල්ලමි. අන්‍යජාතිහු තුබලා නපුර කරන්නන් කොට තුබලාට විරුද්ධව කථාකරන නුමුත්, ඔවුන් තුබලාගේ හොඳ ක්‍රියාවල් දැක, විභාගකරන දවසේදී දෙවියන්වහන්සේට ප්‍රසංසාකරන්ට පුළුවන්වෙන පිනිස, ඔවුන් අතරේ යුතු 13. ලෙස කල් යවාපල්ලාය. මනුෂ්‍ය

අධිපතියන්ට, එනම් උතුම් රජ්ජුරු
14. වන්ටත්, නපුරුකම් කරන්නන්
ට අඬුවකරන පිණිසද, යහපත්කම්
කරන්නන්ගේ ප්‍රසංසාව පිණිසද,
රජ්ජුරුවන් විසින් නියමකල ආඥා
රනින්ටත්, ස්වාමින්වහන්සේ උදෙසා
15. යටත්වෙයල්ලාය. මෙසේ තුබ
ලා විසින් හොඳ ක්‍රියා කිරීමෙන්,
මෝඩයන්ගේ අඥාන කථා වැලැක්
වීමට, දෙවියන්වහන්සේ කැමතිසේ
16. ක. නිදහසව සිටිනනාවූ තුබලා,
නපුරුකම් කිරීමට මුවාවක්කොට
නොව, දෙවියන්වහන්සේගේ වැඩ
කාරයින්ට සුදුසු ලෙස, තුබලාගේ
17. නිදහස්කම පවත්වාපල්ලාය. සි
යල්ලන්ටම ගෞරවකරපල්ලාය; ස
හෝදර සමාගමට ප්‍රේමකරපල්ලාය;
දෙවියන්වහන්සේට භයවෙයල්ලාය;
රජ්ජුරුවන්ට ගෞරවකරපල්ලාය.

18. වාළුනි, යහපත්වූ ගුණවන්ත
වූවන්ට පමනක් නොව, සැරකරන්
නාවූ තුබලාගේ ස්වාමිවරුන්ට, සිය
ළු යටත්කමෙන් කීකරුවෙයල්ලාය.
19. යමෙක් දෙවියන්වහන්සේ කෙ
රෙහි හෘදසාක්ෂිය උදෙසා අයුතු
ලෙස වෙහෙස විඳිමින් දුක් ඉවසන්
20. නේනම්, ඒක ප්‍රසංසනීය වේ. තු
බලාගේ වරද ගැන පහර ලබන
කල ඉවසිල්ලෙන් වින්දොත්, මොන
ප්‍රසංසාවක්ද? තුමුත් යහපත්කම්
කරනකල ඒ ගැන දුක් විඳ ඉවසු
වොත්, ඒක දෙවියන්වහන්සේ කෙ
රෙහි ප්‍රසංසනීය වේ; ඇරත් එයට
21. තුබලා කැඳවනු ලැබූවෝය. මක්
නිසාද තුබලා උන්වහන්සේගේ අඩි
පාරේ ඇවිදින පිනිස, ක්‍රිස්තුස්වහන්
සේ අපට ආදර්ශයක් දෙමින්, අප
22. උදෙසා වධ වින්දසේක. උන්ව
හන්සේ කිසි පවක් නොකලසේක;
උන්වහන්සේගේ මුඛයෙහි වචාවක්
23. තුවූයේය. උන්වහන්සේ නින්ද
කරනු ලැබූකල, ඊට නින්ද නොක
ලසේක; දුක් විඳිනකල, සැරනො

කලසේක; යුතු ලෙස විනිශ්චයක
රන තැනැන්වහන්සේට තමන්ගේ
24. යුක්තිය බාරදුන්සේක. අපි පාප
යට නැසී ධර්මිෂ්ඨකමට ජීවත්වෙන
පිනිස, උන්වහන්සේම තමන් ශරීර
යෙන් ගස පිට අපේ පාපවල් ඉසුළු
සේක; "උන්වහන්සේගේ පහරව
ලින් තුබලා සුවකරනු ලැබූවෝය."
25. තුබලා මංමුලාව ගිය බැටළුවන්
මෙන් සිටියෝය; තුමුත් දැන් තුබලා
ගේ ප්‍රානවල බැටළු එඬේරාද නාය
කයාද වෙතට හැරුනෝය.

3. පරිච්ඡේ. එසේම භාර්යාවෙනි,
තුබලාගේ පුරුෂයන්ගෙන් කිසි
වෙක් වචනයට කීකරු නොවීනම්,
2. තුබලාගේ යටහත්වූ යහපත් හැ
සිරීම ඔවුන් දුටුකල, වචනය නැතිව
තුබලාගේ හැසිරීමෙන් ඔවුහුත් හර
වාගන්නා ලෙස, ඔවුන්ට කීකරුවෙ
3. යල්ලාය. තුබලාගේ අලංකාරවීම
ඉසකෙස් ගෙතීමෙන්ද, රත්‍රන් පැල
ඳීමෙන්ද, වස්ත්‍ර හැඳීමෙන්ද කරන්
4. නාවූ පිටත අලංකාරය නොව, හෘ
දයෙහි ඇතුලතවූ මනුෂ්‍යයාගේ
අලංකාරය, එනම් දෙවියන්වහන්සේ
ඉදිරිපිට ඉතා අනර්ඝවූ මුදුවූ සමාදානවූ
හිතේ නොදිරන අලංකාරය, වේවා.
5. පලමු කාලයෙහි දෙවියන්වහන්
සේ කෙරේ බලාපොරොත්තුවූ සුබ
ස්ත්‍රියොත්, තමුන්ගේ පුරුෂයන්ට
යටත්ව, මෙලෙස අලංකාරවූනෝය.
6. මෙසේ සාරා ආබ්‍රහම්ට, ස්වාමියයි
කියා, කීකරුවූනාය. තුබලාත් කිසි
වකට භය නොව යහපත්කම් කරන්
7. නම්, සාරාගේ දූවරු වෙති. එසේ
ම පුරුෂයෙනි, තුබලා භාර්යාවන්
සමග ජීවිතයෙහි කරුනාවේ උරු
මක්කාරයෝවූ බැවින්, තුබලාගේ
යාඥාවල් නොනවතින පිනිස, දුර්වල
භාජනයට සමානවූ භාර්යාවට ගෞ
රවකොට, නුවනින් වාසයකරපල්
ලාය.

8. තවද නුබලා සියල්ලෝම එක්
සිත්ව, ඔවුනොවුන්ගේ දුකේ සැපේ
බැඳී, සහෝදර සෙනේහයෙන් යුක්ත
ව, අනුකම්පා ඇතුව, මිත්‍රකමින්
9. වාසයකරපල්ලාය. නුබලා ආශීර්වා
දයෙහි උරුමක්කාරයෝ වෙන පිනි
ස කැඳවූ බව දැන, නපුරට සහ නින්
දාවටද ආශීර්වාදය මිස, නපුරවත්
නින්දාවවත් සිලව් නොකරල්ලාය.
10. "ජීවිතයට ඇළුම්ව යහපත්
දවස් දකිමට කැමතිවූ තැනැත්තෝ,
තමාගේ දිව නපුරෙන්ද, තමාගේ
තොල් වංචා කථාවෙන්ද වලක්වා
11. ගෙන, නපුරෙන් දුරුව යහපත්
කම්කොට, සමගිතාව සොයමින්
12. ඒක පස්සේ යේවා. මක්නිසාද
ස්වාමින්වහන්සේගේ ඇස් ධර්මිෂ්ට
යන් කෙරෙහිය; උන්වහන්සේගේ
කන් ඔවුන්ගේ යාඥාවලට යොමුකර
තිබෙයි. උන්වහන්සේගේ මූහුන
නපුරු ක්‍රියා කරන්නන්ට විරුඬව
13. පවතින්නේය." නුබලා යහපත්
දෙය උවත්වතොත්, නුබලාට නපුර
14. කරන්නේ කවුද? නුමුත් නුබලා
ධර්මිෂ්ටකම උදෙසා පීඩා විඳිතොත්,
වාසනාවන්තයෝය. "ඔවුන් නුබලා
භයගන්වන දේට භයවෙන්ටවත්,
15. වියවුල්වෙන්ටවත් එපාය. නුමුත්
ස්වාමිවූ දෙවියන්වහන්සේ පිරිසිදු
වශයෙන් නුබලාගේ සිත්වල තබා
ගනිල්ලාය." තවද නුබලාට ඇත්තා
වූ බලාපොරොත්තුව ගැන, නුබලා
ගෙන් අහන සියල්ලන්ට සිහියෙන්ද
මෘදුකමෙන්ද උත්තර දෙන්ට නිතර
16. සැදී සිටපල්ලාය. දුෂ්ටකම් කර
නෙනෝයයි නුබලා ගැන අගුණ කි
මෙන්, ක්‍රිස්තුස්වහන්සේ කෙරෙහි
නුබලාගේ යහපත් හැසිරීමට දෝෂ
පමුනුවන්නන් ලැජ්ජාවෙන පිනිස,
යහපත් හෘදසාක්ෂියෙන් යුක්තව සිට
17. පල්ලාය. ඇරත් නුබලා දුක්
විඳිනවාට දෙවියන්වහන්සේ කැමති
සේක්නම්, අයහපත් ක්‍රියාවල් නිසා
නොව, යහපත් ක්‍රියාවල් නිසා දුක්
විඳිම යහපත.

18. එලෙසම දෙවියන්වහන්සේ
ලඟට අප ගෙනෙන පිනිස, ධර්මිෂ්ට
වූ ක්‍රිස්තුස්වහන්සේම අධර්මිෂ්ටයන්
වෙනුවට, පාපයගැන වරක් වධවින්
දසේක. උන්වහන්සේ ශරීරයෙන්
මරනු ලැබ, ආත්මයානන්වහන්සේ
කරනකොටගෙන ජීවත්වනු ලැබූ
19. සේක. එම ආත්මයානන්වහන්
සේ කරනකොටගෙන, උන්වහන්සේ
20. ගොස්, නෝවාගේ දවස්වල
නැව සාදනතුරු දෙවියන්වහන්සේ
ඉවසීමෙන් බලා සිටි කාලයෙහි අකී
කරුව සිරගෙයි සිටි ආත්මවලට දේ
සනාකලසේක. ඒ නැවේ සිටිය ස්වල්
පය, එනම් අටදෙන, වතුරෙන් ගැල
21. වුනෝය. ඊට ආදෘශයක් වැනිවූ
බව්තීස්මයෙන්, ඒනම් ශරීරයෙහි
අපවිත්‍රකම පහකිරීමෙන් නොව දෙ
වියන්වහන්සේ කෙරෙහි යහපත්
හෘදසාක්ෂියෙන්, යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේගේ මලවුන්ගෙන් නැගිටීම
කරනකොටගෙන, දැනුත් අපි ගැල
22. වෙමුව. උන්වහන්සේ ස්වර්ගයට
ගොස්, දෙවියන්වහන්සේගේ දකුනු
පැත්තේ සිටිනසේක; දේවදූතයෝ
ද, ශ්‍රේෂ්ඨයෝද, බලවන්තයෝද,
උන්වහන්සේට යටත්කරනලද්දෝ
වෙති.

4. පරිච්ඡේ. ක්‍රිස්තුස්වහන්සේ
ශරීරයෙන් අප උදෙසා වධ වින්ද
බැවින්, නුබලාත් එබඳු සිතින් සැර
2. සියල්ලාය. මක්නිසාද ශරීරයෙන්
වධ වින්ද තැනැත්තේ, තමන්ට ඉති
රිව තිබෙන ආයුෂයේදී, තවත් මනු
ෂ්‍යයන්ගේ ආශාවල් ලෙස නොව,
දෙවියන්වහන්සේගේ කැමැත්ත ලෙ
ස, ජීවත්වෙන්ට පුළුවන්වෙන පිනි
3. ස, පාපයෙන් වැලකුනේය. කාම
යෙහිද, ආශාවෙහිද, බොහෝකොට
සුරාපානයෙහිද, සෙල්ලම් කිරීමෙ

හිද, කෑම බීමෙහිද, දේවතාවුන්
කෙරෙහි පවත්වන පිළිකුල්වූ ඇද
හීමෙහිද හැසිර, අන්‍යජාතීන්ගේ
කැමැත්ත කරමින්, අපේ ජීවිතයෙ
හි පසුගියාවූ කාලය අපට ඉතා
4. ඇත. දැන් නුඹලා ඔවුන් සමග
එම අනාචාර දේ කිරීමට නොයන
බැවින් ඔවුන් පුදුමව, නුඹලාගේ
5. අගුණ කියති; ඔවුන් ජීවත්වෙන
නන්ද මලවුන්ද විනිශ්චයකරන්ට
සැදී සිටින තැනන්වහන්සේට ගනන්
6. දෙනවා ඇත. තවද මේ නිසා,
මලාහු මනුෂ්‍යකාරයෙන් මාංසයේදී
විනිශ්චයකරනු ලැබූ නමුත්, දේවා
කාරයෙන් ආත්මයෙහි ජීවත්වෙන
පිනිස, ඔවුන්ට සුභාරංචිය ප්‍රකාශක
7. රනලද්දේය. නුමුත් සියළු දේවල
ම කෙලවර ලන්වූ බැවින්, හොඳ
සිහියෙන් යුක්තව, යාඥාවීමට පිබිද
8. හිඳිල්ලාය. ඇරත් ප්‍රේමය බො
හෝ පාපවල් වසාගන්නා බැවින්,
සියළු දේටම වඩා නුඹලා ඔවුනො
9. වුන්ට ඉතා ප්‍රේමවෙයල්ලාය. ලෝ
භ නැතුව ඔවුනොවුන්ට ආගන්තුක
10. සත්කාර කරපල්ලාය. දෙවියන්
වහන්සේගේ නානාප්‍රකාර කරුනා
වෙහි යහපත් ගබඩාකාරයන් මෙන්,
එක එකා තෑගි ලැබූ ලෙස එයින්
ඔවුනොවුන්ට උපකාර කෙරෙත්වා.
11. යේසුස් ක්‍රිස්තුස්වහන්සේ කරණ
කොටගෙන සියළු කාරනාවලින්
දෙවියන්වහන්සේ ගෞරවයට පැමි
නෙන පිනිස, කථාකරන තැනැත්
තේ දෙවියන්වහන්සේගේ වචනය
ලෙස කථාකෙරේවා; සේවය කරන
තැනැත්තේ, දෙවියන්වහන්සේ වි
සින් දුන් සමර්ථකම ලෙස සේවය
කෙරේවා; එම යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේට සදාකාලේටම ප්‍රසංසාවද
පරාක්‍රමයද වේ. ආමෙන්.

12. ප්‍රේමවන්තයෙනි, නුඹලා පරී
ක්ෂාකිරීම පිනිස තිබෙන ගිනි වැනිවූ
පරීක්ෂාව ගැන, යම් අපූර්වවූ කාරනා
වක් නුඹලාට පැමිනුනාක්මෙන් පුදු
13. ම නොවෙල්ලාය. නුමුත් ක්‍රිස්
තුස්වහන්සේගේ තේජවන්තකම
එළිදරව්වෙනකල ඉතා මහත් ප්‍රීතිය
කින් නුඹලා සතුටුවෙන පිනිස, උන්
වහන්සේගේ වධවිඳීමෙහි නුඹලාත්
පංගුකාරයෝ බැවින්, සතුටුවෙයල්
14. ලාය. නුඹලා ක්‍රිස්තුස්වහන්සේ
ගේ නාමය උදෙසා නින්දාකරනු ල
බතොත්, වාසනාවන්තයෝය. මක්
නිසාද තේජවන්තකමෙහි දෙවියන්
වහන්සේගේ ආත්මය නුඹලා කෙ
රෙහි පවතින්නේය; ඔවුන් විසින්
උන්වහන්සේ අපහාසකරනු ලබන
සේක; නුමුත් නුඹලා විසින් ගෞරව
15. කරනු ලබනසේක. නුඹලාගෙන්
කිසිවෙක් මිනීමරන්නෙක් මෙන්
වත්, සොරෙක් මෙන්වත්, නපුරු
ක්‍රියා කරන්නෙක් මෙන්වත්, අනුන්
ගේ කාරනා බලා ඇවිදින්නෙක්
16. මෙන්වත්, අව්වූ නොවිඳීවා. නු
මුත් ක්‍රිස්තියානිකාරයෙක් මෙන්
කිසිවෙක් අව්වූ විඳිතොත්, ඔහු
ලැජ්ජා නොව, මේ කාරනාව නිසා
දෙවියන්වහන්සේට ප්‍රසංසා කෙරේ
17. වා. දෙවියන්වහන්සේගේ පව්ලේ
විනිශ්චය පටන්ගන යුතු කාලය
පැමිනුනේය; විනිශ්චය අප ලග සිට
පටන්ගත්තොත්, දෙවියන්වහන්සේ
ගේ සුභාරංචියට අකීකරු වෙන්න
18. වුන්ගේ අන්තිමය මක්වේද? ධ
ර්මිෂ්ඨයෝ අමාරුවෙන් ගලවනු ලබ
තොත්, දේවභක්ති නැත්තොත්
පව්කාරයොත් කොතන පෙනෙද්
19. ද? එබැවින් දෙවියන්වහන්සේ
ගේ කැමැත්ත ලෙස පීඩා විඳිනොත්,
විශ්වාස මැවුම්කාරවූ උන්වහන්සේට,
යහපත්කම් කිරීමෙන් තමන්ගේ
ප්‍රානවල් භාරදෙත්වා.

5. පරිච්ඡේ. වැඩිමහල්ලෙන්ද,
ක්‍රිස්තුස්වහන්සේගේ වධවිඳීමේ සා
ක්ෂිකාරයෙක්ද, මතු එළිදරව්විය

ශුතුවූ මහත්තත්වයෙහි පංගුකාර
යෙක්ද, වන මම නුඹලා අතරෙහි
වැඩිමහල්ලන්ට අවවාද කෙරෙමි.
2. බලාත්කාරයක් නිසා නොව
කැමැත්තෙන්, කිළුටු වස්තුව උදෙ
සා නොව යහපත් සිතින්, නුඹලා
අතරෙහි දෙවියන්වහන්සේගේ රැල
3. බලාගන ප්‍රවේසම්කරපල්ලාය. ත
වද දෙවියන්වහන්සේගේ උරුමය
ආඩුකරන්නන් වශයෙන් නොව
4. රැලට ආදර්ශව සිටපල්ලාය. එවිට
ප්‍රධානවූ එඬේරා ප්‍රකාශවූකල, නුඹ
ලා තේජසෙහි මලානික නොවෙන්
5. නාවූ ඔටුන්න ලබනවා ඇත. එ
සේම යෞවනයෙනි, වැඩිමහල්ලන්
ට යටත්වෙයල්ලාය. දෙවියන්වහන්
සේ උඩඟු තැනැත්තන්ට විරුද්ධව
සිටින බැවින්ද, උඩඟු නැති තැනැ
ත්තන්ට කරුණා කරන බැවින්ද,
නුඹලා සියල්ලෝම උඩඟු නැතිකම
පැලඳගෙන, ඔවුනොවුන්ට යටත්
6. වෙයල්ලාය. දෙවියන්වහන්සේ
විසින් සුදුසු කලට නුඹලා උසස්කර
න පිණිස, උන්වහන්සේගේ බලවත්
7. අතට යටත්වෙයල්ලාය. උන්ව
හන්සේ නුඹලා සලකන බැවින්,
නුඹලාගේ සියළු කනගාටු උන්වහන්
8. සේ කෙරෙහි තබාපල්ලාය. නුඹ
ලාගේ සතුරුවූ යක්ෂයා, ගොරවන
සිංහයෙක් මෙන්, කවරකු ගිලින්ට
දෙයි සොයමින් ඇවිදින බැවින්,
සිහි ඇතුව සිට පිබිද හිඳිල්ලාය.
9. ලෝකයෙහි සිටින නුඹලාගේ
සහෝදර සමූහයා අතරෙහි එම දුක්
විඳීම සම්පූර්ණයෙන් සිද්ධවෙන
බව දැන, ඇදහිල්ලෙහි ස්ථිරව සිට,
10. යක්ෂයාට විරුද්ධව සිටපල්ලාය. ක්‍රි
ස්තුස් යේසුස්වහන්සේ කරනකොට
ගෙන තමන්ගේ සදාකාල තේජසට
අප කැඳවූ, සියළු කාරනාවෙහි දෙවි
යන්වහන්සේ, නුඹලා ටික වේලා
වක් වධවින්දසින් පසු, නුඹලා සම්
පූර්ණ ලෙස පිරිසිදුකොටද, ස්ථිර
කොටද, බලවත්කොටද, පිහිටුවන
11. සේක්වා; උන්වහන්සේට මහිම
තාවයත් පරාක්‍රමයත් සදාකාලේටම
වේවා. ආමෙන්.

12. නුඹලා පිහිටා සිටින මේ කරු
ණාව දෙවියන්වහන්සේගේ සැබෑවූ
කරුණාවයයි සාක්ෂිදෙමින්, නුඹලාට
අවවාදකරමින්, විශ්වාස කෙනෙකැ
යි මට හිතෙන සිල්වානස්නම් සහෝ
දරයා අත එහුබෙන් ලියා එව්මි.
13. නුඹලා සමග තෝරාගත් බබි
ලෝනියෙහි සිටින සභාවද, මාගේ
පුත්‍රවූ මාක්ද, නුඹලාට ආචාර කෙ
14. රෙති. ප්‍රේමවූ සිඹීමකින් ඔවු
නොවුන්ට ආචාරකරපල්ලාය. ක්‍රිස්
තුස් යේසුස්වහන්සේ කෙරෙහි පව
තින නුඹලා සියල්ලන් සමග සමා
දානය වේවා. ආමෙන්.



# ප්‍රේරිතවූ පේතෘස් විසින්
# ලියනලද දෙවෙනි සාමාන්‍ය පත්‍රය.



1. පරිච්ඡේදය. යේසුස් ක්‍රිස්තුස්
වහන්සේගේ මෙහෙකරුවෙක්ද ප්‍රේ
රිතයෙක්දවූ සීමොන් පේතෘස්නම්වූ
මා විසින්, අපේ දෙවිවූ ගැලවුම්කා
රවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
ධර්මිෂ්ඨකමෙන් අනඝවූ ඇදහිල්ල
2. අප සේම ලැබූවන්ට, දෙවියන්ව
හන්සේ ගැනත් අපගේ ස්වාමිවූ
යේසුස්වහන්සේ ගැනත් දැනගැනී
මෙන්, කරුණාවත් සමාදානයත් වැඩි
වෙන ලෙස, ලියා එවන වගනම්.
3. තේජසටත් සත්පුරුෂකමටත් අප
කැඳවූ තැනැත්වහන්සේ ගැන දැන
ගැන්ම කරනකොටගෙන, තමන්
ගේ දේව බලයෙන් ජීවිතයටත් දේ
වභක්තියටත්, සුදුසුවූ සියළු දේ
4. අපට දෙනලද්දේය. තෘෂ්ණාව
නිසා ලෝකයේ තිබෙන කිළුටුක
මෙන් තුබලා මිදීම ලැබ, දේව ස්ව
භාවට පංගුකාරයෝ වෙන පිනිස,
ඉතා මහත් අනඝවූ පොරොන්දුවල්
5. අපට දෙනලද්දේය. තුබලාත්
මේ ගැන සියළු උත්සාහය පවත්ව
මින්, තුබලාගේ ඇදහිල්ලට ධෛර්‍ය
6. යත්, ධෛර්‍යයට දැනගැනීමත්, දැ
නගැනීමට පමන දැනීමත්, පමන
7. දැනීමට ඉවසීමත්, ඉවසීමට දේව
භක්තියත්, දේවභක්තියට සහෝ
දර ස්නේහයත්, සහෝදර ස්නේහයට
8. ප්‍රේමයත්, එකතුකරපල්ලාය. මේ
දේ තුබලා කෙරෙහි තිබී අධිකවශ
යෙන් පවතිනම්, අපගේ ස්වාමිවූ
යේසුස් ක්‍රිස්තුස්වහන්සේ ගැන දැන
ගැනීමෙහි කම්මැලි බවටවත්, අඵල
9. බවටවත්, නොපැමිණෙති. තුමූත්
මේ දේ නැති තැනැත්තේ අන්ධව,
දුර දක්නට නොහැකිව, තමා විසින්
කරනලද පව්වලින් පවිත්‍රකරනු
10. ලැබූ බව සිහිනැති කලෝය. එ
බැවින් සහෝදරයෙනි, තුබලාගේ
කැඳවීමද තෝරාගැනීමද ස්ථිරකරන
පිනිස, ඉතා විශේෂකරපල්ලාය; මෙ
සේ කලොත්, තුබලා කිසි කලෙ
11. කත් පසුබට නොවෙති. තවද
අපගේ ස්වාමිවූද, ගැලවුම්කාරවූද,
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ සදාකා
ලවූ රාජ්‍යයට පහසුවෙන්ම ඇතුල්
වීම තුබලාට ලැබෙනවා ඇත.

12. එබැවින් තුබලා මේ දේ දැන
ගත් තුමූත්, දැනට පවතින සැබෑක
මෙහි ස්ථිරව සිටින තුමූත්, තුබලාට
මේ දේ නිතර සිහිනොකරවා නො
13. සිටිමි. තවද අපගේ ස්වාමිවූ යේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ මට පෙන්වූ
ලෙසම, මාගේ මේ කූඩාරමෙන් ඉක්
මනින් අහක්වෙන්ට ඕනෑ බව දැන,
14. මේ කූඩාරමෙහි සිටිනතුරු, සිහි
කරවීමෙන් තුබලා පුබුදුවන්ට සුදුසු
15. යයි සිතමි. ඇරත් මාගේ ඇවෑ
මෙන් තුබලාට මේ දේ නිතර සිහි
වෙන්ට පුළුවන්වෙන පිනිස, උත්සා
16. හකරන්නෙමි. මක්නිසාද අප
ගේ ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ පරාක්‍රමයත් ඊමත් අපි තුබ
ලාට දැන්වූකල, උන්වහන්සේගේ
මහත්තත්වය ඇසින් දැකලා මිස,
ප්‍රයෝගයෙන් යොදනලද ප්‍රබන්ධ
17. කථාවල් කියාදුනෙන් නැත. මක්
නිසාද, "මේ මාගේ ප්‍රිය පුත්‍රයාය;
මොහු කෙරේ බොහෝකොට සතුටුවූ
වෙමියි" යන ශබ්දයක් උතුම්වූ තේ
ජසෙන් උන්වහන්සේ කරා පැමිනි
කල්හි, පියවූ දෙවියන්වහන්සේ
ගෙන් ගෞරවයත් තේජසත් උන්ව
18. හන්සේ ලැබූසේක. උන්වහන්
සේ සමග අපි සුධවූ පර්වතයෙහි සිටිද්
දී, ස්වර්ගයෙන් ආවාවූ මේ ශබ්දය
19. ඇසීමුව. තවද ඉතා ස්ථිරවූ අනා

ගත වචනයකුත් අපට ඇත. දවසල
පැමින පහන්තාරකාව තුබලාගේ
හෘද තුලෙහි පායනතුරු, අඳුරු තැන
ක බබලන එලියක් මෙන් ඒ වචනය
මනාකොට සැලකුවොත්, තුබලා
20. යහපතක් කෙරෙති. සුබ ලියවි
ල්ලෙහි කිසි අනාගත වචනයක්
මනුෂ්‍යයෙකුගේ අභිප්‍රාවෙන් හටග
ත්තේ නැතැයි, පලමුකොට දන
21. ගත යුත්තේය. මක්නිසාද පූර්
කාලයෙහි අනාගත වචනය මනුෂ්‍ය
යන්ගේ කැමැත්තෙන් කියනු නො
ලැබුයේය; දෙවියන්වහන්සේගේ
සුබවූ මනුෂ්‍යයෝ සුබාත්මයානන්ව
හන්සේ නියමකල ලෙසම කීවෝය.

2. පරිච්ඡේ. සෙනග අතරේ බොරු
අනාගතවක්තෘවරු සිටියෝය. එලෙ
සම විනාශයට පමුනුවන ද්‍රෝහි භේද
වල් තුබලා අතරම ගෙනෙන්නාවූ,
තමන් මුදවාගත් ස්වාමින්වහන්සේ
පහකොට තමන් පිටට කඩිනමින්
විනාශය පමුනුවාගන්නාවූ, බොරු
උගන්වන්නෝ තුබලා අතරෙත්
2. සිටිනවා ඇත. ඔවුන්ගේ විනාස
වෙන මාර්ගවල බොහෝ දෙනෙක්
යනවා ඇත; ඔවුන් නිසා සැබෑක
මෙහි මාර්ගය නින්දාකරනු ලබන්
3. නේය. ලෝභකම නිසා ඔවුන්
වංචා වචනවලින් තුබලා වෙලඳාම්
කරති. බොහෝ කලක පටන් ප්‍රකා
ශවූ ඔවුන්ගේ විනිශ්චය ප්‍රමාද නො
වේ; ඔවුන්ගේ විනාසයද නිදා නො
වැටේ.

4. තවද පව්කල දූතයන්ට දෙවි
යන්වහන්සේ අනුකම්පා නොකොට,
ඔවුන් නිරයෙහි හෙළා, විනිශ්චය
දවස වෙනතුරු ප්‍රවේසම්වීමට අන්ධ
කාරයේ විලංගුවලට පාවාදුන්සේක.
5. ඇරත් උන්වහන්සේ පුරාන ලෝ
කයට අනුකම්පා නොකොට, ධර්මි
ෂ්ඨකමෙහි දේසනාකාරයෙක්වූ නෝ
වා: තවත් සත්දෙනෙක් සමග ගල
වාගන, අධර්මිෂ්ඨවූ ලෝකය පිටට
6. වතුර ගැල්ම එවූසේක. තවද
උන්වහන්සේ සොදොම් හා ගොමොරා
දෙනුවර අළුකොට, මතු දේවභක්ති
නැත්තන් ලෙස ජීවත්වෙන්නන්ට
ආදර්සයක්කොට, ඔවුන්ට අච්චු දෙ
7. මින් විනාසකොට, දුෂ්ටයන්ගේ
අපවිත්‍රවූ හැසිරීම නිසා කනගාටුවූ
නාවූ, ධර්මිෂ්ඨවූ ලොත් ගැලවූසේක.
8. ඒ ධර්මිෂ්ඨයා ඔවුන් අතරෙහි වස
මින්, ඔවුන්ගේ නුසුදුසු ක්‍රියාවල්
දවසින් දවස දකිමෙ[illegible] ඇසීමෙ
නුත්, තමන්ගේ ධර්මිෂ්ඨවූ සිතට
9. දුක් පැමිනුනේය. එබැවින් දේව
භක්තීන් පරීක්ෂාවලින් ගලවන්ටත්,
අනාචාරවූ, කාම තෘෂ්ණාවෙන් හැසි
රෙන්නාවූ, ආඥවට නින්දාකරන්නා
වූ අයවල් ප්‍රධානකොට අධර්මිෂ්ඨ
යන් දඬුවම්ලැබීම පිනිස, විනිශ්ච
යෙහි දවස දක්වා ප්‍රවේසම්කරන්
ටත්, ස්වාමීන්වහන්සේ දන්නාසේක.
10. මොවුන් අකීකරුවූ, හිතුවක්
කාරවූ, උතුමයින්ට නින්දාකරන්ට
11. භය නැත්තාවූ අයවල්ය. නුමුත්
බලපරාක්‍රමයෙන් උතුම්වූ දූතයෝ
වත්, ස්වාමින්වහන්සේ ඉදිරියෙහි
උත්තමයන්ට විරුඬව නින්දිත වැ
12. රදි නොතබති. මොවුන්, අල්වා
නාස්තිකරනු ලබන්ට උපන් නුවන
නැති වඩ මෘගයන් මෙන්, තේරුම්
නැති දේ ගැන නපුරු කථාකරමින්,
අධර්මිෂ්ඨකමේ විපාක ලැබ, තමන්
ගේම අපවිත්‍රකමෙහි සම්පූර්ණ
13. යෙන්ම විනාසවෙති. මොවුන්
දවල් පවා කාමාශ්‍රය සෙල්ලමට
සතුටුවෙති. ඔවුන් තුබලා සමග
මගුල් කෑම කනකල, ඔවුන්ගේ
වංචා ප්‍රයෝගයෙන් සැප ලැබ, කැ
ලල් හා දෝස ඇත්තෝ වෙති.
14. ඔවුන් පාපයෙන් නොවලකින
පරදාරයෙන් පිරුනු ඇස් ඇතිව,
ස්ථිර සිත් නැත්තන් රවටමින්, ලෝ
භවූ ක්‍රියාවලට කැමති සිත් ඇති

සාපයට පත්කරනුලැබූවෝ වෙති.
15. ඔවුන් හරි මාර්ගය අත්හැර,
බොසොර්ගේ පුත්වූ බාලම්ගේ අඩි
16. පාරේ ගොස් මුලාවූවෝය. ඒ බා
ලම් අධර්මිෂ්ඨකමේ කුලියට ආසාවී,
තමාගේ වාහනයවූ, තමාගේ ගොළු
කොටළුවා මනුෂ්‍ය හඬින් කථාකො
ට, අනාගතවක්තෘහුගේ අඥානකමට
තරවටුකලවිට, ඔහුගේ දුෂ්ටකම
නිසා අවවාද ලැබූයේය.

17. ඔවුන් වතුර නැති ලිංය;
තද සුලඟින් ගෙනයන වලාපටල
යෝය; ඔවුන්ට ඝනාන්ධකාරය සදා
18. කාලේටම තබා තිබෙනෙන්ය. ඔ
වුන් ගාම්භීරවූ නිෂ්ඵලවූ වචන කථා
කරමින්, මුලාවූවන්ගෙන් සියළු ආ
කාරයෙන්ම මිදී සිටින්නන් මාංසික
ආසාවලිනුත් කාම විකාරයෙනුත්
19. රවටති. වෙන අයට නිවාල්කම
දෙන්ට පොරොන්දුවෙන අතර,
ඔවුන් අපිරිසිදුකමට වාල්ව සිටිති.
මක්නිසාද යමෙක් යම් දෙයකින්
පරාදවූනොත්, ඔහු ඊට වාල්ව සිටි
20. නෙන්ය. ස්වාමිවූ, ගැල
වුම්කාරවූ, යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ. දැනගැනීමෙන් ලෝකයෙහි අශු
ඩකමින් මිදුනු තැනැත්තෝ, නැව
ත ඊට අසුවී පැරදුනොත්, ඔවුන්ගේ
පටන්ගැන්මට වඩා කෙලවර නපුරු
21. වේ. ඔවුන් ධර්මිෂ්ඨකමේ මාර්ග
ය දැනගත් පසු, ඔවුන්ට බාරවුනු,
සුඩවූ ආඥාවෙන් වෙන්වීමට වඩා ඒ
මාර්ගය දැනනොගැනීම යහපත.
22. බල්ලා තමාගේ වමනයටද, සෝ
දනලද ඌරා මඩේ පෙරලීමටද හැරී
ගියේයයි, යන සැබෑවූ උපමාව ඔ
වුන්ට වැටෙන්නේය.

3. පරිච්ඡේ. ප්‍රේමවන්තයෙනි, මම
මේ දෙවෙනි ලියමන නුඹලාට ලිය
2. මි; මේ ලිවුම් දෙකෙන් පිරිසිදුවූ
අනාගතවක්තෘන් විසින් පලමුවෙන්
කියනලද වචනද, ස්වාමිවූ ගැලවුම්
කාරයානන්වහන්සේගේ ප්‍රේරිතවූ
අපේ ආඥාවද, නුඹලාට මතක්වෙන
පිනිස, නුඹලාට සිහිකරවමින්, නුඹ
ලාගේ පවිත්‍රවූ සිත් පුබුදුකරමි.
3. අන්තිම දවස්වලදී තමන්ගේ
4. තෘෂ්ණා ලෙස හැසිරෙන්නාවූද, පි
යවරු මැරුනු පසු මැව්මේ පටන්
ගැම්මේ සිට සියළු දේ තිබුනාක්
මෙන් පවතින බැවින්, උන්වහන්
සේගේ ඊමෙහි පොරොන්දුව කො
තැන්හිදැයි කියන්නාවූද, කවටකම්
කරන්නෝ පැමිණෙනවා ඇතැයි,
5. පලමුකොට දැනගනිල්ලාය. නු
මුන් අහසද, වතුර පිටත් වතුර අත
රෙත් පිහිටි පොලොවද, දෙවියන්
වහන්සේගේ වචනයෙන් පූර්ව
කාලේ පැවති බව, ඔවුන් කැමැත්
6. තෙන් නොදැන සිටිති. එසින්
එකල තිබුන ලෝකය වතුරෙන්
7. වැසී විනාසවුනේය. එහෙත් දැන්
පවතින අහසද පොලොවද, විනිශ්
චයේත් අධර්මිෂ්ඨයන්ගේ විනාස
යේත් දවස දක්වා, ගින්නෙන් දැවී
මට එම වචනයෙන් ඉතුරුකර තිබෙ
8. නෙන්ය. නුඹුන් ප්‍රේමවන්තයෙනි,
ස්වාමින්වහන්සේට එක දවස අවු
රුදු දහසක් මෙන්ද, අවුරුදු දහස
එක දවසක් මෙන්ද වේයයි, යන
මේ එක කාරනාව නුඹලා නොදැන
9. සිටින්ට එපාය. සමහර මනුෂ්‍ය
යෝ ප්‍රමාදයයි සිතන හැටියට, ස්වා
මින්වහන්සේ තමන්ගේ පොරොන්
දුව ඉෂ්ටකිරීම ප්‍රමාද නොකරනසේ
ක. නුඹුන් සියල්ලෝම පසුතැවිලි
වෙනවාට මිස, කිසිවෙක් විනාසවෙ
නවාට උන්වහන්සේ නොකැමතිව,
අප කෙරෙහි ඉතා ඉවසිලි ඇතුව
10. සිටිනසේක. එහෙත් රාත්‍රියෙහි
සොරෙක් එන්නාක්මෙන්, ස්වාමින්
වහන්සේගේ දවස පැමිණෙනෙන්ය.
ඒ දවසේදී අහස මහත් ශබ්දයෙන්
පහව යන්නේය; මහ භූතයෝද තද
ඌෂ්ණයෙන් දියව යන්නෝය; පො

ලොවද එහි සියළු කර්මාන්තද දලා
යන්නේය.
11. මේ සියළු දේම මැකීයන බැ
වින්, අහස ගිනි ඇවිල දියව යන්
නාවූ, මහ භූතයන් තද උෂ්ණ
12. යෙන් උනුවෙන්නාවූ, දෙවියන්
වහන්සේගේ ඒ දවසත් බල බලා
සිට, ඊට ප්‍රමාදනොවී, සියළු සුබවූ
හැසිරීමෙහිද, දේවභක්තියෙහිද, නු
බලා කෙබඳු මනුෂ්‍යයෝ වෙන්ට
13. සුතුද? නුමුත් ධර්මිෂ්ඨකම පව
තින අළුත් අහසද, අළුත් පොලො
වද, උන්වහන්සේගේ පොරොන්දුව
14. ලෙස, අපි බලාසිටිමුව. එහෙයින්
ප්‍රේමවන්තයෙනි, මෙබඳු දේ බල
බලා සිටින්නාවූ නුබලා පළුදුවක්
නැතුව, නිදෝස්ව, සමගිතාවෙන්
උන්වහන්සේට පෙනී යන පිනිස,
15. උත්සාහකරපල්ලාය. අපේ ප්‍රිය
සහෝදරවූ පාවුල් තමහට දුන් ඥාන
ය ලෙස නුබලාට ලිව්වාක්මෙන්,
අපගේ ස්වාමින්වහන්සේගේ බෝ
හෝ ඉවසීම ගැලවීම පිනිසයයි, සිතා
16. ගනිල්ලාය. ඔහුද තමාගේ සියළු
පත්‍රවල මේ කාරණ ගැන කීයේය;
එහි තේරුම්ගන්ට අමාරුවූ සමහර
දේ ඇති නිසා, නූගත් ස්ථිර නැති
තැනැත්තෝ, අන් ලියවිලි පෙර
ලන්නාක්මෙන්, තමන්ගේ විනාස
17. යට ඒවාත් පෙරලති. එහෙයින්
ප්‍රේමවන්තයෙනි, නුබලා මේ දේ
කලින් දැනගෙන, දුෂ්ඨයන්ගේ මූලා
කරවීමෙන් මූලා නොවෙන පිනිසද,
නුබලාගේ ස්ථිරභාවයෙන් වෙන්වී
නොවැටෙන පිනිසද, ප්‍රවේසම් වෙ
18. මින්, කරුනාවෙහිද, අපගේ
ස්වාමිවූ ගැලවුම්කාරවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගේ දැනගැනීමෙහිද,
වර්ධනාවෙයල්ලාය. දැනටත් සදාකාල
යටත් උන්වහන්සේට මහිමතාවය
වේවා. ආමෙන්.

# ප්‍රේරිතවූ යොහන් විසින්
# ලියනලද පලමුවෙනි සාමාන්‍ය පත්‍රය.

1. පරිච්ඡේදය. ජීවනයෙහි වාක්‍ය
යානන් ගැන, පටන්ගැන්මෙහි සිට ති
බුනාවූ, අප විසින් ඇසුවාවූ, අපේ
ඇස්වලින් දුටුවාවූ, අප විසින් බැළු
වාවූ, අපේ අත්වලින් ඇල්ළුවාවූ
යමක් ඇද්ද, ඒ දේ අප සමග නුබ
ලාත් පංගුකාරයන් වෙන පිනිස,
2. නුබලාට දන්වමුව. අපේ පංගුකා
රකම පියානන්වහන්සේද, තමන්
ගේ පුත්‍රවූ යේසුස් ක්‍රීස්තුස්වහන්
3. සේද, සමග වේ. ජීවනයද ප්‍රකා
ශවනලද්දේය; අපි ඒක දැක සාක්ෂි
දෙමුව. පියානන්වහන්සේ සමග තිබූ
නාවූ, අපට ප්‍රකාශකරනලද්දාවූ, ඒ
සදාකාල ජීවනය නුබලාට දන්වමුව.
4. නුබලාගේ ප්‍රීතිය සම්පූර්ණවෙ
න පිනිස, අපි මේ දේ නුබලාට ලිය
5. මුව. අප විසින් උන්වහන්සේගෙන්
ඇසුවාවූ, නුබලාට දන්වන්නාවූ පනි
විඩයනම්, දෙවියන්වහන්සේ එළිය
බවත්, උන්වහන්සේ කෙරෙහි කිසි
6. අඳුරක් නැතිබවත්ය. අපි උන්ව
හන්සේ සමග පංගුකාරකම ඇතැයි
කියමින් අඳුරෙහි ඇවිදිමුනම්, සැ
බෑව නොකියා බොරු කියමුව.
7. උන්වහන්සේ එළියෙහි වසන
සේම, අපිත් එළියෙහි හැසිරෙමුනම්,
ඔවුනොවුන් සමග පංගුකාරකම
අපට ඇත්තේය; උන්වහන්සේගේ
පුත්‍රවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ

ලේ සියළු පාපවලින් අප පිරිසිදුකර
8. නේය. ඉදින් අපට පාපය නැ
තැයි කියමුනම්, අපි අපම මුලාකර
ගනිමුව, සැබෑකමද අප කෙරේ
9. නැත. නුමුත් අපේ පව් කියාදෙමු
නම්, අපේ පව් ක්‍ෂමාකරන්ටත්, සිය
ළු අධර්මිෂ්ඨකමෙන් අප පවිත්‍රකරන්
ටත්, උන්වහන්සේ විශ්වාසව ධර්මි
10. ෂ්ඨව සිටිනසේක. අපි පව්කලේ
නැතැයි කියමුනම්, උන්වහන්සේ
බොරුකාරයෙක් කරමුව, උන්වහන්
සේගේ වචනයද අප කෙරේ නැත.

2. පරිච්ඡ. මාගේ දරුවෙනි, නු
බලා විසින් පව් නොකරන පිණිස,
මේ කාරනාවල් නුබලාට ලියමි. ය
මෙක් පව් කලොත්, පියානන්වහන්
සේ වෙත ධර්මිෂ්ඨවූ යේසුස් ක්‍රිස්තු
ස්වහන්සේනම් මැදහත්කාරයෙක්
2. අපට ඇත. උන්වහන්සේ අපේ
පව් නසන පූජාවය; අපගේ පමනක්
නොව, සියළු ලෝකයාගේ පව් නස
3. න පූජාවය. උන්වහන්සේගේ ආඥා
වල් පවත්වමුනම්, එයින් අපි උන්ව
4. හන්සේ අඳුනන බව දනිමුව. උන්
වහන්සේ අඳුනමියි කියා උන්වහන්
සේගේ ආඥාවල් නොපවත්වන තැ
නැත්තේ, බොරුකාරයාය; ඔහු කෙ
5. රෙහි සැබෑකම නැත. නුමුත්
උන්වහන්සේගේ වචනය පවත්වන
යමෙක් ඇද්ද, ඔහු කෙරෙහි සැබෑ
වටම දෙවියන්වහන්සේගේ ප්‍රේමය
සම්පූර්ණකරන ලද්දේය. මෙයින්
උන්වහන්සේ තුලෙහි අපි සිටිමුයයි
6. දනිමුව. උන්වහන්සේ තුලෙහි
වසමියි කියන තැනැත්තා විසින්,
උන්වහන්සේ හැසුරුනාක්මෙන්, හැ
7. සිරිය යුතුය. සහෝදරයෙනි,
අළුත් ආඥාවක් නොව, පටන්ගැම්
මේ සිට නුබලාට තිබුනු පරන ආඥා
වක්, නුබලාට ලියමි. පරන ආඥාව
නම් පටන්ගැම්මේ සිට නුබලා ඇසූ
8. වචනය වේ. තවද අළුත් ආඥා
වක් නුබලාට ලියමි; අන්ධකාරය පසු
වී සැබෑවූ එලිය දැන් බබලන නිසා,
ඒ කාරනාව උන්වහන්සේ කෙරේත්
නුබලා කෙරේත් සැබෑවන්නේය.
9. මම එලියෙහි වසමියි කියා තමා
ගේ සහෝදරයාට වෛරවෙන්නා,
දැන් දක්වාම අඳුරෙහි සිටින්නේය.
10. තමාගේ සහෝදරයාට ප්‍රේමකර
නනා එලියෙහි සිටින්නේය; ඔහු
කෙරෙහි පැකිලීමට කාරනයක්
11. නැත. නුමුත් තමාගේ සහෝදර
යාට වෛරවෙන්නා අඳුරේ සිටින්
නේය; අඳුරේම ඇවිදින්නේය; අඳු
රෙන් ඔහුගේ ඇස් අන්ධකල නිසා,
කොතැනට යන්නේදැයි නොදන්
නේය.

12. දරුවෙනි, උන්වහන්සේගේ
නාමය නිසා නුබලාගේ පව් ක්‍ෂමා
13. කල බැවින්, නුබලාට ලියමි. පි
යවරුනි, නුබලා පටන්ගැම්මේ සිට
සිටින්නාවූ තැනැන්වහන්සේ ඇඳි
නගත් බැවින්, නුබලාට ලියමි. තරු
නයෙනි, නුබලා දුෂ්ටයාගෙන් ජය
ගත් බැවින්, නුබලාට ලියමි. දරු
වෙනි, නුබලා පියානන්වහන්සේ ඇඳි
14. නගත් බැවින්, නුබලාට ලියමි. පි
යවරුනි, නුබලා පටන්ගැම්මේ සිට
සිටින්නාවූ තැනැන්වහන්සේ ඇඳින
ගත් බැවින්, නුබලාට ලිවීමි. තරුණ
යෙනි, නුබලා බලවත් බැවින්ද, නු
බලා තුලෙහි දෙවියන්වහන්සේගේ
වචනය පවතින බැවින්ද, දුෂ්ටයා
ගෙන් නුබලා ජයගත් බැවින්ද, නුබ
15. ලාට ලිවීමි. ලෝකයටවත් ලෝ
කේ තිබෙන දේටවත් ප්‍රේමනොවෙ
ලාය; කිසිවෙක් ලෝකයට ප්‍රේම
වේනම්, පියානන්වහන්සේගේ ප්‍රේ
16. මය ඔහු තුලෙහි නැත. මක්නි
සාද ලෝකයෙහි තිබෙන සියළු දේ,
එනම් මාංසිකවූ තෘෂ්ණාවත්, ඇස්ව
ලින්වූ තෘෂ්ණාවත්, ජීවනයෙහි ආඩම්
බරයත්, පියානන්වහන්සේගෙන්
17. නොව ලෝකයාගෙන් වේ. ලෝ

කයත්, ලෝකයෙහි තෘෂ්ණාවත්, පහ
ව යන්නේය; නුමුත් දෙවියන්වහන්
සේගේ කැමැත්ත කරන්නා සදාකා
ලයටම පවතින්නේය.

18. දරුවෙනි, මේක අන්තිම කා
ලය වේ; විරුඛ ක්‍රිස්තුස් එනවා ඇ
තැයි නුබලා ඇසූ ලෙස, දැනුත් බො
හෝ විරුඛ ක්‍රිස්තුවරු ඇත. මෙයින්
මේක අන්තිම කාලය වෙන බව
19. දනිමුව. ඔවුන් අපෙන් නික්ම
ගියෝය; නුමුත් ඔවුන් අපෙන් නො
වෙති; ඔවුන් අපෙන් වූවෝනම්,
අප සමග සිටිනවා ඇත; නුමුත්
ඔවුන් සියල්ලෝ අපෙන් නොවූ බව
ප්‍රකාශවෙන පිනිස, ඔවුන් අපෙන්
20. අහක ගියෝය. එහෙත් නුබලා
සුබ තැනැත්වහන්සේගෙන් ආලේ
21. පය ලැබ, සියළු දේම දනිති. සැ
බෑව නුබලා නොදන්නා බැවින්
නොව, නුබලා සැබෑවත්, සැබෑවෙන්
කිසියම් බොරුවක් නොවෙන බවත්
දන්නා බැවින්, මම නුබලාට ලිව්මි.
22. යේසුස්වහන්සේ ක්‍රිස්තුස් නො
වේයයි කියන තැනැත්තේ මිස,
බොරුකාරයා කවුද? යමෙක් පියා
නන්වහන්සේත් පුත්‍රයානන්වහන්
සේත් නැතැයි කියන්නේද, ඔහුම
23. විරුඛ ක්‍රිස්තුස්ය. පුත්‍රයානන්ව
හන්සේ නැතැයි කියන්නාට පියා
නන්වහන්සේත් නැත්තේය; පුත්‍ර
යානන්වහන්සේ ඇතැයි කියනනා
ට පියානන්වහන්සේත් ඇත්තේය.
24. ඉන්නිසා පටන්ගැම්මේ සිට නු
බලා ඇසූ දේ නුබලා කෙරෙහි පව
තීවා. පටන්ගැම්මේ සිට නුබලා ඇසූ
දේ නුබලා කෙරෙහි පවතීනම්, නුබ
ලා පියානන්වහන්සේද පුත්‍රයානන්
වහන්සේද තුලේ පවතිනවා ඇත.
25. උන්වහන්සේ අපට යම් පො
රොන්දුවක් දුන්සේක්ද, ඒ පොරො
න්දුවනම් සදාකාල ජීවනය වේ.
26. නුබලා රවටන්නවුන් ගැන මේ
27. කාරනා ලිව්මි. උන්වහන්සේ
ගෙන් නුබලාට ලැබුනු ආලේපය
නුබලා කෙරෙහි පවතිනෙන්ය; කිසි
වෙකුගේ ඉගැන්වීම නුබලාට ප්‍රයෝ
ජන නැත. සියළු දේම නුබලාට උග
න්වන්නාවූ එම ආලේපය බොරුවක්
නොව සැබෑවක් වන බැවින්, එයින්
නුබලාට ඉගැන්වූ ලෙස නුබලා උන්
වහන්සේ තුලෙහි පවතිනවා ඇත.
28. ලදරුවෙනි, උන්වහන්සේ ප්‍රකාශ
වෙනකල උන්වහන්සේ ඉදිරිපිට
අපේ භය නැතුව සිටීම පිනිසද,
උන්වහන්සේ ආකල අපේ ලැජ්ජා
නොවීම පිනිසද, උන්වහන්සේ තුල
29. සිටපල්ලාය. උන්වහන්සේ ධර්මි
ෂ්ටව සිටිනසේකැයි නුබලා දනි
තොත්, ධර්මිෂ්ඨකම් කරන සියල්
ලෝම උන්වහන්සේගෙන් උපන්
බව නුබලා දනිති.

3. පරිච්ඡෙ. අපි දෙවියන්වහන්
සේගේ පුත්‍රයෝයයි කියනු ලැබී
මෙන්, පියානන්වහන්සේ කෙබඳු
ප්‍රේමයක් අපට පෙන්වූසේක්දැයි
බලාපල්ලාය; එහෙයින් ලෝකයා
උන්වහන්සේ නාඳුනන බැවින්,
2. අපත් හඳුනන්නේ නැත. ප්‍රේම
වන්තයෙනි, දැන් අපි දෙවියන්වහන්
සේගේ පුත්‍රයෝය; අපි කුමක් වෙමු
දැයි තවම පෙනෙන්නේ නැත; නු
මුත් උන්වහන්සේ පෙනෙනවිට උන්
වහන්සේ සිටිනසේම අපිත් සිටින්
නෙමුයයි දනිමුව. මක්නිසාද උන්ව
හන්සේ සිටිනසේම උන්වහන්සේ
3. දකින්නෙමුව. තමන් තුලෙහි මේ
බලාපොරොත්තුව ඇති සියල්ලෝ,
උන්වහන්සේ පිරිසිදුව සිටින්නාක්
මෙන්, තමන්ම පිරිසිදුකරගනිති.

4. පාපයනම් ව්‍යවස්ථාව කඩකි
රීමය; එහෙයින් පව් කරන සියල්
5. ලෝම ව්‍යවස්ථාව කඩකරති. අපේ
පාපවල් දුරුකරන්ට උන්වහන්සේ
ප්‍රකාශවූ බවත්, උන්වහන්සේ කෙ
රෙහි පාපයක් නැති බවත්, නුබලා

6. දනිති. යමෙක් උන්වහන්සේ
තුළෙහි සිටින්නේද, ඔහු පව් කර
නෙත් නැත. පව් කරන තැනැත්
තේ උන්වහන්සේ නුදුටුයේය, නො
7. හැඳින්නේය. ළදරුවෙනි, කිසිවෙ
කුට නුඹලා රවටන්ට නාරිල්ලාය.
උන්වහන්සේ ධර්මිෂ්ඨව සිටින්නාක්
මෙන්, ධර්මිෂ්ඨකම් කරන්නොත්
8. ධර්මිෂ්ඨව සිටිති. යක්ෂයා පටන්
ගැම්මේ සිට පව් කරන බැවින්, පව්
කරන තැනැත්තේ යක්ෂයාගෙන්
වේ. යක්ෂයාගේ ක්‍රියාවල් විනාසක
රන පිනිස, දෙවියන්වහන්සේගේ
පුත්‍රයා ප්‍රකාශකරනු ලැබූසේක.
9. යමෙක් දෙවියන්වහන්සේගෙන්
උපන්නේනම්, ඔහු පව් කරන්නේ
නැත. මක්නිසාද ඔහු තුළ උන්ව
හන්සේගේ බීජ පවතින්නේය; දෙ
වියන්වහන්සේගෙන් උපන් බැවින්,
10. පව් කරන්ට ඔහුට නුපුළුවන. මෙ
සින් දෙවියන්වහන්සේගේ දරුවෝද
යක්ෂයාගේ දරුවෝද ප්‍රකාශව සිටි
ති. යමෙක් ධර්මිෂ්ඨකම් නොකරන්
නේද, තමාගේ සහෝදරයාට ප්‍රේම
නොකරන්නේද, ඔහු දෙවියන්වහන්
සේගෙන් නොවේය.

11. මක්නිසාද ඔවුනොවුන්ට ප්‍රේම
කටයුතුයයි, පටන්ගැම්මේ සිට අප
12. විසින් ඇසූ පනිවිඩය මේකය. දු
ෂ්ටයාගෙන්වූ, තමාගේ සහෝදරයා
මැරුවාවූ, කායින් ලෙස නොවෙමුව.
ඔහු මැරුවේ මක්නිසාද? තමාගේ
ක්‍රියාවල් නපුරු බැවිනුත්, තමාගේ
සහෝදරයාගේ ක්‍රියාවල් ධර්මිෂ්ඨ
13. බැවිනුත්ය. මාගේ සහෝදරයෙ
නි, ලෝකයා නුඹලාට වෛරවූ
14. නොත්, පුදුම නොවෙල්ලාය. අපි
සහෝදරයන්ට ප්‍රේමකරන නිසා,
මරනින් මිදී ජීවනයට පැමිනුනු බව
දනිමුව. තමාගේ සහෝදරයාට ප්‍රේම
නොකරන තැනැත්තේ මරනයෙහි
15. වසන්නේය. කවරෙක්වත් තමා
ගේ සහෝදරයාට වෛරවේනම්,
ඔහු මිනීමරන්නෙක. කිසි මිනීමර
නෙකු තුළෙහි අනන්ත ජීවනය
නොවසන්නේයයි, නුඹලා දනිති.
16. ක්‍රිස්තුස්වහන්සේ තමන්ගේ
ප්‍රානය අප උදෙසා පූජාකළෙහෙයින්,
උන්වහන්සේගේ ප්‍රේමය අපට දැනෙ
නේය. එබැවින් අප විසින් සහෝ
දරයන් උදෙසා අපේ ප්‍රාන පූජාක
17. රන්ට යුතුය. මේ ලෝකයෙහි
වස්තුව ඇති තැනැත්තා, තමාගේ
සහෝදරයාගේ අසරනභාවය දැක
ඔහුට අනුකම්පා නොකළොත්, දෙ
යන්වහන්සේගේ ප්‍රේමය ඔහු තුළෙහි
18. වසන්නේ කෙලෙසද? මාගේ
ළදරුවෙනි, වචනයෙන්වත් දිවෙන්
වත් නොව, ක්‍රියාවෙනුත් සැබෑවෙ
19. නුත් ප්‍රේමකරමුව. මෙයින් අපි
සැබෑකමෙන් වෙමුයයි දැනගන,
උන්වහන්සේ ඉදිරියෙහි අපේ සිත්
20. ස්ථිරකරගනිමුව. මක්නිසාද අපේ
සිත් අපට වරද තබතොත්, දෙවිය
න්වහන්සේ අපේ සිත්වලට වඩා
උතුම්ව, සියළු දේම දන්නාසේක.
21. ප්‍රේමවන්තයෙනි, අපේ සිත
අපට වරද නොතබතොත්, දෙවිය
න්වහන්සේ කෙරෙහි නිර්භීතවූ විස්
22. වාසයෙන් සිටිමුව. අපි උන්වහන්
සේගේ ආඥාවලට කීකරුව, උන්ව
හන්සේ ඉදිරිපිට සතුටුවන දේ කර
න බැවින්, අපි උන්වහන්සේගෙන්
23. ඉල්වන සියල්ල ලබමුව. උන්ව
හන්සේගේ ආඥාවනම්, උන්වහන්
සේගේ පුත්‍රවූ යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ නාමය කෙරෙහි අප විසින්
ඇදහීමත්, උන්වහන්සේ අපට අන
දුන් ලෙස ඔවුනොවුන්ට ප්‍රේමකිරී
24. මත්ය. උන්වහන්සේගේ ආඥා
වල් පවත්වන තැනැත්තේ උන්ව
හන්සේ තුළෙහි වසන්නේය; උන්
වහන්සේත් ඔහු තුළෙහි වසනසේ
ක. උන්වහන්සේ අපට දුන් ආත්ම
යෙන් උන්වහන්සේ අප තුළෙහි
වසන බව දැනගනිමුව.

4. පරිච්ඡෙ. ප්‍රේමවන්තයෙනි,
නොයෙක් බොරු අනාගතවක්තෘ
වරු ලෝකයෙහි හැසිරෙන නිසා,
සියළු ආත්මයන් විශ්වාස නොකොට,
ආත්මයන් දෙවියන්වහන්සේගෙන්
2. දෝ කියා පරීක්ෂාකරපල්ලාය. මෙ
සින් තුබලා දෙවියන්වහන්සේගේ
ආත්මය දනිති; ජේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ ශරීරයෙන් යුක්තව ආසේ
කැයි පිළිගන්නාවූ සියළු ආත්මයෝ
3. දෙවියන්වහන්සේගෙන්ය. ජේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ ශරීරයෙන්
යුක්තව ආසේකැයි පිළිනොගන්නා
වූ සියළු ආත්මයෝ දෙවියන්වහන්
සේගෙන් නොවෙත්. ලෝකයට
එනවා ඇතැයි තුබලා ඇසුවාවූ,
දැනටම ලෝකේ සිටින්නාවූ, විරුඬ
ක්‍රිස්තුස් යන ආත්මයනම් මේය.
4. ලදරුවෙනි, තුබලා දෙවියන්ව
හන්සේගෙන් වෙති. ලෝකයෙහි
සිටින තැනැත්තාට වඩා තුබලා
තුලෙහි වසන තැනැත්වහන්සේ
උතුම් නිසා, ලෝකයාගෙන් තුබලා
5. ජයගත්තෝය. ඔවුන් ලෝක
යෙන් වෙති; එබැවින් ඔවුන්ගේ
කථාවද ලෝකයෙන් වේ; ලෝක
යාද ඔවුන්ගේ කීම අසන්නේය.
6. අපි දෙවියන්වහන්සේගෙන් වෙ
මුව; උන්වහන්සේ අඳුනන තැනැ
ත්තෝ අපේ කීම අසන්නේය; දෙවි
යන්වහන්සේගෙන් නොවන තැනැ
ත්තෝ අපේ කීම අසන්නේ නැත.
සැබෑකමේ ආත්මයත් මුලාවේ ආත්
මයත් මෙසින් දැනගනිමුව.

7. ප්‍රේමවන්තයෙනි, ප්‍රේමය දෙවි
යන්වහන්සේගෙන් නිසාත්, ප්‍රේමක
රන සියල්ලෝම දෙවියන්වහන්සේ
ගෙන් ඉපද දෙවියන්වහන්සේ අඳු
නන නිසාත්, ඔවුනොවුන්ට ප්‍රේමක
8. රමුව. දෙවියන්වහන්සේනම් ප්‍රේම
යය; එබැවින් ප්‍රේම නොකරන්නා
දෙවියන්වහන්සේ නාඳුනන්නේය.
9. දෙවියන්වහන්සේ තමන්ගේ ඒක
ජාත පුත්‍රයා කරනකොටගෙන අපට
ජීවනය දෙන පිනිස, උන්වහන්සේ
ලෝකයට එවූසේකැයි යන මෙසින්,
අප වෙත දෙවියන්වහන්සේගේ ප්‍රේ
10. මය ප්‍රකාශවූනේය. අපි දෙවි
යන්වහන්සේට ප්‍රේම නොකල නුමුත්,
උන්වහන්සේ අපට ප්‍රේමකොට,
අපේ පව් නසන පූජාවක් වෙන
පිනිස, තමන්ගේ පුත්‍රයා එවූසේක;
11. මේ ප්‍රේමයනම් වේ. ප්‍රේමවන්ත
යෙනි, දෙවියන්වහන්සේ අපට මෙ
සේ ප්‍රේමකලසේක්නම්, අප විසි
නුත් ඔවුනොවුන්ට ප්‍රේම කටයුතුය.
12. කිසිවෙක් කිසි කලෙකත් දෙවි
යන්වහන්සේ දුටුවේ නැත. අපි ඔවු
නොවුන්ට ප්‍රේමකරමුනම්, දෙවියන්
වහන්සේ අප තුලෙහි වසනසේක;
උන්වහන්සේගේ ප්‍රේමය අප කෙ
13. රෙහි සම්පූර්ණව තිබේ. උන්
වහන්සේ තමන් ආත්මය අපට දුන්
බැවින්, අපි උන්වහන්සේ තුල වසන
බවත්, උන්වහන්සේ අප තුල වසන
14. බවත්, දැනගනිමුව. පියානන්ව
හන්සේ විසින් පුත්‍රයා ලෝකයෙහි
ගැලවුම්කාරයා වෙන පිනිස එවූ
15. බව, අපි දැක සාක්ෂි දෙමුව. ජේ
සුස්වහන්සේ දෙවියන්වහන්සේගේ
පුත්‍රයා වනසේකැයි යමෙක් ප්‍රකාශ
කොට කියන්නේනම්, ඔහු තුල දෙ
වියන්වහන්සේ වසනසේක; ඔහුද
දෙවියන්වහන්සේ තුලෙහි වසන්
16 නේය. දෙවියන්වහන්සේ අපට
ඇත්තාවූ ප්‍රේමය අපි දැන අදහාග
තිමුව. දෙවියන්වහන්සේනම් ප්‍රේමය
වනසේක; ප්‍රේමයෙන් සිටින තැනැ
ත්තෝ දෙවියන්වහන්සේ තුලෙහි
වසන්නේය; දෙවියන්වහන්සේත්
17. ඔහු තුලෙහි වසනසේක. උන්ව
හන්සේ සිටිනසේම අපි මේ ලෝක
යෙහි සිටින බැවින්, විනිශ්චය දව
සේදී අපේ හය නැතුව සිටීම පිනිස,
අපේ ප්‍රේමය මෙහි සම්පූර්ණකරනු
18. ලැබේ. ප්‍රේමයෙහි හයක් ඇත්

තේ නැත; භයෙන් දුක් වේදනා
උපදනා බැවින්, සම්පූර්ණ ප්‍රේමය
භය දුරුකරනෙන්ය; මක්නිසාද භය
වෙන තැනැත්තේ ප්‍රේමයෙන් සම්
19. පූර්ණකරනු නොලැබේ. පලමු
වෙන් උන්වහන්සේ අපට ප්‍රේමකල
බැවින්, අපි උන්වහන්සේට ප්‍රේමක
20. රමුව. යමෙක් දෙවියන්වහන්
සේට ප්‍රේමකෙරෙමි කියා තමන්
සහෝදරයාට වෛරකරන්නේනම්,
ඔහු බොරුකාරයෙක. ඔහු දුටු තමන්
සහෝදරයාට ප්‍රේම නොකරතොත්,
ඔහු නුදුටු දෙවියනිවහන්සේට ප්‍රේම
කරන්නට පුළුවන් කොහොමද?
21. දෙවියන්වහන්සේට ප්‍රේමකරන
තැනැත්තේ තමන් සහෝදරයාටත්
ප්‍රේමකෙරේවයි යන ආඥාව, අපි
උන්වහන්සේගෙන් ලැබ්මුව.

5. පරිච්ඡ. යේසුසවහන්සේ ක්‍රිස්
තුස්මයයි අදහන්නාවූ යමෙක් ඇද්
ද, ඔහු දෙවියනිවහන්සේගෙන් උප
නෙන්ය. ජනක කල තැනැත්වහන්
සේට ප්‍රේමකරන්නා උන්වහන්සේ
ගෙන් ජනවූ තැනැත්තාටත් ප්‍රේම
2. කරන්නේය. දෙවියන්වහන්සේට
ප්‍රේමකරමින් උනිවහන්සේගේ ආඥා
වල් අපි පවත්වනකල, දෙවියන්ව
හන්සේගේ දරුවන්ට අපි ප්‍රේමකර
3. මුයයි දනිමුව. දෙවියනිවහන්සේට
ප්‍රේමයනම්, අප විසින් උනිවහන්සේ
ගේ ආඥාවල් පැවැත්වීමය; උන්ව
හන්සේගේ ආඥාවල් දුෂ්කර නොව
4. නෙන්ය. දෙවියනිවහන්සේගෙන්
උපන් යමෙක් ඇද්ද, ඔහු ලෝක
යෙන් ජයගන්නේය; ලෝකයෙන්
ජයගන්නේ, අපේ ඇදහිල්ලමය.
5. යේසුස්වහන්සේ දෙවියන්වහන්
සේගේ පුත්‍රයායයි අදහන තැනැත්
තා මිස, ලෝකයාගෙන් ජයගනෙන්
6. කවරෙක්ද? වතුරෙනුත් ලෙහි
නුත් ආ උන්වහන්සේනම්, යේසුස්
ක්‍රිස්තුස්වහන්සේමය. වතුරෙන් පම
නක්නොව, වතුරෙනුත් ලෙහිනුත්
ආසේක. ආත්මයානන්වහන්සේ සැ
බැකමය; ඒනිසා ආත්මයානනිවහන්
7. සේ මිට සාක්ෂිදෙනසේක. [ඇ
රත් ස්වර්ගයෙහි සාක්ෂි දරණ තුන්
දෙනෙක; ඒනම් පියානනිවහන්
සේය, වාක්‍යයානනිවහන්සේය, ආත්
මයානනිවහන්සේය; මේ තුන්දෙනම
8. ඒකත්වයක්ව සිටිනසේක.] භූමි
යෙහිද සාක්ෂි දෙන තුනක් ඇත;
ඒනම්, ආත්මයත් වතුරත් ලේත්ය;
9. මේ තුන එකගවේ. මනුෂ්‍යයන්
ගේ සාක්ෂිය අපි පිලිගනිමුනම්, දෙ
වියනිවහන්සේගේ සාක්ෂිය ඊට වඩා
උතුම්වේ; දෙවියනිවහන්සේ තමන්
පුත්‍රයානන් ගැන දුන් සාක්ෂියනම්
10. මේය. දෙවියන්වහන්සේගේ
පුත්‍රයානන් කෙරෙහි අදහන්නාට
තමන් තුලෙහිම සාක්ෂිය ඇත. දෙවි
යන්වහන්සේ කෙරෙහි නොඅදහන්
නා, දෙවියන්වහන්සේ තමන් පුත්‍ර
යානන් ගැන දුන් සාක්ෂිය නොඅද
හන නිසා, උනිවහන්සේ බොරුකාර
11. යෙක් කෙලේය. ඒ සාක්ෂියනම්,
දෙවියන්වහන්සේ අපට සදකාල
ජීවනය දුන් බවත්, ඒ ජීවනය තමන්
පුත්‍රයානන්වහන්සේ තුලේ තිබෙන
12. බවත්ය. පුත්‍රයානන්වහන්සේ
ඇත්තාට ජීවනය ඇත; දෙවියන්
වහන්සේගේ පුත්‍රයා නැත්තාට ජීව
නය නැත.

13. නුබලා දෙවියන්වහන්සේගේ
පුත්‍රයාගේ නාමය අදහන පිනිසද,
සදකාල ජීවනය නුබලාට ඇති බව
දැනගන්නා පිනිසද, දෙවියන්වහන්
සේගේ පුත්‍රයානන්ගේ නාමය අද
හන නුබලාට මේ කාරණ ලිව්මි.
14. උන්වහන්සේගේ කැමැත්ත
ලෙස යම් දෙයක් අපි ඉල්ලුවොත්,
උන්වහන්සේ අපේ බස් අසනසේ
කැයි, යන මේ විස්වාසය උන්වහන්
15. සේ කෙරෙහි අපට ඇත. අපි
යම් දෙයක් ඉල්ලනකල උන්වහන්

සේ අපේ බස් අසනසේකැයි අපි
දනිමුනම්, අපි ඉල්ළූ දේ උන්වහන්
සේගෙන් අපට ලැබෙන බව දනිමුව.
16. කිසිවෙක් තමාගේ සහෝදරයා
මරනට නොපමුනුවන පාපයක් කර
න බව දුටුවොත්, ඔහු යාඥකරවා;
එවිට මරනට නොපමුනුවන්නාවූ
පාපයක් කරන්නාට දෙවියන්වහන්
සේ ජීවනය දෙනසේක. මරනට
සුදුසු පාපයක් ඇත; ඒ පාපය ගැන
ඔහු විසින් යාඥවිය යුතුයයි නොකි
17. යමි. සියළු අධර්මිෂ්ඨකම පාපය
වෙයි; තවද මරනට නුසුදුසු පාප
18. යක් ඇත. දෙවියන්වහන්සේ
ගෙන් උපන් කිසිවෙක් පව් නොක
රන බව අපි දනිමුව; එහෙත් දෙවි
යන්වහන්සේගෙන් උපන් තැනැත්
තේ තමන්ම රක්ෂාකරගන්නේය;
දුෂ්ටයා ඔහු අල්ලන්නේ නැත.
19. අප දෙවියන්වහන්සේගෙන් වන
බවද, මුළු ලෝකයා දුෂ්ටයා තුල
20. ඉන්නා බවද දනිමුව. ඇරත්
දෙවියන්වහන්සේගේ පුත්‍රයා ඇවිත්,
සැබෑවන්තයානන් අඳිනගැන්ම පි
නිස, අපට ඥානය දුන් බව දනිමුව.
සැබෑවන්තයා තුල, එනම් දෙවියන්
වහන්සේගේ පුත්‍රවූ යේසුස් ක්‍රිස්තුස්
වහන්සේ තුල, අපි සිටිමුව. සැබෑවූ
දෙවියන්වහන්සේද සදාකාල ජීවන
21. යද මුන්වහන්සේමය. ළදරුවෙ
නි, දේවතාවන්ගේ ඇදහිමෙන් දුරු
ව සිටපල්ලාය. ආමෙන්.

# ප්‍රේරිතවූ යොහන් විසින් ලියනලද දෙවෙනි සාමාන්‍ය පත්‍රය.

අප අතරෙහි තිබෙන නිතරම අප
2. සමග පවතින සැබෑව උදෙසා, මම
පමනක් නොව සැබෑව දැනගත්
සියල්ලෝම සැබවින් ප්‍රේමකරන්නා
වූ, තෝරාගත් ස්වාමි දුවටත්, ඇගේ
දරුවන්ටත්, වැඩිමහල්ලා වන මා
3. විසින්, පියවූ දෙවියන්වහන්සේ
ගෙන්ද, පියානන්වහන්සේගේ පුත්‍රවූ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගෙන්ද, කරුණාවත් දයාවත් සමාදා
නයත් සැබෑවෙන් හා ප්‍රේමයෙන්
වෙන ලෙස, ලියා එවන වගනම්.
4. අප විසින් පියානන්වහන්සේ
ගෙන් ආඥව ලැබූ ලෙසම, නුඹේ
දරුවන්ගෙනුත් සමහරුන් සැබෑවෙ
හි හැසිරෙන බව දැක, මම ඉතා සතු
ටුවිමි.

5. ස්වාමි දුවනියනි, පටන්ගැම්මෙ
සිට අපට ඇත්තාවූ ආඥව මිස,
අළුත් ආඥවක් නොලියා, අපි ඔවූ
නොවූන්ට ප්‍රේමවෙමුයයි, නුඹෙන්
6. ඉල්ලා සිටිමි. ප්‍රේමයනම්, උන්ව
හන්සේගේ ආඥව ලෙස හැසිරීමය;
නුඹලා පටන්ගැම්මෙ සිට ඇසුවාවූ,
නුඹලා විසින් පවත්වන්ට යුතුවූ
7. ආඥව මේය. යේසුස් ක්‍රිස්තුස්ව
හන්සේ ශරීරයෙන් යුක්තව උපන්
බව පිළිනොගන්නාවූ බොහෝ මුලා
කරන්නෝ ලෝකයේ හැසිරෙති;
මොවුන් මුලාකරන්නෝද විරුධ
8. ක්‍රිස්තුවරුද වෙති. අප විසින්
කල දේ අඵල නොවෙන ලෙසත්,
සම්පූර්ණවූ විපාක අපට ලැබෙන
9. ලෙසත්, බලාගනිල්ලාය. ක්‍රිස්තු
ස්වහන්සේගේ ඉගැන්විමෙහි නොප
වතින අපරාධ කරන්නාවූ කෙනෙ
කුට දෙවියන්වහන්සේ ඇත්තේ
නැත; ක්‍රිස්තුස්වහන්සේගේ ඉගැන්
විමෙහි පවතින කෙනෙකුට පියාන
න්වහන්සේද පුත්‍රයානන්වහන්සේද

10. ඇත්තේය. තුබලා වෙතට එන
යමෙක් මේ ගුරුකම නොදරන්නේ
නම්, ඔහු ගෙට ඇතුල්කර නොග
නිල්ලාය; ඔහුට සුභසිබවේවයි නො
11. කියල්ලාය. මක්නිසාද ඔහුට
සුභසිබවේවයි කියන්නා ඔහුගේ
නපුරු ක්‍රියාවලට පංගුකාරයාය.
12. නොයෙක් කාරණ තුබලාට ලි
යන්ට මට තිබෙන්නේය; අපේ ප්‍රීති
ය සම්පූර්ණවෙන පිනිස, තුබලා
වෙතට ඇවිත්, මූනට මූනලා කථා
කරන්ට බලාපොරොත්තුවෙනහෙ
යින්, කඩදාසියෙනුත් තීන්තවලිනුත්
13. දන්වන්ට අකමැතිවිමි. තුබේ
තෝරාගත් සහෝදරියගේ දරුවෝ
තුබට ආචාර කෙරෙති. ආමෙන්.

---

# ප්‍රේරිතවූ යොහන් විසින් ලියනලද තුන්වෙනි සාමාන්‍ය පත්‍රය.

---

වැඩිමහල්ලා වන මා විසින්, සැබ
වින් මම ප්‍රේමකරන ඉතා ප්‍රියවූ ගා
2. යස්ට, ලියා එවන වගනම්. ප්‍රේම
වන්තය, සියල්ලෙහිදී තුබ වර්ධන
වෙන හැටියටත්, තුබේ ආත්මය
වර්ධනවෙන ලෙස තුබ සුවසේ සිටින
3. හැටියටත්, ප්‍රාර්ථනා කරමි. තුබ
සැබෑකමෙහි හැසිරෙන බවට, තුබ
තුලෙහි පවතින සැබෑකම ගැන,
සහෝදරයෝ ඇවිත් සාක්ෂි දුන්කල,
4. මම වැඩිතර ප්‍රීතියට පත්විමි. මා
ගේ දරුවන් සැබෑවෙහි හැසිරෙන
බව ඇසීමට වඩා මහත් ප්‍රීතියක්
මට නැත.

5. ප්‍රේමවන්තය, සහෝදරයින්
ටත් ආගන්තුකයින්ටත් කරන කො
යි දේත්, භක්තිවන්තයෙක් ලෙස
6. තුබ කරන්නේය. මොවුන් තුබේ
ප්‍රේමය ගැන සභාව ඉදිරිපිට සාක්ෂි
7. දුන්නෝය. ඔවුන් අන්‍යජාතීන්
ගෙන් කිසිවක් නොගෙන, ක්‍රිස්තුස්
වහන්සේගේ නාමය නිසා පිටත්ව
ගියෝය; එබැවින් දේවභක්තියේ
හැටියට ඔවුන්ට වායෝපකාර ක
රනොත්, තුබ යහපතක් කරන්නේ
8. ය. අපි සැබෑවෙහි හවුල් වැඩකා
රයෝ වෙන පිනිස, එබඳුවූවන් පිළි
9. ගැනීම අපට සුදුසුය. මම සභාවට
ලිවිමි, නුමුත් ප්‍රධානකම කැමතිවන
දියොත්‍රෙපැස් අප පිළිගන්නේ නැ
10. ත; ඉන්නිසා මම ආවොත්, ඔහු
අපට විරුඬව දුෂ්ට වචන කිය කියා
කරන ක්‍රියාවල් සිහිකරමි. ඇරත්
ඔහු එත් මදිය කියා සිතා, සහෝදර
යන් පිළිනොගෙන, පිළිගන්ට කැ
මැත්තවුන් වලක්වා, සභාවෙන්
11. ඔවුන් අහක්කරන්නේය. ප්‍රේම
වන්තය, යහපත් දේ මිස, නපුරු දේ
ආදර්ශකොට නොගනින්න. යහපත්
කම් කරන්නා දෙවියන්වහන්සේ
ගෙන්ය; නපුරුකම් කරන්නා දෙවි
12. යන්වහන්සේ දුටුවේ නැත. සිය
ල්ලන්ගෙනුත් සැබෑවෙනුත් දිමිත්‍රි
යස්ට යහපත් සාක්ෂිය ඇත; අපිත්
සාක්ෂි දෙමුව; අපේ සාක්ෂිය සැබෑ
බව තුබලා දනිති.

13. මට බොහෝ දේ ලියන්ට තී
බෙන්නේය; එහෙත් තුබට තීන්තෙ
නුත් පිහාටුවෙනුත් ලියන්ට මම
14. නොකැමැත්තෙමි. ඉක්මනින්
තුබ දකින්ට මම බලාපොරොත්තු
වෙමි; මම ආවාම, අපි මූනට මූනලා
කථාකරමුව. තුබට සමාදානය වේවා;
අපේ මිත්‍රයෝ තුබට ආචාර කෙරෙ
ති. නම් වශයෙන් මිත්‍රවන්ට ආචාර
කරපන්න.

# යූදස් විසින් ලියනලද සාමාන්‍ය පත්‍රය.

ජේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ මෙ
හෙකරුවූ, යාකොබ්ගේ සහෝදරවූ
යූදස්නම් මා විසින්, පියවූ දෙවියන්
වහන්සේ විසින් පිරිසිදුකරනලද්
දවූ, ජේසුස් ක්‍රිස්තුස්වහන්සේ කෙ
රෙහි රක්ෂාකරනු ලැබූවාවූ කැඳවූ
2. වන්ට, දයාවත් සමාදානයත් ප්‍රේ
මයත් වැඩිවෙන ලෙස, ලියා එවන
වගනම්.

3. ප්‍රේමවන්තයෙනි, සාමාන්‍යවූ
ගැලවීම ගැන තුබලාට ලියන්නට
මම උත්සාහ කලවිට, වරක් පිරිසිදු
වූවන්ට බාරදුන් ඇදහිල්ලගැන වියසී
කරන පිනිස, තුබලාට ලියන්ටත්, අ
වවාදකරන්ටත්, මට සුදුසුයැයි සිතී
4. ම්. මක්නිසාද පූරන කාලයේදී
මේ දඬුවමට නියමවූ, අභක්තිවූ, අප
ගේ දෙවියන්වහන්සේගේ කරුණාව
කාමවිකාරයට පෙරලන්නාවූ, එකම
දෙවිවූ අධිපතිවූ අපගේ ස්වාමිවූ ජේ
සුස් ක්‍රිස්තුස්වහන්සේ එපාකරන්
නාවූ මනුෂ්‍යයෝ, තුබලා නොදැනු
වන්ව, තුබලා අතරට පැමිනුනෝය.
5. ඉන්නිසා ස්වාමින්වහන්සේ මිසර
දේසයෙන් සෙනග ගැලෙවූවායින්
පසු ඇදහිලි නැත්තන් විනාසකල
බව, තුබලා වරක් දැනගත්තේවී
නුමුත්, මම තුබලාට සිහිකරවනෙන
6. ම්. තවද තමන්ගේ පලමු ස්වභාව
නොපවත්වා තමන්ගේම වාසස්ථා
නය අත්හැරියාවූ දූතයන්, මහත්වූ
දවසේදී විනිශ්චය දක්වා, අන්ධකා
රයේ සදාකාලවූ විලංගුවලින් බැඳ
7. සිටෙවූසේක. එයාකාරයෙන්ම
වේශ්‍යකමේ යෙදී අසුතු මෛථුන
සේවනය කලාවූ සොදොම්ද, ගො
මොරාද, වටේට නුවරවල්ද, සදාකා
ලවූ ගින්නෙහි අච්චුව විඳිමෙන්,
8. ආද්‍රිසයක්කොට සිටිති. එසේම
මොවුහුත් අපවිත්‍ර ඝන දකිනෙනාව,
ශරීරය කිළුටු කෙරෙති; ආඥුවට
නින්ද කෙරෙති; මූලාදෑනීන්ගේ
9. අගුන කියති. නුමුත් නායක
දේවදූතවූ මීඛායෙල්, යක්ෂයා සමග
මෝසෙස්ගේ මිනිය ගැන වාදකර
මින් සිටියකල්හි, කිසි නින්දිතවූ
වරද තැබීමක් ඔහුට විරුඩව ගෙ
නෙන්ට නොකැමතිව, "ස්වාමින්ව
හන්සේ තුබට තරවටුකරනසේක්
10. වයි" කීයේය. එහෙත් මොවුන්
නොදන්න දේ ගැන නින්දකොට,
නුවන නැති තිරිසනුන් ලෙස ජම්ම
ගතියෙන් ඔවුන් දන්නා දෙයින්
11. තමන්ම කිළුටුකරගනිති. ඔවුන්
ට දුක්වෙයි; මක්නිසාද ඔවුන් කා
යින්ගේ මගින් ගියෝය. විපාක ලබ
න පිනිස, බාලම්ගේ මූලාවීමට දුව
ගියෝය; කෝරඃගේ භේද කථාකිරී
12. මේදී සේ විනාසවූනෝය. මො
වුන් තුබලා සමග කනවිට භය
ලැජ්ජා නැතුව කමින්, තුබලාගේ
ප්‍රේම මංගල්‍යවලදී තුබලාට පළුදු
වෙති. ඔවුන් සුලඟින් ගෙනයන
වතුර නැති වලාකුල්ය. ඔවුන් මලා
නිකවූ, අළුලවූ, දෙවරක් මලාවූ,
මුලින් ඉදිරී ගියාවූ ගස් වැන්නෝය.
13. ඔවුන් තමන්ගේ ලැජ්ජාව නැම
ති පෙන දමමින් මූදේ ගිගුම්දෙන
රැලද, මූලාවෙන තාරකාද, වැන්
නෝය. ඔවුන්ට සදාකල්වූ ඝනාන්ධ
කාරය නියමකර තිබෙන්නේය.

14. ආදම් පටන් සත්වෙනියාවූ
ඒනොෘ කථාකොට, "සියල්ලන්ට වි
15. නිශ්චයකරන පිනිසද, සියළු
භක්ති නැත්තන් විසින් කලාවූ
ඔවුන්ගේ සියළු අභක්ති ක්‍රියාවල්
ගැනත්, අභක්ති ජවිකාරයන් විසින්
උන්වහන්සේට විරුඩව කියනලද
කකීස කථාවල් ගැනත්, වරදට පත්
කරවන පිනිසද, ස්වාමින්වහන්සේ

තමන්ගේ දසදහස් ගනන් ශුද්ධවන්
තයන් සමග එනසේකැයි" කියමින්,
මොවුන් ගැන අනාගත වචනය කී
16. යේය. මොවුන් කොඳුරන්නෝද,
චරද තබන්නෝද, තමන්ගේ තෘෂ්
ණා ලෙස හැසිරෙන්නෝද, වෙති.
මොවුන්ගේ කටින් මහත් උඩඟු වචන
කියති; ප්‍රයෝජන පිණිස මනුෂ්‍ය
17. යන්ට ප්‍රශංසා කරති. ප්‍රේමවන්
තයෙනි, අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ ප්‍රේරිතයන් වි
සින් පළමු කියනලද වචනවල් තුඹ
18. ලා සිහිකරගනිල්ලාය. අන්තිම
කාලේදී තමුන්ගේ අභක්තිවූ තෘෂ්
ණා ලෙස හැසිරෙන නින්ද කරන්
නෝ වෙතියි, ඔවුන් තුඹලාට කී
19. වෝය. මොවුන් ලෞකිකවූ,
ශුද්ධාත්මය නැත්තාවූ, භේදකරන්
නෝ වෙති.

20. ප්‍රේමවන්තයෙනි, තුඹලාගේ
ඉතා ශුද්ධවූ ඇදහිල්ලෙන් තමන්ම
ගොඩනගමින්, ශුද්ධාත්මයානන්වහන්
සේ කරනකොටගෙන යාඥාකර
21. මින්, දෙවියන්වහන්සේගේ ප්‍රේම
යෙහි පිහිටාසිට, සදාකාල ජීවනය
දෙන්නාවූ අපගේ ස්වාමිවූ යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ කරුණාව ලැ
22. බීම බලාසිටපල්ලාය. තවද වෙ
නස්වීමක් කරමින්, සමහරෙකුට
අනුකම්පා ඇතුව සිටපල්ලාය;
23. අන් සමහරෙක් ගින්නෙන් ඇද
ගනිමින්, මාංසයෙන් කැළල් ඇති
වස්ත්‍රයට අප්‍රියව, භයින් ගලවාගනි
24. ල්ලාය. තුඹලා නොවැටෙන
ලෙස රක්ෂාකරන්ටත්, නිදෙස්ව ම
හත් ප්‍රීතියෙන් යුක්තව උන්වහන්
සේගේ තේජස ඉදිරිපිට තුඹලා
25. තබන්ටත් සමර්ථවූ, අපගේ ගැ
ලවුම්කාරවූ, එකම ප්‍රඥාවන්තවූ දෙ
වියන්වහන්සේට තේජසද, මහත්ත
ත්වයද, ආනුභාවද පරාක්‍රමයද, දැන
මත් සදාකාලේටත් වේවා. ආමෙන්.

# එ ළි ද ර ව් කි රී ම ය.

1. පරිච්ඡේදය. ඉක්මනින් වියයුතු
දේ තමන්ගේ මෙහෙකරුවන්ට දක්
වන පිණිස, දෙවියන්වහන්සේ විසින්
යේසුස් ක්‍රිස්තුස්වහන්සේට දෙනලද,
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ එළිද
රවුකිරීමය. උන්වහන්සේ තමන්
දූතයා යවා, තමන්ගේ සේවකවූ
යොහන්ට ඒක ප්‍රකාශකලසේක.
2. ඔහු දෙවියන්වහන්සේගේ වච
නය ගැනත්, යේසුස් ක්‍රිස්තුස්වහන්
සේගේ සාක්ෂිය ගැනත්, තමන් දුටු
සියළු දේ ගැනත්, සාක්ෂි දුනෙන්ය.
3. කාලය ලංවූ බැවින්, මේ අනා
ගත කීමේ වචන කියවන්නාද, අස
නෙනෝද, එහි ලියනලද කාරණා ප
චන්වනෙනාද, වාසනාවන්තයෝය.

4. යොහන් විසින් ආසියාවෙහි
සිටින සභා හතට ලියා එවන වග
නම්. සිටින්නාවූ, සිටියාවූ, මතු එන්
නාවූ උන්වහන්සේගෙන්ද, උන්ව
හන්සේගේ සිංහාසනය ඉදිරිපිට සිටි
5. න ආත්මයන් සත්දෙනාගෙන්ද, වි
ශ්වාස සාක්ෂිකාරවූ, මලවුන්ගෙන්
නැගිට්ට පළමුවෙනියාවූ, පොළො
වේ රජුන්ගේ අධිපතිවූ යේසුස් ක්‍රිස්
තුස්වහන්සේගෙන්ද, තුඹලාට කරු
ණාවත් සමාදානයත් වේවා.

6. අපට ප්‍රේමකොට තමන්ගේම
ලෙයින් අපේ පාපවලින් අප සේදු
වාවූ, තමන්ගේ පියවූ දෙවියන්වහන්
සේට රජුන්ද පූජකයන්ද කොට අප
නියමකලාවූ තැනැන්වහන්සේට,

තේජසද බලයද සදාකාලයටම වේ
7. වා. ආමෙන්. බලාපල්ලාය; උන්
වහන්සේ වලාකුලෙන් එනසේක;
සියළු ඇස්වලටද, උන්වහන්සේ ඇන
ගැසුවන්ටද, උන්වහන්සේ පෙනෙන
සේක. පොළොවෙහි සියළු වංශ
යෝ, උන්වහන්සේ නිසා, වැලපෙ
නවා ඇත. ඒ එසේමය; ආමෙන්.
8. සිටිනාවූ, සිටියාවූ, මතු එනනාවූ.
සර්වපරාක්‍රමවූ ස්වාමීන්වහන්සේ, "මම
අල්ෆා සහ ඕමෙගාද, පටන්ගැන්ම
සහ අන්තිමයද වෙමියි" කියන
සේක.

9. තුඹලාගේ සහෝදරවූ, යේසුස්
ක්‍රිස්තුස්වහන්සේගේ දුක් විඳීමෙ
හිත් රාජ්‍යයෙහිත් ඉවසීමෙහිත් තුඹ
ලා හා පංගුකාරවූ, යොහන්නම් මම,
දෙවියන්වහන්සේගේ වචනය නි
සාත්, යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ
සාක්ෂිය නිසාත්, පත්මොස්නම් දිව
10. යින සිටියෙමි. ස්වාමීන්වහන්සේ
ගේ දවසෙහි මම ආත්මය ලැබ සිටි
11. යෙමි. එවිට, "අල්ෆා සහ ඕමෙ
ගාද, පලමුවෙනියා සහ අන්තිමයාද
මමය; තුඹ දකින දේ පොතක ලියා,
ආසියායෙහි තිබෙන එපිසස්, සම
ර්නා, පර්ගමස්, තියාතිරා, සර්දිස්,
පිලදෙල්පියා, ලවොදිකය, යන මේ
සභා හතට හැරපන්නැයි" කියන්
නාවූ, හොරනෑවක මෙන්, මහත්
සැබ්දයක් මා පස්සෙන් ඇසීමි.
12. මා සමග කථාකල සැබ්දය කි
මෙක්දැයි බලන්ට හැරුනුවිට, රන්
13. පහන් කඳු සතක්ද, ඒ පහන්
කඳු සත මැද, තමන්ගේ පාදය
දක්වා දික් ඇඳුමක් ඇන්දවූ, රන්
පටියෙන් ලය බැන්දවූ, මනුෂ්‍ය
පුත්‍රයා වැනිවූ කෙනෙක්ද දුටිමි.
14. උන්වහන්සේගේ හිසද, ඉස
කෙස්ද, බැටළු ලොම් සහ හිමද
මෙන් සුදුය; උන්වහන්සේගේ ඇස්
15. ගිනිදැල් සමානය; උන්වහන්සේ
ගේ පාදයෝද උදුනෙහි ගිනියම්කල
දිලිහෙන පිත්තල මෙන්ය; උන්ව
හන්සේගේ සැබ්දය මහත් ජල ඝෝ
16. සාවක් මෙන්ය. තවද උන්වහන්
සේගේ දකුනතේ තාරකා සතක්
තිබුනේය; දෙමුවහත් ඇති තියුනු
කඩුවක් උන්වහන්සේගේ මුඛයෙන්
නික්මුනේය. උන්වහන්සේගේ මුහු
න තදින් බබලන සූර්‍ය්‍යයාමෙන් විය.
17. මම උන්වහන්සේ දුටුවිට, මල
මිනියෙකු මෙන්, උන්වහන්සේගේ
පාමුල වැටුනෙමි. එවිට උන්වහන්
සේ දකුනත මා පිට තබා කියන
සේක්, "භයනොවෙන්න; පලමුවෙ
නියාද අන්තිමයාද මමය; වරක්
මලාවූ, ජීවත්වන්නාවූ, තැනැත්
18. තේද මමය; මම දැන් සදාකාලේ
ටම ජීවත්වන්නෙමි. ආමෙන්. මල
වුන්ගේ වාසස්ථානයෙහිද, මරනයෙ
19. හිද, යතුරු මට ඇත්තේය. තුඹ
දුටු දේද, දැන් තිබෙන දේද, මින්
මතු සිදුවෙන දේද, මාගේ දකුන
තෙහි තුඹ දුටු තාරකා සතෙහි සහ
රන්පහන් කඳු සතෙහි රහසද, ලියා
20. පන්න. තාරකා සතනම්, සභා
සතෙහි දූතයෝය. තුඹ දුටු පහන්
කඳු සතනම්, සභා සතය.

2. පරිච්ඡේ. "එපිසයෙහි සභාවේ
දූතයාට මෙසේ ලියාපන්න. රන්
පහන් කඳු සත මැද සක්මන්කර
මින්, තමන් දකුනතින් තාරකා සත
දරන තැනැත්තන්වහන්සේ, මේ කාරනා
2. කියනසේක. එනම්, තුඹේ ක්‍රියා
වලත්, උත්සාහයත්, ඉවසීමත්, දුෂ්ට
යන් නුරුස්සන බවත්, ප්‍රේරිතයෝය
කියන තුමුත් ප්‍රේරිත නොවන්නන්
තුඹ පරීක්ෂාකොට ඔවුන් බොරුකා
3. රයෝයයි දැනගත් බවත්, දුක්
උසුලමින් ඉවසිල්ලෙන් සිටි බවත්,
මාගේ නාමය නිසා වෙහෙස විඳ
4. ක්ලාන්ත නොවූ බවත්, දනිමි. තු
මුත් තුඹේ පලමු ප්‍රේමය අත්ඇරිය
බැවින්, තුඹට විරුද්ධව කියන්ට කාර

5. තවක් මට ඇත්තේය. එබැවින්
තුබ කොපමන පහත වැටුනාදැයි
සිහිකොට, පශ්චාත්තාපව, පලමු
ක්‍රියාවල් කරපත්න; ඉදින් පශ්චාත්
තාප නොවන්නේනම්, මම ඉක්ම
නින් තුබ වෙතට ඇවිත්, තුබේ
පහන් කඳ තිබෙන තැනින් අහක්
6. කරන්නෙමි. තුමුත් මේක තුබට
තිබෙන්නේය; ඒනම්, මම වෛරකර
න නිකලායිතයන්ගේ ක්‍රියාවලට
7. තුබත් වෛරකරයි. ආත්මයානන්
වහන්සේ සභාවලට කියන දේ කන්
ඇත්තෙක් අසාවා. ජයගන්නාට දෙ
වියන්වහන්සේගේ පරාදීසය මැද
ජීවනය දෙන ගසෙන් කන්ට දෙන්
නෙමි.

8. "තවද සමර්ණාවේ සභාවේ
දූතයාට මෙසේ ලියාපත්න. මරන්
වලාවූ, දැන් ජීවමානවූ, පලමුවෙනි
යාද අන්තිමයාදවූ තැනන්වහන්සේ,
9. මේ කාරනා කියනසේක. ඒනම්
මම තුබේ ක්‍රියාවල්ද, පීඩාවද, දිළිඳු
කමද, දනිමි; තුමුත් තුබ ධනවන්ත
යාය. යුදෙව්වරු නොවෙන තුමුත්
තමන් යුදෙව්වරුයයි කියනා, සාතන්
ගේ සිනගෝගයවූවන්ගේ අපහාසද
10. දනිමි. තුබ විඳින කිසිවක් ගැන
භය නොවෙන්න. යක්ෂයා තුබලා
පරීක්ෂාකරන පිනිස, තුබලාගෙන්
සමහර කෙනෙකුන් හිරගෙයි දමන්
නේය; තුබලාත් දස දවසක් පීඩා
විඳිති. මරනය දක්වා විශ්වාසව සිට
පන්න; මමද ජීවනය නැමති ඔටුනු
11. තන තුබට දෙන්නෙමි. ආත්ම
යානන්වහන්සේ සභාවලට කියන
කාරනා කන් ඇත්තෙක් අසාවා.
ජයගන්නා තැනැත්තේ දෙවෙනි
මරනයෙන් දුක් විඳින්නේ නැත.

12. "තවද පර්ගමස්හි සභාවේ
දූතයාට මෙසේ ලියාපත්න. දෙමුව
හත් තියුනු කඩුවක් දරන්නාවූ තැ
නැන්වහන්සේ මේ කාරනා කියන
13. සේක. ඒනම්, තුබේ ක්‍රියාවල්ද,
සාතන්ගේ ආසනය ලඟවූ තුබේ වා
සස්ථානයද, තුබ මාගේ නාමය දැඩි
කොට අල්වාගත් බවද, සාතන් වා
සයකරන ස්ථානයේදී තුබලා අත
රෙහි මරනු ලැබූ මාගේ විශ්වාස
සාක්ෂිකාරවූ අන්තිපස් විසූ දවස්වල
දීවත් මාගේ ඇදහිල්ල අත්නොහැ
14. රිය බවද, දනිමි. තුමුත් දේවතා
වන්ට පූජාකල දේ කෑමද පරදාර
කිරීමද වන බාධාව ඊශ්‍රායෙල් පුත්‍ර
යන් ඉදිරියේ තබන්ට, බාලක්ට
ඉගැන්නුවාවූ බාලම්ගේ ඉගැන්වීම
දරන්නන් තුබට ඇති නිසා, තුබට
විරුඬව කියන්ට කාරනා ස්වල්පයක්
15. මට ඇත්තේය. තවද මම වෛර
කරන නිකලායිතයන්ගේ ඉගැන්වී
ම දරන්නන් තුබටත් ඇත්තේය.
16. පශ්චාත්තාප වෙයන්න; එසේ
නුනොත්, මම ඉක්මනින් තුබ ලඟට
ඇවිත්, මාගේ මුඛයේ තිබෙන කඩු
වෙන් ඔවුන්ට විරුඬව සටන් කරන්
17. නෙමි. ආත්මයානන්වහන්සේ
සභාවලට කියන කාරණ කන් ඇත්
තෙක් අසාවා. ජයගන්නා තැනැත්
තාට සඟවනලද මන්නා කන්නට
දෙන්නෙමි; ලබන්නාට මිස වෙන
කිසිවෙකුටවත් දැනගත නොහැකි
අළුත් නාමයක් කෙටූ සුදු ගලක්ද,
ඔහුට දෙන්නෙමි.

18. "තවද තියාතීරයෙහි සභා
වේ දූතයාට මෙසේ ලියාපත්න.
ගිනිදලක් වැනි ඇස්ද සවීපිත්තල
වැනි පාදයන්ද ඇත්තාවූ, දෙවියන්
වහන්සේගේ පුත්‍රයා මේ කාරණ
19. කියනසේක. ඒනම්, තුබේ ක්‍රියා
වල්ද, ප්‍රේමයද, මෙහෙකිරීමද, ඇද
හිල්ලද, තුබේ ඉවසීමද, තුබේ පලමු
ක්‍රියාවලට වඩා අන්තිම ක්‍රියා යහ
20. පත් බවද, දනිමි. තුමුත් පරදාර
කරන්ටද, දේවතාවන්ට පූජාකල දේ
කන්නටද, මාගේ මෙහෙකරුවන්ට
උගන්වා මුලාකරන්නාවූ, අනාගත
වක්තෘයකැයි කියන්නාවූ, යෙසබෙල්

නම් සත්‍රියට තුඹ අවකාශ දුන්හෙ
යින්, තුඹට විරුඬව කියන්ට කාරණ
21. සවල්පයක් මට ඇත්තේය. ඈ
රත් ඈගේ පරදර කර්‍මය ගැන
පශ්චාත්තාපවීමට කල් දුන් තුමුත්,
ඈ පශ්චාත්තාප වෙන්ට අකමැතිය.
22. ඈ යහනකට හෙළමි; ඈ සමග
පරදර කර්‍මය කරනනාවුනු, තමන්
ගේ ක්‍රියාවල් ගැන පශ්චාත්තාප
නොවෙන්නම්, මහත්වූ පීඩාවකට
23. පමුනුවන්නෙමි; ඈගේ දරුවන්
මරා නාස්තිකරමි. අදහස්ද, හෘදයන්ද,
විමසන තැනැත්තා මමයයි, සියළු
සභාවෝ දැනගන්නවා ඇත. මම
තුඹලා සියල්ලන්ට තුඹලාගේ ක්‍රියා
24. වලට විපාක දෙන්නෙමි. තුමුත්
සාතන්ගේ ගැඹුරුවූ කාරණයයි කිය
නලද කාරණ දැනනොගත්තාවූ, මේ
ඉගැන්වීම නැත්තාවූ, තියාතීරාවෙහි
ඉතිරිව සිටින්නාවූ තුඹලාට අන් කිසි
25. බරක් නොතබම්යි කියමි; එ
හෙත් තුඹලාට ඇති දෙය මම එන
තෙක් තදින් අල්වාගනිල්ලාය.
26. ජයගන්නාවූ, කෙලවර දක්වා
මාගේ ක්‍රියාවල් පවත්වන තැනැත්
තාට, මාගේ පියානන්වහන්සේගෙන්
මම ලැබූ ලෙස, වර්‍ගයන් කෙරෙහි
27. බලය දෙන්නෙමි. ඔහු ඔවුන්
යදඬකින් ආඬුකරන්නේය; ඔවුන්
කුඹලාගේ භාජන මෙන් බිඳ, සුනු
28. කරනු ලැබෙති. ඇරත් ඔහුට
පාන්තාරුකාව දෙන්නෙමි. ආත්ම
යානන්වහන්සේ සභාවලට කියන
කාරණ අසන්ට කන් ඇත්තෙක්
අසාවා.

3. පරිච්ඡ. "සර්දිස්හි සභාවේ
දූතයාට මෙසේ ලියාපන්න. දෙවි
යන්වහන්සේගේ ආත්ම සතද, තාරු
කා සතද, ඇත්තාවූ තැනැත්වහන්
සේ මේ කාරණ කියනසේක. තුඹේ
ක්‍රියාවල් මම දනිමි. තුඹ ජීවත්වන්
නේයයි යන නාමය ඇති තුමුත්
2. මැරුනේය. මාගේ දෙවියන්වහන්
සේ ඉදිරිපිට තුඹේ ක්‍රියාවල් පිරිසිදුව
නොපෙනුනු නිසා, අවදිව සිට, ඉති
රිවූ නැසීයාමට ලන්වූ දේ ස්ථිරකර
3. පන්න. එබැවින් තුඹ ලැබුවාවූ
ඇසුවාවූ දේ කොහොමදැයි සිහිකර,
ඒ දේ තදින් අල්වාගෙන, පසුතැවිලි
වෙයන්න. තුඹ පිබිද නොසිටින්නේ
නම්, තුඹ වෙතට සොරෙක් මෙන්
එමි. මම තුඹ වෙතට එන පැය තුඹට
4. නොදැනෙන්නේය. තමන්ගේ
වස්ත්‍ර කිළුටුකර නොගත් සවල්ප
දෙනෙක් සර්දිස්හිම තුඹ ලඟ ඇත;
ඔවුන් වටින්නන් නිසා, සුදු වස්ත්‍ර
5. හැඳ, මා සමග හැසිරෙති. ජයග
න්නා තැනැත්තේ සුදු වස්ත්‍රයෙන්
හඳිනු ලැබේ; ඔහුගේ නම ජීවන
යෙහි පොතෙන් මකා නාරිමි. මාගේ
පියානන්වහන්සේද උන්වහන්සේගේ
දූතයන්ද ඉදිරිපිට, ඔහුගේ නම කියා
6. පිළිගනිමි. ආත්මයානන්වහන්සේ
සභාවලට කියන දේ කන් ඇත්
තෙක් අසාවා.

7. "පිලදෙල්පියාගේ සභාවේ දූත
යාට මෙසේ ලියාපන්න. දාවිත්ගේ
යතුර ඇත්තාවූ, කිසිවෙකුට පියබ
බැරි ලෙස අරින්නාවූ, කිසිවෙකුට
අරිඬ බැරි ලෙස පියන්නාවූ, පිරිසි
දුවූ, සැබෑවූ, තැනැත්වහන්සේ මෙ
8. සේ කියනසේක. තුඹේ ක්‍රියාවල්
දනිමි; සවල්ප බලයක් තුඹට ඇත.
තුඹ මාගේ වචනය රක්‍ෂාකල නි
සාත්, මාගේ නාමය එපානොකල
නිසාත්, කවරෙකුටත් පියන්ට නො
හැකිවූ ඇරුණ දොරක් තුඹ ඉදිරිපිට
9. තැබීමි. සාතන්ගේ සිනගෝග
යෙහි සිටින්නාවූ, යුදෙව්වෝ නොව
න තුමුත් අපි යුදෙව්වෝයයි බොරු
වෙන් කියන්නාවූ අයවල්, තුඹේ
පාමුලට ඇවිත් නමස්කාරකරන්
ටත්, මම තුඹට ප්‍රේමකෙලෙමියි දැන
10. ගන්ටත්, සලස්සනෙමි. මාගේ
ඉවසීමෙහි වචනය තුඹ රක්‍ෂාකල

හෙයින්, පොළොවෙහි වසන්නන්
පරීක්ෂාකිරීමට සියළු ලෝකයා කෙ
රේ එන්නාවූ පරීක්ෂාවීමෙහි කාල
යෙන් මමත් නුඹ රක්ෂාකරන්නෙමි.
11. ඉක්මනින්ම එමි; නුඹේ ඔටුන්න
කවරෙක්වත් නොගන්නා ලෙස,
නුඹට තිබෙන දේ තදින් අල්වාග
12. න්න. ජයගන්නා තැනැත්තා
මාගේ දෙවියන්වහන්සේගේ මාලි
ගාවේ කනුවක් කරන්නෙමි; ඔහුද
කිසි කලෙකත් පිටත්ව නොයන්
නේය. මාගේ දෙවියන්වහන්සේගේ
නාමයද, මාගේ දෙවියන්වහන්සේ
කෙරෙන් ස්වර්ගයෙන් බසින අළුත්
යෙරුසලම්නම්වූ මාගේ දෙවියන්ව
හන්සේගේ නුවරෙහි නාමයද, ඔහු
13. පිට ලියන්නෙමි. ආත්මයානන්
වහන්සේ සභාවලට කියන දේ කන්
ඇත්තෙක් අසාවා.

14. "තවද ලවොදිකයෙහි සභා
වේ දූතයාට මෙසේ ලියාපන්න.
ආමෙන් කියනලද්දාවූ, විශ්වාස සැබෑ
සාක්ෂිකාරයාවූ, දෙවියන්වහන්සේ
ගේ මැවිල්ලෙහි මුලවූ තැනන්වහන්
15. සේ මේ කාරණ කියනසේක. නු
ඹේ ක්‍රියාවල්ද, නුඹ සීතලවහෝ
උෂ්ණවහෝ නොසිටින බවද, දනි
මි. නුඹ සීතලවහෝ උෂ්ණවහෝ
16. සිටිනවාට මම කැමැත්තෙමි. නු
ඹුත් නුඹ සීතලවහෝ උෂ්ණවහෝ
නොව, ඇල්මැරී සිටින බැවින්, මා
ගේ මුඛයෙන් නුඹ වමාරන්නෙමි.
17. මම ධනවත්තව, වැඩි වස්තුව
ඇතුව, කිසි දේකින් මට හිඟකමක්
නැතුව සිටිමියි කියන බැවින්ද, නුඹ
කාලකන්නිව, දුප්පත්ව, දිළිඳුව,
අන්ධව, නිර්වස්ත්‍රව සිටින බව නොද
18. න්නා බැවින්ද, නුඹ ධනවත්ත
වෙන පිනිස ගින්නෙන් පරීක්ෂාකර
නලද රත්‍රන්ද, නුඹේ නිර්වස්ත්‍රකමේ
ලැජ්ජාව නොපෙනෙන පිනිස හැඳ
ගන්ට සුදු වස්ත්‍රද, මාගෙන් මිලේට
ගන්ටත්, නුඹේ ඇස් පෙනෙන පිනි
ස ඇස්වල අඳුන් ගාන්ටත්, අවවාද
19. කරමි. මම ප්‍රේමකරන තැනැත්
තාට තරවටුකොට අච්චුකෙරෙමි.
එබැවින් නුඹ වීර්යයෙන් සිට, පසු
20. තැවිලි වෙයන්න. මම දොරකඩ
ළඟ සිට තට්ටුකෙරෙමි; කිසිවෙක්
මාගේ හඬ අසා දොර හැරියොත්,
ඔහුගේ ගෙට ඇතුල්ව, ඔහු සමග
කෑම කන්නෙමි, ඔහු මා සමග කන්
21. නේය. මම ජයගෙන මාගේ පියා
නන්වහන්සේ සමග උන්වහන්සේ
ගේ සිංහාසනයෙහි හිඳිනාක්මෙන්,
ජයගන්නා තැනැත්තාටත් මාගේ
සිංහාසනයෙහි මා සමග හිඳිනට
22. දෙමි. ආත්මයානන්වහන්සේ ස
භාවලට කියන දේ කන් ඇත්තාත්
අසාවයි" කීසේක.

4. පරිච්. ඉන්පසු බැලීමි; ස්ව
ර්ගයෙහි දොරක් ඇරී තිබුණේය.
"මෙහි නැඟී වරෙන්න; මින්මතු
සිද්ධවියයුතු කාරණ නුඹට පෙන්වන්
නෙමියි" මා සමග කථාකරන්නාවූ,
හොරනෑවක මෙන් ශබ්දයක් පලමු
2. වෙන්ම ඇසුනේය. එකෙණෙහිම
ආත්මය ලැබුවෙමි. එවිට ස්වර්ගයෙහි
සිංහාසනයක් තබනලදුව, ඒ සිංහා
සනයෙහි එක්කෙනෙක් වැඩඋන්
3. බව දුටිමි. එහි වැඩඋන්නාවූ තැ
නැන්වහන්සේගේ පෙනීම සූර්ය
කාන්ති සහ ප්‍රවාල යන මැණික්
මෙන් වීය. සිංහාසනය වටකරින්,
මරකත ගල් සමාන පෙනෙන දේදු
4. නනක් විය. ඒ සිංහාසනය වටකර
ආසන විසිහතරක් තිබුණේය; ඒ
ආසන මතුයෙහි වැඩිමහල්ලෝ විසි
හතර දෙනෙක් සුදු වස්ත්‍ර හැඳගෙන
හිඳින බව දුටිමි; ඔවුන්ගේ හිස් මතු
5. යෙහි රන් ඔටුනු තිබුණේය. සිංහා
සනයෙන් විදුලියද ගර්ජනාවද ශබ්
දද නික්මුණේය. සිංහාසන ඉදිරියෙ
හි දැල්වූ පාන් සතක්, එනම් දෙවි
යන්වහන්සේගේ ආත්මයෝ සත්දෙ

6. න, වූවෝය. සිංහාසන ඉදිරියෙහි
පළිඟු සමානවූ වීදුරු සමුද්‍රයක් විය.
සිංහාසනය මැදත් සිංහාසනය වට
කරත්, ඉදිරියෙන්ද පස්සෙන්ද ඇස්
ඇති සත්වයෝ සතරදෙනෙක් වූ
7. වෝය. පළමුවෙනි සත්වයා සිංහ
යෙකුමෙන් විය; දෙවෙනි සත්වයා
වස්සෙකුමෙන් විය; තුන්වෙනි සත්
වයාට මනුෂ්‍යාකාර මුහුනක් තිබු
ණේය; සතරවෙනි සත්වයා පියාසර
කරන ගිජුලිහිණියෙක් මෙන් විය.
8. ඒ සත්වයන් සතරදෙනාටම එක
එකාට පියාපත් සයක් බැගින් වට
කරින් තිබුණේය; ඔවුන් ඇතුලත
ඇස්වලින් ගැවසෙනලද්දේය. ඔ
වුන්, "සිටියාවූ, සිටින්නාවූ, මතු
එන්නාවූ, ස්වාමීවූ, සර්වපරාක්‍රමවූ දෙ
වියන්වහන්සේ ශුද්ධය, ශුද්ධය, ශුද්ධයයි"
9. රෑ දවල් නොනැවතී කියති. මේ
සත්වයෝ, සිංහාසන මතුයෙහි වැඩ
හිඳින්නාවූ, සදාකල්ම ජීවත්වන්නා
වූ, තැනැත්වහන්සේට මහත්තත්ව
යද ගෞරවයද ස්තුතියද දෙනකල,
10. වැඩිමහල්ලෝ විසිහතරදෙනාද,
සිංහාසන මතුයෙහි වැඩහුන්නාවූ
තැනැත්විහන්සේ ඉදිරියෙහි වැටී,
සදාකල්ම ජීවත්වන්නාවූ තැනැත්
වහන්සේට නමස්කාර කරමින්,
තමන්ගේ ඔටුනු සිංහාසන ඉදිරියෙ
11. හි දමමින්, "ස්වාමින්වහන්ස,
ඔබවහන්සේ සියළු දේම මැවූ නි
සාත්, ඔබවහන්සේගේ කැමැත්තට
ඒ දේ මවනලදුව පවතින නිසාත්,
මහත්තත්වයද ගෞරවයද පරාක්‍රම
යද ලබන්ට ඔබවහන්සේට සුදුසු
යයි" කියති.

5. පරිච්. තවද සිංහාසනය
මතුයෙහි වැඩඋන්නාවූ තැනැත්ව
හන්සේගේ දකුනු අතේ, ඇතුලත්
පිටත් ලියනලද, මුද්‍ර සතකින් මුද්‍ර
2. කරනලද පොතක් දුටුයෙමි. "ඒ
පොත විදහන්ටත්, එහි මුද්‍ර කඩන්
ටත්, කවරෙක් සුදුසුදැයි" මහත්
හැඬදයකින් හඬගසන්නාවූ බලවත්
3. දේවදූතයෙකු දුටුයෙමි. ස්වර්ග
යෙහිවත් භූමියෙහිවත් භූමියෙන්
යටවත්, පොත විදහන්ටද ඒක බ
ලන්ටද සමත්වූ, කිසිවෙක් සිටියේ
4. නැත. තවද පොත විදහන්ටත්
කියවන්ටත් ඒක බලන්ටත් සුදුසුවූ
කිසිවෙක් නොසිටිය බැවින්, බො
5. හෝකොට හැඬුවෙමි. එවිට වැඩි
මහල්ලන්ගෙන් කෙනෙක්, "හඬන්
ට එපාය; බලාපන්න, පොත විද
හන්ටත්, එහි මුද්‍ර සත කඩන්ටත්,
යූදාගේ ගෝත්‍රයෙහි සිංහද, දාවිත්
ගේ මූලදවූ, තැනැත්වහන්සේ සම
6. ත්වූසේකැයි" මට කීයේය. තවද
සිංහාසනය සහ සත්වයන් සතර
දෙනාගේද වැඩිමහල්ලන්ගේද මැ
ද, මරනලද්දෙක්වැනිවූ, මුළු ලෝ
කයට එවනලද දෙවියන්වහන්සේ
ගේ ආත්මයන් සත් දෙනා නැමති
ඇස් සතක්ද, අං සතක්ද ඇති, බැ
7. ටළු පැටියෙක් දුටිමි. ඒ බැටළු පැ
ටියා ඇවිත්, සිංහාසනය මත්තෙහි
වැඩඋන්නාවූ තැනැත්වහන්සේගේ
දකුනු අතින් පොත ගත්තේය.
8. ඔහු පොත ගත්කල, සත්වයෝ
සතරදෙනා සහ වැඩිමහල්ලෝ විසි
හතරදෙනාත් සියල්ලෝම, තමන්
ගේ වීනාද, ශුද්ධවන්තයන්ගේ යාඥ
නැමති සුවඳින් පිරුනු රන් කරඬුද
අරගෙන, බැටළු පැටියා ඉදිරියෙහි
9. වැටී, අළුත් ගීතිකාවක් කියමින්,
"ඔබවහන්සේ මරනු ලැබ, සියළු
ගෝත්‍රවලිනද, භාෂාවලිනද, ජනයන්
ගෙන්ද, ජාතීන්ගෙන්ද, දෙවියන්ව
හන්සේ කෙරෙහි ඔබගේ රුධිර විල
යෙන් අප ගලවාගත්තෙහින්, ඔබව
හන්සේ පොත පිළිගන්ටත්, එහි
මුද්‍ර කඩන්ටත් සුදුසුව සිටිනසේකැ
10. යි" කියාද, "අපගේ දෙවියන්ව
හන්සේට අප රජුන්ද පූජකයන්ද
කලසේකැයි" කියාද, "අපිත් පො

"ලොවෙහි රජකම් කරන්නෙමුයයි" කියාද කීවෝය.

11. ඉන්පසු මම බැලීමි; "මරනු ලැබූ බැටළු පැටියා පරාක්‍රමයත්, ධනයත්, ඥානයත්, බලයත්, ගෞරවයත්, මහත්තත්වයත්, ප්‍රශංසාත්, 12. ලබන්ට සුදුසුයයි" මහත් ශබ්දයකින් කියමින්, සිංහාසනයද සත්වයන් සතරදෙනාද වැඩිමහල්ලන්ද වටකර සිටින, ගණනින් දසදහසක් වර දසදහසක්ද දහසක් වර දහසක් දවූ, බොහෝ දේවදූතයන්ගේ ශබ්ද 13. ය ඇසීමි. "ස්වර්ගයෙහිද, භූමියෙහිද, භූමිය යටද, මුහුදේද, යන සියළු තැන්හි ඇත්තාවූ සියළු මැවිලි විසින්, සිංහාසනය මතුයෙහි වැඩඉන්න තැනැත්වහන්සේටත්, බැටළු පැටියාටත්, ප්‍රශංසාද, ගෞරවයද, මහත්තත්වයද, පරාක්‍රමයද, සදාකාලේටම වේවයි" කියන ශබ්ද 14. ය ඇසීමි. සත්වයෝ සතරදෙන, "ආමෙන්ය" කීවෝය. වැඩිමහල්ලෝ විසිහතරදෙනාද බිම වැටී, සදාකාලේටම ජීවත්වන්නාවූ තැනැත්වහන්සේට නමස්කාර කලෝය.

6. පරිච්ඡේ. තවද බැටළු පැටියා මුද්‍රාවලින් එකක් කැඩූ බව මම දුටිමි. "ඇවිත් බලාපන්නැයි," සත්වයන්ගෙන් එකෙක් ගර්ජනාකර ශබ්දයකින් කී බව ඇසීමි. එවිට සුදු අශ්ව 2. යෙක් දුටිමි; ඌ පිට උන් තැනැත්තාට දුන්නක් තිබුනේය; ඔටුන්නක්ද ඔහුට දෙනලද්දේය; ඔහු ජය ගෙන ජයගැනීමට පිටත්ව ගියේය.

3. තවද උන්වහන්සේ දෙවෙනි මුද්‍රය කැඩූකල, "ඇවිත් බලාපන්නැයි," දෙවෙනි සත්වයා කී බව 4. ඇසීමි. රතු අශ්වයෙක් පිටත්ව ගියේය; ඌ පිට උන් තැනැත්තාට, ඔවුනොවුන් මරනලෙස පොලොවෙන් සමාදානය දුරුකරන්ට බලය දෙනලද්දේය. මහත්වූ කඩුවක්ද ඔහුට දෙනලද්දේය.

5. උන්වහන්සේ තුන්වෙනි මුද්‍රය කැඩූකල, "ඇවිත් බලාපන්නැයි," තුන්වෙනි සත්වයා කී බව ඇසීමි. මම බැලීමි; එවිට කළු අශ්වයෙක් දුටිමි; ඌ පිට උන් තැනැත්තාගේ 6. අතේ තරාදියක් තිබුනේය. තවද සත්වයන් සතරදෙනා මැද, "ධාන්‍යයෙන් නැලියක් මස්සය; යව නැලි තුනක් මස්සය; තෙල්වත් මිදිරසවත් නරක්නොකරන්නැයි" කියන හඬක් ඇසීමි.

7. උන්වහන්සේ සතරවෙනි මුද්‍රය කැඩූකල, "ඇවිත් බලාපන්නැයි" කියන සතරවෙනි සත්වයාගේ හඬ 8. ඇසීමි. මම බැලීමි; එවිට දුඹුරුවන් අශ්වයෙක් දුටිමි; ඌ පිට උන් තැනැත්තාගේ නම මරනය විය; මලවුන්ගේ වාසස්ථානය ඔහු පස්සේ ගෙනගියේය. කඩුවෙනුත්, බඩගින්නෙනුත්, මරනයෙනුත්, වල් සිවුපාවුන්ගෙනුත්, පොලවේ සතරෙන් කොටසක් නාස්තිකරණ පිනිස, ඔහුට බලය දෙනලද්දේය.

9. තවද උන්වහන්සේ පස්වෙනි මුද්‍රය කැඩූකල, පූජාසනය යට දෙවියන්වහන්සේගේ වචනය හා ඔවුන් දුරූ සාක්ෂිය ගැන, මරනු ලැබූවන් 10. ගේ ආත්මයන් දුටිමි. ඔවුන්, "සුබවූ, සැබෑවූ ස්වාමින්වහන්ස, පොලවෙහි වසන්නන් විනිශ්චය නොකොට, අපේ ලේ ගැන ඔවුන්ට සුදුසු විපාක නොදී, කොපමන කල් ප්‍රමාද වනසේක්දැයි" මහත් ශබ්ද 11. පවත්වමින් කීවෝය. ඔවුන් එක එකාට සුදු වස්ත්‍ර දෙනලද්දේය. ඔවුන් ලෙස මරණය ලබන්ට සිටින්නාවූ, ඔවුන්ගේ සහ සේවකයන්ගේද සහෝදරයන්ගේද ගනන සම්පූර්ණවෙනතුරු, තව ස්වල්ප වේලාවකට නිවාඩු ගන්නාට ඔවුන්ට කියනලද්දේය.

12. තවද උන්වහන්සේ සවෙනි
මුද්‍රය කැඩූකල, මම බැලීමි. මහත්වූ
භූමිකම්පාවක් විය; ඉර කේසකම්
බලයක්මෙන් කළුවිය, සඳද ලේ
13. මෙන් විය. අඹුල්ගස තද හුළඟ
කින් සෙලවී එහි අකාල ඵල වැටෙ
නනාක්මෙන්, අහසේ තාරකා බිම
14. වැටුණේය. අකුලනලද පොතක්
මෙන් අහස දුරුව ගොස්, සියළු ක
න්දද, ද්වීපයින්ද, තිබුනු තැණින් දුරුක
15. රණලද්දේය. තවද පොලොවෙ
හි රජවරුද, මහත්වරුද, සේනාපති
යෝද, ධනවන්තයෝද, බලවන්ත
යෝද, සියළු දාසයෝද, නිර්දාසයෝ
ද, ගුහාවලත් පර්වතවලත් සැඟවූ
16. නෝය. ඔවුන් කඳුවලටත් පර්
තවලටත් කියමින්, "සිංහාසනය
මතුයෙහි වැඩඉන්න තැනැත්වහන්
සේගේ ඉදිරියෙහුත්, බැටළු පැටියා
ගේ උදහසිනුත්, අප ගලවන ලෙස,
17. අප පිට වැටී, අප වසාගනිව්. මක්
නිසාද උන්වහන්සේගේ උදහසේ
මහත් දවස පැමුනුනේය; ස්ථිරව සි
ටින්ට කාට පුළුවන්දැයි" කීවෝය.

7. පරිච්ඡෙ. මින්පසු ගොඩවත්
මූදේවත් කිසි ගහකවත් හුළඟ නො
වදින පිනිස, දූතයෝ සතරදෙනෙක්
පොලොවේ සතර කොනේ සිට,
පොලොවේ සතරදිග සුළඟ දරණ
2. බව දුටිමි. වෙන දූතයෙක් ජීවමා
න දෙවියන්වහන්සේගේ මුද්‍රය රැගෙ
න, නැගෙනහිර දිසාවෙන් නැගෙන
බව දුටිමි. ඔහුද, ගොඩටත් මූදටත්
හිංසාකරන්ට බලය ලත් දූතයන්
සතරදෙනාට, මහත් ශබ්දයකින්
3. හඬගසා, "අපේ දෙවියන්වහන්
සේගේ සේවකයන්ගේ නලල්වල
අපි මුද්‍රකරන තුරු, ගොඩටවත් මූද
ටවත් ගහකටවත් හිංසානොකරල්
4. ලායස්" කීයේය. මුද්‍රකරනු ලැබූ
වන්ගේ ගනනද මම ඇසීමි. ඊශ්‍රා
යෙල් පුත්‍රයන්ගේ සියළු ගෝත්‍රව
ලින්ම, එක්ලක්ෂ හතළිස් හාරදහ
5. සක් මුද්‍රකරනු ලැබුවෝය. යූද
ගේ ගෝත්‍රයෙන් දොළොස් දහසක්
මුද්‍රකරනු ලැබුවෝය. රූබෙන්ගේ
ගෝත්‍රයෙන් දොළොස් දහසක් මුද්‍ර
කරනු ලැබුවෝය. ගද්ගේ ගෝත්‍ර
යෙන් දොළොස් දහසක් මුද්‍රකරනු
6. ලැබුවෝය. අසර්ගේ ගෝත්‍රයෙන්
දොළොස් දහසක් මුද්‍රකරනු ලැබු
වෝය. නප්තලීගේ ගෝත්‍රයෙන්
දොළොස් දහසක් මුද්‍රකරනු ලැබු
වෝය. මනස්සෙස්ගේ ගෝත්‍රයෙන්
දොළොස් දහසක් මුද්‍රකරනු ලැබු
7. වෝය. සිමියොන්ගේ ගෝත්‍ර
යෙන් දොළොස් දහසක් මුද්‍රකරනු
ලැබුවෝය. ලෙවීගේ ගෝත්‍රයෙන්
දොළොස් දහසක් මුද්‍රකරනු ලැබු
වෝය. ඉස්සාඛර්ගේ ගෝත්‍රයෙන්
දොළොස් දහසක් මුද්‍රකරනු ලැබු
8. වෝය. සාබුලොන්ගේ ගෝත්‍ර
යෙන් දොළොස් දහසක් මුද්‍රකරනු
ලැබුවෝය. යෝසැප්ගේ ගෝත්‍ර
යෙන් දොළොස් දහසක් මුද්‍රකරනු
ලැබුවෝය. බෙන්යමින්ගේ ගෝත්‍ර
යෙන් දොළොස් දහසක් මුද්‍රකරනු
ලැබුවෝය.

9. මෙයින් පසු බැලීමි; සිංහාසන
ය ඉදිරියෙහිත්, බැටළු පැටියාගේ
ඉදිරියෙහිත්, සුදු වස්ත්‍ර හඳනාලදුව,
ඔවුන්ගේ අත්වල තාල පත්‍ර ඇතිව,
සියළු වර්ගවලින්ද, සියළු ගෝත්‍රව
ලින්ද, සියළු ජාතීන්ගෙන්ද, සියළු
භාෂාවලින්ද, කිසිවෙකුට ගනන්ක
රන්ට බැරි මහත් ජනසමූහයක් සිටි
10. න බව මම දුටිමි. ඔවුන්ද, "සිං
හාසන මතුයෙහි වැඩසිටින අපේ
දෙවියන්වහන්සේටත්, බැටළු පැටි
යාටත්, ගැලවීමෙහි ප්‍රසංසාව වේ
වයි" කියා, මහත් ශබ්දයකින් හඬ
11. ගැසුවෝය. තවද සියළු දේවදූ
තයෝ, සිංහාසනයද වැඩිමහල්ලන්ද
සත්වයන් සතරදෙනාද වටකර. සිං
හාසනය ඉදිරිපිට මුහුණින් වැටී,

දෙවියන්වහන්සේට නමස්කාර කො
12. ට, "ආමෙන්" කියමින්, "ප්‍රශං
සාවද, මහත්තත්වයද, ප්‍රඥාවද,
ස්තුතියද, ගෞරවයද, පරාක්‍රමයද,
බලයද, සදාකාලේටම අපේ දෙවි
යන්වහන්සේට වේවයි" කීවෝය.
13. ආමෙන්. තවද වැඩිමහල්ලන්
ගෙන් කෙනෙක් උත්තර දෙමින්,
"සුදු වස්ත්‍ර ඇත්දවූ මොවුන් කවු
රුද? කොතනින් ආවෝදැයි" ම
14. ගෙන් ඇසුවේය. මමද, "ස්වාමි
නි, නුඹ දන්නේයයි" ඔහුට කීමි.
ඔහු කියනුයේ, "මොවුන් මහත්වූ
පීඩාවෙන් ඇවිත්, තමන්ගේ වස්ත්‍ර
බැටළු පැටියාගේ ලෙයින් සෝද
15. සුදුකලෝය; එබැවින් ඔවුන්
දෙවියන්වහන්සේගේ සිංහාසනය
ඉදිරියෙහි සිට, උන්වහන්සේගේ
මන්දිරයෙහි රෑ දවල් උන්වහන්
සේට සේවය කෙරෙති. සිංහාසනය
මතුයෙහි වැඩසිඳින උන්වහන්සේ
ඔවුන් අතරෙහි වාසයකරනසේක.
16. සිංහාසනය මැද සිටින බැටළු
පැටියා ඔවුන් පෝෂ්‍යකොට, ජීව
මාන දිය උල්පත් ලඟට ඔවුන් ගෙ
නයන නිසා, ඔවුන්ට මතු සාපිපාස
17. වෙන්නේ නැත. අව්වවත් ග්‍රීෂ්
මවත් ඔවුන් මත්තෙහි වැටෙනෙන්
නැත; දෙවියන්වහන්සේ ඔවුන්ගේ
ඇස්වල සියළු කඳුළු පිසදමනසේ
කැයි" කීයේය.

8. පරිචෙඡ. උන්වහන්සේ සත්
වෙනි මුද්‍රය කැඩූකල, ස්වර්ගයෙහි
පැය බාගයක් පමන කල් නිස්සැබ්ද
2. වීමක් උනේය. එවිට දෙවියන්ව
හන්සේ ඉදිරියෙහි සිටිනාවූ දේවදූත
යන් සත්දෙනෙක් දුටිමි; ඔවුන්ට
3. හොරනෑ සතක් දෙනලද්දේය. ර
න් දුම් භාජනයක් දරන වෙන
දේවදූතයෙක් ඇවිත්, පූජාසනය
ලඟ සිටියේය; සිංහාසනය ඉදිරියේ
තිබෙන රන් පූජාසනයෙහි සියළු
ශුද්ධවන්තයන්ගේ යාඥාවල් සමග
පුදන පිනිස, බොහෝ තුවරලා ඔහු
4. ට දෙනලද්දේය. ශුද්ධවන්තයන්
ගේ යාඥාවල් සමග තුවරලා දුම්
දේවදූතයාගේ අතින් දෙවියන්ව
5. හන්සේ ඉදිරියට නැංගේය. එවිට
දේවදූතයා දුම් භාජනය අරගෙන,
පූජාසනයෙහි ගින්නෙන් ඒක පුර
වා, බිමට දැම්මේය. එකල්හි සැබ්දද,
ගර්ජනාද, විදුලිද, භූමිකම්පාවක්ද,
උනේය.

6. හොරනෑ සත දරාසිටිය දේව
දූතයෝ සත්දෙනාද පිඹින්ට සැරසු
7. නෝය. පළමුවෙනි දේවදූතයා
හොරනෑව පිඹකල, ලෙයින් මිශ්‍රවූ
පාන වැසිද ගිනිද විය. ඒවා බිමට
හෙළනලදුව, ගස්වලින් තුනෙන්
පංගුවක් දවනුලැබුයේය; සියළු නිල්
8. තනද දවනුලැබුයේය. දෙවෙනි
දේවදූතයා හොරනෑ පිඹකල,
ගින්නෙන් දිලිහෙන පර්වතයක් වැ
නිවූ දෙයක් මූදේ හෙළනු ලැබුයේය.
මූදේ තුනෙන් පඟුවක් ලේ වූනේය;
9. මූදේ සතුන්ගෙන් තුනෙන් පඟු
වක් මලෝය; නැව්වලින්ද තුනෙන්
10. පඟුවක් විනාසවූනේය. තුන්
වෙනි දේවදූතයා හොරනෑ පිඹ
කල, ස්වර්ගයෙන් මහත් තාරුකා
වක් පානක් මෙන් දිලිහී, ගංගා තු
නෙන් පංගුවෙහිද දිය උල්පත්වලද
11. වැටුනේය. තාරුකාවෙහි නාමය
තික්තයයි කියනුලැබේ. වතුරේ තු
නෙන් පංගුව තික්තවූනේය; ඒවා
තික්තවූ බැවින්, බොහෝ මනුෂ්‍ය
12. යෝ එයින් මලෝය. සතරවෙනි
දේවදූතයා හොරනෑ පිඹකල,
ඉරේ තුනෙන් පංගුවද, හඳේ තු
නෙන් පංගුවද, තාරුකාවන්ගේ
තුනෙන් පංගුවද, පහර ලැබුයේය.
එයින් තුනෙන් කොටසක් අඳුරුවිය;
දවසේ තුනෙන් කොටසකටත්, රාත්‍රි
යේ තුනෙන් කොටසකටත්, එළිය
13. නැතිවූනේය. එවිට බැලීමි; අහ

ස මැදින් පියාසරකරන දේවදූත
යෙක් දැක, ඔහු "මතු පිඹිය යුතුවූ
සෙසු දේවදූතයන් තුන්දෙනාගේ
හොරනෑ ශබ්දය නිසා, පොළොවේ
වැසියන්ට දුක්වේය, දුක්වේය, දුක්
වේයයි," මහත් ශබ්දයෙන් කියන
බව ඇසීමි.

9. පරිච්ඡ. පස්වෙනි දූතයා පිඹි
බකල, අහසෙන් තාරුකාවක් බිම
වැටුනු බව දුටිමි; ඔහුට පාතාලයෙහි
2. යතුර දෙනලද්දේය. ඔහු පාතා
ලය විවරකලවිට, මහත් උදුනක
දුම මෙන් පාතාලයෙන් දුමක් නැං
ගේය; ඒ දුම කරනකොටගෙන
3. ඉරත් අහසත් අඳුරුවිය. ඒ දුමින්
පලගැටියෝ භූමිය පිටට පිටත්ව
ආවෝය; භූමියෙහි ගෝනුස්සන්ට
බලය ඇත්තාක්මෙන්, ඔවුන්ටත්
4. බලය දෙනලද්දේය. දෙවියන්ව
හන්සේගේ මුද්‍රය තමන් නලල්වල
නැති මිනිසුන්ට මිස, බිම තනකො
ළවලටවත්, කිසි අමු දෙයකටවත්,
කිසි ගහකටවත්, හිංසා නොකරන්ට
5. ඔවුන්ට ආඥාකරනලද්දේය. ඔවු
නු මරන පිනිස නොව, පස් මසක්
හිංසාකරන පිනිස, ඒ පලගැටියන්ට
බලය දෙනලද්දේය. මනුෂ්‍යයෙකුට
ගෝනුස්සා අන්නකල යම් වේදනා
වක් ඇද්ද, ඔවුන්ගේ හිංසාවද එසේ
6. විය. ඒ දවස්වලදී මනුෂ්‍යයෝ මර
නය සොයති, එහෙත් නොලබති;
නශින්ට ආසාවෙති, එහෙත් මරනය
7. ඔවුන්ගෙන් දුරුව යනෙන්ය. පල
ගැටියන්ගේ ආකාරය යුඬයට ශරණු
අශ්වයන්ට සමානය. ඔවුන්ගේ ඉස්
මුදුනේ රත්‍රන්වැනිවූ ඔටුනු තිබුනේ
ය; ඔවුන්ගේ මුහුනු මනුෂ්‍යයන්ගේ
8. මුහුනු සමානය; ස්ත්‍රීන්ගේ කෙස්
වාගේ කෙස් ඔවුන්ට තිබුනේය;
ඔවුන්ගේ දත් සිංහයන්ගේ දත් සමා
9. නය. යකඩ හැට්ට මෙන් ඔවුන්ට
හැට්ට තිබුනේය; ඔවුන්ගේ පියා
පත් හඬ බොහෝ අශ්වයන් සෙනු
සටනට දුවන රථ ශබ්දය මෙන් විය.
10. ඔවුන්ට ගෝනුස්සන්ට මෙන්
වල්ගා තිබුනේය; ඔවුන්ගේ වල්ග
වල කටු තිබුනේය. මනුෂ්‍යයන්ට
පස්මසක් හිංසාකරන්ට ඔවුන්ට බ
11. ලය තිබුනේය. ඔවුන්ට රජෙක්
වූයේය; ඒනම් පාතාලයෙහි දූතයා
ය; ඔහුගේ නම හෙබ්‍රෙවූ භාෂාවෙන්
අබද්දෙන්ය, ග්‍රීක් භාෂාවෙන් ඔහු
12. ගේ නම අපොල්ලියොන්ය. එක
දුකක් පසුව ගියේය; මින් පසු තව
දුක් දෙකක් පැමිනෙන්නේය.

13. හයවෙනි දේවදූතයාද පිඹි
කල, "එප්‍රත්යස මහත් ගඟේ බඳින
ලද දූතයන් සතරදෙනා මුදවයි" හො
රනෑව දරණ හයවෙනි දූතයාට කිය
14. මින්, දෙවියන්වහන්සේගේ ඉදිරි
යෙහිතිබෙන රං පූජාසනයෙහි අං ස
තරෙන් නික්මෙන ශබ්දයක් ඇසීමි.
15. එවිට පැයකටත්, දවසකටත්,
මාසයකටත්, අවුරුද්දකටත්, මනුෂ්‍ය
යන්ගෙන් තුනෙන් කොටසක් මර
ණ පිනිස, සාදනලද දූතයන් සතර
16. දෙනා මුදනු ලැබුවෝය. අසරු
වන්ගේ සේනාවේ ගනන විසිකෝ
ටියක්ය; ඔවුන්ගේ ගනනද ඇසීමි.
17. මෙසේ දර්ශනයේදී අශ්වයන්ද,
ගින්නෙනුත් නිල් මැනිකෙනුත් කෙ
න්දගම්නුත් සෑදූ හැට්ට ඇති ඒ අශ්ව
යන් පිට උන්නවුන්ද, දුටිමි. අශ්ව
යන්ගේ ඉස් සිංහයන්ගේ ඉස් සමා
නය. ඔවුන්ගේ කටින් ගිනිද, දුමද,
18. කෙන්දගම්ද, පිටතට ආයේය. ඔ
වුන්ගේ කටින් පිටතට ආ ගිනිද,
දුමද, කෙන්දගම්ද, යන මේ තුනෙන්
මනුෂ්‍යයන්ගෙන් තුනෙන් කොට
19. සක් මරනු ලැබුවෝය. ඔවුන්ගේ
බලය ඔවුන්ගේ කටවලද වල්ගාව
ලද ඇත. ඔවුන්ගේ වල්ගා සර්පයන්
සමානව හිස් ඇතුව තිබුනාය; ඒවා
20. කින් ඔවුන් හිංසාකරති. තවද
මේ පීඩාවලින් නොමැරී ඉතුරුවූන

මනුෂ්‍යයෝ, යක්ෂයනුත්, රන් රිදී පිත්තල ගල් ලී යන මෙයින් සෑදූ, දකින්ටවත් අසන්ටවත් ඇවිදින්ටවත් නුපුළුවන් රූපවලත්, නොඅඳනා ලෙස, තමන්ගේ හස්ත කර්මාන්ත ගැන පශ්චාත්තාප නූනෝය. 21. ඔවුන්ගේ මිනීමැරීම්ද, මායම්ද, වෛශ්‍යකම්ද, සොරකම්ද ගැන, ඔවුන් පශ්චාත්තාප නූනෝය.

10. පරිච්ඡේ. වෙන බලවත් දූතයෙක් වලාකුලක් පැලඳගෙන, ස්වර්ගයෙන් බසිනවා දුටිමි. ඔහුගේ ඉසේ දේදුන්නක් තිබුණේය; ඔහුගේ මූන ඉර මෙන්ද, ඔහුගේ කකුල් ගිනි 2. කනු මෙන්ද, තිබුනාය. ඔහුගේ අතේ විදහනලද කුඩා පොතක් තිබුණේය. ඔහු තමාගේ දකුණු පය මුහුද්ද, වම් පය භූමියෙහිද තබා, 3. සිංහයෙක් ගර්ජනාකරන්නාක් මෙන් මහත් ශබ්දයෙන් හඬගෑසුයේය. ඔහු හඬගෑසූකල, ගර්ජනා 4. සතද ශබ්ද පැවැත්වූවෝය. ඒ ගර්ජනා සත ශබ්ද පැවැත්වූකල, මම ලියන්ට සෑදී සිටියෙමි. එවිට, "ගර්ජනා සත ශබ්ද පවත්වා කී දේ මුද්‍රකොට ලියඹ එපයායි" ස්වර්ගයෙන් 5. මට කියන හඬක් ඇසීමි. මා විසින් දුටුවාවූ දූතයා මුහුදෙත් ගොඩත් සිටගෙන, ස්වර්ගය දෙසට අත ඔසවා, 6. "සදාකාලේටම ජීවත්වන්නාවූ, ස්වර්ගයත් එහි තිබෙන දේත්, පොලොවත් එහි තිබෙන දේත්, මුහුදත් එහි තිබෙන දේත් මැවූවාවූ, තැනනවහන්සේ ගැන, කාලය තවත් 7. නැතැයි" කියාද, "සත්වෙනි දූතයාගේ ශබ්දකිරීමෙහි දවස්වලදී, ඔහු හොරණෑ පිඹින්ට පටන්ගන්නාකල, දෙවියන්වහන්සේ තමන්ගේ සේවකවූ අනාගතවක්තෘන්ට ප්‍රකාශකල ලෙස, උන්වහන්සේගේ රහස සම්පූර්ණවෙනවා ඇතැයි" කියාද, 8. දිවුලේය. තවද ස්වර්ගයෙන් මම ඇසූ ශබ්දය නැවතත් මා සමඟ කථාකරමින්, "පලයන්න; මුහුදේත් ගොඩත් සිටින දූතයාගේ අතේ විදහා තිබෙන කුඩා පොත අරගනින් 9. නැයි" මට කීයේය. මමද දූතයා වෙතට ගොස්, "කුඩා පොත මට දියන්නැයි" කීමි. ඔහුද, "අරගෙන කාපන්න; ඒක නුඹේ බඩ තිත්තකරන්නේය, එහෙත් නුඹේ කට මී ලෙස මිහිරිවන්නේයයි" මට කීයේ 10. ය. මම දූතයා අතින් කුඩා පොත අරගෙන කෑවෙමි. එවිට මාගේ කට මී ලෙස මිහිරිවූනේය; එහෙත් මම ඒක කෑ කෙණෙහිම මගේ බඩ තිත් 11. තවූනේය. ඔහු, "නුඹ විසින් බොහෝ මනුෂ්‍යයන්ද, වර්ගයන්ද, භාෂාවන්ද, රජුන්ද ඉදිරියෙහි, අනාගත වචන නැවතත් කියයුතුයයි" මට කීයේය.

11. පරිච්ඡේ. ඉන් පසු සැරයටියක් වාගේ බටදඬක් මට දෙනලද්දේය. දේවදූතයා මට කථාකරමින්, "නැගිට, දෙවියන්වහන්සේගේ මන්දිරයද, පූජාසනයද, එහි නමස්කාර ක 2. රන්නන්ද මැනපන්න. මන්දිරයෙන් පිටත සාලාව අන්‍යජාතීන්ට දුන් බැවින්, ඒක නොමැන හැරපන්න. අන්‍යජාතීහු පවිත්‍රවූ නුවර සතලිස් දෙමාසයක් පසින් මඩිනවා 3. ඇත. මාගේ සාක්ෂිකාරයන් දෙදෙනාට බලය දෙමි; ඔවුන්ද එක්දහස් දෙසිය සැට දවසක් කෝසකම් බල හැඳ අනාගත වචනය කියතිති" 4. කීයේය; පොලොවේ දෙවියන්වහන්සේ ඉදිරිපිට තිබෙන ඔලිව ගස් දෙකද, පහන් කඳු දෙකද, මේය. 5. කිසිවෙක් ඒවාට හිංසාකරන්ට කැමතිවේනම්, ඔවුන්ගේ කටින් ගිනි පිටත්ව, ඔවුන්ගේ සතුරන් විනාසකරනෙන්ය. කිසිවෙක් ඔවුන්ට හිංසාකරන්ට කැමතිවේනම්, ඔහු 6. මෙලෙස මරනු ලැබිය යුතුය. මොවු

වුන්ට තමන් අනාගත වචනය කිය
නනාවූ දවස්වලදී වැසි නොවසින
ලෙස, අහස්තලය පියන්ට බලය
ඇත. කැමති විටක වතුර ලේ ක
රන්ටත්, සියළු වසංගතවලින් පො
ලොවට පීඩා දෙන්ටත්, මොවුන්ට
7. බලය ඇත. තමන්ගේ සාක්ෂිය
නිමවූකල, පාතාලයෙන් නැගෙන
වඩ මෘගයා ඔවුන්ට විරුඬව යුඬකො
8. ට ජයගෙන ඔවුන් මරන්නේය. ඔ
වුන්ගේ මලකඳන්, පරමාර්ථයෙන්
සොදොම් සහ මිසරයයි කියනු ලබ
න, අපගේ ස්වාමින්වහන්සේ කුරුසි
යෙහි ඇනගසනලද, මහත් නුවර
9. වීදියේ හෙළනු ලබති. ජනයෝද,
ගෝත්‍රයෝද, භාෂාවල්ද, වර්ගයෝ
ද, ඔවුන්ගේ මලකඳන් තුන්දවස
කුත් භාගයක් බලා, ඔවුන්ගේ මල
කඳන් තැන්පත්කරන්ට අවකාශ
10. නොදෙති. මේ අනාගතවක්තෘ
වරු දෙදෙන පොලොවේ වසන්
නන්ට පීඩාකල නිසා, පොලොවෙහි
වසන්නෝ ඔවුන් ගැන සතුටුව ප්‍රිය
වෙමින්, ඔවුනොවුන්ට පඬුරු යවති
11. තුන් දවසකුත් භාගයක් පසුවූ
කල, ජීවිතයෙහි ආත්මයා දෙවියන්
වහන්සේගෙන් ඔවුන් තුලට ඇතුල්
විය; ඔවුන්ද පයින් සිටියෝය. ඔවුන්
දුටුවන් කෙරෙහි මහත් භයංකාර
12. යක් පැමිනුනේය. "මෙහි නැගී
වරෙල්ලායයි" ස්වර්ගයෙන් ඔවුන්ට
කියන මහත් හඬක් ඇසුවෝය. ඔවූ
හු වලාපටලයකින් ස්වර්ගයට නැං
ගෝය; ඔවුන්ගේ සතුරෝද ඔවුන්
13. දුටුවෝය. එම පැයෙහිම මහත්වූ
භූමිකම්පාවක්වී, නුවරින් දසයෙන්
කොටසක් වැටී ගියේය; භූමිකම්පා
වෙන් සත්දහසක් මනුෂ්‍යයෝ මලෝ
ය. ඉතිරි අය භයපත්ව, ස්වර්ගයෙහි
දෙවියන්වහන්සේට ප්‍රසංසා කලෝය.
14. දෙවෙනි දුක ඉකුත්විය; බලව,
තුන්වෙනි දුක වහාම එන්නේය.

15. සත්වෙනි දූතයා පිම්බවිට,
"මේ ලෝකේ රාජ්‍යවල් අපගේ ස්වා
මින්වහන්සේගේද, තමන් ක්‍රිස්තුස්
වහන්සේගේද, රාජ්‍යවල් විය; උන්ව
හන්සේ සදාකල් ආඬුකරනසේකැයි"
ස්වර්ගයෙහි කියන මහත් ශබ්දයක්
16. ද විය. එවිට දෙවියන්වහන්සේ
ඉදිරිපිට තමන්ගේ ආසනවල උන්
වැඩිමහල්ලෝ විසිහතරදෙන, මුහු
17. නින් වැටී නමස්කාරකොට, "සි
ටින්නාවූ, සිටියාවූ, මතු එන්නාවූ,
සර්වපරාක්‍රමවූ, ස්වාමිවූ දෙවියන්ව
හන්ස, ඔබවහන්සේගේ මහත්වූ
පරාක්‍රමය ඔබවහන්සේටම රැගෙන
ආඬුකල නිසා, අපි ඔබවහන්සේට
18. සතුති කරමුව. වර්ගයෝද වෛ
රව සිටියෝය; ඔබවහන්සේගේ
කෝපයද, මලවුන් විනිශ්චයකරන
කාලයද, ඔබවහන්සේ තමන්වහන්
සේගේ මෙහෙකරුවූ අනාගතවක්
තෘන්ටත්, පවිත්‍රයන්ටත්, ඔබවහන්
සේගේ නාමයට භයවෙන කුඩා ම
හත් තැනැත්තන්ටත්, විපාක දෙන්
නාවූ, පොලොව විනාසකරන්නන්
විනාසකරන්නාවූ කාලයද, පැමිනු
19. නේයයි" කීවෝය. දෙවියන්ව
හන්සේගේ මන්දිරය ස්වර්ගයෙහි
අරිනු ලැබුයේය; උන්වහන්සේගේ
මන්දිරයෙහි තමන් ගිවිසුමේ පෙට්
ටිය පෙනුනේය. විදුලියත්, ශබ්ද
යත්, ගර්ජනාවත්, පොලොව කම්
පාවත්, මහත්පාන වැස්සත් වූනේය.

12. පරිච්ඡෙ. තවද මහත් ආශ්චර්
යයක් ස්වර්ගයෙහි පෙනුනේය.
කෙනෙක්ද සූර්යයා පැලඳගෙන, පාද
යට චන්ද්‍රයාද, හිස පිට තාරකා
දොළසකින් ඔටුන්නක්ද ඇති ස්ත්‍රී
2. යෙක් වූවාය. ඈ ගර්භනීව, වදන
වේදනා විඳිමින්, වදන්ට කෑගැසූ
3. වාය. ස්වර්ගයෙහි තවත් ආශ්චර්
යයක් පෙනුනේය. බලව, හිස් ස
තක්ද, අං දසයක්ද, හිස් පිට ඔටුනු
සතක්ද ඇති මහත් රතු සර්පයෙක්

4\. වූයේය. උගේ වල්ගයෙන් අහසේ
තාරකාවන්ගෙන් තුනෙන් කොට
සක් ඇද, බිම හෙළුවේය. ඒ සර්පයාද,
වදන්ට ආසන්නව සිටිය ස්ත්‍රීගේ
ලදරුවා උපදින කෙණෙහිම කන්ට,
5\. ඈ ඉදිරිපිට සිටියේය. ඈද සියළු
වර්ගයන්ට යදඬකින් ආඥකරන පි
රිමි දරුවකු වැදුවාය. ඇගේ ඒ ලද
රුවා දෙවියන්වහන්සේ වෙතටත්,
උන්වහන්සේගේ සිංහාසනය වෙත
6\. ටත්, ඔසවාගනු ලැබූයේය. ස්ත්‍රී
වනාන්තරයෙහි සැඟවී ගියාය. එහි
එක්දහස් දෙසිය සැට දවසකට පෝ
ෂ්‍යය ලබන පිනිස, දෙවියන්වහන්
සේ විසින් පිළියෙලකරනලද ස්ථාන
7\. යක් ඈට තිබුනේය. තවද ස්ව
ර්ගයෙහි යුඬයක් විය; මිඛායෙල්
සහ තමන්ගේ දූතයෝද සර්පයාට
විරුඬව සටන්කලෝය. සර්පයාද තමා
8\. ගේ දූතයෝද සටන්කොට, ජය
නොලැබූවෝය. ස්වර්ගයෙහි ස්ථාන
9\. ය ඔවුන්ට තවත් නොවිය. යක්ෂ
යාය සාතන්යයි කියනලද, මුළු ලෝ
කය රවටන මහත් සර්පනම්, ඒ මහළු
සර්පයා පිටතට හෙලනු ලැබූයේය.
ඔහු බිම හෙළනු ලැබූයේය; ඔහුගේ
දූතයෝද ඔහු සමග පිටතට හෙළනු
10\. ලැබූවෝය. තවද "ගැලවීමද,
බලයද, අපගේ දෙවියන්වහන්සේ
ගේ රාජ්‍යයද, තමන් ක්‍රිස්තුස්වහන්
සේගේ පරාක්‍රමයද පැමිනුනේය.
අපේ සහෝදරයන්ට වරද තබන,
අපගේ දෙවියන්වහන්සේ ඉදිරිපිට
රෑ දවල් දෙක්හි ඔවුන්ට වරද තැබූ
තැනැත්තා පහත හෙළනු ලැබූයේ
11\. ය. ඔවුන් බැටළුපැටියාගේ ලෙ
හින්ද, තමන් සාක්ෂියෙහි වචන
යෙන්ද, ඔහුගෙන් ජය ගෙන, මර
ණය දක්වා තමන් ප්‍රානවලට ප්‍රේම
12\. වූයේ නැත. එබැවින් ස්වර්ග
යෝද එහි වසන්නෝද ප්‍රීතිවෙයල්
ලාය. යක්ෂයා තමාට ඇත්තේ ස්වල්
ප කාලයයි දන්නා බැවින්, මහත්
ක්‍රෝධ ඇතුව නුබලා වෙතට පහත
ආ නිසාත්, ගොඩත් මූදේත් වසන්
නන්ට දුක් වෙනවා ඇතැයි" ස්ව
ර්ගයෙහි කියන මහත් ශබ්දයක්
13\. ඇසීමි. සර්පයා බිම හෙළනු ලැබූ
බව දුටුකල, පිරිමි දරුවා වැදූ ස්ත්‍රීට
14\. පීඩාකෙලේය. වනාන්තරයෙහි
ඈගේ ස්ථානයට ඉගිලෙන පිනිස,
මහත් ගිජුලිහිනියෙකුගේ පියාපත්
දෙක ඒ ස්ත්‍රීට දෙනලද්දේය. එහි
කාලයකටත්, කාලවලටත්, කාල
භාගයකටත්, සර්පයාගේ ඉදිරියෙන්
අහක්ව, ඈ පෝෂ්‍යයකරනු ලබන්
15\. නීය. සර්පයා වතුරගැලීමෙන් ඒ
ස්ත්‍රීය ගෙනයන පිනිස, වතුර ගැලී
මක් ලෙස තමන් කටින් ඈ පස්සේ
16\. වතුර පිටතට දැම්මේය. පොලො
ව ඒ ස්ත්‍රීට උපකාරව, තමාගේ කට
ඇරී, සර්පයා ඔහුගේ කටින් හෙළන
17\. ලද වතුර ගැලීම ගිල්ලාය. සර්ප
යා ස්ත්‍රීට විරුඬව ක්‍රෝධවී, දෙවියන්
වහන්සේගේ ආඥවල් රක්ෂාකරන,
යේසුස් ක්‍රිස්තුස්වහන්සේගේ සාක්ෂි
ය ඇත්තාවූ, ඈගේ වංශයෙහි ඉතිරි
අයට විරුඬව යුඬකරන්ට ගියේය.

13\. පරිච්ඡේ. මම මුහුදු වෙරළේ
සිටියෙමි; හිස් සතක්ද, අං දසයක්ද,
ඊ මතුපිට ඔටුනු දසයක්ද ඇත්තාවූ,
චඩ ම්‍රගයෙක් සමුද්‍රයෙන් නගින
බව දුටිමි; ඔහුගේ හිස මතුයෙහි
අපහාසය යන නාමවල් තිබුනේය.
2\. මම දුටු චඩ ම්‍රගයා අඳුන් දිවියෙ
කුට සමානවිය; උගේ කකුල්ද වල
සකුගේ කකුල් වැනිය; උගේ කටද
සිංහයෙකුගේ කට වැනිය. සර්පයා
ඔහුගේ පරාක්‍රමයත්, ආසනයත්,
මහත් ආනුභාවත්, ඌට දුන්නේය.
3\. මම උගේ හිස්වලින් එකක් නාස
නාක්මෙන් තුවාලකරනු ලැබූ
බව දුටිමි; උගේ මහත් තුවාලයද
සුවවිය. සියළු ලෝකයාද පුදුමව, චඩ
4\. ම්‍රගයා පස්සේ ගියෝය. ඔවුන්

වඩ මෘගයාට බලය දුන් සර්පයාට වැඳ
නමස්කාරකොට, "කවරෙක් වඩ
මෘගයාට සමානද? ඌ සමග යුද්ධක
රන්ට කවරෙකුටහැකිවේදැයි" කියා,
වඩ මෘගයාට නමස්කාරකලෝය.
5. අහංකාරනද අපහාසයද කථාක
රන මුඛයක් ඌට දෙනලද්දේය.
මාස හතලිස් දෙකක් සිටින්ට ඌට
6. බලය දෙනලද්දේය. දෙවියන්ව
හන්සේගේ නාමයටත්, උන්වහන්
සේගේ මඩපයටත්, ස්වර්ගවැසියන්
ටත්, අපහාසකරන පිනිස, දෙවියන්
වහන්සේට විරුඬව උගේ කට හැරි
7. යේය. පවිත්‍රයන්ට විරුඬව යුද්ධක
රන්ටද, ඔවුන් ජයගන්ටද, බලය
ඌට දෙනලද්දේය. සියළු ගෝත්‍ර
යන් කෙරෙහිද, භාෂාවල් කෙරෙ
හිද, වර්ගවල් කෙරෙහිද, බලය
8. ඌට දෙනලද්දේය. තවද ලෝක
පටන්ගැන්මේ සිට මරනලද බැටළු
පැටියාගේ ජීවන පොතේ නම් නො
ලියවුන, පොළවේ වසන සියල්ලෝ
9. ඌට නමස්කාර කරති. යමෙ
10. කුට කන් ඇද්ද, ඔහු අසාවා. දාස
කමට ගෙනයන්නා දාසකමට යන්
නේය; කඩුවෙන් මරනනා කඩුවෙන්
මරනු ලබන්නේය. පවිත්‍රයන්ගේ
ඉවසීමත් ඇදහිල්ලත් මෙහිය.

11. අන් වඩ මෘගයෙක් පොළො
වෙන් නගින බව දුටිමි. බැටළුපැටි
යෙකුගේ අං වැනි අං දෙකක්ද
ඌට තිබුණේය; ඌද සර්පයෙක්මෙන්
12. කථාකෙලේය. පළමුවෙනි මෘග
යාගේ සියළු පරාක්‍රමය ඌ ඉදිරිපිට
පවත්වන්නේය. තුවාලය සුවවූ පළ
මුවෙනි මෘගයා කෙරෙහි, පොළවත්
එහි වැසියොත් ඇදහිලිකරන්ට සල
13. ස්වන්නේය. ඌ මහත් ලකුණුද
කරවන්නේය; මනුෂ්‍යයන් ඉදිරිපිට
ස්වර්ගයෙන් පොළොවට ගිනි බස්
14. වන්නේය. කඩුවෙන් තුවාලය
ඇති නුමුත් ජීවත්වෙන මෘගයාට
රූපයක් සාදන්ට ලෝවැසියන්ට
කියා, මෘගයා ඉදිරිපිට යම් ආශ්ච
යන් කරන්ට බලය ඌට තිබුනේද
ඒ ආශ්චය්‍ය කරණකොටගෙන ලෙ
15. වැසියන් රවටන්නේය. මෘගයා
ගේ රූපය කථාකරවන්ටද, මෘගයා
ගේ රූපය නොඇදහන සියල්ලන්
මරවන්ටද, මෘගයාගේ රූපයට ප්‍රාණ
ය දෙන්නට ඌට බලය දෙනලද්
16. දේය. කුඩා මහත්, ධනවන්ත
දුප්පත්, දාස නිදහස, යන සියල්ලන්ට
තමන් දකුනතේවත් නළලේවත්
17. ලකුනක් කරවුයේය. මෘගයාගේ
ලකුනවත්, නාමයවත්, උගේ නාම
යෙහි ගනනවත් ඇත්තන්ට මිස,
අන් කිසිවෙකුට ගනුදෙනු කරන්ට
18. නොදෙනේය. ඥානය මෙහිය;
නුවන ඇති අය මෘගයාගේ ගනන
ගනන්කෙරේවා. මක්නිසාද ඒක
මනුෂ්‍යයෙකුගේ ගනනය; උගේ ග
නනද හසිය හැට හයක.

14. පරිචේඡ. තවද මම බැළිමි;
එවිට සියොන් පර්වත මතුයෙහි බැට
ළු පැටියෙක් සිටියේය. ඔහුගේ පියා
නන්ගේ නාමය නළල්වල ලියන
ලද්දාවූ, එක්ලක්ෂ සතලිස් සාරදහ
සක් දෙනා ඔහු සමග සිටියෝය.
2. එවිට වතුර ගැලීමේ ශබ්දය මෙන්ද,
මහත් ගර්ජනාවක ශබ්දයමෙන්ද,
ස්වර්ගයෙන් ශබ්දයක් ඇසිමි. තමන්
ගේ වීනාවල් ගායනාකරන ගායක
3. යන්ගේ ශබ්දය ඇසිමි. ඔවුන්
සිංහාසනයද, සත්වයන් සතරදෙ
නාද, වැඩිමහල්ලන්ද ඉදිරිපිට, අළුත්
ගීතිකාවක් ගායනාකලෝය. ඒ ගී
තිකාව, භූමියෙන් මිදුනාවූ එක්
ලක්ෂ හතලිස් හාරදහස මිස, කිසි
වෙකුට ඉගනගන්ට නොහැකිවිය.
4. බ්‍රහ්මචාරිවූ මොවුන් ස්ත්‍රීන්ගෙන්
අපවිත්‍ර නොවූවෝය. බැටළු පැටියා
යන තැනට ඔහු සමග යන්නෝ
මොවුන්ය. මොවුන් මනුෂ්‍යයන්
ගෙන් මිදී, දෙවියන්වහන්සේටත්

බැටළු පැටියාටත් නාඹුල් ඵලයෝ
5. වෙති. මොවුන්ගේ කටේ වංචා
වක් තිබුණේ නැත; මොවුන් දෙවි
යන්වහන්සේගේ සිංහාසනය ඉදිරි
යෙහි නිදොස්වෙති.

6. පොලොවේ වසන්නන්ටත්, සියළු
වර්ගයන්ටත්, ගෝත්‍රයන්ටත්, භාෂා
වලටත්, ජනයන්ටත් එළිදරව්කරන
පිනිස, සදාකාලවූ සුභාරංචිය දරන,
අහස මැද පියාසර කරන වෙන දූත
7. යකු දුටිමි. ඔහු කථාකරමින්,
"දෙවියන්වහන්සේගේ විනිශ්චයෙහි
පැය පැමිනුන නිසා, උන්වහන්සේට
භයව, උන්වහන්සේට සතුතිකරපල්
ලාය. අහසත්, පොලවත්, මූදත්,
උල්පතුත් මැවූ තැනැන්වහන්සේට
නමස්කාර කරපල්ලායයි" මහත්
ශබ්දයකින් කීයේය.

8. වෙන දූතයෙක්ද පස්සේ ඇ
විත්, "බබිලොන් වැටී ගියාය; ඒ
මහ නුවර තමාගේ වෛශ්‍යාකමෙහි
කෝපය නැමති මිදිරසය සියළු වර්ගා
යන්ට පෙවූ බැවින්, ඈ වැටී ගියා
යයි" කීයේය.

9. ඉන් පසු තුන්වෙනි දූතයාද
ඇවිත්, "කිසිවෙක් මෘගයාටවත්
උගේ රූපයටවත් නමස්කාර කරන්
නේද, උගේ ලකුන නලලින්වත්
10. අතින්වත් පිලිගන්නේද, ඔහු
දෙවියන්වහන්සේගේ කෝප නැමති
කුසලානට මිශ්‍ර නැතුව වත්කරන
ලද, උන්වහන්සේගේ කෝප නැමති
මිදිරසය බොන්නේය. ඔහු පවිත්‍රවූ
දූතයන්ද බැටළු පැටියාද ඉදිරිපිට,
ගිනෙනුත් කෙන්දගම්වලිනුත් පීඩා
11. විදිනු ලබන්නේය; ඔවුන්ගේ
පීඩාවෙහි දුමද සදාකල්ම නැගෙන්
නේය. මෘගයාටවත් උගේ රූපයට
වත් නමස්කාර කරන්නෝද, උගේ
නාමයෙහි ලකුන පිලිගන්නෝද,
දිවාරාත්‍රී දෙක්හි නිවාඩු නොලබ
තියි" මහත් ශබ්දයකින් කීයේය.
12. පවිත්‍රයන්ගේ ඉවසීම මෙහිය.
දෙවියන්වහන්සේගේ ආඥාවල්ද යේ
සුස්වහන්සේගේ ඇදහිල්ලද රක්‍ෂා
13. කරන්නෝ මෙහි ඇත. "මෙ
තැන් පටන් ස්වාමින්වහන්සේ කෙ
රෙහි නසින මලවුන් වාසනාවන්ත
යෝය කියා, ලියාපන්නැයි" ස්වර්ග
යෙන් මට කියන ශබ්දයක් ඇසීමි.
"ඒ එසේමය; ඔවුන් තමන්ගේ උත්
සාහවලින් නිවාඩු ලබති; ඔවුන්ගේ
ක්‍රියාවල් ඔවුන් කැටුව යෙතියි"
ආත්මයානන්වහන්සේ කියනසේක.

14. නැවතත් මම බැලීමි; එවිට
සුදු වලාපලටයක් වීය. ඒ වලාපට
ලය මතුයෙහි, ඉසේ රන් ඔටුන්
නක්ද, අතේ මුවහත් ඇති දෑකැත්
තක්ද දරණ, මනුෂ්‍ය පුත්‍රයා වැනි
15. කෙනෙක් වැඩඋන්නේය. එවිට
අනික් දූතයෙක් දේවමන්දිරයෙන්
නික්ම ඇවිත්, වලාපටලය මතුයෙහි
වැඩඋන් උන්වහන්සේට මහත් ශබ්
දයකින් හඬගසා, "ඔබවහන්සේ
ගේ දෑකැත්ත රැගෙන, ගොයම් කැ
පූවමැනව; පොලොවේ ගොයම් පැ
සුන බැවින්, ඔබවහන්සේට ගො
යම් කපන කාලය පැමිනුනේයයි"
16. කීයේය. එවිට වලාපටලයෙහි
වැඩහුන් උන්වහන්සේ තමන්ගේ
දෑකැත්ත භූමියට දිගුකලසේක;
පොලවේ ගොයම්ද කැපුනේය.
17. අනික් දූතයෙක්ද ස්වර්ගයෙහි
දේවමන්දිරයෙන් පිටත්ව ආයේය;
ඔහුද මුවහත් ඇති දෑකැත්තක් දරූ
18. යේය. ගින්නට අධිපති අනික්
දූතයෙක් පූජාසනයෙන් පිටත්ව ඇ
විත්, මුවහත් ඇති දෑකැත්ත දරූ
දූතයාට, "ඔබගේ මුවහත් ඇති
දෑකැත්ත දිගුකොට, පොලවේ මිදි
වැලේ වළු කපා රැස්කලමැනව; ඵල
හොඳට පැසුනේයයි" කියා මහත්
19. හඬකින් හඬගැසුයේය. දූතයාද
තමන් දෑකැත්ත පොලොවට දිගු
කොට, පොලවේ මිදිඵල රැස්කොට,
දෙවියන්වහන්සේගේ කෝපය නැ

මති මහත් මිදි පැසට හෙළුයේය.
20. නුවරින් පිටත මිදි පැස මඩින
ලද්දේය; එවිට හැතැක්ම දෙසිය
යක් දුර, අශ්වයන්ගේ කටකලියා
වල් දක්වා, මිදි පැසෙන් ලේ පිටත්
වූයේය.

15. පරිච්ඡෙ. ස්වර්ගයෙහි මහත්
පුදුමවූ තව ලකුණක් දුටිමි. කෙසේද
අන්තිම පීඩාවල් සතක් දරන දූත
යෝ සත්දෙනෙක් සිටියෝය; මක්
නිසාද එයින් දෙවියන්වහන්සේගේ
2. උදහස පිරී තිබෙන්නේය. ගින්
නෙන් මිශ්‍රවූ වීදුරු සාගරයක් දැක,
මෘගයාගෙනුත් උගේ රූපයෙනුත්
උගේ ලකුණෙනුත් උගේ නාමෙ ගණ
නෙනුත් ජයගත්තෝ, වීදුරු සාගර
මතුයෙහි දෙවියන්වහන්සේගේ ගා
යනාවල් රැගෙන සිටිනවා දුටිමි.
3. "සර්වපරාක්‍රමවූ දෙවිස්වාමිනි, ඔබ
වහන්සේගේ ක්‍රියාවල් මහත්ය, විස්
මපත්ය; පවිත්‍රයන්ගේ රජ්ජුරුවෙනි,
ඔබවහන්සේගේ මාර්ගවල් ධර්මිෂ්ට
4. ය, සැබෑය; ඔබවහන්සේ පමනක්
ම පවිත්‍ර නිසාත්, ඔබවහන්සේගේ
විනිශ්චයන් ප්‍රකාශව තිබෙන නි
සාත්, සියළු වර්ගයෝ ඇවිත්, ඔබව
හන්සේ ඉදිරියෙහි නමස්කාර කරති.
ඒ නිසා ස්වාමින්වහන්ස, ඔබවහන්
සේට භයව, ඔබවහන්සේගේ නාම
යට ප්‍රසංසා නොකරනෙන් කවරෙක්
දැයි" කියා, දෙවියන්වහන්සේගේ
මෙහෙකරු මෝසෙස්ගේද බැටළු
පැටියාගේද ගීතිකාව ගායනා ක
රති.

5. නැවත බැලිමි; ස්වර්ගයෙහි
තිබෙන සාක්ෂියෙහි මඬපයාගේ
6. මන්දිරය අරිනු ලැබූයේය. දූත
යෝ සත්දෙන පවිත්‍රවූ ශුද්ධ වස්ත්‍ර
හැඳ, තමන්ගේ තන මතුයෙහි රන්
පටිවලින් බඳිනාලදුව, පීඩා සතක්
රැගෙන, මන්දිරයෙන් පිටත්ව ආවෝ
7. ය. සත්වයින් සතරදෙනාගෙන්
එකෙක්, සැම සදාකාලේටම ජීවත්ව
සිටින දෙවියන්වහන්සේගේ උදහ
සින් පිරුනාවූ රන් කරඬු සතක්,
දූතයන් සත්දෙනාට දුන්නේය.
8. දෙවියන්වහන්සේගේ තේජසින්
හා පරාක්‍රමය කරනකොටගෙන,
මන්දිරය දුමින් පිරීගියේය. දූතයන්
සත්දෙනාගේ පීඩා සත සම්පූර්ණ
වෙනතෙක්, මන්දිරයට ඇතුල්වෙන්
ට කිසිවෙක් සමර්ථ නුවූයේය.

16. පරිච්ඡෙ. "තුබලා ගොස්,
දෙවියන්වහන්සේගේ උදහසෙහි ක
රඬු පොලොවේ වගුරුවාපල්ලායයි"
දූතයන් සත්දෙනාට කියන, මන්දිර
යෙන් නික්මෙන, මහත් ශබ්දයක්
ඇසීමි.

2. පලමුවෙනි දූතයා ගොස්, ත
මන් කරඬුව පොලොවෙහි වැගි
රෙව්වේය. එවිට මෘගයාගේ ලකුණ
ඇත්තන් කෙරේත්, ඔහුගේ රූප
අදහන්නාවුන් කෙරේත්, අරිෂ්ටවූ
දුක් උපදවන්නාවූ ගඩු හටගත්
තේය.

3. දෙවෙනි දූතයා තමන් කරඬුව
මුදේ වැගිරෙව්වේය. එවිට මුද මල
මිනිසකුගේ ලේ මෙන් විය; මුදේ
සියළු සත්වයෝ මලෝය.

4. තුන්වෙනි දූතයා තමන් කර
ඬුව ගංගාවල් පිටද උල්පත් පිටද
වැගිරෙව්වේය. එවිට ඒවා ලේ විය.
5. දියෙහි දූතයා කථාකොට "සිටි
නාවූ, සිටියාවූ, මතු සිටින්නාවූ
ස්වාමින්වහන්ස, ඔබවහන්සේ මෙ
සේ විනිශ්චයකල බැවින්, ඔබව
6. හන්සේ ධර්මිෂ්ටසේක; ඔවුන්
ශුද්ධවන්තයන්ගේද අනාගතවක්
තෘන්ගේද ලේ වැගිරවූ බැවින්, ඔබ
වහන්සේ ඔවුන්ට බොන්ට ලේ දුන්
සේක; ඔවුන් ඊට සුදුසුයයි" කියන
7. බව ඇසීමි. වෙන දූතයෙක් පූජා
සනයෙහි සිට, "සර්වපරාක්‍රමවූ දෙවි
ස්වාමින්වහන්ස, එසේම වේවා; ඔබ

වහන්සේගේ විනිශ්චය සැබෑය, ධර්මිෂ්ඨයයි" කියන බව ඇසීමි.

8. සතරවෙනි දූතයා තමන් කරඬුව ඉර පිට වැගිරෙව්වේය. ගින්නෙන් මනුෂ්‍යයන් දවන්ට, ඔහුට 9. බලය දෙනලද්දේය. තවද මහත් උෂ්ණයෙන් මනුෂ්‍යයෝ දවනු ලැබ, මේ පීඩාවල් කෙරේ බලය ඇති දෙවියන්වහන්සේගේ නාමයට අපහාස කලෝය. ඔවුන් උන්වහන්සේට ගෞරවය පැමිණෙන ලෙස, පශ්චාත්තාප වූයේ නැත.

10. පස්වෙනි දූතයා තමන් කරඬුව මෘගයාගේ ආසනය පිට වැගිරෙව්වේය. ඔහුගේ රාජ්‍යය අන්ධකාරයෙන් පිරී ගියේය. ඔවුන් වේදනා නිසා, තමන් දිව් විකා කෑවෝය. 11. ඔවුන් තමන්ගේ වේදනාත් තුවාලත් නිසා, ස්වර්ගයෙහි දෙවියන්වහන්සේට අපහාසකලෝය. තමන්ගේ ක්‍රියාවල් ගැනද පශ්චාත්තාප වූයේ නැත.

12. සයෙනි දූතයාද තමන් කරඬුව යුප්‍රාත්නම් මහත් ගංගාවෙහි වැගිරෙව්වේය. එවිට පූර්වදිශාවෙහි රජුන්ගේ මාර්ගය සාදනු ලබන පිණිස, එහි වතුර සිඳී ගියේය. 13. තවද සර්පයාගේ කටින්නුත්, මෘගයාගේ කටින්නුත්, බොරු අනාගතවක්තෘහුගේ කටින්නුත්, මැඬියන් වැනිවූ අශුද්ධ ආත්මයෝ තුන්දෙනෙක් නික්මෙන 14. බව දුටිමි. මක්නිසාද ඔවුන් සර්වපරාක්‍රමවූ දෙවියන්වහන්සේගේ මහත්වූ දවසේ යුද්ධයට පොලොවෙහිද මුළු ලෝකයෙහිද රජුන් රැස්කරන පිණිස, ඔවුන් ලඟට යන්නාවූ, පුදුමවල් කරන්නාවූ, යක්ෂයින්ගේ 15. ආත්මයෝ වෙති. බලව, සොරෙක් මෙන් මම එමි. නිර්වස්ත්‍රව ඇවිද තමන්ගේ ලැජ්ජාව මනුෂ්‍යයින්ට නොපෙනෙන පිණිස, අවදිව සිට තමන්ගේ වස්ත්‍රයන් රක්ෂාකරන්නා 16. ධන්‍යවන්තයෙක. ඔහු හෙබ්‍රෙව් භාෂාවෙන් හර්මගෙදෙන් නම ස්ථානයට ඔවුන් රැස්කලේය.

17. සත්වෙනි දූතයා තමන් කරඬුව අහසේ වැගිරෙව්වේය. එවිට "නිමවනලදැයි" කියන මහත් ශබ්දයක් ස්වර්ගීය මන්දිරයේ සිංහාසනයෙන් 18. නික්මුණේය. ශබ්දද, ගර්ජනාද, විදුලිද, මහත් භූමිකම්පාවක්ද විය. පොලොව මනුෂ්‍යවාසවූ තැන්පටන්, මෙබඳු බලවත්වූ මහත් 19. භූමිකම්පාවක් වූයේ නැත. මහා නගරයද තුන් කොටසකට බෙදුණේය; අන්‍යජාතීන්ගේ නුවරවල් වැටීගියේය. මහා බබිලෝනියද, දෙවියන්වහන්සේගේ ක්‍රෝධයෙහි දරුණුකම නැමති මිදිරස කුසලාන ඈට දෙන පිණිස, දෙවියන්වහන්සේ ඉදිරි 20. පියෙහි සිහිවීමට පැමිණුනාය. සියළු දිවයිනද පලා ගියේය; පර්වතද 21. නොපෙනී ගියේය. අහසෙන් මහත් පාන වැස්සක් මනුෂ්‍යයන් පිට වැස්සේය; එක එක ගල තලේන්තයක බර ඇත්තේය. මනුෂ්‍යයෝද පාන වැස්සේ පීඩාව නිසා, දෙවියන්වහන්සේට අපහාස කලෝය; මක්නිසාද එහි පීඩාව ඉතා මහත් විය.

17. පරිච්ඡ. කරඬු සත දැරූ දූතයන් සත්දෙනාගෙන් කෙනෙක් ඇවිත්, "මෙහි එරෙන්න; මහත් දියපිට සිටින මහත්වූ වෛශ්‍යාවගේ 2. විනිශ්චය නුඹට පෙන්වමි; පොලොවේ රජවරු ඈ සමග වෛශ්‍යාකම කලෝය; පොලොවේ වැසියෝද ඈගේ වෛශ්‍යාකම නැමති මිදිරසයෙන් මත්වූහෝයයි" මට කීයේ 3. ය. එවිට ඔහු ආත්මයෙන් වනාන්තරයට මා ගෙනගියේය. එවිට අපහාස නාමවලින් පිරුනාවූ, ඉස් සතක්ද අං දසයක්ද ඇත්තාවූ, රතු පාට මෘගයෙක් පිට ස්ත්‍රියක් සිටින බව දුටිමි. 4. ඒ ස්ත්‍රිය තමාගේ අතින් තමාගේ

වෙශ්‍යාකම නැමති අපවිත්‍රකමිනුත්
කිළුටුකමිනුත් පිරුණු රන් කුසලා
නක් දරමින්, තඹ පාට සහ රතු පාට
වස්ත්‍රයන් හැඳ, රත්‍රනෙන්ද මුතු මැ
5. ණික්වලින්ද සැරසී සිටියාය. ඇගේ
නළල පිට, "රහසද, වෙශ්‍යාවන්
ගේද පොළොවේ කිළුටුකමේද මවුවූ
බබිලෝනියද" යන නාමයක් ලියන
6. ලද්දේය. ඒ ස්ත්‍රී සුබවත්තයන්
ගේද ජේසුස්වහන්සේගේ සාක්ෂිකා
රයින්ගේද ලෙයින් මත්වූ බව දුටිමි.
මම ඇ දුටුවිට, මහත්වූ පුදුමයෙන්
7. විස්මපත්වූනෙමි. දූතයා "මක්නි
සා විස්මපත්වන්නේද? ස්ත්‍රීගේද
ඇ ගෙනයන ඉස් සතකුත් අං දසය
කුත් ඇති මෘගයාගේද රහස නුබට
8. කියමියි" මට කීයේය. "නුබ දුටු
මෘගයා සිටියේය, දැන් නැත; පාතා
ලයෙන් නැගී, විනාසයට යනවා
ඇත. ලෝකේ පටන්ගැන්මේ සිට
ජීවන පොතේ නම් නොලියවුන
පොළොවේ වැසියෝද, සිටියාවූ
දැන් නැත්තාවූ මතු සිටින්නාවූ මෘග
යා දුටුකල, විස්මපත්වෙනවා ඇත.
9. ප්‍රඥාව දරන චිත්තය මෙහි ඇත.
ඉස් සතනම්, ස්ත්‍රිය හිඳින පර්වත ස
10. තය. රජවරු සත්දෙනෙක් ඇත;
පස්දෙනෙක් වැටීගොස්, එක්කෙ
නෙක් දැන් සිටින්නේය; ඉතිරි තැ
නැත්තා තව ආවේ නැත. ඔහු ආක
ල ස්වල්ප කාලයක් පැවතිය යුතුය.
11. සිටියාවූ දැන් නැත්තාවූ මෘගයා
අටවෙනියාය. ඔහු සත්දෙනාගෙන්
12. ය; විනාසයටත් යනවා ඇත. නු
බ දුටු අං දසයනම්, තවම රාජ්‍යය
නොලැබූ නුමුත් මෘගයා සමග එකවි
ටම රජුන් මෙන් බලය ලබන රජ
13. දරුවෝ දසදෙනා වෙති. මො
වුන් එක්සිත්ව, තමන්ගේ පරාක්‍රම
14. යත් බලයත් මෘගයාට දෙති. මො
වුන් බැටළුපැටියා සමග සටන්කර
නවා ඇත. බැටළුපැටියා ඔවුන් පරා
ජයකරනසේක; මක්නිසාද උත්ව
හන්සේ ස්වාමිවරුන්ගේ ස්වාමීය, ර
ජුන්ගේ රජය. උත්වහන්සේ සමග
සිටින්නෝ කැඳවනලද, තෝරාගත්,
15. විස්වාසවූ තැනැත්තෝය. වේ
ශ්‍යාව සිටින තැන නුබ දුටු වතුර
නම්, ජාතීහුද සමූහයෝද වර්ගයෝ
16. ද භාෂාවෝද වෙති. මෘගයා පිට
නුබ දුටු අං දසය වේශ්‍යාවට වෛර
ව, ඇ අසරනද නිර්වස්ත්‍රද කොට,
ඇගේ මස් කා, ඇ ගින්නෙන් දව
17. නවා ඇත. මක්නිසාද දෙවියන්
වහන්සේ තමන්වහන්සේගේ වච
නය සම්පූර්ණවෙනතෙක්, උත්ව
හන්සේගේ කැමැත්ත කරන්ට ඔ
වුන් එක්සිත්ව සිටින්ටත්, මෘගයාට
තමන් රාජ්‍යය දෙන්ටත්, ඔවුන්ගේ
18. සිත් කැමතිකරවූසේක. නුබ දුටු
ස්ත්‍රීනම්, පොළොවේ රජුන් ආඥාක
රන මහත් නුවර වේයයි" මට කී
සේක.

18. පරිච්ඡෙ. මින්පසු මහත්වූ පරා
ක්‍රමය ඇති වෙන දූතයෙක් ස්වර්ග
යෙන් බසින බව දුටිමි. ඔහුගේ තේ
2. ජසින් පොළොව දිළිහුනේය. ඔහු
මහත් ශබ්දයකින් හඬගසා, "මහත්
වූ බබිලෝනිය වැටී ගියේය, වැටී ගි
යේය. ඇද යක්ෂයින්ට වාසස්ථානයද,
සියළු අසුබාත්මයන්ට හිරගෙයද,
සියළු අපවිත්‍ර අප්‍රියවූ පක්ෂීන්ට මැදි
3. රියක්ද විය. මක්නිසාද සියළු ව
ර්ගයෝ ඇගේ වේශ්‍යාකමෙහි කෝ
ප නැමති මිදිරස බීවෝය; පොළො
වේ රජවරුද ඇ සමග වේශ්‍යාකම්
කලෝය. පොළොවෙහි වෙළෙන්
දෝ ඇගේ සැප ජීවිකාව නිසා, ධ
නවත්ත වූනෝයයි" කියා, තදින්
4. ශෝසාකලෝය. "මාගේ ජනයෙ
නි, ඇගේ පාපයට එකතුනොවෙන්
ටත්, ඇගේ පීඩාවලින් කිසිවක්
නොලබන්ටත්, ඇගෙන් පිටත්ව ව
රෙල්ලායයි" කියන වෙන හඬක්
5. ස්වර්ගයෙන් ඇසීමි. ඇගේ පව්

ස්වර්ගයාට නැඟුණේය; ඇගේ අධ
ර්මිෂ්ඨකම් දෙවියන්වහන්සේ සිහියට
6. ගත්සේක. ඈ තුඹලාට විපාක
දුන්ලෙස ඈට විපාක දෙමින්, ඇගේ
ක්‍රියාවල් ලෙස දෙපංගුවක් ඈට දීප
ල්ලාය. ඈ පිරූ කුසලාන ඈට දෙපං
7. ගුවක් පුරවාපල්ලාය. මම වැන්
දඹු ස්ත්‍රියක් නොව මහෙසිකාවක්
මෙන් වූද, කිසි දුකක් නොදක්නෙ
මියි ඈ සිත තුලෙහි සිතා, තමාටම
ප්‍රශංසාකරමින්, සැපයෙන් ජීවත්වූ
වාය. ඒ තරමේ වේදනාවද දුක්ද
8. ඈට දීපල්ලාය. එබැවින් මරන
යද, ශෝකයද, දුර්භික්ෂයද, යන
ඇගේ පීඩා එක දවසේම පැමිනෙ
නෙන්ය. ඈ විනිශ්චයකරන දෙවි
ස්වාමීන්වහන්සේ බලවත්ව සිටින
නිසා, ඈ ගින්නෙන් සහමුලින්ම
9. දැවෙන්නීය. ඈ සමග වෙශ්‍යා
කම්කොට සැපයෙන් ජීවත්වූ පො
ලොවේ රජවරු, ඇගේ වේදනාවට
10. භයව දුරින් සිට, "අහෝ අහෝ
බබිලොන්නම් මහත් නුවර, බලසම්
පන්න නුවර, ක්ෂනයකින් තුබේ වි
නිශ්චය පැමිනුනේයයි" කියමින්,
ඇගේ දැවීමෙහි දුම දකිනකල ඈ
11. නිසා අඩා වැලපෙති. පොලො
වේ වෙලෙන්දෝ ඈ නිසා අඩා වැල
12. පෙති. මක්නිසාද රන්, රිදී, මුතු,
මැනික් සිනිඳු වස්ත්‍ර, දම්බුටු වස්ත්‍ර,
පටරෙදි, රතු වස්ත්‍ර; සියළු සුවඳ
ලීජාති, සියළු ඇත්දත් භාජන, ඉතා
අනර්ඝ ලීයෙන් පිත්තලෙන් යක
ඩෙන් කළුගලින් සෑදූ සියළු ආකාර
13. භාජන; කුරුඳු, සුවඳ ද්‍රව්‍ය, සුවඳ
තෙල්, තුවරලා, මීදිරස, තෙල්, සි
හින් පිටි, ධාන්‍ය, ගව බැටළු අශ්ව
රථවාහන, දාස, මනුෂ්‍යයන්ගේ ප්‍රා
න, යන මේ ඔවුන්ගේ වෙලදාම්, කි
සිවෙක් මතු මිලේට ගන්නේ නැත.
14. තීගේ ආත්මය ඊසින් ආසාකල
ඵල, මිහිරිව දීප්තිමත්ව තිබුන සියළු
දේවල්, තීගෙන් නාස්තිව ගියේය;
තුඹ ඒවා කිසින් මතු නොලබන්නීය.
15. ඈ විසින් පොහොසත්කරනලද
මේ දේවල වෙලෙන්දෝ ඇගේ වේ
දනාවට භයව අඬමින් වැලපෙමින්,
16. "අහෝ අහෝ, සිනිඳු දම්බුටු රතු
වස්ත්‍ර ඇන්දවූ, රත්තෙන්ද මුතු මැ
නික්වලින්ද පැලඳගත්, ඒ මහ නග
17. රය. ක්ෂනයකින් එපමන මහත්
ධන නැතිවූනේයයි" කියමින් දුරින්
සිටිති. සියළු නැව් මුලාදෑනිද, නැව්
වල සිටින සමූහයෝද, නාවිකයෝද,
සමුද්‍රයෙහි වෙලදාම්කරන්නෝද, දු
18. රින් සිට ඇගේ දැවීමෙහි දුම
දුටුකල, "මේ මහත් නුවරට සමාන
කොයි නුවරක්දැයි" කියමින් කෑගැ
19. සුවෝය. ඔව්හුනොවුන්ගේ හිස
මතුයෙහි දූවිලි හෙළා, "අහෝ
අහෝ, මුහුදේ නැව් ඇත්තෝ යම්
නගරයක ධනයෙන් පොහොසත්වූ
නෝද, ඒ මහා නගරය ක්ෂනයකින්
පාළුකරනු ලැබූවායයි" කියා, අඬ
මින් වැලපෙමින් කෑගසති.

20. ස්වර්ගය සහ ශුද්ධවූ ප්‍රේරිත
යෙනි, අනාගතවක්තෘවරුනි, තුඹලා
වෙනුවට දෙවියන්වහන්සේ ඈට
විපාක දුන් නිසා, ඈ ගැන ප්‍රීතිවෙ
21. යල්ලාය. තවද බලවත් දූත
යෙක් මහත් ඇඹරුම් ගලක් වැනිවූ
ගලක් ගෙන, මුහුදට දමා, "බබිලෝ
නිය ඒ මහත් නගරය මෙසේ බලාත්
කාරයෙන් පහත හෙළනු ලැබ,
මතු කවදාවත් නොපෙනෙන්නේය.
22. ගායකයන්ගේද, තූර්යනාද පව
ත්වන්නන්ගේද, නලා හොරනෑකාර
සින්ගේද හඬ තී තුලෙහි මතු කිසින්
නොඇසෙන්නේය. කිසි කර්මාන්ත
කාරයෙක්, තමාගේ කර්මාන්තය
කෙලෙස තුමුත්, තී තුලෙහි තවත්
නොසිටින්නේය. ඇඹරුම් ගලේ හඬ
තී තුලේ කිසින් නොඇසෙන්නේය.
23. පහන් එළිය තී තුලේ මතු කිසින්
එළිය නොකරන්නේය. මනමාලයා
ගේවත් මනමාලියගේවත් හඬ තී

තුලේ මතු කිසිත් නොඇසෙනේය.
තිගේ වෙළෙන්දෝ පොලවේ මහත්
තැන් වූහෝය. තිගේ මායම්න් සියළු
24. වර්ගයෝ රැවටුනෝය; අනාග
තවක්තෘත්ගේද, ශුද්ධවන්තයන්ගේ
ද, පොලවේ මරණලද සියල්ලන්
ගේද ලේ ඈ තුලෙහි දක්නාලද්දේ
යයි" කීයේය.

19. පරිච්. මින්පසු ස්වර්ගයෙහි
සිටින බොහෝ ජනයන්ගේ මහත්
ශබ්දයක් ඇසීමි; ඔවුන් කථාකොට,
"හලේලූයා; ගැලවීමද, මහත්තත්ව
යද, ගෞරවයද, පරාක්‍රමයද, අපගේ
ස්වාමිවූ දෙවියන්වහන්සේට වේවා.
2. තමාගේ වෙශ්‍යාකමෙන් පො
ළොව කිළුටුකල මහත් වෙශ්‍යාව
උන්වහන්සේ විනිශ්චයකොට, තමන්
මෙහෙකරුවන්ගේ ලේ ගැන ඈට
විපාක දුන් නිසා, උන්වහන්සේගේ
විනිශ්චයෝ සැබෑද ධර්මිෂ්ඨද වෙ
3. තියි" කීවෝය. නැවතද ඔවුන්
"හලේලූයා" කීවෝය. ඈගේ දුම් ස
4. දාකාලේටම නගින්නේය. වැඩිම
හල්ලෝ සූවිසිදෙනාද සත්වයෝ
සතරදෙනාද වැටී, "ආමෙන්, හලි
ලූයා" කියමින්, සිංහාසනය පිට හුන්
දෙවියන්වහන්සේට නමස්කාර ක
5. ලෝය. තවද, "අපගේ දෙවියන්
වහන්සේගේ සියළු මෙහෙකරුවෙ
නි, උන්වහන්සේට භය ඇති කුඩා
මහත් තැනැත්තෙනි, උන්වහන්
සේට ප්‍රසංසාකරපල්ලායයි" කියන
ශබ්දයක් සිංහාසනයෙන් නික්මුනේ
6. ය. "සර්වපරාක්‍රමවූ ස්වාමිවූ දෙවි
යන්වහන්සේ ආඥකරන නිසා, හලි
7. ලූයා; බැටළුපැටියාගේ මංගල්‍ය
ය පැමින, උන්වහන්සේගේ භාර්‍යාව
සැරසුන නිසා, අපි සතුටුව, ප්‍රීතියට
පැමින, උන්වහන්සේට ගෞරවයද
8. දෙමුව. පවිත්‍රවූ සුදු සිහින් වස්ත්‍ර
යෙන් සැරසෙන්ට ඈට දෙනලද්
දේය; සිහින් වස්තුනම්, පවිත්‍රයන්
ගේ ධර්මිෂ්ඨකමයයි" කියන්නාවූ
මහත් ජනසමූහයන්ගේද, බොහෝ
ජලයන්ගේද, තද ගර්ජනාවන්ගේ
9. ද, ශබ්ද මෙන් මට ඇසුනේය. "බැ
ටළුපැටියාගේ මංගල්‍යයෙහි රාත්‍රී
භෝජනයට කැඳවනලද්දෝ වාස
නාවන්තයෝය" කියා ලියාපන්නැ
යි" ඔහු මට කීයේය. ඔහුද "දෙවි
යන්වහන්සේගේ සැබෑවූ වචන මේ
10. යයි" මට කීයේය. මම ඔහුට
නමස්කාර කරණ පිණිස, ඔහුගේ
පාමුලවැටුනෙමි. ඔහුද "එසේ නොක
රන්ට බලාගනින්න; මම යේසුස්ව
හන්සේගේ සාක්ෂිය දරන තුඹේ ස
හෝදරයන්ගේද තුඹේද හවුල් වැඩ
කාරයාය; දෙවියන්වහන්සේට නමස්
කාර කරපන්න. යේසුස්වහන්සේ
ගේ සාක්ෂියනම්, අනාගත වාක්‍ය
යෙහි ආත්මයයි" මට කීයේය.

11. එවිට ස්වර්ගය විවරවෙන බව
දුටිමි. සුදු අශ්වයෙක් විය; ඔහු පිට
වැඩහුන් තැනැත්වහන්සේ විශ්වාස
යයි සැබෑයයි කියනුලබනසේක;
උන්වහන්සේ ධර්මිෂ්ඨකමින් විනිශ්
12. චයත් යුද්ධයත් කරනසේක. උන්
වහන්සේගේ ඇස් ගිනිදලක් මෙන්
විය. උන්වහන්සේගේ ඉසේ නො
යෙක් ඔටුනු තිබුනේය; උන්වහන්
සේම මිස අන් කිසිවෙක් නොදන්
නාවූ නමක් උන්වහන්සේ කෙරෙහි
13. ලියා තිබුනේය. උන්වහන්සේද
ලේ පෙවූ වස්ත්‍ර ඇන්දසේක. දෙවි
යන්වහන්සේගේ වාක්‍යයයි උන්ව
හන්සේගේ නාමය කියනුලැබේ.
14. ස්වර්ගයෙහි සේනාවල් සිහින්වූ
සුදුවූ පවිත්‍ර වස්ත්‍ර හැඳ, සුදු අශ්ව
යන් පිටින් උන්වහන්සේ කැටුව
15. ගියෝය. උන්වහන්සේගේ මුඛ
යෙන් වර්ගයන්ට පහරදීමට මුව
හත් ඇති කඩුවක් නික්මෙයි; උන්
වහන්සේ යදඬකින් ඔවුන් ආඥකර
නසේක. උන්වහන්සේ සර්වපරාක්‍රම
දෙවියන්වහන්සේගේ බලවත් ක්‍රෝධ

[illegible] මිදිපැස පාගනසේක. උ[illegible] තමන් වස්ත්‍රයෙහිද, ක[illegible] "රජුන්ගේ රජය, ස්වාමි වරුන්ගේ ස්වාමියයි" යන නමක් ලියා තිබෙන්නේය.

17. තවද සූර්යයා තුළේ දූතයෙක් සිටින බව දුටිමි. ඔහුද මහත් ශබ්දයෙන් කියා හඬගසා, "තුබලා රජුන්ගේද, සේනාධිපතීන්ගේද, බලවත් මනුෂ්‍ය 18. යන්ගේද, අශ්වයන් සහ ඔවුන් පිට හිඳිනවුන්ගේද, නිදහසයන්ගේද දාසයන්ගේද, කුඩා මහත් තැනැත්තන්ගේද, යන සියල්ලන්ගේ මාංස කන පිණිස, මහත්වූ දෙවියන්වහන්සේගේ රාත්‍රි භෝජනයට ඇවිත්, රැස්වෙයල්ලායයි" අහස මැද පියාසරකරන සියළු පක්ෂීන්ට කීයේය. 19. අශ්වයා පිට වැඩහුන් තැනැත්වහන්සේටත්, උන්වහන්සේගේ සේනාවටත් විරුද්ධව යුද්ධකිරීමට, මෘගයාද, පොළොවේ රජවරුද, ඔවුන්ගේ සේනාවල්ද, රැස්වූහු බව දුටිමි. 20. මෘගයාගේ ලකුණු ලැබූ අයත් ඔහුගේ රූපයට නමස්කාර කළ අයත් රවටෙනසේ, ඔහු ඉදිරිපිට පුදුම ක්‍රියාවල් කළාවූ බොරු අනාගතවක්තෘද මෘගයාද අල්ලනු ලැබ, ඔවුන් දෙදෙන පනපිටින්ම කෙන්දගමින් ඇවිලෙන ගිනි විලට හෙළනු 21. ලැබුවෝය. අශ්වයා පිට වැඩහුන් තැනැත්වහන්සේගේ මුඛයෙන් නික්මුන කඩුවෙන් ඉතුරුවූවෝ මරනුලැබුවෝය. ඔවුන්ගේ මාංසයෙන් සියළු පක්ෂීහු තෘප්තියට පැමිනුනෝය.

20. පරිච්ඡේ. තවද පාතාලයෙහි යතුරද අතේ මහත් දම්වැලක්ද ඇති, ස්වර්ගයෙන් බසින දූතයෙක් 2. දුටිමි. ඔහු මහළු සර්පයාද යක්ෂයාද සාතන්දවූ සර්පයා අල්වා, අවුරුදු 3. දහසකට බැන්දේය. අවුරුදු දහස සම්පූර්ණවෙනතෙක්, ජාතීයන් තවත් මුළානොකරන පිණිස ඔහු පාතාලයට හෙළා වසමින්, මතුපිට මුද්‍රයක් තැබුයේය; ඉන්පසු මදකලකට ඔහු මුදනු ලැබිය යුතුය.

4. සිංහාසනද එහි හිඳිනවුන්ද දුටිමි; විනිශ්චයද ඔවුන්ට දෙනලද්දේය. යේසුස්වහන්සේගේ සාක්ෂිය හා දෙවියන්වහන්සේගේ වචනය ගැන හිස් කපනුලැබූවන්ගේද, මෘගයාටවත් ඔහුගේ රූපයටවත් නමස්කාර නොකළාවූ, මෘගයාගේ ලකුණ නළල්වලවත් අත්වලවත් නොලැබූවාවූ තැනැත්තන්ගේද, ආත්මයන් දුටිමි. ඔවුන් ජීවත්ව, ක්‍රිස්තුස්වහන්සේ සමග දහසක් අවුරුදු ආඩුක 5. ලෝය. මලවුන්ගෙන් ඉතිරිවූවෝ අවුරුදු දහස කෙළවරවෙනතෙක් ජීවත්වූයේ නැත. මේ පළමුවෙනි 6. නැවත නැගිටීමනම් වේයි. පළමුවෙනි නැවත නැගිටීමේ පංගුකාරකම ඇති තැනැත්තේ වාසනාවන්තද පවිත්‍රද වේයි. එබඳුවූවන් කෙරෙහි දෙවෙනි මරනය බලයක් නොදරන්නේය. ඔවුන් දෙවියන්වහන්සේගේත් ක්‍රිස්තුස්වහන්සේගේත් පූජකයෝව, උන්වහන්සේ සමග දහසක් අවුරුදු ආඩුකරති.

7. අවුරුදු දහස කෙළවරවූකල සාතන් හිරගෙයින් මුදනුලැබ, 8. පොළොවේ සතර දිග සිටින, මුදේ වැලිමෙන් ගනන් නැති ගොග් මාගොග් යන ජාතීයන් රවටන්ටත්, ඔවුන් යුද්ධයට රැස්කරන්ටත්, නික්ම 9. යයි. ඔවුන් පොළොවේ මතුපිට ඇවිද, ශුද්ධවන්තයන්ගේ අන්දූයමද ප්‍රියවූ නුවරද වටකරගත්තෝය. එවිට දෙවියන්වහන්සේගෙන් ස්වර්ගයෙන් ගිනි බැස, ඔවුන් විනාසක 10. ලේය. ඔවුන් රැවටූ යක්ෂයාද, මෘගයාද බොරු අනාගතවක්තෘද වසන ගින්නෙනුත් කෙන්දගමිනුත්වූ විලෙහි හෙළනු ලැබ, සදාකාලේවම

දිවාරාත්‍රී දෙක්හි නිතර හිංසා විඳින
වා ඇත.

11. නැවත මහත් සුදුවූ සිංහාසන
යක්ද එහි වැඩහුන් තැනැන්වහන්
සේද දුටිමි. උන්වහන්සේ ඉදිරියෙන්
පොළොවත් ස්වර්ගයත් සැඟවී ගි
යේය; ඒවාට තැනක් නොවිය.
12. කුඩා මහත්වූ මලාහු දෙවියන්ව
හන්සේ ඉදිරියෙහි සිටින බව දුටිමි.
පොත්ද විදහනු ලැබුවේය; ජීවන
නම්වූ අනික් පොතක්ද විදහනලද්
දේය; මලාහු තමන්ගේ ක්‍රියාවල්
ලෙස පොත්වල ලියනලද දෙයින්
13. විනිශ්චයකරනු ලැබුවෝය. සමු
ද්‍රය එහි මලවුන් පාවා දුන්නේය.
මරණයත් මලවුන්ගේ වාසස්ථාන
යත් තමන් තුලෙහි ඇති මලවුන්
පාවාදුන්නේය. ඔවුන් සියල්ලෝම
තමන්ගේ ක්‍රියාවල් ලෙස විනිශ්චය
14. කරනු ලැබුවෝය. මරණයත් මල
වුන්ගේ වාසස්ථානයත් ගිනි විලට
15. හෙළනලද්දේය. මේ දෙවෙනි
මරණයනම් වෙයි. යමෙකුගේ නම
ජීවන පොතේ ලියා නොතිබුණේද,
ඔහු ගිනි විලෙහි හෙළනු ලැබුවේය.

21. පරිච්ඡේ. අළුත් ස්වර්ගයක්ද
අළුත් පොළොවක්ද දුටිමි; පළමු
ස්වර්ගයද පළමු පොළොවද දුරුව
ගියේය; සමුද්‍රයද තවත් නොවිය.
2. තවද මනමාලී තමාගේ ස්වාමි
පුරුෂයාට අලංකාර කරනලද්දක්
මෙන් පිළියෙලකරනු ලැබූ, පවිත්‍ර
නුවරනම් අළුත් යෙරුසලම, දෙවි
යන්වහන්සේ වෙතින් ස්වර්ගයෙන්
බසින බව, යොහන්නම් මම දුටිමි.
3. "දෙවියන්වහන්සේගේ මඩපය
මනුෂ්‍යයන් අතරේ තිබෙන්නේය.
උන්වහන්සේ ඔවුන් සමග සිටින
සේක; ඔවුහු උන්වහන්සේගේ සෙ
නග වෙති. දෙවියන්වහන්සේ ඔවුන්
සමග සිට, ඔවුන්ගේ දෙවියන්වහන්
4. සේව සිටිනසේක. දෙවියන්වහන්
සේ ඔවුන්ගේ ඇස්වලින් [illegible]
දුළු පිසදමනසේක. පළමු දෙ[illegible]
ගිය නිසා, මරණයත්, දුකත් [illegible]
මත්, වෙහෙසත් මතු නොව[illegible]
යයි" ස්වර්ගයෙන් කියන [illegible]
5. හඬක් ඇසීමි. සිංහාසනය [illegible]
ඔහුන් තැනැන්වහන්සේ, "සි[illegible]
අළුත්කරමියි" කීසේක. තවද[illegible]
වචන සැබෑද විශ්වාසද වන බ[illegible],
නුඹ ලියාපන්නැයි" උන්වහ[illegible]
6. මට කීසේක. උන්වහන්සේ[illegible].
නසේක්, "නිමවුණේය; අල්[illegible]
ඔමෙගාද, පටන්ගැන්ම හා අ[illegible]
යාද මමය. පිපාස ඇත්තාට [illegible]
දෙන උල්පතින් වතුර නො[illegible]
7. දෙමි. ජයගන්නා සියළු [illegible]
උරුමක්කාරයා වන්නේය; ම[illegible]
ගේ දෙවි වෙමි, ඔහුද මාගේ [illegible]
8. වන්නේය. එහෙත් භය ඇ[illegible]
ද, ඇදහිලි නැත්තෝද, අ[illegible]
යෝද, මිනී මරන්නෝද, වේ[illegible]
කම් කරන්නෝද, මායම්කාර[illegible],
දේවතාවන් අදහන්නෝද, [illegible]
බොරුකාරයෝද, ගින්නෙනුත් [illegible]
න්දගම්නුත් දැවෙන විලේ තම[illegible] පං
ගුව ලබති; දෙවෙනි මරණ[illegible]
මේය.

9. අන්තිම පීඩා සතින් පිරු[illegible]
රඹු සත ඇති දූතයෝ සත්දෙනා
ගෙන් එකෙක් මා ළඟට ඇ[illegible],
"මෙහි වරෙන්න; බැටළු පැටි[illegible]
භාර්යාවූ මනමාලී නුඹට පෙන්[illegible]"
කියා මා එක්ක කථාකෙළේ[illegible].
10. ඔහු මහත් උස් පර්වතයකට [illegible]
මයෙන් මා ගෙනගොස්, දෙවි[illegible]
හන්සේ වෙතින් ස්වර්ගයෙන් [illegible]
නනාවූ, දෙවියන්වහන්සේගේ [illegible]
ජස ඇත්තාවූ, ශුද්ධවූ යෙරුසල[illegible]
මහත් නුවර මට පෙන්නු[illegible]
11. ඈගේ එළිය ඉතා අනර්ඝවූ [illegible]
නික් ඒනම් පළිගු මෙන් ප්‍රස[illegible]
සූර්යකාන්ති මැණික් සමාන විය.
12. මහත්වූ උස්වූ බිත්තියක්ද [illegible]

ලසක්ද තිබුණේය; දොරවල් තයෝ දෙලොස්දෙනෙක් ය; ඊශ්‍රායෙල් දරුවන්ගේ ස් ගෝත්‍රයන්ගේ නාමවල් පිට ලියනලද්දේය. පූර්ව දි දොර තුනක්ද, උතුරු දිසාවේ තක්ද, දකුණු දිසාවේ දොර , බස්නාහිර දිසාවේ දොර 14 තුනක්ද විය. නුවර බිත්තියට නම දොලසක් විය; ඒවා තුලෙහි බැටළු පැටියාගේ ප්‍රේරිතයන් දෙලොස් දෙනාගේ නම් ලියනලද්දේ 15. ය. මා සමග කථාකල තැනැත්තාව, නුවරද එහි දොරවල්ද බිත්තියද මනින පිණිස, රත්‍රන් දඬක් තිබු 16. ණේය. නුවර සතරැස්විය; දිගත් පලලත් එක සමානය. ඔහු නුවර ඒ දඬෙන් මැන්නකල, හැතැක්ම එක් දහස් පන්සියයක් විය; දිගත් පල 17. ලත් උසත් එක සමානය. බිත්තිය මැන්නකල, එක මිනිසකුගේ එනම දූතයෙකුගේ මිම්මෙන් එක්සිය සතලිස් සතර රියනක් විය. 18. ඒක ගොඩනගනලද්දේ, සූර්‍ය්‍යකාන්ති මැණික්වලින්ය. නුවරද පවිත්‍ර වීදුරු මෙන් පවිත්‍ර රත්‍රන් විය. 19. නුවර බිත්තියේ අත්තිවාරම් සර්වාකාර මැණික්වලින් අලංකාරකරනලද්දේය. පලමුවෙනි අත්තිවාරම සූර්‍ය්‍යකාන්ති මාණික්‍යයෙන්ද, දෙවෙනි අත්තිවාරම නීලකාන්ති මාණික්‍යයෙන්ද, තුන්වෙනි අත්තිවාරම වජ්‍ර මාණික්‍යයෙන්ද, සතරවෙනි අත්තිවාරම ගරුඬපාසානයෙන්ද, 20. පස්වෙනි අත්තිවාරම වෛඩූර්‍ය්‍යයෙන්ද, සවෙනි අත්තිවාරම චන්ද්‍රකාන්තියෙන්ද, සත්වෙනි අත්තිවාරම ලෝහිතාංකයෙන්ද, අටවෙනි අත්තිවාරම ගෝමේදයෙන්ද, නවවෙනි අත්තිවාරම පද්මරාගයෙන්ද, දසවෙනි අත්තිවාරම ලසුණිය මාණික්‍යයෙන්ද, එකොලොස්වෙනි අත්තිවාරම මරකතයෙන්ද, දොලොස්වෙනි අත්තිවාරම සෙව්වන්දි පාසා 21. නයෙන්ද විය. දොරවල් දොලස මුතු දොලසක් විය; එක එක දොර එක එක මුතුඇටයකින් විය. නුවර වීදිය ප්‍රසන්න වීදුරු මෙන් පවිත්‍ර රණින් විය.

22. සර්වපරාක්‍රමවූ ස්වාමිවූ දෙවියන්වහන්සේද බැටළු පැටියාද එහි මන්දිරය වන නිසා, කිසි මන්දිර 23. යක් එහි නුදුටිමි. තවද දෙවියන්වහන්සේගේ තේජස එය කෙරෙහි එළියකල නිසාද, බැටළුපැටියා එහි එළියවන නිසාද, නුවර තුලේ එළිය කිරීමට සූර්‍ය්‍යයාගෙන්වත් චන්ද්‍රයා 24. ගෙන්වත් ප්‍රයෝජන නැත. ගලවනු ලබන වර්ගයෝ එහි එළියෙහි ඇවිදිති. පොලොවේ රජදරුවෝ තමන්ගේ ගෞරවයත් නමුවත් එහි 25. තුලට ගෙනයති. එහි දොරවල් දවහල් කොහෙත්ම නොපියා තිබේනේය; රෑවමක්ද එහි නැත. 26. ඔවුන් වර්ගයන්ගේ ගෞරවයත් 27. නමුවත් ඒ තුලට ගෙනයති. බැටළුපැටියාගේ ජීවන පොතේ ලියනලද්දවුන් මිස, කිළුටුකරන කිසි දෙයක්වත්, පිළිකුල් කරන කිසි දෙයක්වත්, බොරුවක්වත්, එහි තුලට කොයි ප්‍රකාරයකින්වත් ඇතුල් නොවෙයි.

22. පරිච්. තවද දෙවියන්වහන්සේගේද බැටළුපැටියාගේද සිංහාසනයෙන් නික්ම එන නිර්මලවූ, පළිඟු මෙන් ප්‍රසන්නවූ, ජීවනය දෙන වතුර ඇති ගංගාවක් ඔහු මට 2. දැක්වීය. එහි වීදිය මැදද, ගඟ එතර මෙතරද, දොලොස් වර්ගයක ඵල දරන මස්පතා ඵල දෙන ජීවනදෘයක ගහ විය; එහි කොල වර්ග 3. යන් සුවකිරීමට විය. එහි සාපයක් මතු නොවන්නේය; එහි දෙවියන්වහන්සේගේද බැටළුපැටියාගේද සිංහාසනය තිබෙන්නේය; උන්ව

හන්සේගේ මෙහෙකරුවෝ උන්ව
4. හන්සේට සේවය කෙරෙති. ඔ
වුන් උන්වහන්සේගේ මුහුණ දකිති;
උන්වහන්සේගේ නාමද ඔවුන්ගේ
5. නලල්වල තිබෙන්නේය. ස්වාමිවූ
දෙවියන්වහන්සේ ඔවුන්ට එළිය
දෙන නිසා, එහි රෑ නොවෙයි. පහ
නක්වත් සූර්යාලෝකයවත් ඔවුන්ට
කම් නැත. ඔවුන් සදාකල්ම රජකම්
කරති.

6. උන්වහන්සේ මට කථාකොට, "මේ වචන විශ්වාසද සැබෑද වේ
යයි" කීසේක. "ඊක කලකින් කල
යුතු දේ, පවිත්‍රවූ අනාගතවක්තෘන්
ගේ ස්වාමීවූ දෙවියන්වහන්සේ, ත
මන්ගේ මෙහෙකරුවන්ට දක්වන්ට,
7. තමන් දූතයා එවූසේක. කඩින
මින් මම එමි; මේ පොතේ අනාගත
වචනයේ බස් රක්ෂාකරන්නා වාස
නාවන්තයෙකැයි" උන්වහන්සේ
8. මට කීසේක. තවද යොහන්නම්
වූ මම මේ දේ දුටිමි, ඇසීමි. මම අසා
දැක, නමස්කාර කරන්ට මේ දේ මට
දැක්වූ දූතයාගේ පාමුල වැටුනෙමි.
9. එවිට, "මම තුබේද, තුබේ සහෝ
දරවූ අනාගතවක්තෘන්ගේද, මේ
පොතේ වචන රක්ෂාකරන්නන්ගේද
සහසේවක වන නිසා, මට නමස්කාර
නොකරන්ට බලාගනින්න; දෙවි
යන්වහන්සේට නමස්කාර කරපන්
10. නැයි" මට කීයේය. ඔහු කථා
කොට, "කාලය ලංවූ බැවින්, මේ
පොතේ අනාගත වචනයේ බස් මුද්‍ර
නොකරන්නැයි" මට කීයේය.

11. "අධර්මිෂ්ඨයා මතුත් අධර්මි
ෂ්ඨ වේවා; අපවිත්‍ර තැනැත්තා
මතුත් අපවිත්‍ර වේවා; ධර්මිෂ්ඨයා
මතුත් ධර්මිෂ්ඨ වේවා; පවිත්‍ර තැනැ
12. ත්තා මතුත් පවිත්‍ර වේවා. කඩින
මින්ම එමි; සියළු දෙනාට තමන්ගේ
ක්‍රියාවල් ලෙස දීමට විපාක මා සමග
13. ඇත. මම අල්ෆා හා ඕමෙ[illegible]
පටන්ගැන්ම හා කෙලවරද, [illegible]
14. වෙනිහාද අන්තිමයාද වෙ[illegible]
වන දෙන ගසේ කොටසක් [illegible]
ටත්, දොරවලින් නුවරට ඇ[illegible]
වෙන්ටත් අවසර ලබන පිනිස, [illegible]
වහන්සේගේ ආඥාවල් කරන්[illegible]
15. වාසනාවන්තයෝය. බල්[illegible]
මායම්කාරයෝද, වෛශ්‍යාකම් [illegible]
තෝද, මිනී මරන්නෝද, දේව[illegible]
වන් අදහන්නෝද, බොරු කි[illegible]
ඊට සෙන්හවෙන සියල්ලෝද, පිටත
16. සිටිති. යේසුස්නම්වූ මම [illegible]
වලදී මේ දේ තුබලාට සාක්ෂි දෙන්
ට මාගේ දූතයා එවීමි. දාවිත්ගේ මුල
සහ වංශයද, දීප්තිමත්වූ පහන්තාර
17. කාවද, මම වෙමි. තවද ආත්ම
යද මනාලීද 'වරෙන්නැයි' කියති;
අසන්නා, වරෙන්නැයි, කියාවා. පිපා
සඇත්තේ ඒවා. කැමතිවූ කවරෙක්
තුමුත්, ජීවන දෙන වතුර නොමිල
18. යේ ගනීවා. යම් මනුෂ්‍යයෙක්
මීට කිසිවක් එකතුකෙලේවිනම්,
දෙවියන්වහන්සේ මේ පොතේ ලිය
නලද පීඩාවල් ඔහුට එකතුකරන
19. සේක. යම් මනුෂ්‍යයෙක් මේ
පොතේ අනාගත වචනයේ බස්ව
ලින් අඩුකෙරේනම්, දෙවියන්වහන්
සේ ජීවන පොතෙන්ද, පවිත්‍ර නුව
රින්ද, මේ පොතේ ලියනලද සෙදේ
සද, ඔහුගේ කොටස අහක්කරන
සේකැයි, මේ පොතේ අනාගත වච
නයේ බස් අසන සියල්ලන්ට සාක්ෂි
20. දෙමි. මේ කාරනා ගැන සාක්ෂි
දෙන තැනැත්වහන්සේ ඒකාන්ත
යෙන් හනික එමියි" කීසේක. ආ
මෙන්; ඒ එසේමය; ස්වාමිවූ යේසුස්
21. වහන්ස වැඩියමැනව. අපගේ
ස්වාමිවූ යේසුස් ක්‍රිස්තුස්වහන්සේ
ගේ කරුණාව තුබලා සියල්ලන් සම
ග වේවා. ආමෙන්.

